ප්‍රථම මුද්‍රණය: 1994

**කර්තෘන්ගේ වෙනත් කෘති:-**

**කේ. එන්. ඕ. ධර්මදාස:**

භාෂාව හා සමාජය

භාෂාවෙහි සම්භවය හා සංස්කෘතික මුහුණුවර

Language, Religion and Ethnic Assertiveness: The Growth of Sinhalese Nationalism in Sri Lanka

**එච්. එම්. එස්. තුන්දෙණිය:**

උඩුනුවර විත්ති

යටිනුවර විහාර වංශය

උඩුනුවර විහාර වංශය

පාතදුම්බර විහාර වංශය

ISBN-955-610-076-8

රජයේ මුද්‍රණ නීතිගත සංස්ථා ප්‍රකාශන අංක 100

කවරයේ චිත්‍රය: කේ. එම්. අයි. ස්වර්ණසිංහ
කවරයේ ඡායාරූප: මුදියන්සේ දිසානායක
ඇතුළත චිත්‍ර: ඩබ්ලිව්. ඒ. ආරියසේන

මුද්‍රණය: රජයේ මුද්‍රණ නීතිගත සංස්ථාව,
කොළඹ 02 සහ පානළුව, පාදුක්ක.

# පටුන






## ප්‍රස්තාවනා

සිංහල ජනතාව අතර පුද පූජාවට ලක් වූ දෙවි දේවතාවුන් පිළිබඳ නාමාවලියක් සකස් කිරීමේ අරමුණින් මෙම අධ්‍යයනය ආරම්භ කරන ලදී. සාහිත්‍යගතව මෙන් ම මුඛ පරම්පරාගතව ද එන දෙවි දේවතා විත්ති අකාරාදි පිළිවෙළට මෙහි සංහිතා ගත කර ඇත. අපේ දෙවි දේවතාවුන් ගැන මේ බඳු පුළුල් අධ්‍යයනයක් සිදුවන පළමු අවස්ථාව මෙය යි. මේ අධ්‍යයනය සර්ව සම්පූර්ණ යැයි නො කියමු. එහෙත් මෙහි ඇතුළත් අන්දමට අති විශාල දෙවි දේවතා සමූහයක් පිළිබඳ තොරතුරු එක්තැන් කිරීමට ලැබීම ශාස්ත්‍රීය වශයෙන් වටිනා කාර්යයකැයි සිතන්නෙමු.

මෙම ග්‍රන්ථයේ ආමුඛයෙහි මූලාශ්‍ර පිළිබඳ හැඳින්වීමක් ඇත. එම මූලාශ්‍ර අංක අනුව දක්වා ග්‍රන්ථයේ පසුව එම අංකයෙන් මූලාශ්‍රය කවරේද යන්න සඳහන් කරනු ලැබේ. අනතුරුව පිටු අංකය ද දක්වා ඇත.

ග්‍රන්ථයේ පළමු කොටසෙහි දී හැඳින්වීමක් වශයෙන් සිංහල දේව විශ්වාස පිළිබඳ ඓතිහාසික මෙන් ම සමාජ විද්‍යාත්මක විමර්ශනයක් ඉදිරිපත් කොට තිබේ. දෙවන කොටස දේව නාමාවලිය සඳහා ඇරුණේ ය.

මෙම ග්‍රන්ථයෙහි ඇතුළත් දෙවි දේවතාවුන්ට අමතර ව වෙනත් කිසියම් දෙවි දේවතාවුන් පිළිබඳ තොරතුරු හෝ මෙහි ඇතුළත් තොරතුරුවලට නැතහොත් වෙනස් තොරතුරු හෝ කිසියම් පාඨකයකු සතුව ඇත් නම් එය දන්වන ලෙස කරුණාධ්‍යාසයෙන් ඉල්ලා සිටිමු.

මෙම ග්‍රන්ථය සකස් කිරීමේ දී ඊට නොමසුව ආධාර කළ සුධීන් ගැන විශේෂයෙන් සඳහන් කළ යුතු ය. මූලාශ්‍ර සටහනෙහි ඔවුන්ගේ නම් සඳහන් වේ. ඒ අතුරෙන් විශේෂයෙන් සඳහන් කළ යුත්තෙක් නම් බොහෝ තොරතුරු සපයා දී මෙහි නම ද යෝජනා කළ පියසේන කහඳගමගේ මහතායි. ඒ මහතා ඇතුළු සුධීන්ට අපගේ හෘදයංගම ස්තුතිය පුද කරමු.

ග්‍රන්ථය මුද්‍රණය කිරීමේ කටයුත්ත භාරගෙන එය මනාව ඉටු කළ රජයේ මුද්‍රණ නීතිගත සංස්ථාවේ සභාපති නිහාල් අතුකෝරළ මහතා සහ ප්‍රකාශන අංශයේ නිලධාරී මහතුන් ඇතුළු කාර්ය මණ්ඩලයට අපගේ විශේෂ ස්තුතිය හිමි වේ.

අත්පිටපත සකස් කිරීමේ දී පේරාදෙණිය විශ්ව විද්‍යාලයේ පර්යේෂණ අරමුදලින් ලැබුණු අනුග්‍රහය කෘතවේදී ව සිහිපත් කරමු.

**කේ. එන්. ඕ. ධර්මදාස**
**එච්. එම්. එස්. හුන්දෙනිය**

1993.06.29
සිංහල අංශය,
පේරාදෙණිය විශ්ව විද්‍යාලය.






## ප්‍රස්තාවනා

සිංහල ජනතාව අතර පුද පූජාවට ලක් වූ දෙවි දේවතාවුන් පිළිබඳ නාමාවලියක් සකස් කිරීමේ අරමුණින් මෙම අධ්‍යයනය ආරම්භ කරන ලදී. සාහිත්‍යගතව මෙන් ම මුඛ පරම්පරාගතව ද එන දෙවි දේවතා විස්තර අකාරාදි පිළිවෙළට මෙහි සංගෘහීත කර ඇත. අපේ දෙවි දේවතාවුන් ගැන මෙ බඳු පුළුල් අධ්‍යයනයක් සිදුවන පළමු අවස්ථාව මෙය යි. මේ අධ්‍යයනය සර්ව සම්පූර්ණ යැයි නො කියමු. එහෙත් මෙහි ඇතුළත් අත්දමට අති විශාල දෙවි දෙවතා සමූහයක් පිළිබඳ තොරතුරු එක්තැන් කිරීමට ලැබීම ශාස්ත්‍රීය වශයෙන් වටිනා කාර්යයකැයි සිතන්නෙමු.

මෙම ග්‍රන්ථයේ ආමුඛයෙහි මූලාශ්‍ර පිළිබඳ හැඳින්වීමක් ඇත. එම මූලාශ්‍ර අංක අනුව දක්වා ග්‍රන්ථයේ පසුව එම අංකයෙන් මූලාශ්‍රය කවරේද යන්න සඳහන් කරනු ලැබේ. අනතුරුව පිටු අංකය ද දක්වා ඇත.

ග්‍රන්ථයේ පළමු කොටසෙහි දී හැඳින්වීමක් වශයෙන් සිංහල දේව විශ්වාස පිළිබඳ ඓතිහාසික මෙන් ම සමාජ විද්‍යාත්මක විමර්ශනයක් ඉදිරිපත් කොට තිබේ. දෙවන කොටස දේව නාමාවලිය සඳහා ඇරුණේ ය.

මෙම ග්‍රන්ථයෙහි ඇතුළත් දෙවි දේවතාවුන්ට අමතර ව වෙනත් කිසියම් දෙවි දේවතාවුන් පිළිබඳ තොරතුරු හෝ මෙහි ඇතුළත් තොරතුරුවලට හැකහොත් වෙනස් තොරතුරු හෝ කිසියම් පාඨකයකු සතුව ඇත් නම් එය දන්වන ලෙස කරුණාධ්‍යාසයෙන් ඉල්ලා සිටිමු.

මෙම ග්‍රන්ථය සකස් කිරීමේ දී ඊට නොමසුව ආධාර කළ සුධීන් ගැන විශේෂයෙන් සඳහන් කළ යුතු ය. මූලාශ්‍ර සටහනේ ඔවුන්ගේ නම් සඳහන් වේ. ඒ අතුරෙන් විශේෂයෙන් සඳහන් කළ යුත්තෙක් නම් බොහෝ තොරතුරු සපයා දී මෙහි නම ද යෝජනා කළ පියසේන කහඳගමගේ මහතායි. ඒ මහතා ඇතුළු සුධීන්ට අපගේ හෘදයංගම ස්තුතිය පුද කරමු.

ග්‍රන්ථය මුද්‍රණය කිරීමේ කටයුත්ත භාරගෙන එය මනාව ඉටු කළ රජයේ මුද්‍රණ නීතිගත සංස්ථාවේ සභාපති නිහාල් අතුකෝරළ මහතා සහ ප්‍රකාශන අංශයේ නිලධාරී මහතුන් ඇතුළු කාර්ය මණ්ඩලයට අපගේ විශේෂ ස්තුතිය හිමි වේ.

අත්පිටපත සකස් කිරීමේ දී පේරාදෙණිය විශ්ව විද්‍යාලයේ පර්යේෂණ අරමුදලින් ලැබුණු අනුග්‍රහය කෘතවේදී ව සිහිපත් කරමු.


කේ. එන්. ඕ. ධර්මදාස
එච්. එම්. එස්. භූත්දෙනිය

1993.06.29
සිංහල අංශය,
පේරාදෙණිය විශ්ව විද්‍යාලය.

# මූලාශ්‍ර පිළිබඳ හැඳින්වීම

මෙම අධ්‍යයනයේ දී පුද්ගලයන් ගෙන් ලබා ගන්නා ලද තොරතුරු මෙන් ම සම්භාව්‍ය සාහිත්‍ය කෘති, දෙවියන් ගේ කෝල්මුර කවි හා යාතිකා යන ප්‍රාථමික මූලාශ්‍ර මෙන් ම විවිධ කතුවරුන් විසින් සිංහලයෙන් හා ඉංග්‍රීසියෙන් ලියන ලද පොත් සහ ලිපි යන ද්විතීයික මූලාශ්‍ර ද භාවිත කර ගැනිණි.

ප්‍රාථමික මූලාශ්‍ර අතර දෙවිවරුන් ගේ විත්ති සඳහන් කවි රාශියක් හියු නෙවිල් (1848-1897) නමැති බ්‍රිතාන්‍ය සිවිල් නිලධාරියා විසින් ලක්දිව විවිධ පළාත්වලින් එකතු කරන ලද කාව්‍ය සමුච්චයට අයත් ය. මෙම කාව්‍ය සමුච්චයට අයත් කවි බොහොමයක් පී.ඊ.පී. දැරණියගල විසින් ද (අප මූලාශ්‍ර නාමාවලියේ අංක 161) තිස්ස කාරියවසම් විසින් ද (අප මූලාශ්‍ර නාමාවලියේ අංක 37 සහ අංක 38) මුද්‍රණය කරවා තිබේ. මේ කෘති අපට මහෝපකාරී විය. හියු නෙවිල් ලබා ගත් මේ පුස්කොළ පිටපත් ක්‍රි.ව. 16, 17, 18 සහ 19 සියවස්වලට අයත් ඒවා බව ඔහු පවසා තිබේ.

අප භාවිත කළ ද්විතීයික මූලාශ්‍ර අතර එල්. ඩී. බානට් වර්ෂ 1917 ඉන්ඩියන් ඇන්ටිකුවරි සඟරාවට ලියූ ලිපිය ද (අප මූලාශ්‍ර අතර අංක 141) හෙන්රි පාකර් ලියූ ඒන්ෂන්ට් සිලෝන් පොතේ (අප මූලාශ්‍ර අතර අංක 174) එන ජන ප්‍රවාද ද ඒ.සී. ලෝරි සකස් කළ මධ්‍යම පළාතේ ගැසටියර් පොතේ (අප මූලාශ්‍ර අතර අංක 158 ද) විශේෂයෙන් වැදගත් වේ.

# මූලාශ්‍ර

මූලාශ්‍ර කොටස් තුනකින් යුක්ත ය.

(අ) පෞද්ගලික ව සපයන ලද තොරතුරු
(ආ) සිංහල ග්‍රන්ථ හා ලිපි
(ඇ) ඉංග්‍රීසි ග්‍රන්ථ හා ලිපි

යනුවෙනි.

මූලාශ්‍ර ගැන සඳහන් කිරීමේ දී පහත සඳහන් මූලාශ්‍ර අංකය දක්වා අවශ්‍ය තන්හි පිටු අංක ද දක්වනු ලැබේ.

## (අ) පෞද්ගලිකව සපයන ලද තොරතුරු

1. මයිලැවේ ශ්‍රී නිවාස ස්වාමීන් වහන්සේ, විද්‍යාර්ථෝදය පිරිවෙන, පොල්ගහවෙල.
2. උපුල් සම්පත් කුමාර මහතා, කුරුණෑගල.
3. පියසේන කහඳගමගේ මහතා, දූන්වත්ත, බද්දේගම.
4. ගුණසේකර ගුණසෝම මහතා, පානම.
5. ඩබ්ලිව්. වික්‍රමගේ මහතා, සංස්කෘතික නිලධාරී, අනුරාධපුර.
6. චාල්ස් අබේකෝන් මහතා, බෝයවලාන, කැප්පෙටිවලාන.
7. ඒ.ජී. අතුරුගිරිය මහතා, රුවන්වැල්ල.
8. විභාවි විජයශ්‍රීවර්ධන මහතා, මෝදර.

8අ. එඩ්මන්ඩ් ගනේගොඩ මහතා, බොකලගම.

9. ජැක්සන් විජයවර්ධන මහතා, කුඩලිගම.
10. තිබ්බොටුවාවේ ගෙදර පුංචිබණ්ඩා මහතා, මගලේගොඩ.
11. වෛද්‍ය එච්. එම් සේනාධීර මහතා, ගම්පොල.
12. ජයන්ත අමරසිංහ මහතා, බෙලිඅත්ත.

## (ආ) සිංහල ග්‍රන්ථ හා ලිපි

13. අතුරුගිරිය, අශෝකඃ "ලග්ගල ප්‍රදේශයේ කෘෂිකාර්මික කටයුතු හා බැඳුණු ඇදහිලි පිදවිලි", ඓතිහාසික මාතලේ, සිරිල් ගමගේ ආදීන් සංස්., මාතලේ දිසා සංස්කෘතික මණ්ඩලය, 1984, 83-87 පිටු.

14. අබේරත්න, ඩී. එම්. එම්. ආර්.: "ශාන්තිකර්ම ආශ්‍රිත ජන ගායනා", අපේ ජනකලා, පැරකුම් විජේසිංහ ආදීන්, සංස්., කොළඹ, පළාත් පාලන දෙපාර්තමේන්තුව, 1986, 207-214 පිටු.

15. අභයවර්ධන, එච්.ඒ.පී.: කඩඉම්පොත් විමර්ශනය, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ දෙපාර්තමේන්තුව, 1978.

16. අභයසිංහ, පී.ඇම්.පී.: උඩරට විත්ති, මහරගම, සමන් මුද්‍රණාලය, 1957.

17. "අභිමානා දේවතා පිදීම" ශ්‍රී ලංකා, II වන කාණ්ඩය, 9 වන කලාපය, 1959, අගෝස්තු.

18. අමරසේකර, ඩබ්ලිව්.: පෞරාණික ජනකතා, කොළඹ, ගුණසේන සහ සමාගම, 1963.

19. අමරසේකර, ඩබ්ලිව්.: අපේ දෙවි දේවතාවෝ, කොළඹ, ගුණසේන සහ සමාගම, 1957.

20. අමාවතුර, පූජ්‍ය කෝද්දාගොඩ ඥානාලෝක සංස්කරණය, කොළඹ, ගුණසේන සහ සමාගම, 1967.

20අ. අනුබුදු, අපිසෙක්: "අනුරාධපුර පුවත", සිංහල විශ්වකෝෂය, කොළඹ, රජයේ මුද්‍රණාලය, 1963.

21. අලකේශ්වර යුද්ධය, ඒ.වී. සුරවීර සංස්., කොළඹ, රත්න පොත් ප්‍රකාශකයෝ, 1965.

22. ආරියපාල, ඇම්.බී.: මධ්‍යකාලීන ලංකා සමාජය, කොළඹ ලංකාණ්ඩුවේ මුද්‍රණාලය, 1962.

23. ඇටඹගස්කඩ, ආර්.: "මාතලේ සංස්කෘතිය", අපේ ජනකලා, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., 1986, 257-260 පිටු.

24. ඉන්දරතන හිමි, පූජ්‍ය අතුරලියේ: සාසනික පරිත්‍රාණ විධි, චාරිත්‍ර උපචාර පූජා උපචාර පූජා විමර්ශන සහිත පිරුවානා පොත් වහන්සේ, මාතර, මාතර පොල්ගේනේ පුරාණ විහාරස්ථ දායක සභාව, 1984.

25. ඉලංගසිංහ, කේ.බී.: "හෙනකද බිසෝ බණ්ඩාර", සාහිත්‍යය, ගම්පොල සාහිත්‍ය උත්සව කලාපය, 1972.

26. එදිරිසිංහ, පද්මා: අභීත ලංකා, කොළඹ, ගොඩගේ සහෝදරයෝ, 1989.



27. එල්ලාවල, හේමා: පුරාණ ලංකාවේ සමාජ ඉතිහාසය, කොළඹ, සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව, 1965.

28. ඒකනායක, සිරිසේන: "කුරුණෑගල සමයේ ජනප්‍රවාද", සාහිත්‍යය, 1965 සාහිත්‍ය දින විශේෂ කලාපය, 67-81 පිටු.

29. කරුණාතිලක, ඇන්.ඩී.: දැදුරුඔය බඩ ජන ඇදහීම්, කොළඹ ගොඩගේ සහෝදරයෝ, 1985.

30. කරුණාතිලක, ඇන්.ඩී.: "සත්කෝරළේ දේව ඇදහිලි", අපේ ජනකලා, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., කොළඹ, පළාත් පාලන දෙපාර්තමේන්තුව, 1986. 117-125 පිටු.

31. කහඳගමගේ, පියසේන: කමත, ආරිය ප්‍රකාශකයෝ, වරකාපොල, 1991.

32. කාරියවසම්, තිස්ස, ශාන්ති කර්ම හා සිංහල සමාජය, කොළඹ ප්‍රදීප ප්‍රකාශකයෝ, 1976.

33. කාරියවසම්, තිස්ස: "මාතලේ ශාන්තිකර්ම" ඓතිහාසික මාතලේ, සිරිල් ගමගේ ආදීන් සංස්., මාතලේ දිසා සංස්කෘතික මණ්ඩලය, 1984, 198-207 පිටු.

34. කාරියවසම්, තිස්ස: "අභාවයට යන සිංහල ජනකලා", අපේ ජනකලා, පැරකුම් විජේසිංහ ආදීණ් සංස්., කොළඹ, පළාත් පාලන දෙපාර්තමේන්තුව, 1986. 17 - 43 පිටු.

35. කාරියවසම් තිස්ස: බලියාග පිළිවෙළ, කොළඹ, සමයවර්ධන මුද්‍රණාලය, 1986.

36. කාරියවසම්, තිස්ස: ගම්මඩු පුරාණය, කොළඹ, සමයවර්ධන මුද්‍රණාලය, 1990.

37. කාරියවසම්, තිස්ස: සිරිලක දෙවිවරු, හියු නෙවිල් කාව්‍යාවලිය ආශ්‍රයෙනි, කොළඹ තරංජි ප්‍රින්ටර්ස්, 1991.

38. කාරියවසම්, තිස්ස: ශ්‍රී ලංකාවේ දේවතාවියෝ හා යකින්නියෝ, කොළඹ, ගොඩගේ සහ සමාගම, 1992.

39. කිරියාගේ කවිපොත, (අත් පිටපත) කෑගල්ලේ අතිරේක දිසාපති ඒ.ජී. අතුරුගිරිය මහතා සතුය.

39අ. කුලතිලක, සී ද එස්.: ලංකාවේ සංගීත සම්භවය, කොළඹ, ලේක්හවුස් ඉන්වෙස්ට්මන්ට්ස්, 1974.

40. කෙහෙල්ගමුවේ, පී.බී.: **කොත්මලේ පුරාවෘත්ත**, කොළඹ, ජිනාලංකාර මුද්‍රණාලය, 1935.

41. **කෝකිල සංදේශය**, සංස්., ඩබ්.ඇෆ්. ගුණවර්ධන, ජාතිය සංස්කරණය, කොළඹ, මහාබෝධි යන්ත්‍රාලය, 1962.

42. **කොවුල් සන්දේශය**, සංස්., ඊ. තෙන්නකෝන්, කොළඹ, ශ්‍රී ලංකා ප්‍රකාශන සමාගම, බු.ව. 2505.

43. ගයිගර්, විල්හෙල්ම් : **මධ්‍යකාලීන ලංකා සංස්කෘතිය**, (පරිවර්තනය ඇම්.බී. ආරියපාල) කොළඹ, ගුණසේන සමාගම, 1969.

44. ගුණරත්න, එච්.කේ.: "මාතලේ ශාන්තිකර්ම", **අපේ ජනකලා**, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., කොළඹ, පළාත් පාලන දෙපාර්තමේන්තුව, 1986, 269-272 පිටු.

45. ගුණවර්ධන, තේජා: **කොහොඹා කංකාරිය**, කොළඹ, අරුණ ප්‍රකාශකයෝ, 1979.

46. ගුණවර්ධන, දයානන්ද: **සකල කලා වල්ලභ උඩුගම්පොල රජතුමා**, ගම්පහ, 1969.

47. ගුණසෝම, ගුණසේකර: **පානම්පත්තුවේ ජනකතා**, පන්නිපිටිය, සුභා ප්‍රකාශකයෝ, 1992.

48. ගුණාලංකාර හිමි, වරසම්බෝධි කෙහෙල්ගමුවේ: **ගම්පොල ඉතිහාසය**, කොළඹ, දිනමිණ මුද්‍රණාලය, 1948.

49. ගොඩකුඹුරේ, චාල්ස්: **කොහොඹ කංකාරිය**, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ දෙපාර්තමේන්තුව, 1963.

50. ගොඩකුඹුරේ, චාල්ස්: "අලුත්නුවර දේවාලය කරවීම", **සාහිත්‍යය**, කොළඹ, සංස්කෘතික දෙපාර්තමේන්තුව, 1990.

51. **ගොවි ගෙදර ජනකවි**, නෝමන් සිරිපාල සංස්., කොළඹ, ගොවිජන සේවා දෙපාර්තමේන්තුව. 1990.

52. ඤාණවිමල හිමි, පූජ්‍ය කිරිඇල්ලේ: **සපරගමුවේ පැරණි ලියවිලි**, රත්නපුරය, 1946.

53. ඤාණවිමල හිමි, පූජ්‍ය කිරිඇල්ලේ: **සබරගමු දර්ශන**, රත්නපුර, ශාස්ත්‍රෝදය යන්ත්‍රාලය, 1967.

54. චන්දන හිමි, පූජ්‍ය ඔරුක්මාන්කුලමේ: **නුවරකලාවියේ ජනකවි විමර්ශනය හා සමාහාරය**, රත්මලාන, පෙතිකඩ ප්‍රකාශන, 1990.



55. ඉන්දජෝති හිමි. පූජ්‍ය ඉඹිහාමිතේගම: "මාතලේ දේවාල හා දෙවිවරු", **ඓතිහාසික මාතලේ**, මාතලේ දිසා සංස්කෘතික මණ්ඩලය, 1984, 161-163 පිටු.

56. චන්දජෝති හිමි. පූජ්‍ය මාබොටුවේ සහ ගොඩගම විපුලසාර හිමි: **ලාංකික දෙවිවරු**, ඇහැලියගොඩ, ගුණතිලක මුද්‍රණාලය, 1954.

57. චන්දවිමල හිමි, පූජ්‍ය රේරුකානේ: **බෝධි පූජාව**, බොරලැස්ගමුව, 1989.

58. චන්දානන්ද හිමි, පූජ්‍ය කුළුගම්මන: "කෑගලු පළාතේ ජනප්‍රවාද", **සාහිත්‍යය**, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ දෙපාර්තමේන්තුව, 1964, iii, 44-49 පිටු.

59. ජයතිලක, ශ්‍රීමත් ඩී.බී.: **සිංහල සාහිත්‍ය ලිපි** (1940) කොළඹ, ගුණසේන සමාගම, 1963.

60. ජයතිලක, ශ්‍රීමත් ඩී.බී.: **කතිකාවත් සඟරා**, කැලණිය, විද්‍යාලංකාර යන්ත්‍රාලය, 1955.

61. ජයවර්ධන, එස්.කේ.: **කොත්මලේ සංස්කෘතිය හා සාහිත්‍යය**, ගම්පොල රෝහණ මුද්‍රණාලය, 1981.

62. ජයවර්ධන, එස්.කේ.: **පැරණි ලංකාවේ ආගම් හා පුද පූජා**, කොළඹ, ගුණසේන සමාගම, 1985.

63. ජයවර්ධන, සෝමපාල: **රුහුණු විත්ති**, දෙහිවල, තිසර ප්‍රකාශකයෝ, 1977.

64. තිලකරත්න, මිණිවන් පී.: **ජනකවිය හා සිංහල සංස්කෘතික ලක්ෂණ**, නුගේගොඩ, දීපානි මුද්‍රණාලය, 1971.

65. **තිසර සන්දේශ දීපනිය**, සංස්. කුමාරතුංග මුනිදාස, කොළඹ, සූරිය මුද්‍රණාලය, 1936.

66. තුන්දෙණිය, එච්. එම්. එස්.: **යටිනුවර විහාර වංශය**, (අත් පිටපත) පේරාදෙණිය විශ්වවිද්‍යාලයීය පුස්තකාලය.

67. තුන්දෙණිය, එච්.එම්.එස්.: **උඩුනුවර විහාර වංශය**, (අත් පිටපත) පේරාදෙණිය විශ්වවිද්‍යාලයීය පුස්තකාලය.

67අ. තුන්දෙණිය, එච්.එම්.එස්.: **උඩුනුවර විත්ති**, උඩුනුවර, 1990.

68. තුන්දෙණිය, එච්. එම්. එස්.: **පාතදුම්බර විහාර වංශය**, (අත් පිටපත) පේරාදෙණිය විශ්වවිද්‍යාලයීය පුස්තකාලය.

69. "දහතක බණ්ඩාර දෙවියෝ", **සුනිල් කහගල්ල, දිවයින**, 1990 දෙසැම්බර් 30

70. දිසානායක, ජේ. බී.: **සිංහල ජනවහර**, කොළඹ, ලේක්හවුස්, 1976.

71. දිසානායක, මුදියන්සේ: **කොහොඹා කංකාරිය හා සමාජය**, කැලණිය, ශීලා ප්‍රින්ටින් වර්ක්ස්, 1988.

72. දිසානායක, මුදියන්සේ: "උඩරට නර්තන සම්ප්‍රදායේ ශාන්තිකර්ම ආශ්‍රිත බණ්ඩාර දෙවිවරු" **කලා සගරාව**, 34 වන කලාපය, 1990, 6-9 පිටු.

73. දිසානායක, මුදියන්සේ: **කංකාරි ගීත සාහිත්‍යය**, කොළඹ, ගොඩගේ සමාගම, 1991.

74. දිසානායක, එම්. ආර්.: "මාතලේ දිසාවේ ශාන්ති කර්ම" **අපේ ජනකලා**, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., කොළඹ, පළාත්පාලන දෙපාර්තමේන්තුව, 1986, 261-67 පිටු).

75. ධනපාල, අයි.ඒ.ඩී.පී.: "සීතාවක යුගයේ ජනශ්‍රැති හා සතර කෝරළය", **සීතාවක පුර යුගය**, වේරහැර ආරියවංශ නායක ස්ථවිර සංස්., කොළඹ, සමයවර්ධන මුද්‍රණාලය, 1991, 126-172 පිටු.

76. ධම්මානන්ද හිමි, පූජ්‍ය නාවුල්ලේ: **ඌව ඉතිහාසය**, කොළඹ, ගුණසේන සමාගම, 1966.

77. ධම්මානන්ද හිමි, පූජ්‍ය මාම්පිට: "ජනශ්‍රැති", **අපේ ජනකලා**, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., කොළඹ, පළාත්පාලන දෙපාර්තමේන්තුව, 1986.

77අ. ධර්මසේන, මුදියන්සේ: **ගම්මැද්ද**, නුගේගොඩ, දීපානි, 1991.

78. ධීරානන්ද හිමි, පූජ්‍ය කහටපිටියේ: **ගම්පොල යුගය**, කොළඹ, ගුණසේන සහ සමාගම, 1965.

79. නාරද හිමි, **ධම්සංග්‍රහය**, (1949), එකොළොස් වන මුද්‍රණය, කොළඹ, ලේක්හවුස් ඉන්වෙස්මන්ට්ස්, 1966.

80. **නිකාය සංග්‍රහ විවරණය**, සංස්., ධම්ශ්‍රී කුමාරතුංග, කොළඹ, රත්නාකර, බු.ව. 2501.

81. **පරෙවි සන්දේශ විවරණය**, සංස්., කුමාරතුංග මුනිදාස, කොළඹ, කේ.ඒ. ආරියදාස සමාගමය, බු.ව. 2502.





82. පලිහපිටිය, රංජිත් අමරසිරි: **ඓතිහාසික බෙල්ලන්විල**, බොරලැස්ගමුව, 1986.

83. පියදාස, කේ.ඩී.: "ලග්ගල පුරාණය", **ඓතිහාසික මාතලේ**, සිරිල් ගමගේ ආදීන් සංස්., මාතලේ දිසා සංස්කෘතික මණ්ඩලය, 1984, 73-74 පිටු.

84. පියරතන හිමි, මකුළුදුවේ: "ඌවේ අගනුවර අවට", අලවුඩයි ඇඹිහෙළ සහ හිනුබිස් දිසානායක සංස්., උඩදකාඩිඩ, කොළඹ, ගුණසේන සමාගම, 1966, 95-108 පිටු.

85. පියසේන, එච්.: "උඩුගම්පොල පාලනය කළ සකල කලා වල්ලභ", ඉරිදා දිවයින, 1992 ජූනි 21.

86. පියසේන, ධම්සිරි: "ඌවේ ජන ඇදහිලි හා විශ්වාස" ඌව වංශකථාව, 2 වන කාණ්ඩය, ඌව පළාත් සභා සංස්කෘතික අමාත්‍යාංශය, 1991, 189-216 පිටු.

87. **පුරාණ සමනළ ගමන් විස්තරය**, අත්තනගල්ල, සහාබෝ මුද්‍රණාලය, 1951.

88. පූජාවලිය, සංස්. වලානේ ධම්මානන්ද හිමි, කොළඹ, විද්‍යාලංකාර මුද්‍රණාලය, 1916.

89. පෙරේරා, සිරි තිශ්ශංක: "ඓතිහාසික පසුබිම හා පුරාවෘත්ත" අපේ ජනකලා, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., කොළඹ, පළාත්පාලන දෙපාර්තමේන්තුව, 1986, 59-66 පිටු.

90. ප්‍රඥාලෝක හිමි, එච්.යූ.: පුරාණ සිව්පද සංග්‍රහය, කොළඹ, ආණ්ඩුවේ මුද්‍රණාලය, 1952.

91. ප්‍රනාන්දු, මාකස්: "බැල් මහතාගේ කෑගලු වාර්තාව", **සාහිත්‍යය**, 1964, 3, 56-61 පිටු.

92. බණ්ඩාර, ස්වර්ණ ශ්‍රී: "පුත්තලම දිසාවේ ඓතිහාසික පසුබිම" **අපේ ජනකලා**, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., කොළඹ, පළාත් පාලන දෙපාර්තමේන්තුව, 1986, 185-205 පිටු.

93. බෂාම්. ඒ.එල්.: **අසිරිමත් ඉන්දියාව**, (ඉංගිරිසි. 1953) සිංහල පරිවර්තනය, කොළඹ රාජ්‍ය භාෂා දෙපාර්තමේන්තුව 1962.

93අ. **බුත්සරණ**, පූජ්‍ය වැලිවිටියේ සොරත සංස්කරණය, කොළඹ අභය ප්‍රකාශකයෝ, 1966.

94. **මහාබෝධිවංශ ග්‍රන්ථි පද විවරණය**, සංස්. රත්මලානේ ධර්මාරාම හිමි (1910) කොළඹ, ලංකා බෞද්ධ මණ්ඩලය, 1957.

95. **මන්දාරම් පුර පුවත**, සංස්., ලබුගම ලංකානන්ද හිමි කොළඹ, 1958.

96. "මයුරපාද" (පූජ්‍ය හෝත්පිට ගෙදර ඥානසීහ හිමි): දෙවියෝ, බලගල්ල, දිවුලපිටිය, ශ්‍රී ඥානසීහ ග්‍රන්ථ මාලා අරමුදල, 1985.

97. **මයුර සන්දේශ විවරණය**, සංස්. කුමාරතුංග මුනිදාස, (1935) කොළඹ, ගුණසේන සහ සමාගම, 1963 මුද්‍රණය

98. **මල්පල කවිපොත**, අප්පුහාමි පිහිල්ලේගෙදර මහතා එකතු කර පී.බී. පිහිල්ලෙගෙදර මහතා සතු අත්පිටපත, මහවැලි වංශය, 2 කාණ්ඩය, කොළඹ, මහවැලි අමාත්‍යංශය, 1985, 627-639 පිටු.

99. **මහාවංශය**, ඌන පූරණ සහිත, සංස්. ඒ.පී. බුධදත්ත හිමි, කොළඹ, ගුණසේන 1959.

99අ. **මහා වංශය**, 37 - 101 පරිච්ඡේද සිංහල පරිවර්තනය, හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමි හා බටුවන්තුඩාවේ පඬිතුමා කොළඹ, රාජ්‍ය මුද්‍රණාලය, 1931.

100. මායා රංජන්: **දිගාමඩුල්ලේ ආශ්චර්ය**, මහරගම, සමන් මුද්‍රණාලය, 1957.

101. මීගස්කුඹුර, පී.බී.: "ජනප්‍රවාද හා පුරාණකථා", **මහවැලිවංශය** 2 වන කාණ්ඩය, කොළඹ, මහවැලි අමාත්‍යංශය, 1985.

102. මුදියන්සේ, නන්දසේන: **සීගිරි ගී**, කොළඹ, ගුණසේන සහ සමාගම, 1963.

103. මුදියන්සේ, නන්දසේන: ශාස්ත්‍රීය ලිපි, කොළඹ, ගුණසේන සහ සමාගම, 1971.

104. යටවර, ඇම්.ඩී.ඇම්.ඇස්.: "ජන සාහිත්‍යයෙහි එන ගල කැප්පූ සැහැල්ලෙහි රස තැන්", **සාහිත්‍යය**, 1966, 1, 11-13 පිටු.

105. යසපාල, කේ.පී.: "සීතාවක යුගයේ ඓතිහාසික සටහන්", **සීතාවකපුර යුගය**, වේරහැර අරියවංශ නායක ස්ථවිර සංස්., කොළඹ, සමයවර්ධන මුද්‍රණාලය, 1991, 38-52 පිටු.

106. රංගනාත්, පී.: **හෙළ මහ යක්කම**, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ අමාත්‍යාංශය, 1985.



107. රත්නපාල, ඊ.ඇම්.: **බැද්දෙන් ගමට**, වැල්ලවත්ත, සති ප්‍රකාශකයෝ, 1986.

108. රත්නපාල, ඊ.ඇම්.: "සමන්ත කූටය හා සමන් දෙවියෝ" **සාහිත්‍යය, විශේෂ කලාපය**, 1991, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ දෙපාර්තමේන්තුව, 54-59 පිටු.

109. රත්නසිංහ, ආරියදාස: "නාථ දෙවිඳු", **ශ්‍රී සහරාව**, 1984 ජූලි.

110. රතනසාර හිමි, පූජ්‍ය තිරාණගම: **දර්ශන සියය**, කොළඹ, ගුණසේන සමාගම, 1957.

111. රතනසාර හිමි, පූජ්‍ය මාලගමුවේ: **කම්බිලි මල් යහන හෙවත් බත්මාලා පූජා කර්මය**, 1984 එම්.ඒ. උපාධි නිබන්ධනය, අමුද්‍රිත, පේරාදෙණිය විශ්වවිද්‍යාල පුස්තකාලය.

112. රන්ජිත්, යූ.ආර්.ජේ.: "සබරගමුවේ ශාන්ති කර්ම" **අපේ ජන කලා**, පැරකුම් විජේසිංහ ආදීන් සංස්., කොළඹ, පළාත් පාලන දෙපාර්තමේන්තුව, 1986, 285-289 පිටු.

113. **රාජාවලිය**, සංස්. ඒ. වී. සුරවීර, කොළඹ, ලේක් හවුස් ඉන්වෙස්ට්මන්ට්ස්, 1976.

114. රාහුල හිමි, පූජ්‍ය වල්පොල: **ලංකාවේ බුදු සමයෙහි ඉතිහාසය**, කොළඹ, ගුණසේන සමාගම, 1965.

114අ. ලියනගේ, බන්දුල සංස්.: **සබරගමු ජනකවි**, රත්නපුර, සබරගමු පළාත් සභාව

115. වලිසුන්දර, ඩබ්.එම්.ආර්.: **පොළොන්නරුවේ ජන කවි**, කොළඹ, සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව, 1973.

116. වාචිස්සර හිමි, පූජ්‍ය කොටගම: **සරණංකර සංඝරාජ සමය**, කොළඹ, වයි. දොන් ඇඩ්වින් සහ සමාගම, 1964.

117. වාචිස්සර හිමි, පූජ්‍ය කොටගම: "නුවර යුගයේ යකුන් ඇදහීම" **ඉතිහාසය ශික්ෂා** 11, 5-9 පිටු.

117අ. වික්‍රමසිංහ, ඩී.පී.: **මගදිගට ජනකතා**, නුගේගොඩ, ප්‍රසන්න මුද්‍රණ ශිල්පීහු, 1971.

118. විජේසිංහ, පී.ආර්.එච්.: "පුරාණ සාම්ප්‍රදායික කළුන්දා ගං කොටුව" **ඓතිහාසික මාතලේ**, සංස්. සිරිල් ගමගේ ආදීන්, මාතලේ දිසා සංස්කෘතික මණ්ඩලය, 1984, 76-81 පිටු.

118අ. සැබිහෙළ, අලවිඉසි: **පරෙවි සඳෙස් පහදනය**, කොළඹ, ගුණසේන සමාගම, 1967.

119. විජේසූරිය, එස්.එස්., ආර්. ඇටඹගස්කඩ, කුසුමා එගොඩගෙදර: "ජන සාහිත්‍යය", ඓතිහාසික මාතලේ, සංස්. සිරිල් ගමගේ ආදීන්, මාතලේ දිසා සංස්කෘතික මණ්ඩලය, 1984, 225-230 පිටු.

120. විතාරණ, වීනී: "දෙවොල් දෙවියෝ සහ දෙවොල් නැටුම", කාලිංග ඔබේවංස ශේඛා ඇගැයුම, සංස්., අනඳපිය සුධාසිහි, කොළඹ, 1984, 37-40 පිටු).

121. විමලකිත්ති ස්ථවිර, පණ්ඩිත මැදඋයන්ගොඩ: සිංහල ආණ්ඩුව, කොළඹ, අනුල මුද්‍රණාලය, බු.ව. 2499.

121අ. ශ්‍රී සුශීල හිමි, පූජ්‍ය කෝම්පිටියේ: "රත්නපුර දිසාවේ ඇදහිලි හා විශ්වාස", ඓතිහාසික රත්නපුර, බන්දුල ප්‍රියනාගේ සංස්. සබරගමු පළාත් සභාව, 1992, 177-82 පිටු.

122. සද්ධර්මරත්නාවලිය, සංස්., බෙන්තර ශ්‍රද්ධාතිස්ස ස්ථවිර, කොළඹ, කරුණාධාර මුද්‍රණාලය, 1952.

123. සද්ධාජීව හිමි, පූජ්‍ය පරවාහැර සහ ප.බ.ජී. හේවාවසම් සංස්., **පන්තිස් කෝල්මුර කවි**, කොළඹ, ප්‍රදීප ප්‍රකාශකයෝ, 1974.

124. සන්නස්ගල, පුංචි බණ්ඩාර: **සිංහල සාහිත්‍ය වංශය**, කොළඹ, ලේක් හවුස් ඉන්වෙස්මන්ට්ස්, 1961.

125. සන්නස්ගල, පුංචි බණ්ඩාර: "ඌවේ සංස්කෘතික දායාද", **ඌව වංශ කථාව 2 වන කාණ්ඩය**, ඌව පලාත් සභා සංස්කෘතික අමාත්‍යාංශය, 1991, 100-188 පිටු.

125අ. සමරසිංහ එස්.ජී: "සමන් දෙවියෝ", **ඓතිහාසික රත්නපුර**, බන්දුල ලියනගේ සංස්., සබරගමු පළාත් සභාව, 1992, 199-205 පිටු.

126. සරච්චන්ද්‍ර, එදිරිවීර: **සිංහල ගැමි නාටකය**, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ දෙපාර්තමේන්තුව, 1968.

127. **සසදා විවරණය (සංස්.)** කුමාරතුංග මුනිදාස, කොළඹ, ගුණසේන සමාගම, බු.ව. 2499.



127අ. **සිංහල මාල කවි සංග්‍රහය**, සංස්., තෙරිපැහැ සෝමානන්ද හිමි කොළඹ, ශ්‍රී ලංකා යුනෙස්කෝ ජාතික මණ්ඩලය, 1986.

128. **සිංහල විශ්වකෝෂය** 1, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ දෙපාර්තමේන්තුව.

129. **සිංහල ශබ්දකෝෂය**, කොළඹ, සංස්කෘතික කටයුතු පිළිබඳ දෙපාර්තමේන්තුව.

130. සුමනසාර ස්ථවිර. පූජ්‍ය කරහම්පිටිගොඩ: "නවතිලක පුර", **සාහිත්‍යය**, 1964, 3, 62-70 පිටු.

130අ. සුමනජෝති හිමි, පූජ්‍ය පරණගම: "මාතලේ දිසාවේ විහාරස්ථාන" **ඓතිහාසික මාතලේ** සංස්. සිරිල් ගමගේ ආදීන්, මාතලේ,දිසා සංස්කෘතික මණ්ඩලය 1984, 97 - 123 පිටු.

131. සෙනෙවිරත්න, නි.බ.මා: **සිංහල කාව්‍ය සංග්‍රහය**, මාතර යුගය, කොළඹ, ජාතික කෞතුකාගාර දෙපාර්තමේන්තුව, 1964.

132. සේදරමන්, ජේ.ඊ.: **ලංකාවේ යක්ෂ යුගය හෙවත් කොහොඹකංකාරිය**, (ලිහිණි පොත්) කොළඹ, ගුණසේන සහ සමාගම, 1955.

133. සේදරමන්, ජේ.ඊ.: "ඌවේ ජාතික නැටුම් වැයුම්" අලවි ඉසි සැබිහෙළ සහ හියුබත් දිසානායක සංස්., **ඌව දනව්ව**, කොළඹ, ගුණසේන සහ සමාගම, 1966, 127-37 පිටු.

134. සොරත හිමි, පූජ්‍ය වැලිවිටියේ: **ශ්‍රී සුමංගල ශබ්දකෝෂය**, කොළඹ, අනුල මුද්‍රණාලය, බු.ව. 2507

135. සොමානන්ද හිමි, පූජ්‍ය කුළුපන: "විදිය බණ්ඩාර දා පාලින්ද තුවර", **පස්දුන් රට සංස්කෘතික ඉතිහාසය**, සංස්., මෙරිල් කාරියවසම්, කොළඹ, රජයේ මුද්‍රණාලය, 1984, 55-56 පිටු.

136. හේමසිරි හිමි, පූජ්‍ය පොළොන්මාරුවේ: **රුහුණේ ඇදහිලි හා විශ්වාස**, නුගේගොඩ, තරංජි ප්‍රින්ටර්ස්, 1986.

137. හේරත්, සු.බ.: "ගැමි ඇදහිලි හා ආගම්", මහවැලි වංශය, දෙවන කාණ්ඩය, කොළඹ, මහවැලි අමාත්‍යාංශය, 1985, 533-540 පිටු.

138. හේරත්, සු.බ.: "ශාන්තිකර්ම හා අභිචාර විධි", මහවැලි වංශය, දෙවන කාණ්ඩය, කොළඹ, මහවැලි අමාත්‍යාංශය, 1985, 540-549 පිටු.

## (ඇ) ඉංග්‍රීසි ග්‍රන්ථ හා ලිපි.

139. Adikaram, E.W.: *Early History of Buddhism in Ceylon*. Colombo, Gunasena (1946) Second Imp. 1952.

140. Ariyapala, M.B.: *Society in Medieval Ceylon*, Colombo, Dept. of Cultural Affairs, 1956.

140A. Bandaranayake, Seneke: *The Rock and Wall Paintings of Sri Lanka*, Colombo, Lake House, 1986.

141. Barnett, L.D.: *Alphabetical Guide to Sinhalese Folklore From Ballad Sources*, Reprinted from Indian Antiquary, Bombay British India Press, 1917.

142. Bechert, Heinz: "The Beginnings of Buddhist Historiography: The Mahavamsa and Political Thinking" in Bardwell L. Smith ed. *Religion and the Legitimation of Power*, Chambersberg PA, Prima Books, 1978, pp. 48-72.

143. Bell, H.C.P.: *Report on the Kegalla District*, Colombo, Govt. Press, 1892.

144. Brohier, R,L.: *Seeing Ceylon*, Colombo, Lake House Investments, 1965.

145. Codrington, H.W.: "Ampitiya Rock Inscription", *Epigraphia Zeylanica*, vol. IV, pp. 271-3

146. Davy, John: *An Account of the Interior of Ceylon and Its Inhabitants*, London, Longman, Hurst, Rees, Ormne and Brown, 1821.

146A. De Silva, K.M: "The Kandyan Kingdom and the British: The Last Phase", *University of Ceylon, History of Ceylon*, vol. III, Peradeniya, pp. 12-21.

147. De Silva, K.M.: *Sri Lanka: A History*, Delhi, Oxford Univ. Press, 1981.



148. Devaraja, L.S.: *The Kandyan Kingdom*, 1707-1760, Colombo, Lake House Investments, 1972.

149. Dolapihilla, P.B.: *In the Days of Sri Wickrama Rajasinghe*, Maharagama, Saman Press, 1959.

149 A. Dutt, Nalinaksha: "Religious Developments in India", *Univ. of Ceylon, History of Ceylon*, vol.I, Colombo, University of Ceylon Press Board, 1960, pp. 113-22.

150. Elmore, Wilber Theodore: *Dravidian Gods in Modern Hinduism*, NY, Hamilton, 1915

151. Gombrich, Richard: *Precept and Practice*, Oxford, Clarendon Press, 1971

152. Gombrich, Richard and Gananath Obeyesekere: *Buddhism Transformed: Religious Change in Sri Lanka*, Princeton, Princeton Univ. Press, 1988.

153. Gunawardena, R.A.L.H.: "Buddhist Nikayas in Medieval Ceylon", *Ceylon Journal Of Historical and Social Studies*, 9, Jan-June 1966, pp. 55-66.

154. Holt, John Clifford: *Buddha in the Crown: Avalokitesvara in the Buddhist Tradition of Sri Lanka*, New York and Oxford, Oxford Univ. Press, 1991.

155. Knox, Robert: *An Historical Relation of Ceylon*, 1681, Ceylon Historical Journal, vol. VI, 1956-7, Maharagama, Saman Press, 1958.

156. Kosambi, D.D.: *An Introduction to the Study of Indian History*, Bombay, 1956.

157. Kulatillaka, C de S.: "Kiri Amma Worship and its Ritual Songs" *Samskriti*, 8,1, 1984, pp. 53-70.

158. Lawrie, A.C. *A Gazeteer of the Central Province of Ceylon*, vol.I (1896), vol.II (1898), Reprint, Colombo, State Printing Corporation , n.d.

158A. Levi-Strauss, Claude: *The Savage Mind*, London, Weidenfeld and Nicholsm, 1966.

159. *Mahavamsa: The Great Chronicle of Sri Lanka*, Translated by Ananda W.P. Guruge, Colombo, ANCL, 1989.

159A. Marasinghe, M.M.J.: *Gods in Early Buddhism*, Kelaniya, Vidyalankara Press, 1974.

160. Mudiyanse, Nandasena: *The Art and Architecture of the Gampola Period*, Colombo, Gunasena, n.d.

161. Neville, Hugh: *Ethnology*, vols, 1,2 and 3. ed. P.E.P. Deraniyagala, Colombo, Govt. Press, 1954 and 1955.

162. Nicholas C.W. and S. Paranavitana: *A. Consice History of Ceylon*, Colombo, Ceylon University Press Board, 1961.

163. Obeysekere, Gananath: "The Buddhist Pantheon and Its Extensions" in Manning Nash ed. *Anthropological Studies in Theravada Buddhism*, New Haven, Yale Univ. Press, 1963.

164. Obeysekere, Gananath: "Religious Symbolism and Political Change in Ceylon", *Modern Ceylon Studies*, I.1. 1970, pp. 43-63.

165. Obeysekere, Gananath: "Social Change and the Deities: The Rise of Kataragama Cult in Modern Sri Lanka" in Fred W. Clothey ed. *Images of Man: Religion and the Historical Process in South Asia*, Madras, New Era Publications, 1982, pp. 142-70.

166. Obeysekere, Gananath: *The Cult of Godess Pattini*, Chicago, Chicago University Press, 1984.

167. Obeysekere, Gananath: *The Work of Culture: Symbolic Transformation in Psychoanalysis, and Anthropology*. Chicago and London, University of Chicago Press, 1990.

168. Paranavitana, Senarath: "Mahayanism in Ceylon", *The Ceylon Journal of Science*, Section G, vol.II, 1928-33. pp. 35-71.

169. Paranavitana, Senarath: *The Shrine of Upulvan at Devundara*, Colombo, The Ceylon Govt. Archaeological Dept. 1953.

170. Paranavitana, Senarath: *The God of Adams Peak*, Ascona, Artibus Asiae Publications, 1958.

171. Paranavitana, Senarath: "The Civilization of the Period: Buddhism" in *University of Ceylon: History of Ceylon*, vol. I. Colombo, University of Ceylon press, 1960, pp. 241-267.





172. Paranavitana, Senarath: "Lankatilaka Inscriptions", *University of Ceylon Review*, vol. XVIII, nos. 1 and 2, 1960, pp. 1-45.

173. Paranavitana, Senarath: *Inscriptions of Ceylon*, Vol. I, Colombo. Department of Archaeology, 1971.

174. Parker, Henry: *Ancient Ceylon*, London, 1909. reprint, Bombay, Asiana Education Service, 1984.

174A. Pieris, Paul E.: *Sinhale and the Patriots*, Colombo, Colombo Apothecaries Co. 1950.

175. Queroz: *The Temporal and Spiritual Conquest of Ceylon*, Translated by Fr. S.G. Perera, Colombo, Govt. Press, 1930

176. Rahula, Ven. Walpola: *Early History of Buddhism in Ceylon*, Second edition, Colombo, Gunasena, 1966

177. Ribeiro, Captain Joao: *The Historic Tragedy of the Island of Ceilao*, Translated by Paul E. Pieris, Colombo, Ceylon Daily News Press, 1948.

178. Seligmann, C.G. and Brenda Seligamann: *The Veddas*, Cambridge, Cambridge Univ. Press, 1911.

179. Silva, Roland and Gamini Wijesuriya, Martin Wysse and Nandana Chutiwongs: *Resteration of a Vandalized Bodhisatva Image at Dambegoda, Sri Lanka*, mimeo, Colombo, 1991.

180. Spiro, Melford E: "Religion: Problems of Definition and Explanation" in N. Banton ed. *Anthropological Approaches to the Study of Religion*, London, 1966.

181. Still, John: *Jungle Tide*, Edinburgh and London., William Blackwood, 1930.

181A. Whitehead, Rt. Rev. Henry: The *Village Gods of South India*, Calcutta, Association press, 1921.

182. Winslow, Deborah: "A Political Geography of the Deities: Space and Pantheon in Sinhalese Buddhism", *Journal of Asian Studies*, XLIII, 1, February 1984.

183. Wirz, Paul *Exorcism and the Art of Healing in Ceylon*, Leiden, Brill, 1954.

# සිංහල දේව විශ්වාස පිළිබඳ නිරීක්ෂණ

# සිංහල දේව විශ්වාස පිළිබඳ නිරීක්ෂණ

## 0. හැඳින්වීම

සිංහල බෞද්ධයන් අතර දෙවිවරු රාශියක් පුද පූජා ලබති. ඇතැම් බෞද්ධයන් දේව විශ්වාසය හා එකඟ නොවන බව ද ප්‍රකට ය. දෙවි දේවතාවුන් ගැන විශ්වාසයට පක්ෂව මෙන් ම විපක්ෂවත් කරුණු බුද්ධ දේශනාවෙන් උපුටා දැක්විය හැකි ය. දහනව වන සියවසේ අග දී දේව පූජාව පිළිබඳව වාදයක් ඇති වූ අයුරින් මෙය පෙනේ. ව්‍ය. ව. 1891 දී ගම්පහ මැදගම සිරි සුනන්දාරාමාධිපතිව වැඩ විසූ උඩුගම්පොළ ධර්මකීර්ති හිමියන් විසින් ලියන ලද බෞද්ධ ලබ්ධි විසෝධනිය නම් පොතෙහි ලා බෞද්ධයන් අතර පවතින දෙවිවරුන් පිදීමේ සිරිත අබෞද්ධ චාරිත්‍රයකැයි පෙන්වා දෙන ලදී. මීට පිළිතුරු වශයෙන් තොටගමුවේ පඤ්ඤාමොලි තිස්ස ස්ථවිරයන් වහන්සේ සදාචාර විභාවනිය (1904) නම් කෘතිය ලියමින් දෙවියන් පිදීම බෞද්ධ ලබ්ධියට විරුද්ධ නොවන බව පෙන්වා දුන් සේක. මෑතක පමණක් නොව බුදුරජුන් ජීවමාන අවධියෙහි පවා දේව විශ්වාස පිළිබඳ මතභේද පැවති බවට සාධක ඇත.

බුදුන් වහන්සේ කොසොල් රට ඡණ්ඩාලකප්ප ගමට වැඩි දිනක සංගාරව නම් මාණවකයෙක් උන්වහන්සේ හමුවට ආයේ ය. බණ අසා සතුටට පත් වූ මානවකයා ඇසූ පැනයත්, ඊට උන්වහන්සේ දෙසූ පිළිතුරත් මෙසේ සඳහන් ව තිබේ.

"ස්වාමීනි, දෙවියෝ සිටිත් ද?"

"භාරද්වාජය, කරුණු වශයෙන් සලකන විට දෙවියෝ සිටිති."

"ස්වාමීනි, කරුණු වශයෙන් සලකන විට දෙවියෝ සිටිත් හ යි කීම බොරුවක් නොවේ ද?"

"භාරද්වාජය දෙවියෝ වෙත්දැයි විචාළ විට, කරුණු අනුව සලකන විට, දෙවියෝ සිටිත් යැයි පිළිතුරු දුන්නොත් එයින් නුවණැත්තකුට පිළිගත් හැක්කේ දෙවියන් ඇති බව ය." (96:8 පි.)

බෞද්ධ අප ඉතා භක්තියෙන් පවත්වන පරිත්‍රාණ ධර්මදේශනාවෙහි දී දෙවියන් ගේ පැවැත්ම අනිවාර්යයෙන් ම පිළිගනු ලැබේ. චන්ද පරිත්ත, සූරිය පරිත්ත, ධජග්ග සූත්‍රය, මහා සමය සූත්‍රය, ආටානාටිය සූත්‍රය ආදියෙහි දී සෘජුවම දෙවිවරුන් සඳහන් වන අතර මහාමංගල සූත්‍රය, කරණීය මෙත්ත සූත්‍රය, මෙත්තානිසංස සූත්‍රය, ධම්මචක්කප්පවත්තන සූත්‍රය ආදියෙහි ද දේව විශ්වාසය පිළිගෙන ඇත. (24:25–28 පිටු)

දෙවිවරුන් පිළිබඳව බුදුරජාණන් වහන්සේගේ ආකල්පය කුමක්දැයි විමසුවහොත් අපට පෙනී යන්නේ දෙවිවරුන් යනුවෙන් කොටසක් සිටින බව උන්වහන්සේ පිළිගත් නමුත් ප්‍රමාණය ඉක්මවා දේව වන්දනාවේ යෙදීම උන් වහන්සේ අනුමත නොකළ බව යි.

## 1. දේව විශ්වාසය සම්බන්ධ භාරතීය පසුබිම:-

බුදුරජුන් ජීවමාන ව විසූ ක්‍රිස්තු පූර්ව සවන සියවස විවිධාකාර දෘෂ්ටීන් දඹදිව සුපතළව තිබූ අවධියෙකි. දෙවිවරුන් පිළිබඳ විශ්වාසය හැරුණු විට ආත්මවාදය, උච්ඡේදවාදය, අමරාවික්ෂේපවාදය ආදී වශයෙන් අපට පරිකල්පනය කළ හැකි සියලු අන්දමේ ආගමික විශ්වාස එකල පැවතිණි. මනුෂ්‍යයන්ගේ "ආගමික විශ්වාස" අතර පැරණිතම ආගමික ලේඛන ලෙස සැලකෙන්නේ ක්‍රිස්තු පූර්ව 1500 දී පමණ ඉන්දු ආර්යයන් විසින් රචිත යැයි සැලකෙන ඍග්වේද පාඨයි. (93:301 පි.)

මෙහි දී ඍග්වේදය නිර්මාණය කළවුන් පිළිබඳ කරුණු වටහා ගැන්ම දේව විශ්වාසය මේ අවධියේ දී හා ඉන් පසුව පැතිර පැවති ආකාරය හඳුනා ගැනීමට ඉවහල් වනු ඇත. එදා, එනම් ක්‍රි. පූ. 1500 දී පමණ භාරතයේ විසූ ඉන්දු ආර්ය ජනයා ඒ වන විට ඉරානයේ ද, ග්‍රීසියේ ද, රෝමයේ ද, ජර්මනියේ ද, රුසියාවේ ද, අයර්ලන්තයේ ද, සිටි ජනයා හා භාෂා ඥාතිත්වයක් ඇත්තෝ වූහ. "භාෂා" ඥාතිත්වයයි මෙහි වෙසෙසා දක්වන ලද්දේ "ලේ" නෑකම් ඔප්පු කිරීම අසීරු වන නමුත් එක් පොදු මූලකින් පැවත එන භාෂා සමූහයක් යුරෝපයේ හා ආසියාවේ මෙකී ප්‍රදේශවල එදා විසූ මෙ ජන පිරිස් ව්‍යවහාර කළ බව පෙනෙන හෙයිනි. මේ භාෂා ව්‍යාප්තිය සිදුවූයේ ක්‍රි. පූ. 2000-3000 පමණ කාලයේ දී එම මුල් "ඉන්දු ආර්ය" භාෂාව කථා කරමින් නැගෙනහිර ආසියාවේ කිසියම් පෙදෙසක විසූ ජනතාවක් විටින් විට කණ්ඩායම්වලට බෙදී බටහිරට, දකුණට, හා නැගෙනහිරට සංක්‍රමණය වීමේ ප්‍රතිඵල වශයෙන් බව අනුමාන කරනු ලැබේ. මෙය භාෂා ඉතිහාසයේ පිළිගත් දෙයකි. ආගමික ඉතිහාසයෙහි ද මේ මතය ස්ඵුට කරන සාධක තිබේ. ක්‍රි. පූ. 1500 දී පමණ ඉන්දියාවේ විසූ "ආර්ය" භාෂා කථාකළවුන් නිර්මාණය කළ ඍග්වේදයේ නිරූපිත දෙවිවරුන් හා සමාන දෙවිවරුන් සම කාලීනවද ඊට මදක් පසුව ද පැරණි ග්‍රීසියේ, පැරණි රෝමයේ, පැරණි ඉරානයේ ආදී ස්ථානයන්හි ද අදහන ලද බව පෙනෙන්නට ඇත.

උදාහරණ වශයෙන්, ඍග්වේද යුගයේ **දෞයුස්** යනුවෙන් සඳහන් පිතෘ දේව රාජයා ග්‍රීසියේ **සියස්** යනුවෙන් ද පැරණි රෝමයේ **ජුපිටර්** යනුවෙන් ද පුදනු ලැබූ බව සඳහන් කළ හැකි ය. ඍග්වේද යුගයේ දී යුද්ධය පිළිබඳ



ව මෙන් ම කාලගුණය පිළිබඳව ද දෙවියා ලෙස සැලකුණු ඉන්ද්‍ර, පැරණි ජර්මානුවන් විසින් **තෝර්** යනුවෙන් පුදන ලද දෙවියන් හා සමාන වේ. ග්‍රීසියේ පුදනු ලැබූ **සියස්** ද මේ ලක්ෂණ ම දරා සිටියේ ය. ඉන්ද්‍ර, **තෝර්** හා **සියස්** යන තිදෙනා ම නිරූපණය වූයේ පුරතේ අශනියක් (වජ්‍රයක්) දරා සිටින විලසිනි. වීර වික්‍රමයෙන් සතුරන් විනාශ කිරීම එයින් සංකේතවත් විය. පැරණි භාරතීයයන්ගේ සූර්ය දිව්‍යරාජයා මෙන් ග්‍රීකයන් ගේ හෙලියොස් ද ගින්නෙන් දිලෙන රථයකින් අහස හරහා ගමන් කළේ ය.

වෛදික ආගමේ නිරූපිත දෙවිවරුන් වනාහි ස්වභාව ධර්මයේ සංසිද්ධීන් හා බලවේගයන් දේවත්වයට පත් කිරීමකැයි කිව හැකි ය. ඉහත සඳහන් දෞයුස් සියලු දෙවිවරුන්ගේ පිතෘවරයා ලෙස සැලකෙන අතර පෘථිවි ඔවුන්ගේ මව ලෙස සැලකේ. අග්නි ඔවුන් ගේ දරුවා ය. නිරතුරුව ම උපත ලබන හෙතෙම අන් දෙවිවරුන් වෙත කෙරෙන පූජා ප්‍රවාහනය කරන්නා ලෙස සැලකෙයි. අග්නි පූජාව ඉතා පෞරාණික වතාවතක් බව පෙනේ. බෘහස්පති ද අග්නිගේ එක් වේශයෙකි. හේ දිව්‍ය පුරෝහිතයා ලෙස සැලකේ. මිත්‍ර හා වරුණ බොහෝ විට එකට සිටින දෙදෙනෙක් ලෙස සැලකෙති. දෙව් මිනිසුන් ගේ ශාරීරික හා ආධ්‍යාත්මික නීතිය පාලනය කරන්නේ වරුණ යැයි සලකනු ලැබේ. සූර්යයා විසින් අන්ධකාරයත් ව්‍යාධියත් පහ කැරේ. අරුණාලෝකයේ දෙවඟන වන උෂස් වනාහි දෞයුස්ගේ දියණියකි. සදාතනික තාරුණ්‍යයෙන් යුක්ත ඈ පසුපස ඇගේ පෙම්වතා වන සූර්ය එන්නේ ය. සූර්ය ගේ එක් විලාසයක් වන සාවිතෘ දෙව් මිනිසුන් තුළ ඇති අයහපත් දේ ඉවත් කොට ඔවුන් ප්‍රබෝධයට පත් කරන්නේ ය. පූෂන් වනාහි ගවයන් ජනිත කොට ඔවුන් ආරක්ෂා කරන්නා යි. මංමාවත්, මිනිසුන් හා ගවයන් සඳහා ආරක්ෂාව සලසන්නේ ද හෙතෙම් ය. ඍග්වේද යුගයේ දී **විෂ්ණු** එ තරම් වැදගත් දෙවියෙක් නොවීය. අශ්වින් වරු දිව්‍ය වෛද්‍යවරයෝ වූහ. සෝම යනුවෙන් හැඳින්වුණු චන්ද්‍රයා ගහකොළත් වඩදියත් කෙරෙහි බල පෑවේ ය.

ඍග්වේදයේ දෙවිවරුන් අතර ඉහළ ම තැන ලැබුණේ ඉන්ද්‍රට යි. ඔහු සිය මවගේ ඇළයෙන් උපන් බව (විදුලිය වලාකුළේ පැත්තකින් පැන නගින ලෙස) සැලකේ. ශ්‍රේෂ්ඨ රණකාමියකු වන හේ දුනු ඊතල මෙන් ම වජ්‍රය ද අසැති ව සිටී. වායු සහ වාත යනු අහසේ සැරිසරණ දෙවිවරු දෙදෙනෙකි. මහ පොළොව සරුසාර කරන්නා වූ වර්ෂාව ලබා දෙන්නේ **පර්ජන්‍ය** යි. **සෝම** ඔහුගේ පුත්‍රයා වේ. රුද්‍ර යනු අග්නිගේ තවත් විලාසයෙකි. ලෙඩ රෝග සමනය කරන ශාන්ති දායක දෙවියකු වුව ද ඔහු කෝපයට පත් වුණු විට එය සංසිඳුවීම පිණිස වතාවත් කළ යුතුව තිබිණි.

ඍග්වේදය යුගයෙහි දී දෙවිවරුන්ට පුද පූජා පැවැත් වූණේ යාග විලාසයෙන් සිදු කැරුණු චතාවතිනි. යාගස්ථානයට දෙවිවරුන්ට ආරාධනා කොට පුද පූජා පිළිගන්නා ලෙස ආයාචනය කරන ලදී. පසු කාලයේ දී මෙන් මෙ කල මැණික්, වස්ත්‍රාභරණ, රථ ආදි අගනා වස්තූන් පූජා කිරීමක් නො විය. දෙවිවරුන් පෙනෙන්නට නොසිටි හෙයින් යාග ගින්න වූ අග්නි විසින් ඒ පූජාවස්තු යථෝක්ත දෙවිවරුන් වෙත ගෙන යනු ලැබීම කරන ලදී. මෙකල භාවිත වූ සරළ පූජා වස්තු නම් කිරි, ගිතෙල්, ධාන්‍ය, කැවුම් ආදිය යි. සත්ව බිලි පුද සිදුවූයේ ඉතා කලාතුරකිනි. බිලි පූජාවලට වඩා සංකීර්ණ තත්ත්වයක් ආරෝපණය වූයේ පසු කාලයේ යජුර්වේදය බිහිවීමත් සමඟ ය. (149 ඒ: 117 පි.)

ඍග්වේදයේ සඳහන් දෙවිවරුන් වන **ඉන්ද්‍ර, වරුණ, අග්නි, විෂ්ණු** ආදීහු පසු කාලයේ විවිධ දේව කථාවල කේන්ද්‍රිය චරිත බවට පත් වූහ. දෙවිවරුන් පිළිබඳ අදහස් මෙසේ ප්‍රසාරණය වෙමින් විශාල සාහිත්‍යයක් ගොඩ නැගුණේ ඉන්දියාවට පැමිණ පදිංචි වූ ආර්ය සංක්‍රමණිකයන් ඔවුන් එන්නට පෙර එහි පැවති අදහස්වලින් ද ආභාසය ලැබීමෙන් බව පෙනේ. ඍග්වේදයේ නිරූපිත ආගමික විශ්වාස වුව ද මෙසේ ප්‍රාග් ආර්ය යුගයෙහි ඉන්දියාවේ පැවති ආගමික අදහස්වල බලපෑමෙන් විශේෂ මුහුණුවරක් ගත් ආගමික විශ්වාස යැයි සැලකේ. මොහන්ජොදාරෝ හරප්පා යන ස්ථානයන්හි ඇති විධිමත් නටබුන්වලින් පෙන්නුම් කරන පැරණි ශිෂ්ටාචාරයේ සංවර්ධිත ආගමික සංකල්පයන් ද පවතින්නට ඇති බවට සැක නැත. ඇතැම් වෛදික දෙවිවරුන් පිළිබඳ අදහස් මෙන් ම බුද්ධ සමය, ජෛන සමය, ආජීවක වාදය වැනි දර්ශනයන්ට පදනම් වූ ඇතැම් සංකල්ප ද ප්‍රාග් ආර්ය භාරතයේ පැවති අදහස් මත ගොඩනැගුණු බව විශ්වාස කරනු ලැබේ. (159 ඒ: 1 පි.)

මුලින් ම වයඹ දිග භාරතයේ පදිංචි වූ ආර්ය ආක්‍රමණිකයන් පසු ව ඊසාන දිගටත්, දකුණටත් සංක්‍රමණය වීමේ දී තව තවත් ප්‍රාග් ආර්ය ජනතාවන් හා මිශ්‍ර වෙමින් ඔවුන් ගේ සංස්කෘතීන් ගෙන්ද ආභාසය ලැබුවෝ ය. සමාජයේ ඉහළ ම තත්ත්වයෙහි වැජඹෙන "බ්‍රාහ්මණ" පිරිසක් ජනිතවීම මෙන් ම පසු ව එ බඳු බ්‍රාහ්මණ ආධිපත්‍යයට එරෙහි වූ සංකල්ප පහළ වීම ද එ බඳු ප්‍රාග් ආර්ය දේශීය සංස්කෘතීන්හි බල පෑමෙන් සිදු වූ දේ ලෙස සලකනු ලැබේ. (එම: 4 පි.)

ආර්යයන් වැනි සංක්‍රමණික පිරිසක් අතර නොව මොහන්ජොදාරෝ හරප්පා වැනි ස්ථාවර ශිෂ්ටාචාරයක පැවතිය යුතු අංගයකි ඉහත සඳහන් අන්දමේ පූජක පෙළැන්තියක ආධිපත්‍ය ය. පසුව භාරතයේ පදිංචි වූ ආර්යයන් අතර ද ප්‍රාග් ආර්ය සංකල්පයන් අනුසාරයෙන් එ බඳු



බ්‍රාහ්මණ පූජක පන්තියක් පැන නැගුණි. ඊට අමතර ව පුනරුත්පත්තිය, ආත්මය, මොක්ෂය (නිර්වාණය) වැනි සංකල්ප ද ප්‍රාග් ආර්ය සමාජයෙන් දායාද වූ දේ ලෙස සලකනු ලැබේ. (එම: 10 පි.)

මුල දී පැවති කුඩා ග්‍රාම පසුව "නගර" බවටත්, ප්‍රජාතන්ත්‍රවාදී (මහාසම්මත) "ග්‍රාමණී" නායකත්වය ක්‍රමයෙන් විකාශනය වී පරම්පරා උරුමයෙන් එන (ක්ෂත්‍රිය) රාජත්වය බවටත් පරිවර්තනය වීම ආගමික ක්ෂෙත්‍රයේ විපර්යාසයන්ට ද හේතු වුණු බැව් පෙනේ. රජවරුන්ට සිය මහන්තත්වය හා ශ්‍රී විභූතිය ප්‍රදර්ශනය කරමින් තමා අවශේෂ අයගෙන් වෙනත් විශේෂ පිරිසක් බව අවධාරණය කිරීමට බ්‍රාහ්මණ පූජකයෝ උපකාරී වූහ. විචිත්‍ර වූ මහාපරිමාණයේ යාග හෝමාදිය මෙහි දී විශේෂයෙන් උපයෝගී කරගැනිණි. රජවරුන් අමාත්‍යවරුන් වැනි ඉහළ පෙළැන්තියට මිස පොදු ජනයාට නම් බ්‍රාහ්මණයන් ගෙන් සැලකිලි නො ලැබිණි. බ්‍රාහ්මණයන් විසින් ක්ෂත්‍රියන් සිය රාජත්වය තෙක් පුහුණු කළ කස්මලාව වනාහි රජුන් හා බමුණන් අතර පැවති අන්‍යෝන්‍ය උපකාරයත් අනුග්‍රහයත් විදහා දැක් වූ ආයතනයක් ලෙස හැඳින් විය හැකි ය. (එම: 31 පි.)

බ්‍රාහ්මණයන් විසින් පවත්වා ගෙන එන ලද යාග හෝමාදියක් ඒ හා සම්බන්ධ ඔවුන් ගේ සමාජ ආධිපත්‍යයත් ප්‍රතික්ෂේප කිරීමේ ප්‍රවණතාවක් බුදු රදුන් බිහිවන ක්‍රිස්තු පූර්ව සවන සියවස පමණ අවධියෙහි භාරතයේ පැතිරෙමින් පැවති බව පෙනේ. බුදුන් වහන්සේට වැඩිමහලු වූ පූරණ කාශ්‍යප, මක්ඛලි ගෝසාල, අජිත කේසකම්බල, පකුධකච්චායන, සංජය බෙල්ලට්ඨිපුත්ත, නිඝණ්ඨනාථපුත්ත යන සදෙනා විසින් යාග හෝමත් බ්‍රාහ්මණ ප්‍රතිපත්තිත් ප්‍රතික්ෂේප කිරීම මෙයට ප්‍රබල සාධකයෙකි.

බුදුහු ද යාග හෝමාදිය නිෂ්ඵල දෙයක් යැයි ප්‍රකාශ කරමින් සංසාර විමුක්තිය හෙවත් නිර්වාණය සාධා ගත් හැක්කේ ගුණධර්ම වර්ධනයෙන් බව පෙන්වා දුන්හ. කූටදන්ත සූත්‍රයෙහි මේ බව පැහැදිලි ව ම ප්‍රකාශ වී ඇත.

දැනට විද්‍යමාන පැරණිතම භාරතීය දෙවිවරුන් වන වෛදික දෙවිවරුන් ගැන තොරතුරු ඉහත දැක්විණි. මේ වෛදික දෙවිවරුන් මෙන් ම ආර්ය ජනයා විසින් පැරණි ග්‍රීසියේ අදහන ලද දෙවිවරුද හුදෙක් බල පරාක්‍රමයෙන් යුක්ත වුවත් මිස "යහපත්" ගති ගුණ ඇත්තෝ ම නූවූ හ. බැතිමතුන් පුද පූජා පැවැත්වූයේ දෙවිවරුන් ගේ යහපත්කම සලකා නොව ඔවුන් ගේ බල පරාක්‍රමය විශ්වාස කරමින් ඔවුන් පිනවා දරු සම්පත්, ගව මහිෂ සම්පත්, නිරෝග භාවය, ආරක්ෂාව, යුද්ධ ජයග්‍රහණය ආදිය සාධා ගැනීම අරමුණු කර ගෙන ය. පැරණි දෙවිවරුන් "යහපත්" අය



ර. රජ.මු.නි.ස. - 93939

ම නොවූ බවට හොඳම උදාහරණයකි, ඉන්ද්‍ර. සංග්‍රාමයටත් කාල ගුණයටත් අධිපති වූ ඉන්ද්‍ර සිය පුරතෙහි දැරූ වජ්‍රයෙන් සතුරන් නසාලීමේ හැකියාවක් ඇත්තෙක් විය. "සෝම" පානයෙහි රුසියකු වූ ඔහු ගේ චරිතය ද දූෂිත එකක් විය. "නගර විනාශ කරන්නා" යන අරුතින් යුත් "පුරන්දර" යන නම ඔහු දැරුවේ භාරතයේ ප්‍රාග් ආර්ය යුගයේ පැවති නාගරික ශිෂ්ටාචාරය අගය කිරීමට තරම් දියුණු තත්ත්වයක ඔහු ඇදහූ ආර්යයන් නො සිටි බව පෙන්නුම් කරමිනි. ආක්‍රමණික ආර්යයන් තමා ඉදිරියෙහි වූ ශිෂ්ටාචාරයේ තවත් ඇතැම් සාධනීය අංග විනාශ කළ ආකාරය ඉන්දු නිම්න සංස්කෘතියට අයත්ව තිබූ ලේඛන ක්‍රමයේ අභාවයෙන් ද ප්‍රකට වේ. ඒ කාලයේ ආර්යයෝ අකුරු භාවිතය නොදත්තෝ වූහ.

වෛදික දෙවිවරුන් අතර මහ බලවතා වූ ඉන්ද්‍ර පිළිබඳ ව "යහපත්" සංකල්පය යෙදිය නොහැකි වුවත් ඒ යෙදිය හැකි වෙනත් දෙවිවරුන් එදා සිටි බව ද අමතක කළ නොහේ. වරුණ දෙවියන් සමස්ත විශ්ව ධාතුව සංවිධාන ව තිබුණු "ඍතු" යනුවෙන් හැඳින්වුණු සත්ධර්මය භාරව සිටින්නේ යැයි සලකන ලදී. ඍතුවක් ගෙවී තවත් ඍතුවක් පැමිණීම, රාත්‍රිය ගෙවී දවස උදාවීම ආදි චක්‍රාකාර ස්වාභාවික සිද්ධීන් නොකඩවා පවතින්නේ කිසියම් සත්ධර්මයක් හේතුවෙන් බවත්, ඒවායේ චිර පැවැත්ම සඳහා සදාචාරය ආරක්ෂා කර ගත යුතු බවත් ක්‍රමයෙන් මිනිසුන්හට හැඟෙන්නට විය. මෙය ආගමික විශ්වාසය තුළට "සදාචාරය" ප්‍රවිෂ්ට වීමේ ආරම්භය යැයි සිතිය හැකි ය. වරුණ දෙවියන්ගේ ප්‍රසාදය දිනා ගත හැක්කේ යාග හෝම මගින් නොව "ඍත" අනුව ක්‍රියා කිරීමෙන් බවත්, බොරුකීම, කෝපය, බීමත්කම, සූදුව වැනි අසද්ක්‍රියා වරුණ විසින් හෙළා දකිනු ලබන හෙයින් ඒ අසද් ක්‍රියාවන් ගෙන් වැළකීමටත් සද් ක්‍රියාවන්හි යෙදීමටත් ජනයා උත්සුක වූහ. මේ අදහස් තව දුරටත් වර්ධනය වීම උපනිෂද් යුගයේ දී දක්නට ලැබේ. (93:308 පි.)

වෛදික යුගයේ නොතිබුණු පුනරුත්පත්තිය පිළිබඳ විශ්වාස උපනිෂද් යුගයේ දී ප්‍රචලිත වන්නට විය. හෝම පූජා පවත්වමින් තවුස් දිවියක් ගත කළවුන් යහපත් ව පුනර්ජන්මය ලබන අතර එසේ නොකළ අධර්මිෂ්ටයන් පශුවන්, කෘමීන් ආදීන් ව උපත ලබන බව විශ්වාස කරන ලදී. මේ අදහස් බුද්ධ කාලීන සමාජයේ ප්‍රචලිතව පැවතුණත් පින් පව් යනුවෙන් චර්යා වර්ග දෙකක් නැතැයි ඇදහුවන් ද එදා සිටි බව ප්‍රකට ය. පූරණ කාශ්‍යපයන් පින් පව් යනුවෙන් ප්‍රභේදයක් දුටුවේ නැත. මක්ඛලී ගෝසාල කර්ම විපාක ලෙස නොව ඉබේ ම සිදුවන සංසාර විමුක්තියක් ගැන විශ්වාස කළ බව පෙනේ (79 : 89-90 පිටු.). එහෙත් බුද්ධ කාලීන භාරතීය සමාජය තුළ මුල් බැස ගෙන තිබුණේ පුද්ගල විමුක්තිය පිණිස ඥානය හා අවබෝධය මූලික කොට ගත් ප්‍රතිපත්ති



ගරුක භාවය යි. මේ යුගයේ දී එ නම්, ක්‍රි. පූ. 7 වන 6 වන සියවස්වල දී, ඉතා ප්‍රබල ව පැවති උපනිෂද් සාහිත්‍යය ඊට සාක්ෂි දරයි. (93 : 324 පි.)

පුද්ගල විමුක්තිය සඳහා කාමසුඛල්ලිකානු යෝගයෙනුත්, අත්තකිලමථානු යෝගයෙනුත් ඈත් වූ මධ්‍යම ප්‍රතිපදාගත ආර්ය අෂ්ටාංගික මාර්ගය බුදු රජාණන් වහන්සේ විසින් පෙන්වා දෙන ලදී. එ හෙයින් බුදුසමය උසස් ගුණධර්ම සමූහයක් වෙත මිනිසා යොමු කරවන්නක් වූයේ ය. බුදුසමය භාරතීය සමාජයේ ශීඝ්‍රයෙන් පැතිර ගියේ එයින් සමකාලීන ප්‍රශ්නවලට සාර්ථක විසඳුමක් ලැබුණු බැවිනැයි විචාරකයෝ පවසති. අධිරාජ්‍යයන්ගේ වර්ධනය සමඟ හමුදා නඩත්තුව සඳහා අයබදු ගෙවන්නට සිදුවීමෙන් සාමාන්‍ය ජනයා මහත් පීඩාවකට පත් ව සිටි හ. (156 : 150 පි.) බ්‍රාහ්මණයෝ රාජ රාජ මහාමාත්‍යාදීන්ට ප්‍රශස්ති කීමට මිස පොදු ජනයා ගේ දුක්විහරණය ගැන නො සිතූ හ. පූරණ කස්සපාදී ෂට් ශාස්තෘවරුන් ඉදිරිපත් කළ නිෂේධාත්මක දර්ශනයනන් ද බොහෝ දෙනා ගේ සිත් ගත් බවක් නො පෙනේ. එ හෙයින් විධිමත් ප්‍රතිපත්ති සමූහයක් මත පදනම් වූ බුදුසමය පොදු ජනතාව අතර ජනප්‍රිය වූ අයුරු ක්‍රි. පූ. 200, ක්‍රි. ව. 200 යන වසර හාරසියයක් පමණ කාලය තුළ භාරතයේ ප්‍රධාන ආගම බුදුසමය ව පැවතීම අනුව සිතා ගත හැකි ය. (159 ඒ : 35 පි.) මේ යුගයට අයත් පුරාවිද්‍යාත්මක නෂ්ටාවශේෂ දෙස් කියන්නේ බ්‍රාහ්මණාගම, හින්දු ආගම, ජෛනාගම යන තුනට ම වඩා ප්‍රබල ව බුදුසමය පැවති බවයි. එහෙත් පසුව හින්දු ආගම පුනර්ජීවනය ලද්දේ ය. නවවන සියවසේ පහළ වූ ශංකාරාචාර්යවරයෝ හින්දු පුනරුදයේ විශාල කාර්ය භාරයක් ඉෂ්ට කළහ. මේ වන විට බුදුසමය අභ්‍යන්තර වශයෙන් ද පිරිහෙමින් පැවතිණි. අනතුරු ව සිදු වූ මුස්ලිම් ආක්‍රමණය විසින් බුදුසමය වෙත අවසාන ප්‍රහාරය එල්ල කරන ලදී. (93 : 339-44 පිටු)

බුදුසමයේ ජනප්‍රිය යුගයෙහි දී දෙවි දේවතාවුන් පිළිබඳ සංකල්පය ද වෙනසකට භාජන විය. ඉහත දැක්වුණු පරිදි දෙවි දේවතාවුන් නැතැයි බුදු රජහු දේශනා නො කළහ. බුදුසමය වැලඳ ගත්තවුන්ට දෙවිවරුන් කෙරේ ද විශ්වාසය තබාගත හැකි ව තිබිණි. එහෙත් බෞද්ධයන් අතර ගෞරවයට පාත්‍ර වූ දෙවිවරුන් සතු විශේෂ ගුණාංග තිබුණේ ය.

යාග හෝමාදියෙන් සතුටට පත්වන හුදෙක් සිය බලය පමණක් ප්‍රදර්ශනය කළ දෙවියන් වෙනුවට යහගුණ සම්පන්න සම්‍යක් දෘෂ්ටික දෙවිවරු සමූහයක් හඳුනා ගන්නා ලද හ. වෛදික යුගයේ සිටි රණකාමී "සෝම" පානයෙහි ගිජු ඉන්ද්‍ර දෙවියා ගේ තැන පරෝපකාරයෙහි

තියැලුණු සිල්වතුන් ගරු කරන ශක්‍ර දෙවියන්ට ලැබිණි (159 ඒ : 39 පි.). ශක්‍රයා මේ තත්ත්වයට පත්වූයේ පූර්ව ජන්මයෙහි මඝමානවක ලෙසින් ඔහු පිරූ ගුණධර්ම නිසා ය. පසුව බුදුන්ගෙන් බණ අසා ඔහු සෝවාන් වූ බව ද බෞද්ධ සාහිත්‍යයේ සඳහන් වෙයි. (19 අ : 294 පි.) හින්දු ආගමේ ඉතා ඉහළින් සැලකෙන මහාබ්‍රහ්මයා ද බුදුරදුන් හට ගරු බුහුමන් කරන්නකු බවට පත් වේ. බුද්ධත්වයට පත් වූ පසු තම ධර්මය වටහා ගැනීමට සමතුන් ඇති දැයි යන සැකය පහළ වූ කල්හි ලෝකයා ගේ හිත සුව පිණිස දහම් දෙසන්නැයි අයැද සිටියේ මහා බ්‍රහ්මයා යි. (20 : 35 පි.) මේ අයුරින් බුදුසමය පහළ වීමෙන් පසු දෙවිවරුන් ගේ ස්වභාවය සම්පූර්ණ විපර්යාසයකට එළඹිණි. එය එක් අතකින් කලක සිට පැවත ආ දෙවිවරුන් යහපත් අය වීමේ ප්‍රවණතාවෙහි ම ඉදිරි පියවරක් ලෙස සැලකිය හැකි ය. බුදුරදුන් ගේ ආධ්‍යාත්මික බල මහිමය ඉදිරියේ ඔව්හු හිරු දුටු කදෝපැණියන් බවට පත් වෙති. මහාබ්‍රහ්මයා ඇතුළුව සියලු දෙව් දේවතාවෝ බුදුරදුන්ටත්, රහතුන් වහන්සේටත් ගෞරව සම්මාන කරති. බුදුසමය පහළ වීමට පෙර පැවති දේව විශ්වාසය බුදුසමය පහළ වීමෙන් පසු තුන් ආකාර විපර්යාසයකට පාත්‍ර වූ බව ආචාර්ය මාරසිංහ මහතා පෙන්වා දී ඇත. එනම් (අ) දිව්‍යලෝක වනාහි සදාතනික සුඛයට නිවාස වූ ස්ථාන නොව තාවකාලික සුඛස්ථාන බවට පත්වීම (ආ) දෙවිවරුන් ද සදාකාලික සුඛ විඳිමින් සිටිනා අමරණීය පිරිසක් නොව තම පුණ්‍ය විපාක කාලසීමාව නො ඉක්මවන තුරු දිව සැප විඳින්නන් ලෙස හඳුනා ගැනීම (ඇ) මනුෂ්‍යයන් ප්‍රාර්ථනා කළ යුතු අවසාන සුඛය දිව්‍ය සම්පත්තිය නොව ඉන් ඔබ්බෙහි පිහිටි සියලු දුක් හා සැප කෙළවර ඇති නිර්වාණය යැයි පිළිගැනීම යනුවෙයි. (159 ඒ : 84 පි.)

## 2. ප්‍රාග් බෞද්ධ ලංකාවේ දේව විශ්වාස

බුදුසමය ලක්දිවට හඳුන්වා දීමට පෙර මෙහි විවිධ අන්‍යාගමික විශ්වාස පැවති බව ඓතිහාසික මූලාශ්‍රයන් ගෙන් පැහැදිලි වේ. බ්‍රාහ්මණයන්, ආජීවකයන්, පරිබ්‍රාජකයන්, තවුසන් ආදීන් ගැන ඇති සඳහන් හැරුණු විට දෙවිවරුන් හා යක්ෂයන් පිළිබඳ විශ්වාස ද ප්‍රාග් බෞද්ධ ලංකාවේ පැවතුණු බව මහාවංසයේ පණ්ඩුකාභය රජු පිළිබඳ විස්තරයේ සඳහන් වේ.

අනුරාධපුර නගරය සැලසුම් කරන අවස්ථාවේ දී විවිධ ආගමික විශ්වාසයන්ට සම සේ සලකමින් ඒ ඒ ආගමික පුද පූජා සඳහා වෙන් වෙන් ස්ථාන පණ්ඩුකාභය රජු නියම කළ අයුරු මහාවංශය විස්තර කරයි. මෙහි දී ව්‍යාධ දෙවියා නගරයේ බටහිර දොරටුව අසල තල් ගසක



ද **වෛශ්‍රවණ** නම් යක්ෂයා බටහිර දොරටුව අසල නුග ගසක ද වෙසෙන්නට සැලැස්විණි. ව්‍යාධදේව යනු දඩයම් කරුවන්ට අධිපති දෙවියා විය හැකිය. **වෛශ්‍රවණ** වනාහි හින්දු විශ්වාස අනුව උතුරු දිශාවට අධිපති කුවේර වන්නට පුළුවන. පණ්ඩුකාභය විසින් **පච්ඡිමරාජිණී** නම් දෙවඟන ගේ දෙවොල බටහිර දොරටුව අසල පිහිටවන ලද බව කියැවේ.

මීට අමතර ව පණ්ඩුකාභය කථාවේ විශේෂ වශයෙන් විස්තර වන්නේ යක්ෂයන් ඇදහීම පිළිබඳ ව ය. මහාවංශයේ එය විස්තර වන්නේ මෙසේ යː

"රජ, **කාලවේල** යක්ෂයා නගරයේ නැඟෙනහිර දිසාවේ ද **චිත්තරාජ** යක්ෂයා අභය වැවේ පහළ කෙළවරේ ද පිහිටැවී ය. තමන්ට අතීතයේ දී උපකාර කොට පසුව යක්ෂණියක ලෙස පුනර්ජන්මය ලැබූ දාසිය, කෘතවේදී රජතුමා නගරයේ දකුණු දොරටුවෙහි පිහිටවූයේ ය. **වළවාමුඛී** යක්ෂණිය රජමාලිගා භූමියේ පිහිටුවන ලද්දී ය. මොහුනට ද අනෙකුත් යක්ෂයන්ට ද වාර්ෂික බිලි පුද පැවැත්විණි. උත්සව දිනවල දී රජු **චිත්තරාජ** සමඟ සම අසුන් ගෙන දිව්‍ය, මනුෂ්‍ය නර්තනයන් සිදු කෙරෙනු බලා සතුටටත්, ප්‍රමෝදයටත් පත් වීය". (ම.වං. 10 පරි. 84-88 ගාථා).

මෙහි සඳහන් **චිත්ත**, **කාලවේල** යන දෙදෙනා පණ්ඩුකාභය රජු ගේ මව් වන උන්මාද චිත්‍රාවට බැතියෙන් සේවය කළ සේවකයෝ දෙදෙනෙක් වෙති. චිත්‍රාව ගේ සොහොයුරන් ගේ කුමන්ත්‍රණයන්ට සහාය නොදුන් හෙයින් මේ දෙදෙන මරණයට පත්කරන ලදහ. ඉන් පසු යක්ෂයන් ලෙස උපත ලද මොවුන් පණ්ඩුකාභය කුමරු මව්කුස සිටිය දී පටන් ඔහුට ආරක්ෂාව සැලසූ බව මහාවංශයේ සඳහන් වේ (ම.වං. 9 වන පරි. 22-23 ගාථා). පසු ව කුමරා සඟවාගෙන පලා ගිය සේවිකාවට අනතුරෙන් ගැලවීමට ඉඩ සලසා දෙන ලද්දේ ද මොවුන් විසිනි. (ම.වං. 10 පරි. 1-5 ගා.) එහි දාසිය ද මරණින් පසු යක්ෂිණියක වූවා රජු විසින් නුවර දකුණු දොරටුවේ පිහිටුවන ලද්දී ය. ඇතමුන් මිය ගිය පසු තමන් ඇලුම් කරන අයට පිහිට වන්නට හැකි අමනුෂ්‍යයන් ලෙස උපත ලැබීම පිළිබඳ විශ්වාසය ඉතා ඈත අතීතයේ සිට ම පැවති බව **මහාවංශයේ** එන මේ පුවතින් පැහැදිලි වේ.

පණ්ඩුකාභය රජු විසින් ගෞරව කරන ලද (ඔහු ගේ රාජ යුගයට පෙර සිට වැසියන් විසින් පුද පූජාවනට ලක් කරන ලද) තවත් දෙවියන් තිදෙනකු ගැන **මහාවංශය** සඳහන් කරයි. එනම්, **පච්ඡිමරාජිනී** නම් දෙවඟනත්, **වෙස්සවණ** නම් දෙවියාත්, ව්‍යාධදේව නම් දෙවියාත් ය. මේ නම් තිපය ගැන මෙහි මුල දී ද සඳහන් විණි. **වෙස්සවණ** යනු කුවේර

විය හැකි ය. **ව්‍යාධදේව** යනු දඩයම් කරුවන් ගේ දෙවියා හෝ ව්‍යාධීන්ට අධිපති දෙවියා යි. **පච්ඡිමරාජිනී** යනු කවරක ද යන්න ගැන නිශ්චිතව කිව නොහැකි ය. දේවානම්පියතිස්ස රජ දවස **කම්මාරදේව** නමින් දෙවි කෙනකු සිටි බව ද මහාවංශයේ සඳහන් ය. මේ වනාහි කර්මාන්තයන්හි නියැලුණු අය ගේ දෙවි කෙනකු විය හැකි ය.

ලක්දිව පැවති ප්‍රාග් බෞද්ධ දේව යක්ෂාදීන් පිළිබඳව විශ්වාස බුදුසමය වැළඳ ගැනීමෙන් පසුව අභාවයට ගියේ නැත. ඉහත සඳහන් කාලවේල නම් යක්ෂයාගේ දෙවොල සිවු වන සියවස මහසෙන් රාජ යුගය තෙක් පැවති බවත් එම ස්ථානයේ මහසෙන් රජු චෛත්‍යයක් කරවූ බවත් මහාවංශය පවසයි. (ම.ව. 37 පරි. 44 ගා.) සමන්කූළට අධිපති සුමන දෙවියන් ද ප්‍රාග් බෞද්ධ අවධියට අයත් කෙනකු බව පෙන්වා දෙන වල්පොළ රාහුල හිමියෝ මොහු බුදුරදුන් ලක්දිවට වැඩි පළමු වන අවස්ථාවේ දී බුදුසරණ ගිය යක්ෂයකු විය හැකි යැයි පවසති. (176 41පි.) පරණවිතාන මහතා ගේ විශ්වාසය නම් **සමන්** දෙවි බවට පත්වූයේ ප්‍රාග් බෞද්ධ දෙවි කෙනකු වන **යම** දෙවියන් බව ය. (170) **විභීෂණ** දෙවියන් ද ප්‍රාග් බෞද්ධ යුගයේ දෙවියකු බව මෙහි දී කිසි සේත් අමතක කළ යුතු නැත. එසේ ම ප්‍රාග් බෞද්ධ ලංකාවේ අදහනු ලැබූ **වරුණ** දෙවි ද බෞද්ධ භාවයට පත්කොට **උත්පලවර්ණ** (**උදකපාල වරුණ** යන නාමේ විපර්යාසයකින්) යනුවෙන් පුද පූජා ලබන්නට ඇති බව ද පරණවිතාන මහතා ගේ අදහසයි. (169:25).

## 3. ලංකා බෞද්ධ ඉතිහාසයේ මුල් අවධියෙහි දේව විශ්වාස

බුදු රදුන් පළමු වර ලක්දිවට සපැමිණි විට සුමන කූටයේ නිවැසි මහාසුමන නම් දිව්‍ය රාජයා බණ අසා සෝවාන් ව බුදුරදුන්ගෙන් පූජනීය වස්තුවක් ඉල්ලූ බවත් ඔවුන්ට උන්වහන්සේ කේසධාතු මිටක් දුන් බවත් මහාවංශයේ පළමුවන පරිච්ඡේදයේ සඳහන් වේ. (ම.ව. 1 පරි. 33-36 ගාථා). මහියංගණ චෛත්‍යයේ ආරම්භය මේ යැයි ද මහාවංශය සඳහන් කරන්නේ ය (එම, 4-42 ගාථා).

බුදුරදුන් පිරිනිවන් පානා දින විජය කුමරු ලක්දිවට ගොඩ බට කල්හි බුදු රදුන්ගේ නියමය පරිදි ශක්‍රයා විසින් මෙහෙයවන ලද **උපුල්වන්** දෙවිඳුන් විජය ප්‍රමුඛ පිරිසට සිය පැන් කෙණ්ඩියෙන් ආරක්ෂක පැන් ඉස අත්වල පිරිත් නූල් ගැට ගසා ගිය බව මහාවංශයේ සඳහන් වේ (ම.ව. 7 පරි. 1-9 ගාථා). අනාගතයේ ලක්දිව බුදුසසුන පිහිටවනු ලබන හෙයින් විජයාදීන් ආරක්ෂා කිරීම බුදුරදුන් දෙවිවරුන් වෙත පැවරූ බව යි, මහාවංශය කියන්නේ. මහාවංශයේ එන මේ පුවත එම කෘතිය ලියන



අවධියේ දෙවිවරුන් පිළිබඳ පැවති ආකල්පය එනම් ඔවුන් ගෙන් පිහිටත්, ආරක්ෂාවත් ලැබිය හැකි ය යන අදහස, මනා ව පැහැදිලි කරන්නකි. එහෙත් අනුරාධපුර අවධියේ ඓතිහාසික මූලාශ්‍රවල දෙවිවරුන් පිදීම ගැන එ තරම් සාධක නැති බව විශේෂයෙන් සඳහන් කළ යුත්තකි.

හත් වන සියවසේ රෝහණ ජනපදයෙහි විසූ දප්පුල නම් කුමරෙක් නොයෙක් පුණ්‍ය කර්මයන්හි නියුතු වූයේ "කිහිරැළි වෙහෙර කොට දෙවියන් පිදී" යැයි **මහාවංශය** සඳහන් කරන්නේ ය (44 පරි.155 ගාථාව). මෙයින් අදහස් වන්නේ **උපුල්වන්** දෙවියන් බව පරණවිතාන මහතා ගේ මතය යි. (169 : 1 පි.)'

අනුරාධපුර යුගය හා සම්බන්ධ අනෙක් දේව විශ්වාසය කඳකුමරු හා බැඳී ඇත. අනුරාධපුර යුගය අවසන් කළ සොළීන් පරදවා ව්‍ය.ව. (1055 සිට 1110) දක්වා පොළොන්නරුවේ රජ කළ කිර්ති විජයබාහු රජතුමන් ගේ පෙළපත ගැන සඳහන් කරන මහාවංශය මෙසේ පවසයි.

"කසුබ් රජහු පිත් මාණ නමින් ප්‍රසිද්ධ වූ සත්පුරුෂචාරයෙන් හෙබියා වූ ධීර වූ ඇපාණ' කෙනෙක් වූ. තවද ඔවුන් දෙටු බෑ මහ පැනැති මාණවම්ම තෙමේ ගොකන් සමුදුර වෙත ගොස් ඉවුර හිඳ විධි වූ පරිද්දෙන් අශේෂයෙන් කරන ලද මන්ත්‍රොපචාර ඇත්තේ අක්ෂමාලාව ගෙන මතුර දපන්නට පටන් ගත. වාහන සහිත කඳ කුමර තෙමේ උහු පෙරට පහළ විය. මොනර තෙමේ මුව තුඩින් බිලිකටුව බිඳ සිදුරු සහිත පොල් කබල දිය ගොස් වියළුනෙහි දිය නො දකිමින් මතුරණ උහු ඉදිරියට ආ ය. එකල හේ තෙමේ භාවිනී සිඩි දන්නේ සිය නෙත උහුට එලවී. ඒ මොනර ද ඇස බිඳ වහා බියේ ය. සතුටු වූ කඳකුමරු ඒ කුමරහු පැතූ වරය දී බබලමින් ඉන් නැඟී අහසින් ගියේ ය". (57 පරි.1-10 ගාථා. 99 අ : 60 පි.)

මේ මාණවම්ම කුමරා වනාහි හත් වන සියවසේ විසූ දෙවන කසප්ප රජු ගේ පුතණුවන් බව ගයිගර් පඬිතුමා ගේ මතය යි. මහාවංශයේ මේ කොටස මහ පැරකුම්බා රජ දවස ලියන ලද හෙයින් එහි සඳහන් ව ඇත්තේ ජනප්‍රවාදයෙහි හෝ අන් කිසි මූලාශ්‍රයක සඳහන් වූ පුවතකි.

කතරගම ලංකා ඉතිහාසයේ මුල් අවධියේ සිට ම ජනාවාසව පැවැති බව ශ්‍රී මහා බෝධියෙන් උපන් අෂ්ටඵල බෝධි අතුරෙන් එකක් රෝපණය කරනු ලැබීමෙන් පෙනේ. ක්‍රිස්තු පූර්ව තුන් වන සියවසේ දේවානම්පියතිස්ස රජු දවස සිට ම බෞද්ධ මධ්‍යස්ථානයක් ව තිබුණු බව පෙනෙන එය, පසුව කඳකුමරුන් ගේ හෙවත් කතරගම දෙවියන් ගේ දේවාලය නිසා ප්‍රසිද්ධ විය. ස්කන්ද උපත හෙවත් කතරගම පුවත නම් ජන කාව්‍යයක

සඳහන් පරිදි දුටුගැමුණු කුමරා එළාර රජුට එරෙහි ව යුදයට සූදානම් වන අවස්ථාවේ කතරගම සුරිඳුට බාරයක් වී යුද ජය ගෙන කතරගම දේවාලය සාදවා දුන් බව කියැවේ. (56 : 120 පි.) හියු නෙවිල් විසින් විස්තර කර ඇති 'කන්ද මාලේ' නම් කවි පෙළේ ද මේ පුවත දීර්ඝ ලෙස වර්ණනා කර තිබේ. නෙවිල්ගේ අදහස එම කාව්‍යය 15 වන හෝ 16 වන සියවසට අයත් බව ය. (161,3 : 365 පි.) දුටුගැමුණු රජු හා කතරගම දෙවියන් අතර සම්බන්ධය දැක්වෙන මේ පුවත 18 වන සියවසින් මෙපිට ජනිත වුවක් බවත් මෙය 20 වන සියවසේ දී සිංහල - දෙමළ ජාතික ඝට්ටනයන් නිසා වඩාත් ප්‍රචලිත වූ බවත් ගොම්බ්‍රිච් ද ඔබේසේකර ද අදහස් කරති (152 : 124 -5 පිටු). ඒ කෙසේ වුව ද කතරගම ලක්දිව පැරණිතම පූජනීය ස්ථානයක් බව නම් පැහැදිලි ය.

ඉහත සඳහන් විස්තර අනුව පෙනෙන්නේ ලක්දිව විජයාගමනයට පෙර සිට පැවැති 'යක්ෂ' විශ්වාසයන් විජයා දී සංක්‍රමණිකයන් ගෙනා වෛදික දේව විශ්වාස හා සමග මිශ්‍ර වූ අයුරුයි. සිංහල රාජධානිය අනුරාධපුරයේ පිහිටුවා වසර දහසක් පමණ ගත වන තෙක් අවධානයට යොමුව ඇත්තේ ප්‍රධාන දෙවිවරුන් තිදෙනෙකු පමණක් බව ද පෙනේ. ඒ නම් උපුල්වන්, සමන්, කඳකුමර යන තිදෙනායි. මේ තිදෙනා අතුරෙන් උපුල්වන් හා සමන් පැහැදිලිව ම දේශීය දෙවිවරුන් ලෙස සැලකිය හැකි අතර කඳකුමරු ද දේශීය දෙවියකු වීමට ඉඩ තිබේ. දේව විශ්වාසයන්හි එක් ප්‍රකට ලක්ෂණයක් නම් විවිධ උත්පත්තීන් ඇති දෙවිවරුන් කීප දෙනකු එක් දෙවි කෙනකු බවට පත්වන අන්දමේ විශ්වාස මිශ්‍රණයක් ඇතැම් විට සිදුවීම යි. මෙය කඳකුමරු හෙවත් කතරගම දෙවියන් අරභයා සිදුව ඇති බව පෙනේ. උපුල්වන්, සමන් යන දෙවියන් පිළිබඳව ද මෙය සිදු වී ඇති බව පසුව ඒ දෙවිවරුන් ගැන කෙරෙන විස්තරවලින් පෙනෙනු ඇත.

### 4. ලක්දිව දේව විශ්වාසයන්හි වර්ධනය

ලක්දිව බුදුසමයේ ඉතිහාසය විස්තර කරන ආචාර්ය ඊ. ඩබ්ලිව්. අදිකාරම් මහතා පවසන පරිදි ලක්දිව පහළ වූ අට්ඨකථා සාහිත්‍යයේ දේව පූජා ගැන සඳහන් වූ බවක් නො පෙනේ. බුද්ධඝෝස හිමියන් ව්‍ය.ව. 5 වන සියවස මුල දී පැරණි සිංහල අට්ඨකථා පදනම් කර ගෙන ලියූ පාළි අට්ඨකථාවල තෙරුවන් සරණ යාමට අමතර ව දෙවි දේවතාවුන්ට පුද පූජා පවත්වා පිහිට බලාපොරොත්තු වීමේ පුරුද්දක් පැරණි සිංහල බෞද්ධයන් අතර වූ බව ගත පෙනේ යැයි අදිකාරම් මහතා පවසන්නේ ය (139 : 146 පි.). ඒ මහතා ගේ අදහස නම් ව්‍ය.ව. දෙවන සියවසේ දී ගජබා රජු දවස දකුණු ඉන්දියාවෙන් සොළී සිරකරුවන් දොළොස්



දහසක් ලක්දිව පදිංචි වීම නිසා ඔවුන් ඇදහූ ශිව, විෂ්ණු, කාර්තිකෙය, පත්තිනි ආදි දේව ඇදහීම ද මේ රට ප්‍රචලිත වන්නට ඇති බව යි. (139 : 90පි.). මහසෙන් රජු (ව්‍ය.ව. 276-303) විසින් ගෝකණ්ණයෙහි (ත්‍රිකුණාමලේ) ද, රුහුණේ එරකාවිල්ල, කලන්ද වැනි ස්ථානයන්හි ද පැවැති ශිව දේවාල ප්‍රමුඛ මිථ්‍යාදෘෂ්ටික ආයතන විනාශ කොට බෞද්ධ විහාර කැර. වූ බව මහාවංශයේ ද මහාවංශ ටීකාවේ ද සඳහන් වේ (159 : 1040 පි.). එහෙත් මීට වසර එකසිය පණහකට පමණ පසු ව්‍ය.ව. 433-39 කාලයේ දී අනුරාධපුර රාජ්‍යයේ පණ්ඩු, පාරින්ද ආදි දකුණු ඉන්දියා වැසියන් දිගින් දිගට ම රජකම් කළ යුගයක් පැමිණියේ ය. මොවුන් ගෙන් ඇතැමකු බුදුසමය වැළඳ ගත් බව සඳහන් වෙතත් මේ යුගයේ දී හින්දු භක්තිය ලක්දිව පැතිරීමට ඉඩ සැලසී තිබුණැයි සිතීම යුක්ති සහගත ය. පස්වන සියවසේ සිට විටින් විට දකුණු ඉන්දියා කුළී භේවායන් මෙහි සේවයට කැඳවුණු බවට සාධක ඇති හෙයින් ඔවුන් ගේ අබෞද්ධ පුද පූජාදිය මෙහි ව්‍යාප්ත වන්නට ඇත. එහෙත් ඒ අතරම සමාජය තුළ බෞද්ධයෝ ද බෞද්ධ භික්ෂූහු ද සිටියහ. බුදුසමය සමඟ දෙවියන් ද ඇදහීම ඔවුන් විසින් ද කරන ලද්දේ දැයි පැහැදිලි නැතත් දේව විශ්වාසයක් ප්‍රචලිත වීමට මේ අවදියේ පැවැති ප්‍රවණතා බල පෑ බව නම් පෙනේ. මේ අවදියේ සිංහල රාජ සභාවේ බ්‍රාහ්මණයන් සේවයේ යෙදවීම වැනි හින්දු සංස්කෘතික බලපෑම් ද ප්‍රකට ව පෙනෙන්නට තිබිණි. (176 : 110 පි.). මහායාන අදහස් ද ලක්දිව බලවත් ව ව්‍යාප්ත වූයේ අනුරාධපුර සමයේ අපර භාගයේ දී යි. මහසෙන් රජුගේ බාල පුත් ජෙට්ඨතිස්ස (ව්‍ය.ව. 331 - 40) ඇත් දළින් කර්මාන්ත කිරීමෙහි දක්ෂයකු වූයේ බෝධිසත්ව රූපයක් නිර්මාණය කළ බව මහාවංශයේ සඳහන් ය. (37 පරි. 102-3 ගාථා.). ලක්දිව බෝසත් පිළිමයක් කැරවීම ගැන පළමුවරට වන මේ සඳහනින් පසු එ බඳු සිද්ධීන් කීපයක් වාර්තාවේ. ධාතුසේන රජතුමා (ව්‍ය.ව.459-77) විසින් බුදු පිළිම ගණනාවක් මෙන් ම බෝසත් පිළිම ද කරවන ලද බව මහාවංශය සඳහන් කරයි (38 පරි. 66-67 ගාථා). මෙසේ අනුරාධපුර අවදියේ දෙවන භාගයේ දී මහායාන අදහස් ප්‍රබල ලෙස ව්‍යාප්ත වූ ආකාරය බුදුරුවගල, වැලිගම, දඹේගොඩ යන ස්ථානයන්හි ඇති සුවිසල් බෝසත් පිළිමවලින් ද පැහැදිලි වේ. බෝධිසත්ව වන්දනාව දේව පූජාවන්හි වර්ධනයට රුකුලක් වූ බවට සැක නැත. පසු කලෙක නාථ දෙවියන් ලෙස බෞද්ධයන් විසින් පිදුම් කරන ලද්දෝ ඉහත කී ප්‍රතිමාවන් ගෙන් නිරූපිත අවලෝකිතේශ්වර බෝසතාණෝ ය. හත්වන සියවසේ දී දෙවිනුවර උපුල්වන් දෙවොල ගොඩ නැඟුණේ මේ ආගමික පසුබිම් මධ්‍යයේ බව පෙනේ. (162:173 පි.). බුදුසමයෙහි මූලික ඉගැන්වීම් අනුගමනය කරන

අතර දේව පූජාදියට ද සහභාගි වීමට හැකි පරිදි පොදු ජන විශ්වාස සකස් විය. දෙවිවරුන් බුදු රජාණන් වහන්සේ ගේ අන්තේවාසික සැදැහැවත් බෞද්ධයන් ලෙස සලකන ලදී.

අනුරාධපුර අවදිය අවසන් කරමින් ව්‍ය.ව. 1017 දී චෝලයන් රජරට ආධිපත්‍යය තහවුරු කරගැනීම අප ඉතිහාසයේ වැදගත් සන්ධිස්ථානයක් වේ. මේ සිද්ධියට පෙර ශතවර්ෂයක් පමණ කාලය තුළ රටේ අභ්‍යන්තර වියවුල් මෙන් ම විදේශිකයන් ගේ, විශේෂයෙන් දකුණු ඉන්දියන් ගේ, ආක්‍රමණය හා ආගමන බහුල වූ අවධියෙකි. චෝලයන් මෙන් ම කේරළයන් ද, කර්ණාටකයන් ද ආක්‍රමණිකයන් වශයෙන් මෙන් ම කුලී භේවායන් වශයෙන් ද මෙහි නිතර ආ බව පෙනේ. ව්‍ය.ව.982 වර්ෂයෙහි දී අනුරාධපුර අවසන් රජ වූ පස්වන මිහිඳු රජතන් පත්වූයේ "නා නා දේශ ජනයා ගෙන් ව්‍යාකුල වූ" අනුරාධපුර නගරයේ බව මහාවංශය පවසන්නේ ය (55 පරි. 2 ගාථාව). ව්‍ය.ව. 1017 සිට1070 දක්වා සොළීන් විසින් උතුරු දිග ලංකාව පාලනය කරන ලදී. මෙම දේශපාලන තත්වය තුළ දේව විශ්වාසය මෙහි පුළුල් ලෙස ව්‍යාප්ත වන්නට ඇති බවට පුරාවිද්‍යා සාධක ඇත.

මීළඟට අපට පෙනෙන්නේ ඒකී බාහිර දෙවිවරුන් පවා බුදුසමයට අනුගතවූවන් ලෙස බෞද්ධයන් සලකන්නට පටන් ගෙන තිබුණ අයුරු යි. දොළොස් වන සියවසේ අවසාන දශකයේ දී හෝ දහතුන් වන සියවසේ මුල් දශකයේ හෝ දී ලීලාවතී රැජින සමයෙහි රචිත සසදාවත කාව්‍යයෙහි බුදු රජුන්ට පුද පූජා කළවුන් අතරට ශක්‍ර, බ්‍රහ්ම, අනන්ත නා රජ වැන්නන් හට අමතරව යම, වරුණ, වෛශ්‍රවණ, විෂ්ණු, මහේශ්වර, ගණේශ, ස්කන්ද කුමාර ආදීන් ද ඇතුළත් කර තිබේ (127:135 ගී). දකුණු ඉන්දියාවේ ප්‍රධාන දෙවිවරුන් වන විෂ්ණු, ඊශ්වර, ගණේශ, ස්කන්ද කුමාර මෙසේ බෞද්ධ භක්තිකයන් ලෙස හඳුනා ගැනීම ඉතා වැදගත් කරුණකි. පොළොන්නරුවේ ඇති ශිව දේවාල මගින් මෙන් ම එහි කැනීම්වලින් ද මතු වූ ශිව, පාර්වතී, ගණේශ, කාර්තිකේය ආදීන්ගේ ප්‍රතිමාවලින් ද මේ දෙවිවරුන් එදා පුද පූජාවට ලක් ව සිටි බව පැහැදිලි වේ. දහතුන් වන සියවසේ රචිත සද්ධර්ම රත්නාවලියේ විෂ්ණු, ඊශ්වරාදීන්ට පුජ පූජා පැවැත්වීම ගැන ප්‍රශ්න කොට තිබීම එදා ජනප්‍රිය ව පැවති ආගමික විශ්වාසයක් පැහැදිලි කරන සිද්ධියක් බව මහාචාර්ය ආරියපාල පෙන්තා දෙයි. (22:102 පි.) සිය ආගමට පටහැනි නොවන අයුරින් ඒකී දෙව් දේවතාවන්ගෙන් පිහිටත් ආරක්ෂාවත් ලබා ගැනීමට බෞද්ධයන් උත්සුක වූ අයුරු දාහතරවන සියවස මැද ගොඩ නැඟුණු ගඩලාදෙණිය, ලංකාතිලක විහාරයන්ගෙන් පැහැදිලි වේ. ගඩලාදෙණි



පිළිමගෙය පැහැදිලි ව ම දකුණු ඉන්දියා ශිල්පීන් ගේ ශෛලිය පිළිබිඹු කරයි. එහි බ්‍රහ්ම, විෂ්ණු, ඊශ්වර, ශක්‍ර, සුයාම, සන්තුෂිත යන දෙවිවරුන් මෙන් ම එදා ලංකාරක්ෂකයන් ලෙස සලකන ලද උපුල්වන්, සමන්, විභීෂණ, ස්කන්ද, ගණේශ යන දෙවිවරුන් ගේ රූප ද දක්වා ඇත්තේ ඔවුන් බුදුරජාණන් වහන්සේ ගේ අතවැසියන් බව පෙන්නුම් කරමිනි (160 : 82-87 පි.)

ඉහත දැක්වුණු ඓතිහාසික සාධක අනුව අපට බැසගත හැකි නිගමනය නම් සිංහල බෞද්ධයන් අතර දෙවි දේවතාවුන්ට පුද පූජා පැවැත්වීම 12 වන, 13 වන, 14 වන සියවස්හි දී ක්‍රමයෙන් වැඩි දියුණු වූ බවයි. එය කෙරේ දකුණු ඉන්දීය සංස්කෘතිය දැඩි ලෙස බල පෑ බව ද පැහැදිලි ය. පුරාවිද්‍යාත්මක හා සාහිත්‍ය සාධක අනුව 13 වන, 14 වන සියවස්හි දී දෙවුන්දර උපුල්වන් දේවාලයේ බ්‍රාහ්මණයන් සේවය කළ බව පෙනේ. ඒ අවධියේ සිංහල බෞද්ධයන් අතර ඉතා ම ජනප්‍රිය දෙවියා වූයේ උපුල්වන් ය. මෙය ඔප්පු කරන ප්‍රබලම සාධකය නම් 14 වන, 15 වන, සියවස්හි රචිත සන්දේශ හතෙන් හතරක් ම - තිසර, මයූර, පරෙවි, කෝකිල - උපුල්වන් දෙවියන්ට ඉදිරිපත් කරනු ලැබී ම ය.

උපුල්වන් දෙවියා ගේ බලමහිමය තව දුරටත් වර්ධනය වීම 13 වන සියවසේ මුල් භාගයේ පමණ සිට දක්නා ලැබේ. දෙවන පරාක්‍රමබාහු (ව්‍ය.ව. 1236-70) රජතුමා "දෙවි නුවර දෙවි රජාණන් ගේ රජගෙය ජරාවාසව තුබූහ යි කර වූ කල් පමණ නැතැයි අසා ඒ ගෙය බිම් පිස කරවා එ නුවර සියලූ ජරාවාස කටුකොහොල් හරවා අවුරුදු පතා ඇසළ පූජා කැරවූ හ" යනුවෙන් සමකාලීන පූජාවලියේ එන සඳහන මීට සාධකයෙකි. (88 : 697පි.) මෙම සිද්ධිය මහාවංශය පවසන්සේ "දෙවි නුවර ගොස් උපුල්වන් දෙවියා වැඳ එ තන්හි ඒ දෙවි රජ හට දෙවපූජා ද කරවිය" යනුවෙනි (83 පරි. 49 ගාථාව). යළිත් පසු වරෙක පැරකුම්බා රජු උපුල්වන් "දිව්‍ය රාජ භවනය ශක්‍ර භවනය සෙයින් අළුත් කොට මොනවට කරවා .......දිව්‍ය රාජයා හට අවුරුදු පතා ඇසළ පෙරහැර පවත්වන්නට නියෝග කළ" බවත් මහාවංශය පවසන්නේ ය (85 පරි. 85-89 ගාථා). පසුව රජු ගේ නියෝගයෙන් දේවප්‍රතිරාජ ඇමැතිවරයා ගම්පලට ගොස් මනා සර්වාංග ලක්ෂණ ඇති සමන් දෙවි රුව කරවා රන් රුවන් අබරණින් එය සිත්කළු කොට එය ද රැගෙන සමන් කුළ ගොස් සිරිපතුල් තුන් දිනක් පූජාවට භාජනය කොට පැමිණි අයුරු ද මහාවංශය විස්තර කරන්නේ ය (86 පරි. 18-36 ගාථා).

පසුව දෙවන පැරකුම්බාවන්ට අසාධ්‍ය රෝගයක් හටගත් අයුරුත් ඊට පිළියම් පතා දෙවිනුවර උපුල්වන් දෙවිඳුන් අයැදි අයුරත් "අලුත් නුවර

දේවාලය කරවීම්" නම් ලිපියේ සඳහන් වේ. (50). සැදැහැවත් බෞද්ධයන් ලෞකික අවශ්‍යතා ඉටුකර ගැනීම සඳහා දේවතාවුන් සරණ යාම මෙහි දී පැහැදිලි ව පෙනෙන කරුණකි. මෙම ප්‍රවණතාවේ උච්චතම අවස්ථාව කෝට්ටෙ යුගයේ දී දැක්ක හැකි ය. ඊට පෙර ගම්පළ යුගයේ යැවුණු **තිසරය** හා **මයුරය** සන්දේශ දෙකට අමතර ව ලියැවුණු සන්දේශ පහෙන් **පරෙවි, ගිරා, කෝකිල, සැළලිහිණි,** යන සතර ම දෙවිවරුන් වෙත ඔප්පු කෙරුණේ ය. **පරෙවිය**, **කෝකිලය** උපුල්වන් දෙවියන් වෙතත්, **ගිරාව** තොටගමුවේ වෙහෙර නාථ දෙවියන් වෙතත් **සැළලිහිණිය** කැලණියේ විභීෂණ දෙවියන් වෙතත් යැවිණි. එසේම මේ සන්දේශයන්හි මහ තොරතුරු කියන අතර දේවාල රාශියක් ගැන ද සඳහන් වේ. ඉසුරු කෝවිල (සැ.22), අයියත් කෝවිල (කෝ. 205), සුදස්සන දෙවොල (ති.87), (ප.55), කාලි කෝවිල (ප.72), ගණිසුරු ඉඩම (ප.134, කෝ. 133), සවත් සුරිඳු මැඳුර (හංස.46), පතිනි දෙවි මැඳුර (කෝ.117), පුත්නාල දෙවි රද පාය (කෝ.255), රම්ඳු දෙවි රද පාය(කෝ. 254), නතිඳු දෙවි රද පාය (ති. 62,ප.79), කෝ. 77, ගි. 198, 230 ආදි වශයෙනි.

මෙසේ දේව පූජා බහුලවත් ම ඊට ප්‍රතික්‍රියාවන් ද බෞද්ධයන් අතරින් පැන නැඟෙන්නට විය. මේ ප්‍රතික්‍රියාව පොළොන්නරු අවධියේ සිට ම දක්නට ලැබේ. විද්‍යාචක්‍රවර්තීන් විසින් බෞද්ධ භක්ති වර්ණනයක් ලෙස **බුත්සරණය** රචනය කරන ලද්දේ එකල පැතිරෙමින් පැවති හින්දු භක්තිවාදීන්ට එරෙහි ව යයි කිව හැකි ය. අනතුරුව **දහම් සරණ, සඟ සරණ** යන කෘතිද රචනා කරන ලදී. මේ කෘතීන්හි අරමුණ ත්‍රිවිධ රත්නය කෙරෙහි ම බෞද්ධයන් නම්න කිරීම බව පෙනේ. මීට ශත වර්ෂයකට පමණ පසු සද්ධර්මරත්නාවලී කතුවරයන් "විෂ්ණු ඊශ්වරාදි දෙවියන් ළං. කොට තබා ගන්නටත් පිළිවන් ද?" (122 : 344පි.), යනුවෙන් ප්‍රශ්නයක් නගා ඇත්තේ තමන් අවට පැවති දේව පූජා බුදුසමය හා එකඟ නොවන බව දැක්වීමට විය යුතු ය. දේව පූජාව කෙරේ ප්‍රබලතම විරෝධයක් පැන නැඟුණේ කෝට්ටේ අවධියේ දී යි. විදාගම මෛත්‍රිය හිමියන්ගේ **බුදුගුණාලංකාරයෙහි** දෙවි දේවතාවුන් ඉමහත් නිග්‍රහයට භාජනය කොට ඇත්තේ බුද්ධ, ධම්ම, සංඝ යන ත්‍රිවිධ රත්නය තිබිය දී දෙවි දේවතා වන්දනය නිෂ්ඵල ව්‍යායාමයක් බව ඒත්තු ගන්වනු පිණිස බව පෙනේ.

නර ලොව දෙන පුද   ට   - රිසි වන දොරින් දොර යි   ට<br>
සුර නැයි යෙනු කුම   ට   - දුගී යාචකයන්ට එ නිව   ට<br>
(143)

දළ අඩ සඳ බඳි   න   - ගොර සප් හරක් පළඳි   න<br>
රහ කරන දින දි   න   - මහලු ගොන් වාහනෙන් ඇවිදි න<br>
(160)



සිත දුසිරි කිලු   ට   - සින් කෙත් නො වන මෙ ලොව ට<br>
කරණ පුද ඉසුරු   ට   - ගලෙක වපුරන වැත්ත බිජුව   ට<br>
(173)

හැම තැන උවිඳු ඇ   ත   - සීතාව වෙන් වෙනු නැ   ත<br>
එ නිසා යුදන් ඇ   ත   - කුමට පැවැසී ද මේ බොරු මැ ත<br>
(179)

වඳුරකු පිනු මුහු   ද   - එ තෙරට යා නොදී හි   ද<br>
ගියෙල රම් හෝ බැ   ද   - මෙසේ වෙද මෙලොව දෙවියන්නෙද<br>
(180)

සක් බෙල්ලකු පිඹී   ය   - රා දොස් සිතින් නොති   බිය<br>
ඔහුට ඇති කල බි   ය   - කෙසේ දුර ලිය ද නරයන්   බිය<br>
(182)

හින්දු දෙවිවරුන් ගේ ශක්‍යතාවන් අවප්‍රමාණය කරන ලද අතර බුදුන් දහම් සඟුන් යන ත්‍රිවිධ රත්නයේ ආනුභාව හුවා දක්වන ලදි. බුදුගුණාලංකාරය විසින් රතන සූත්‍රයේ මහානුභාව වර්ණනා කරන ලද අතර විදාගම හිමියන් විසින් ම රචිත යැයි සැලකෙන හංස සන්දේශය මඟින් සාම්ප්‍රදායිකව දෙවිවරුන්ට සන්දේශ යැවීමේ සිරිතට පටහැනිව භික්ෂූන් වහන්සේ නමකට සන්දේශය යැවීමට තීරණය කර තිබේ. වනරතන මාහිමියන් විසින් "කෙළ සුවිහසක් සක්වළ නිරන්තරයෙන් ආඥාචක්‍රය පතළා වූ රතන සූත්‍රය සිය දහස් වාරයක් පිරුවා සියලු දෙවිවරුන් කීකරු කර ගෙන ලෝකයාට ශාන්තිය සලස්වන" බව 198 වන පද්‍යයෙන් හෙළි වේ. උන් වහන්සේ විසින් දැන් කළ යුතුව ඇත්තේ **උපුල්වන්, සමන්, කාර්තිකේය, විභීෂණ** යන දෙවිවරුන්ට පිරිත් කියා පින් දී සිත් සතුටු කොට පරාක්‍රමබාහු රජතුමාට සෙත සලස්වන ලෙසටත් ඒ රජුගේ අඥාව ලක්දිව හැම තැනම පතුරුවන ලෙසටත් ඔවුන් ගෙන් අයැද සිටීම ය (198 - 99 කවි). මෙහි දී සැලකිය යුතු කරුණ නම් **බුදුගුණාලංකාරයේ** දී විවේචනයට භාජනය වන්නේ **විෂ්ණු, මහෙශ්වර** ආදී දෙවිවරුන් බුදුරදුන් වෙනුවට සරණ යැම බවයි. **හංස සන්දේශයේ** දී දෙවිවරු බුදුරජාණන් වහන්සේ ගේ සුවච කීකරු අන්තේවාසිකයන් බවට පත්ව සිටිති. මෙම පද්‍යයන්හි පිළිබඹුව ඇති තවත් වැදගත් කරුණක් නම් උපුල්වන් දෙවියන් මුල් කොට **සමන් බොක්සල්, සවත් (කාර්තිකේය), විභීෂණ** යන දෙවිවරුන් සිවු දෙනා ලංකාවට විශේෂ වන ප්‍රධාන දෙවිවරුන් ලෙස සැලකීම යි. මෙය ධෘතරාෂ්ට්‍ර, විරූඪ, **විරූපාක්ෂ, වෛශ්‍රවණ** යන දෙවිවරුන් "සතරවරම් දෙවිවරුන්" ලෙස සැලකීමේ පැරණි විශ්වාසයේම දෙවන අවස්ථාවක් ලෙස සැලකිය හැකි ය. බෞද්ධ විශ්වාසය අනුව මේ සිවු දෙවිවරුන් වනාහි දෙවියන්ට ප්‍රධාන

වූ ශක්‍රයා ගේ පිරිස වෙති. ඔවුන්ට ශක්‍රයා විසින් දිසා හතර පැවැරිණි. මෙම දෙවිවරුන් බුදුරජාණන් වහන්සේ වෙත පැමිණ පුද පූජා පැවැත් වූ අයුරු **ආටානාටිය**, **මහාසමය**, යන සූත්‍රයන්හි ප්‍රකාශ වේ. ධෘතරාෂ්ට්‍ර නැගෙනහිරටත්, **විරූඪ** දකුණටත්, **විරූපාක්ෂ** බටහිරටත්, **වෛශ්‍රවණ** උතුරටත් වශයෙන් ඔවුන් අධිපති දිසා හතර දැක් වේ. (24 :233 පි.) පසු ව මහනුවර රාජධානිය අවධියේ දී සිවු දේවාලයන්ට අධිපති සිවු දෙවියන් ලෙස **නාථ**, **විෂ්ණු**, **කතරගම**, **පත්තිනි**, යන දෙවිවරු හඳුනා ගන්නා ලද හ. මෙහි දී සඳහන් කළ යුතු තවත් වැදගත් කරුණක් නම් "සිවු දේවාල" හෝ "සිවු දෙවිවරු" යන නාම මහනුවර යුගයට පෙර භාවිතා වී නැති බවයි. "සිවු දේවාල" සංකල්පය පළමුවරට දක්නට ලැබෙන්නේ 18 වන සියවසේ රචිත **මණ්ඩාරම්පුර පුවත**, **පූජාවලිය** වැනි කෘතිවල ය.

මෙසේ ලක්දිව දේව විශ්වාසය තහවුරු වූ වකවානුව ලෙස 13 වන සියවසේ සිට 15 වන සියවස දක්වා වූ කාල පරිච්ඡේදය හඳුනා ගත හැකි යි. දෙවන පරාක්‍රමබාහු රජතුමා විසින් දෙවිනුවර උපුල්වන් දේවාලය හා සම්බන්ධව සිදු කරන ලද දේව පූජාදිය ඉහත සඳහන් විණි. මින් පසු ගම්පොළ කෝට්ටේ යන අවදිවල සිදු වූ සමාජ විපර්යාසයන්, දේව විශ්වාස ලක්දිව තහවුරු වීමට හේතු වූ අයුරු පූජ්‍ය කොටගම වාචිස්සර හිමියන් විසින් විස්තර කර ඇත:

"ගම්පොළ හා කෝට්ටේ රජුන් ගේ කාලයෙහි (එනම් 14 වන සියවසේ මැද සිට 16 වන සියවස අවසානය තෙක්) ලංකාවට ගලා එන්නට පටන් ගත් නොයෙක් වර්ගයේ දකුණු ඉන්දියානු ද්‍රවිඩයෝ මේ රටේ සිංහල සමාජයට ඇතුළු වූහ. මරවාරයන් දකුණු ඉන්දියාව ආක්‍රමණය කිරීම නිසා බිය පත් වූ මලලයෝ මෙහි වැළ නොකැඩී ගොඩ බැස්සා හ. සිංහල රජුන් ගෙන් හිස්ව පැවති උතුරු මැද හා වයඹ පළාත්වල ඔවුන් ඉඩකඩම් ලබා ගෙන පුත්තලමේ සිට කුරුණෑගල දක්වා ද, අනුරාධපුරයේ සිට පොළොන්නරුව දක්වා ද ඇති විශාල බිම් පෙදෙසක් පාලනයට ගත් සැටි බුද්ධරාජාවලියේ සහ වන්නිරාජාවලියේ සඳහන් වේ. මෙ රට සිටි සිංහලයෝ ඔවුන්ට තැනක් දීමට අකැමැති වූහ. එකල ඔවුන් තමන් ලංකාවේ භාහිය රජු කල පටන් කාකමුක්කරයන්ට විරුද්ධව සිංහලයන් ගේ පක්ෂය ගෙන කාලතුවක්කු පවා රැගෙන යුද්ධයට ආ සැටිත් පෙන්වමින් තමන් මෙ රට හා නත් අයුරින් සම්බන්ධ බව දක්වමින් සිංහලයන් රැවටූ සැටි රාජසිංහ **විත්තියෙහි** විස්තර වෙයි. "තුඩුගල විසිදාගම පැවැති" නම් පැරණි ලිපි අනුව මෙසේ පැමිණි මලල සොළිනු එකල සිංහල රජුන්ගෙන් සම්මාන සහ උසස් පවුල්වලින් කුල කුමරියන් ලබා ගෙන මෙ රට **බණ්ඩාරවලියක්** පිහිටුවා ගත් බව පැහැදිලි ය (116: 47 පි.). ("බණ්ඩාර" යන නාමයේ ප්‍රභවය ගැන තවත් විස්තරයක් පහත එයි)



අපේ දෙවිවරුන් අතර සිටින බණ්ඩාර දෙවිවරුන්ගේ ප්‍රභවය පිළිබඳ සොයන කල්හි මේ සමාජ තොරතුරු ඉතා වැදගත් වේ. බණ්ඩාර දෙවිවරුන් ගැන ඉතා ප්‍රසිද්ධව ඇත්තේ වයඹ පළාත යි. ඊට අමතර ව මධ්‍යම පළාතේ ද බණ්ඩාර දෙවිවරු විසිරී සිටිති. දේව භක්තියේ වර්ධනය හා සමඟ බණ්ඩාරවරුන්ගේ නැගීම ද සිදුවූයේ මේ දකුණු ඉන්දියා අභාසය අනුව බව අනුමාන කළ හැකි ය. අපගේ විමර්ශනයට භාජනය වන අවධියෙහි දේව විශ්වාසයන්හි වර්ධනයට තුඩු දුන් කරුණු වාචිස්සර හිමියෝ තව දුරටත් මෙසේ විස්තර කරති:

"ගම්පොල සිවු වැනි බුවනෙකබාහු (1341 - 1351) රජු ගෙන්වා ගත් සොළී බමුණන් විසින් ඇරඹූ යාග හෝමාදිය අදත් සමාජයේ මුල් බැස තිබේ. සීතාවක රාජසිංහ රජුගේ කාලයෙහි (1581 - 1592) බලයට පත් වූ ආන්ද්‍ර පූජකයෝ ද ශිවනවුසෝ ද යක්දෙස්සෝ ද මෙ රට අමුතු විධියේ දේව ඇදහිල්ලක් ද යක්ෂ පිදවිල්ලක් ද පුරුදු කිරීමට සමර්ථ වූ හ. බුද්ධ ධර්මය පිළිබඳ කිසිවක් නොදත් ගම්බද ජනයා අතර මේ දේව විශ්වාසත් යාග හෝමාදියත් වේගයෙන් පැතිරෙන්නට පටන් ගත්තේ ය. දකුණු ඉන්දියානුවන් මෙ රටට පැමිණියේ නිකම්ම නොවේ. ඔවුන් ගේ **අයියනාර්**, **පත්තිනි** ආදී දෙවිවරු ද **කඩවර** ආදි යක්කු ද ඔවුන් සමඟ මෙහි ආ හ. (එම: 47 - 48 පිටු). වාචිස්සර හිමියෝ මධ්‍යකාලීන ලංකාවේ පැවැති සමාජ සංස්කෘතික ප්‍රවණතා මෙසේ තම අවධානයට යොමු කරති. මෙම සිද්ධීන් සවිස්තරව විමර්ශනයට යොමු කළ යුතු වේ.

## 5. දේව විශ්වාස හා සමාජ - දේශපාලන බලවේග

දහතුන් වන සියවස සිට පසළොස් වන සියවස දක්වා කාලය තුළදී ලක්දිව දේව විශ්වාස තහවුරු වූ අයුරු ඉහත විස්තර කරන ලදි. එම සංවර්ධනයට තුඩු දුන් ඇතැම් සමාජ දේශපාලන බලවේග පැවති බව මේ අවදියේ ඉතිහාසය පිරික්සීමේ දී පැහැදිලි වේ.

### 5.1 දකුණු ඉන්දිය සංස්කෘතික බලපෑම්

දහතුන් වන සියවස සිට පසළොස් වන සියවස දක්වා කාලය සිංහල රාජධානියේ වියවුල් සහිත කාල පරිච්ඡේදයෙකි. ව්‍යවහාර වර්ෂ 1190 දී නිශ්ශංකමල්ලයන් ගේ රාජ සමය අවසන් වීමෙන් පසු වසර 19 තුළ රාජ අවධි 11 ක් ම දක්නට ලැබීමෙන් පෙනෙන්නේ සිංහල රාජ්‍යය දේශපාලන වශයෙන් කෙතරම් දුබල තත්වයක පැවතිණි ද යන්න යි. කාලිංග මාඝයන් 1215 දී රාජ්‍යය පැහැර ගෙන 1236 තෙක් රජ කිරීමෙන් පසු සිංහල රාජ්‍යය උතුරු මැද තැනිතලාවෙන් ඉවත් කොට නිරිත දිගට ගෙන යෑමේ ක්‍රියාවලිය ඇරඹිණි. අනතුරුව තුන්වන විජයබාහු රජතුමා (1232-36) දඹදෙණියටත්, එහි දෙවන පැරකුම්බා, සිව්වන බෝසත්

විජයබා යන රාජ අවධිවලින් පසු පළමුවන භුවනෙකබාහු (1272-84) රාජ සමයේ දී යාපහුවටත්, දෙවන බුවනෙකබා (1293-1302) සමයේ දී කුරුණෑගලටත් එහි තවත් රජුන් තිදෙනකු රජ කිරීමෙන් පසු සිවුවන බුවනෙකබා සමයේ දී (1241-51) ගම්පොළටත් රාජධානිය ගෙන යන ලද්දේ පර සතුරන් ගෙන් ආරක්ෂා වීම පිණිස ය. මින් අනතුරුව පැමිණි කාල පරිච්ඡේදය දේශපාලන වශයෙන් මෙන් ම සමාජ හා සංස්කෘතික වශයෙන් ද විශේෂ ලක්ෂණ කීපයක් පිළිබිඹු කරන්නකි:

1. මාඝ ආක්‍රමණයෙන් පසු උතුරේ පැන නැඟුණු යාපන රාජධානිය යුද බලය අතින් සිංහල රාජධානියට වඩා ප්‍රබල තත්වයක පැවතීම. ගම්පොළ නගරය රාජධානිය වශයෙන් තෝරා ගැනීමට හේතු වූයේ උතුරේ ආර්යචක්‍රවර්ති මාතලේ, දුම්බර, සගම යන තුන්රට කෙරේ ද බලය පතුරුවා අයබදු පවා ගෙන්වා ගත් නිසා බව පෙනේ. මේ ප්‍රදේශයේ පැතිර පැවති ද්‍රවිඩ බලය දුරු කරන ලද්දේ අලකේශ්වර හෙවත් අලගක්කෝනාර විසිනි. එම සිද්ධිය සගම ලිපියෙහි වාර්තා වේ. (162 : 300 පි.).

2. උතුරේ යාපන රාජ්‍යයත්, නිරිත දිග සිංහල රාජ්‍යයත් අතර ප්‍රදේශවල වන්නි අධිපතියන් බල පරාක්‍රමයෙන් ඉහළ නැඟීම. පෙර රජුන්ට අවනත නොවූ වන්නි අධිපතියන් මැඩ පවත්වන ලද්දේ කෝට්ටේ හයවන පැරකුම්බාවන් විසින් බව ගිරා සන්දේශයේ 137 වන කවෙන් කියැවේ.

3. නිරිත දිග සිංහල රාජ්‍යය කුඩා අනු කොටස් කීපයකට බෙදී යාම. ගම්පොළ සිවුවන බුවනෙකබාහු (1341-51) රජ කරද්දී ම ඔහු ගේ සොහොයුරු පස්වන පරාක්‍රමබාහු (1344-59) දැදිගම රජකම් කළේ ය. තුන්වන වික්‍රමබාහු 1357 දී ගම්පොළ රජ බවට පත්වන විට ද පස්වන පරාක්‍රමබාහු දැදිගම රජ කරමින් සිටි බව පෙනේ. තුන්වන වික්‍රමබාහු 1374 තෙක් ගම්පොළ රජකම් කළහයි කියැවෙන නමුදු 1371 දී පස්වන බුවනෙකබාහු ද ගම්පොළ රජ පදවියට පත් වූ බව ද වාර්තා වී තිබේ. පස්වන බුවනෙකබාහු පසු ව කෝට්ටේ වෙත පැමිණ එහි රාජධානිය පිහිටුවා ගෙන 1406 පමණ වන තෙක් රජකම් කළ බව පෙනේ. සගම සෙල්ලිපියෙහි මොහු "ත්‍රී සිංහලාධීශ්වර" යැයි සඳහන් වෙතත් රටේ දේශපාලන බලය අන්‍යයන් අත පැවැති බවත්, ඒ අය අතරත් ගැටීම් පැවති බවත් පැහැදිලිය. (160 : 7-11 පි.). ඉහත සගම සෙල්ලිපියේ සඳහන් අලකේශ්වරයන් 1382 පමණ වන තෙක් ද ඉන් පසු කුමාර අලකේශ්වර, වීර



අලකේශ්වර, වීරබාහු ඈපා, විජය ඈපා, තුනයේශ, වීර අලකේශ්වර, පරාක්‍රමබාහු ඈපා යනුවෙන් රජුන් පස් දෙනකු විටින් විට කෝට්ටේ රාජධානියේ ප්‍රධානයන් ලෙස 1415 තෙක් ක්‍රියා කළ බව ඓතිහාසික මූලාශ්‍රයන්ගෙන් පෙනේ. 1415 දී සවන පැරකුම්බාවන් ගේ දීර්ඝ වූ පාලන සමය ඇරඹෙන තෙක් ම මේ දේශපාලන ව්‍යාකූලත්වය පැවතුණේ ය. (162 : 301-3 පිටු).

4. ගම්පොළ අවධියෙහි සිංහල රජුන් ගේ දුර්වලතාව පළ කරන තවත් සිද්ධියක් වන්නේ විශේෂ පවුල් දෙකකට අයත් පුද්ගලයන් සිහසුන පිටුපස සිටිමින් රාජ්‍යයේ බලවතුන් ලෙස පෙනී සිටීම යි. මේ පවුල් දෙක ගිරිවංශයත් මෙහෙණවර වංශයත් ය. සිවුවන බුවනෙකබා, පස්වන පැරකුම්බා අවදිවල සිටි සේනාලංකාධිකාරී මෙහෙණවර වංශයට අයත් වූවෙකි. උඩුනුවර ලංකාතිලක විහාරය කර වූ මොහු වැලිගම අක්බෝ වෙහෙර ද, දෙව්නුවර තුන්මහල් පිළිම ගෙය ද පමණක් නොව ඉන්දියාවේ කාංචිපුරයේ ශිලාමය ප්‍රතිමාඝරයක් ද කැර වූ බව කියවේ. (160 : 4 පි). නිකලස් හා පරණවිතාන යන ඉතිහාසයඥයන් ගේ මතය නම් මොහු ගේ පවුල කේරළයේ සිට පැමිණි මලයාලි වාර්ගිකයන් බවයි. (162 : 295 පි.). මේ අවධියේ සිටි තවත් බලවත් පුද්ගලයෙක් නම් තුන්වන වික්‍රමබාහු, පස්වන බුවනෙකබාහු යන රජවරුන්ට අමාත්‍යව සිටි අලගක්කෝනාර හෙවත් අලකේශ්වර යි. මහාවංශයේ කියැවෙන පරිදි හේ ගිරි වංශයට අයත් විය. නිකලස් හා පරණවිතාන යන ඉතිහාසයඥයන් ගේ මතය අනුව මේ පවුල ද කේරළයෙන් පැමිණි මලයාලි වාර්ගිකයෝ වෙති. (162 : 296 පි.). පසු ව ඔවුන් මෙහෙණවර වංශය හා ඥාති සම්බන්ධතා දැරූ බව පෙනේ. සගම ශිලා ලිපියේ දී පස්වන බුවනෙකබාහු "සුසැදි සිරිමත් තිලි කිත් රිවිකුල තිලක ත්‍රිසිංහලාධීශ්වර නව රත්නාධිපති" යනුවෙන් හැඳින් වෙන අතර අලකේශ්වරත් ඔහුගේ සොහොයුරු දේව මන්ත්‍රීශ්වරත් හැඳින්වීමට ඊට වඩා වෙහෙසක් දැරී ඇත. "සකල ගුණ මණි නිධි ජලනිධි ප්‍රශස්ත ශක්තිධර ෂන්මුඛ පරණාරී පරාංමුඛ ශ්‍රී බෝධි වඩා සැපැමිණි ගණවැසි කුල මාතෘවංශ පිතෘවංශ මේණවර කුල මෙ යුගන්ධර ධුරන්ධර දිවාකර නිශාකර ලෙසින් ලො එකලු කළ සිරිත් උදුළ අලකේශ්වර දේව මන්ත්‍රීශ්වර දෙබෑයන්" යන මේ ප්‍රශස්තියෙන් පෙනෙන්නේ එදා බුවනෙකබාහු රජතුමා නමින්, රාජ පදවිය දරා සිටි නමුදු රාජ්‍යයේ බලවත් පුද්ගලයන් වූයේ අලකේශ්වරයන් ගේ පවුලේ උදවිය බවයි.

අලකේශ්වර රයිගම සිය මූලස්ථානය කර ගෙන කටයුතු කෙළේ ය. සේනාලංකාධිකාරී ගේ බල ප්‍රදේශය වූයේ ගම්පොළ යි. 14 වන සියවසේ දී රයිගමත් ගම්පොළත් අතර රාජ බලය සඳහා තියුණු තරගයක් තිබිණි. සිංහල ජනකථාවන්හි රයිගමයා හා ගම්පළයා එකිනෙකා රවටන්නට කර ඇති වෑයම පිළිබඳ හාස්‍ය ජනක පුවත් නිර්මාණ වූයේ මේ පසුබිම තුළින් යැයි අනුමාන කළ හැකි ය.

අනතුරුව අලගක්කෝනාර පවුලේ උදවිය විසින් කොළඹට නුදුරු බිම් පෙදෙසක ජයවර්ධනපුර කෝට්ටේ බලකොටුව තනවන ලදි. මේ සිද්ධිය ලංකා ඉතිහාසයේ ඉතා වැදගත් සන්ධිස්ථානයක් සලකුණු කරයි. අලගක්කෝනාර පවුල මුලින් වෙළඳ කුලයකට අයත්වීම නිසා මුහුදුබඩ ප්‍රදේශය පාලනය කරමින් කුරුඳු ආදී වෙළෙඳාම සියතට ගැනීමට ඔවුන් අපේක්ෂා කළ බව පැහැදිලි ය. මේ අවධියේ දී දකුණු ඉන්දියාවේ රාජ්‍යයක් හා සම්බන්ධ වී සිටි යාපනේ ආර්යචක්‍රවර්තීන් ගේ රාජ්‍යය ද එම වෙළඳාම සියතට ගැනීමට උත්සුකව සිටියේ ය (147 : 86 පි.). කෝට්ටේ බලකොටුව තනවන ලද්දේ තුන්වන වික්‍රමබාහු රජ දවසයි. (ව්‍ය. ව. 1357-74) මේ පියවර ගැනීමෙන් පසු මෙතෙක් කල් යාපන රාජ්‍යය විසින් සිංහල රාජ්‍යය කෙරේ දක්වන ලද ආධිපත්‍යයට අභියෝග කරමින් යාපන රජු ගේ අය කැපියන් මරා දමා පහතරට තිබුණු දෙමළ කඳවුරු විනාශකර දමන ලදී. යාපනයෙන් පැමිණි පාබල සේනාවන් මාතලේ දී ම පරාජය කළ අලගක්කෝනාර මුහුදෙන් පැමිණි සේනාවන් ද විනාශ කළෙන් ඉන් පසු යාපන රාජ්‍යයෙන් දකුණට තර්ජන එල්ල වූයේ නැත (147 : 26 පි.). අලගක්කෝනාර ගේ පුරෝගාමීත්වයෙන් ශාසන ශෝධනයක් ද සිදුවිය. මෙම පවුලේ ආධිපත්‍යය කිත්සිරිමෙවන් කැලණි ශිලාලේඛනය, කෑරගල ශිලාලිපිය ආදියෙහි ද පිළිබිඹු වේ (160: 7-14 පිටු). මෙහි දී විශේෂයෙන් වැදගත් වන කරුණක් නම්, දකුණු ඉන්දියාණු සංක්‍රමණික පිරිස් 14 වන සියවස තුළ සිංහල සමාජයේ බලවත් ව සිටි ආකාරය යි. ගම්පොළ යුගයේ දේශපාලන ඉතිහාසයේ මේ විශේෂ ලක්ෂණයෙන් පැහැදිලි වන්නේ දකුණු ඉන්දියා සංස්කෘතික බලපෑම් වර්ධනය වූ ආකාරයත්, දේව වන්දනය එහි විශේෂ තැනක් ගත් ආකාරයත් ය.

## 5.2. පෘතුගීසි ආක්‍රමණයන්හි එක් ප්‍රතිඵලයක්

දහසය වන සියවසේ මුල සිදු වූ පෘතුගීසි ආගමනයෙන් පසු රටේ පැන නැගුණු දේශපාලන ව්‍යාකූලතා මධ්‍යයේ බුදුසමය මෙන් ම ශාස්ත්‍ර ඥානය ද පිරිහුණු අයුරු අපි දනිමු. පළමුවන විමලධර්මසූරිය රජතුමා 1592 දී කන්ද උඩරට රජ බවට පත් වී මහනුවර රාජධානිය පිහිටුවීමෙන්



පසුව බුදුසසුනට අනුග්‍රහ දැක්වීමට වෑයම් දරන ලද මුත් බුද්ධශාසනය ක්‍රමයෙන් පරිහානියට පත් විය. යළිත් දහඅට වන සියවස මැද, වැලිවිට සරණංකර හිමියන් ගේ පුනර්ජීවන ප්‍රයත්නය වන තෙක් ම පැවතුණේ එබඳු ශාසනික පරිහානි අවධියකි. මේ අවධියෙහි දී මහනුවර රජවරුන් දකුණු ඉන්දියානු නායක්කර පෙළපත හා සමඟ ඇති කරගත් ඥාති සම්බන්ධතා නිසා සිදු වූ සංස්කෘතික බලපෑම් ද දේව විශ්වාස තහවුරු වීමට තවත් සාධකයක් විය.

දෙවන රාජසිංහ රජ (ව්‍ය.ව. 1635-87) විසින් අරඹන ලද නායක්කර බිසෝවරුන් පාවාගැනීමේ පිළිවෙත ඔහු ගේ පුත් දෙවන විමලධර්මසූරිය 1687-1707) විසින් ද, මුණුපුරා වූ ශ්‍රී වීරපරාක්‍රම නරේන්ද්‍රසිංහ (1707-1739) විසින් ද පවත්වා ගෙන යන ලදී (148 : 28 පි.). ලක්දිව ක්ෂත්‍රිය වංශික අග බිසොවුන් ලබා ගත නොහැකි ය යන අදහස අනුව සිදු වූ මේ ක්‍රියා පටිපාටිය නිසා මහනුවර රාජසභාවේත්, එහි බල පෑමෙන් පොදු මහත් සමාජයේත්, දකුණු ඉන්දියා සංස්කෘතික ලක්ෂණ ව්‍යාප්තියට කරුණු යෙදිණි. පසුව නායක්කර වංශික රජවරුන් ගේ අවදිය (1739-1815) උදා වූ විට ඒ බලපෑම් තවත් වැඩිවන්නට ඇත. මේ නායක්කර රජවරුන්ගෙන් ඇතමකු සැදැහැවත් බෞද්ධයන් ලෙස බුදුසමයට විශාල මෙහෙයක් ඉටු කළ නමුදු ස්වකීය පාරම්පරික සංස්කෘතියේ ඇතැම් අංග ඔවුන් දිගින් දිගට ම පවත්වා ගෙන ආ බවට සාධක ඇත. මේ වන විටත් බෞද්ධ සමාජයේ මුල් බැස ගෙන තිබූ දේව විශ්වාස ද ඒ වැන්නකි. මේ කරුණු වාචිස්සර හිමියන් විසින් විස්තර කර තිබේ:

"මුල දී මහනුවර ඇසළ පෙරහර පවත්වන ලද්දේ මේ හින්දු ද්‍රවිඩ දෙවිවරුනට කළ පුද පෙරහරක් වශයෙනි. පිරිහී ගිය බෞද්ධ භික්ෂූනට ද මේ බලපෑම්වලට හසුවන්නට සිදු විය. එකල පැවති පිරිත් පින්කම් හින්දු ශාන්ති කර්මයන්හි ස්වභාවය ඉසිලී ය. කුලවාදය උග්‍ර විය. දේව විශ්වාසය බුදු දහමත් සමඟ මිශ්‍ර විය. මේ කාලයෙහි සිංහල බෞද්ධයන් හා ද්‍රවිඩයන් අතර ඇදහීමේ වෙනසක් නොපැවති හෙයින් නියම බෞද්ධ චාරිත්‍ර වාරිත්‍ර මොනවා දැයි වෙන් කොට දැකීමට තරම් බුද්ධියක් එකල භික්ෂුවට හෝ බෞද්ධයාට හෝ නොතිබිණි" (116 : 49-50 පිටු).

මහනුවර යුගයේ දී හින්දු දෙවිවරුන්ටත් පොදුවේ දේව විශ්වාසයටත් ඉහළ තැනක් හිමිවීම ඊට පෙර අවදිවල සිට ම පැවත ආ ප්‍රවණතාවක ප්‍රතිඵලයකි. දකුණු ඉන්දියා නායක්කර පෙළපත බලයට පත්වීම එම ප්‍රවණතාවන් තවත් උත්සන්න වීමට හේතු වූ බවට සැක නැත. එහෙත් මෙහි දී විශේෂයෙන් සඳහන් කළ යුත්තක් නම් නායක්කර රජවරුන්

නිතර ම සැදැහැවත් බෞද්ධයන් ලෙස පෙනී සිටි බවයි. පළමු රජු වූ ශ්‍රී විජය රාජසිංහ (1739-47) වනාහි **මන්දාරම් පුර පුවතට** අනුව වැලිවිට සරණංකර හිමියන් ගේ ශිෂ්‍යයෙකි. උන්වහන්සේගේ පූර්ණ අනුග්‍රහය ඇති ව රාජ පදවියට පත් වූවෙකි (510-22 කවි). ඉක්බිති ආ කීර්ති ශ්‍රී රාජසිංහ (1747-80) ද එ බන්දෙක් විය. මහනුවර අවධියේ දී කීර්ති ශ්‍රී රාජසිංහ තරම් බුදුසමය සඳහා ඇප කැප වූ අන් රජකු නොවූ බව විහාරාරාම ගොඩනැගීම, ඒවා ප්‍රතිසංස්කරණය, ශාසනික, ධර්ම ශාස්ත්‍රීය කර්තව්‍යයන්ට අනුග්‍රහය දැක්වීම ආදිය මගින් පැහැදිලි වේ. තුන් වැන්නා වූ රාජාධිරාජසිංහ (1780-98) මොරතොට ධම්මක්ඛන්ධ හිමියන් ගේ ශිෂ්‍යයෙක් විය; **අසදිස දා කව** වැනි ජාතක කථා කාව්‍යයන් නිර්මාණය කිරීමට තරම් ප්‍රවීණ සිංහල දැනුමක් ඇතිව සිටි සැදැහැවත් බෞද්ධයෙක් විය. මෙසේ බෞද්ධයන් ලෙස ක්‍රියා කළ ඔවුන් අතින් සිදුවන්නට ඇත්තේ හින්දු භක්තිය හා මිශ්‍ර වූ දේව විශ්වාස, බෞද්ධ චාරිත්‍ර වාරිත්‍ර හා සමග මනාව සංකලනය වීම යැයි කීම නිවැරදි යැයි හැඟේ.

දහහත් වන සියවසේ දෙවන භාගයේ දී දෙවන රාජසිංහ රජු ගේ (1635-87) සිරකරුවකු වශයෙන් මහනුවර රාජධානියේ විසූ රොබර්ට් නොක්ස් ඉදිරිපත් කරන විස්තර අනුව වර්තමානයේ පවතින **නාථ**, **විෂ්ණු**, **කතරගම**, **පත්තිනි** යන සිවු දේවාල එදා පැවති ආකාරයත් ඒ දෙවිවරුන් සිවු දෙනා ප්‍රමුඛ කොට ඇසළ පෙරහර පවත්වන ලද බවත් පෙනේ (155 : 124-27 පි.).

දහඅට වන, දහනව වන සියවස්හි ලංකාවේ සිංහල මෙන් ම දෙමළ ගැමි ජනතාව අතර ජනප්‍රියතම දෙවඟන වූයේ **පත්තිනිය** යි. බස්නාහිර, දකුණු, සබරගමුව, නැගෙනහිර යන පළාත්වල මෙන්ම මධ්‍යම පළාතේත් ඇති පරණ **පත්තිනි** දේවාල මෙයට සාක්ෂි දරනු ඇත. සියලු මඩු ස්තෝත්‍රවල දී ප්‍රධාන තැන දරන ලද්දේ **පත්තිනිය** විසිනි. ඇය ගේ කාර්යයන් වූ යේ: (අ) වසූරිය, පැපොල, සරම්ප ආදි වසංගත රෝග සුව කිරීම (ආ) නියඟ සහ සාගත දුරුකිරීම (ඇ) දරුවන් ගේ ලෙඩ දුක් සුව කිරීම ආදී යයි. එහෙත් නවීන විද්‍යාව, වෛද්‍ය පහසුකම් හා තාක්ෂණය පැතිරෙත්ම ක්‍රමයෙන් මේ අවශ්‍යතා වඩා ප්‍රායෝගිකව සපුරා ගැන්මට හැකි විණි. විශේෂයෙන් ආරෝග්‍යශාලා වැඩිවීමත්, ලෙඩ රෝග වළක්වා ගැනීමේ එන්නත් ක්‍රම වැනි දෑ යොදා ගැන්මත් නිසා ඉහත කී වසංගත අතීතයේ දී මෙන් බිය විය යුතු ඒවා නොවන තැනට මහ පැදිණි. තාක්ෂණඥානය යොදා සංවර්ධන ක්‍රියාදාමයන් අරඹන ලද හෙයින් නියං ද සාගත ද අද ඇති නොවේ. එදා මෙන් අදත් ප්‍රශ්නයන්



ව පවතින්නේ පැපොල, සරම්ප වැනි රෝගත් ළමා රෝග අවස්ථාවත් පමණි. මේ පිළිබඳව ද නූතන වෛද්‍ය විද්‍යාත්මක විසඳුම් තිබේ. මේ නිසා වටහා ගත නොහැකි අද්භූත බලවේගයන් පාලනය කිරීමට දෙවියන් ගේ පිහිට අපේක්ෂා කළ යුතු වූ අතීතයට වඩා අද තත්වය වෙනස් වී ඇත. අද බොහෝ විට ඇත්තේ ඉහත අවස්ථාවන්හි මෙන් පොදු සාමූහික ප්‍රශ්න නොව පෞද්ගලික අභිමතාර්ථ සාධනය පිළිබඳ ප්‍රශ්නයි. එහෙයින් අතීතයේ දී මෙන් පොදුවේ පැවත්විය යුතු මඩු ස්තෝත්‍ර වෙනුවට **පත්තිනි** දේවාලයේ දී දෙවියන් පෞද්ගලිකව හමු වී තම අවශ්‍යතා ඉටුකර ගැන්මේ බැතිමතුන් යෙදෙනු දක්නා ලැබේ. බෞද්ධ දේව ගණයේ සිටින එකම වැදගත් දෙවඟන හෙයින් **පත්තිනිය** සමාජයේ පවත්නා සුවිශේෂ මානසික අවශ්‍යතා සපුරා ලන්නී ය. විශේෂයෙන් කාන්තාවන්, ළමයින් පිළිබඳ අවශ්‍යතා මෙහි දී වැදගත් වේ. ඒ කෙසේ වුවත් වර්තමානයේ **කතරගම** දෙවියන් ගේ නැගීම හා සසඳන කල්හි **නාථ**, **විෂ්ණු**, **පත්තිනි** දෙවිවරුන් ගේ ජනප්‍රිය භාවය හීන වී ඇති බව පෙනේ.

සමාජ ප්‍රවණතාවන් අනුව ඇතැම් දෙවිවරුන්ගේ ජනප්‍රියත්වය අඩු වැඩි වන ආකාරය පසුගිය ශත වර්ෂ පහක් පමණ කාලය තුළ **උපුල්වන්**, **කතරගම** යන දෙවිවරුන් පිළිබඳ තොරතුරු විමසීමේ දී පැහැදිලි වනු ඇත. ගම්පොළ යුගයේ රචිත **තිසර**, මයූර සංදේශ මෙන් ම කෝට්ටේ යුගයේ රචිත **පරෙවි**, **කෝකිල** සන්දේශයන් ප්‍රධානත්වයෙහි ලා සලකනු ලබන්නෝ දෙවිනුවර **උපුල්වන්** දෙවියෝ යි. තවද, දාහතර වන පසළොස් වන සියවස්හි දී **උපුල්වන්** දෙවියෝ අසුරයන් මර්දනය කොට වීර වික්‍රම පැවාවූ ද ලෝක ශාසන ආරක්ෂා කිරීමේ කාර්ය භාරය උසුලන්නා වූ ද අයකු ලෙස සලකනු ලදහ.

**තිසර සන්දේශයෙහි:-**

විසේස වන් විකුමෙන් බාසුරු කෙසර
ලෙසේ අසුර ගජ දප් බිඳුමෙහි ළතර
තොසේ උපුල් වන් සුරනිඳු තුම මෙ පුර
වෙසේ මෙ පුර පුරඳුරු මෙන් තිදස පුර

(18 කව)

යනුවෙන් ද,

**කෝකිල සන්දේශයේ:-**

විසේස වන් විකුමෙන් සදිසි දිය බඳ
රොසේ රුපෑ පෙර සුර කුරිරු මන් බිඳ
තොසේ මුනිඳු සාසන රකිනා තිබ ද
වෙසේ සිරින් කිහිරැලිපුල් සුරිඳු සඳ

(23 කව)

යනුවෙන් ද මේ ගුණාංග ප්‍රකාශ වී ඇත.

එහෙත් දහසය වන සියවසේ අග දී, එනම් ව්‍ය. ව. 1588 දී දෙවිනුවර උපුල්වන් දෙවොල පෘතුගීසීන් විසින් විනාශ කරන ලදී. එදා ඒ දේවාලයේ පැවති ශ්‍රී විභූතිය එය විනාශ කළවුන් අතර සිටි ද කුටෝ නමැත්තා විසින් තබා ඇති වාර්තාවෙන් පැහැදිලි වේ.

> දේවාලය ඉතා විශාල එකක් විය. එහි වහල වෘත්තාකාර වී. එහි විචිත්‍ර කැටයම් ද තිබිණි. දේවාලය වටා ඉතා ශෝභමාන කුටි ගණනාවක් විය. ප්‍රධාන දොරටුවට ඉහළින් ඉතා උස් වූ ද සම්පූර්ණයෙන් තඹෙන් සෙවිළි කර බොහෝ තැනෙක වාත්තු කරන ලද්දා වූ ද උස් ගෝපුර වූයේ ය. දොරටුවෙන් ඇතුළත ආලින්දයන්ගෙන් සමන්විත ස්තර සහිත විශාල චතුරශ්‍රයක් විය. එය දෙපැත්තේ ශෝභමාන දොරටු ද තිබිණි. හාත්පස සියලු තන්හි සුගන්ධවත් මල් ගස් සිටුවා තිබුණු අතර ඒ මල් පෙරහරවල දී භාවිත කරන ලදී. අපි මේ දොරටු කඩා ඇතුළු වී එහි තිබුණු ප්‍රතිමා විනාශ කරන්නට වීමු. ඒවා මැටියෙන් ලීයෙන් හෝ තඹෙන් නිමවා බොහෝ විට රන් ආලේප කරන ලද්දේ විය. අපි පියසි ද කුළුණු පංති ද විනාශ කොට ගබඩා කොල්ල කෑවෙමු. එහි ඇත්දත්, සිනිඳු වස්ත්‍ර, කෝපි, ගම්මිරිස්, සඳුන් දර, මුතු, මැණික් ඇතුළුව දේවාලයේ වෙනත් බඩු භාණ්ඩ මහා සම්භාරයක් තිබුණේ ය. මේ සියල්ල සිතූ සිතූ පරිදි කොල්ල කා ගත් අපි ඉතිරි සියල්ල ගිනිබත් කෙළෙමු. එම ස්ථානයට කළ හැකි අන්ත නිග්‍රහය වශයෙන් ඒ ඇතුළත ගවයන් කීප දෙනකු ද මැරුවෙමු. ඒ කලංකය ඉවත් කළ හැක්කේ අතිශය සංවිධිත වතාවත් රාශියක් කිරීමෙන් පමණි. එහි තුබුණු විවිධ වර්ණයෙන් අලංකාර වූ රන් ආලේපිත මහල් සතකින් යුක්ත විචිත්‍ර දැවමුවා රථයක් ද අපි ගිනිබත් කළෙමු. මේ රථය දෙවියන් ගේ ප්‍රතිමාව නගරය ප්‍රදක්ෂිණා කිරීම සඳහා යොදා ගන්නක් විය. (උපුටා දැක්වී ඇත්තේ 166 : 23 පිටුවෙහි ය.).

ද කුටෝ ගේ මේ විස්තරය අප පිළිගන්නවා නම් එහි නිරූපිත උපුල්වන් දේවාලය කෙතරම් ශ්‍රී විභූතියෙන් ආඪ්‍ය වූ ස්ථානයක් ව පැවතුණේ ද යන්න පමණක් නොව එය හින්දු මුහුණුවරට කෙතරම් සමීප වී ද යන්නත් පෙනෙනු ඇත. දේවාලයෙහි වහලෙහි කැටයම් ගැන ද දෙවියන් ගේ රථය ගැන ද විස්තර විශේෂයෙන් අප අවධානයට යොමු විය යුතු ය. පසු කලෙක මෙම දේවාලය ප්‍රතිසංස්කරණය කිරීමෙන් පසුව උපුල්වන් යනු **විෂ්ණු** දෙවියන්ය යන මතය අනුව එහි කටයුතු සිදු වේ. **විෂ්ණු** දෙවියන් අද සැලකෙන්නේ මෛත්‍රී කරුණා ගුණයෙන් යුත් ශාන්ති දායක අයකු වශයෙනි. ගම්පොළ හා කෝට්ටේ යුගවල උපුල්වන් දෙවියන් සතුව තිබූ වීර වික්‍රමාන්විත භාවය අද ආරෝපණය වී ඇත්තේ



**කතරගම** දෙවියන් වෙත ය. **කතරගම** දෙවියන්ගේ නැගීම අහඅට වන සියවසේ පමණ සිට දැකිය හැක්කකි. ව්‍ය. ව. 1680-85 කාලය තුළ ජම් රිබෙයිරෝ නම් පෘතුගීසි ජාතිකයා විසින් ලංකාව පිළිබඳව ලියන ලද කෘතියෙහි දී ඔවුන් කතරගම ආක්‍රමණය කිරීමට දැරූ ප්‍රයත්නය විස්තර කර තිබේ.

> මෙහි ඉතා දීර්ඝ කාලයක් තිස්සේ පුද පූජා වශයෙන් එක් වූ රන්, මුතු මැණික් එකතු වී ඇති අතර එය ආරක්ෂා කිරීම සඳහා ආයුධ සන්නද්ධ පන්සියයක් මිනිසුන් යොදවා තිබිණි. මේ ධනය අප අතට පත් කර ගෙන එය ආරක්ෂා කිරීම සඳහා ඔවුන් ගන්නා වෙහෙසෙන් ඔවුන් මුදවාලීමේ අදහසින් අපි එම ස්ථානය ගැන කීප විටක් සොයා බැලුවෙමු. වර්ෂ 1642 මුල දී ........ ගැස්පර් පිගුවෙයිරා ද සර්පේ ගේ අණදීම යටතේ පෘතුගීසීන් එකසිය පනහක් ද ක්‍රිස්තියානි භක්තිකයන් බහුතරය වූ ලසුකිරිස්සා භටයන් දෙදහසක් ද යුත් සේනාවක මම ද ඒ ස්ථානය සොයා ගියෙමි. අප දේවාලය පිහිටි ස්ථානයට කිට්ටු වූ කල්හි ඒ ප්‍රදේශයෙහි නිවැසි ස්වදේශිකයකු අල්ලා ගත් සේනාපතිවරයා එය පිහිටා ඇති තැන දන්නේ දැයි විමසී ය. තමා එය දන්නා බව පැවැසූ හේ එය එතැනට සමීප බව කීවේ ය. හෙතෙම අපේ මඟ පෙන්වන්නා බවට පත් වී එම ප්‍රදේශයේ ඇති එක ම කන්ද වන වනයෙන් වැසුණු කන්දකින් අප එහා පැත්තට ගෙන ගියේ ය. මෙයින් අපි කීප විටක් ම එහාට මෙහාට ගියෙමු. දේවාලය මෙය මුදුනේ වූ බව පැහැදිලි විය. එහෙත් එයට කුමන හාස්කමක් තිබුණා දැයි මට නො තේරේ. මක්නිසා ද අප අපේ ග්‍රහණයට ගෙන මග පෙන්වන්නන් බවට පත් කර ගත් පස් දෙනා අතුරෙන් තුන් දෙනකු ම අප රවටන්නට තැත් කරන බව සිතා අපි ඔවුන් ජීවිතක්ෂයට පත් කළෙමු. ඔවුහු සැම එකකුම අනෙකා කළ දේ නොදැන ම නොයෙක් විකාර දොඩවන්නට වූහ .......... මේ නිසා අපට අපේ අපේක්ෂාව ඉටු කර නොගෙන ආපසු එන්නට සිදු විය. (177 : 31-2 පිටු)

**කතරගම** දෙවියන් ගේ තෙද මහිමය දාහත් වන සියවස වන විට සිංහල ජනයා ගේ සිත් තුළ තදින් කා වැදී තිබුණු බව ව්‍ය. ව. 1660 - 1679 යන දහනව වසර තුළ මහනුවර රාජධානියේ සිරකරුවකු ව සිට, පසුව එංගලන්තයට ගොස් ලක්දිව ගැන පොතක් ලියූ රොබට් නොක්ස් විසින් කර ඇති සඳහනෙන් ද පෙනේ. දිවයිනේ ගිනිකොන දිග වෙරළේ පැවැති ලුණු ලේවාය ගැනත් ඒ ප්‍රදේශයේ දුර්ග ස්වභාවය ගැනත් විස්තර කරන නොක්ස් මෙසේ වාර්තා කරන්නේ යː

> "මේ ප්‍රදේශය ගොඩබිම පැත්තෙන් කඳු මගින් වට වී ඇති අතර මුහුද පැත්තෙන් නැව් ගමනාගමනයට අපහසු මුහුදෙන් ආරක්ෂා වේ.

සෞඛ්‍යයට අහිතකර පෙදෙසක් ද වන මෙහි යට කී ස්වභාවය එක්තරා දෙවි කෙනකු ගේ බල මහිමය නිසා සිදුවූවකැයි ඔවුහු සිතති. ඔවුන් ලුණු ප්‍රවාහනය කරන මාර්ගයේ පිහිටා ඇති කතරගම යනුවෙන් ඔවුන් හඳුන්වන කන්දක වෙසෙන මේ දෙවියන්ට ලුණු ගෙන යාමට යන කුදු මහත් සියල්ලන් ම පූජාවක් ඔප්පු කළ යුතු ය. මේ දෙවියන් ගේ නාමයත්, බල මහිමයත් සිංහලයන් තුළ කෙතරම් භීතියක් ජනිත කරන්නේ ද යත් මේ රජු ගේ (දෙවන රාජසිංහ) සතුරන් වූ, මහුට එරෙහි ව පෘතුගීසීන්ට ද පසුව ලන්දේසීන්ට ද සේවය කළා වූ අය පවා මේ ප්‍රදේශය ආක්‍රමණය කිරීමට නම් ඔවුන් හට කිසි විටෙක ආධාර කරන්නේ නැත."(155 : 10 පි.).

දෙවිනුවර **උපුල්වන්** දෙවියන් ගේ වැටීමෙන් පසු ක්‍රමයෙන් **කතරගම** දෙවියන් ගේ නැගීම සිදුවන්නට වූ බව පෙනේ. ශ්‍රී වීරපරාක්‍රම නරේන්ද්‍රසිංහ රජ දවස (ව්‍ය. ව. 1707 - 39) ලියවුණු **කහකුරුළු සන්දේශය** ද, වර්ෂ 1780 - 98 අතර ලියැවුණු **නීලකොබෝ සන්දේශය** ද වර්ෂ 1813 දී ලියැවුණු දිය **සැවුල්** අස්න ද, වර්ෂ 1859 දී ලියැවුණු දෙවන **මයුර සන්දේශය** ද ඔප්පු කොට ඇත්තේ **කතරගම** දෙවියන් වෙත ය. දහඅට වන සියවසේ ඇරඹුණු එම දෙවියන් ගේ නැගීමෙහි උච්ච අවස්ථාව විසිවන සියවසේ දැක්ක හැකි බව අද වෙසෙන්නෝ ප්‍රත්‍යක්ෂ වශයෙන් දනිති.

**කතරගම** දෙවියන් ගේ නැගීම නූතන ලාංකික සමාජයේ ආර්ථික හා සමාජ විපර්යාසයන් හා බැඳී ඇති ආකාරය මහාචාර්ය ගණනාථ ඔබේසේකර විස්තර කර ඇත. ඔහුගේ වැදගත් නිරීක්ෂණයක් නම් කතරගම දෙවියන් කෙරේ ජනයා දක්වන විශේෂ ආකල්පය එම දෙවියන් විෂ්ණු දෙවියන් හා සැසඳීමෙන් පැහැදිලි කර ගත හැකි බව යි:

(අ) **විෂ්ණු**, **කතරගම**යන දෙදෙනා ම 'යුක්ති සහගත' දෙවිවරු වෙත්. ඔවුහු යහපත් ගුණාංගධාරීහු ය. එහෙත් **කතරගම** දෙවියෝ **විෂ්ණු** දෙවියන්ට වඩා ශාන්තිදායක ගුණයන් ගෙන් අඩු වෙති. ඔවුන් කෙරේ **විෂ්ණු** දෙවියන්ට දක්වනවාට වඩා බියක් බැතිමතුන් තුළ පවතී.

(ආ) තම බැතිමතුන්ට පිහිටවීමේ පරමාර්ථයෙන් යුක්තිය පසෙක ලැමට පවා **කතරගම** දෙවියන් සූදානම් නමුදු, **විෂ්ණු** හෝ අනෙක් ප්‍රධාන දෙවිවරු හෝ එසේ නො කරති. සිය දරුවන් සඳහා ඕනෑම දෙයක් කිරීමට සමත් පියකු හා සමාන ලෙස සැලකෙන **කතරගම** දෙවියන් වෙත අපරාධකරුවන් පවා ඉල්ලීම් ඉදිරිපත් කරන්නේ මේ නිසා ය. එහෙයින් 'පලි ගැසීම්' සඳහා **කතරගම** දෙවියන් සහභාගි කරවා ගත හැකි නමුත් **විෂ්ණු** දෙවියෝ කිසි විටක එවැන්නකට සහභාගී නොවෙත්.



(ඇ) තම අසහාය නිර්භීත භාවයත් රණශූරත්වයත් නිසා **කතරගම** දෙවියෝ අතිශය දුෂ්කර කාර්ය පවා ඉටු කිරීමට සමත් වෙති. එහෙයින් අවදානම් කටයුතුවල නිරත වන්නන් විශේෂයෙන් ඔවුන් ගේ පිහිට පතනු දැක්ක හැකි ය. දේශපාලනඥයන්, මැණික් ගරන්නන් වැනි අය ද පොදුවේ වෙළඳ ව්‍යාපාරිකයන් ද **කතරගම** දෙවියන් වෙත යන්නේ මේ හේතුවෙනි (165).

මහාචාර්ය ඔබේසේකර පෙන්නා දී ඇති පරිදි **කතරගම** දෙවිඳුන් ගේ ජනප්‍රියත්වය පසළොස් වන සියවසේ සිට දහනව වන සියවසේ මුල දක්වා කාලය තුළ දී ශීඝ්‍රයෙන් වර්ධනය වී ඇත. මීට හේතු කීපයක් හේ පෙන්වා දෙයි.

(1) මේ යුගයේ දී දකුණු ඉන්දියා සංක්‍රමණික පිරිස් ලක්දිවට පැමිණ පදිංචි වූහ. ඔවුන් විසින් තමන් අතර පුද පූජාවට ලක්වුණු දෙවිවරුන් කීප දෙනකු පිළිබඳ ඇදහිලි ද ගෙන එන ලදී. උදාහරණ වශයෙන්, 'පත්තාරම්' නමැති වෙල්ලාල වංශික පූජක පිරිස මෙහි පැමිණීම දැක්විය හැකි ය. දහතුන් වන සියවසේ දී ද, පහළොස් වන සියවසේ දී ද වශයෙන් දෙ වරක් මේ පිරිස් පැමිණි අතර ඔවුන්ට සමාජයේ ප්‍රභූත්වය ද ලැබිණ. මහනුවර යුගයේ පශ්චාත් කාලයේ දී රදළවරුන් විසින් යොදා ගන්නා ලද 'බණ්ඩාර' යන නාමයේ ප්‍රභවය "පත්තාරම්" යන්න බව ඉතිහාසඥ දේවාරාජා මහත්මිය පෙන්වා දෙයි (148: 47 - 68 පි.). එබඳු තවත් සංක්‍රමණික පිරිසක් නම් 'ආඩි' යනුවෙන් හඳුන්වන ලද පූජක පිරිස ය. සීතාවක රාජසිංහ යුගයේ දී (1581 - 93) මොවුන්ට විශේෂ වරප්‍රසාද ලැබිණ. මෙසේ සමාජයේ බලවත් සංක්‍රමණිකයන් ගේ බලපෑමෙන් **ස්කන්ද** නමැති දකුණු ඉන්දියාවේ අතිශයින් ජනප්‍රිය දෙවියන් ඇදහීම ලක්දිව ප්‍රචලිත විය. **කතරගම** ඊට පෙර සිට සිටි දෙවියන් හා සමග **ස්කන්ද** දෙවියන් සම්මිශ්‍රය වීම ද මේ යුගයේ දී සිදුවන්නට ඇත (165).

(2) ඇතැම් රජවරු කතරගම දෙවියන්ට විශේෂ අනුග්‍රහය දැක්වූහ. හවන බුවනෙකබාහු (ව්‍ය. ව. 1469 - 1477) නමින් රජ වූ සපුමල් කුමාරයා ගේ පියා දකුණු ඉන්දියා සංක්‍රමණිකයෙක් විය. කෝට්ටේ අවධියෙහි දී නන්නුරුතුනයා වැනි තවත් දකුණු ඉන්දියානුවන් ප්‍රබලව සිටි අයුරු අපි දනිමු. බෞද්ධයන් බවට පත් වූ නමුත් ඔවුහු තම මුල් සංස්කෘතියෙහි යම් යම් අංග ද දිගට ම පවත්වා ගත් බවට සැක නැත. දෙවන රාජසිංහ රජු (1635 - 87) විසින් අරඹන ලද දකුණු ඉන්දියාවේ නායක්කර පෙළපතින් බිසොවුන් කැඳවීමේ පිළිත නිසා ක්‍රමයෙන් මහනුවර නායක්කර ප්‍රභූ පෙළැන්තියක වර්ධනය සිදුවිණි. 1739 දී නායක්කරවරු මහනුවර රජවරුන් බවට පත්වූහ. 1815 දී මහනුවර රාජධානියේ අවසානය සිදුවන විට එහි තැන් කීපයක 'වඩිගයන්' ලෙස

හැඳින්වුණු මොවුන් පදිංචි වී සිටි අයුරු ඇහැළේපොළ වර්ණනාව වැනි සමකාලීන කෘතීන්ගෙන් පැහැදිලි වේ. අද වුවද මහනුවර කතරගම දේවාලයේ කපු පදවිය ද්‍රවිඩ වාර්ගිකයන් දරන අතර රුහුණු කතරගම දේවාලය ඇතුළු ව වෙනත් කතරගම දේවාලවල කපු පදවි දරන්නෝ සිංහලයෝයි. එදා මහනුවර සිටි දකුණු ඉන්දීය දනන් ගේ අවශ්‍යතාව අනුව මේ වෙනස සිදුවන්නට ඇත. නායක්කර රජවරුන් හා වෙනත් ප්‍රභූන් බෞද්ධයන් බවට පත්වුවද තම මුල් ආගමික වතාවත් සමහරක් දිගින් දිගට ම පවත්වා ගෙන යන්නට ඇත.

(3) පසළොස් වන සියවසින් පසු සංග්‍රාම බහුල අවධියක් විය. සිංහල රජවරුන් එකිනෙකා අතර ද අනෙක් අතට සිංහලයන් හා පෘතුගීසීන්, ලන්දේසී, ඉංගිරිසි යන ආක්‍රමණිකයන් අතර ද පැවැති මේ යුද අරගල මධ්‍යයේ යුද්ධයට අධිපති වූ **ස්කන්ද හෙවත් කතරගම** දෙවියන් ගේ පිහිට පැතීම නිරතුරු ව සිදුවන්නට ඇත. පළමුවන රාජසිංහ, දෙවන රාජසිංහ වැනි රණකාමීන් අරභයා මෙබඳු විශේෂ සිද්ධි කීපයක් ජනප්‍රවාදයේ එයි. වර්ෂ 1630 දී නැගෙන හිර දෙසින් අවුත් මහනුවර රාජධානිය ආක්‍රමණය කළ කොන්ස්තන්තීනු ද සා විසින් බදුල්ලේ පිහිටි කතරගම දේවාලය විනාශ කරන ලදී. එහෙත් ඔහු ගේ හමුදාව සිංහල හමුදාව අතින් සමූලඝාතනයට පත් වූහ. දෙවියන් ගේ සහාය තමන්ට ලැබුණු බව පිළිගත් දෙවන රාජසිංහයන් විසින් බදුලු දේවාලය නැවත පිහිටුවා දෙවිඳුන්ට පුදසත්කාර පවත්වා රුහුණු කතරගම දේවාලයට ද පුද පඩුරු ඔප්පු කරන ලදී (174 ඒ: 61 පි.). පෘතුගීසි හා ලන්දේසි හමුදාවන්ට කිසි විටෙක මහනුවර ජය ගෙන එහි රැඳී සිටිය නොහැකි විය. වර්ෂ 1803 දී මහනුවරට පැමිණි ඉංගිරිසි හමුදාවට ද එම ඉරණම අත්විණි. මේ විජයග්‍රාහී ප්‍රතිබාධනය තම රණශූරත්වය නිසා ම නොව ත්‍රිවිධ රත්නයේත් දෙවි දේවතාවුන් ගේත් පිහිටාරක්ෂාවෙන් සාධනය කරගත්තක් බව කන්ද උඩරට සිංහලයන් ගේ පොදු පිළිගැනීම වූයේ ය. වර්ෂ 1811 දී මහනුවර රජවාසලින් කොළඹ සිටි ඉංගිරිසි පාලකයන් වෙත යවන ලද සන්දේශයක මෙසේ සඳහන් ව තිබුණේ ඒ අනුව ය.:

> ඉංග්‍රිසි, ඕලන්ද, ප්‍රංශ හෝ කාපිරි යන කුමන පර සතුරකුට වුව ද ලංකාව යටත් කරන ගත නොහැක්කේ ය. ශාසනය ආරක්ෂා කරන්නා වූ සතර වරම් දෙවිවරුන් ගේ ආනුභාව නිසා ද අප රජතුමා ගේ පුණ්‍ය මහිමය හේතුවෙන් ද පන්දහස් වසරක් මෙහි කිසිදු සතුරකුට විසිය නොහැකි වනු ඇත (146 ඒ: 21 පි.)

කතරගම ඉතිහාසයේ මෑත යුගයට අයත් අතිශය වැදගත් ම සිද්ධිය 1817 - 18 කැරැල්ල හා සම්බන්ධ ය. වර්ෂ 1815 ඇසළ උත්සව දිනවල



මහනුවර සිට භික්ෂූහු අට දෙනෙක් මෙහි ළඟා වූහ. ඔවුන් අතුරෙන් ප්‍රධානයා, තමා දෙවියන් විසින් රජු වශයෙන් පත්කර ඇති බව පවසා පෙර දවස රාජසිංහ රජු විසින් දේවාලයට පූජා කරන ලද කඩුවත්, රන් සළුවත් ඉල්ලා සිටියේ ය. ඒවා ඔහුට බාර දෙන ලදී. සති තුනකට පසු ඔවුහු දේවාලයේ ඇතැම් නිලධාරීන් ද සමග බුත්තල දෙසට ගියෝය. බුත්තලින් පුබ්බරට ගිය ආගන්තුක නායකයා එහි දී කිවුලේගෙදර මොහොට්ටාල විසින් පිළිගන්නා ලදී. තම සිවුරු ඉවත් කළ හේ කිවුලේගෙදර සැපයූ සුදු හා වර්ණවත් ඇඳුමින් ද සළුවකින් ද රනින් වැඩ දැමූ තලප්පාවකින් ද සැරසුණේ ය. මේ සියලු තොරතුරු මහනුවර සිටි ජෝන් ඩොයිලිට ඔත්තුකරුවන් විසින් වාර්තා කරන ලදී. මේ වන විට ආගන්තුකයා කීර්ති ශ්‍රී රාජසිංහ ගේ සෝවුරු කලු නායක්කර ගේ පුත් දොරේසාමි බව ප්‍රචලිත කොට තිබිණි. "දොරේසාමි" අනතුරු ව බින්තැන්නේ ඇති කොකාගලට පැමිණ එහි රැස් වූ කිවුලේගෙදර, මහබදුලුගම රටේ රාළ ආදී පිරිස අමතා පරදේශීන් අල්ලා ගත් රට දැන් කතරගම දෙවියන් විසින් තමන් වෙත පවරා ඇති බවත් තමා කියන දෑ අසත්‍ය නම් දේව උදහස තමා වෙත එල්ල වන බවත් කියා සිටියේ ය. රටේ රාල බිම දිග ඇදී "රජු" වන්දනා කළේ ය. සෙස්සෝ ඔහු අනුගමනය කළහ. "රජු" විසින් කිවුලේගෙදර වලපනේ දිසාව ලෙස පත් කරන ලදී. (174 ඒ : 187 - 89) පිටු).

මින් නොබෝ කලකට පසු "දොරේසාමි" වීරවික්‍රම කීර්ති ශ්‍රී යන නමින් ඊනණවත්තේ දී රජ පදවියට පත්විය. කැරැල්ල පැතිර යත් ම ඉංගිරිසි ආණ්ඩුකාරයා රාජ්‍යයට සතුරු වූවන් ලෙස සිංහල ජනප්‍රධානයන් 19 දෙනකු ගේ නම් ප්‍රකාශයට පත් කළේ ය. ඒ අතරට කැප්පෙටිපොළ, කොහුකුඹුර, බූටෑවේ ආදීන් සමග කතරගම මහබෙත්මේ ද කුඩා බෙත්මේ ද වූහ (එම : 214 පි.). ඉංගිරිසීන් හා යුද වැදෙන අවස්ථාවන්හි කැප්පෙටිපොළ තිලමේ යුද්ධයට අධිපති **කතරගම** දෙවියන් ගේ දේවාභරණ ද වඩමවා ගෙන ගිය බව වාර්තා වී ඇත (එම : 257 පි.). 1817 වර්ෂයෙහි අග වන විට බ්‍රිතාන්‍යයන් විසින් විවිධ මර්දනකාරී උපක්‍රම මගින් කැරැල්ල මැඩ පවත්වන ලකුණු පෙනෙන්නට තිබිණි. ඔක්තෝම්බර මාසයේ දී **කතරගම** දේවාලයේ බස්නායක රාළ වූ මඩුගස්තලාවේ ද, එහි කුඩා බෙත්මේ වූ හිඟුරුකඩුවේ ද අල්ලා ගනු ලැබූ හ. 1818 ඔක්තෝම්බර් 28 වන දා කැප්පෙටිපොළ හා පිළිමතලව්වේත්, නොවැම්බර් මස පළමු වන දා මඩුගල්ලේත් අල්ලා ගැනීමෙන් පසු කැරැල්ල අවසන් විය. සැඟ වී සිටි කිවුලේගෙදර අල්ලා ගත හැකි වූයේ නොවැම්බර් මස 20 වන දින දීය. "දොරේසාමි" යනුවෙන් පෙනී සිටියේ සත්කෝරළේ විල්බාව ගමේ

උපන් කලක් මහණ ව සිටියකු බව මේ වන විට හෙළි වී තිබිණි. විල්බාවේ අල්ලා ගත හැකි වූයේ 1830 වර්ෂයේ දී වුව ද ඉහත කී රදළ නායකයන් ගේ වැටීමෙන් පසු කැරැල්ල සංසිඳී තිබිණි.

කතරගම දේවාලයේ සිට සිය කැරැල්ල ඇරඹූ විල්බාවේ හෙවත් දොරේසාමි ගේ රාජපදප්‍රාප්ති ප්‍රයත්නය ව්‍යර්ථ වීම **කතරගම** දෙවියන් ගේ බල මහිමහ ක්‍රියාත්මක නොවූ අවස්ථාවක් ලෙස පෙනෙන්නට ඉඩ තිබිණි. දේවාලයේ ප්‍රධාන නිලධාරීන් කැරැල්ලේ නායකයන් ව සිටීමෙන් එම ආයතනය කැරැල්ලේ මූලස්ථානයක් ලෙස සලකන ලද බව පෙනේ.

මෙසේ 1817 - 18 කැරැල්ලේ අසාර්ථක වීම කතරගම දේවාලයේ ජනප්‍රියතාවට පහරක් වූ බවට සැක නැත. අනතුරුව බ්‍රිතාන්‍ය පාලනය තහවුරු වත් ම පෙර යුගයේ පැවැති යුද වාතාවරණය ක්‍රමයෙන් ඉවත් ව ගිය නිසා යුද්ධයට අධිපති මේ දෙවියාගේ සහාය අවශ්‍ය වන අවස්ථා අඩු වී ගියේ ය. නැතහොත් නැත්තට ම නැති විය. මේ අනුව 1818 සිට 1920 පමණ වන තෙක්, එනම් ශතවර්ෂයක් පමණ කාලයක්, කතරගම ඒ තරම් ජනප්‍රිය පූජා භූමියක් ව නො පැවැතිණි.

මහාචාර්ය ගණනාථ ඔබේසේකර මේ තත්ත්වයට සාධක වශයෙන් 1819 දී ලක්දිව සංචාරය කළ ජෝන් ඩේවි නම් ඉංගිරිසි ජාතික වෛද්‍යවරයා ගේ වාර්තාව උපුටා දක්වයි: "වසරෙන් වසර මෙහි පැමිණෙන වන්දනාකාර සංඛ්‍යාව අඩු වේ. ගොඩනැගිලි ගරා වැටෙමින් පවතී. වසර කීපයකින් ඒවා මහපොළොවට සමතලා වන්නට ඉඩ ඇත. මෙහි පැමිණෙන අයට ඒවා කොතැන වී දැයි සොයා ගැනීමට පවා නොහැකි වනු ඇතැ"යි ඩේවි අනාවැකි පළ කළේය (146: 423 පි.) මෙම අනාවැකියට සාධක වශයෙන් සංඛ්‍යා ලේඛන උපුටා දැක්විය හැක්කේ 1871 වසරේ සිට පමණය. මහාචාර්ය ඔබේසේකර උපුටා දක්වන එම සංඛ්‍යා ලේඛන අනුව 1871 දී වන්දනා කරුවන් 3500 ක් පමණ පැමිණි බව වාර්තා වී ඇත. 1873 දී එම සංඛ්‍යාව 7000 කට ආසන්න විය. එහෙත් ඊළඟ වසරේ දී (1874) එය 1200 ක් පමණ වූයේය. 1877 දී වාර්තා වී ඇත්තේ වන්දනාකරුවන් 44 දෙනකු පමණි. වර්ෂ 1878 දී පළාතේ සහකාර ආණ්ඩුවේ ඒජන්තවරයා වාර්තා කර ඇත්තේ "මේ වනාහි අභාවයට ගිය ආයතනයකැයි සැලකිය හැකිය," යනුවෙනි. ඔහු සඳහන් කරන තව කරුණක් නම් කතරගම සිට සැතපුම් 15 ක් දුරින් වූ තිස්සමහාරාමය වෙත වන්දනාකරුවන් විශාල සංඛ්‍යාවක් පැමිණෙන බවයි. මේ වන විට, තිස්සමහාරාම චෛත්‍යයේ ප්‍රතිසංස්කරණ කටයුතු ඇරඹී තිබිණි. තිස්සමහාරාමයට එන වන්දනාකරුවන් ඉන් නුදුරුව පිහිටි කතරගමට ඒමේ අවශ්‍යතාවක් නොදුටු බව ඉහත සඳහන් වාර්තාවෙන් පෙනේ. තිස්සමහාරාමයේ සිට කතරගම තෙක් ගමන වන



මැදින් ඉතා දුෂ්කර ලෙස කළ යුත්තක් ව තිබුණු බව ද අමතක කළ නොහේ.

එහෙත් විසිවන සියවසේ මුල් දශකයේ සිට කතරගම ජනප්‍රියත්වය නැවත වර්ධනය වන්නට පටන් ගැනුණි. වර්ෂ 1910 දී පළාතේ සහකාර ආණ්ඩුවේ ඒජන්ත වශයෙන් සේවය කළ ලෙනාඩ් වුල්ෆ් පවසන අන්දමට උත්සව සමයේ දී වන්දනා කරුවන් 3000 ක් 4000 ක් අතර පිරිසක් එහි පැමිණියහ. මේ වන්දනාකරුවන් අතුරින් විශාල පිරිසක් දකුණු ඉන්දියාවෙන් ද, වතුකරයෙන් ද පැමිණි අය වූහ. කතරගම ප්‍රදේශය ඉතා ශුෂ්ක වූ ද, ලෙඩ රෝග ගහණ වූ ද ප්‍රදේශයක් ලෙස සලකන ලද බව ද ඔහු ගේ වාර්තාවලින් පෙනේ. එහෙත් ක්‍රමයෙන් කොළරාව, වසූරිය වැනි වසංගත රෝග මර්දනය කරන්නට බලධාරීහු සමත් වෙමින් සිටියහ. තව ම විශාල ප්‍රශ්නයක් ව ඇත්තේ මැලේරියාව යි. අනතුරුව 1930 සිට වන්දනාකාර සංඛ්‍යාව ඉතා ශීඝ්‍රයෙන් ඉහළ යන්නට වූ බව පෙනේ. 1930 දී 10,000 ක් හෝ 15,000 ක් පමණ වූ එය 1950 ස් ගණන් වන විට ලක්ෂ සංඛ්‍යාව දක්වා නැංගේ ය. මේ කාලය වන විට ගමනාගමන පහසුකම් වර්ධනය වීම මීට එක් හේතුවක් වුණු බව පෙනේ. පනස් ගණන් වන විට මෙහි පැමිණෙන වන්දනාකාරයන් ගේ බහුතරය සිංහල බෞද්ධයෝ වූහ. 1973 වර්ෂයේ දී රාජ්‍ය සංඛ්‍යා ලේඛණ අනුව මෙහි පැමිණි වන්දනාකරුවන් ගේ සංඛ්‍යාව 8 ලක්ෂයකි (165: 165 පි.) මෙ බඳු සංඛ්‍යා ලේඛන විධිමත් ව පවත්වා ගැනීම අසීරු කර්තව්‍යයක් වන නමුදු අද දින කතරගම ලක්දිව පවතින ඉතා ම ජනප්‍රිය ආගමික මධ්‍යස්ථානය බව අවිවාදයෙන් පිළිගත යුතුව ඇත. බෞද්ධයන් පමණක් නොව හින්දු, මුස්ලිම් බැතිමතුන් ද, ක්‍රිස්තියානි භක්තිකයන් ද මෙහි ඇදී යන බව ප්‍රකට ය. බෞද්ධයන් විසින් අදහනු ලබන දෙවිවරුන් අතුරින් ජනප්‍රිය ම දෙවිඳු **කතරගම** දෙවියන් බව ලක්දිව සෑම පළාතක ම ඇති දේවාලවලින් බහුතරයෙහි **කතරගම** දෙවියන් පුද පූජාවට භාජන වන බව පෙනී යාමෙන් පැහැදිලි වනු ඇත.

## 6. දෙවිවරුන්ගේ ජනප්‍රියතාවෙහි නැගීම හා වැටීම

ලංකා ඉතිහාසයෙහි දෙවිවරුන් පිළිබඳ පුවත් නිරීක්ෂණය කරන විට ප්‍රත්‍යක්ෂ වන එක් වැදගත් කරුණක් නම් ඒ ඒ දෙවියන් ගේ ජනප්‍රියතාව හැම දා එක සේ නො පැවැති බවයි. කලෙක ජනප්‍රිය වූ කිසියම් දෙවි කෙනකු පසුව ජනප්‍රියත්වයෙන් ගිලිහෙන්නට ඉඩ තිබේ. එතරම් ජනප්‍රියව නො සිටි අන් දෙවි කෙනකු ගේ ජනප්‍රිය භාවය පසුව ඉහළ යන්නට පුළුවන. මේ සම්බන්ධයෙන් ඉතා පැහැදිලි උදාහරණය වන්නේ 7 වන 8 වන සියවස්හි සිට වර්ධනය වූ දෙවිනුවර **උපුල්වන්** දෙවියන් ගේ

ජනප්‍රියතාව 15 වන සියවස වන විට උච්චාවස්ථාවකට පැමිණ ඉන්පසු පිරිහී යාමත් 17 වන 18 වන සියවස්හි දී කතරගම දෙවියන් ගේ ජනප්‍රියතාව ඉහළ නැගීමත්, එය 19 වන සියවසේ දී යළි පහත වැටී තිබී විසිවන සියවසේ දී ඉතා ශීඝ්‍රයෙන් උච්චතම තත්ත්වයකට පත්වීමත් ය.

මේ හා සම්බන්ධ වැදගත් ප්‍රශ්නයක් නම් විසිවන සියවසේ දී ලක්දිව දේව විශ්වාස වැඩි වී තිබේ ද යන්නයි. මහාචාර්ය ඔබේසේකර ගේ මතය වන්නේ එක් අංශයකින් බලන විට අඩුව ඇති වුවත් වෙනත් අතකින් බලන විට එය වැඩි වී ඇති බවයි. පුරාණයේ අප අතර තිබූ පොදු දේව යාග එනම් කංකාරි, ගම්මඩු, පූනාමඩු ආදිය අද සිදු නොවන තරමට අඩු වී තිබෙන බව ද කිව යුත්තකි. මෙයට හේතුව සාම්ප්‍රදායික ග්‍රාමීය සමාජයේ පැවැති ඥාති මිත්‍ර සම්බන්ධතා හා සමාජ බැඳීම් බිඳී විසිරී යාම ය. දේවකාරී වැනි, ගමේ සියලු දෙනා එකතු වී කළ, පොදු චතාවත් අද ඉටු කළ නොහැකි තරමට එම සාම්ප්‍රදායික සමාජ රටාව බිඳ වැටී ඇත. දෙවියන් පිළිබඳ විශ්වාසය තිබුණත් එය පොදු සමාජ චතාවත් මගින් ප්‍රකාශයට පත්කිරීම අසීරු වී තිබේ.

අද වඩා දක්නට ලැබෙන්නේ පෞද්ගලික දේව වන්දනාව බව මහාචාර්ය ඔබේසේකර පෙන්වා දී ඇත. අද කතරගම උත්සව සමය තුළ එහි ළඟාවන බැතිමතුන් සංඛ්‍යාව දස ලක්ෂ කීපයක් දක්වා නගින බව කරුණු පිරික්සීමේ දී පැහැදිලි වෙයි. නවීන ප්‍රවාහන පහසුකම් ලැබී තිබීම මෙයට ප්‍රධාන හේතුවයි. විශේෂයෙන් කතරගම දෙවියන් වෙත මෙසේ දේව භක්තිය යොමු වීමට කරුණු හතරක් දැකිය හැකි යැයි ඔබේසේකර විශ්වාස කරන්නේ ය (165: 159 - 9 පි.):

(අ) අධ්‍යාපන පහසුකම් පුළුල් ලෙස ව්‍යාප්ත වීමත්, රාජ්‍යය ප්‍රජාතාන්ත්‍රිය වීමත්, පාලන තන්ත්‍රය ප්‍රසාරණය වීමත් යනාදී හේතු නිසා පුද්ගලයන්ට යුක්ති සහගත ලෙස අපේක්ෂා කළ හැකි අරමුණු කීපයක් ඇත. ප්‍රධාන වශයෙන් මේ අරමුණුවලට පාලන තන්ත්‍රයේ රැකියාවක් වෛද්‍ය වෘත්තිය ඉංජිනේරු වෘත්තිය වැනි උසස් වෘත්තියක් හෝ දේශපාලන සැලැස්මේ පදවියක් වැනි දේ ඇතුළත් වේ.

(ආ) ඉතා පෘථුල ලෙස පොදු ජනතාව වෙත අධ්‍යාපනය ව්‍යාප්ත වීම නිසා අපේක්ෂා මට්ටම ද ඉහළ ගොස් තිබේ. උදාහරණ වශයෙන් ගැමියන් ගේ උගත් පුත්තු සියලු දෙනා ම ඉහළ සමාජයේ වෘත්තීන් අපේක්ෂා කරති. අපේක්ෂා මට්ටම ඉහළ ගොස් ඇති නමුත් එබඳු රැකියා සංඛ්‍යාව සීමා සහිත ය.



(ඇ) බොහෝ සංවර්ධනය වන රටවල සිදුවන "නවීකරණය" බටහිර ලෝකයේ දක්නා ලැබෙන නවීනත්වයෙන් වෙනස් තත්වයක් ජනිත කොට තිබේ. ඉහත දැක් වූ සමාජ අපේක්ෂා හෙවත් අරමුණුවල ස්වභාවයත් ඒවා ලබා ගැන්ම සඳහා ක්‍රියා කළ යුතු ආකාරයත් පිළිබඳ ව බටහිර ලෝකයෙන් ගෙන ආ මූලික සැලැස්මක් ඇත ද ඒවා බටහිර රටවල මෙන් මේ රටවල ක්‍රියාත්මක නොවේ. මෙයට ප්‍රධාන වශයෙන් හේතු වන්නේ ප්‍රභූ පන්තියේ ආධිපත්‍යය හා පාලන බලයයි. ඒ යටතේ බටහිර රටවල මෙන් තර්කානුකූල පදනමක් මත රැකියා ලබාදීම සිදු නොවේ. ප්‍රභූවරුන් ගේ අනුග්‍රාහකත්වය අතර මැදට පැමිණෙන බැවින් යථෝක්ත උසස් රැකියා ලබා ගැනීමේ මාර්ගය අපැහැදිලි ය: ගුප්ත ය: අවිනිශ්චිත ය. මේ තත්ත්වය යටතේ පුද්ගලයෝ ඉමහත් ඖත්සුක්‍යයට පත්වෙති.

(ඇ) මෑත වර්ෂයන්හි දී යථෝක්ත අරමුණු ඉටු කරගත හැකි මාර්ගයන්හි අවිනිශ්චිතතාවට අමතරව එකී රැකියා අවස්ථා වඩවඩාත් දුර්ලභ වී තිබේ. ජනගහණ ව්‍යාප්තිය හා සසඳන කල රැකියා ව්‍යුහය ව්‍යාප්ත වී නැත. එහෙයින් අපේක්ෂා භංගත්වය වඩා උග්‍ර වී තිබේ.

මෙම තත්ත්වය යටතේ පුද්ගලයා විසින් ගත හැකි විකල්ප ක්‍රියා මාර්ග කීපයක් ඇත. ඔබේසේකර විසින් දක්වා ඇති පරිදි මේ ක්‍රියා මාර්ග නම් (1) පරාජිත ආකල්පයකින් යුතුව නිශ්ක්‍රිය වීම, (2) දේශපාලන සම්බන්ධතා මගින් ක්‍රියාත්මක වීම (මෙය කළ හැක්කේ ස්වල්ප දෙනකුට පමණි.), (3) සමාජ ක්‍රමය වෙනස් කිරීමට වෑයම් කිරීම. (1971 තරුණ කැරැල්ල මෙවැන්නකි. මෙ බඳු ප්‍රයත්න තුන් වන ලෝකයේ කීප තැනක දක්නට ලැබිණි). (4) නව අරමුණු සාක්ෂාත් කර ගැනීම සඳහා සාම්ප්‍රදායික උපක්‍රම භාවිත කිරීම (දෙවියන් පිහිට පැතීම මෙබන්දකි.)

පුද්ගලයාට තම අරමුණු සාදා ගැනීමට ආධාර කළ හැක්කන් අතර කතරගම දෙවියෝ ප්‍රධාන තැන් ගනිති. එ තුමෝ අසුරයන් පරාජය කළා වූ ද, සියලු බාධක අභිභවා යාමෙහි සාමාර්ථ්‍යය ප්‍රකට කළා වූ ද, සතුරු බලවේග මර්දනයෙන් සිය හැකියාව ප්‍රදර්ශනය කර ඇත්තා වූ ද ප්‍රබල දෙවි කෙනෙක් වෙති. නූතන සමාජයෙහි ස්වභාවය අනුව තරගකාරීත්වය කෙතරම් ප්‍රබල ද යත් ධර්මිෂ්ඨ වේවා අධර්මිෂ්ඨ වේවා හැකි කුමන උපක්‍රමයකින් හෝ සිය අපේක්ෂාව ඉටු කර ගැනී ම පමණක් වැදගත් බව ඇතැම් අය සලකති. මෙහි දී යහපත්, දැහැමි දෙවිවරුන් වන විෂ්ණු,

**සමන්** ආදීන් මෙන් නොව **කතරගම** දෙවියෝ හැකි ඕනෑම අන්දමකින් සිය බැතිමතුන්ට පිහිට වෙති. **කතරගම** දෙවියන් වෙත දේශපාලනඥයන්, වෙළඳ ව්‍යාපාරිකයන් වැනි සිය අභිමතාර්ථ සාධනය සඳහා අවශ්‍ය ඕනෑම පියවරක් ගැනීමට සූදානම් පුද්ගල කොට්ඨාශ අනිවාර්යයෙන් ම ඇදී යන්නේ එ බැවිනි. **කතරගම** දෙවියන් සිංහල බෞද්ධයන්ට පමණක් නොව දෙමළ හින්දුන්ටත් වැදගත් වන දෙවි කෙනකු බව මෙහි දී සිහි තබාගත යුත්තකි. ඒ අතර මෙම ස්ථානයේ මුස්ලිම් පල්ලියක් ද ඇති බව අවධානයට යොමු විය යුතු ය. එසේ ම ඇතැම් ක්‍රිස්තියානිහු පවා යම් යම් අපේක්ෂාවන් මුදුන් පමුණුවා ගැනීමට **කතරගම** දෙවි පිහිට යදිති. මේ අයුරින් කතරගම දෙවියන් සමස්ත ශ්‍රී ලාංකික සමාජයට ම පොදු වූ දෙවි කෙනකු බවට පත් ව සිටිති. වැඩි වැඩියෙන් ජනයා එහි ඇදී යාම දෙවියන්ගේ යශෝකීර්තිය වැඩි වීමට ද එ මගින් නව නවත් නව බැතිමතුන් ඒ වෙත ඇදී ඒමට ද හේතු වේ (165).

දෙවි කෙනෙකුන්ගේ නැගීම හා වැටීම බාහිර හේතු නිසා සිදු විය හැකි ය. එසේ ම එය බෞද්ධ දේව සංකල්පය තුළින් ජනිත වන තාර්කික ප්‍රතිඵලයක් ලෙසද ගිණිය හැකිය. දෙවි කෙනෙකුන් නැගීමට හේතු වූ කාරණය ම අවසන එම දෙවියන් ගේ වැටීමට හේතු වන බව පෙනේ. (166 : 65 - 66 පි). ඔබේසේකර පෙන්වා දී ඇති අයුරු ඒ මෙසේ යි:

සිංහල බෞද්ධ දේව සංකල්පයට අනුව දෙවිවරු යහගුණ සම්පන්නයෝ වෙත්. ඔවුන් දේවත්වයට පත්ව ඇත්තේ පුණ්‍ය මහිමයෙනි. ඔවුන් ගේ අවසාන අරමුණ නිර්වාණය සාක්ෂාත් කර ගැනීම ය. එහෙයින් හැම දෙවි කෙනෙක් ම බෝධිසත්වයෙක් වෙති. නාථ දෙවියෝ මීළඟට බුදු බව ලබන මෛත්‍රී බෝධි සත්ත්වයෝ වෙත්. **විෂ්ණු, සමන්** යන දෙවිවරු දැනටමත් සෝවාන් පෙළෙහි පිහිටියාහු ය. **පත්තිනි** දේවිය මතු භවයක පිරිමි ජන්මය ලබා බුදුබවට පත් වනු ඇත. **කතරගම** දෙවියෝ ද බෞද්ධයෙක් වෙති. එහෙත් බුද්ධත්ත්වයට පත්වීමට ඉහත නම් සඳහන් අයට වඩා කලක් එ තුමන්ට ගතවනු ඇත.

දැනටමත් කතරගම දෙවියන් බෝසත් පෙරුම් පුරණ බව ඇතමුන් ගේ විශ්වාස යයි.

දෙවියන් ගේ පිහිට ලද බැතිමත්හු දෙවියන් වෙත නිරතුරුව පින් අනුමෝදන් කරති. දෙවිවරු තුමූ ද යහපත් ක්‍රියාවන්හි නිරත වන්නාහු මහත් පින් රැසක් එකතු කර ගනිති. වඩ වඩා ජනප්‍රිය වත් ම මෙලෙස් එක්රැස් වන පුණ්‍ය සම්භාරය ද ඒ හා සමානව ම විශාල වන්නේ ය. එහෙයින් දෙවිඳු නව නවත් නිර්වාණය වෙත ළඟාවෙයි: බෝධි සත්ත්ව තත්වය ට පත් වෙයි. එසේ නිවන් අරමුණ කරා වඩ වඩා ළඟාවෙත් ම දෙවියෝ ලෞකික කාර්යයන් ගෙන් වඩ වඩා ඈත් වෙති. නාථ දේවාල වෙත යන්නන් ගේ සංඛ්‍යාව ශීඝ්‍රයෙන් අඩු වී ඇත්තේ මේ හේතුව නිසා



ය. සෝවාන් ඵලයට පත්ව සිටින **සමන්** දෙවිඳු ද ලෞකික කාර්යයන් ගැන උද්යෝගයක් නොදක්වක බව ඇතැම්හු පවසති. (166:168 පි.) මේ ක්‍රියා දාමයේ තවත් පියවරක් නම් දෙවිඳුන්ට භාර්යාවන් හෝ පුතුන් සිටීමෙන් ප්‍රකාශ වන ලෞකික කාමභෝගී ජීවිතය ක්‍රමයෙන් අවධානයෙන් ගිලිහී මය. කෝට්ටේ අවධියෙහි දී විෂ්ණු - උපුල්වන් දෙවියන්ට බිරියක හා පුතකු සිටි බව හඳුනා ගන්නා ලද නමුත් අද දින ඒ ගැන සඳහනක් නොවේ. කතරගම දෙවියන්ගේ නියම බිරිඳ හා අනියම් බිරිඳක සිටීම එම දෙවියන් ගේ ලෞකික සබඳතා නව නව පවතින බවට ලකුණකි. එහෙත් සිංහල බෞද්ධ දේව විශ්වාසයෙහි ගැබ්ව ඇති තාර්කික ක්‍රියා දාමය අනුව එතුමන් වඩ වඩාත් බෝසත් ගුණෝපේත වෙත් ම මෙම ලෞකික සබඳතා ක්‍රමයෙන් අඩුවනු ඇති බවත් අවසන එ තුමන් ගෙන් අපේක්ෂිත ලෞකික පරමාර්ථ සාධක සීමාවත් ජනප්‍රියත්වයත් හීනවනු ඇති බව උපකල්පනය කළ හැකි ය. දැනටමත් ඇතැම් ලෞකික කාර්යයන් ඉෂ්ට කරදීම අතින් සිය දක්ෂතා ප්‍රදර්ශනය කරන වෙනත් බලවේගයන් ජනප්‍රියත්වයෙන් වැඩි වන අයුරු පෙනේ. සමකාලීන දේව විශ්වාස ගැන අධ්‍යයනය කරන්නන් විසින් මෙහි දී අවධානයට යොමු කර ඇති විශේෂ දෙවිවරු දෙදෙනෙක් වෙති. එ නම් සූනියම් දේවතාවුන් වහන්සේත් කාලි දේවියත් ය (152 : 143 -4 පිටු). සූනියම් යක්ෂයා, කාලි යක්ෂණිය යනුවෙන් මුල දී හැඳින් වුණු මොවුන් ක්‍රමයෙන් දේවතා තත්වයට ද පත්වෙමින් සිටින බව පෙනේ. කඩවර, කුරුම්බර ආදීහු ද මෙසේ ක්‍රමයෙන් ඉහළ නගිමින් සිටින්නෝ ය. ඔවුන් ද අනාගතයේ දී දේව ගණයේ ප්‍රධාන දෙවිවරුන් වනු ඇතැයි සිතිය හැකි ය ( එම : 169 පි.).

වර්ෂ 1992 දී ලක්දිව මහත් ප්‍රසිද්ධියට පත් සිද්ධියක් නම් නිකවැරටිය මීගලෑවේ ශෛලතලාරාමයේ වැඩ වසන මහමීතව ආයුපාල හිමියන් වෙතින් සෙත් ශාන්ති ලැබීමට දස දහස් ගණන් ජනයා ඇදී ඒම යි. මේ පිළිබඳව පුවත්පතක පළ වූ විස්තරයකට අනුව එය දෙවිවරුන් ගේ අනුග්‍රහයෙන් සිදු කැරෙන හාස්කමකි. මෙම කර්තව්‍යය ඉෂ්ට කිරීම සඳහා මුල් අවධියේ එනම් 1985 පමණ ආයුපාල හිමියන්ට අනුග්‍රහය දක්වන දෙවිවරුන් ලෙස ශ්‍රී මහාබෝධිය ආරක්ෂක කළු දේවතාවුන් වහන්සේත්, නම නොමැති දේවතාවුන් වහන්සේත්, ප්‍රදේශය භාර යාපා බණ්ඩාර දෙවියනුත් ආයුපාල හිමියන්ගේ අදෘශ්‍යමාන කල්‍යාණ මිත්‍ර දේවතාවුන් වහන්සේත්, භද්‍රකාලි මෑණියනුත්, ගම්බාර දෙවියන් වහන්සේත් නම් කර තිබිණ. එහෙත් පසුව තවත් දෙවි දේවතාවෝ මේ පිරිසට එක් වූහ (සුබසෙත 1992 මාර්තු 20, 8-9 පිටු ). ඒ කෙසේ වුව ද ප්‍රදේශ භාර යාපා බණ්ඩාර දෙවියන් ගේ සහභාගිත්වය මෙයට අත්‍යවශ්‍ය වූ බව පැහැදිලි ය.



3. ර.මු.නි.ස. - 93939

අද දින සිංහල බෞද්ධයන් අතර පවතින දේව විශ්වාසයන් පිළිබඳ ඉතා පැහැදිලි උදාහරණයක් මිගලෑවෙන් ලැබේ. යථෝක්ත පුවත්පත් ලිපියේ තවත් කොටසක් මේ සම්බන්ධයෙන් උපුටා දැක්වීම උචිතය:

"...ඉන් අවුරුදු දෙකකට පමණ පසු ව මෙම දේවමණ්ඩලයට එක් වූ තම්බිලි කඩවර දෙවියනුත්, භද්‍රකාලී මෑණියන් ගේත් නම් සඳහන් විය. ඊටත් පසුව 1989/1990 පමණ වන විට සූනියම් දේවතාවුන් වහන්සේත්, අනුරාධපුර අටමස්ථානයේ ධාතූන් වහන්සේ ලා ආරක්ෂා කරන්නා වූ දේවතාවාත් සිය කැමැත්තෙන් ම ජනතාව ගේ දුක් ගිහි නිවාලීමේ සේවයට සහාය දැක්වීම සඳහා සම්බන්ධව ඇති බව දේවතා මාධ්‍යයෙන් ම දැනගන්නට ලැබුණු තොරතුරු අතර වෙයි. ....... ගල්ගමුව ප්‍රදේශයේ පින්දහම් කරමින් වෛද්‍යවරයකු වශයෙන් සිටි පරලෝ යැපත් කෙනකු හඳුන්කුමාර නමින් දේවත්වයට පත්ව රෝග සුවකිරීම් ආදී ශාන්ති සේවයට ආයුපාල හිමියන්ට අනුග්‍රහය දක්වන බව මෑත දී දැනගන්නට ලැබිණි (සුබසෙත, 1992 මාර්තු, 8-9 පිටු).

## 7. දේව විශ්වාසයන්හි පිළිබිඹු වන සංකල්ප

සිංහල බෞද්ධයන් අතර ඇදැහෙන දෙවිවරුන් ගේ ප්‍රවෘත්ති පරීක්ෂා කර බලන විට එම ප්‍රවෘත්ති තුළ විශේෂ සංකල්ප ගණනාවක් ගැබ්ව ඇති බව පෙනෙන්නේය. අන්‍ය සංස්කෘතියක අදහනු ලබන දෙවි දේවතාවුන් ගේ ප්‍රවෘත්තිවල නොමැති මේ සුවිශේෂ සංකල්පයන් ගෙන් පිළිබිඹු වන්නේ අපේ සංස්කෘතියේ ස්වරූපයයි: එහි විශේෂත්වයයි: අනන්‍යතාවයි. මෙහිදී දේව සංඛ්‍යා, බණ්ඩාර දෙවිවරු, පුනරුත්පත්තිය, පව්-පින් පිළිබඳ අදහස්, බුදු දහම හා දේව විශ්වාසය, දේව විශ්වාසය හා චිරන්තන දේශපාලන සංස්ථිතිය, දෙවිවරුන් ගේ ප්‍රාදේශීය ආධිපත්‍යය ආදි කරුණු කෙරේ අවධානය යොමු කළ යුතු ව ඇත.

### 7.1 දේව සංඛ්‍යා

අපේ දෙවිවරුන් හා සමග ඇතැම් සංඛ්‍යා සඳහන් කිරීම බොහෝ විට දක්නා ලැබෙන කාරණයකි. අපි තිස්තුන් කෝටියක් දෙවිවරුන් ගැන සඳහන් කරමු. විශේෂ දේව නාම සමඟ සංඛ්‍යා ද සඳහන් කරමින් "කොහොඹා දෙවි තුන්කට්ටුව", "හතරවරම් දෙවිවරු", "සත්පත්තිනි", "බණ්ඩාර හත්කට්ටුව", "දෙවෙල් දෙවි හත්කට්ටුව", "දොළහ දෙවිවරු", "බණ්ඩාර හැටහත් කට්ටුව" ආදී සංඛ්‍යාමය සඳහන් අපි දෙවිවරුන් අරභයා යොදන්නෙමු.

උඩරට පළාත්වල විශේෂයෙන් ගෞරවයට පාත්‍ර වන බණ්ඩාර දෙවිවරුන් දොළොස් දෙනා කවරහු ද යන්න ගැන ඒකමතික තීරණයක්



නැත. දෙනුවර (උඩුනුවර හා යටිනුවර) විසූ බණ්ඩාරවරුන් දහඅට දෙනෙකු ගැන සඳහන් වන බව ද මෙහි දී අමතක කළ නොහේ. සරච්චන්ද්‍ර මහතා විසින් 1966 දී දක්වා ඇති දොළහ දෙවිවරු වනාහි මැණික් දෙවි, මාවත්තේ දෙවි, කොස්ගම දෙවි, සරතාස දෙවි, කුමාර දෙවි, මීරියබැද්දේ දෙවි, වන්නි බණ්ඩාර, සාළුබණ්ඩාර, බෝවල දෙවි, ඊගහපිටියේ දෙවි, මිරිස්වත්තේ අලුත් දෙවි, කිවුලේගෙදර අලුත් දෙවි යන අයයි (126 : 47පි.). මීට වසර කීපයකට පසුව (1971 දී) රිචඩ් ගොම්බ්‍රිච් මහතාට හඟුරන්කෙත ප්‍රදේශයෙන් ඇත ගන්නට ලැබුණු ලැයිස්තු තුනක දොළහ දෙවිවරු තුන් ආකාරයකින් නිරූපිතයහ.

| (1) | (2) | (3) |
|---|---|---|
| පිටියේ දෙවියෝ | පිටියේ දෙවියෝ | ------------- |
| ගලේ බණ්ඩාර | ගලේ බණ්ඩාර | ගලේ බණ්ඩාර |
| දේවතා බණ්ඩාර (දැඩිමුණ්ඩ) | | |
| හෙටත් අලුත් නුවර දෙවියෝ | අලුත් නුවර දෙවියෝ | දේවතා බණ්ඩාර |
| කීර්ති බණ්ඩාර | කීර්ති බණ්ඩාර | කීර්ති බණ්ඩාර |
| කලු බණ්ඩාර | ---------- | කලු බණ්ඩාර |
| වන්නියෙ බණ්ඩාර | වන්නියෙ බණ්ඩාර | වන්නියෙ බණ්ඩාර |
| කලු කුමාර | කලු කුමාර දෙවියෝ | කලු කුමාරයා |
| කොහොඹා දෙයියො | කොහොඹා දෙයියෝ | කොහොඹා දෙයියෝ |
| කඩවර | කඩවර දෙයියෝ | කඩවර දෙයියෝ |
| කන්ද කුමාර | කන්දේ දෙයියෝ | කන්දේ දෙයියෝ |
| අඹුසිරි යකා | අඹුසිරි දෙයියෝ | අඹුසිරි දෙයියෝ |
| මංගර දෙයියෝ | ----------- | ----------- |
| හූනියම් | හූනියම් දේවතා බණ්ඩාර | ----------- |
| වල්කෝන් බණ්ඩාර දෙයියෝ | සිද්දමූල හූනියම් දේවතා බණ්ඩාර | පල්ලේ බැද්දේ දෙවියෝ |
| අබයකෝන් බණ්ඩාර දෙයියෝ | පල්ලේ බැද්දේ දෙයියෝ | කිරිඅම්මා දෙවියෝ |

වෙන වෙන පුද්ගලයන් විසින් තමා අදහන අන්දමට දෙවිවරුන් නාම් කර ඇති අයුරු මෙහි පෙනේ. දෙවන ලැයිස්තුවේ දෙවිවරු දාහතර දෙනෙකි. පළමුවන ලැයිස්තුවේ පහළොස් දෙනකි. ගණනාථ ඔබේසේකර 1984 දී තමාට හඟුරන්කෙතින් ලැබුණු දොළහ දෙවි ලැයිස්තුව මෙසේ ඉදිරිපත් කර තිබේ.

1. ඉරුගල් බණ්ඩාර
2. පිටියේ දෙවියෝ
3. පල්ලේ බැද්දේ දෙවියෝ
4. දේවතා බණ්ඩාර
5. අලුත් දෙවියෝ

6. කලු කුමාර දෙවියෝ
7. කීර්ති බණ්ඩාර
8. වාසල දෙවියෝ
9. කලු දේවතා දෙවියෝ
10. කඩවර දෙවියෝ
11. වන්නියේ බණ්ඩාර

මෙහි ඇත්තේ නම් එකොළහක් පමණි. අනික් නම "ගමේ බණ්ඩාර" විය හැකි යයි ඔබේසේකර අනුමාන කරයි (166 : 286 පි.). මේ හා සමාන තවත් දෙවිවරුන් ද සිටින බව සඳහන් කරන ඔහු විශේෂයෙන් මැණික් බණ්ඩාර, මංගර යන දෙවියන් ගේ නම් ඉදිරිපත් කර ඇත. ඒ අතර ම සත් දෙනකුගෙන් සමන්විත යැයි විශ්වාස කෙරෙන "කිරි අම්මලා" ද මේ සම්බන්ධයෙන් අමතක කළ නොහැකි බව ඔහුගේ මතයයි. "දොළහ දෙවි" සංකල්පය පහතරට ශාන්තිකර්මවල ද දක්නට ලැබේ. විශේෂයෙන් ගම්මඩුව පූජා කර්මයේ දී දොළහ දෙවියන් පුද පූජාවට පාත්‍ර කරනු ලැබේ. පෝල් වර්ස් 1954 ලියූ විස්තරයක් අනුව ගාල්ලට නුදුරු දොඩන්දූව පෙදෙසේ පැවති විශ්වාසය වූයේ දෙළහ දෙවියන් නම් දෙවොල්, කතරගම, නාථ, සමන්, විභීෂණ, ගිනි කුරුම්බර, වාහල, දැඩිමුණ්ඩ, මහා විෂ්ණු සහ ඊශ්වර බව ය (166 : 293 පි.). එහෙත් මෙහි වාහල දැඩිමුණ්ඩ යනු එක් අයකු ලෙස ගතහොත් ඇත්තේ නම් දහයක් පමණි. මේ අතර අප ගේ ග්‍රන්ථයේ "දොළහ දෙවි" යටතේ දක්වා ඇත්තේ තවත් ලැයිස්තුවකි. කෙසේ වුව ද සිංහල දෙවිවරුන් පිළිබඳ විශ්වාසයන්හි "සංඛ්‍යාව" ඉතා වැදගත් කාරණයක් වන බව ඔබේසේකර පෙන්වා දෙයි. ප්‍රධාන වන්නේ "නියමිත" සංඛ්‍යා වයි. ඒ සංඛ්‍යාව හැටියට දක්වා ඇති අන්තර්ගතය එම සංඛ්‍යාව හා ගැළපුණ ද නොගැළපුණ ද එය වැදගත් කරුණක් නො වේ. සංඛ්‍යාව පිළිබඳ සඳහන් චිරන්තන ව පවත්වා ගැනීමෙන් සම්ප්‍රදාය නො බිඳ පවත්වා ගැනීම පමණකි වැදගත් කොට සැලකෙන්නේ. ප්‍රාදේශීය වශයෙන් ඇති වෙනස්කම් ද කාලයා ගේ ඇවෑමෙන් සිදු වන විපර්යාසය ද අභිභවා යන ඓතිහාසිකත්වයක් නිශ්චිත සංඛ්‍යා සඳහන ලබා දෙනු ඇත. මේ පිළිබඳ ව තවත් ප්‍රකට සාධකයත් නම් "බණ්ඩාර හැට හත් කට්ටුව" පිළිබඳ සංකල්පය යි. දැනට ඇති තොරතුරු අනුව උපරිම වශයෙන් දැක් විය හැක්කේ බණ්ඩාරවරුන් හතළිස් හත් දෙනකුගේ නම් පමණි. එනම් : දේවතා බණ්ඩාර, කුමාර බ., නාමල් බ., වීරමුණ්ඩ බ., උඩුවෙරියේ මැණික් බ., බාතක බ., හෙණකඳ බිසෝ බ., ඇහැළ බ., කිතගම හිටි බ., උඩුවෙරියේ කීර්ති බ., උඩුවෙරියේ කපුරුහාමි බ., මයියංගනේ කීර්ති බ., කන්දේ බ., නිරාමුල්ලේ යාපා බ., ගමේ බ., හැට බ., මලල බ., අකරගනේ බ., උඩපොළ හපු



බ., සමනළ අඩවියේ පිච්චමල් බ., රත්නපුරේ මැණික් බ., නවගමුවේ අලුත් බ., ඌවේ බ., වන්නියේ බ., හුන්කිරි බ., පට්ටියෙ බ., කදිරාවේ බ., තාරුකා බ., බුදුරැස් බ., ඉරුරැස් බ., සඳරැස් බ. දොඩම්වල බ., වත්හිමි බ., කඩවර බ., විහු බණ්ඩාර, උඩුවෙරිය ජයසිරි බ., කළුකුමාර බ., අයියනායක බ., දෙවොල් බ., සූනියම් බ., විසිරිබණ්ඩාර යනුවෙනි (72 : 8 පි.). මෙහි වැදගත් වන්නේ සංඛ්‍යා නාමය මිස ඊට ගැළපෙන සමූහය නොවේ. එහෙත් කෙනකුට අවශ්‍ය ම නම් මේ බණ්ඩාර නාමාවලියට හැටහතකට වැඩි නම් සමූහයක් සපයා ගත හැකි බව ද සැලකිය යුතු ය.

## 7.2 නෑ යක්කු හා බණ්ඩාර දෙවිවරු

අපේ දෙවිවරුන් අතර, විශේෂයෙන් "බණ්ඩාර" දෙවිවරුන් අතර, මිය ගිය ජනප්‍රධානීහු ගණනාවක් සිටිති. ඔවුන් ගේ උත්පත්ති කථාවලත් ඔවුන් සඳහා ගැයෙන කෝල්මුර කවිවලත්, යාදිනිවලත් මේ බව පැහැදිලි කෙරෙන සාධක ඇත. උඩුවෙරියේ කපුරුහාමි බණ්ඩාර, කිතගම හිටිබණ්ඩාර, කිවුලේගෙදර බණ්ඩාර, කීර්ති බණ්ඩාර, ගමේ බණ්ඩාර, ගලේ බණ්ඩාර, දහනක බණ්ඩාර ආදීහු උදාහරණ වෙත්. මොවුන් දේවත්වයට නැංවීම මානව සමාජයේ ඈත අතීතයේ සිට පැවත එන මුතුන් මිත්තන් පිදීමේ චාරිත්‍රයට අනුගත යැයි කීමට ඉඩ තිබේ. මෙය ලෝකයේ බොහෝ ප්‍රදේශවල මානව සමාජයන්හි දක්නට ලැබෙන්නකි. කිසියම් විශේෂ කරුණක් නිසා - මෙය යහපත් දෙයක් හෝ අයහපත් දෙයක් හෝ විය හැකිය - සමාජයෙහි ප්‍රබල ස්මරණයන් රැඳවූ පුද්ගලයන් මරණින් පසු දේවත්වයට පත් වූ තැන් ඇත. ඉහත සඳහන් බොහෝ බණ්ඩාරවරු ශාරීරික ශක්තිය, යුද්ධෝපාය වැනි වික්‍රමාන්විත කර්තව්‍යයන් කළාහු වෙති. කීර්ති බණ්ඩාර දක්ෂ ගොවියෙක් විය. කිතගම හිටිබණ්ඩාර වික්‍රමාන්විත දඩයම් කරුවෙකි. රන්වල මුත්තා ගමේ යාත්‍රිකයන් සඳහා පහන් දැල්වීමෙන් විශේෂ සමාජ සේවාවක් කළ අයෙකි. එහෙත් ගලේ බණ්ඩාර එ සේ කළ විශේෂ සේවාවක් හෝ ප්‍රකට කළ වීර වික්‍රමාන්විත භාවයක් හෝ නැත. ඔහු ගේ වැදගත්කම ඉස්මතු වන්නේ රාජත්වයෙහි සිට බිහිසුණු මරණයකට පත්වීම නිසා ය. ගමේ බණ්ඩාර ද එසේ මැයි. උඩුගම්පොළ කළු කුමාරයා පියාට එරෙහි ව කළ දුෂ්ට ප්‍රයත්නයකින් මිය ගියෙකි. ඔහුගේ යහපත් ගුණයක් දක්වා නැත. එහෙයින් මරණින් පසු දේවත්වයට පත්වීම සාමාන්‍යයෙන් වීරවික්‍රමයක් නිසා හෝ අන්‍යයන්ගෙන් වෙසෙසා දැක් වෙන අසහාය දක්ෂතා නිසා හෝ සිදුවන අතර ඇතැම් විට එය සිදුවන්නේ ජනතාව ගේ සිත් කාවදින අපූර්ව සිද්ධියක් නිසා බව පෙනේ.

සිය සමාජයේ සිට මිය ගිය ඇතැමුන් "දේවත්වයට" පත් කර ගැනීම ඇතැම් මානව සමාජයන්හි සුලභ සිද්ධියක් බව ඉහත සඳහන් කළෙමු.

ලාංකික අයට මෙහි විශේෂ පූර්වාදර්ශයක් වන්නේ වැදි ජනයා අතර පවතින නෑ යකුන් පිදීමේ චාරිත්‍ර යයි. වැදි ජනයා ගේ ආගමික විශ්වාසයන්හි මූලික ස්ථානය ලබන්නාහු "නෑ යක්කු" ය. සමන් අගර සිට මිය යන උදවිය නෑ යකුන් බවට පත්වෙති (178 : 135 පි.). නෑ යකුන් ගේ ප්‍රධානයා කන්දේ යකා ය. ඔහු "කන්දෙවන්නියා" "කන්දේ යක් අප්පොච්චිලෑත්තෝ" යන නම්වලින් ද මෑතක සිට "කන්දේ දෙවි" "කන්දේ අලුත් දෙවි" යන නම්වලින් ද හඳුන්වනු ලැබේ. ඊතලේ යකා යනුවෙන් හැඳින්වෙන්නේ ද මොහුම ය (178 : 216 පි.). කිසිවකු මිය ගිය කල්හි ඔහු හෝ ඇය හෝ කන්දෙ දෙවියන් ගේ පිරිවර වන නෑ යකුන් අතරට එක්වන බව වැදි ජනතාව ගේ විශ්වාසය යි. නෑ යකුන් ගේ ආධාරෝපකාරය වනයේ නිරුපද්‍රැත ව සැරි සැරීම පිණිස ද ලෙඩ දුක් වැළැක්වීම හා සුවවීම පිණිස ද දඩයම් ලබා ගන්නට ද අවශ්‍ය වේ. නෑ යකුන් පිනවීම පිණිස "කිරිකොරහ" නම් ශාන්ති කර්මය සිදු කරනු ලැබේ. සිංහල බෞද්ධයන් අතර පවතින විශ්වාස අනුව මිය ගියවුන් "මළ ප්‍රේතයන්" බවට පත්වී කරදර හිරිහැර පමුණුවන්නට ඉඩ ඇතත් වැදි ජනයා අතර එබඳු දෙයක් සිදුවෙතැයි විශ්වාසයක් නැත. සුදුසු වතාවත්, විශේෂයෙන් කිරිකොරහ නැටීම මගින් පිනවනු ලැබූ නෑ යක්කු යහපතක් ම සලසති. කිරිකොරහ සිදු කරන අවස්ථාවේ දී ඊට සහභාගි වන නෑ යක්කු වැද්දන්ට ආවේශ වෙති. මෙය ශාන්ති කර්මයේ සාර්ථකත්වය දක්වන ලක්ෂණයකි. එසේම සාර්ථක දඩයමක් නිම වූ කල්හි නෑ යකුන්ට කළගුණ සැලකීම සඳහා "අහුරු මස් යහන" නම් පූජා කර්මය සිදු කරනු ලැබේ. මෙහි දී මරා ගන්නා ලද සතා ගේ කොටසක් ගින්නෙන් පුලුස්සා නෑ යකුන්ට පිදීම සිදුවේ (178 : 6 වන හා 7 වන පරි.).

වෙනත් සමාජයකින් මෙයට සමාන චාරිත්‍රයක් උපුටා දක්වනු කැමැත්තෙමු. ඇමෙරිකා මහාද්වීපයේ ඇතැම් රතු ඉන්දියානු ගෝත්‍රිකයන් අතර පවතින විශ්වාස අතර ඇති "ආහාර පාන බහුල කර දෙනු ලබන්නේ මළවුන් විසිනි: ඔවුන් පිනවා එය ලබා ගැනීම මිනිසා ගේ කාර්යය යි" යන්න මීට සමානය. (158 ඒ : 31 පි.). මෙහි දී ජීවත් වන්නන් හා මළවුන් අතර ඇති අන්‍යෝන්‍ය සහයෝගය අපට හඳුනා ගත හැකි ය. නෑ යක්කු වැදි ජනයා ගේ වතාවත්වලින් ප්‍රීතියට පත් ව ඔවුනට ආහාර පාන සොයා දෙති. ඉන් තෘප්තියට පත් වැද්දෝ සිය නෑ යකුන්ට එම ආහාර පාන යොදා ගෙන පුදපූජා පවත්වති. මෙය චක්‍රාකාර හුවමාරුවකි.

විසි වන සියවස මුලදී සෙලිග්මාන් යුවළට හමු වූ වැදි ජනතාව අතර නෑ යකුන් පිළිබඳ විශ්වාසය මෙන් ම සිංහලයන් ගේ ආභාසය නිසා පුරුදු වූ දේව විශ්වාසය ද තිබුණි. යකුන් අතර ඉතා වැදගත් කොට



සලකන ලද්දේ නම් ඉහත සඳහන් කන්දෙ යකා, බිලිඳි යකා, දඩයමට අධිපති බඹුරා යකාත් ය (178 : 152 පි.). කන්දෙ යකා දඩයමේ දී උදව්වන්නා වූ , ලෙඩ රෝග නො එවන්නා වූ ශාන්ති දායක දෙවිකෙනකු ලෙස සලකන ලද අතර බඹුරා යකා දඩයමත් අල වර්ගත් සොයා ගැනීමට උදව් කරමින් ලෙඩ දුක් ද ඇති කරවන්නකු ලෙස සලකන ලදී. එහෙයින් ඔහු සතුටු කොට තබා ගැනීම පිණිස නිතර පුද පූජා කළ යුතුව තිබිණි (එම).

**රතු යකු** යනුවෙන් හැඳින්වූයේ සිංහලයන් ආශ්‍රයෙන් වැදි ජන විශ්වාස තුළට වැද්ද ගත් ගිනි **රතු බණ්ඩාර** බව සෙලිග්මාන් යුවළ විසින් හඳුනා ගන්නා ලදී (එම. 153 පි.). මොහුට අමතරව සිංහලයන් ආශ්‍රයෙන් වැදි ජනයාගේ විශ්වාස තුළට තවත් දෙවිවරුන් කීප දෙනකු ද වැද ගෙන ඇති බව පෙන්නා දෙන සෙලිග්මාන්වරුන්, ඒ සමඟ මිය ගිය පැරණි වැදි නායකයන් රාශියක් ද ඔවුන් ගෙන් පිදවිලි ලබන අයුරු විස්තර කර තිබේ ("වැදි දෙවිවරු" යටතේ බලන්න.)

සිංහල දෙවිවරුන් අතරින් ඇතැමෙකුගේ ප්‍රභවය පිරික්සන කල්හි සිංහලයන් ද තමා අතර සිට මිය ගියවුන් දේවත්වයට නැංවීමට උත්සුක වූ අයුරු පෙනේ. දැදුරුඔය නිම්නයේ ප්‍රචලිත ව ඇති දේව විශ්වාස අනුව **හිටිබණ්ඩාර, නිරාමුල්ලේ යාපාබණ්ඩාර, උඩුවේරියේ කපුරුහාමි බණ්ඩාර, උඩුගම්පොළ කළු දේවතා බණ්ඩාර** යන සිව් දෙනා පැහැදිලිව ම පුරාණ ප්‍රාදේශීය වීර පුරුෂයෝ වෙති (29 : 31 පි.). ඌවේ ද පුරාණ යුගයේ දී ගැමි ජනතාව ගේ ආරක්ෂාව සහ යහපත සඳහා කටයුතු කළ ප්‍රභූවරයන් මරණින් පසු දේවත්වයට පත් වූ අයුරු පෙනේ. **සිල්පොළගම ගොඩගෙදර දෙවියෝ, පට්ටියේ ගෙදර කටුගහ බණ්ඩාර දෙවියෝ** ආදීන් මෙන් ම **කිවුලෙගෙදර බණ්ඩාර දෙවියෝ, කිවුලෙගෙදර අලුත් දෙවියෝ, පුංචි අලුත් බණ්ඩාර දෙවියෝ** ආදීහු ද එබඳුම දේවත්වයට පත් ප්‍රභූවරු වෙත්.

සිංහලයන් ගේ බණ්ඩාර දේව විශ්වාසය වැදි ජනයා අතර පවතින නෑ යකුන් පිදීමේ චාරිත්‍රයෙන් පැවත එන්නක් විය හැකි යයි අනුමානයක් පවතී. මීට එක් සාධකයක් ලෙස ඇතැම් දෙවිවරුන්ට (නෑ යකුන් මෙන්) මස් පිදවිලිවලින් සංග්‍රහ කිරීමේ සිරිත දැක් විය හැකි ය. බෞද්ධ පිළිවෙත්වල ප්‍රබල බලපෑම නිසා දෙවිවරුන්ට නිර්මාංස ආහාරයෙන් සංග්‍රහ කිරීම සාමාන්‍ය සිරිත යි. එහෙත් ඇතැම් දෙවි කෙනෙකු ගේ යක්ෂ ප්‍රභවය සිහිපත් කරන නෂ්ටාවශේෂයක් මෙන් ඔවුනට සතියේ එක් දිනක හෝ මාංසාහාරයෙන් ද පුදනු ලැබේ. කතරගම දෙවියන්ට දේව පූජාවේ දී මාංස පූජා කෙරෙන බව නිරීක්ෂකයන් විසින් වාර්තා කර ඇත. (152 : 175 පි.) ඇතැමුන් ගේ විශ්වාසය අනුව වැදි ජනයා ගේ "කන්දෙ යකා" පසුව කතරගම දෙවියන් බවට පත් වී ඇත. දේවාලය

ඉදිරි පිට ඇති කොළ අතු මැස්ස එම අතීතය හඳුන්වා දෙන නෂ්ටාවශේෂයක් විය හැකි ය (178 : 187 පි සහ 152 : 175 පි.).

බණ්ඩාර දෙවිවරුන් ගේ ප්‍රභවය ලංකා ජනතාව ගේ ඈත අතීතයට අයත් නෑ යකුන් පිදීමේ චාරිත්‍රයෙහි ලා දැක්ක හැකි නමුත් පසු කලෙක බණ්ඩාර දේව සංකල්පයෙහි කාර්යය අනෙකක් බවට පත් වූ බව පෙනේ. එනම්, කිසියම් දෙවි කෙනෙකු ප්‍රාදේශීය ඇදහිලි සමුදායට ඇතුළත් කර ගැනීමේ පිළිවෙතක් පමණක් විය (151 : 189 පි.). තම ගම්වල සිට පැමිණි ගියවුන් පමණක් නොව පිටරටින් පැමිණියවුන් ද බණ්ඩාර දෙවිවරුන් බවට පත්වූයේ මෙ ලෙසිනි. කුමාර බණ්ඩාර, මලල බණ්ඩාර, මැණික් බණ්ඩාර ආදීහු දේවත්වයට පත් වූ පිටරැටියන් පිළිබඳ උදාහරණ වෙති.

මෙහි දී වැදගත් ප්‍රශ්න දෙකක් කෙරේ අප අවධානය යොමු වේ. පළමු වැන්න නම් මිය ගිය පුද්ගලයන් දේවත්වයට පත්වීම සිංහල බෞද්ධ ජනතාව ගේ සිතුම් පැතුම් හා සමග කෙසේ බද්ධ වේද? යන්නයි. දෙ වැන්න, පිට රැටියන් මේ රට දේවත්වයට පත් වූයේ කෙසේ ද? යන්නයි.

## 7.3 දේවත්වයෙහි පුනර්ජන්මය ලැබීම

සිංහලයන් අතර විශාල බහුතරය බෞද්ධයෝ වෙති. දහසය වන සියවසින් පසු ක්‍රිස්තු ලබ්ධිය පැතිරීම නිසා සිංහලයන් අතරින් ඇතැමෙකු එම ආගම වැළඳ ගැනීමට පෙරාතුව සියලු ම සිංහලයන් බෞද්ධයන්ව සිටි බව සාමාන්‍ය පිළිගැනීමයි. බෞද්ධයන් විසින් විශ්වාස කැරෙන කර්මඵල වාදය හා පුනරුත්පත්තිය අනුව කිසියම් පුද්ගලයකු මරණින් පසු දේවත්වයෙහි පුනර්ජන්මය ලැබීම ස්වාභාවික කරුණකි. විශේෂයෙන් සිය ජීවිත කාලය තුළ යහපත් ක්‍රියාවන්හි යෙදුණකු එම කුසල කර්මයන්හි පලවිපාක වශයෙන් මරණින් පසු දෙවි කෙනකු බවට පත්වීම බෞද්ධ විශ්වාසය අනුව පිළිගත හැක්කකි. මේ සඳහා හොඳම උදාහරණය දෙව්ලොව අධිපති ශක්‍රයා ගේ උත්පත්ති කථාවෙහි ඇත. මඝ නම් මානවකයා සිය ජීවිත කාලයෙහි දී අගනා පිළිවෙත් සතක්, එනම්, මව්පිය උපස්ථානය, කුලදෙටුවන් පිදීම, මුදු භාෂණය, පිසුනාවාචයෙන් වැළකීම, දානය, පරෝපකාරය, සත්‍යවාදී බව, අක්‍රොධය, පිරීම හේතුවෙන් ශක්‍රයා ව උපත ලද බව සක්ක සංයුත්තයෙහි සඳහන් වේ (159 ඒ : 143 පි.). යහපත් බව දේවත්වයට වඩා උසස් තත්වයක් බව ද පළ වී තිබේ. තමා පින්වත් වූ ද, සිල්වත් වූ ද ගහපතියන්ට නමස්කාර කරන බව ශක්‍රයා මාතලීට පවසන්නේ ය.

යෙ ගහට්ඨා පුඤ්ඤකරා - සීලවන්තා උපාසකා
ධම්මෙන දාරං පොසෙන්ති - තෙ නමස්සාමි මාතලී

(සංයුක්ත නිකාය 1: 234)



මින් අදහස් වන්නේ යහගුණයෙන් යුක්තවීම අන් සියල්ලට වඩා ඉහළින් බුදුසමය සලකන බවයි.

එහෙත් බුදුසමයට පෙර ආර්යයන් විසින් දේවත්වයට පත් කරන ලද **ඉන්ද්‍ර** වැන්නෝ යහගුණය නිසා නොව සිය යුද්ධ දක්ෂතාවත් බිහිසුණුකමත් නිසා ගෞරවයට පාත්‍රවූවෝ වෙති. **ඉන්ද්‍ර** යනු තම ගෝත්‍රයේ ආක්‍රමණික සංග්‍රාමයන්හි පෙරමුණ ගත්තා වූ මුතුන් මිත්තකු විය හැකි යයි ඩී. ඩී. කෝසම්බි පඬිතුමා අනුමානය කරන්නේ ය (159 ඒ : 71 පි.). පැරණි ආර්යයන් අතර පවා මිය ගිය නායකයන් දේවත්වයට නැංවීමේ චාරිත්‍රය පැවතෙන්නට ඇතැයි සිතිය හැකි යි. මෙහි දී අපට වැදගත් වන තව කරුණක් ඉහත සඳහන් කළෙමු. එනම්, උක්ත සමාජය කම්පනය කිරීමට සමත් වූ යහපත් හෝ අයහපත් දෙයකට මුල් වීම දේවත්වයට පත්වීම සුදුසුකමක් වූ බවයි.

## 7.4 "අයහපත්" දෙවිවරු

මනුෂ්‍යයන් ව සිටි කාලයේ ඇතැම් අයහපත් දේ කළවුන් පවා පසුව දේවත්වයට පත් ව සිටින අයුරු ඇතැම් දෙවිවරුන් ගේ උත්පත්ති කථාවලින් පෙනේ. **අබුත** දෙවිලෙස උපන්නේ ගජබා රජු විසින් වාහල්කඩ දොරටුපාල තනතුරට පත් කරන ලද්දෙකි. මේ දොරටුපාලයා රජුට විරුද්ධව කුමන්ත්‍රණය කළ හෙයින් ගම්පිහිල්ලෙහි දී මරණයට පත් කරන ලදී. ඔහු ගේ අවතාරය දුන්නගම, අයගම, හුන්නස්ගිරිය ආදි පෙදෙස්හි සැරි සරමින් "අබුත දෙවි" "ඔය දෙවි" යන නමින් පුද සත්කාර ලබන්නේ ය. (128, 1 : 755 පි.) **අඹන්වල දෙවින්** ලෙස උපත ලද්දේ දෙවන රාජසිංහ රජුට විරුද්ධව කැරැල්ලක් මෙහෙයවා හිස් ගැසුම් කෑ අඹන්වල රාළයි. **උඩුගම්පොළ කළුකුමාර** දෙවියන් ව ඉන්නේ තම පියා මැරීමට දියේ උල් සිටවී මේ පාප කර්මය නිසා මැරුම් කෑ රාජ කුමාරයා යි. **පිටියේ** දෙවිව ඉන්නේ තම රියෙහි සකට යට කොට වසු පැටවකු මැරීමේ වරදට මැරුම් කෑ සොළී කුමාරයෙකි. තම තුරිරුකම් නිසා භීෂණය ගම් නියම්ගම්වල පැතිර වූ දෙවි කෙනකු ලෙස **පනම්බණ්ඩාර** ප්‍රසිද්ධ ය.

හෝම කුරුල්ලාට වැහී හැට දෙනොකුගෙ බෙලි කපන් ඩ
රීම ඉදහ ඇනපු ඇම්ම බැරි වුණි කාටත් හොයන් ඩ
රාම සුරිඳු අද මෙලොවට කලියුගයට පිහිට වෙන් ඩ
බොහොම කලක් වැයම් කර ලක්යේ පුරවති බඳින් ඩ

උදුරුවපත්තුව අල්ලා භාවර කලාවට වඩින් ඩ
දෙදරා පොළොවත් උණු උනි කුමරුගෙ අණ පැතිර යන් ඩ
තිර ලා මසුරන් දුන්නත් බැරි කුමරුගෙ හිත පතන් ඩ
කිරලව පත්තුව අල්ලා කොල්ලන් ගවයින් මරන් ඩ

සෙන්කඩගල නුවරට ගොස් නා ගස් මුදුනේ සිටින් ඩ
අන්දමකට සැන්දෑවේ සතර වීදිවල වඩින් ඩ
නම් ගම් කියමින් අඩගහ එන්නන් දැක බිලි බදින් ඩ
තුන් දහසක් මිනී මරා ලේවැල්ලෙන් එතෙර වෙන් ඩ

පුරා නුවර සිටිය සෙනහ මැරුවේ හත් අවුරුද්ද ට
තරා සයෙක් මැරුව සෙනහ උන වනයට ගිනි විලස ට
දරා මහත් බණ පිරිතෙන් ලක්සෙ පුරවති බදින් ට
දරා තෙදින් සතුන් හැටක් ගසා මැරූ ඔළු ඉත් ඉ ට

(37 : 160-61 පිටු)

බිහිසුණු මරණයකට පත්වීම නිසා ද ඇතැම්හු දේවත්වයට පත්ව සිටිති. සෙංකඩගල කළුකුමාර දෙවියන් ව සිටින්නේ තම දරුවන්ට රජකම ලබාදීමේ අරමුණින් සෙනරත් රජු විසින් මරණයට පත් කරන ලද විමලධර්මසූරිය රජුට පුත් වූ කුමාරයා ය. කුරුණෑගල ගලේ බණ්ඩාර තම වැසියන් විසින් ගලෙන් පහළට හෙළා බිහිසුණු මරණයකට පත් වී දෙවි බවට පත්විය.

## 7.5 ආගන්තුකයන් දේවත්වය ලැබීම

අපේ දෙවිවරුන් අතර සෑහෙන පිරිසක් පිටරටින්, එනම් ඉන්දියාවෙන් මෙ රටට පැමිණි අය වෙති. විෂ්ණු, පත්තිනි, අයියනායක වැනි ඉන්දියාවේද පුද පූජා ලබන දෙවිවරුන් හැරුණු විට ඉන්දියාවේ සිට පැමිණි ඇතැම් මිනිසුන් මෙහි දී දේවත්වයට පැමිණි අවස්ථා ද තිබේ. උදාහරණ කීපයක් මෙහි දක්වමු.:

(අ) **අබිමාන දෙවි** :- ඔඩිඩිසයේ කායි රටේ උපන් මොහු ලංකාවේ කළුගල් තොටට පැමිණ එතැනින් කඩවත තොටට අවුත් එහි අධිපතියා වී රටවැසියන් ගේ ගෞරවයට පාත්‍ර විය. තවත් සම්ප්‍රදායකට අනුව ඔහු බරණැස උපන් බව ද සඳහන් වේ.

(ආ) **අබුත දෙවි** :- ඉන්දියාවේ මලබාර් රටේ නොහොත් මල්ලව දේශයේ සිට පැමිණි මොහු ගජබා රජුගේ මාලිගාවේ ආරක්ෂක සේවකයකු බවට පත් විය. පසුව මැරුම් කා දේවත්වයට පත්විය.

(ඇ) **කඩවර පන්තිස් කට්ටුව** :- දඹදිව යැකිතියක කුසේ උපන් මොවුහු මල්ලව රජු ගේ මල් උයන විනසන කල්හි රජු ඔවුන් ඇල්ලීමට අණ කළ හෙයින් මුහුදට පැන පිනා මෙ රටට අවුත් වෙල්ලස්ස වෙලේ දී අහනුන් හැටක් බිය කොට කෙළි පුද ගන්නට වූහ.



(ඈ) **කළු දෑකඩ දෙවි** :- මල්වර රජු ගේ පුත්තු වෙති. ගල් නැවකින් මුහුද තරණය කොට මන්නාරමට පැමිණ යළි තලෙයිමන්නාරමින් ගොඩ බැස ඉන් පසු රජ රටට පැමිණ පදිංචි වී වැවක් තැනීම අරඹා වැව් බැම්ම ආරක්ෂා කිරීමට බිල්ලක් දීමේ සිද්ධියෙන් කළු දෑකඩ දෙවි උපත ලැබී ය.

(ඉ) **කබලෑවේ දෙවි** :- දඹදිව එක්තරා ප්‍රදේශයක උපද්‍රව කළ යක්ෂයකු බැඳ සිරකර තැබූ මන්තර පොත මෙ රටට ගෙන ඒමෙන් මේ යක්ෂයා මෙ රටට පැමිණියේ ය.

(ඊ) **කුමාර බණ්ඩාර දෙවි** :- මදුරාපුරයේ සිංහබාහු රජුගේ පුත් වූ මොහු සිංහල දේශයට ඒමට මුහුදට පැන පිනා එද්දී දැතිමෝරකු මහ රැක්ක වෙලේ ඌ කවුවෙන් දෙ කඩ කොට සත් දවසකට පසු පුත්තලම් තොටින් ගොඩ බැස යකුන් ලුහුබැඳ ගෞරවයට පාත්‍ර විය.

(උ) **විරමුණ්ඩ දෙවි** :- කෝලිය රජු ගේ පුතකු වූ මොහු ගල් නැවකින් මෙතෙරට අවුත් විල්බාවේ දී තල්ගස් දෙකකින් බාත් අරඹවා, යකුන් පරදවා, දැක් වූ දස්කම් නිසා වල්ලමලක් (පොල් ගෙඩි දෙකක් ඇඳුතු කොට මැද පොල් මලක් තබා) පූජා පිණිස ලැබුවේ ය.

(ඌ) **ගලේ දෙවි** :- මල්වර දේශයේ උපන් මොහු සිය සොහොයුරන් දෙදෙනා සමඟ දොලුවර, සොළී යන රටවල් පසු කොට මුහුදු වෙරළට අවුත් ගල් නැවක් තනා මුහුද තරණය කොට යාපා පටුනට සැපත් වූහ. ඔවුහු එ තැනින් රුහුණු රටට ගොස් කතරගම දෙවි හමුවූ හ. එහි දී කතරගම දෙවි ඔවුනට වාහල බණ්ඩාර යන නම පට බැඳ ලක්දිව රකින්නට නියම කළේ ය.

(එ) **දෙඩොල් දෙවි** :- දඹදිව රාමසිංහ රජු ගේ පුතුන් සත් දෙනා වන මොවුහු සිය පිරිවර සමඟ නැව්වල නැඟී පුත්තලමට ගොඩ බැසීමට තැත් කළ විට ඒ තැන සිටියේ දෙවි විසින් වාර්ථ කරන ලදුව යාපනයට ගොඩ බැසීමට උත්සාහ කළ අවස්ථාවේ දී එයට ද නාථ දෙවිඳු ඉඩ නුදුන් හෙයින් සීනිගමට ගොඩ බසින තැනේ දී **පත්තිනි** දේවිය එය වැළැක්වීමට මැවූ ගිනිකඳු සත ද පාගා ගොඩ බටහ. ඉන් පසු කෙනෙක් සීනිගම ද, කෙනෙක් දෙවුන්දර ද, තව කෙනෙක් වරකාවේ ද කෙනෙක් වටද්දර ද, කෙනෙක් කෙහෙල්ගමුවේ නැතහොත් අමනාවල ද, කෙනෙක් වේරගොඩ ද පදිංචි වූහ. අයකු ගලබොඩ කන්දේ විසූ බව ද පැවසේ. ඔවුන් ඒ ඒ තැන්වල තෙද බල පෙන් වූ බව ද පෙනේ.

මීට අමතර ව සිඩියෙ, පනම් බණ්ඩාර, බ්‍රාහ්මණ බණ්ඩාර, මලල බණ්ඩාර, නාමල් කුමාර ආදි දෙවිවරු ද දකුණු ඉන්දියාවෙන් පැමිණි සංක්‍රමණිකයෝ වෙත්.

මෙහි දී පැන නගින ප්‍රශ්නය වන්නේ මොවුන් ඉන්දියාවේ දී ම දේවත්වයට පත්ව සිට සංක්‍රමණික ජනයා විසින් ලක්දිවට කැන්දා ගෙන එන ලදහු ද නො එසේ නම් මිනිසුන් ලෙස මෙ රටට සංක්‍රමණය වූ මේ පිරිස මරණින් පසු දේවත්වයට නංවන ලද්දෝ ද? යන්න යි.

දැනට අප ඇති සාධක අනුව ඉන්දියාවේ දෙවිවරුන් ලෙස අදහනු ලැබ ලක්දිවට ගෙන එන ලද දෙවිවරුන් වන්නේ විෂ්ණු, පත්තිනි, ගණ, අයියනායක, කාලි වැනි ප්‍රකට දෙවිවරුන් පමණි. ඉහත නම් සඳහන් කළ අවශේෂ දෙවිවරුන් ඒ රට දේවත්වයෙන් පුදන ලදැයි කිව හැකි තොරතුරු නොලදිමු. (මේ ගැන තවත් කරුණු සෙවිය යුතුව ඇත. විශේෂයෙන් දකුණු ඉන්දියාවේ පැරණි චෝළ, පාණ්ඩ්‍ය, කේරළ ආදි රාජ්‍යයන්හි අතීතයේ පැවති දේව විශ්වාසය ගැන තොරතුරු සෙවිය යුතු වේ.)

දකුණු ඉන්දියාවේ ප්‍රාදේශීය දේව විශ්වාසයක් පිළිබඳ සැලකිය යුතු විශේෂ ලක්ෂණයක් නම් "ග්‍රාම දේවතා" සංකල්පයයි. ඒ ඒ ගම් පෙදෙසට විශේෂ වූ ඒ ගමේ පුද පූජාවට ලක්වන මේ දෙවිවරු නියත වශයෙන් ම වාසය කොට මිය පරලොව ගිය කල්හි දේවත්වයට නැංවුණාහු වෙති. මේ ලක්ෂණය නිසා ඔවුහු විෂ්ණු, ශිව, කාර්තිකේය, ගණ ආදීහු මෙන් දේව ජන්මයක් ඇත්තෝ නොවෙති. (150 : 17පි.). ඔවුහු යට කී දේව ජන්ම ඇත්තවුන් මෙන් නොව බිලි පූජා ලබන්නෝ ද වෙත් (එම.). දකුණු ඉන්දියාවේ ග්‍රාම දේවතාවුන් පිළිබඳ තවත් විශේෂ ලක්ෂණයක් නම් ඔවුන් අතුරෙන් බහුතරය ස්ත්‍රීන් වීමයි. වර්ෂ 1921 දී වයිට්හෙඩ් පියතුමා විසින් කරන ලද ගවේෂණයකට අනුව දකුණු ඉන්දියාවේ ග්‍රාම දේවතාවුන් අතර ස්ත්‍රී දේවතාවෝ 90 දෙනෙක් සිටිය හ. පිරිමි දෙවිවරු සිටියේ 18 දෙනකු පමණි (181A : 167 - 8පි.). මෙයට හේතු දක්වන ඔහු ඉන්දු ආර්යයන් ගේ දෙවිවරුන් ප්‍රධාන වශයෙන් පිරිමින් වූ බවත් එය යථෝක්ත ජන පිරිස රණකාමී ජනතාවක් වීම හා සමග බැඳී ඇත්තක් බවත් සඳහන් කරයි. අනෙක් අතට පැරණි ද්‍රවිඩ ජනයා කෘෂිකාර්මික ජනතාවක් වූ නිසා එම කාර්යයෙහි ප්‍රධානත්වය ඉසිලූ ස්ත්‍රීන් දේවත්වයට නැංවෙන්නට ඇති බවත් ඔහු අදහස් කරයි (එම : 17 පි.).

දකුණු ඉන්දියාවේ ග්‍රාම දේවතාවුන් සියලු දෙනා ම පාහේ මරණින් පසු දේවත්වයට පත් වූ මනුෂ්‍යයන් වන බව ඉහත සඳහන් කළෙමු. මෙය



මුතුන්මිත්තන් පිදීමේ පැරණි සිරිතෙන් පැවත එන්නක් ලෙස ද සැලකිය හැකි බව ද පැවසිණි. දේවත්වයට නැංවෙන පුද්ගලයා කිසියම් විශේෂ හේතුවක් නිසා ජනතාව ගේ සිත් තුළ නො මැකෙන සලකුණක් තැබූ අයෙක් වෙති. මෙ බන්දක් සිදු වන්නේ එක්කෝ එම අය කළ විශේෂ ප්‍රජා සේවාවක් විය හැකිය: එම අය ගේ අසාමාන්‍ය චරිත ලක්ෂණය විය හැකිය: නො එසේ නම් එම අය මරණයට පත් වූ ආකාරය විය හැකිය. බොහෝ විට දේවත්වයට පත්වන්නේ විශේෂ ප්‍රජා සේවාවෙහි යෙදුණකු නොව අන් කිසි හේතුවක් නිසා ජන හද තුළ කම්පනයක් ඇති කළ පුද්ගලයෙකු බව ඉහත ද සඳහන් කළෙමු.

මීට උදාහරණ වශයෙන් වයිට්හෙඩ් පියතුමා විසින් දක්වා ඇති ඉන්දියාවේ දේව ජන්ම ප්‍රවෘත්ති දෙකක් උපුටා දක්වනු කැමැත්තෙමු.

පළමු කථාව බෙස්වාදා නගරයෙන් අසන්නට ලැබුණකි. එක්තරා පොහොසත් පවුලක කුඩා පිරිමි දරුවකු ඔහු ගේ ඇතැම් පළඳනා කෙරෙහි ලෝභ වූවන් විසින් මරා දමා සිරුර නගරය අසල ඇළක දමා ගොස් තිබිණි. සිරුර සොයා ගත්තන් විසින් එය ඇළ ඉවුරේ තුං මං හන්දියක වූ ගසක් මුල තබන ලදී. ආදාහනයෙන් ටික දිනකට පසු දරුවා ගේ දෙමාපියෝ එ තැන අඩි එකහමාරක් පමණ උස ස්මාරකයක් පිහිටුවූහ. මෙ තැන දී තමා කළ බාරයක් අනුව තම අභිප්‍රාය ඉෂ්ට වූ බව කවරකු හෝ පවසා ඇත. මින් පසු එම ස්මාරකයේ කීර්තිය පැතිර යන්නට විය. ඒ අනුව මිය ගිය දරුවා දේවත්වයට පත්වන්නට වැඩි කලක් ගියේ නැත. පසුව ස්මාරකය විශාල කොට දෙවොලක් ගොඩ නඟන ලදී. (එම : 21 පිටු)

දෙවන පුවත 19 වන සියවස මුල දී සිදු වූවකි. හයිදරාබාදය හා බෙස්වාද අතර පෙදෙසෙහි තම මිය ගිය සැමියාට අයිති ඉඩකඩම් වගා කරමින් රාමම්මා නම් වැන්දඹු ස්ත්‍රියක් විසුවා ය. කලකට පසු ඕ තම සේවකයකු සමග අනියම් සම්බන්ධතාවක් ඇති කර ගත්තා ය. මෙය අසා කෝපයට පත් ඇගේ සොහොයුරෙක් ඔවුන් දෙදෙනා මරා දැම්මේ ය. තදනන්තරව එම පෙදෙසේ දරුණු ගව වසංගතයක් පැතිර යන්නට විය. මීට හේතුව රාමම්මා ගේ භූතාත්මය යැයි විශ්වාස කළ ගැමියන් විසින් ඇ සංසිඳුවීම පිණිස පුද පූජා පවත්වන ලදී. මින් පසු ගව වසංගතය පැතිරෙන සෑම විටම අඩි දෙකක් පමණ උස ඇතිව ලීයෙන් රළුවට කැපූ රාමම්මා ගේ ද ජාරයාගේ ද රූප දෙකක් කරත්තයක නංවා ගෙන රාත්‍රියේ වීදි ඔස්සේ පෙරහර කිරීම ඇරඹුණි. මේ පෙරහරට සංගීතය හා ගිනි කෙළි ද ඇතුළත් විය. අවසන මේ කෙළවරට ගෙන යන කරත්තය යාබද ගම් ප්‍රදේශයට තල්ලු කර දමනු ලැබේ. මින් රාමම්මා ගේ කෝපය අන් අතකට යොමු වේ යැයි විශ්වාස කරන ලදී (එම : 21 පි.)

සිංහලයන් අතර ප්‍රචලිත ඇතැම් දෙවිවරුන් ගේ ප්‍රභවය ගැන ද මේ හා සමාන කරුණු දැක්විය හැකි ය. උදාහරණ වශයෙන් **අබුත** දෙවියන් ගේ විත්තිය බලන්න. මල්වර දේශයෙන් පැමිණි ගජබා රජතුමා ගේ දොරටුපාල තනතුරට පත් වූ මොහු රජුට විරුද්ධව කුමන්ත්‍රණයක් කළ බැවින් ගම්පිහිල්ලේ දී දෙ කඩ කොට මරණයට පත් කරන ලදී. මෙහි දී උඩු කයින් **අබුත** දෙවියන් යටි කයින් **අබුත** දේවින්නාන් සේ ද උපත ලදහ.

**බ්‍රාහ්මණ බණ්ඩාර** දෙවියන් යනු සීතාවක රාජසිංහ රාජසමයේ ඉන්දියාවෙන් ලක්දිවට පැමිණි සහෝදරයන් දෙදෙනකුගෙන් වැඩිමලා යි. සිය බාල සහෝදරයා විසින් කැත්තෙන් කොටා මරනු ලැබූ ඔහු දේවත්වයට පත් විය.

නිරාමුල්ලේ යාපා බණ්ඩාර දේවත්වයට පත්වූයේ වනයේ දී වල් අලියකු විසින් පහර දීමෙන් මරණයට පත් වූ පසුවයි. **සෙංකඩගල කළුකුමාර** සිය පුළු පියා විසින් ගඟේ ගිල්වා මරණයට පත් කරවන ලද්දෙකි. බිහිසුණු අන්දමින් මරණයට පත් ව දේවත්වයට පත් වූවන් අතර **කිවුලේගෙදර බණ්ඩාර, කුරුණෑගල ගලේ බණ්ඩාර, උඩුගම්පොළ කළුකුමාර** ආදිහු ගැණෙති. ජීවමානව සිටිය දී කරන ලද උදාර කර්තව්‍යයන් නිසා දේවත්වයට පත්වීම හා සසඳන විට මෙබඳු අන්දමින් දේවත්වයට පත්වීම සැලකිය යුත්තේ ඒ ඒ පුද්ගලයා ගේ සුවිශේෂ පෞරුෂය විසින් දේවත්වය හිමිකර දීමක් ලෙසයි. එම සුවිශේෂත්වය ජන සමාජය විසින් ආරෝපණය කරන ලද්දක් ද විය හැකි ය.

මෙහි දී අපේ විශේෂ අවධානයට යොමුවන්නේ පිටරටින් පැමිණි ආගන්තුකයන් දේවත්වයට පත් වීමයි. මේ ආගන්තුකයන් ගෙන් ඇතමකු සුවිශේෂ පෞරුෂයකින් යුක්ත වූවන් බව **පිටියේ දෙවි, අබුත දෙවි, මලල බණ්ඩාර, වේරගොඩ දෙවි** ආදීන් ගේ වික්‍රමයන් දෙස බලන විට පැහැදිලි වේ. ඒ අතර ආගන්තුකයන් මෙසේ දේවත්වයට පත්වීම සමාජ හා සංස්කෘතික කරුණු අනුව සුවිශේෂ සිද්ධියක් ලෙස සැලකිය යුතු ය. මේ සිද්ධිය පිටුපස ඇති අර්ථය කුමක් දැයි විමසා බැලීම වටී. ගණනාථ ඔබේසේකර මේ සිද්ධීන්හි අර්ථය ලෙස දකින්නේ පිටස්තරයකු අභ්‍යන්තරයකු බවට පත් කිරීමේ ක්‍රියාවලියකි (166 : 308-19 පිටු.). මේ සඳහා විශේෂයෙන් දෙවොල් දෙවි පුවත ඔහු විසින් යොදා ගෙන තිබේ. දෙවොල් දෙවිවරුන් වෙළඳුන් බව ඔවුන්ගේ කෝල්මුරවලින් පෙනේ. එසේ ම ඔවුහු මන්තරකාරයෝ ද වෙත්. වැලි ගෙන එය සීනි බවට හැරවීම, සැරයටිය දළු ලන්නට සැලැස්වීම වැනි මන්තර ගුරුකම් මගින් ඔවුහු සිංහල වැසියන් ගේ ගෞරවය ලබා ගත්හ. ඔවුන්ට ගිනි කඳු හතක් පාගා



ගෙන එන්නට සිදුවීම මුලින් පැවැති බාධක ජය ගෙන මෙ රට සංස්කෘතිය තුළට අන්තර්ග්‍රහණය වීම සංකේතානුසාරයෙන් දැක්වීමක් බව ඔබේසේකර ගේ අදහස යි. දකුණු ඉන්දියාවේ විවිධ ප්‍රදේශවලින් පුද්ගලයින් පැමිණි අයුරු මේ දේව කථාවල ගැබ්ව තිබේ. ඇතමුන් එන්නේ වඩිග (පුරාණ ආන්ද්‍ර ප්‍රදේශය) දේශයෙනි. ඇතැම්හු මලල (පුරාණ මලබාර් ප්‍රදේශයේ කඳුකර රට) දේශයෙන් පැමිණෙති. තවත් සමහරු ඔඩ්ඩි (පුරාණ ඔරිස්සා) දේශයෙන් එති. සිංහල ශාන්ති කර්මයන්හි එන ඇතැම් ජවනිකාවල, එනම්, කොහොඹකංකාරියේ "ගුරුගෙ මාලාව" හූනියම් කැපිල්ලේ "වඩිග පටුන" ආදියේ දී, භාෂාමය හේතු නිසා මේ පිටස්තරයන් හා සමඟ සංවාදයේ යෙදීමේ දුෂ්කරතාව නාට්‍යානුසාරයෙන් දැක්වේ. භාෂා විසදෘශතාවෙන් නොයෙක් වරදවා තේරුම් ගැනීම ඇති වේ. පිට රටියෝ හාස්‍යයට හා උපහාසයට භාජනය කෙරෙති. එහෙත් සියල්ල අවසානයේ මේ ආගන්තුකයන් දේශීය භාෂාමය හා සංස්කෘතික රටාව තුළට අන්තර්ග්‍රහණය කරනු ලැබේ.

මේ ආගන්තුකයන් දේවත්වයට පත් වූ යුගය ද මෙහි දී අප විශේෂ අවධානයට යොමු විය යුතුය. පොළොන්නරු අවධියෙන් පසු විටින් විට දකුණු ඉන්දියානුවන් විවිධාකාරයෙන් මෙහි පදිංචියට ආ බව ඉතිහාසයේ සඳහන් ය. කුලී හේවායන්, වෙළඳුන්, මන්තර ගුරුකම් කාරයන් ආදි විවිධ වෘත්තිගත අය ලෙස මෙන් ම හින්දු භක්තිකයන්, බෞද්ධයන් ආදි වශයෙන් ද විවිධ පිරිස් මෙසේ සංක්‍රමණය වූහ. ඇම්.ඩී. රාඝවන් විස්තර කර ඇති පරිදි වර්තමාන කෞරව වංශිකයන් බොහෝ දෙනකු දකුණු ඉන්දියවෙන් පැමිණ ලක්දිව බටහිර හා දකුණු දිග පදිංචි වූයේ පසළොස්වන සියවසෙන් පසුව ය. ඕලන්ද යුගයේ දී දකුණු ඉන්දියාවෙන් පැමිණි සන්නාලීන් පිරිසක් නිසා මෙ රට සලාගම වංශය ස්ථාපිත වූ බව ප්‍රකට ප්‍රවෘත්තියකි (166 : 308පි.). මෙබඳු සංක්‍රමණිකයන් මධ්‍යයේ මෙ රටට පැමිණි, සුවිශේෂ දක්ෂතා දැක් වූ, අසාමාන්‍ය පුද්ගලයන් වෙත දේවත්වය ආරෝපණය වූවා විය යුතුය. ඔවුන් ඇතැමෙක් "මන්තර ගුරුකම් කාරයන්" හෙවත් ඉන්ද්‍රජාලිකයන් වූ බවට සැක නැත. දෙවොල් විසින් කරන ලද හාස්කම් මේ බව පෙන්නුම් කරයි. (ඒ දෙවොල් දෙවී යටතේ සඳහන් කර ඇත.)

මෙම ආගන්තුකයන් කළ විශේෂ දස්කමක් නම් යකුන් පළවා හැරීම යි. දෙවිවරුන් ගේ දස්කම් අතර "යකුන්ට ගුටි බැට දීම" නිතර සඳහන් වේ. **ඉලන්දාරි** දෙවි "යක් සෙන් බැඳ නැන නැන පලවා" හරියි "(37 : 19 පි.). **කළුදෑකඩ, කම්බිලි,** ගුරුමා, හැඩ, **රත්න කඩවර** යන පස් දේවතාවන් "නෙතින් යකුන් දෙස බැලූවොත් අළු දූවිලි වෙලා යන්ඩ" යවන බව කිය වේ (එම : 139 පි.). **නාමල් බණ්ඩාර** "ගිනි ව කෝප

කර උදහස් වී තනි ව යක් සෙන් බිඳ හළ" බව කියා ඇත. (එම : 153 පි.) "මහමෙර සොල්වන" **වීරමුණ්ඩයන්** ගේ තෙද තදින් යකුන් බිය ගෙන පලා යන බව සඳහන් ය. (එම : 198 පි.). ඔහු කළ විශේෂ දස්කම් නම් මුළු රට ම බියවද්දා ගෙන සිටි ඊරියගම යකා කොටා දැමීම ය. (එම : 189 පි.).

මේ දෙවිවරුන් ගේ තවත් විශේෂත්වයක් නම් ඔවුන් ගේ භාෂා නෛපුණ්‍යය ය. පිටරටින් පැමිණි දක්ෂවූ ද, අසාමාන්‍ය පෞරුෂයෙන් යුක්ත වූ ද මේ පුද්ගලයෝ විවිධ භාෂාවන්හි ප්‍රවීණත්වය ප්‍රදර්ශනය කරන්නට වූහ. අණවින, සූනියම් දුරීභූත කිරීමේ හැකියාවක් ඔවුනට විය. උදාහරණයක් වශයෙන් **සඳුන් කුමාර** දෙවියන් "කන්නඩි වඩිග දහඅට භාෂාවන්හි" නිපුණ ව කරවන ලද තවත් වික්‍රමයක් ද සඳහන් කළ හැකිය:

තුන් දොස් අණ වින ගිනියම් ක්‍රෙම සූනියම් දුර ලති
බන්ධන කර ලා යක්සෙන් ඒ පොඩි කර ගෙන එල වති
වරම් ගත්තු දේව සැරෙන් මහමෙරවත් පොඩි කර වති
තුඹට වඩා තෙද කරන්ඩ දෙවියෙක් මේ සිරිලක නැති
(එම : 223 පි.)

**මලල බණ්ඩාර** හෙවත් වීරමුණ්ඩ දෙවියන් "සැළලිහිණියා මෙන් දහ අට බාසාවක් නාද කරන බව" කියා ඇත. (29 : 171 පි.). **බ්‍රාහ්මණ බණ්ඩාරයෝ** මලල දේසේ බ්‍රාහ්මණ වයසේ ඉපිද "බාසා දහ අටක් දැන ගෙන සිව් සැට සිල්පය ද නිපුණ අයෙක් වෙති. (29 : 191 පි.). **රත්න කම්බිලි** ද බාසා දහඅටක් දන්නෙකි. (29 : 205 පි.)

## 7.6 නොමරා "යක්" කිරීම සහ මරා "යක්" කිරීම

'යක්ෂ' තත්වයට හෝ 'දේව' තත්වයට පත්වීම මරණින් පසුව සිදුවිය යුක්තත් නොවේ. අප සම්ප්‍රදායේ පවතින විශ්වාසය අනුව නො මරා 'යක් කරනු ලැබුවෝ මෙන් ම මරා "යක්" කරන ලද්දෝ ද වෙත්. 'කොහොඹා' හෙවත් 'කොසඹා' යනුවෙන් හැඳින්වෙන්නේ නො මරා යක් කරන ලද වැලිහෙල නම් ග්‍රාමයේ විසූ සත් හැවිදිරි පිරිමි ළමයෙකි (49 : 69පි.). පායින්ගමුවේ **ඉරුගල් බණ්ඩාර** එම නමින් ද, අඹන්වල හෙට්ටි නයිදෙ "කන්දෙ බණ්ඩාර" නමින් ද එසේ යක් කරන ලද්දෝ වෙත් (එම : 71 පිටුව)

මිනිසුන් සහ ගැහැණුන් රාශියක් යක් කර ගත් ප්‍රකට සිද්ධියක් පිටියේ දෙවියන් සම්බන්ධ ව කියැවේ.



සුපසන් එ සුරිඳු මෙ ලකට සතොසේ
වැඩි තැන් සිට තම පිරිවර පිරිසේ
සෙබළුන් යක් කර ගත් නම් වෙසෙසේ
පවසන් සවි සත හට සෙත් පිණිසේ

දෙවිඳුන් පිවිතුරු පල්ලේ බැද්දේ
පිවිතුරු බණ්ඩාර ද වෙල් ලස්සේ
යක් කර ගත් අබ කොත් මැතිඳුන්
රාල හාරගම සෙත් සිරි දෙවිඳු

පසන් ගිරාගම එතනින් සාමින්
කටුගම්පොළ රාළත් සුපසන් නේ
පායින්ගමුවෙහි සී බණ්ඩාර ත්
මනනද උඩුවෙල රාළ ද සොඳි නේ

රුදුරු තෙදැති දැඩි අප්පු ද සිරිමත්
සොඳුරු රුවැති කළු අප්පු ද අගපත්
සයිරු රෝග නෙක උවදුරු අසමත්
අඳුරු දුරල රවි මෙන් ලෙඩ දුරල ත්

වීර විකුම් ඇති කළු නයි දේයා
සාර රුවන් තනහිල නයි දේයා
දීර පහරගම්මන නයි දේයා
නෑර සතුන් රැක සෙත් සිරි දේයා

සුවිපුල් තෙද ඇති කුමරු සාමින්
මනකල් රුසිරු තිබූ මුතු සාමින්
පිළිමල් දප හළ බිළිඳු එ සාමින්
හැම කල් සිරි රැක පුලියා සාමින්
(37 : 176 පි.)

අන්‍යයන් යක් කර ගැනීමට හැකිවීම දෙවි කෙනකුගේ තෙද බල මහිමය අනුව සිදුවන්නකි. මක්නිසා ද? හැම දෙවියකුට ම එය කළ නො හැකි බැවිනි.

## 7.7. බුදු රජාණන් වහන්සේ හා දෙවිවරු

අප දෙවිවරු සියලු දෙනා ම සිංහල බෞද්ධ සමාජයේ ක්‍රියාත්මකව සිටින්නන් වශයෙන් බුදු රජාණන් වහන්සේට යටහත් පහත් වූ පුද්ගලයෝ වෙති. ඇතැම්හු සෘජුව ම බෝසත්තු ලෙස සැලකෙති. **නාථ** දෙවියන් බෝසත්වරයකු ලෙස සැලකීම සිංහලයන් අතර කලක සිට පවතින්නකි.

ගම්පොළ සිව් වන බුවනෙකබාහු (ව්‍ය.ව. 1341-51) දවස කෙරුණු ලංකාතිලක ශිලාලේඛනයේ "ලොකේශ්වර නාථයන් වහන්සේ" යනුවෙන් නාථ දෙවියන් ගේ සම්පූර්ණ නාමය දක්වා ඇත. මේ වනාහි මෛත්‍රී බෝධිසත්වයන් නොවන බව එහි වෙනම ම මේ බෝසතුන් දෙදෙනා නමින් සඳහන් කරනු ලැබීමෙන් පෙනේ. (160 : 117පි.) **සමන්** දෙවියන් ද, **කතරගම** දෙවියන් ද බෝසත්වරුන් ලෙස දැනුදු සලකනු ලැබේ. **සමන්** දෙවියන් බුදු රජුන්ගෙන් බණ අසා සෝවාන් ඵලය ලැබුවෙකැයි කියැවේ. පොදු විශ්වාසය අනුව **විෂ්ණු** ද සෝවාන් වූවෙකි. **පත්තිනිය** ද මතු බුදුබව පතා සිටින්නියකි. අනෙක් දෙවිවරුන් වැඩි දෙනා බෝසත්වරුන් නොවූවත් සියල්ලෝ ම බුදුන්, දහම්, සඟුන්, යන ත්‍රිවිධ රත්නයට අවනත වූවෝ වෙති. එය සිංහල බෞද්ධ සමාජයේ පොදු පිළිගැනීම යි.

සිංහල බෞද්ධයන් අතර ඇති දේව, යක්ෂ, ප්‍රේතාදීන් පිළිබඳව අනුප්‍රධාන මට්ටම් සහිත සැලැස්මකින් යුක්ත බව ප්‍රථම වරට හඳුනා ගන්නා ලද්දේ මහාචාර්ය ගණනාථ ඔබේසේකර විසිනි. (163). "සිංහල බෞද්ධ දේවගණය" යනුවෙන් ඔහු හඳුනා ගත් සැලැස්ම සිංහල බෞද්ධයන් අතර පවතින පුද පූජා හා විශ්වාස පිළිබිඹු කරනු වස් සකස් වූවකි. එම සැලැස්මේ මුදුනත දේවාතිදේව වූ බුදුහු වැඩ සිටිති. සැලැස්මේ පහත කොටස් ක්‍රමයෙන් විශාල වන පරිදි සැකැසුණු පිරමීඩාකාර ත්‍රිකෝණයක් වැන්න. බුදු රජාණන් වහන්සේට පහළින් සිව්වරම් දෙවිවරු හෙවත් සිව් දේවාලයේ දෙවිවරු ද, ඊළඟට අනෙකුත් ප්‍රධාන දෙවිවරු ද එයට පසුව ඉතා විශාල සංඛ්‍යාවක් වන ප්‍රාදේශීය දෙවිවරු හා දේවතාවෝ ද වෙත්. දෙවි වරුන් ගේ ස්ථරයට පහළින් යක්ෂයන්ගේ ස්ථර යයි. මේ සියල්ලට පහළින් අනන්තාපරිමාණ වූ ප්‍රේත ගණයා වෙත්.

බුදු රජාණන් වහන්සේ මේ දේව ගණයට ඇතුළත් වන්නේ කෙසේ ද යන්න ඔබේසේකරයන් විසින් පැහැදිලි කර ඇත. සිංහල බෞද්ධ චින්තනය තුළ බුදුරදුන් දෙ ආකාර ආකල්පයක් දැක් වී තිබේ. පළමුව, චතුරාර්ය සත්‍යය පසක් කළා වූ ද නෛර්යාණික ශ්‍රී සද්ධර්මය දේශනා කළා වූ ද භික්ෂු ශාසනය පිහිටුවා වදාළා වූ ද ශාස්තෘන් වහන්සේ ලෙසින් උන්වහන්සේ සලකනු ලැබෙති. ඒ බුදුහු පරිනිර්වාණප්‍රාප්ත වූවෝ ය.

දෙවැනි ආකල්පයට අනුව බුදුහු වර්තමාන කාලයෙහි ද බුදු ගුණය පතුරන්නා වූ කෙනකු ලෙස සලකනු ලැබෙති. දෙවාතිදෙව වූ බ්‍රහ්මාති බ්‍රහ්ම වූ චක්‍රවර්තීන් කෙනෙකු වන ඔවුහු දෙවි දෙවතාවුන්, යක්ෂ පිශාචාදීන් විසින් අත්‍යන්ත ගෞරව සම්මානයට පාත්‍ර කරන්නාහු සියලු ශාන්තිකර්මයන් හී දී පළමු කොට හා අග්‍ර කොට පුද පූජාවට භාජනය වන්නාහු ද වෙත් (එම).



මේ සංකල්ප අනුව සියලු ක්ලේශයන් ප්‍රහීණ කළා වූ බුදුහු සියලු ලෞකික කර්තව්‍යයන්ගෙන් ඈත් වූ ලෙස සලකනු ලැබෙත්. එහෙත් දෙවිවරු කෙලෙස් නැසුවෝ නොවෙති. බුදුරජුන්ගේ හා දෙවිවරුන්ගේ මේ වෙනසත් බුදුරදුන් දෙවියන්ට වඩා උතුම් වන අයුරුත් පිරිත් පින්කම්හි දී දේශනා කෙරෙන ධජග්ග සූත්‍රයෙහි මනාව පිළිබිඹුව ඇත.

සිංහල දේවතෝත්‍ර හා ශාන්ති කර්මයන්හි දී සිදුවන්නේ පැමිණ ඇති ලෙඩ රෝග හෝ අත්කිසි විපත්ති ආපදා යනාදිය දුරුකිරීම හෝ ඒවා පැමිණෙන්නට ඇති නම් ඒවා වැළක්වීම පිණිස හෝ මැදිහත් වන ලෙස දෙවි දේවතාවුන්ගෙන් ඉල්ලීමෙකි.

කර්මඵල විශ්වාසය මත පදනම් වූ බෞද්ධ දර්ශනය හා මෙය කෙසේ සැසඳේ ද?

බෞද්ධ විශ්වාසය අනුව රෝග හා අන්‍ය විපත් කරදර ආදිය කර්මඵල වශයෙන් සිදුවිය හැකිය. කොහොඹකංකාරිය, ගම්මඩුව, පූනා මඩුව, යනා දී දේවතෝත්‍රවල දී මෙන් ම දහඅට සන්නිය, සූනියම් කැපිල්ල, මහසෝන් සමයම, රටයකුම ආදී ශාන්තිකර්මයන්හි දී දෙවි දේවතාවුන් යක්ෂ ප්‍රේතාදීන් කැඳවා කරනු ලබන්නේ එම කර්ම ඵලයන් නිෂේධනය කිරීමේ ප්‍රයත්නයකි. මෙය බෞද්ධ දර්ශනයේ මූලධර්ම හා සැසඳෙන්නේ නො වේ. එහෙත් ඒ අනුව දෙවියන්ට කළ හැකි දෙයක් ඇත. එනම් යක්ෂ ප්‍රේතාදීන් ගේ බලපෑම් නිසා හෝ ඇස්වහ කටවහ යනාදියේ බලපෑම් නිසා හෝ සිදුවන ව්‍යසන දුරීභූත කිරීම ය. යක්ෂ ප්‍රේතාදීහු දෙවියන්ට යටත් වූ "පහත්" වර්ගයක් වෙති. ඔවුහු දේව අණට අඩංගු වෙත්. දෙවිවරුන් ගේ උසස් බව කරුණු දෙකක් හා සම්බන්ධය. එනම්, ඔවුන් ආධ්‍යාත්මිකව යක්ෂ ප්‍රේතාදීන්ට වඩා උසස් වීමත්, ඔවුන් විශ්වයේ සියලු ලෞකික, ලෝකෝත්තර යන තත්වයන්ට ඉහළින් සිටියා වූ ද සියලු බල ශක්තීන්හි උල්පත බඳු වූ ද බුදු රජාණන් වහන්සේ ගෙන් "විවරණ" හෙවත් "වරම්" ලබා සිටීමත් යනුවෙනි. එහෙයින් දෙවිවරු වඩා "බලවත්" වෙති. යක්ෂ ප්‍රේතාදීහු යහපත අයහපත නො හඳුනන අතාර්කිකව අන්‍යයන්ට හිරිහැර කරදර පමුණුවන පහත් පිරිසක් වෙති. දෙවිවරුන් අතින් අයහපතට දඬුවම් ද යහපතට ප්‍රසාදය ද ලැබෙනු ඇති. ඒ ඔවුන් ආධ්‍යාත්මික වශයෙන් ගුණගරුක අය වීම නිසා ය. යහපත් වූ ද, සාධාරණ වූ ද ලෝක තත්වයක් පවත්වා ගැනීම සඳහා ඔවුන් ක්‍රියා කරන්නේ බුදු රජාණන් වහන්සේ ගේ ධර්මය අසා ඉන් පැහැදී ඇතැම් විට උන් වහන්සේ ගේ විවරණය ලබා සිටින හෙයිනි. **සමන්, උපුල්වන්, කතරගම, දේවතා බණ්ඩාර** ආදී දෙවිවරුන් ගැන සෘජුව ම එබඳු පුවත් සිංහල බෞද්ධ සම්ප්‍රදායෙහි ඇත. අනෙකුත් දෙවිවරු ද බුදුන් සරණ

ගියාහු ලෙස සැලකෙති. මේ දෙවිවරුන්ට වරම් වශයෙන් බුදු රදුන් ගෙන් "බලයක්" පැවරී ඇති හෙයින් උන්වහන්සේ පිරිනිවන් පෑ පසු ද ඒ බලතල ක්‍රියාත්මක ව පවතී (166 : 57 පි.). බෞද්ධ ගුණධර්මයන්ට අනුගත ලෝක තත්වයක් පවත්වා ගෙන යෑමට දෙවිවරුන් සහාය වන්නේ ඒ අනුව ය.

මහාචාර්ය ඔබේසේකර ගේ නිරීක්ෂණයන්හි තවත් වැදගත් අංශයක් ඇත. මෙම සිංහල බෞද්ධ දේව ගණයේ සංස්ථිතිය ගොඩ නැගුණේ කුමන සංකල්ප ආදර්ශ කර ගෙන ද යන්න ඔහු පැහැදිලි කර තිබේ.

## 7.8 දේවගණයා හා චිරන්තන රාජ්‍ය සංස්ථිතිය

අද අප අතර පවතින දේව විශ්වාසයන්හි පිළිබිඹුව ඇත්තේ සිංහල රාජත්වයෙහි පශ්චාත් කාලීන අවධියේ පැවැති සැලැස්ම ම බව ගණනාථ ඔබේසේකර විසින් පෙන්වා දී තිබේ. මේ බව දේව ගණයේ ඒ ඒ අංශ කෙරේ දැක්වෙන ආකල්ප හා ප්‍රතිචාර මගින් ද ඒ ඒ අය කෙරේ යෙදෙන වචන භාවිත තුළින් ද ප්‍රත්‍යක්ෂ වේ (166 : 58පි.).

ප්‍රධාන දෙවිවරුන් හඳුන්වනු ලබන්නේ "දිව්‍ය· රාජ", "දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ වැනි" නම්වලිනි. උදාහරණ වශයෙන් "පහන් මඩුව" සඳහා මඩුගේ කිරීමේ දී "ශ්‍රීමත් ගණපති නාරායන විෂ්ණු දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ", "ශ්‍රීමත් සුමන සමන් දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ", "කදිරේශ්වර කතරගම දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ", "නාථ දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ" යනුවෙන් භාවිතා වී ඇති අයුරු තිස්ස කාරියවසම් කරන විස්තරයෙන් දැක ගත හැකිය (36 : 158-59පිටු). මීළඟ මට්ටමේ දී "වාහල බණ්ඩාර දෙවියන් වහන්සේ", "මංගර දේවතාවුන් වහන්සේ", "හූනියන් දේවතාවුන් වහන්සේ", "නව ග්‍රහයින් වහන්සේලා", "අට කුරුම්බර, තොට කුරුම්බර ආදී කුරුම්බර සත් කට්ටුවක් ඇතුළු දේවතාවුන් වහන්සේලා" සලකනු ලැබෙත් (එම : 159පි.) "දිව්‍යරාජ" හා "දෙවි" "දේවතා" යන නම් භාවිතා වන්නේ වැදගත්කමින් ඉහළ පහළ භේදය අනුව බව මෙහි දී පැහැදිලි ය.

අපේ දේශපාලන සම්ප්‍රදාය අනුව රාජත්වයෙහි විවිධ ස්වරූප ඇත. රාජත්වය ක්‍රියාත්මක විය යුත්තේ "දසරාජධර්ම" නමැති සාරධර්මයන්ට අනුකූලව ය. චක්‍රවර්ති යනු සියලු රජවරුන්ට ප්‍රධාන තත්වයකි. රජවරුන් යටතේ යුවරජවරු ද සිටිති. චක්‍රවර්ති, රාජ, යුවරාජ ආදී අධිකාරීන් විසින් තමා යටතේ සිටින රාජ, යුවරාජ, අමාත්‍ය ආදීන් වෙත බලය පවරා දෙනු ලැබේ. දේවගණයා ගේ සැලැස්මෙහි බලතල පවරාදීම



හැඳින්වෙන්නේ "වරම්" ලැබීම ලෙසිනි. "චක්‍රවර්ති" තත්වයෙහි සිටින්නා වූ බුදුරජාණන් වහන්සේ වෙතින් උන්වහන්සේට යටත් වූ ප්‍රධාන දෙවිවරුන්ගේ බලතල ලැබී තිබේ. ඔවුහු ධර්මානුකූලව සිය බලතල ක්‍රියාත්මක කරත්. ඒ ඒ දෙවියන්ට නියමිත "සීමා" ද ඇත. ප්‍රධාන දෙවිවරුන්ට මෙන් ම පහතින් ඇති දෙවිවරුන්ට ද නියමිත "බලප්‍රදේශ" තිබේ. ඇතැම් ප්‍රාදේශීය දෙවිවරු "අමාත්‍ය", "අදිකාරම්" යන නම්වලින් ම හඳුන්වනු ලැබෙත්. ඒ ඒ දෙවිවරුන් පිරිවරා ගත් "පිරිස්" සිටිති. ඇතැම්හු තමන්ට අවනත "යක්ෂ සේනා" පිරිවරා සිටිත්. රාජ යුගයේ දී රජුන්ට, යුව රජුන්ට, ආදිකාරම්වරුන් ආදි වශයෙන් තමන්ට ඉහළින් සිටින අයට පහළින් සිටින අය විසින් "දැකුම්" ඔප්පු කිරීමේ සම්ප්‍රදායක් තිබුණාක් මෙන් වාර්ෂිකව සිදුවන දේවාල මංගලයන්හි දී හෝ දේවතෝත්‍ර අවස්ථාවල දී ඒ ඒ දෙවියන්ට "පුද පඬුරු" පිරිනැමේ. දේවාලවල දිනපතා තෙවරක් "තේවාව" සිදුකෙරෙන්නේ ය. මේ හැම අවස්ථාවක ම දේව තේවාවට පෙර බුදුරජාණන් වහන්සේගේ උත්තරීතර තත්වය ප්‍රකාශයට පත්කරමින් බුද්ධ පූජා තේවාව පවත්වනු ලැබේ.

බුදුරජාණන් වහන්සේට පහන්, සුවඳ දුම්, සුවඳ මල්, නො ඉඳුල් ආහාර "බුද්ධ පූජා" වශයෙන් පිළිගැන්වෙන අතර, දෙවිවරුන්ට ද පහන්, සුවඳ දුම්, මල්මාලා හා නොඉඳුල් ආහාර "මුළුතැන් පූජාව" වශයෙන් ඉදිරිපත් කෙරේ. යක්ෂාදීන්ට පිරිනැමෙන පිදවිලි "දොළ", "පිදේනි" නමින් හැඳින් වේ. ප්‍රේතයන්ට දෙනු ලබන්නේ "පෙරේත ගොටු" ය. බුදුරජාණන් වහන්සේට දොහොත් මුදුන් දී නැතහොත් පසඟ පිහිටුවා වන්දනා කෙරෙන අතර දෙවිවරුන්ට ද ඇතැම් විට එබඳු වන්දනා ද කෙරෙන නමුත් එය අවශ්‍ය ම යැයි පිළිගැනීමක් නැත. ඉන් ඉහළ සිටින යක්ෂ ප්‍රේතාදීන්ට එ බඳු බුහුමනක් සිදු නො වේ. ඒ ඒ ප්‍රවර්ගය කෙරේ මනුෂ්‍යයන් දක්වන ආකල්පය හා චර්යා ඒ ඒ ප්‍රවර්ගයේ තත්වය හා සපිලන පරිදි වෙයි.

## 7.9 ප්‍රාදේශීය ආධිපත්‍යය

දෙවිවරුන් සතු භූගෝලීය බල ප්‍රදේශ ඇතැයි යන විශ්වාසය ද දේව ගණයා හා චිරන්තන දේශපාලන සැලැස්ම අතර ඇති සම්බන්ධතාව පෙනෙන තවත් තැනකි. එම බල ප්‍රදේශය තුළ දේවතෝත්‍රයක්, ශාන්ති කර්මයක් මෙන් ම පිරිතක් වැනි බෞද්ධාගමික චතාවතක් පවා කිරීමේ දී "ගං කොටුවේ" දෙවියන්ගේ සහභාගිත්වයත් අවසරයත් ලබා ගත යුතු මය. උදාහරණ වශයෙන් පිරිත් සඳහා මල් පැලේ පහන් දල්වන විට එක් පහනක් තමන් ගේ ප්‍රදේශයට අධිපති දෙවියන් සඳහා ඔප්පු කරනු ලැබේ. තම. ප්‍රදේශයට අධිපති දෙවියන්ගේ දේවාලයේ වාර්ෂික උත්සවය




ප්‍රධාන දෙවිවරු, ඔවුන්ගේ අඩවි හා ප්‍රධාන දේවාල



- 1815 දී මහනුවර රාජධානියේ දේශසීමාව
- තෙත් කලාපය හා වියලි කලාපය අතර සීමාව (දළ වශයෙන්)
- නාථ, විෂ්ණු, කතරගම, පත්තිනි යන දෙවිවරුන්ගේ මහනුවර දේවාල සතර
- ප්‍රධාන ප්‍රාදේශීය දේවාලය

**ප්‍රාදේශීය ආධිපත්‍යය දරන ඒ ඒ දෙවියන්ගේ අඩවි**

1. කතරගම
2. විෂ්ණු
3. නාථ (මෙම දෙවියන්ට විශේෂ අඩවියක් නැත)
4. දෙවොල්
5,6. සමන්
7. පත්තිනි (මෙම දෙවියන් ගේ දේවාල සෑම ප්‍රදේශයකම ඇත.)
8. විභීෂණ
9. හූනියම්
10. අය්‍යනායක
11. ගලේබණ්ඩාර (මෙම දෙවියන්ගේ ප්‍රදේශය හා සම්බන්ධව තවත් බණ්ඩාර දෙවිවරු වෙති.)
12. පුල්ලෙයාර්
13. දේවතා බණ්ඩාර
14. කඩවර (කඩවර දෙවියන්ගේ ප්‍රධාන දේවාලයක් ගැන තොරතුරු ලැබී නැත.)

පැවැත්වෙන කල්හි තම ගෙමිදුලේ ගොක් කොළයෙන් මල් පැලක් තනා එහි පහනක් දැල්වී මෙන් තම-සහභාගිත්වය ප්‍රකාශ කිරීමට ගං කොටුවේ උදවිය අමතක නො කරති.

දෙවිවරුන් ගේ ප්‍රාදේශීය ආධිපත්‍යය ඉතා සරල එකකි. ලංකාද්වීපයේ එක් එක් කොටසක් වෙන වෙන දෙවි කෙනෙකුගේ බල ප්‍රදේශය වෙයි. දෙවියන්ගේ වැදගත්කම ප්‍රකාශ වන්නේ ප්‍රදේශයේ ප්‍රමාණය හා එහි වැදගත්කම අනුව ය. ඇතැම් දෙවි කෙනකු ලක්දිව පුරා ම අණසක පතුරුවන අතර තමන්ට අයත් විශේෂ පෙදෙසක් ද ඇතිව සිටිති. තවත් ඇතමෙකුට ඇත්තේ තමන්ගේ විශේෂ බල ප්‍රදේශය පමණි. දෙවිවරුන්ගේ වැදගත්කම කලින් කල වෙනස් වන බව ද මෙහි සඳහන් විය යුතු තවත් කරුණකි. එහෙයින් එක් කලෙක කිසියම් බල ප්‍රදේශයක අණසක පැතිර වූ දෙවි කෙනකුට පසුව එම බල ප්‍රදේශය නැති ව යන්නට ඉඩ තිබේ. මෙහි දක්වා ඇති සිතියම මගින් ද ප්‍රාදේශීය ආධිපත්‍යය පිළිබඳ තවත් විශේෂ කරුණු ද පැහැදිලි කරගත හැකි ය.

කතරගම සහ විෂ්ණු දෙවිවරුන්ගේ ප්‍රධාන දේවාල පිහිටා ඇත්තේ දිවයිනේ දකුණු පෙදෙසේ ය. කතරගම විශේෂයෙන් වැදගත් ප්‍රදේශයක් වන්නේ එය ලක්දිව ආක්‍රමණය කළ කිසිදු විදේශිකයකුට ඇතුළු විය නොහැකි වූ ආරක්ෂිත පෙදෙසක් වූ බැවිනි. එහෙත් දෙවුන්දර පිහිටි විෂ්ණු ගේ යැයි පොදු ජන විශ්වාසය අනුව සලකන ලද දේවාලය පෘතුගීසීන් විසින් 1588 දී විනාශ කරන ලද නමුත් මේ ප්‍රදේශය දිගින් දිගට ම ඉතා ජනාකීර්ණ වූ වැදගත් ප්‍රදේශයක් ලෙස සලකන ලදී. **නාථ** දෙවියන් ගේ ප්‍රධාන දේවාලය පිහිටියේ තොටගමුවේ ය. මේ දෙවියන් 15 වැනි සියවසේ දී වැදගත්ව සිටි බව ගිරා **සන්දේශයෙන්** පෙනේ. එහෙත් මෑත කාලයේ දී එම දෙවියන්ගේ බල මහිමය ක්‍රමයෙන් අඩු වී ගොස් එම ප්‍රදේශයේ බලධාරියා ලෙස දෙඩොල් දෙවියෝ ඉස්මතු වී සිටිති. තවත් කරුණක් නම් ප්‍රදේශයේ විශාලත්වයත් වැදගත්කමත් සෑම විට ම එකට සම්බන්ධ නොවන බව යි. **පුල්ලෙයාර්** ඇදැහෙන භූමි ප්‍රදේශය ඉතා විශාල ය. එසේම **අය්යනායක** ද සැහෙන විශාල ප්‍රදේශයකට අරක් ගෙන සිටී. එහෙත් මේ දෙවිවරු දෙදෙනා ම ලක්දිව ප්‍රධාන දෙවිවරු නොවෙත්. ප්‍රධාන දෙවිවරුන් ලෙස අප සම්ප්‍රදායේ සිටින දෙවිවරු නම් **කතරගම, විෂ්ණු, සමන්, පත්තිනි, විභීෂණ, නාථ,** යන අය යි. දැනට මහනුවර හතර දේවාලවලට අධිගෘහිත වන්නාහු **නාථ, විෂ්ණු, කතරගම, පත්තිනි** යන දෙවිවරු ය. එහෙත් කෝට්ටේ අවධියෙහි **උපුල්වන්, කතරගම, නාථ, විභීෂණ** යන දෙවිවරු වැදගත් වූහ. **සමන්** දෙවියන් ගේ අඩවියත්, **විභීෂණ** දෙවියන්ගේ අඩවියත් බුදුරජාණන් වහන්සේ ලක්දිවට වැඩම වූ ස්ථාන කේන්ද්‍ර කර ගත් තැන් නිසා වැදගත් වේ. ප්‍රධාන දෙවිවරුන් හය



දෙනා අතරට නො ගැණෙන නමුත් දැඩිමුණ්ඩ හෙවත් දේවතා **බණ්ඩාර, දෙඩොල්, සූනියම්, අයියනායක, පුල්ලෙයාර්, කඩවර** යන දෙවිවරු ලක්දිව සැහෙන වැදගත් කමක් දරන්නෝ වෙත්. අනෙකුත් අවශේෂ දෙවිවරු තමන්ට විශේෂ වූ කුඩා බල ප්‍රදේශ ඇත්තෝ වෙත්. මින්නේරි ප්‍රදේශයේ **මින්නේරි** දෙවියෝ, කුරුණෑගල ගලේ**බණ්ඩාර**, දුම්බර මිටියාවතේ **සිඩියේ** දෙවියෝ, මාතලේ, බින්තැන්න, වලවේ නිම්නය ආදී ස්ථාන කීපයකට වැදගත් වන **මංගර** දෙවියෝ ආදීහු සැහෙන ප්‍රසිද්ධියක් ඇති ප්‍රාදේශීය දෙවිවරු වෙත්. මීට අමතර ව ඒ ඒ ගම්වල අදහනු ලබන හිඳගල (පායින්ගමුවේ) ඉරුගල් බණ්ඩාර, උඩුවේරියේ කපුරුහාමි බණ්ඩාර, මාදම්පේ **තනිවැල්ලේ දෙවියෝ**, දිවුලානේ කැබිලිත්තේ **දෙවියෝ**, නීරාමුල්ලේ යාපා **බණ්ඩාර** දෙවියෝ ආදී වශයෙන් ග්‍රාමීය දෙවිවරු රාශියක් අප අතර වෙත්.

සාමන්‍ය පිළිගැනීම අනුව **කතරගම**, විෂ්ණු, වැනි ප්‍රධාන දෙවිවරුන් ගෙන් අවශේෂ දෙවිවරුන් "වරම්" ලබා ඇත. දැඩිමුණ්ඩ හෙවත් දේවතා **බණ්ඩාර, විෂ්ණු, කතරගම** යන ප්‍රධාන දෙවිවරුන් ගේ සමීප අන්තේවාසිකයකු (රජුගේ අදිකාරම්) මෙන් සලකනු ලැබේ. වෙනත් බොහෝ දෙවිවරුන් මෙසේ ඉහත කී ප්‍රධාන දෙවිවරුන් සමඟ හෝ පත්තිනි දෙවියන් සමඟ හෝ සම්බන්ධතා පවත්වා ඇති බවත් ඔවුන්ගේ බලතල ලබා ගත් බවත් ඒ ඒ දෙවියන් සම්බන්ධ කෝල්මුරවලින් කිය වේ.

කතරගමට කහදිය වඩවා ලා
නිතරම තෙද බල වරම් ලබා ලා
පස්වා දහසක කරුණා කර ලා
විස්තර නාමල් කුමරු වදා ලා
(37 : 146 පි.)

මෙසේ **නාමල් කුමාර දෙවියන්** විසින් **විෂ්ණු, පත්තිනි, නාථ,** හත් රජ්ජුරුවන් ආදි දෙවිවරුන් ගෙන් ද අවසර ගැනුණු බව කියැ වී ඇත. (එම 146 - 7 පිටු). **දහනක බණ්ඩාර දෙවියන්** වරම් ගත්තේ **හත් රජ්ජුරුවන්** ගෙනි.:

රැගත් වරම් හත් රජුගෙන් රණ ගිරියට වැඩම වන් ඩ
නෑ මලුවට බැල්ම ඇතුව ගල් පූජා බාර ගත් ඩ
අතේ සලඹ ගිගුම් ගිගිරි දෙරණත් ගුගුරා නමන් ඩ
දහනක දෙවි උතුමා සැණකින් පේනට වඩින් ඩ
(37 : 104 පි.)

දහහත් වන සියවසේ අග භාගයේ දී මහනුවර දෙවන රාජසිංහ රජු යටතේ සිරකරුවෙකු වශයෙන් සිටි රොබට් නොක්ස් කරන විස්තරය අනුව පෙනෙන්නේ දෙවිවරුන් ගේ ප්‍රාදේශීය ආධිපත්‍යය "නෑ යකුන් ගේ ප්‍රභවය හා සම්බන්ධ බවයි. මිය ගිය වීර පුරුෂයකු දේවත්වයට පත් වී තම ගම් ප්‍රදේශය කෙරේ ආධිපත්‍ය දැක්වීම අනුසාරයෙන් ඒ ඒ දෙවිවරුන්ට නියමිත බල ප්‍රදේශ ඇතැයි සලකන්නට බැතිමතුන් පුරුදු වූවා විය හැකි ය. දහහත් වන සියවසේ සිංහල ජනයා "යකුන්" ඇදහූ එක් අයුරක් ගැන නොක්ස් මෙසේ විස්තර කරයි: "අතීතයේ මිය ගිය වුන්ගේ ආත්ම ලෙස ඔවුන් සලකන යක්ෂයන්ට පුද පූජා පැවැත්වීමේ දී තම ගෙමිදුලේ මඩුවක් තනා එය කොළ අතු හා මල්වලින් සරසති. මේ මඩුවට දේවාලවල ඇති ආයුධත් ආම්පන්නත් ගෙනවුත් මඩුවේ කෙළවරක ඇති තිරයකින් වට වූ ආසනයක තබනු ලැබේ. ඒ ඉදිරියේ ඇති තවත් ආසන මත ආහාර පාන තැන්පත් කරනු ලැබේ. මේ සියලු කාලය තුළ බෙර වාදනය, නළා පිඹීම, ගී ගැයීම හා නැටීම සිදු වේ" (155 : 122 පි.)

නොක්ස් විස්තර කරන "යක්ෂ පූජා" සම්බන්ධයෙන් අවධානයට යොමු විය යුතු වැදගත් කොටසකි මේ:

> "මේ භූතාත්ම හෙවත් දෙවිවරු ප්‍රාදේශිකයෝ වෙති. මක් නිසා ද? එක පළාතක හෝ ප්‍රදේශයක පුද පූජාවට භාජනය කෙරෙන දෙවියන් ගැන දැනුමක් හෝ අයිතියක් හෝ ඒ දෙවියන් ගේ බල පෑමක් හෝ අනෙක් පළාත්වල ජනයාට නැති බැවිනි. එහෙත් එක ප්‍රදේශයක භූතාත්ම හෙවත් යක්ෂයෝ කීප දෙනෙක් සිටිති. ඔවුහු ඒ ඒ තැන්වලට විශේෂ වූ ඒවාට අධිගෘහිත වූ විවිධ නම්වලින් හඳුන්වනු ලබන්නා වූ අය වන අතර ඔවුන් ගේ අණසකට තමන් යටත් යැයි ජනයා විසින් සලකනු ලබන්නෝ ද වෙත්.......... මේ අසරණ ජනතාව යක්ෂයාට කෙතරම් නතු වී සිටියෝ ද යන්න ගැන මෙනෙහි කිරීම ඉතා කණගාටු දායක කරුණකි. ඔවුන් පිළිගන්නා පරිදි ඔවුන්ගේ අභාග්‍යය නම් තමන් ගේ දේශය යක්ෂයන් ගෙන් ද දුෂ්ට භූතයන්ගෙන් ද පිරී පැවතීමයි. ඔවුන්ට පුද පූජා නො පැවැත්වුවහොත් ඔවුන් විසින් තමන් විනාශ කරනු ඇතැයි ඔවුහු සිතත් (155 : 123 පි.)

ප්‍රාදේශීය දෙවි දේවතාවුන් හා යක්ෂයන් පිළිබඳව නොක්ස් කරන විස්තරය බොහෝ දුරට යථාතත්ව නිරූපණයකැයි කිව හැකි ය. ඇතැම් ප්‍රදේශවල විසූ බලගතු පුද්ගලයන් මරණින් පසු දේවත්වයට පත්වීම නිතර දක්නා ලැබෙන්නකි. (උඩුගම්පොළ කළුකුමාර, සෙංකඩගල කළු කුමාර, කිතගම හිටි බණ්ඩාර, කිවුලේගෙදර අලුත් දෙවි, කීර්ති බණ්ඩාර



දෙවි, පුංචි අලුත් බණ්ඩාර දෙවි ආදීන් ගැන විස්තර බලන්න.) නොක්ස් පවසන පරිදි ඒ ඒ දෙවියන්ට අයත් බල ප්‍රදේශයක් ඇත. එම ප්‍රදේශවාසීන් විසින් නියමිත අවස්ථාවන්හි දී තම දෙවියන්ට පුද සත්කාර පැවැත්විය යුතු යැයි විශ්වාස කෙරේ. නොක්ස් දැන සිටි අවදිය, එනම් මීට වසර තුන්සියයකට පමණ පෙර යුගය, තුළ දී සිට අද දින මේ අදහස් ප්‍රබල ලෙසත් විරාගන චාරිත්‍ර අනුව එම පුද සත්කාර නො පැවැත්වුවහොත් යම් යම් ව්‍යසන සිදුවනු ඇති බවට විශ්වාසයක් පවතී. උදාහරණ වශයෙන් මීට වසර තිහ හතළිහකට පෙර සිදුවූවක් පිළිබඳව එන මේ වාර්තාව බලන්න:

> ".................... පිරිත පටන්ගන්නා විට හොඳටම රෑ බෝ වෙලා. පිරිත ආරම්භ වී පැයක් හමාරක් යන විට සෝමක්කා ගේ මුහුණ අමුතු වන්නට පටන් ගත්තේ ය. ඇගේ ඇස් උඩ ගොස් තිබිණි. .................... පිරිත දිගට ම පැවැත්වෙමින් තිබිණි. හදිස්සියෙන් සෝමක්කා යටිගිරියෙන් හූ තුනක් තැබුවා ය. ඉන් පසු පිරිත් කොටුව පෙරළා ගෙන එළියට පැන්නා ය. ........................ සෙනඟ පීරා ගෙන නැකැත් රාළ සෝමක්කා ළඟට විත් අක්කාගේ මූණ දෙස බලා සිටියේ ය.
>
> "මේක අප්පා යස්ස අවුලක්, ලෙඩක් හෙම නොවේ. බය වෙන්ඩ කාරි නෑ. මොකක් හරි වැරැද්දිමක් වෙලා ඇති."
>
> එවිට අත්තම්මා ඉදිරියට ආවා ය. "ඒක හැබෑව. අපට පොඩි වැරදීමක් වුවා. සෝමාවතීලා මින්නේරි දෙයියන් ගෙ බල ප්‍රදේශයේ කට්ටිය. පිරිතට දේව අවසරයක් ගත්තේ නැහැ. .................."
>
> බුලත් අතක් ද ගෙන කරුණාරත්න මාමා දේවාලය බලා පිටත්ව ගියේ ය. කරුණාරත්න මාමා දේවාලයට ගොස් කාරණාව පැවසූ විට දෙයියන්නප්පා දේවාභරණ බහාලනු ලබන යහනේ තැබූ මින්නේරි දෙවියන් ගේ රූපය ඉදිරියේ ආවේශ වන්ට පටන් ගත්තේ ය.
>
> "තමන් මේ මින්නේරි යකා ගේ ගං කොටුවේ තුඩුරුවක් බව නො දැන මහණුන් ගෙට ගෙන්වා ගත්තේ ද?"
>
> "තුඩුරුවාට සමාව දී වදාරන්ට"
>
> "ඇප නූලක් දමන්නම් හැබැයි තුන් මාසයක් ඇතුළත පිදේනියක් කැප කළ යුතු යි."
>
> "එහෙම යි."
>
> එම ඇපනූල සෝමක්කාගේ ගෙලට දමනවාත් සමගම ඇයට පියවි සිහිය ලැබිණි." (77 අ : 95-6 පිටු)

## 8. සමාජ විද්‍යාත්මක නිරීක්ෂණ

ඉහත සාකච්ඡාවේදී ලක්දිව සිංහල බෞද්ධයන් අතර පවත්නා දේව විශ්වාසය හා සම්බන්ධ ඓතිහාසික කරුණු අවධානයට ලක් කෙළෙමු. මී ළඟට අප දේව විශ්වාසය හා සම්බන්ධ සමාජ විද්‍යාත්මක කරුණු කීපයක් සැලකිල්ලට භාජනය කිරීමට අදහස් කරමු.

සිංහල දෙවිවරුන් ගේ ප්‍රභවය විවිධාකාරය. අපේ මතය නම් එහි පංචවිධ ප්‍රභේදයක් දැක්ක හැකි බවයි:

(අ) භාරතීය හින්දු සම්ප්‍රදායෙන් පැමිණි අය : එනම් **විෂ්ණු, ස්කන්ධ, පත්තිනි,** ගණේශ ආදීහු

(ආ) ප්‍රාග් ඓතිහාසික අවධියෙහි සිදු වූ ස්වදේශීය ජන්මයක් ඇති දෙවිවරු: එනම් **විභීෂණ, සමන්, උපුල්වන්, දැඩිමුණ්ඩ** ආදීහු

(ඇ) ඓතිහාසික යුගයේ දී දේවත්වයට නංවනු ලැබූ වීර පුරුෂයෝ: එනම්, **මින්නේරි දෙවියෝ, කීර්ති බණ්ඩාර, නීරාමුල්ලේ යාපා බණ්ඩාර, කිවුලේගෙදර බණ්ඩාර** ආදීහු

(ඈ) දේවත්වයට පත් වූ සංක්‍රමණිකයෝ : එනම්, **සිටියේ දෙවි දෙවොල් දෙවි, පණ්ඩි බණ්ඩාර** ආදීහු

(ඉ) බුදුසමය තුළින් දේවත්වයට පත් වූ අය : **නාථ** දෙවි

මෙම වර්ගීකරණය හුදෙක් විග්‍රහාත්මක පහසුව සඳහා කරන ලද්දකි. මෙහි දී අපේක්ෂා කරන ලද්දේ දේවත්වයට පත්වීම කෙබඳු මූලාශ්‍රයන් ගෙන් සිදුවී ද යන්න හඳුනා ගැනීම යි. ව්‍යවහාරයේ දී මේ ප්‍රභවයන්හි සම්මිශ්‍රණයක් සිදුව ඇති බව කරුණු ඒ ඒ දෙවියන් පිළිබඳ පෞද්ගලික විමසිල්ලෙන් පිරික්සන විට පැහැදිලි වනු ඇත.

### 8.1 දේව ගුණයන්හි විචල්‍යතාව

ලක්දිව විජය කුමරු ගොඩ බසින අවස්ථාවේ ඔවුන් ආරක්ෂා කිරීම පිණිස සක්දෙවිඳුන් විසින් උපුල්වන් දෙවියන් අනුයුක්ත කරන ලද බව පස් වන හෝ හය වන සියවසේ රචිත මහාවංශයේ සඳහන් වේ. ලක්දිව දේව පූජාව එතරම් දැඩිට පැවැතුණු යුගයක් නොවන කාලයක මහාවංශයට ඇතුළත් වුණු මේ සඳහන ලක්දිව ප්‍රාග් බෞද්ධ අවධියෙහි සිට පැවත ආ විශ්වාසයක් පිළිබඳ ඉඟියක් විය හැකියි. පණ්ඩුකාභය රජ දවස පුද පූජා ලැබූ දෙවිවරුන් හා යක්ෂයන් ගැන එන සඳහන ද මෙසේ ලක්දිව ම උපන් දෙවිවරුන් ගැනත් යක්ෂයන් ගැනත් කියැවෙන



තැනකි. **සමන්, විභීෂණ** යන දෙවිවරු ද ලක්දිව උපන ලද්දෝ ය. හත්වන සියවසේ දී **උපුල්වන්** දෙවියන් හඳුන්වන ලද්දේ "කිහිරැළි උපුල්වන්" යන නමිනි. කෝට්ටේ යුගය වන තෙක් **උපුල්වන්** දෙවියන් ස්වාධීන දෙවිකෙනකු ලෙස සිටි මුත් ඉන් පසු **උපුල්වන්** දෙවියන් පිළිබඳ විශ්වාසය **විෂ්ණු** දෙවියන් පිළිබඳ විශ්වාසය හා මිශ්‍ර වූ බව පෙනේ. ඒ අතර තවත් සංවර්ධනයක් සිදු විය. එනම් **දැඩිමුණ්ඩ** නමින් වෙනත් දෙවිකෙනකු ලෙස උපුල්වන් විශ්වාසයේ පැරණි ස්වරූපය පෙනී සිටින්නට පටන් ගැනීමයි.

**උපුල්වන් – විෂ්ණු** සම්මිශ්‍රණය බොහෝ විමර්ශකයන් ගේ අවධානයට යොමු වූවෙකි. අතීතයෙහි දෙවිනුවර **උපුල්වන්** දෙවොලක් තිබුණු තැන අද ඇත්තේ විෂ්ණු දේවාලයකි. අතීතයේ **උපුල්වන්** යනු විෂ්ණු ගෙන් වෙන් වූ ස්වාධීන දෙවි කෙනකු වූ බවට ප්‍රධාන සාධක වශයෙන් **තිසර සන්දේශයේ** 23 වන කවෙහි එන :

"සතොසින් වසන සිරි සරසවිය මොහු කෙරේ
වියොවින් පැමිණි දුක් තොම විඳ එ අව සරේ
රැකියෙන් මිසක් බඹ බඹසර ම අර තරේ
සොවගින් තැවී කළ නොව වේද වෙණු යුරේ

යන්නත් **කෝකිල සන්දේශයේ** 23 වන කවෙහි එන

"විසේසවත් විකුමෙන් සදිසි දිය බඳ"

යන්නත් සාධක ලෙස ගෙන ඇත. එසේ ම, ලංකාතිලක ගල් ලිපියේ "ශක්‍ර බ්‍රහ්ම විෂ්ණු මහේශ්වර ආදී වූ දිව්‍ය රූපත් ......................... ලංකාවට අරක් ගත් කිහිරැළි උපුල්වන් දෙවි රජ්ජුරුවන් වහන්සේත්, සුමන, විභීෂණ, ගණපති, කන්ද කුමාරාදි දෙවි රජ්ජුරුවන් වහන්සේත්" යන්නත් මේ අදහස සනාථ කරන සාධකයෝ වෙති. මහාචාර්ය පරණවිතාන ප්‍රමුඛ උගතුන් විසින් උපුල්වන්, විෂ්ණු යන දෙවිවරුන් දෙදෙනකු බව පෙන්වීමට යොදා ගන්නා මේ සාධක මහාචාර්ය ගණනාථ ඔබේසේකර පිළිගන්නේ නැත. වෙන ම නම්වලින් එක ම දේව සංකල්පය ප්‍රකාශ කරන තැන් දේව විශ්වාසය අතර දැක්ක හැකි බව ඔහු තර්ක කරයි. උදාහරණ ලෙස විෂ්ණු, ශ්‍රී කෘෂ්ණ, රාම, බුද්ධ යන නම් වෙන වෙනම දැක්වීමටත්, ඔවුනට පුද පූජා පැවැත්වීමටත් හින්දු බැතිමතකුට හැකි බව ඔහු පෙන්වා දෙන්නේ ය (166 : 315 පි.). මේ "දෙවිවරුන්" වෙන් වෙන් පුද්ගලයන් ලෙස විටෙක හැඳින්වෙන නමුත් හින්දු පුරාණ කථා අනුව එක ම විෂ්ණු ගේ "අවතාර" බව ද පිළිගැනේ. එහෙයින් "උපුල්වන්" වනාහි ලක්දිව පුරාණයේ සිට පැවැති විෂ්ණු ප්‍රතිරූපයක් වීමට ඉඩ

ඇති බවට ඔහු අනුමාන කරයි. පුරාණ භාරතීයයන් ගේ ඉන්ද්‍ර දෙවියන් බෞද්ධයන් විසින් ශක්‍ර බවට හරවා ගත්තාක් මෙන් අතීතයේ දී විෂ්ණු දෙවියන් උපුල්වන් යන නමින් මෙ රට වැසියන් දැන සිටින්නට ඇතැයි යනු ඔහු ඉදිරිපත් කරන මතයකි. මෙය හුදෙක් මතයක් මිස සාධක සහිතව ඔප්පු කළ හැක්කක් නොවන බව පවසන ඔබේසේකර මහතා, උපුල්වන් අනාර්‍ය වූ දේශීය දෙවියකු විය හැකි ය යන අදහස ද බැහැර කරන්නේ නැත. (එම : 319 පි.). ඒ කෙසේ වෙතත් කෝට්ටේ යුගයෙන් පසු උපුල්වන් ස්වරූපය මැකී ගොස් විෂ්ණු ස්වරූපය පමණක් තහවුරු විය. හොඳහොත් උපුල්වන් ගේ තැන විෂ්ණු විසින් ගන්නා ලදී.

මේ අවධියේ දී ඉහත කී විපර්යාසයට අමතර ව තවත් සංවර්ධනයක් සිදු වී ඇති අයුරු ඔබේසේකර පෙන්වා දී තිබේ. එනම්, පූර්වයෙහි දේවතා බණ්ඩාර නමින් පෙනී සිටි ප්‍රාදේශීය දෙවියන් දැඩිමුණ්ඩ හෙවත් "වාහල බණ්ඩාර" යන නාමය ලබමින් වඩාත් වැදගත් කර්තව්‍යයක් අරභයා විශේෂත්වයට පත් වීමයි.

පස්වන බුවනෙකබාහු (ව්‍ය.ව. 1372 - 1408) රජු දවස ලියැවුණු මයුර සන්දේශයේ උපුල්වන් සුරිඳු ගැන මෙසේ සඳහන් වේ.

සවි දිගු බිතැකිරණෙව් යස උදුල් වන
සැවි බල පෑ එදිනෙහි බුදු මඟුල් වන
දෙව් නුවරෙහි දෙව් රජ හට උපුල් වන
දෙව් මෙහසුන් මතු සව් සිරි විපුල් වන

(4 වන කව)

"බුද්ධ මංගල්‍යය වූ ඒ දිනයෙහි දුනු බලය පෑ කීර්තිය කිරි මුහුදු පරිද්දෙන් සියළු දිසා බිත්ති බබුළුවන දෙවුන්දර නගරයේ උත්පලවර්ණ දෙව් රජ හට අනාගතයේ සියළු සිරි වර්ධනය කරන්නා වූ මේ සන්දේශය දෙව"

සිංහල සන්දේශයක සඳහන් මේ පුවත මුල් පාලි අටුවාවන්හි නො පැනෙන අලුත් අදහසකි. පාලි අටුවාවන්හි සඳහන් පරිදි බුද්ධත්වය සිදුවන මොහොතේ පැවති මාර යුද්ධ අවස්ථාවේ දී ශක්‍රයා ප්‍රමුඛ සියළු දෙවිවරු බිය වැද පලා ගියෝ ය. ඒ අනුව අමාවතුරේ සඳහන් ව ඇත්තේ මාර දිව්‍ය පුත්‍රයා "මර සෙනඟ ගෙනැ එත් එත්, දස දහස් ලොධාහි දෙව් බඹහු තතු තතු වූ දෙසෙහි හී පැලැනැ .................... නැම දෙව් බඹුන් පැලැ කල්හි මහසත් එකලා වැ" වැඩ වුන් බවයි (20 : 27 පි). බුත්සරණෙහි සඳහන් පරිදි බුදු රදහු ඇසතු බෝරුකට අනිමිසලොවන පූජා



පවත්වන්නෝ මෙසේ කියති : "වශවර්ති මාරයා දිවැ ගෙණැ ආ කලැ සියලු දෙවියන් බඹුන් බිඳී යා දී මා හැර නොගියා වූ මේ බොධි වෘක්ෂයට .................... ඇසින් මැ පූජා කෙරෙමි" (93 අ : 226 පි.) මේ දොළොස්වන සියවස වන විට ද සිංහල බෞද්ධයන් අතර පැවැති විශ්වාසය යි. එහෙත් දොළොස් වන සියවස හා පසළොස්වන සිය වස අතර කාලයේ දී මේ අදහස වෙනසකට භාජනය වූ බව පෙනේ. මාර යුද්ධ අවස්ථාවෙහි උපුල්වන් දෙවියන් පමණක් බුදුවන බෝසතුන් සමග නො සැලී රැඳී සිටි බවට විශ්වාසයක් තුදුස් වන සියවසේ අග වන විට ගොඩ නැගී තිබුණු අයුරු මයුර සන්දේශයේ යථෝක්ත කවියෙන් පළ වන්නේ ය. මීට අමතරව 15 වන 16 වන සියවස් වන විට තවත් සංවර්ධනයක් සිදුව තිබිණි. හින්දු අදහස් බහුල ලෙස ප්‍රචලිත වීමේ ප්‍රතිඵලයක් ලෙස උපුල්වන් දෙවියන් විෂ්ණු බවට පරිවර්තනය වීම ද මේ අවධියෙහි සිදුවෙමින් පවතින්නට ඇත. වර්ෂ 1588 දී පෘතුගීසීන් දෙවුන්දර දේවාලය වනසන අවස්ථාවේ (ඉහත සඳහනක වූ පරිදි) එහි සේවය කළ බ්‍රාහ්මණයන්, දේවදාසීන් එහි පැවැති රථ ආදියෙන් ගම්‍ය වන්නේ ඒ වන විට දෙවුන්දර දේවාලයේ හින්දු ස්වරූපය දැඩි ලෙස තහවුරුව තිබුණු බවයි.

මේ වන විට යාපහුවේ පළමු වන බුවනෙකබා සමයේ දී (ව්‍ය. ව. 1272 - 84) සතර කෝරලේ අලුත් නුවර දේවාලය කරවා තිබුණි. මේ ස්ථානය එම රජු ගේ පියාණන් වූ දෙවන පැරකුම්බාවන් විසින් දෙවිනුවර උපුල්වන් දෙවියන් වෙත පූජා කරන ලද්දක් බවත් බුවනෙකබා රාජ සමයේ දී දෙවියන් අස්සද්දනා පිරිවෙන් සාමීන්ට සිහිනෙන් පෙනී "මල්වතු භූමි ප්‍රදේශයෙහි ශාමශර සොළුව සිටුවා මෙ තැන් මට දේවාලයක් කරවා දෙව" යි කී බවත් අලුත් නුවර දේවාලය කරවීම ගැන ඇති පැරැණි ලිපිවල සඳහන් වන අයුරු කරහම්පිටිගොඩ සුමනසාර හිමියන් විසින් විස්තර කර තිබේ (130). "ශාමශර" යන්න "රාමශර" විය හැකි යයි ඒ හිමියෝ අනුමානය කරති. සතර කෝරළයේ මාන කවිවල "රාම දෙවිරද දෙවුන්දර සිට අලුත් නුවරට වඩින ගමනේ" යැයි සඳහන් ව ඇති අයුරු ද ඒ හිමියෝ දක්වති (එම).

මෙසේ දහතුන් වන සියවසේ අග සිට දෙවිනුවර මෙන් ම අලුත් නුවර ද උපුල්වන් - විෂ්ණු දෙවොල් පවතින්නට ඇත. එහෙත් දහසය වන සියවසේ අග දී පෘතුගීසීන් දෙවුන්දර දෙවොල විනාශ කිරීමෙන් පසු උපුල්වන් (විෂ්ණු) දෙවියෝ අලුත් නුවර ම විසූහ. වර්ෂ 1614 දී ලියන ලද පෘතුගීසි තෝම්බුවක එහි "නාරායන" දේවාලයක් තිබීම ගැන සඳහන් වෙතැයි මහාචාර්‍ය ඔබේසේකර පවසයි (166 : 320 පි.). පෘතුගීසි අවධිය ගැන ගවේෂණ රාශියක් කර ඇති පෝල් ඊ. පීරිස් මහතා ගේ මතය

නම් දොන් ජුවන් ධර්මපාල, සීතාවක රාජසිංහ යන රජවරුන්ගේ ඇවෑමෙන් එනම්, දහසය වන සියවසේ අග දී, රටේ ඇති වූ වියවුල් සමය තුළ අලුත් නුවර දේවාලයේ තිබූ දේවාභරණ ආරක්ෂාව පිණිස සෙංකඩගල නුවරට ගෙන යන්නට ඇති බව ය (එම : 320 පි.). මෙසේ මහනුවරට වඩම වන ලද අලුත් නුවර (**විෂ්ණු**) දෙවියන් උදෙසා මහනුවර ඇසළ පෙරහර පවත්වන ලද ආකාරය දෙවන රාජසිංහ සමයේ (1635 - 87) එහි සිටි රොබට් නොක්ස් ද දිටි. එදා පෙරහරේ මුල් තන්හි වූයේ "අලුත් නුවර" දෙවියන් බව ද මේ දෙවියන් පිටු පසින් "කතරගම" දෙවියන් හා "පොතිං" දෙවියන් (පත්තිනි) පෙරහරේ වැඩම වන ලද බව ද නොක්ස් පවසා තිබේ (155 : 126 පි.). මින් කරුණු කීපයක් පැහැදිලි වේ. එනම්: 1. අලුත් නුවර දෙවියන් මහනුවරට වඩමවා ගෙන එන ලද්දේ දාහත්වන සියවසේ දී විය යුතු ය. 2. තව ම ජනයා ගේ සිතේ ඒ වඩමවා ගෙන ඒමෙහි මතකය පැවැති හෙයින් එම දෙවියෝ "අලුත් නුවර දෙවියෝ" යනුවෙන් හඳුන්වන ලදහ. 3. ඒ නමින් එදා මහනුවර දී හඳුන්වන ලද්දේ "විෂ්ණු" මිස (අද මෙන්) "දැඩි මුණ්ඩ" නොවේ. (දෙවුන්දරින් අලුත් නුවරට ආ **උපුල්වන්** දෙවියන් මහනුවර දී **විෂ්ණු** බවට පෙරලුණු ආකාරයක් ද මෙයින් ගම්‍ය වන බව කිවයුතු කරුණකි.)

ජනශ්‍රැති තුළ දෙවිවරුන් ගේ ස්වභාවය කලින් කල විපර්යාසයට භාජන වන අයුරු **දැඩිමුණ්ඩ** නමින් අද හැඳින්වෙන් දෙවියන් සම්බන්ධයෙන් ද දැක්ක හැකිය. දෙවි නුවර සිටි **උපුල්වන්** දෙවියන් (හෙවත් **විෂ්ණු** දෙවියන්) සඳහා හතර කෝර්ලළේ පද්දාවෙල ඉහත කී මල්වතු භූමියේ දේවාලයක් කරවා දෙවියන් එහි වාසයට පැමිණි කල්හි එම ප්‍රදේශාධිපතිව විසූ දේවතා **බණ්ඩාරයන්** ඔවුන් ගේ අන්තේවාසික බවට පත් වූ බව පෙනේ. **දේවතා** බණ්ඩාරයන්ට "වාහල" යන නම ද ඇත්තේ එබැවිනි. (**දේවතා බණ්ඩාරයන්** මේ "වාහල" රාජකාරිය කරන්නේ **උපුල්වන් - විෂ්ණු** දෙවියන්ට පමණක් නොවේ. **කතරගම** දෙවියන් පද්දාවෙලට වැඩි දුරක් නැති ඇම්බැක්කේ දේවාලයට ද අධිගෘහිත වූ කල්හි එහි ද අන්තේවාසිකව එම දෙවියන්ට ද අදිකාරම් සේ දේවතා බණ්ඩාරයෝ සේවය කරති. ඇතැම් කතරගම දේවාලයක් ආශ්‍රිතව **දේවතා බණ්ඩාර** දේවාලයක් ද ඇත. එය "පල්ලේ දේවාලය" යනුවෙන් හඳුන්වනු ලැබේ.)

පද්දාවෙල ග්‍රාමය **උපුල්වන් – විෂ්ණු** දෙවොල කැරවීමෙන් පසු "අලුත් නුවර" නම් ගත්තේ ය. උපුල්වන් – **විෂ්ණු** දෙවියන් මහනුවර මහදේවාලය වෙත සංක්‍රමණය වීමෙන් පසු අලුත් නුවර දෙවොලේ ප්‍රධානත්වය දේවතා බණ්ඩාරට පැවැරිණි. අද දක්වාම අලුත් නුවර දෙවියන් වන දේවතා බණ්ඩාරයෝ තම ස්වාමියා වන **විෂ්ණු** දෙවියන්ට යටහත් පහත්ව සිටිති.



අලුත් නුවර සතුව ඇති ගම්බිම් ද වෙනත් දේපොළ ද මහනුවර මහදේවාලය සතු දේපොළ ලෙස සැලකේ (130 : 69 පි.). **දේවතා බණ්ඩාර** අලුත් නුවර ප්‍රධානත්වයට පත්වීම හා සමඟ තවත් විපර්යාස සිදු විය. මෙ තෙක් එහි සිටි **උපුල්වන් - විෂ්ණු** දෙවියන් හා සම්බන්ධ ඇතැම් ජනප්‍රවාද ද **දේවතා බණ්ඩාර** වෙත ආරෝපණය වන්නට විය. මාර සංග්‍රාමය වන අවස්ථාවේ බුදු රදුන් අසළ නොසෙල් වී සිටීම එබන්දෙකි.

යන්ඩ ඇරපු සැරේ දෙවියො නො සිට වල් ඉරා<br>
ගන්ඩ අවිය නොගෙන දකුණු සවේ මන හැරා<br>
දෙන්ඩ සැරය වරක් දුන්න කවති දැති වරා<br>
මුණ්ඩ දැඩිය තම දුන්නේ මුනිඳු ලොව් තුරා<br>
(137 : 536 පි.)

මේ අනුව "දැඩිමුණ්ඩ" යනු බුදු රදුන් විසින් ඔවුනට දෙන ලද නාමයකි. යකුන් කෙරේ ඔද තෙද පැතිර වීමේ විශේෂ හැකියාවක් මේ දෙවියන්ට ඇති බව ඔවුන් ලවා ගල කැප්පවීමේ පුවත මඟින් අවධාරණය වේ. මනුෂ්‍යයන්ට ඇති වන යක්ෂෝපද්‍රව දුර ලීමෙහි විශේෂ හැකියාවක් මේ දෙවියන්ට ඇති බව ප්‍රකට විශ්වාසය යි. එ බඳු සැඩ පරුෂ කර්තව්‍ය මෙම දෙවියන් වෙත පැවරීම නිසා **උපුල්වන් - විෂ්ණු** දෙවියන් වඩ වඩාත් ශාන්ත ගුණ දරන්නා වූ කෙනකුන් බව අවධාරණය වේ (166 : 327 පි.). පුරාණයේ **උපුල්වන් - විෂ්ණු** වෙත පැවැති තෙව්කුම් සහිත රණකාමී ගුණාංග පසුව ජනප්‍රවාදයෙන් ගිලිහී යන්නේ මේ ලෙසිනි. දෙවිවරුන් ගේ ගුණාංගත් කලින් කල විපර්යාසයට භාජන වන බව **උපුල්වන් - විෂ්ණු - දැඩිමුණ්ඩ** පුවත් මඟින් මනාව පැහැදිලි වන්නේ ය.

## 8.2 බෝසත් බවින් දේවත්වයට

ආර්යෂ්ටාංගික මාර්ගය අනුව නිර්වාණ ධර්මය සාක්ෂාත් කර ගැනීම පරමාර්ථ කර ගත් බුදුසමය තුළ දේව විශ්වාසයට අනුබලයක් ලැබෙතැයි සිතීම උගහට වුවත් අද දින බෞද්ධයන් විසින් දෙවිවරුන් තම ආගමික විශ්වාසයන් තුළ ක්‍රියාත්මක වන අවශ්‍ය පිරිසක් ලෙස සලකන බව අපි දනිමු. බෞද්ධ සංකල්පත් දේව විශ්වාසත් අතර සම්මිශ්‍රණය පැහැදිලි කරන එක් සිද්ධියක් ලෙස නාථ දෙවියන් පිළිබඳ විශ්වාසයන්හි වර්ධනයක් දැක්විය හැකි ය. ඇතැම් දෙවිවරුන් ප්‍රචණ්ඩ තත්වයෙහි සිට ක්‍රමයෙන් ධාර්මික භාවයට පත් වී අවසන බෝධිසත්ව තත්වයට පත්වන අයුරු කතරගම දෙවියන් සම්බන්ධයෙන් දැක්ක හැකි ආකාරය ඉහත විස්තරවල දී පැහැදිලි වන්නට ඇත. නාථ දෙවියන් පිළිබඳ පුවත ඉහත



4. ර.මු.නි.ස. - 93939

සිද්ධියේ ප්‍රතිවර්තනයක් ලෙස සැලකිය හැකි ය. මෙහි දී බෝධිසත්ව වරයෙක් දේවත්වයට පත්වන්නේ ය

මුල දී අවලෝකිතේශ්වර බොධිසත්වයන් ද, නාථ දෙවියන් ද, මෛත්‍රිය බෝධිසත්වයන් ද යනුවෙන් පුද්ගල විශේෂ තුනක් වෙන් වෙන්ව හඳුනා ගැණුනු නමුත් කල්යාමේ දී නාථ දේව ස්වරූපය තුළ මේ ස්වරූප තුන ම නිමග්න වූ බව පෙනේ.

මහායාන බෞද්ධයන් අතර අවලෝකිතේශ්වර බෝධිසත්ව විශ්වාසය පහළ වූයේ සම්බුද්ධ පරිනිර්වාණයෙන් පසු සිව් වන සියවසේ දී පමණ බව සලකනු ලැබේ (154 : 33 පි.). එහෙත් අවලෝකිතේශ්වර පුදපූජා ඇරඹෙන්නේ මීට ශතවර්ෂ දෙක තුනකට පසු ව බව පැහැදිලි ය. (එම 38 පි.). අවලෝකිතේශ්වර නමින් එදා හැඳින්වුණු නාථ බෝධිසත්වයන් ලක්දිව වැසි බෞද්ධයන් ගේ පුද පූජාවට භාජනය වන්නේ හත්වන හෝ අටවන හෝ සියවස පමණ සිට බව පුරාවිද්‍යාත්මක සාධකයන් ගෙන් පැහැදිලි වේ.

මේ යුගය තුළ බෞද්ධ ආසියාවේ සෑම ප්‍රදේශයක ම මෙම බෝධිසත්වයෝ පුද සත්කාර ලබන්නට වූහ. අටවන සියවසේ සිට දහතුන් වන සියවස දක්වා කාලය තුළ ශ්‍රී විජය, කාම්බෝජ, සියම, බුරුමය වැනි අග්නිදිග ආසියාතු රටවල ආවලෝකිතේශ්වර පුද පූජාදිය රාජත්වය තහවුරු කිරීම පිණිස වැදගත් කොට සලකන ලදී. ලක්දිව ද අනුරාධපුර යුගයේ අවසාන කාලය වන විට රජවරුන් බෝසතුන් ලෙසට හඳුනා ගැනීමේ සම්ප්‍රදායක් පැන නැඟී තිබිණි. සිවු වන මිහිඳු රජු (ක්‍රි.ව. 956 - 72) විසින් මිහින්තලේ පිහිටුවා ඇති පුවරු ලිපියේ "ලක්දිව නොබෝසත්හු නො රජ වන්නෙයි" යනුවෙන් සඳහන් ව ඇත. ලක්දිව බුදු සමයේ වඩා බලවත් වූ ථෙරවාදී සම්ප්‍රදායට අනුව බෝධිසත්වයන් අතරින් එක් කෙනෙක් පමණක්, එනම් මෙත් බෝසත්හු පමණක් පුද පූජා සඳහා හඳුනා ගනු ලබත්. එහෙත් මහායාන සම්ප්‍රදාය අනුව සෑම සත්වයෙකුටම බෝධිසත්ව පාරමිතාව පිරිය හැකි ය. විශේෂයෙන් ම ජනයා ගේ ගෞරවය ලබන අත්දමේ ගුණාංග පිහිටි රජවරුන්ට මේ තත්වය ආරෝපණය කරගත හැකි ය. මධ්‍යකාලීන ලංකාවේ මේ සම්බන්ධයෙන් පැවති තත්වය මහාවංශයේ සඳහන් ආකාරය ගයිගර් පඬිතුමා මනා ව විස්තර කර ඇත:

> ධර්මිෂ්ඨ රජවරුන් මතු ජාතියක දී බුද්ධත්වය ලැබ ගැනීමේ මහට පිළිපන්නවුන් විය හැකි බව වංශකතාකරු පිළිගත යුතු විය. මෙය සමහර රජුන් කෙරෙහි මෙ වැනි ගුණයක් ආරූඪ කළ මහායානිකයන් ගේ මතයට ඉඩ දීමකැයි මම සිතමි. ථෙරවාදීන් විසින් මෙසේ කරන ලද්දේ සංඝයාත් රජවරුනුත් අතර පැවැතුණු හිතාශ්‍රය නොකඩවා තබා ගැනීම පිණිසය.................. මේ නවතාව පිළිබඳ පළමු ලාඤ්ජනය ලැබෙන්නේ ම.ව. 36, 90 වෙනි. මෙහි දී සිරිසංඝබොධි රජු 'මහාසත්ත' යනුවෙන් නම් කොට ඇත ...................... හතර වන සියවසේ දී බුද්ධදාස රජු බෝධිසත්වයන් ගත කළ අත්දමේ ජීවිතයක් ගත කළ බව 37, 109 හි කියැවේ. ........................... පළමු වන අග්ගබොධි ද, පළමු වන සේන ද යන රජවරුන් බුද්ධත්වය ප්‍රාර්ථනා කර ගෙන සිටි බව 42, 1 හි හා 50, 65 හි කියැවේ. කෙසේ වුව ද මේ රජවරුන් එක් කෙනකුටවත් බෝධිසත්ව නාමය කෙළින් ම භාවිත කොට නැත. ධම්මකිත්ති හිමියන් විසින් චූලවංශ පළමු කොටස ලියූ දහතුන් වන සියවස දක්වා වූ කාලය තුළ ථෙරවාදීන් මේ අලුත් බෝධිසත්ව ධර්මය පිළිගත්තේ නොකැමැත්තෙන් බව ප්‍රත්‍යක්ෂ ව පෙනේ. දාහතර වන සියවස දෙවැනි භාගයෙහි රචිත යැයි අනුමාන කළ හැකි චූලවංශ දෙවැනි කොටසෙහි හතර වැනි විජයබාහු රජු කෙළින් ම බෝධිසත්ව යනුවෙන් නම් කොට ඇත. (43 : 307 පි. මෙහි අංක යොදා ඇත්තේ මහාවංශයේ පරිච්ඡේද හා ගාථා සඳහා ය.)

බෝසත් විජයබාහු රජුගේ පියා වූ දෙවන පැරකුම්බාවන් ද බෝධිසත්ව පාරමිතාව කෙරේ යොමු කරවන ලද්දෙක් විය. රජු ගේ පන්තිස් වන හවුරුදුයෙහි මයුරපාද හිමියන් රචිත **පූජාවලියේ** අධ්‍යායය "රජහට බෝධිසත්ව පාරමිතාව" හැඟවීම යි (88 : 12 පි.). මේ අවධියේ ඇතැම් සෙසු ප්‍රභූන් ද බෝසත් පාරමිතාව පිරූ බව "බුද්ධත්වාභිලාෂී වූ දේවප්‍රතිරාජ නම් අගමැතියාණන්" (එම : 11 පි. ) ගැන සඳහනෙන් පෙනේ. ඒ මතු ද නොව ථෙරවාදී භික්ෂූන් වහන්සේ නමක් වූ මයුරපාද හිමියෝ ද බුදුබව් පැතූ හ (එම : 13 පි.). ලක්දිව මහායාන අදහස් මේ අවධියේ කෙතරම් දුරට ප්‍රචලිතව පැවැතියේ දැයි මින් පෙනේ.

ලක්දිව ථෙරවාද සම්ප්‍රදාය කෙරේ මහායානය බල පෑ අයුරු අනුරාධපුර යුගයෙහි බුදුසමයේ ඉතිහාසය පිරික්සන විට පැහැදිලිව ම පෙනෙන්නකි. ඇතැම් රජවරුන් සෘජුවම මහායාන සංකල්පයන්ට පක්ෂපාති වූ අතර අවසන ථෙරවාදය ම ජය ගත්තත් සමාජයේ පැතිර පැවැති මහායාන අදහස් ථෙරවාදී සම්ප්‍රදාය තුළට ද ඇතුළු විය. මෙහි දී අපේ විශේෂ අවධානයට යොමු විය යුත්තේ මහායානිකයන් අතර වැදගත් ම බෝධිසත්වයන් ලෙස සැලකෙන අවලෝකිතේශ්වරයන් කෙරේ විශේෂ භක්ති ප්‍රණාමයන් මධ්‍යකාලීන ලංකාවේ පැවැති ආකාර ය යි. මෙම බෝධිසත්වයන් රූගත කිරීමේ දී කිරීටයෙහි ධ්‍යානි බුද්ධ රූපයක්

යොදනු ලැබේ. තිරියායෙන් ලැබී ඇති ව්‍ය.ව. 8 වන සියවසට අයත් යැයි සැලකෙන අවලෝකිතේශ්වර ලෝහ ප්‍රතිමා කීපයක් ඇත. නව වන සියවසට අයත් වැලිගම කුෂ්ටරාජගල ප්‍රතිමාවත්, අනුරාධපුරයෙන් ලැබුණු අවලෝකිතේශ්වර ලෝහ ප්‍රතිමාවත්, සිතුල්පව්වෙන් ලද අවලෝකිතේශ්වර හිටි පිළිමයත්, බුදුරුවගල ප්‍රතිමා සංකීර්ණයේ ඇති (භාර්යාව තාරා හා පුත්‍ර සුධන කුමාරයන් දෙපස පිහිටුවා ගෙන සිටින) අවලෝකිතේශ්වර ප්‍රතිමාවත්, මාලිගාවිල දඹේගොඩ පිහිටි අඩි 33 ක් උස පුවිසල් අවලෝකිතේශ්වර ප්‍රතිමාවත්, සාධක ලෙස ගතහොත් මෙම බෝධිසත්වයන් අනුරාධපුර යුගයේ අවසාන කාලයේ දී ලක්දිව බෞද්ධයන් අතර කෙතරම් ජනප්‍රියව සිටින්නට ඇති ද යන්න පැහැදිලි වන්නේ ය. අවලෝකිතේශ්වර භක්තිය බෞද්ධ ලෝකයේ අති පුළුල් ලෙස ව්‍යාප්තව පැවතුණි. අවලෝකිතේශ්වර වන්දනාව ව්‍ය. ව. දෙවන සියවසේ දී පමණ වයඹ දිග භාරතයේ කණිෂ්ක රාජ යුගයේ පමණ ඇරඹුණු බව අනුමාන කරනු ලැබේ. අනතුරු ව එම අදහස් ව්‍යාප්ත වී වයඹ දිග ආසියාවේ හින්දුකුෂ් ප්‍රදේශයේ සිට දකුණු ආසියාවේ ඉන්දියාව, නේපාලය, තිබ්බතය හා ලංකාව තුළ මෙන් ම අග්නිදිග ආසියාවේ බුරුමය, තායිලන්තය, කම්පූචියාව, ඉන්දුනීසියාව ආදි ප්‍රදේශවලත්, නැගෙනහිර ආසියාවේ චීනය, මොන්ගෝලියාව, කොරියාව හා ජපානයේත් මේ බෝධිසත්වයෝ ගෞරවාදරයට පාත්‍ර වූහ (154 : 29 - 30 පිටු). අද ද ජපානයේ "කන්නොන්" ලෙස ද, චීනයේ "කුවාන්-යින්" ලෙස ද පුද පූජාවට භාජන වන එතුමෝ තිබ්බත වාසීන් ගේ දලයි ලාමා තුමන් ලෙසින් මනු ලොව ප්‍රාදූර්භූතව වෙසෙන්නෝ ය (එම : 30 පි.). අන්‍ය බෞද්ධ රටවල මෙසේ අවලෝකිතේශ්වර භක්තිය විවිධ ස්වරූප බවට පරිවර්තනය වූවා හා සමානව ලක්දිව දී එය මෛත්‍රිය බෝධි සත්ව ස්වරූපයත්, නාථ දේව ස්වරූපයත් හා සමග බද්ධ වූ බව පෙනේ.

අවලෝකිතේශ්වර බෝධිසත්වයන් ද මෛත්‍රිය බෝධි සත්වයන් ද සිංහල බෞද්ධ සමාජ හා දේශපාලනමය සංකල්ප පද්ධතිය තුළට අන්තර්ග්‍රහණය වීම දහතුන්වන හා දාහත්වන සියවස් අතර දී සිදු වූ බව ඉතිහාසගත කරුණු අනුව පෙනෙන්නකි. දෙවන පැරකුම්බා රජ දවස (ව්‍ය. ව. 1236 – 70) ලක්දිව මහා නියඟයක් හා දුර්භික්ෂයක් ඇති වූ විට රජතුමා "තුනුරුවන්, චෛත්‍ය, බෝධීන්ට ද, මහාර්ධි ඇති නාථ, මෛත්‍රෙය දේවාදී පිදිය යුතු දෙවියන්ට ද" නන් වැදෑරුම් පූජා පවත්වා පිරිත් කියවා දළදාවහන්සේ නුවර පැදකුණු කරවා වර්ෂාව ප්‍රාර්ථනය කළ කල්හි එසේ සිදු වී යයි මහාවංශයේ 87 වන පරිච්ඡේදයේ 3 – 9 ගාථාවන්හි සඳහන් වේ. සිවු වන බුවනෙකබා රජ දවස (ව්‍ය. ව. 1344 - 51) කැරුණු උඩුනුවර ලංකාතිලකයෙහි බුදු රජාණන්



ලඟට වැදගත් කොට සැලකී ඇත්තේ "මෛත්‍රී බෝධිසත්වයන් වහන්සේත් ලෝකේශ්වර නාථයන් වහන්සේත්" ය (172 : 5 පි.). ඉන් පසුව "සුයාම, සන්තුෂිත, ශක්‍ර, බ්‍රහ්ම, විෂ්ණු, මහේශ්වරාදී වූ, දිව්‍ය රූපත් මෙකී හැම දෙනා ගේ දිව්‍ය ස්ත්‍රී රූපත් ලංකාවට අරක් ගත් කිහිරෙළි උපුල්වන් දෙවි රජ්ජුරුවන් වහන්සේත්, සුමන, විභීෂණ, ගණපති, කන්දකුමාරාදි දෙවි රජ්ජුරුවන් වහන්සේත් බිසෝවරුන් වහන්සේත්" සඳහන් ව ඇත. (එම).

සිවුවන බුවනෙකබා රාජ්‍ය යුගයේ දී ම කැරුණු ගඩලාදෙණිය මහා විහාරයේ දීත් ඉහත සඳහන් බෝධිසත්වයන් දෙදෙනා දෙවියන් ලෙස හඳුන්වා දී ඇත. "පල්ලේ මාලේ ශක්‍ර බ්‍රහ්ම සුයාම සන්තුෂිත නාථ මෛත්‍රී ආදි දෙවියන් විසින් පිරිවරන ලද" පිළිම වහන්සේ ගැන එහි ඇති සඳහනට අනුව නාථ මෛත්‍රී දෙ තැන සෘජුවම "දෙවියන්" ලෙස හඳුන්වනු ලබති (160 : 137 පි.). මේ අයුරින් බලන කල්හි හත්වන සියවසේ පමණ සිට ලක්දිව බෞද්ධයන් විසින් ගෞරවාදරයට පාත්‍ර කරමින් සිටි අවලෝකිතේශ්වර බෝධිසත්වයන් 14 වන සියවස වන විට "ලෝකේශ්වර නාථ" හෝ "නාථ" යන නමින් දේවත්වයට පත් ව සිටි අයුරු පෙනේ. මේ අවධියේ ම ගම්පොළ හා දැදිගම රජ කළ පස්වන පරාක්‍රමබාහු රජු දවස (1344 – 59) ලියවුණු තිසර සන්දේශයේ නාථ දෙවියන් "නතිඳු" නමින් ද එ තුමන් ගේ දේවිය "තාරා බිසොව" යනුවෙන් ද මහත් උත්කර්ෂවත් ලෙසින් වර්ණිත ය. ඩී. බී. ජයතිලක සංස්කරණයෙහි 126 වන දසපද සැහැල්ලේ දී නතිඳුන් වැඳ "තොසිනි ඔහු අයදු කුලුණු දෙන ලෙස මනදෙළේ" යැ යි ද 127 වන කවේ දී "ලක් මැදුර............ දුසිරි තෝරා හැර සුපිරි" ගුණයෙන් අලංකාර කළ තාරා බිසොව නමදින ලෙස ද තිසරාට විධාන කර තිබේ. ගම්පොළ රජ කළ තුන්වන වික්‍රමබාහු රජු දවස (ව්‍ය. ව. 1357 - 74) සෙංකඩගල නාථ දේවාලය ඉදි කැරුණු බව සාමාන්‍ය විශ්වාස යයි. එහෙත් එයට නිශ්චිත සාධක නැත. මෙම වික්‍රමබාහු රජු ගේ තුන්වන වසරෙහි (ව්‍ය. ව. 1360) පිහිටුවන ලද අම්පිටියේ ශිලාලේඛනයේ "සෙන්කඩගල දෙවියන් ගේ ඈතා ගත්තා දවස" අම්පිටියේ කුඹුරු හා ඒ අවට "සෙන්කඩගල දෙවියන්ට ස්ථිර කරවා" දී තිබේ (145). මෙම සිද්ධියකට වසර විස්සකට පසු (1380 හෝ 1381 දී) පිහිටුවන ලද සගම සෙල් ලිපියෙන් වාර්තා කරන්නේ "සෙන්කඩගල නාථ සාමින් හා නාගස දෙවියන්" වෙත කරන ලද විශේෂ දේවතා ප්‍රසාදයෙකි. පස්වන බුවනෙකබා (ව්‍ය.ව 1372 - 1408) නිරිඳුන් ගේ අමාත්‍යව "ලක්දිව ලෝසතුන් වැඩ සඳහා" නිරතුරුව වෙහෙසෙන අලකේශ්වර (අලගක්කෝනාර) හා දේවමන්ත්‍රිශ්වර දෙ බෑයන් ගේ එම උත්සාහයට පිහිට වීම පිණිස යථොක්ත දෙවියන් දෙදෙනා ස්වප්නයෙන් පෙනී සිට "ජය කාරණ" දක්වා සතුරු පක්ෂය පසු බෑමටත් මිත්‍ර පක්ෂය

වර්ධනය වීමටත් කටයුතු සැලසූ බැවින් එම දෙවිවරුන්ට නිරන්තරව බත් පාත්‍ර පිදීම පිණිස සගම බද කුඹුරු හා ඉඩම් පූජා කිරීම මෙහි ලෙඛන ගතව තිබේ (160 : 187 -8 පිටු). මේ සෙල්ලිපියේ සඳහන් යුද්ධය ආර්ය චක්‍රවර්ති යාපනය රාජයා විසින් එක්වර ගම්පළ හා රයිගම රාජධානි වෙත එල්ල කරන ලද ගොඩ බිම හා නෞකා ප්‍රහාරය විය හැකි ය (21 : 20–21 පිටු). අපට වැදගත් වන්නේ 14 වැනි සියවසේ අග වන විට අවලෝකිතේශ්වර බෝසතුන් සෙංකඩගල නාථ දෙවියන් බවට පත් වී හමාර ව තිබීම ය. මෙම විපර්යාසය සිදු වූ ආකාරය ලක්දිව දේව විශ්වාසයන්හි වර්ධනයේ එක් ලක්ෂණයක් පැහැදිලි කරයි. ඒ කවරේදැයි මී ළඟට සාකච්ඡා කරමු.

## 8.3 නාථ දෙවි හා සිංහල රාජත්වය

ඉහත සඳහන් සගම සෙල්ලිපිය හා අම්පිටියේ සෙල් ලිපියෙන් පෙන්නුම් කෙරෙන්නේ සෙංකඩගල නාථ දෙවියන් හා සිංහල රාජත්වය අතර සබඳතාවයක් දාහතරවන සියවස වන විට ගොඩ නැගී පැවතුණු ආකාරය යි. ජනප්‍රවාදයේ එන අයුරු සෙංකඩගල නුවර ඉදිකරන ලද්දේ තුන්වන වික්‍රමබාහු රජ දවස (ව්‍ය.ව. 1357 – 74) සෙංඛණ්ඩ නම් බමුණකු විසූ තැනයි. ඒ තැන ජයබිමක් බව සාවකු ලුහුබැඳ ගිය සිවලෙකුට එ තැන දී සාවාට බියෙන් ආපසු දිවයන්නට සිදුවීම නිසා දැන ගත් වික්‍රමබාහු රජ විසින් බමුණා ගේ නම තබා නුවර ඉදි කළ බව ජනප්‍රවාදයේ කිය වේ (78 : 201 පි.). මහනුවර අවධියෙහි පැවැති අභිෂේක චාරිත්‍රයන්හි දී විෂ්ණු හා නාථ දේවාල ප්‍රධාන තැන ගත් බව පසු ව ඉතිහාසය පෙන්වයි. මෙය රාජධානියේ යථෝක්ත ආරම්භය හා බද්ධ වූ සිද්ධියකි.

මහනුවර රජතුමෙකුගේ ඇවෑමෙන් නව රජ කෙනකු පත්කර ගන්නා අවස්ථාවේ දී ඔහුට රාජ නාමයක් ස්ථිර කොට මහුල් කඩුව පැළඳවීම අවශ්‍යයෙන්ම සිදු කළ යුත්තක් ව තිබිණි. රාජකීය නක්ෂත්‍රාචාර්යවරුන් විසින් භාග්‍යවන්ත නම් කීපයක් තෝරා රන්පත්වල ලියා නාථ දේවාලයේ තැන්පත් කිරීමෙන් පසු නියමිත නැකැත් දිනයේ දී නව රජු සපිරිවරින් මහාවිෂ්ණු දේවාලයට ගොස් දේව පූජා පවත්වා අනතුරුව නාථ දේවාලයට පැමිණ එහි ද දේව පූජා පවත්වා යට කී රන්පත් පරීක්ෂා කොට තමන්ට අභිමත නාමයක් තෝරා ගෙන එය පළමුව සිය අදිකාරම්වරයාට කියන්නේ ය. එවිට අදිකාරම් විසින් අප රජතුමා සඳහා දෙවියන් තෝරා ගත් නාමය මෙය යැයි හඬ නගා පවසනු ලැබේ. අනතුරුව උක්ත නාමය සහිත රන්පට රජු ගේ නළලේ බැඳ රන් කඩුව



ඔහුට පැළඳවීම ද චිරාගත චාරිත්‍රානුකූල ව සිදු වේ. මෙ විට දේවාලයේ කපුරාළ විසින් ගෙනෙන ලද සඳුන් කල්කයෙහි අතැඟිලි ඔබන නව රජතුමා විසින් රන් කඩුව අල්ලනු ලැබේ. මේ චාරිත්‍රය මහදේවාලයේ දී ද නාථ දේවාලයේ දී ද සිදු කෙරෙන්නේ ය (146 : 158–64 පිටු). රජ කමට අලුතෙන් පත්වීමේ දී මහදේවාලයට යාමේ අර්ථය කුමක් දැයි පිරික්සන විට අපට පෙනෙන්නේ බුදුරදුන් පිරිනිවන් මංචකයේ සිට කළ නිර්දේශය ප්‍රකාර ලක්දිව රැකීමට සැදී පැහැදී සිටින උපුල්වන් - විෂ්ණු දෙවියන් ගේ ප්‍රසාදය ලබා ගැන්මට රාජධුර අපේක්ෂකයා උත්සුක වීමකි. එහෙත් නාථ දෙවියන් මෙහි දී වැදගත් කොට සැලකෙන්නේ ඇයි? යන්න විමසිය යුත්තකි. මෑතක දී ආචාර්ය ජෝන් ක්ලිෆර්ඩ් හෝල්ට් විසින් අවලෝකිතේශ්වර – නාථ දෙවියන් ගැන කළ විමර්ශනයක් අනුව මේ කාරණය පැහැදිලි කර ගත හැකිව තිබේ.

අනුරාධපුර යුගයේ අග වන විට සිංහල රජවරුන් බෝධිසත්වයන් ලෙස පෙනී සිටීමට දැක් වූ අභිරුචිය සිව්වන මිහිඳු රජු ගේ (ඉහත අප උපුටා දැක්වූ) මිහින්තලා පුවරු ලිපියේ ඇති සාධක වැනි තැනින් පැහැදිලි වේ. පොළොන්නරුවේ රජකළ නිශ්ශංකමල්ල රජ (1187 – 96) "මැදහත් රජුන් ලැබීම බුදුන් ලැබීම සේ" යැයි ද "රජ දරුවන් මනුෂ්‍ය රූපයෙන් සිටිය ද නර දේවතා හෙයින් දෙවියන් සේ දැක්ක යුතු යැ" යි ද සිය ගල්පොත ලිපියේ කියන්නේ මේ සම්ප්‍රදාය අනුව ය. දඹදෙණියේ සිව්වන විජයබාහු (1270 – 72) "බෝසත් විජයබාහු" නමින් ද, කෝට්ටේ සවන පරාක්‍රමබාහු ඇතැම් සෙල්ලිපියක "බෝසත් පරාක්‍රමබාහු" නමින් ද සඳහන් වන්නේ ද ඒ අනුව බව පෙනේ (154 : 60 පි.). මේ අයුරින් රජතුමෝ, බෝධිසත්වයෝ, දෙවියෝ යන පුද්ගල විශේෂයෝ ලක්දිව බුදු සසුනත්, ජනතාවත් (ලෝක සාසන) ආරක්ෂා කරන්නා වූ මහානුභාව සම්පන්නයන් ලෙස හඳුන්වනු ලැබූ හ. ඒ විශ්වාසය අනුව ඔවුන් ගේ කාර්ය හා ස්වරූප එකට සංකලනය වීම ස්වාභාවික සංවර්ධනයක් බව පෙනේ. එහෙත් බුදු සමය ලක්දිවට හඳුන්වා දෙන ලද මුල් යුගයේ නොතිබුණු මේ අදහස පසුව ජනිත වූයේ කෙසේ ද?

මෙයට පිළිතුරු අපට ලැබෙන්නේ අනුරාධපුර යුගයේ දෙවන භාගයේ දී ලක්දිව පැතිර ගිය මහායාන අදහස් තුළිනි. වළගම්බා රාජ සමයේ දී (ව්‍ය.ව.පූ. 87 - 77) අභයගිරි භික්ෂූන් වෙන ම නිකායික පිරිසක් ලෙස ක්‍රියාකිරීම ඇරඹීමෙන් පසුව විවිධ අවස්ථාවන්හි භාරතයෙන් ලක්දිවට ගෙන එන ලද මහායාන සංකල්ප අභයගිරිය, ජේතවනය, දක්ඛිණ විහාරය, මිහින්තලා විහාරය ආදි ස්ථානයන්හි පැතිර ගිය ආකාරය මහාවංශයෙන් මෙන් ම වෙනත් ඓතිහාසික මූලාශ්‍රයන්ගෙන් ද, පුරාවිද්‍යා නටබුන්වලින් ද පැහැදිලි වේ. මහායාන ධර්මයේ විශේෂ

ලක්ෂණයක් වන්නේ බෝධිසත්ව වන්දනය යි. අප ඉහත සඳහන් කළ ආකාරයට අනුරාධපුර යුගයේ දෙවන භාගයේ දී, එනම් හත්වන සියවසේ පමණ සිට, ලක්දිව බෞද්ධයන් විසින් වන්දනාමාන කළ බෝධිසත්ව රූප ගණනාවක් පුරාවිද්‍යා සාධක අතර ඇත. මිහින්තලේ ත්‍රිකායස්තව ලිපියෙන් බුද්ධස්වභාවය ත්‍රිකායකින් යුක්තය යන මහායාන දර්ශනය ප්‍රකාශ වේ. මනුෂ්‍ය වේශය ගත් "නිර්මාණකාය" ද අතිමානුෂීය ලක්ෂණ රැගත් "සම්භෝගකාය" ද, සනාතන ධර්මය නිරූපණය කරන "ධර්මකාය" ද එහි නිරූපිතය (154 : 44–45 පිටු). මිහින්තලේ ඉදිකටු සෑයෙහි තිබී හමු වූ ලෝහ තහඩු වල ලියවී තිබුණු මහායාන සූත්‍ර දේශනා ද අනුරාධපුර ජේතවන ස්තූප භූමියෙන් ලැබුණු රන් තහඩුවල ලියැවුණු ප්‍රඥා පාරමිතා සූත්‍ර කොටස් ද පෙන්නුම් කරන්නේ "ධර්මකාය" විශේෂ වන්දනාවට පාත්‍ර වූ අයුරුයි. ඒ අතර බුද්ධාංකුර වූ අවලෝකිතේශ්වර, මංජුශ්‍රී වැනි බෝධි සත්වයන් ද ලක්දිව බෞද්ධයන් පූජාවට භාජනය කළ බවට සාධක ඇත (162 : 113 පි.). අවලෝකිතේශ්වර බෝධිසත්වයෝ මෙහි ලා විශේෂයෙන් සඳහන් කළ යුත්තාහු වෙත්. සිය කිරීටයේ ධ්‍යානි බුද්ධ රූපයක් සහිතව නිරූපිත අවලෝකිතේශ්වර රූප ගණනාවක් ලක්දිව විවිධ ස්ථානයන්ගෙන් ලැබී ඇති අයුරු ඉහත සඳහන් කළෙමු. එම මුල් ප්‍රතිමා සියල්ල ව්‍ය.ව. අට වන සියවසේ සිට දහ වන සියවස පමණ දක්වා කාලයට අයත් වේ. මේ අතර එදා ගිරිකණ්ඩික චෛත්‍යය යනුවෙන් හැඳින්වුණු අද තිරියායි නම් නැගෙනහිර වෙරළබඩ පිහිටි විහාරය, අවලෝකිතේශ්වර වන්දනා මධ්‍යස්ථානයක් ව පැවැති අයුරු එහි ඇති සංස්කෘත ශිලා ලේඛනයෙන් පෙනේ.

> "............................. ස්ඵුට මුනිර් බුද්ධාංකුරෝ නිවසති යත්‍ර සදා සුර කින්නර පූජ්‍යතමෝ අවලොකිතෙශ්වර ඉති ප්‍රථිතො භගවාන්............"
>
> (ලංකා ශිලාලෙඛන සංග්‍රහය, iv : 151 – 160 පිටු)

ආදී වශයෙන් කියැවෙන එම ශිලාලේඛනය ව්‍ය.ව. අට වන සියවසට පමණ අයත් ය. අනුරාධපුර යුගයේ අග භාගයට අයත් දඹේගොඩ සුවිසල් බෝධිසත්ව ප්‍රතිමාව අවලෝකිතේශ්වරයන් හා සම්බන්ධ විශේෂ ලක්ෂණයක් පෙන්නුම් කරන්නකි. මහා කරුණා ගුණයෙහි ප්‍රතිමූර්තිය වන අවලෝකිතේශ්වරයන් මෙහි "භෛසජ්‍යගුරු" ස්වරූපයෙන් පෙනී සිටින බව පුරාවිද්‍යාඥයන් විසින් නිගමනය කර තිබේ (179 : 2). එම ප්‍රතිමාව ආරෝග්‍යශාලාවකට යාබදව පිහිටුවා තිබීමෙන් මේ බෝධිසත්වයන් වහන්සේ ගේ එම ශාන්තිදායි ගුණය විශේෂ සැලකිල්ලට ගෙන ඇති බව කිව හැකි ය. අවලෝකිතේශ්වර බෝධිසත්වයන් පසුව නාථ දෙවියන් ලෙස හඳුනා ගැනීමෙන් පසුව ද එම ආරෝග්‍ය සම්පාදන ශක්තිය දිගින්



දිගට ම උන්වහන්සේ හා සම්බන්ධ ව හඳුනා ගැනුණු ආකාරය මහනුවර නාථ දේවාලයේ චිරාගත චාරිත්‍ර තුළ පෙනෙන්නට ඇත. සෙනරත් පරණවිතාන සූරීන් විසින් 1928 දී ලියන ලද ලිපියක එකොළොස් වන සියවසට අයත් නේපාල ලේඛනයක ඇති "සිංහල ද්වීපෙ ආරෝග්‍යශාලා ලොක නාථඃ" යනුවෙන් සඳහන් කර ඇති අයුරු මෙහි දී සිහිපත් කළ මනා ය (168:51පි.). එදා සිංහල ද්වීපයේ අවලෝකිතේශ්වර නාථයන් ගේ ආරෝග්‍යදන ශක්තිය දේශ දේශාන්තරයන්හි ප්‍රචලිතව තිබූ අයුරු මින් පෙනේ.

වැලිගම කුෂ්ටරාජගල රූපය සම්බන්ධයෙන් ජනප්‍රවාදයකට අනුව එය කරවන ලද්දේ ලක්දිවට ආරෝග්‍ය සුවය පතා පැමිණි විදේශීය රජ කෙනකු විසිනි, යන්නත් මෙහි ලා සිහි කළ හැකි ය. සෙංකඩගල යුගයේ සිට මහනුවර නාථ දේවාලයේ පවතින අලුත් අවුරුදු චාරිත්‍ර අතර ඇති ඖෂධීය තෙල් හා නානු සම්පාදනය කොට අන්‍ය විහාර, දේවාල අතර බෙදා හැරීමේ චාරිත්‍රයෙහි අර්ථයත් පෞරාණිකත්වයත් මේ අනුව වටහා ගත යුතු ය.

ජනතාවට සෙත සලසන මහා පුරුෂයාණ කෙනකුන් වන බෝධිසත්වයන් හා සමාන ව ධාර්මික රජ කෙනකුන් වෙතින් ද සුව සෙත සැලසෙන බව අනුරාධපුර යුගයේ අග වන විට පිළිගෙන තිබුණු අදහසක් බවට සාධක ඇත. අනුරාධපුර, පොළොන්නරු යුගවලට අයත් යහපත් රජුන් ගැන සඳහන් කරන මහාවංශය ඔවුන් ශාසනයට කළ සේවාවන්ට අමතර ව දානයෙහි ඇලුණු සිතැති බව මෙන් ම ආරෝග්‍යශාලා කරවීම ද ගිලනුන්ට සෙත සැලසීම ද ගැන විශේෂයෙන් සඳහන් කරන්නේ ය. බුද්ධදාස (ව්‍ය.ව. 340 – 368) රජතුමා ගැන සඳහන් කරන මහාවංශය මෙසේ පවසා තිබේ.

> ඒ රජ තෙමේ බෝසතුන් චරිතය ද ප්‍රාණීන් හමුවෙහි දක්වන්නේ පිය තෙමේ පුතුන් සෙයින් සතුන් කෙරෙහි අනුකම්පා කෙළේ ය. මහානුවණැති ඒ රජ තෙමේ දිළින්දන් වස්තු දීමෙන් ද සුවපත් වූවන් භොග ජීවිත රක්ෂායෙන් ද සිත් පිරුණන් කෙළේ ය. එ සේ ම සත්පුරුෂයන් සංග්‍රහයෙන් ද, අසත්පුරුෂයන් නිග්‍රහයෙන් ද, ගිලනුන් වෙදකමින් ද සංග්‍රහ කෙළේ යි (37 වන පරිච්ඡේදය, 59 – 61ගාථා).

බුද්ධදාස රජු විසින් මිනිසුන්ගේ පමණක් නොව තිරිසනුන් ගේ ද ශාරීරික හා මානසික ව්‍යාධීන් දුරු කිරීමට දිවා රෑ වෙහෙසුණු අයුරු දීර්ඝ ලෙස විස්තර කරන මහාවංශය ඊට අමතරව රජ විසින් ශාසනයේ

විරස්පීතිය සඳහා කරන ලද සේවාවන් විස්තර කරමින් අවසන මෙසේ ද පවසයි.

> ශාරිපුත්‍රාදී නමින් යුත් පුත්‍රයන් විසින් පිරිවරණ ලද බුජස් නම් රජ, සම්බුදු රජහු සේ හෙබියේ ය. (37 පරි : 127 ගාථාව)

මහා පරාක්‍රමබාහු රජු ද (1153 – 1186) රණකාමිත්වය, යුද්ධොපක්‍රමයෙහි දක්ෂතාව, පරිපාලනයෙහි, කෘතහස්තතාව, කෘෂිකාර්මික කටයුතු පිළිබඳ සංවිධාන ශක්තිය ආදි විශිෂ්ට ගුණාංගයන් ගෙන් හෙබියා සේ ම සිය වැසියන් ගේ සෞඛ්‍ය සංරක්ෂණය සඳහා ආරෝග්‍ය ශාලා කරවීම මෙන් ම සියතින් පිළියම් කිරීමෙහි ද නිරත වූ අයුරු මහාවංශය විස්තර කර ඇත (75 පරි : 34 – 54 ගාථා.).

යහපත් රජකුගේ පාලනය සමයෙහි ස්වභාව ධර්මයා වුව නිසි පරිදි හැසිරෙතැයි ඇතැයි යන විශ්වාසයක් නොහොත් ස්වභාව ධර්මයා ගේ නිසි පැවැත්ම රජුන්ගේ චර්යාව හා බද්ධ වූවකැයි යන පිළිගැනීම තිබිණි. සද්ධර්ම රත්නාවලියේ චූල්ල පිස්ස තෙරුන් වහන්සේ ගේ වස්තුවෙහි එක් තැනක උදැසන හිරු නොනැගීමට වගකිවයුත්තා රජු යයි ප්‍රකාශ වේ. 'රට තොටවලින් හවුරුදු නො ඉක්මවා බද්ද නංවන්නා සේම අදත් දවස ඉකුත් නො කර හිර නැංගුව මැනැවැ' යි වැසියෝ රජුට කියති. සිරිසඟබෝ රජ දවස (ව්‍ය.ව. 251 – 53) මහා නියඟක් සිදුවූ කල්හි රටවැසියන් කෙරේ කරුණාවෙන් කම්පිත වූ රජ මහාථූපයෙහි අංගණයට පැමිණ 'වැසි දිය පිරී මා මෙයින් උගුළුවන තෙක් නො නැගිටිමි' යි අදිටන් කොට එහි වැතිර ගති.' පෘථුවීශ්වරයන් එසේ වැතිර ගත් විගසම 'මහ වැසි වැස මුළු මහත් ලංකාද්වීපයේ ම මහ පොළොව සාරවත් කෙළේ' යැයි මහාවංශය වාර්තා කරන්නේ ය (36 වන පරි : 74 – 79 ගාථා). යහගුණ සම්පන්න රජකුගේ අගය කෙතරම් දුරට මිනිසුන් සිතේ කාවැදුණේ ද යන්න සිව් වන අග්බෝ රජු (667 – 683) ගැන මහාවංශය කරන විස්තරයෙන් පැහැදිලි වේ:

> ඔහු මළ කල්හි මහජන තෙමේ දැඩි ශෝක ඇති ව අඬා, ඔහුගේ ආදාහනයෙහි කටයුතු සියල්ල නිරවශේෂ වශයෙන් කොට ඔහු ගේ ආදාහනයේ අළු ද තමන්ට බෙහෙත් කොට (තස්සාළාහාණ භස්මම්පි කත්වා භෙසජ්ජ මත්තනො) ගත්හ (36 වන පරි, 36 – 37 ගාථා).

මිනිසකු ගේ සිරුර දැවූ සොහොනේ අළු බෙහෙත් කොට සැලකීමට තරම් ඔහු කෙරේ භක්ත්‍යාදර ගෞරවයක් ජනයා තුළ ඇති වූයේ ඔහු ගේ පෞද්ගලික ගුණාංග නිසා මෙන් ම රාජ පදවිය විසින් පෞද්ගලික



ගති ලක්ෂණයන්ට එවැනි තත්වයක් ආරෝපණය කිරීමට මිනිසුන් යොමු කිරීමට හේතුවෙතැයි සිතිය හැකි ය. නිශ්ශංකමල්ල රජවරුන් 'නර දේවතා' ලෙසින් දුටුවේ ද 'මැදිහත් රජුන් ලැබීම බුදුන් ලැබීම' හා සමාන කළේ ද මන්දැයි මේ අනුව අපට සිතා ගත හැකි ය. මහනුවර සමයෙහි රජුනට 'දෙවියෝ බුදුවන්ඩ' යැයි ආමන්ත්‍රණය කැරුණේ ද මේ සම්ප්‍රදාය අනුව විය යුතු ය.

ආචාර්ය ජෝන් ක්ලිෆර්ඩ් හෝල්ට්ගේ මතය අනුව අවලෝකිතේශ්වර නාථයන් සිංහල රාජත්වය හා සම්බන්ධ වීම දඹදෙණි රාජ සමයේ සිට දක්නා ලැබෙන්නකි (154 : 94 පි.) දෙවන පරාක්‍රමබාහු රජු ගේ (ව්‍ය. ව. 1236 - 1279) රාජ යුගයෙහි එකොළොස් වන වසරෙහි දී චන්ද්‍රභානු නම් ජාවක බෞද්ධ රජකු ලක්දිව ආක්‍රමණය කළ බවත්, දළදා හා පාත්‍ර ධාතූන් පැහැර ගැනීම ඔහු ගේ පරමාර්ථය වූ බවත් මහාවංශය, පූජාවලිය යන ඓතිහාසික මූලාශ්‍රයන්හි කියැවේ. නාථ දෙවියන් ගැන මහාවංශය ප්‍රථමවරට සඳහන් කරන්නේ දෙවන පැරකුම්බා සමයේ සිදු වූ වර්ෂා අපේක්ෂා පූජාවක් හා සම්බන්ධ බව ඉහත සඳහන් කෙළෙමු. නාථ දෙවියන් මෙසේ දෙවන පැරකුම්බා රජු විසින් වැදගත් කොට සැලකීමත් ඒ යුගයේ පූජාවලී කතුවරයන් වහන්සේ, දේව ප්‍රතිරාජ ඇමැති තුමා ආදි ප්‍රභූන් විසින් ද බෝධිසත්ව පාරමිතාව පිරීමස් පෙන්නුම් කරන්නේ සිංහල බෞද්ධ සමාජයේ පැවැති විශේෂ ප්‍රවණතාවකි. මෙයට එක් හේතුවක් ලෙස ආචාර්ය හෝල්ට් දක්වන්නේ චන්ද්‍රභානු වැන්නන් තම මව් බිම වූ තාම්‍රලිප්තයේ පැවැති බුද්ධරාජ සංකල්පය හුවා දැක්වීමත් එයට ප්‍රතිවිරුද්ධ සංකල්පයක් ලෙස දෙවන පරාක්‍රමබාහු රජතුමා විසින් නාථ - මෛත්‍රී (බෝධි සත්ව) දෙවියන් පුද පූජාවට ලක් කිරීමත් ය. තාම්‍රලිප්තය පෙර දවස ශ්‍රී විජය රාජ්‍යයේ කොටසක්ව තිබිණි. ශ්‍රී විජය රාජ්‍යයේ පැවැති රාජ සංකල්ප අනුව රජතුමා අවලෝකිතේශ්වරයන් ගේ ප්‍රතිමූර්තියක් ලෙස සලකන ලදී. බෝධිසත්ව දේව රාජ සංකල්පය ව්‍ය. ව. 13 වන සිය වසේ දී පමණ අග්නිදිග ආසියාවේ කාම්බෝජය, සියම, බුරුමය යන ප්‍රදේශවල ද ප්‍රචලිත විය (154 : 96 පි.). දෙවන පැරකුම්බා ගේ සංස්කෘතික ප්‍රතිපත්තිය විවිධ බාහිර සංස්කෘතිකාංග බද්ධ කරගන්නා වූ එකක් වූ බව පැහැදිලි ය. 'කලිකාල සාහිත්‍ය සර්වඥ' උපාධියක්, ඔහු මනුරාජ ධර්මය නම් හින්දු සංකල්ප අනුව රජකම් කළ බව මහාවංශය නිතර පැවසීමත් මීට සාධක වේ. ඔහු උපුල්වන් දෙවිඳුන් සමන් දෙවිඳුන් කෙරේ විශේෂ පුද පූජා පැවැත්වීම මෙන් ම දේව පූජාවක් හැටියට ඇසළ කෙළිය ස්ථාපිත කිරීමෙන් ද පෙනෙන්නේ, ඔහු පටු දෘෂ්ටියක නො පිහිටා පුළුල් ආගමික දර්ශනයක් ක්‍රියාත්මක කළ බවයි. මේ අවධියෙහි සිංහල රාජ්‍යය තුළ ද හින්දු භක්තිකයන් ද සිටින්නට ඇත.

එසේ ම මහාවංශයේ ප්‍රථම වරට "නාථ - මෛත්‍රී දේවාදීන් පිදිය යුතු දෙවියන්" ලෙස සඳහන් වන්නේ ද මේ රජු ගේ රාජ සමයෙහි ය. රජු විසින් කරන ලද විසිතුරු දළදා හා පාත්‍රා ධාතු වන්දනා ද මහාවංශයේ පුන පුනා විස්තර කරන්නේ ය. මේ කරුණු අනුව සිතිය හැක්කේ හින්දු භක්තිකයන්ගේ ප්‍රසාදය ද දිනා ගත හැකි පුළුල් ආගමික ප්‍රතිපත්තියක් අනුගමනය කරන අතර චන්ද්‍රභානු නම් ආක්‍රමණිකයා උදුරා ගන්නට තැත් කළ දළදා හා පාදා ලක් රජයෙහි අවශ්‍යම රාජ වස්තූන් බව අවධාරණය කරන්නට ද දෙවන පැරකුම්බා තැත් කළ බව යි. ආචාර්ය ජෝන් හෝල්ට් විසින් නිරීක්ෂණය කර ඇති පරිදි නාථ දෙවියන් සිංහල රජ කෙනකු විසින් විශේෂ පුද පූජාවන්ට භාජන කිරීම ප්‍රථම වරට ඉතිහාසයේ සඳහන් වන්නේ දෙවන පැරකුම්බා යුගයේ යි. අග්නිදිග ආසියාතික රාජ්‍යයන්හි ප්‍රචලිත දේව රාජ සංකල්පය රැගෙන චන්ද්‍රභානු සිංහල රාජ්‍යය ආක්‍රමණය කළ මේ අවස්ථාවේ දී නාථ දෙවියන් සිංහල රාජත්වය හා සම්බන්ධ වීම යථෝක්ත විදේශීය රාජ සංකල්පයන්ට ප්‍රතිචාරයක් වන්නට ඇත. (154 : 98 පි.).

දෙවන පැරකුම්බා ගෙන් පසු රජ බවට පැමිණි සිව්වන විජයබා (ව්‍යා. ව. 1270-72) මහාවංශයේ ද, නිකාය සංග්‍රහයේ ද හැඳින් වී ඇත්තේ "බෝසත් විජයබාහු" යන නමිනි. මේ රජුට ද චන්ද්‍රභානු ගේ ආක්‍රමණයකට මුහුණ පෑමට සිදු වූ බව මහාවංශය කියයි. සිව්වන විජයබාහු තමා වෙත "බෝසත්" යන්න කෙළින් ම ආරෝපණය කර ගත්තේ ඇයි දැ යි මෙහි දී විමසා බැලීම වටී. මීට පෙර රජවරුන් තමා බෝසත් ගුණ උසුලන බව ඇතැම් විට පවසා ඇති නමුත් "බෝසත්" නාමය රජකු සෘජුව ම නමේ කොටසක් ලෙස යොදන ප්‍රථම වතාව මෙය යි. එ මගින් තමාට එරෙහි ව ආ, බෝධිසත්ව වන්දනාව හුරු ව සිටි, චන්ද්‍රභානු ප්‍රමුඛ ජාවක පක්ෂයේ සිත් සසල කිරීමට සමත් පියවරක් සිව්වන විජයබාහු රජු විසින් ගන්නා ලදැයි කීමට ඉඩ ඇති බව ආචාර්ය ජෝන් හෝල්ට් පවසා තිබේ. (154 : 98 පි.).

ගම්පොළ යුගයේ දී ගඩලාදෙණිය, ලංකාතිලක යන විහාරවල "නාථ මෛත්‍රී දෙවියන්" ගැන සඳහන් වී ඇති අයුරු ඉහත සඳහන් කෙළෙමු. තුන් වන වික්‍රමබාහු රාජ සමයෙහි ව්‍යා. ව. 1360 දී පමණ පිහිටුවන ලද අම්පිටිය ශිලාලේඛනයේ "සෙංකඩගල දෙවියන් ගේ ඇතා ගන්නා දවස" ගැන ඇති සඳහන ද, ඊට වසර විස්සකට පමණ පසු පිහිටුවන ලද සගම ශිලාලේඛනයේ "සෙංකඩගල නාථ සාමීන්" ගැන ඇති සඳහන ද පෙන්නුම් කරන්නේ එදා රජවරුන් හා නාථ දෙවියන් අතර පැවති විශේෂ සම්බන්ධය යි. මීට වසර කීපයකට පෙර පස්වන පරාක්‍රමබාහු දවස (ව්‍යා. ව. 1344-59) ලියැවුණු තිසර සන්දේශයේ වර්ණිත දොරවක පැවැති නාථ



දේවාලය ද, සවන පැරකුම්බා දවස (1412-67) ගිරා සන්දේශයේ වර්ණිත තොටගමුවේ නාථ දේවාලය ද අගනුවර නොව ප්‍රත්‍යන්ත ප්‍රදේශයන්හි පැවැති නාථ දේවාල වේ. ගිරා සන්දේශය විසින් නාථදෙවියන් හා සිංහල රාජත්වය අතර ඇති සබඳතාව සෘජුව ම ප්‍රකාශ කැරුණු අයුරු අප විශේෂ අවධානයට යොමු විය යුතු ය. එහි 251 වන කවෙන් පැවසෙන සේ සන්දේශයේ පරමාර්ථය වන්නේ තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන් ලවා පරාක්‍රමබාහු රජුන්, එ කුමන් ගේ පිරිවරත් රකින ලෙස නාථ දෙවියන්ට ආයාචනා කිරීම ය. ලක්දිව ආරක්ෂා කිරීම පිණිස බුදු රජාණන් වහන්සේ ගේ නියමය පරිදි ක්‍රියා කරන උපුල්වන් දෙවියන්ට රජතුමා ආරක්ෂා කරන ලෙස ඉල්ලා මේ අවධියේ ම පරෙවි, කෝකිල යන සන්දේශ යැවුණත් මේ විශේෂ අයැදුම නාථ දෙවියන් වෙත ඉදිරිපත් කිරීම නාථදෙවියන් හා සිංහල රාජත්වය අතර මේ අවධිය වන විට ගොඩ නැගී තිබුණු සබඳතාව පෙන්නුම් කරන අවස්ථාවක් ලෙස ගත හැකි ය. සවන පැරකුම්බා රජතුමා සිය මෑණියන් සිහිකිරීම පිණිස පැපිලියාන විහාරයෙහි පිහිටුවා ඇති ශිලාලේඛනයේ ද "නාථ - මෛත්‍රීය දෙ තැනට" විශේෂ පූජා සඳහා ව්‍යවස්ථා පිහිටුවා තිබේ (60 : 41 පි.). සවන පැරකුම්බාවන් සමයෙහි කෝට්ටේ විසූ පඬිවරයකු වන ශ්‍රී රාමචන්ද්‍ර භාරතී විසින් ලියන ලද වෘත්තරත්නාකර පංචිකාවෙහි අවලෝකිතේශ්වර නමස්කාර ශ්ලෝක හතරක් ඇත (154:114 පි.). මේ අයුරින් බලන කල්හි තදනන්තර ව පිහිටුවන ලද මහනුවර රාජධානියෙහි නාථ දෙවියන්, මෛත්‍රී බෝධිසත්වයන් හා බද්ධ ව එක දෙවි කෙනකු ලෙස පෙනී සිටිමින් සිංහල රාජත්වය කෙරේ විශේෂ අනුග්‍රහය දක්වන්නට වීම චිරාගත සම්ප්‍රදායෙහි ස්වාභාවික සංවර්ධනයක් බව පැහැදිලි වන්නේ ය.

සවන පැරකුම්බාවන් ගෙන් පසු රජ වූ දෙවන ජයබාහු රජු තෙ වසරක් ගිය තැන මරා රජය අල්ලා ගත් සපුමල් කුමාරයා සවන බුවනෙකබා ලෙස ව්‍යා. ව. 1470-78 යන අවවස තුළ රජකම් කළ බව දනිමු. මොහු ද සවන පැරකුම්බාවන් දවස පැවති පරිදි ආගමික චාරිත්‍ර අනුගමනය කර ඇති බවටත් නාථ දෙවියන් කෙරේ විශේෂ සැලකිලි දක්වා ඇති බවටත් සාධක තිබෙන බව ආචාර්ය ජෝන් හෝල්ට් විසින් පෙන්වා දී ඇත (154: 115-17 පිටු).

මාතලේ දිස්ත්‍රික්කයේ හුනාපවුරේ ඇති නාථ දේවාලය පිහිටුවන ලද්දේ සවන බුවනෙකබා රජු සපුමල් කුමාර අවධියෙහි ය යන්න ජනප්‍රවාදයේ පවතින අදහස යි (154 : 203 පි.). මෙම ජනප්‍රවාදයට අනුව යාපා පටුන ගැනීම සඳහා සපුමල් කුමරු පිටත් වූයේ කෝට්ටේ නාග විහාරයේ ඇති නාගස යට දී ජයග්‍රහණය ලැබීමට ශපථ කරමිනි. ගමනේ

අතර මහ ඔහු භූනාපවුර පර්වතය ළඟ රාත්‍රිය වාඩි ලා ගති. පසු දා උදේ ගමනට පිටත් වන අවස්ථාවේ අසළ පිහිටි නා ගසේ සිට භූනකු හඬනු අසා මෙය සුබ ලකුණකැයි සනිටුහන් කර ගත්තේ ජයග්‍රහණයෙන් පසු පර්වත ප්‍රාන්තයේ ඇති ගල් ගුහාවේ නාථ දේවාලයක් කරවන බවට පිළින දුන්නේ ය. යාපා පටුන ජය ගත් සපුමල් කුමරු යථොක්ත පිළිනය පරිදි දේවාලය කරවා එම නා ගසේ ලීයෙන් නාථ පිළිරුවක් කරවා එහි තැබ්බ විය (154 : 169 පි.). මීට අමතරව දොරවක පිහිටුවා තිබුණු, තිසර සන්දේශයේ වර්ණිත, විසිතුරු නාථ දේවාලය ද සවන බුවනෙකබා විසින් පිහිටුවන ලද්දකැ යි ජනප්‍රවාදයේ පවතිතත් එම දේවාලය ගම්පොළ අවදියටත් පෙර කරවන ලද්දක් බව **තිසරය** අනුව අපි දනිමු (154 : 107 පි.). සවන බුවනෙකබාහු සපුමල් කුමාරයා ලෙස යාපා පටුන පාලනය කරන අවධියෙහි ඔහු වෙත යැවුණු **කෝකිල සන්දේශයේ** සඳහන් ප්‍රකාර එදා ජාවක කෝට්ටේ (වර්තමාන චාවාකච්චේරියේ) නාථ දේවාලයක් තිබුණේ ය. ජාවක කෝට්ටේට නුදුරුව ඇති විල් තෙරේ උස් වූ ප්‍රාසාදයක් නාථ දේවාලය දවිය. මේ දේවාලය පිහිටා තිබුණේ සපුමල් කුමරුන් විසින් "නොයෙක් වංක ගුණ යුත් කණ්ණඩි සේනා බිඳ දැමූ" තැනට යාබද ව බවත් **කෝකිල සන්දේශ** කරු පවසා ඇත (42: 238, 239 කවි). මේ නාථ දේවාලය ද සිය ජයග්‍රහණය සාදා දුන් නාථ දෙවියන් වෙත සපුමල් කුමරුන් කළ පූජාවක් විය හැකි යි. සපුමල් කුමරු ගේ පියා දකුණු ඉන්දියා ක්ෂත්‍රිය වංශිකයෙකි (162 : 30 පි.). එහෙයින් දේව පූජා පිළිබඳ විශේෂ ඇල්මක් ඔහු තුළ තිබෙන්නට ඇත.

සවන බුවනෙකබාහු ගෙන් පසු කෝට්ටේ රාජධානියේ ඉතිහාසය ව්‍යාකූල වේ. අනතුරුව 16 වන සියවසේ මුල දී පෘතුගීසි ආගමනයෙන් පසු දේශපාලන අර්බුද මධ්‍යයේ බුදු සසුන ද පිරිහී ගියේ ය. 16 වන සියවසේ රජ කළ ඇතැම්හු (පළමුවන රාජසිංහ, දොන් ජුවන් ධර්මපාල) බුදු සමය බැහැර කළෝ වූහ. යළිත් බුදු සමයට තිසි තැන් ලැබුණේ කෝනප්පු බණ්ඩාරයන් විමලධර්මසූරිය නමින් (1592-1604) සෙංකඩගල රජ වූ පසුයි. දිගු කලක් තිසි රාජානුග්‍රහයක් නො ලබා තිබුණු බුදු සමය නගා සිටුවීමට නව රජතුමන් උත්සුක වූ බව එ තුමන් ගේ පිළිවෙත් පරීක්ෂාවෙන් සලකා බලන විට පැහැදිලි වේ. මේ සම්බන්ධ කරුණු කීපයක් ආචාර්ය හෝල්ට් විසින් අප අවධානයට යොමුකර ඇත (154: 120-22 පිටු).

තමා රජ බවට පත්වීමට පෙර සිටි සීතාවක රාජසිංහ, කෝට්ටේ දොන් ජුවන් ධර්මපාල යන රජුන් ගේ අබෞද්ධ ප්‍රතිපත්තිවලට එරෙහිව තමාගේ බෞද්ධභාවය ප්‍රකාශ කිරීමේ විශේෂ අවශ්‍යතාවක් විමලධර්මසූරිය රජුට



තිබෙන්නට ඇතැයි සිතිය හැකි ය. රාජ පදවිය පිළිබඳ සිය උරුමය ඔහු තහවුරු කර ගත්තේ දෝන කතිරිනා විවාහ කර ගැනීමෙනි. ඇය බව්තිස්ම ලබා සිටි කුමරියක වූ අතර තමා ද දොන් ජෝන් නමින් බව්තිස්ම ලබා සිටි බව යටපත් කිරීමට ද මෙහි දී අවශ්‍ය වන්නට ඇත. දෙල්ගමුවේ සඟවා තිබුණු දළදා වහන්සේ සෙංකඩගලට වඩමවා ගෙන වුත් පුරාණ චාරිත්‍රානුකූලව රාජමන්දිරයට යාබදව දළදා මැදුර කරවා එහි එය වඩා හිඳුවනු ලැබීම මහනුවර රාජධානිය අවසන් වන තෙක් පැවැති රාජ්‍යය හා ආගම අතර දැඩි සබඳතාව සංකේතවත් කරන සිද්ධියක් විය (154: 121 පි.). කෝනප්පු බණ්ඩාරයන් රජතන් පත් වන විට තෝරා ගත් නාම අපේ විශේෂ සැලකිල්ලට භාජනය විය යුත්තකි. තමා සිහසුනට පැමිණීම එතෙක් දේශයේ පැවැති ආගමික අන්ධකාරය පහ කරනු වස් නිර්මල වූ සද්ධර්මය නමැති සූර්යයාගේ උදාවීම සේ ගත යුතු ය, යන අන්දමේ අර්ථයක් ඔහු ඉන් අපේක්ෂා කළා විය යුතු යැයි සිතමු. අති දීර්ඝ වූ සිංහල රාජ වංශයේ අන් කිසි රජෙකු නොයෙදූ මෙබඳු නාමයක් ඔහු යොදා ගත්තේ විශේෂ අදහසකිනැයි සැලකීම සාධාරණ බව පෙනේ.

ගම්පොළ යුගයේ සිට සෙංගඩගල ප්‍රසිද්ධව සිටි නාථ දෙවියන් කෙරේ විමලධර්මසූරිය රජු කෙබඳු ආකල්පයක් දැරුවේ ද යන්නට ඍජු සාධක නැත. එහෙත් ආචාර්ය ජෝන් හෝල්ට් අපේ අවධානය එක් විශේෂ සිද්ධියක් වෙත යොමුකර තිබේ. මෙම රජුගේ චිත්‍රයක් සමකාලීන ඕලන්ද ජාතිකයකු විසින් අඳින ලදුව ප්‍රකාශයට පැමිණ ඇත. ආනන්ද කුමාරස්වාමි ගේ මධ්‍යකාලීන සිංහල කලා ග්‍රන්ථයේ XXIII වන චිත්‍රය ලෙස පළ වී ඇති එහි පෙනෙන පරිදි විමලධර්මසූරිය රජ හිස පැළඳ සිටින කිරීටයේ ධ්‍යාන බුද්ධ රූපයක් ඇත. ඔහු අතේ නෙළුම්මලක් ද වේ. මේ සංකේත භාවිතය අනුව නව රජතුමා පැරණි අවලෝකිතේශ්වර සංකල්පය යළි පණ ගන්වමින් බෝධිසත්ව දේව රාජයෙකු ලෙස පෙනී සිටියේ යැයි අනුමාන කළ හැකි යයි ආචාර්ය හෝල්ට් විසින් පවසා තිබේ (154 : 118 පි.). විමලධර්මසූරිය රජු ගැන එබඳු පුවතක් අපේ ඉතිහාස කෘතිවල නැත. ඒ කෙසේ වුවත් මහනුවර අවදියේ රජවරුන් බෝධිසත්ව දේව විලාසයෙන් පෙනී සිටි බව "දෙවියෝ බුදුවන්ඩ" යනුවෙන් ඔවුන් ලැබූ ආමන්ත්‍රණයෙන් පැහැදිලි වේ.

## 8.4 ලෞකික අපේක්ෂා හා ලොකොත්තර පරමාර්ථ

දෙවිවරුන් පිළිබඳ ජනප්‍රවාද කලින් කලට වෙනස්වන අයුරු ඉහත පෙන්වා දෙන ලදී. කිසියම් දෙවි කෙනකු ජනප්‍රියත්වයට පත්වීමටත් පසුව

එම ජනප්‍රියත්වය අඩු වී ගොස් අන්‍ය දෙවි කෙනකු පිළිබඳ ජනප්‍රසාදය වර්ධනය වීමටත් සමාජයේ ක්‍රියාත්මක වන සමාජ දේශපාලන බලවේග හා සම්බන්ධ බව කරුණු පරීක්ෂා කිරීමේ දී පැහැදිලි වෙයි. මධ්‍යකාලීන යුගයේ දී දේව විශ්වාස වර්ධනය වීම හා සමඟ සම්බන්ධ ඇතැම් සමාජ දේශපාලන බලවේග ඉහත සඳහන් කළෙමු. මී ළඟට අප අවධානය යොමු කරන්නේ මෑත යුගයෙහි දැක්ක හැකි එබඳු සංසිද්ධි කීපයෙකි.

පළමුව නාථ දෙවියන් හා පිටියේ දෙවියන් අතර සිදු වූ ගැටුම පිළිබඳ ව සලකා බලමු. මෙහි දී අප උපයෝගී කර ගන්නේ නාථ දෙවියන් ගැන සවිස්තර ගවේෂණයක් කළ ආචාර්ය හෝල්ට් සපයා ඇති තොරතුරු යි. "නාථ දෙවියන් ගේ නැගීමේ උපත" නම් කවි 26 ක සංග්‍රහයක් හුවා දක්වන ආචාර්ය හෝල්ට් එහි මෙම සිද්ධිය නිරූපණය වී ඇති අයුරු සිය ග්‍රන්ථයේ විස්තර කර ඇත (154: පස් වන පරිච්ඡේදය). කවි පෙළේ මුල් කවි 19 යෙන් නාථ දෙවියන් සෙංකඩගල ප්‍රදේශයේ සතහට සෙත් සුව සදමින් සිටින ආකාරය නිරූපණය වේ. උක්ත සිද්ධිය විස්තර වන්නේ 20 වන කවේ සිට ය.

20. දෝත මුදුන තබමින් පවසන් — තේ
ඇත මෑත සෙන් බලා සිටින් — තේ
බීත කරන සොලි කවුරු විසින් — තේ
පාත මෙ දුම්බර බාරව ඉන් — තේ

මින් කියවෙන්නේ පාත දුම්බර පැමිණ කලබල (සෝලි) ඇති කරන ආගන්තුකයා (එනම් පිටියේ දෙවි) ගැන යි. පිටියෙ දෙවි සොළී රටින් ආ සංක්‍රමණයෙකි.

21. අසා එ බස් රොස් මැද එ සුරින් — දා
තිසා එපුර යුද සෙනගත් කැන් — දා
බැසා යෙහෙන ගමනකි සරොසින් — දා
යසා යුදය කරවිය ඔහු කැන් — දා

නාථදෙවි සුර සේනා සමග පිටියේ දෙවියන් යුදයට කැඳ වී ය. යුද්ධයේ දී ජය නාථ දෙවියන් සතු වන බව පෙනිණි.

22. බැද්ද මැදට වී යුද්ද කරන් — තේ
සද්ද ගොසති සෙන් යුද බැට දෙන් — තේ
ඇද්ද මෙමා තෙද බල දෙවු දුන් — තේ
යුද්ද කරන් පෙරමුණට වඩින් — තේ

තමන් පරදින බවත්, තම සේනාව බිය පත් වන බවත් වටහා ගත් පිටියේ දෙවියෝ උපක්‍රමයක් යෙදූ හ.



24. හතා මිතුරුකම් නොම කරමින් — තේ
ගාත බිඳල ගෙන සිව්පා වුන් — තේ
බීත කරන සෙන් පෙරට ගසන් — තේ
නාත සුරිඳු යුදයෙන් පැර දෙන් — තේ

බිහිසුණු ගති ඇති පිටියේ දෙවියෝ බෝධිසත්ව වරයකු වන නාථ දෙවියන්ට සතුන් ගේ ගාත්වලින් පහර දුන්හ. එබඳු පහත් තත්ත්වයේ ගැටුමකට සූදානම් නැති නාථ දෙවියෝ යුද බිමින් ඉවත් ව ගියහ. අතීතයේ සගම ශිලාලේඛනයේ සඳහන් ප්‍රකාර, පිටරැටියන් හා යුද්ධවලට සහභාගි වී තම රටවාසීන් ජයග්‍රහණය සලසා දුන් නමුත් දැන් බෝසත් දම් පුරණ සිල්වත් පිළිවෙත් ඇති එතුමෝ තමා රුචි කරන කටයුතුවලට පමණක් සීමා වී සිටීමට තීරණය කළෝ ය.

25. සව් සත සතරින් මුදා හරින්ට — ත්
ලොව් තුරු බුදු බව ලබා ගැනුමට — ත්
පව් බිය බැරි විය යුද්ද කරන්ට — ත්
සව් සත ගලවා ආපසු යන්ට — ත්

පිටියේ දෙවියන් ගේ ජයග්‍රහණය ආචාර්ය හෝල්ට් විසින් අර්ථ කථනය කර ඇත්තේ සමකාලීන සමාජය හා දේශපාලන සිද්ධීන් සංකේතවත් කරන්නක් ලෙසිනි. දඹදෙණිය, ගම්පොළ, කෝට්ටේ යන අවධීන්හි දී සිංහල සමාජයේ දේශපාලන කටයුතු කෙරේ දැඩි ලෙස බල පෑ නාථ දෙවිඳුන් ක්‍රමයෙන් බෝධිසත්ව භාවයට පත්වීමත් සමඟ ඔවුන් ගේ ලෞකික කර්තව්‍යයන් ද ක්‍රමයෙන් අඩුවන්නට විය. මේ අතර ලෞකික කටයුතු සඳහා සෘජුව සහභාගි වෙමින් තම පිහිට පතන්නට යහපත් උපක්‍රමවලින් පමණක් නොව අයහපත් උපක්‍රමවලින් ද අපේක්ෂා සාධනය කරන පිටියේ දෙවිඳු ජනප්‍රියත්වයෙන් ඉහළ ගිය බව පෙනේ. ආචාර්ය හෝල්ට් ගේ අදහස නම් පිටියේ දෙවියන් ගේ ආගමනය මහනුවර රාජධානිය තුළට දාහත් වන දහ අට වන සියවස්හි දී නායක්කර වඩුගයන් ගේ ආගමනය පිළිබිඹු කරන්නක් බවයි.

දෙවන රාජසිංහ රජු (1635-87) විසින් අරඹන ලද දකුණු ඉන්දියාවේ නායක්කර බිසවුන් පාවා ගැනීමේ චාරිත්‍රය ඔහු ගෙන් පසු ආ රජුන් දෙදෙනා ද අනුගමනය කරන ලදින් ඥාතීන් ද, පිරිවර ද මහනුවර පදිංචි වීමෙන් රාජධානියේ තැන් තැන්වල දකුණු ඉන්දියා පිරිස් බලය වැඩිවන්නට පටන් ගැනිණි. ශ්‍රී වීරපරාක්‍රම නරේන්ද්‍රසිංහ (1707-39) රාජ යුගයේ දී ඔවුන් ගෙන් ඇතමකුට විශේෂ වරප්‍රසාද හිමි වූ ආකාරයත්, සිංහල ප්‍රභූවරුන් ඊට විරුද්ධව කැරැළි ගැසූ ආකාරයත් ඇතැම් ඓතිහාසික මූලාශ්‍රයන්හි සඳහන් වේ. වරෙක නරේන්ද්‍රසිංහ රජ "වඩුග

"දෙමළකු" මහගබඩා නිලමේ පදවියට පත් කළ බවත්, එයට එරෙහිව මතුරට පෙදෙස්හි කැරලි හටගත් බවත්, රජ මෙහි දී ලන්දේසින් ගේ ද සහාය ලැබ ඉතා බිහිසුණු ලෙස කැරලි නායකයන් දෙ දහසක් පමණ මරවා හේවාහැටත් මතුරටත් ගිනිබත් කර එය මැඩ පැවැත් වූ බවත් මන්දාරම්පුර පුවතේ 468-70 කවිවල සඳහන් වේ. සිංහලයන් හා වඩුග සංක්‍රමණික පිරිස් අතර ඇති වූ අන්‍යෝන්‍ය ප්‍රතිරෝධය නාථ, පිටියෙ යන දෙවිවරුන් අතර සට්ටනයෙහි පිළිබිඹු වී ඇතැයි යන ආචාර්ය හෝල්ට්ගේ මතය සැලකිල්ලට ගත යුත්තකි.

බෝධිසත්ව ගුණෝපේත නාථ දෙවියන් පරදවාලීමට සැඩ පරුෂ පිටියේ දෙවියන්ට හැකිවීම බෞද්ධලෝක දර්ශනය අනුව කෙසේ අර්ථ කථනය කළ හැකි ද? යනු ප්‍රශ්නයකි. මේ සිද්ධිය පිටුපස ඇත්තේ මනුෂ්‍යයන් ගේ ලෝකෝත්තර, ලෞකික අපේක්ෂා දෙවර්ගය අතර ඇති ප්‍රතිවිරෝධය බව පෙනේ. පිටියෙ දෙවියෝ ඓහලෞකික අවශ්‍යතා සපුරාලමින් මෙ ලොව ජීවිතයේ මිනිසුන් සිතන පතන දේ ඉටු කර දීමට සමත් වූ අයෙක් වෙති. ගුරුදෙණිවෙල අස්වැද්දීම වළකමින් එහි පැවැති මහා පර්වතයක් පිටියෙ දෙවියන් බිඳ දමා දුන් අයුරු ඔහු පිළිබඳ කවිවල නිතර සඳහන් වේ (161, 1: 25 සහ 48 පිටු). මේ වන විට පාර ලෞකික අපේක්ෂා කෙරේ නැඹුර ව සිටි නාථ දෙවියන්ට මේ ප්‍රබල ආගන්තුකයා අනභිභවනීය අභියෝගයක් වූයේය. යුද්ධයේ දී නාථ දෙවියන්ට කළ නොහැක්කක් පිටියේ දෙවි කළේ ය. ඔහු ගේ උපක්‍රමය අධර්මිෂ්ඨ එකකි. කුමන අන්දමින් හෝ තම පරමාර්ථය සාධනය කර ගැනීමේ ප්‍රතිපත්තියක් මෙහි විද්‍යමාන වේ. මෙ ලොව සුභ සාධනය සඳහා මනුෂ්‍යයෝ ඇතැම් විට එබඳු දේ කරති. එය නුසුදුසු යැයි නො සලකති. පිටියෙ දෙවියන් නියෝජනය කරන්නේ එම ආකල්පයයි.

## 9. සමකාලීන ප්‍රවණතා:

සමකාලීන සිංහල බෞද්ධ සමාජයෙහි දේව විශ්වාසය පැරණි යුගවල තිබුණු දේව විශ්වාසයන්ගෙන් වෙනස් වන තැන් කීපයක් ඇත. ප්‍රධානතම වෙනස ලෙස පෙනෙන්නේ අතීතයේ තරම් දුරට දෙවිවරුන් ගැන විශ්වාසයක් අද සමාජයේ නැති බවයි. මීට ප්‍රධාන හේතු දෙකක් තිබේ. එකක් නම් නූතන තාක්ෂණික ඥානය හා නව ශිෂ්ටාචාරයේ විවිධ පහසුකම් (වෛද්‍යමය හා විද්‍යාත්මක) නිසා දෙවිවරුන් ගේ පිහිටෙන් තොරව මිනිසුන් ගේ ප්‍රශ්න විසඳා ගැනීමට හැකිය යන අදහස පැතිරීම යි. අනෙක් හේතුව ලෙස පෙනෙන්නේ බෞද්ධයන් වඩ වඩා බුදු රජාණන් වහන්සේ ගේ මූලික ඉගැන්වීම කෙරේ උද්‍යෝගයෙන් ශීලය, භාවනාව



වැනි කටයුතු කෙරේ නැඹුරුවීම නිසා දෙවිවරුන් සම්බන්ධ වන ආමිෂ පූජාවන් නොවැදගත් තත්ත්වයකට පත් වීමයි. එහෙත් මින් අදහස් වන්නේ දේව විශ්වාසය සම්පූර්ණයෙන් ම ඉවත්ව ගොස් ඇති බව හෝ එය නුදුරු අනාගතයේ අභාවයට යනු ඇත, හෝ යන්න නොවේ. සමකාලීන සමාජයේ ද දේව විශ්වාස ප්‍රබල ලෙස පවතින බවත්, බෞද්ධයන් බොහෝ දෙනකු දෙවියන් ගැන විශ්වාස කරන බවත් කරුණු පිරික්සන විට පැහැදිලි වනු ඇත.

විසි වන සියවසේ දෙවන භාගයේ සිංහල බෞද්ධ සමාජයේ පවතින දේව විශ්වාස ගැන ගවේෂණ කීපයක් මහාචාර්ය ගණනාථ ඔබේසේකර හා මහාචාර්ය රිචඩ් ගොම්බ්‍රිච් කර ඇත. මෑතක දී ඔවුන් එක්ව ලියූ ග්‍රන්ථයක සමකාලීන දේව පූජා ප්‍රවණතා ගැන විශේෂයෙන් සඳහන් ව තිබේ. ඔවුන් ගේ නිරීක්ෂණ සමහරක් මෙහි දී සලකා බැලිය හැකි යි.

විසිවන සියවසේ දේව භක්තිය, විශේෂයෙන් කතරගම දෙවියන්ගේ පිහිට පැතීම වර්ධනය වී ඇති අයුරු ඉහත සඳහන් කරන ලදී. කතරගම දෙවියන්ට අමතරව සූනියම් හා කාලි වන්දනය ද වර්ධනය වී තිබේ. "යක්ෂ" තත්ත්වයෙන් හුන් මේ දෙදෙනා "දේව" තත්ත්වය වෙත සංක්‍රමණය වීමේ ප්‍රවණතාවක් ඇති බව ද ඉහත සඳහන් කරන ලදී. මේ ප්‍රවණතා සමාජයේ ක්‍රියාත්මක වන දේශපාලන, ආර්ථික බලවේග හා සම්බන්ධ වන අයුරු සමාජ විද්‍යාඥයන් ගේ විමර්ශනයට ලක් වී ඇත. ගොම්බ්‍රිච් හා ඔබේසේකර විසින් නිරූපණය කැරුණු සමාජ පසුබිම මෙහි ලා විශේෂයෙන් අදාළ ය. වර්ෂ 1931 සිට ජනගහන වර්ධනය පිරික්ෂා බලන කල්හි පසු ගිය හතළිස් වසර තුළ දී ජනගහණය තුන් ගුණයකින් පමණ වැඩි වී තිබේ. මෙහි අනිවාර්ය ප්‍රතිඵලයක් හැටියට මහාපරිමාණයේ රැකියා විරහිත බවක් ද ඌන සේවා නියුක්තියක් ද ඇත. අති විශාල පිරිසක ගේ ජීවන මට්ටම හදිසියේ පහළ වැටී තිබේ. එය සිදුව ඇත්තේ එක පරම්පරාවක් තුළ දී බැවින් තමන් මුහුණ පෑ මෙම අභාග්‍යය ගැන ඔවුහු පැහැදිලිව ම දැන සිටිති. එයට හේතුව කවරේදැයි ඔවුන් නො දන්නවා විය හැකි ය. අපේක්ෂා භංගත්වයත්, චිත්ත කම්පනයත් බොහෝ තැනක දැක්ක හැකි ය. මේ තත්ත්වයන් තවත් වැඩි දියුණු කරන හේතු වන්නේ බල සංකේන්ද්‍රිය කරණයත්, දේශපාලන බලය හිතුවක්කාර ලෙස භාවිත කිරීමත් ය. තවත් වැදගත් එහෙත් දීර්ඝකාලීන ක්‍රියාදාමයන්හි ප්‍රතිඵල වන සාක්ෂරතා වර්ධනයත් ස්ත්‍රීන්ගේ තත්ත්වයේ විපර්යාසයත් මෙයට එක් කළ යුතු ය. ඊටත් අමතරව සමාජ විපර්යාසය මගින් පවුලේ ව්‍යුහයත් එහි ස්වභාවයත් වෙනස් කර තිබේ. එමගින් මනුෂ්‍යයන් ගේ අතිශය ආභ්‍යන්තරික හැඟීම් කෙරේ ද බලපෑම් සිදුව ඇත. (152: 8-9 පිටු).

මෙම විපර්යාසයන්හි ප්‍රතිඵල වශයෙන් සමකාලීන මනුෂ්‍ය ජීවිතය තුළ විවිධ දුෂ්කරතා පහළ වී තිබේ. අතීතයේ පවා තිබුණු සාමාන්‍ය දුෂ්කරතාවන් වන ව්‍යාධි, සතුරු කරදර ආදියට අමතර ව විශේෂ සමාජ ප්‍රශ්න අද දක්නට ඇත. පවුල් තුළ ගැටුම් හා ආතතීන් මේ අතර විශේෂ තැනක් ගනී. ස්වාමි පුරුෂයා හෝ භාර්යාව නැතහොත් දරුවන් හා සමග ඇති ගැටලු මින් එකකි. නවුහඩ, රැකියාවන්හි දුෂ්කරතා, සොරකම්, ව්‍යාපාරික පාඩු ආදී විශේෂ දුෂ්කරතා රාශියක් (මින් සමහරක් අතීතයේ ද තිබුණත් ඊට වඩා) උත්සන්න ස්වරූපයෙන් අද උද්ගතව ඇත.

මෙම ප්‍රශ්නවලට මුහුණ පෑමේ දී එක් අතකින් කතරගම දෙවියනුත් තවත් අතකින් සූනියම් හා කාලී යක්ෂ-දේව බලවේගත් සහාය කොට ගැනීම වර්තමාන ලාංකික සමාජයේ දකින්නට ඇති අයුරු ගොම්බ්‍රිච්, ඔබේසේකර යන විද්වත්හු පෙන්වා දෙති.

තමා මුහුණ පාන ප්‍රශ්නවලට හේතුව කිසිවකු විසින් තමා කෙරේ ඊර්ෂ්‍යාව නිසා කරනු ලබන සූනියමක ප්‍රතිඵලයෙකැයි යන විශ්වාසය බොහෝ දෙනා අතර ඇති බව මෙම සමාජ විද්‍යාඥයන් කළ සමීක්ෂණ අනුව පෙනී යයි: "තමන්ට මුහුණ පාන්නට ඇති ඕනෑම දුර්භාග්‍යයක් සම්බන්ධයෙන් සූනියම සුදුසුතම හේතුවක් ලෙස දැක්විය හැක්කකි. අන්‍යයන් විසින් සූනියමක් කර ඇතැයි කීමෙන් කාර්යය හතරක් ඉටුවෙයි. පළමු ව එය දුර්භාග්‍යයකට හේතුවක් ලෙස පැහැදිලි ව ඉදිරිපත් කළ හැකි කාරණයකි. දෙවැනි ව, ඉන් තමා ගේ දුර්භාග්‍යයේ වගකීම තමා වෙතින් ඉවත් කොට තම අසල් වාසීන් වෙත පවරනු ලැබේ. ව්‍යාපාරික ප්‍රයත්නයක් සාර්ථක නොවූවහොත් (එය බොහෝ විට පෞද්ගලික පාලනයෙන් ඔබ්බේ ඇති ආර්ථික බලවේග නිසා සිදුවෙතත්) ඒ අසාර්ථකත්වය ඊර්ෂ්‍යා සහගත අසල් වැසියන් නිසා සිදු වෙතැයි කියනු ලැබේ. තුන් වැනි ව, ඊර්ෂ්‍යා සහගත අසල් වැසියන් මෙහි දී වරදකරුවන් ලෙස දැක්විය හැකි හෙයින් තමන් විසින් අසරණයන්ට පිහිට නොවීම ගැන ස්වයං දෝෂාරෝපණයෙන් ගැළ වී අනුන් ගේ දොස් කෙරේ අවධානය යොමු කළ හැකිව තිබේ. තවද, තමා තුළ ඇති ඊර්ෂ්‍යාවත්, වෛරයත් අන්‍යයන් තුළ ඇතැයි කියා ඔවුන් වෙත වරද පැටවීමටත් විරෝධය පෑමටත් පුළුවන" (එම: 130 පි.). මෙ වැනි අවස්ථාවක සූනියම් යක්ෂයා/දේවතාවා තමන්ට පිහිට කර ගත හැකියි. ඇතැමුන් විසින් මේ ද්විත්ව චරිත ස්වරූපය සඳහා අර්ථකථනයක් ද දී තිබේ. මාසයේ පුර සඳ කාලයට දේවතා කෙනකු ලෙසත්, අවසඳ කාලයට යක්ෂයකු ලෙසත් ඔහු කටයුතු කරතියි යන ඒ අර්ථ කථනය යි (එම:



122 පි.). එසේ තමන්ට පැමිණ ඇති කරදරයක දී පිහිටවීමට දේවතා ස්වරූපයට හැකිවන අතර තමන්ට විනා කරන සතුරන්ට පෙරළා විනා කිරීමට යක්ෂ ස්වරූපය උපයෝගී වනු ඇත. මේ දේවතා ස්වරූපය ප්‍රබල ව පවතින හෙයින් "සිද්ධ සූනියම් දේවතාවුන් වහන්සේ" හෝ "ගම්භාර දෙවියෝ" වැනි නාමයන්ගෙන් මොවුන් අමතනු දැක්ක හැකි ය. කිසි විටකවත් "සූනියම් යක්ෂයා" යන නාමය භාවිත නො වේ. එහෙත් තම සතුරන්ට විනා කිරීම සඳහා ඔහු යොදා ගත හැකි බවට විශ්වාසයක් පවතී.

සූනියම් දේවතාවුන්ගේ නැගීම නාගරික පරිසරයේ විශේෂයෙන් දක්නා ලැබෙන්නේ ඉහත සඳහන් ප්‍රශ්න බොහෝ විට නාගරික ප්‍රදේශයන්හි බහුල බැවිනි. සූනියම් හා සමානව නාගරික ප්‍රදේශයන්හි ජනප්‍රිය වෙමින් සිටින්නියක් නම් කාලි දෙවඟනයි. භාරතීය හින්දු දේව ගණයා අතර බොහෝ දෙනා "දුර්ගා", "දේවි" යනාදි නම්වලින් හඳුන්වනු ලබන මේ දේවතාවිය සිංහල බෞද්ධ සමාජයේ මෑතක සිට ජනප්‍රිය වෙමින් සිටින්නියකි. ගොම්බ්‍රිච්, ඔබේසේකර විද්වතුන් මැය ගේ නැගීම පිළිබඳ වැදගත් කරුණු කීපයක් සඳහන් කර තිබේ.

කාලි දේවිය සඳහා මෑතක කොළඹ ප්‍රධාන කොට නාගරික ස්ථාන කීපයක කුඩා දේවාල කීපයක් ගොඩ නැගී ඇත. මෙම දෙවොල් භාරව සිංහල බෞද්ධ කපු ස්ත්‍රීහු සිටිත් (එම: 139-40 පිටු). දිවයිනේ ඇති ප්‍රධාන කාලි කෝවිල ඇත්තේ පෞරාණික දේවාල භූමියක් වන මුන්නේස්වරමේ ය. මෙය ශිව දෙවියන් ප්‍රධාන කොට හින්දු දෙවි දේවතාවුන් රාශියක් පුද ලබන තැනකි. කාලි දෙවඟන පිදීමේ දී සතුන් බිලිකොට පූජා පැවැත්වෙන හෙයින් හින්දු චාරිත්‍ර අනුව එම "අශුද්ධ" කර්තව්‍යයන්ට ප්‍රධාන දේවාල භූමියේ ඉඩ නො ලැබේ. එහෙයින් කාලි කෝවිල පිහිටා ඇත්තේ ප්‍රධාන දේවාල භූමියෙන් පිටතය. මෙහි දී සිය සතුරන්ට පළිගැසීම් සිදු කරනු පිණිස ඇතැම්හු පැමිණෙති (152: 140 පි.). මීට අමතරව කොළඹ මෝදර ද ඉතා ජනප්‍රිය කාලි දෙවොලක් ඇත. මෙය ගණදෙවි කෝවිලක් ආශ්‍රිතව ඇත්තකි. ගණදෙවි කෝවිලට යන්නේ වැඩිපුර හින්දු භක්තිකයන් වන අතර කාලි කෝවිල වැඩිපුර භාවිත කරන්නෝ සිංහල බෞද්ධයෝ වෙති. (එම.).

මේ සම්බන්ධයෙන් තව කිවයුත්තක් නම් බෞද්ධයන් පමණක් නොව හින්දු, ක්‍රිස්තියානි ඉස්ලාම් භක්තිකයන් ද සූනියම්, කාලි, කතරගම යන දෙවිවරුන්ට පහන් දල්වා විවිධ ලෞකික අපේක්ෂා ඉෂ්ටකර ගන්නට බලාපොරොත්තු වන බව කරුණු පිරික්සීමේ දී පෙනෙන බවයි. (එම,

455 පි.). මේ අනුව අද්‍යතන ලාංකික සමාජයේ දෙවි දේවතා විශ්වාසයන්හි විශ්වව්‍යාපි භාවය ප්‍රත්‍යක්ෂ වන්නේ ය.

දෙවි කෙනකුගේ ජනප්‍රිය භාවය වර්ධනයවීම අවසන එම දෙවියන් ගෙන් අපේක්ෂා කෙරෙන කාර්ය සාධනය නිෂ්ප්‍රභ කරන්නක් බව ඔබේසේකර තර්කානුකූලව පෙන්වා දී ඇත (166:65 පි.). දෙවි කෙනකුගෙන් ලෞකික අපේක්ෂා ඉෂ්ට කරවා ගැනීමේ දී එම දෙවියන් ගේ බල පරාක්‍රමය භාවිතයට ගනු ලැබේ. සිය කාර්යය ඉෂ්ට වීමෙන් පසු බැතිමත්හු දෙවියන්ට පින් පමුණුවති. වඩ වඩාත් ජනප්‍රිය වීම නිසා වඩවඩාත් බැතිමතුන් පිහිට පැතීමටත් එම පිහිට ලබා දීම නිසා දෙවියන්ට වඩ වඩාත් පින් ලැබීමත් සිදුවේ. මෙහි ප්‍රතිඵලය වන්නේ දෙවියන් වඩ වඩා පුණ්‍යවන්ත වී ලෝකෝත්තර පරමාර්ථ කෙරේ නැඹුරු වීම යි. අවසන දෙවියෝ බෝධිසත්ව කෙනකු බවට පත් වෙති. එවිට ඇතැම් බැතිමතුන් ගේ අපේක්ෂා ඉෂ්ට කළ නොහැකි තත්ත්වයකට දෙවියන් පත් වන්නට ඉඩ තිබේ. මෙය ශ්‍රී ලංකාවේ නාගරිකත්වයේ ද සමාජ සංවර්ධනයේ ද ව්‍යාප්තිය හා සමග සම්බන්ධකර දැක්වීමට ගොම්බ්‍රිච් හා ඔබේසේකර වෑයම් කර ඇත. ඔවුන් ගේ නිරීක්ෂණ මෙහි ලා සඳහන් කිරීම උචිත ය.

වර්තමාන සමාජයේ බොහෝ ප්‍රායෝගික අවශ්‍යතා නාථ, විෂ්ණු කතරගම, පත්තිනි ආදී ප්‍රධාන දෙවිවරුන් ගෙන් ඉටු කරවා ගත නො හැකි ය. මේ අවශ්‍යතා බොහෝ විට ධර්මානුකූල ඒවා නොවේ. ව්‍යාපාර කටයුතුවල දී අන්‍යයන් අභිභවා යාම, "අයහපත්" ව්‍යාපාරයන් සාර්ථක කර ගැනීම, වෘත්තීය කටයුතුවල දී හොඳින් හෝ නරකින් පෞද්ගලික අපේක්ෂා ඉටු කර ගැනීම ආදියෙහි දී දෙවි දේවතා යක්ෂාදීන් ගේ සහාය ලැබීම අවශ්‍ය වුවහොත් එහි දී යථෝක්ත ප්‍රධාන දෙවිවරුන්ගේ සහාය අපේක්ෂා කළ නොහැකි ය. මෙහි දී ලෞකික නැඹුරුවක් ඇත්තා වූ ද, සැඩ පරුෂ ඉතිහාසයක් ඇත්තා වූ ද, ධාර්මිකත්වය නොව කාර්ය සාධනය අරමුණු කර ගත්තා වූ දෙවිදේවතා යක්ෂාදීන් සහාය කර ගැන්ම තර්කාන්විත වේ. වර්තමාන සමාජයේ **කාලි, සූනියම්, කඩවර ගිනිකුරුම්බර** ආදීන්ගේ ජනප්‍රියත්වය තේරුම්ගත හැක්කේ මේ පදනම අනුව බව ගොම්බ්‍රිච් හා ඔබේසේකර පවසති. (එම: 115, 161 ආදි පිටු.).

දෙවි දේවතාවුන් ගේ නැගීම, බැසීම මෙන් ම දේව ගණයේ වෙනත් අභ්‍යන්තර විපර්යාසයන් ද ඔවුන් ක්‍රියාත්මක වන ජන සමාජයේ ක්‍රියාත්මක වන බලවේග හා සමග සම්බන්ධ වී පවතින බව ඉහත සඳහන් විස්තරවලින් පැහැදිලි වනු ඇත.



## දෙවන කොටස

# දේව නාමාවලිය

පිටුව

පිටුව





පිටුව

පිටුව





පිටුව

පිටුව





පිටුව

1



# අඩුක්කු ගත්ත උන්නැහේ

මේ නමින් හැඳින්වෙන දෙවි කෙනෙක් ලග්ගල පළාතේ සිටිති. ගොයම් පාගා ගත්තායින් පසු අරක්වලේ* එළලන ලද පොල් ගෙඩිය ගෙන ඒ පොල් කිරෙන් කිරි උතුරුවනු ලැබේ. මෙය සිදු කෙරෙන්නේ මින්නේරි දෙවියන්, පනාම් දෙවියන් හා අඩුක්කු ගත්ත උන්නැහේ වෙනුවෙනි. වී වැපිරීමේ දී හොඳාකාර අස්වැන්න ලැබූ පසු 'මේ අස්වැන්නෙන් හමුන්නාන්සේලා ගේ අඩුක්කුව අපි පිළියෙල කර දෙනවා' යි භාර වූ ගොවියා අස්වැන්න කපා පාගා ගත් පසු යට කී පරිදි කිරි උතුරුවා අඩුක්කු පූජාව කරන්නේය. සුබ නැකැත් දිනයක් නියම කර ඇතැම් විට සාමූහිකව ද ඇතැම් විට පෞද්ගලිකව ද පිදවිල්ල කෙරෙන්නේ මිනිස් පය නොගැටෙන ගල් තලාවක් වැනි තැනක ය.

අඩුක්කු පිදීම සංවිධානය කරන කපුරාළට අමතරව වී කෙටීම, බත පිසීම ආදී සියලු කටයුතු කරනු ලබන්නේ පිරිමින් විසිනි. නියමිත දිනයේ දී බණ්ඩාර දෙවි හා පිරිවර දෙවි 12 ටත් අලුත් දෙවි හා පිරිවර 3 දෙනාටත් කෙහෙල් කොළ 17 ක පිදවිල්ල කරනු ලැබේ (13:84 පි.).

තමන්කඩුවෙ වැදි ජනයා අතර පුද පූජාවට භාජන වූ 'අඩුක්කු ගත්ත හුලවාලි යකා' පිළිබඳව සෙලිග්මාන් යුවළ සඳහන් කර තිබේ. මොහු මින්නේරිය ප්‍රදේශයේ විසූ වැදි නායකයෙකි. මින්නේරි වැව බැඳවීම සඳහා වැදි ජනයා ගේ පාරම්පරික දඩබිම ඔවුන් ගේ අයිතියෙන් මුදවා ගැනීමට මහසෙන් රජතුමා කටයුතු කරන අවස්ථාවේ දී එම ප්‍රයත්නයට හරස් වූ මොහු රජු අතින් මරණයට පත් විය. මරණින් පසු ඔහු යක්ෂ තත්ත්වයට පත් වූ බැව් විශ්වාස කළ ප්‍රදේශ වාසීහු ඔහුට පුද පූජා කරන්නට පටන් ගත්හ. ඔහු මිනිසුන්ට සිහිනෙන් පෙනී සිටි. එවිට මනාව වැඩුණු තරුණයකු විලසින් සුදු හැඳ සුදු සැරයටියක් ගත්තේය. ජනයාගේ අසනීපවල දී පඬුරු බැඳ ආයාචනා කොට ලෙඩ සුව වූ කල්හි ගමේ ගෙවලින් ආහාර වර්ග එකතු කොට මොහුට පුද දෙනු ලැබූ බව ද වාර්තා වී ඇත (178:77 පි.).

ලග්ගල ප්‍රදේශයේ කෘෂිකාර්මික ජනතාව විසින් පුද පූජාවට ලක් කරනු ලබන්නේ මෙම දෙවියන් ම බව පෙනේ. ඉතා වැදගත් වැවක් තනනු

* අස්වැන්න කමතට ගෙන ඒමට පෙර භූතෝපද්‍රව දුරු කිරීම පිණිස ආරක්ෂක වස්තූන් තැන්පත් කිරීමට කමත මැද සැරූ වළ.

ලැබූ බිම් පෙදෙසට ඇල්ම ඇතිව මිය ගිය මොහුට ගොවි ජනයා පුද පූජා පැවැත්මට සුදුසුතම සිද්ධියක් යැයි කිව හැකි. මින්නේරියේ පුරාණ දේවාලයේ යාතිකාවේ ද මොහු සඳහන් වේ. (මින්නේරි දෙවි යටතේ බලන්න). එම දේවාල භූමියේ මොහු සඳහා කැපවුණු කුඩා දේවාලයක් ද ඇත.



## 2
## අනුහස් දේවී

හියු නෙවිල් කවි සමුච්චයේ ඇති "අනුහස් දෙවියන්ගේ කවි" නම් පැදි 12 ක කවි පෙළෙන් ජනපද රෝග දුරු කරවන්නාවූ අනුහස් මාතාව නම් දෙවඟනකට ස්තෝත්‍ර කියනු ලැබේ (161, 3:59 පි.). ඕ සර්වාභරණයෙන් සැරසී පිරිවර සහිතව මුදු රළ මතින් පෙරිමියන්කුලම වැව වෙත පැමිණෙන්නීය.

සතර දීප මුළු සක්වළ සිටින පිසස් හැම යකුන්ඩ<br>
විතර නොවන තද බස් දී ගෙන එන පෙර මුනී යන්ඩ<br>
අතර නොසිට මහමුදේ රැළ පිට කෙළ කෙළ වඩින්න<br>
සතර රූ ඇති වැව් දැක පෙරිමියන්කුලමෙ වැඩ සිටින්ඩ<br>
(එම)

අතේ රිදී වේවැලකි. තෙළිඟු බසින් මන්තර හා කවච පවසා යකුන් එළවා දමන්නීය. යළි බුලන්කුලමට පැමිණ අරමුදල් ලබන්නීය. රන් මිරිවැඩි පැළඳ පට ලේන්සු අතේ දරා පුන නූලක් පැළඳ සිටින ඕ සිය පට සළුවෙන් ලෙඩ දුක් හා කම්කටොලු පිස හරින්නීය. මෙහි දී නෙවිල් සඳහන් කරන තවත් කරුණක් ඇත. එනම් පෙරිමියන්කුලම වැව අසළ තිබී ලැබුණු ගලින් කළ අගනා කාන්තා දේව පිළිමයක් ගැනයි. සියලු ආභරණයන් සහිතව ශීර්ෂ පළඳනාවක් ද ඇතිව උඩුකය නිරාවරණයව ප්‍රධාන අත් දෙකට අමතරව තවත් අත් හයකින් ද යුක්තව පිටුපස දකුණු අත්වල ගිනි වළල්ලක්, කඩුවක් හා කොන්තයක් ද, වම් අත්වල හක් ගෙඩියක්, දුන්නක් හා පලිහක් ද ඇතිව තිබුණු මේ අගනා පිළිමය අනුරාධපුර කච්චේරියට ගෙන යන ලද බව ද ඔහු පවසා තිබේ (161, 3:59 පි.).



අනුහස් දේවිය පහත දැක්වෙන අනුහස් බණ්ඩාර සමඟ ඇති සබඳතාව පැහැදිලි කර ගත නොහැකිය.



## 3
## අනුහස් බණ්ඩාර දෙවියෝ

බදුල්ලේ ළිඳමුල්ල දේවාලයේ ඇඳ තිබෙන චිත්‍ර කීපය අතර අනුහස් බණ්ඩාර නම් දෙවියකුගේ චිත්‍රයක් ද දක්නට ලැබේ. මෙයින් අනුහස් බණ්ඩාර යන නමින් දෙවියකු බදුල්ල පෙදෙසේ විසූ බව පැහැදිලි වේ. එහෙත් ඔහු ගැන එයට වැඩි තොරතුරක් හමු නො වී ය. ඉහත කී දේවාලයේ පහත දැක්වෙන දෙවිවරුන් ගේ රූප ද ඇඳ තිබේ:-

සතරවරම් දෙවි, මංගර දෙවි, මැණික්බණ්ඩාර දෙවි, අලුත්ගෙදර දෙවි, කිවුලේගෙදර අලුත් දෙවි, බෝවල දෙවි, කුමාරබණ්ඩාර දෙවි, වාහල-බණ්ඩාර දෙවි, අනුහස් බණ්ඩාර දෙවි, ධර්මමුණ්ඩ දෙවි (84 : 106 පි.).



## 4
## අප්පුහාමි දෙවියෝ

කිවුලේගෙදර අලුත් දෙවියන් යනුවෙන් ඌව වාසීන් පුද පූජා කරන දෙවියා ම අප්පුහාමි දෙවි යනුවෙන් ද හඳුන්වන බව පෙනේ. එබැවින් එම දෙවියන් සම්බන්ධව එන විස්තරය බලන්න.

දෙවන රාජසිංහ රජු ගේ කාලයේ දී (ව්‍ය. ව. 1635 - 87) රජු ගේ අන්තේවාසිකයන් ද ඉන් පසුව සිටි මාලිගා සේවකයන් ද හඳුන්වා ඇත්තේ "අප්පුහාමි" යනුවෙනි (148:109 පි.). සාමාන්‍යයෙන් රදළ පවුල්වල තරුණයන්ට මේ පදවිය ලැබිණි. මහනුවර අන්තිම යුගයේ දී එය ම දුක්ගන්නා රාළ යන නමින් වෙසෙසා ඇති බව පෙනී යයි.



5. රජ.කි.ස. - 93939



## 5
# අබිමාන දෙවියෝ

කඩවර දෙවි වශයෙන් ද සමහර තැනක සඳහන් ව ඇති මේ දෙවියා දොළහ දෙවි අතර ද දක්නට ලැබේ. වැඩිපුර යකකු ලෙස හැඳින්වෙන මොහු සතුටට පත් වූ විට යහපතත්, අසතුටට පත් වූ විට අයහපතත් සිදු කරන බව පැවසේ. දොළහ දෙවියන් අතර සිටින සෙසු දෙවියනට පිදවිලි වශයෙන් දියයුතු වන්නේ බලි පමණි. එහෙත් මොහුට බිලි ද දියයුතු ය.

අබිමාන යකා ඉතා චණ්ඩ ය. කුඩා දරුවනට පවා ලෙඩ රෝග ඇති කරවන්නෙකි. ඔහු කතරගම දෙවියන්ට පමණක් යටත් ව සිටින බව පැවසේ. පත්තිනියට පවා හේ පරුෂකම් පෙන්වී ය. ඔහු පත්තිනිය ගෙන් වරම් ඉල්ලා ඇත. එහෙත් එය ඇගෙන් නොලැබිණි. එයින් උදහස් වූ අබිමානයා පත්තිනිය ගේ හළඹ කඩා ගෙන තම බලය පෙන්නා ඔහුට අවශ්‍ය වරම් ඇගෙන් ලබා ගත්තේ ය. මේ අබිමානයා ගැහැනු සොඬකු බව ද පැවැසේ. දුටු දුටු ලියන් කෙරෙහි ඇලුම් කොට ඔවුනට ලෙඩ කරවයි. ගැහැනියක ස්වාමියකු සමඟ වෙසෙනු හෝ ඒ බව දැක්වෙන පරිද්දෙන් දරුවකු ලැබෙනු හෝ ඔහුට නුරුස්නා දෙයකි. බිළිඳුන් කෙරෙහි ඔහු වෛර කරන්නේ ඒ නිසා ය. ඒ බව පහත දැක්වෙන කවියෙන් ද සනාථ වේ:-

අබිමානයා රට තොට අල්ලන් තේ  
දුටු දුටු ලිය හට ලෙඩ කරවන් තේ  
කැටුවම උඩරට වාස කරන් තේ  
හැට හතරක් පෙළපාලි කරන් තේ

මේ කවෙන් ඔහු උඩරට වාසය කරන බවක් ද හැඟේ (137:537 පි.).

### මොහුගේ උපත:-

ඔඩ්ඩිසයේ කාසිරටේ රාජගුරු රජු ගේ ද ආඩි මවක ගේ ද පුතකු වන මොහු ගිනිකඳ, රටකඳ යන දෙදෙනා සමඟ ලංකාවේ කළුගල්



තොටට පැමිණ, එ තැනින් කඩවත තොටට අවුත් එහි අධිපතියා වී මුළු රටේ ජනතාව ගේ ගෞරවයට පාත්‍ර වූයේ ය.

වෙන තැනක සඳහන් වන්නේ ඔහු බරණැස ආඩි මවක ගේ පුතකු ලෙස ය. ඔහු ලකට පැමිණ කදිරපුරයේ වාසය කරමින් සිටින අතර වැඩිපුර කැම කෑ හෙයින් මිය ගොස් යකෙක් විය. එසේ ම කාසිරටේ දේපගුරු රජු ගේ පුතකු ලෙස ද සඳහන් ව ඇති බවක් පෙනෙන්නට තිබේ (141: 18පි). අබිමාන යාදින්ගේ මෙසේ ද සඳහන් වේ:

කදිරපුර දැකලායි න් - අබින් කා මත් වෙමි න්  
එවිට පණ චුතවෙමි න් - අබිමාන යකු උප න්  
(161, 3: 213 පි.)

"අබිමාන දේවතා" යටතේ ද බලන්න.

කුඹුරු පීදෙන කාලවල දී කරල් විනාශ කරන මැස්සන් ගෙන් කෙත්වතු ආරක්ෂා කිරීම සඳහා අබිමාන දේවතා පිදීම පැරණි ගොවියන් මහත් අභිරුචියකින් සිදු කළ බව සඳහන් වේ. සමහර තැනක මේ දෙවි "අභිමාන" යනුවෙන් ද සඳහන් කර ඇති බව කිය යුතු කරුණකි. උඩරට සමහර ගම්වල මේ අබිමාන පිදීම මෑතක් වන තුරු ම පැවැති වග සඳහන් වේ. එයට අමතරව වෙනත් අමනුෂ්‍ය උවදුරුවල දී ද පිදේනි තනා මෙම දේවතාවාට දොළ පුළුටු පුද දීමෙන් රෝග සුව කරගත හැකි බවට විශ්වාසයක් ද පවතී. කුඹුරුවල මැසි උවදුරු හටගත් අවස්ථාවල දී කුඹුරු මැද ගොක්කොළවලින් සැරසූ පූජාසනයක් තනා බෙර දවුල් හක් හඬ සහිතව අබිමාන පිදීම සිදුකෙරේ.

මොහු පිළිබඳව ඇති කවි පන්තියකින් කොටසක් පහත දැක් වේ.

උන්ඩ ඇඳන් කළු හැට්ට පොරොන් දෑ  
තුබේ ගොදුරු නොව කන්ඩ නොදෙන් දෑ  
බඩේ සේ ම කැක්කුන් කරවන් දෑ  
බඩේ ලෙඩට අබිමාන ගුරුන් දෑ

ආඩි වඩුගෙ කුසයෙන් උපන් තේ  
ජෝඩු එ රා කංසාමයි බොන් තේ  
වැඩි එ දිවියන් පිටමයි ඉන් තේ  
ආඩි ඒ අබිමානේ පුද ගන් තේ

එබිකම් කරමින් නිති ඇවිදින් තේ  
කඩිමුරක් ගෙන ශරයී එන් තේ  
දඩිබිඩි යන හඬකින් පවසන් තේ  
වැඩ නැති රුදුරු නැතුනයි අබිමා තේ

අබිමානේ නම් ගුණ ඇති තෙදඇ ති
අනුමානේ දුටුවන් ලෙඩ කරව ති
අනුමානේ දෙන දොළ පුද කැප වෙ ති
අභිමානේ යකු කළ ලෙඩ දුර ල ති

(ලංකාණ්ඩුවේ ප්‍රවෘත්ති දෙපාර්තමේන්තුවේ ප්‍රකාශනයක් වූ ශ්‍රී ලංකා සභරාව, 1959 අගෝස්තු, 12 වන පිටුවෙනි)

මොහු "අයිමාන" යනුවෙන් ද හඳුන්වති.



# 6
# අබුත දෙවියෝ

"ඔය දෙවි", "පල්ලේ බැද්දේ දෙවි" යනුවෙන් ද හඳුන්වා ඇත්තේ මේ දෙවියා ම බව පෙනේ. බණ්ඩාර දෙවිවරුන් යටතේ ද අභූත බණ්ඩාර දෙවි යන නමක් දක්නට ලැබේ. (බණ්ඩාර දෙවි යටතේ ද බලන්න.) "අභූත උන්නැහේ", "අබුත දෙවි", "අභූත දෙවි" යනුවෙන් ද මොහු හැඳින් වේ.

මොහු මල්වර නම් දේශයේ සිට මක්කම පසු කොට මන්නාරමෙන් ලක්දිවට ගොඩ බට බව සඳහන් ව ඇත. අබුත දෙවි කව්වලින් ඔහුගේ විස්තර හෙළි වේ. ගජබාහු නම් රජු විසින් හෙතෙම වාහල්කඩ දොරටුපාල තනතුරට පත්කරනු ලැබී ය. එහෙත් ඔහු රජුට විරුද්ධ ව කුමන්ත්‍රණයක් කළ බැවින් රජු විසින් ඔහු ගම්පිහිල්ල නම් ස්ථානයේ දී මරණයට පත් කරන ලදී. එයින් පසුව ඔහු ගේ අවතාරය සතර නිධානය මුර කිරීමට යෙදුණේ ය. ත්‍රිශූලයක් අතැතිව සිටින මොහු දරුවකු වඩාගෙන සිටින ආකාරයෙන් පෙනී සිට වින කරයි. දුනු හී ගත්තා ඔහු දුන්නගම, අයගම, හුන්නස්ගිරිය යන තැන්වල ගැවසෙන බව ද, ඇළ දොළවල ගැවසෙන බැවින් "ඔයදෙවි" යන නමක් මොහුට ඇති බව ද පැවැසේ.

තවත් පුවතක සඳහන් වන පරිදි අබුත දෙවියා සත් සමුදුර තරණය කොට මෙහි පැමිණියෙකි. පියා විසින් රටින් නෙරපන ලද ඔහු ලකට ගොඩ බැස නොයෙක් දස්කම් දැක්විය. එවිට රජු හා උරණ වූ හේ මාතලේ පෙදෙසට පැන ගොස් එහි විසූ ගජබාහු නම් පෙදෙස් රජු ගේ



ඇමැතියකු ලෙස ක්‍රියා කළේ ය. එහෙත් ඔහු ගේ බලවත්කම ගැන බියට පැමිණි ගජබාහු රජපිහිල්ල නමින් හැඳින්වූ නානතොටට ඔහු ගෙන ගොස් මරා දැමී ය. තමා ගොඩ දී දෙ කඩ කළහොත් රට ගින්නෙන් විනාශ වන බව ද, දියේ දී එසේ කළහොත් රට දියෙන් විනාශ වන බව ද ඔහු ප්‍රකාශ කළ බැවින්, මෙසේ දියත් ගොඩත් දෙකට අතර කොටසක දී ඔහු ඝාතනය කළ බව ද පැවැසේ. මේ අයුරින් දෙ කඩ කළ ඔහු ගේ උඩු කයින් අබුත දෙවියා ද, යටි කයින් අබුත දේවිය ද උපන් බව පැවැසේ (128: 564-5 පිටු).

අබුත දේවින්නාන්සේ යටතේ ද බලන්න.

කඩවර උපත, ආඬි කඩවර ආදී තොවිල් කව්වල දී අබුත කඩවර යන නමින් හැඳින්වෙන දෙවියකු ගැන සඳහන් වේ. දළුමුර පිදුම් කව්වලදී අබුත බණ්ඩාර නමැති දෙවියකු ගැනත්, පඩුවස් නුවර ශාන්තියේ දී අබුත යකුන් 500 ක් ගැනත් සඳහන් වේ. අබුත දෙවියන් ගැන ඇති මල් යහන් කවි කීපයක් මෙසේ යː-

චන්ද්‍ර මඩල සඳ පායන විලස ට
ඉන්ද්‍ර නීල නම් මැණිකක් විලස ට
සුභ්‍ර වර්ණ නම් සළුවක් ඉණට
වික්‍රමයෙන් වැඩි යයි මක්කම ට

පෙර මහ බල ඇති දෙවියො කියත් තේ
කර මහ ගිනියම් ලෙස කර වත් තේ
පර ගහ කළ ලෙස මන්ද හරින් තේ
මොර ගහවෙල සෙල්ලමයි කරන් තේ

ගජබාහු පුර නුවරට එන් තේ
අදට නවාතැන් සිටිදු කියන් තේ
වහල්කඩේ මුර ජාම කරන් තේ
අබුත දෙවි මල් යහන වඩින් තේ
(එම)



## 7
## අබුත දේවින්නාංසේ

මෝ, අබුත දෙවි, අබුත බණ්ඩාර යන නමින් හැඳින්වෙන දෙවියන් ගේ බිරිඳ විය හැකි ය. දේවත්වයට පත් අය ගේ බිරියන් ද දේවත්වයේ ලා සලකා ඇති බව මෙයින් පෙනී යයි. ඒ හැර අබුත දේවින්නාංසේ ගැන වෙන කිය යුතු දෙයක් හමුවූයේ නැත. කැලේ කඩවර දේවින්නාංසේ, සහ අබුත දෙවි යටතේ ද බලන්න.



## 8
## අම්පිටියේ දෙවියෝ

නැගෙනහිර පළාතේ පානම් පත්තුවේ පුද පූජාවට භාජන වන දෙවි කෙනෙකි. පානම් පත්තුවේ පිහිටි අම්පිටියේ උඩුපිල දේවාලයේ අලුත් දෙවියෝ ද, යටිපිල දේවාලයේ පත්තිනි දෙවියෝ ද වැඩ සිටිති.

අලුත් දෙවියන් ද පත්තිනි දෙවියන් ද උදෙසා අංකෙළි උත්සවයක් පවත්වනු ලබන්නේ යල් කන්නයේ අස්වනු නෙළා ගැනීමෙන් පසුව ය. අම්පිටියේ දින දොළහක් පැවැත්වෙන මෙම උත්සවයට පිරිමි පමණක් සහභාගි වන අතර ස්ත්‍රීන්ට එම කාලය තුළ එම ස්ථානයට පැමිණීම තහනම් වේ. එසේ ම අංකෙළියට සහභාගි වන පිරිමින් ද ස්ත්‍රීන් සමඟ කිසිදු සබඳතාවක් නොපවත්වමින් (බත් බෙදා දීම පවා) හිස තෙල් නොගාමින් කහ අබ ආදිය නොකමින් නැවුම් මැටි භාජන පරිහරණය කරමින් පේ වී සිටිය යුතු ය. එම කාලසීමාව තුළ ගමේ ද කිළි සිදුවන සියලු අවස්ථා මඟ හැරවීමෙන් (දරුවන් ලැබූ, ඔසප් වන හෝ වැඩිවිය පත් වන ස්ත්‍රීන් ගමින් පිටත් කිරීම, මරණයක් සිදු වූ විගස භූමදාන



කිරීම) මෙන්ම විවාහ කටයුතු නොකිරීම, හාල් පිටි නොකෙටීම ආදී වශයෙන්, පේවීම සිදු විය යුතුය. අංකෙළියේ දී උඩුපිල ජය ගැනීම සුබ දායක ලෙස සැලකේ. මින් පසු දෙවියන් "ගමේ ගෙන ඒම" සිදු වේ. හැම තිවසක ම මිදුලේ තැනූ අතු පැළක් මත පත්තිනි දෙවියන් ගේ ආභරණ තබා කපුරාළ විසින් සෙත් පතමින් කන්තලව් කරනු ලැබේ. ගමේ ගෙන ඒමේ දිනට පසු දින අලුයම මුදු තීරයේ දිය කැපීමෙන් අංකෙළි උත්සවය නිමා වේ.

ගොයමට උපද්‍රව පැමිණුනු විට හෝ ගමේ වසංගත පැමිණුනු විට හෝ අම්පිටියේ දේවාලයට භාර වනු ලැබේ. බාරය ඔප්පු කෙරෙන්නේ "අලුත් දෙවියන් ගේ මඩුව" නම් ශාන්තිකර්මය මගිනි. මෙහි කියවෙන දේව කන්නලව්ව මෙසේ යි:

නමෝ තෙදවරං දිවස් පස්වාන් දහසකට දිවස් කරුණා කරන්ට යහපති.

ආයි බෝ වේවා.<br>
ඕ ........ ඕ ........ සිට වැන්දේත් බැහැ වැන්දේත්<br>
දණිස් නමා දසහිල්ලෙන් වැන්දේත්<br>
දොහොත් නමා දසහිල්ලෙන් වැන්දේත්<br>
මෙසක් වලෙන් එසක්වලේට, එසක්වලෙන් එසක්වලේට<br>
මෙර හතර මුදේ - මේ ශ්‍රී ලංකාද්වීපයට නිධානයක් වූ පැවැත්තුවාවූ<br>
අලුත් බණ්ඩාර - කෝවිලේ බණ්ඩාර<br>
සමකුළුනු බැහැ උන්නාවූ අලුත් බණ්ඩාර<br>
කතරගම මහමූලස්ථානෙට වැඩ උළුවිත් කෝවිල තනා<br>
පට පඩුරු අය කර ගත් අලුත් බණ්ඩාර දෙවි හාමුදුරුවන්<br>
වහන්සේට කියා සිටින කන්නලව්වයි.<br>
මේ අසුරමණ්ඩියේ අට අනුවක් රෝග නව අනුවක් ව්‍යාධි,<br>
දෙසිය තුනක් අන්ත්‍රා,<br>
යක්ෂ භය, භූත භය, ප්‍රේත භය ගසා නාඩත්තු කරවා දී ...............<br>
ඉසේ තියාවුන් මල්ලක් කරට බැවා සේ<br>
කාදුන්නක දුනු දියක් බැවා සේ<br>
අහසේ වලාවක් ගසා ගියා සේ<br>
පොළොවේ දූවිලි කඩක් ගසා ගියා සේ<br>
කිරි ගහට ඇතෙක් දළ දුන්නා සේ<br>
මුහුද පීනා ගොඩ දුරට ආසේ<br>
හාල් ගරා ගල් දුටුවා සේ<br>
සිද්ධ ස්වාමීනි

කනාගේ හැරම්ටිය නැංගුවාසේ කරන්න එපා
ජීරා කන කුකුළාගේ දෙපා බින්දා සේ කරන්න එපා
හිහන්නාගේ පාත්තරේ බින්දා සේ කරන්න එපා
සිද්ධ ස්වාමීනි ...................
අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසිය තුනක් ආන්ත්‍රා
ගසා ගියා සේ ...................
හන්දා බලි ඇරියාසේ
මේ සියලු රෝග, මේ සියලු උපද්‍රව දුරු කර දෙන්න
අලුත් බණ්ඩාර දෙයි හාමුදුරුවන්ගේ ආනුභාවයෙන්

(4)

මේ විස්තරයේ සඳහන් අලුත් දෙවියන් ගැන පැහැදිලි අදහසක් දිය නො හැකිය. ඒ පත්තිනිය ගේ ස්වාමි පුරුෂයා ද? නො එසේ නම් පානම් පත්තුවේ පැරණි ජනප්‍රධානයෙක් ද? යන්න පැහැදිලි නැත. කැබිලිත්තෙ රාළ නම් අයෙක් 1817 - 18 කැරළි සමයේ දී මහකතරගම දේවාලයේ මහබෙත්මේ ධුරය ඉසිලූ හ. මේ පදවිය ඔහු ගේ පවුලේ අය විසින් දරන ලද්දකි (174ඒ : 187, 257 පිටු). එසේ ම මේ කැරැල්ලේ ප්‍රධානයකු වූ කිවුලේ ගෙදර මොහොට්ටාල ද දේවත්වයට පත් වූ බවත් අලුත් දෙවි නාමය ලැබූ බවත් අපි දනිමු. ඔවුන් සතුව කතරගම භූමියේ ද දෙවොලක් විය. (එම විස්තරය ද බලන්න.)



# 9
# අම්මා හාමුදුරුවෝ

දිගාමඩුල්ලේ වැවගම් පත්තුවේ අදහනු ලබන දේවතාවියකි, අම්මා දේවි. මේ දේවතාවිය සඳහා අවුරුදු පතා හෝ අවුරුදු කීපයකට වරක් හෝ දෙවොල්මඩු වැනි පිදවිලි පවත්වනු ලැබේ. මේ දේව පිදවිල්ල "අම්මා හාමුදුරුවන් ගේ කාරිය" යනුවෙන් වෙසෙසනු ලැබේ. මෙය නොකළ හොත් පවුලේ ලෙඩ දුක් කරදර, අනතුරු වැඩි වන බවත්, එය ඉටු කිරීමෙන් ශාන්තියක් සිදු වන බවත් ගම්වැසියන් ගේ විශ්වාසයයි. මෙම යාතු කර්මයේ දී භාවිත වන්නේ දෙමළ ගීතය. දෙමළ යකැදුරන් (පූෂාරි) විසින් උඩැක්කි වාදනය සමග ගී ගැයෙන කල්හි සිංහල ගැමියෝ



දේවාරූඪය ලබා අන්‍යයන්ට සෙත් ශාන්ති කරති (100: 11 වන පරිච්ඡේදය).

**වෙනත් මතයක්:-**

මහී අංගනාවට අම්මා දේවි යනුවෙන් නම් කර ඇතැයි කියන පාකර් මහතා, ඇය සිව ගේ බිරිය වන උමයංගනාව ද විය හැකි යයි සැක කරයි (174:667 පි.). පත්තිනිය ද අම්මා දේවිය යනුවෙන් හඳුන්වා දී ඇති අවස්ථා නැත්තේ නොවේ. ඇතමකු කිරි අම්මාවරුන් ද අම්මා දේවි යනුවෙන් හඳුන්වා ඇති බව පෙනේ. පාකර් මහතා, උක්ත කිරි අම්මලා ගේ නම් මෙසේ දක්වයි:- 1. පොළෝ මහීකාන්තාව, 2. මුදේ මහී කාන්තාව, 3. සරස්වතී, 4. ශීතා පරමේශ්වරී, 5. මහී අංගනාව නොහොත් අම්මා දේවි, 6. වල්ලි අම්මා, 7. පත්තිනි දේවි (174: 667 පි.). උක්ත කිරි අම්මලා ගේ නම් මේ ආකාරයෙන් ද සඳහන් වේ.:- 1. මීරිබැද්ද කිරි අම්මා 2. ඌනාපාන කිරි අම්මා 3. පුෂ්පරාග කිරි අම්මා 4. කොස්ගම කිරි අම්මා 5. බෝවල ගෙදර කිරි අම්මා 6. බාලගිරි කිරි අම්මා 7. ගිනිගල් දේවතාගේ කිරි අම්මා (174: 137 පි.).

වැඩි විස්තර කිරි අම්මාවරු යටතේ බලන්න.



# 10
# අඹන්වල දෙවියෝ

දෙවන රාජසිංහ (ව්‍ය. ව 1635 - 87) රජුට විරුද්ධව පැන නැගුණු එක් කැරැල්ලක් හැඳින්වූයේ තිල්ලඹ කැරැල්ල යනුවෙනි. රජ තුමා මේ කාලයේ උඩපළාතේ තිල්ලඹ උප නගරයේ විසූ බවත්. කැරැල්ල සිදුවූයේ එහි දී බවත් කියනු ලැබේ. මේ කැරැල්ලේ සිටි නායකයන් අතර උඩුනුවර අඹන්වල රාළ ද අයෙකි. එම කැරැල්ල ව්‍යර්ථ වී එහි ප්‍රධාන තැන් ගත් බොහෝ දෙනකු ගේ හිස් ගසා දැමුණි. ඒ අතර අඹන්වල රාළ ද විය. මිය ගිය අඹන්වල රාළ පසුව 'අඹන්වල දෙවියෝ' යනුවෙන් අදහනු ලැබූ බව පෙනේ.

අඹන්වල රාළ පිළිබඳව මෙයට ඉඳුරා වෙනස් මතයක් ද පවතී. දෙවන රාජසිංහ රජු තමාට විරුද්ධව කුමන්ත්‍රණය කළ බොහෝ දෙනකුගේ හිස්

ගසා දමා තමා ගේ පරම හතුරා වන අඹන්වල රාළ, සුදුසු දඩුවම් සඳහා කොළඹ ඕලන්දයන් වෙත යවන ලදී. එහෙත් ඔවුන් මේ රාළ ගෙන් වටිනා රහස් තොරතුරු දැන ගැනීමට හැකි වේ යැයි සිතා ඔහුට කිසි දඬුවමක් නොදී කොල්ලුපිටියේ ඉඩමක් දී ඔහු එහි පදිංචි කරවා ඇත. අඹන්වල රාළ ද හොඳින් පොල් වගා කර එහි ම පදිංචි විය. දැන් කොළඹ කොල්ලුපිටියේ පොල්වත්ත යනුවෙන් හඳුන්වන්නේ ඒ පැරණි යුගයේ දී අඹන්වල රාළ විසින් වගා කළ පොල් ඉඩම තිබුණු පෙදෙස යැයි කියනු ලැබේ. මෙකී අඹන්වල රාළ පිළිබඳ සවිස්තර තොරතුරු උඩුනුවර විත්ති පොතේ "අඹන්වල" යටතේ සඳහන් කර තිබේ. (67 අ: 8 පි.)

හියු නෙවිල් එකතු කළ කවි අතර ඇති "කන්දේ බණ්ඩාර කවි" නම් කවි පන්තියක අලුත් උනම්බුවෙ බණ්ඩාර සමඟ අඹන්වල රාළ දෙවියෝත් සඳහන් කරනු ලබති (161, 2: 202 පි.). මින් හැඟෙන්නේ ඔහු කන්දෙ බණ්ඩාර දෙවියන් ගේ (කතරගම) අන්තෙවාසිකයකු බවයි.



11

# අඹරාපොති දේවිය

විසල්පුර රජුට බිසොවක් වූවාය. ඇය ඇමතියකු සමඟ අයථා සම්බන්ධයක් ඇති කර ගෙන සිටින බව රජුට දැනගන්නට ලැබිණි. එබැවින් රජු විසින් ඇගේ ගෙලේ කළු ගලක් බැඳ කළුගඟේ ගිල්වා මරවන ලදී. මේ කියන විසල්පුර ඉන්දියාවේ තිබුණක් සේ සැලකේ. එහෙත් කළුගඟ ඇත්තේ ලංකාවේ ය. එබැවින් මේ කියන පුවතේ යම් කිසි පටලැවිල්ලක් ඇති බවක් පෙනෙන්නට තිබේ. මහනුවර ආසන්නයේ ඇති කුණ්ඩසාලයට යාබදව පිහිටි ගෝනාවත්ත කොටුපොළ පුරාණයේ දී විසල්පුරය යනුවෙන් හඳුන්වා ඇති බව සඳහන් වේ (158:295 පි.). එහි එගොඩ කොටුපොළ ද විසල් තොට යනුවෙන් හැඳින්විණි. මේ නිසා ඉහත කී දියේ ගිල්වීම කුණ්ඩසාලය ආයතනයේ දී මහවැලි ගඟේ සිදු වූවක් වීමට ඉඩ තිබේ. එසේ වෙතොත් ලංකාවේ දී සිදු වූ පුවතක් ඉන්දියාවේ දී සිදු වූවක් ලෙස සඳහන් කර ඇතැයි සිතිය හැකිය. කෙසේ වුවද මෙම දෙවඟන ගංගාව හා සම්බන්ධ බව පහත සඳහන් ජන කවියෙන් පෙනේ.



කුඹුරේ අසබඩ ගඟට ගියෙ ම්මා
ලියලන අතුපතු සාඩා දම් ම්මා
ගඟ මැද දී අත වැරදුණි අම්මා
පිහිට උනේ අඹරාපොති අම්මා
(සිංහල ජන කවි සංග්‍රහය 2. හර්බට් පතිරණ සංස්. 364 කව)

ඉහත දැක් වූ පරිදි ගඟේ ගිල් වූ විසල්පුර රජු ගේ බිසොව මිය ගොස් දෙවඟනක ව ඉපිද මඩකලපුවට ගොඩ බැස එ තැනින් වැදිරට බින්තැන්න හරහා කන්ද උඩරටට පැමිණියා ය. එහි දී ඇය පොදු ජනතාවට යහපතක් සිදුකර ඇති බැවින් ඇයට මහජනයා විසින් යටිනුවර පැළව කන්දේ දේවාලයක් ඉදිකරවා දී තිබේ. (මේ දේවාලය අද පවා දක්නට ඇත.). අම්බරපොති උපත නම් පුස්කොළ පොතේ ඒ කාරණය සඳහන් වන්නේ මෙසේය:-

ගන්ට වරමක් තව නෙද පෑ වේ
ඉන්ට මේ රට රජු දෙවි කී වේ
එන්ට ආ විට පැලව ගල දුටු වේ
ඉන්ට එතැන උළු කෝවිල තැනු වේ

එහෙත් ඇය ගේ ප්‍රධාන දෙවොල විදාගම ඇතැයි පැවසේ. යටිනුවර දොඩම්වල දේවාලය මුල දී ඉදිකරවා ඇත්තේ මෙකී අම්බරපොති දේවිය උදෙසා යැයි ද පැවසේ. දෙවන රාජසිංහ රජු පෘතුගීසීන් සමඟ කළ බලනේ යුදට පෙර පැළව අම්බරපති දේවාලයට බාරයක් වූ බව ද එම අම්බරපති දේවාලය ඉදිවීම හා බැඳි ජනප්‍රවාදයේ එයි. මේ ගැන තව විස්තරයක් ඇත. (එය දොඩම්වල දෙවි යටතේ බලන්න.) අම්බරපති දේවිය පත්තිනිය මෙන් වසංගත රෝග සුව කරනා බවත්, ස්ත්‍රීන් හට කළුකුමාරයා ගෙන් සිදුවන උවදුරු දුරලන බවත් ජනයා තුළ පවත්නා දැඩි විශ්වාසයකි. මේ දේවිය පත්තිනිය ගෙන් වරම් ලැබූ බව සඳහන් වන්නේ මෙසේය:-

පතිනි දෙවිඳුගෙන් වරම් ලැබෙනා වා
ගිනි හළඹට කරුණාව කරනා වා
ලෝ තළඹේ හඩ දි දී වඩිනා වා
දිවැස් නෙදැති අම්බරපොති එනා වා
(161, 2: 270 පි.)

පත්තිනි දෙවියන් ගේ ස්වරූපය අතර "අඹරාපොති පත්තිනි" යැයි ස්වරූපයක් ද ඇත. (එනම් අඹපත්තිනි, හෙට්ටි පත්තිනි, නුග පත්තිනි, වඳුරු පත්තිනි, සළඹ පත්තිනි, ගිනි පත්තිනි, අඹරාපොති පත්තිනි යනුවෙනි.)

"දිවස් දෙවියන්ගේ කවි" යන නමින් අප්පුහාමි පිහිල්ලේගෙදර මහතා එකතු කර ඇති පැදි 12 න කවි පන්තිය අනුව මේ නමින් හැඳින් වෙන්නේ අඹරාපොති දේවී යයි:

බදුලු නුවර කෝවිල කරවන් යෝ<br>
නව ගොල්ලේ මොනවාද කරන් නෝ<br>
ඇතිරිල්ලේ පට පඩුරු වැටෙන් නෝ<br>
පුරතල්ලේ මෙ දිවස් දෙවි එන් නේ

මෙන්න මෙතන සයනේ සැත පෙන වා<br>
මෙන්න මෙතන බුදු රැස් විහි දෙන වා<br>
ගොත්න පිටින් දළුමුර අය වෙන වා<br>
ඔන්න උතුන් අඹරාපති එන වා<br>
(98 : 638 පි.)

ඇය පිරිමි දරුවන් ලබා දීමට විශේෂ හැකියාවක් ඇත්තියකැයි විශ්වාසයක් පවතින බව ද පෙනේ:-

එගොඩ ගෙදර දරු සොරතල් අම්මා<br>
මෙගොඩ ගෙදර ඇදුරයි කිරි අම්මා<br>
නොතේ කඳුලු සලුවෙන් පිස දැම්මා<br>
මටත් පුතෙකු දෙනවද කිරි අම්මා<br>
(එම)

වැදි ජනයා අතර "අඹරාපොති කිරි අම්මා" යනුවෙන් පුද පූජාවට භාජනය වන දෙවි කෙනකු ගැන ද සඳහන් වේ (178: 203 පි.).

විසිවන සිය වසේ මුල දී සෙලිග්මාන් යුවළ විසින් වැදි ජනයා අතරෙන් එකතු කරන ලද කවි අතර මෙම කවි ද සඳහන් ව ඇත.

ගවරා විල් මානේ දී එළවාලා කෙළේ යුද්ද<br>
බඹරා මල පිට ඉඳ ගෙන සරයි නාද වෙනම සද්ද<br>
අඹරාලා පුස්ම සඳුන් පළඳිනවා ඊට සුද්ද<br>
අඹරා පොති අම්මා මිස මේ නඩුවට කවුරු ඇද්ද

මොනරිඳු කර තිල තඹ පොත සේ මයි<br>
බිළිඳුගෙ ආසන රුව සොදි නා<br>
බදෙන් කොසොන් මල් මල් දම් සේමයි<br>
බෙල්ල වටට ගෝමර ඉසු ණා<br>
සන්න පුස්කොළ එරන් තෝඩු ගෙන<br>
නාසිකාව නළලට ඔ බී නා<br>
කොමළ පතුල් දෙක දෙරණ තබා ගෙන<br>
වැඩියයි අඹරාපොති අම් මා



සළා දි දී රැළ මතුපිට පෙට්යක් පෙරළෙන අන්දන්<br>
වළා යටින් පැයු සඳේ දෙවියෝ වැඩ වෙන අන්දන්<br>
රන් තොරණෙක රඹ තොරණෙක දෙවියෝ සැතපෙන අන්දන්<br>
ඌව කෙදති මල් සාමි මඩුවට සැරසුන අන්දන්<br>
(178 : 316 - 17 පිටු)

මෙයින් පෙනෙන්නේ සිංහලයන් ද වැදි ජනයා ද අතර ඇඳිහිලි සම්මිශ්‍රණය සිදු වූ තැනකි. ගණනාථ ඔබේසේකර මහතා ගේ අදහස අනුව අඹරාපොති වනාහි ලක්දිව පැරණි දෙවඟනකි. වැදි ජනයා අතර පවතින විශ්වාසයෙන් මෙය තහවුරු වේ. මංගර දෙවි ද එවැන්නෙකි. අඹරාපොති හා මංගර පූජාව පසුව පත්තිනි හා පාළඟ පිළිබඳ විශ්වාස බවට හැරෙන්නට ඇතැයි ඔබේසේකර මහතා අනුමාන කරයි (166: 300 පි.). කොහොඹ කංකාරියේ දී අඹරාපොති දේවිය බින්තැන්න හා සම්බන්ධ පුවත්වල සඳහන් වන්නීය. ඇය කළුබණ්ඩාර දෙවියන් ගේ කටයුතුවලට සම්බන්ධ කොට දැක්වී ඇත.

දියවක සඳ මෙන් බැඳි පට තළ ලේ<br>
රත්සක මෙන් තනු ඉන පුළුලුකු ලේ<br>
වැදිරට ගම මැද වැඩ සිටි එක ලේ<br>
දියවක අඹරාපති එන ලී ලේ<br>
(73 : 139 පි.)



## 12 අයියනායක දෙවියෝ

සත්කෝරළය ඇතුළු වන්නි ප්‍රදේශය භාරව සිටිතැයි කියනු ලබන මේ දෙවිඳු ද්‍රවිඩයෙකු යැයි ඇතැමෙක් කියති. ඔහු සිව් වන බුවනෙකබා රජු ගේ කාලයේ (ව්‍ය. ව. 1341-51) දී ආර්යයන් සමග සිරිලකට පැමිණ ඇතැයි **වන්නි උපතේ** සඳහන් වේ. **වන්නි උපත** ලියන ලද්දේ ද්‍රවිඩ ප්‍රභවයක් ඇත්තන් විසින් වන හෙයින් තමන් ආර්යයන් බව හැඟවීම පිණිස මෙසේ ලියා ඇතැයි කොටගම වාචීස්සර හිමියෝ අදහස් කරති (116 : 94 පි.). කෝට්ටේ යුගයේ දී මේ දෙවියා සඳහා මන්නාරමෙන් එපිට මාවටුපටුනේ දෙවොලක් තිබුණු වග **කෝකිල සන්දේශයේ** සඳහන් වන්නේ මෙසේය:-

න යි ය න් යනැල් ගෙවි සරනා ගොයම් වෙල
කොයියන් නෙදැයි නුඹ දැක යෙති මග අසල
අ යි ය න් කෝවිලට වැද නොව කල විකල
ව යි ය න් නැමද දෙයියන් සිරි පා කමල

(41 : 206 නව)

## අයියනායක උපත පිළිබඳව විවිධ මත තිබේ:-

(1) අතට මතුරා කිසිවකුගේ හිස තැබූ සැණින් ඔහු අළු කිරීමට සමත් මන්ත්‍රයක් ඊශ්වරයා ගෙන් උගෙන ඊශ්වරයාම විනාශ කිරීමට ඔහු හඹා ගිය භස්මාසුරයා ගෙන් ඔහු මුදවා ගනුවස් ගැනු වෙසින් පැමිණි විෂ්ණු විසින් කුමරුන් සත් දෙනෙක් මවන ලදහ. උමා දේවිය එහි පැමිණ ඒ කුමරුන් සත් දෙනා එකට බදා ගත් කල එයින් ඇගේ අත් දෙකට අසුවූවෝ සය දෙනෙක් පමණි. (ඒ සය දෙනා ස්කන්ද නම්.) එකෙක් ගිලිහිණි. ඒ මිටියට අසු නොවූ ගිලිහී ගිය තැනැත්තා අයියනායක යනුවෙන් ප්‍රසිද්ධ විණැයි ජනප්‍රවාදයේ එයි.

(2) පෙර එක් කාලයක රුසිවරයෙක් ඊශ්වර දැහැන දැනගෙන උමා දේවිය අල්ලා ගැනීම පිණිස ඇය පසු පස දිව්විය. ඒ දුටු උමා දේවිය වේගයෙන් දුවන්නට වනි. මේ කරුණු දුටු විෂ්ණු මේ දෙදෙනා දුවන මාවතේ ස්ත්‍රී වේශයක් හා ඔංචිල්ලාවක් මවා ගෙන එහි පැද්දෙමින් සිටියේය. රුසිවරයා ඔංචිල්ලාව පදින කාන්තාව දැක ඇය කෙරෙහි ඇල්මක් ඇති කර ගත්තේය. ඒ සිත ඇතිවීමත් සමග ලියක වෙසින් සිටි විෂ්ණු ගේ දකුණු හස්තයෙන් දරුවෙක් පිළිසිඳ ගත්තෝය. දසමස් අයාමෙන් එයින් කුමාරයෙක් උපන්නේය. අතේ උපන් බැවින් ඒ කුමාරයාට කරේනාරේ යැයි නමක් විය. යළි එය කයියනාරේ, අයියනාරේ, අරියනායගම් යන ආකාරයට උපුරුවීමෙන් අවසන අයියනායක බවට පත්විණි.

(3) මල්වරා දේශයේ උපන් මෙ තෙම තරුණවියට පත්විය. එවිට විෂ්ණු ඔහුට කථා කොට සිංහල දේශයේ වැව් බැඳි රාජ්‍යයේ ගොවිතැන් දියුණු කිරීම සඳහා එහි යන ලෙස නියම කළේය. එය පිළිගත් අයියනායක සගයන් සත් දෙනකු සමග ගල් නැවකින් යාපා පටුනට ගොඩ බටුයේය. එයින් පසු දැදුරු ඔයත්, යාපනයත් අතර වූ වැව් බැඳි රටේ අනතුරු දුරු කොට දුබික් රෝ දුරු කරමින් එහි ම විසීය. ජනාවාස වර්ධනය වූ විට මින්නේරිය වැව ආශ්‍රිත පෙදෙසට ද ගෙන් ගියේය. මෙසේ මුළු වන්නියේ ම ආධිපත්‍යය ලත් අයියනායක දෙවියා වැව් බැඳි රටේ ප්‍රධානයා බවට පත්විය (56 : 33-37 පිටු).



(4) "අයියනායක දෙවි කවි" නමැති කවි පත්තියේ සඳහන් වන ආකාරයට මොහු උපුල්වන් සුරිඳු ගේ බලයෙන් සිය මව ගේ දකුණු ළය පළා ගෙන උපන්නෙකි. එයින් පසු දේව සභාව විසින් පිළිගන්නා ලදී. බුදු රදුන් මල්ල උයනට වැඩම කළ අවස්ථාවේ දී ලොව රැකීම පිණිස උන්වහන්සේ ගෙන් ද අනුමැතියක් ලබා ගත් බව ද පැවැසේ. මධුරාපුරයෙන් පිටත්ව බලවත් දේවතාවුන් පස් දෙනකු ද දෙමළ යකුන් දහදෙනකු ද කැටිව සිංහලේට ගල් නැවකින් පැමිණියේය. යාපනයට ගොඩ බට ඔහු යළි කළුතර දක්වා මුහුදු බඩ තීරයේ ඇතු පිටින් ගමන් කළ බව ද එහි ම වැඩිදුරටත් සඳහන් වේ. එසේ ම මේ දෙවියා මුලින් ම වීරක්කුළියේ දෙවොලක් ඉදි කරවා ගෙන විසූ බවක් ද සඳහන් වේ (161,3: 237 පි.).

(5) අයියනායක මොහිණිය ගේ පුතෙකි. කතරගම දෙවියා ඔහු ගේ සහෝදරයා වේ (174:150 පි.). තවත් තැනක මොහු විෂ්ණු ගේ අවතාරයක් ලෙස ද සඳහන් වේ (174:160 පි.). ඇතකු පිට සැරි සරණ මේ දෙවියා ඊශ්වරයා ගේ නිවුන් සහෝදරයා ලෙස ද සලකා ඇති බව පාකර් මහතා සඳහන් කරයි. අනුරාධපුර ජේතවනාරාමයේ ගල් කැටයම්වල හා තන්ජෝර්හි කැටයම්වල ද ඇතු පිට යන, අයියනායකර් යයි සිතිය හැකි, කැටයම් රුවක් ඇති බව ඔහු වැඩි දුරටත් සඳහන් කර ඇත (එම). කයියනාර්, නායකර් යනුවෙන් ද හඳුන්වා ඇති මේ දෙවියා "හරි - හර පුතු" කියා ද නම් කර ඇත. කාලවර්ණයෙන් යුක්ත වූ මේ දෙවියා ලංකාවේදී සුදු ඇතකු පිට ද අශ්වයකු පිට ද යන ආකාරයෙන් නිරූපිත ය.

අනුරාධපුර ජේතවනාරාමයේ කැටයම්වල ඇති ආකාරයට ඔහු ඉණෙන් පහළ රෙද්දක් ඇඳ ඇත. බර තෝඩු දෙකක් කන්වල වේ. ගෙලේ මාල දෙකකි. අතේ වළලු ද වේ. ඉහත කී කැටයම් ක්‍රි.ව. හතර වන සියවසට අයත් යැයි පැවැසේ. මේ දෙවියාට පහන රැටියන් බොක්සැල් යයි කියන බව ද ඔහු දිසා හතරෙන් උතුරු දිසාවට අධිපතියා ලෙස සලකන ලද බව ද පාකර් මහතා කියයි. (එම 168 පි.)

(6) දකුණු ඉන්දියාවේ දෙමළ ජනයා අතර මෙතෙම ග්‍රාමාරක්ෂක දෙවියකු ලෙස සැලකේ. ලාංකික දෙමළ ජනයා, විශේෂයෙන් "කුසවේර්" හෙවත් කුඹල් ජනයා විසින් "අයියනාර්" අදහනු ලබයි. යාපනයෙහි චුන්නාකම්හි අයියනාර් කෝවිලේ මාර්තු - අප්‍රේල් මාසවල පැවැත්වෙන වාර්ෂික මංගල්‍යය ඔහු සඳහා ය. මෙහි දී එළුවන් දහස් ගණනින් ඔහුට බිලි පූජා පවත්වන බවද කිය වේ. (128, 1: 755 - 7)

(7) වැව් බැඳි රටේ සිංහලයෝ "වන්නියා බණ්ඩාර" නමින් ද ඔහු හඳුන්වති (174:158 පි.). ඔහු ගේ ශරීරය කාලවර්ණ යැයි ද වාහනය සුදු ඇතෙකැයි ද කිය වේ. ඔහු ගේ දේවාභරණය රන් බොණ්ඩි වැලකි. ඔහු ගේ දේවාල දඹුලු රජ මහා විහාරයේ ද, හිඟුරක්ගොඩ අසළ දිවුලන්ගල්ලේ ද තිබේ. පුත්තලම් දිස්ත්‍රික්කයේ කුමාර වන්නි පත්තුවට අයිති වේලාසිය නම් ස්ථානයේ අයියනායකගේ වාසස්ථානයක් වූ බව විශ්වාස කෙරේ. මෙහි වසරක් පාසා පෙරහර පවත්වා දෙවියන්ට අඩුක්කු පූජාවක් ද, දේව දානයක් ද පැවැත්වේ (128, 1: 755-7 පිටු).

ඉලන්දාරි දේවතාවා, කම්බිලි යකා, කඩවරයා යන අය අයියනායක ගේ සේවකයෝ වෙති. මොහුට කෙරෙන පිදවිලි පිළිබඳ විස්තරයක් බැද්දෙන් ගමට යන පොතේ එයි (107). ජෝන් ස්ටීල් මහතා ගේ **වනප්‍රවාහය** නමැති පොතේ සිව් වන පරිච්ඡේදයේ මොහු ගැන ඇති විශ්වාස දීර්ඝ ලෙස විස්තර වේ (181). ඇතමෙක් මොහු ගණදෙවිඳු ලෙස ද හඳුන්වා දෙති. සමහරු ගණදෙවියා ගේ සහෝදරයා ලෙස ද හඳුන්වා දෙති. අයියනායක දෙවිඳු ගේ පිළිමයක් අමුණුකොළේ ඇතැයි හියු නෙවිල් සඳහන් කරන්නේය (161, 3: 227 පි.). මොහු පුල්ලෙයාර් යනුවෙන් ද හඳුන්වන්නෝ ද වෙති. (පුල්ලෙයාර් යනුවෙන් සාමාන්‍යයෙන් හඳුන්වනුයේ ගණදෙවියා යි.). කළු දේවතා බණ්ඩාර, කළු කම්බිලි යන අය අයියනායක දෙවි යටතේ වෙසෙන බව ඇතමුන්ගේ විශ්වාස යයි. මහසෙන් රජතුමා යකුන් ගෙන් වැඩ ගන්නා අවස්ථාවෙහි යකුන්ට ප්‍රධානව සිටියේ අයියනා කුමාරයා යැයි ද ඔහු පිහිටි රටේ ගම් හා කිරිපට්ටි රාශියක් භාරව සිටි බව ද මින්නේරිය ප්‍රදේශයේ ඇති ජන ප්‍රවාදයකි.

### අයියනායක දෙවියන්ට කරන මුට්ටි තැබීම:-

මෙය වැව් බැඳි රටේ සිංහලයන් විසින් අවුරුදු පහකට වරක් පැවැත්වෙන පූජාවෙකි. එය සිදු කරන්නේ මෙසේය:- කපු මහතා අයියනායක දෙවියන් ගේ ආභරණය වන රන්බොණ්ඩි වැල (රන් හැරම්විය) සහිත පත්තිනිය ගේ ගිනි හළඹ ද රැගෙන වැව් කණ්ඩියට යයි. එහි දී උදේ පාන්දර බුලත් මඩේ පුදා මුට්ටි ජේතර දේවස්තොත්‍ර කියා වැව තුළ ඇති ගසක මුට්ටි දෙක මුණින් නමනු ලැබේ. එදා දවාලට කතරගම දෙවි නාමයට දානයක් දී සෙත් පැතේ. දානය පිළිගන්නෝ ගැමියෝ ම වෙති. සමහර ගම්වල අලුත් සහල් මංගල්‍යයක් ද පැවැත් වේ. මෙහි දී පිසීමේ සියලු කාර්යය පිරිමින් අතින් ම සිදු වේ. ඒවා පුදා සෙත් පතා මුට්ටි තැබීම අවසන් කෙරේ (56: 36 පි.).





# 13
# අලියම බණ්ඩාර දෙවියෝ

මේ දෙවියා පිටියේ දෙවියන් ගේ මල්ලී යයි කියති. හියු නෙවිල් කවි එකතුවේ ඇති "පිටියේ දළුමුර කවි" නම් කවි පෙළේ අනෙකුත් දෙවිවරුන් අතර අලියම් කඩවර ද සඳහන් වෙයි. ඔහු තිත්මුවකු අරා එන බව ද මෙහි කියවේ ගාතයක් විසි කිරිම ගැන සඳහනක් ද මේ කවිවල ඇති බව නෙවිල් පවසයි. මේ සඳහන පිටියෙ දෙවියන් විසින් නාථ දෙවියන් පැරදවීම හා සම්බන්ධ යැයි අනුමාන කළ හැකිය (පිටියේ දෙවියන් යටතේ බලන්න). පහත දැක්වෙන්නේ එම කවියයි.

ගලලා මීගොමුවෙන් වඩිතෙයි     කිවූ<br>
ගලපිට මුවෙකුගෙ අඩිමතිතෙයි     කිවූ<br>
ඇලයක් කුණු කර ගොඩ දමතෙයි     කිවූ<br>
මුවකු පිටින් කඩවර වඩිතෙයි     කිවූ

(161, 1: 315 පි.)



# 14
# අලුගොල්ලේ දෙවියෝ

ඌවේ ප්‍රාදේශීය දෙවිවරුන් දොළොස් දෙනා අතර සඳහන් වෙයි.

(86: 215 පි.)



## 15
# අලුත් දෙවියෝ

අභිනවයෙන් දේව ගණයට ඇතුළත් වූ දෙවියෙක් "අලුත් දෙවි" නමින් හඳුන්වා ඇතැයි සිතිය හැකිය. මේ අනුව වරින් වර අලුත් දෙවි යන නමින් දෙවිවරු ගණනාවක් ම දේව නාමාවලියට එකතු වී සිටිත්. අලුත් නුවර දේවතා බණ්ඩාර දෙවියන් ද වරක් අලුත් දෙවි යන නමින් හැඳින් වූ වගත් සඳහන් වීමෙන් ඒ බව තහවුරු වේ. මෙ වැනි අලුත් දෙවියන් මඳක් පරණ වූ විට එවැනි දෙවියන් ගේ අලුත් යන්න ඉවත් වී යනු ඇත. උක්ත අලුත් දෙවියාට පිරිවර වශයෙන් තිදෙනකු සිටි බව පෙනේ. ඔවුන් ගේ නම් මෙසේ ය:-

1. සිංහාසනේ අලුත් දෙවියෝ
2. මොනරාවිල අලුත් දෙවියෝ
3. කැප්පෙටිපොළ අලුත් දෙවියෝ

මෙ වැනි අලුත් දෙවිවරුන් 17 දෙනකු ගැන මාතලේ පෙදෙසේ සඳහන් වේ. එසේ ම ඉහත දැක් වූ දෙවියන් තිදෙනා උක්ත අලුත් දෙවියන් 17 දෙනා ගේ සේවකයන් ලෙස ද ඇතැම් විට සැලකේ. පහත දැක්වෙන්නේ වේඩරුවේ අලුත් දෙවියන් පිළිබඳ කවියෙකි.

වටින් වටට පායා එන දියවක පුත් සදෙන් එළිය<br>
දිනෙන් දිනට දින පහ වෙයි අය වෙයි කෝවිලට එළිය<br>
වේඩරුවේ අලුත් දෙවිඳු උණට උදර නා දලු ලිය<br>
තෙද පත්තිනි ගෙයි කිතට තරිකිට පුත් සදෙන් එළිය<br>
(සිංහල ජන කවි සංග්‍රහය, 2, සංස්. හර්බට් පතිරණ, 307 කව)

පානම් පත්තු වැසියන් අතර ද "අලුත් දෙවි" සංකල්පය පවතී. ඇතැම් විට කිසියම් රෝගයක් හඳුනාගනු ලබනුයේ අලුත් දෙවියන් උදහස් වීම නිසා වැළඳුනක් ලෙසට ය. මෙයට දෙවියන්ට භාරයක් වනු ලැබේ. එය කරන්නේ අම්පිටියේ දේවාලයට ය. (අම්පිටියේ දෙවියන් පිළිබඳ විස්තරය බලන්න.) බාරය ඔප්පු කරනු ලබන්නේ "අලුත් දෙයියන් ගේ මඩුව" පැවැත්වීමෙනි.



ඇදිරි වැටුණු පසු නිවසේ ගෙමිදුලේ අඩි 5×5 තරමේ ලී මැස්සක් ද අඩි 2×2 තරමේ කුඩා ලී මැස්සක් ද තනා ඊට උඩුවියන් බැඳ පිරුවට එලා සකස් කර ගනු ලැබේ. දේව දානය සඳහා තරමක විශාල බත් හැළියක් ද හාල් සේරු බාගයක පමණ කුඩා බත් හැලියක් ද උයා ගැනේ. මේ හා සමඟ අනුභවයට "කිරි පැණි" යනුවෙන් හැඳින්වෙන හාල් පිටි පොල් කිරි හා සීනි මිශ්‍ර හොද්දක් ද "කරකොළ පානු" නම් හාල් සේදූ වතුරට තුන පහ හා කර කොළ මිශ්‍ර කොට සාදා ගන්නා හොද්දක් ද පිළියෙළ කෙරේ.

මේ ආහාර ලොකු මැස්සේ තබන ලද කෙහෙල් කොළ කැබලි තුනකට (ලොකු බත් හැළියෙන්) සහ කුඩා මැස්සේ (කුඩා බත් හැළියෙන්) එක් කෙසෙල් කොළ කැබැල්ලකට වශයෙන් බෙදනු ලැබේ. හැම කෙසෙල් කොළයක් අසල ම බුලත් අතක් ද තබනු ලැබේ. මින් පසුව අම්පිටියේ දේවාලයේ කපු මහතා බුලත් අතක් ගෙන මැස්ස ඉදිරියේ යාච්ඤා කරයි.

"හතර තෙද වරං දිවස් පස්වාන් දහසකට දිවස් කරුණා කරන්ට යහපති. ආයි බෝ වේවා............... මේ ශ්‍රී ලංකාද්වීපයට නිධානක් වූ පැවා වූ අලුත් බණ්ඩාර, කොවිලේ බණ්ඩාර, සම කුළුණු බැඳ උන්නා වූ අලුත් බණ්ඩාර, කතරගම මහ මූලස්ථානයට වැඩ උළු විත් කෝවිල තනා ......" ආදී වශයෙන් කන්නලව් කොට අනතුරුව දේව පූජාව අවසන් කරනු ලැබේ. අවසානයේ පැමිණ සිටියවුන් අතරේ ඉතිරි බත් කිරි පැණි, කරකොළ පැණි ආදිය බෙදා දෙනු ලැබේ. ලොකු මැස්සට පුදන ලද දේ කපුරාළට ද කුඩා මැස්සට පුදන ලද දේ රජකයාට ද හිමි වේ. (4)

කිවුලේගෙදර අලුත් දෙවි යටතේ ද, පුංචි අලුත් දෙවි යටතේ ද බලන්න. "අලුත් බණ්ඩාර දෙවි" යනුවෙන් හැඳින්වෙන තැන් ද ඇත. ඒ සඳහන් අලුත් නුවර දැඩිමුණ්ඩ දෙවියන් ගැන විය හැකිය." අලුත් නුවර දේවතා බණ්ඩාර දෙවි" යටතේ ද බලන්න.



## 16
# අලුත් උනම්බුවේ බණ්ඩාර දෙවි

කන්දේ බණ්ඩාර කවිවල මොහු ගැන සඳහන් වේ. මොහු සුදු වතක් ඇඳ හිස් වැස්මකින් ද සැරසී සිටී. මෙයට වැඩි යමක් මොහු ගැන දැක ගන්නට නො ලැබිණි.

ඔහු ගේ උපත පිළිබඳ ඇති කවි පුවත මෙසේ ය:-

අලුත උනම්බුවෙ දෙවියො උපන්නේ
මලුත් සමග පට පඩුරු වඩන්නේ
දලුත් දිමුතු සුදු සලු පළඳින්නේ
අලුත් උනම්බුවෙ දෙවිඳු වඩින්නේ

කාන්ගනුත් කලු කච්චි වඩන්ඩයි
නාම්බනුත් වල් ඇතුන් වඩන්ඩයි
සයන්වලික තෙද බල පෙන්නන්නයි
උනම්බුවේ බණ්ඩාර වඩින්ඩයි

ලංකාවත් දැන් දෙවිඳුට නම්බු
විදුලිය එළියෙන් සතුරන් පිම්බු
දෙපයට ගත්තේ ගිගිරි සිලම්බු
දැන් වඩිනාවයි දෙවිඳු උනම්බු

කලාරුවෙන් එන දෙවිඳු උනම්බුවෙ
තුරාබලෙන් කරවන රට නම්බුවෙ
කිරා එරත්රන් තඩු නැත නම්බුවෙ
දැන් වඩිනාවයි දෙවිඳු උනම්බුවෙ

අලුත අලුත අවුපත් අඳු වාලා
අලුත අලුත ආ වදන තබාලා
අලුත අලුත කවිසින්දු කියාලා
උනම්බුවේ බණ්ඩාර දෙවි වැඩලා

පච්ච වඩන් සළු ඉණ පළ දින්නේ
සුදු සළුවක් ඉණ පිට පළ දින්නේ
තොප්පි සළුව ඉණ පිට පළ දින්නේ
උනම්බුවේ බණ්ඩාර වඩින්නේ

ඇද ඇද කඩිය පියුම් පිපෙන් ඩයි
බඳ පිට ගෝඹර පෙති දිලිසෙන් ඩයි
යක්ගෙට එක්වුණු සැවොම නටන් ඩයි
උනම්බුවේ බණ්ඩාර වඩින් ඩයි

(37: 36-39 පිටු)

ඉහත කච්වල "කාන්ගනුත් කළු කච්චි" වැඩීම පිළිබඳ සිද්ධියක් සඳහන් ය. හෙනකඳ බිසෝබණ්ඩාර දේවිය පිළිබඳ පුවතේ එන කරුණක් මේ හා සම්බන්ධ බව පෙනේ. පූජ්‍ය කහටපිටියේ ධීරානන්ද හිමියන්



දක්වා ඇති පරිදි හෙනකඳ බිසෝබණ්ඩාර ගේ දේහය සහිත දෙණ මහවැලි ගඟ දිගේ අවුත් කහටපිටියේ දී ගොඩ ගැසූ විට එය වික්‍රමබාහු රජුට දන්වන ලද්දේ උනම්බුවේ අදිකාරම් මගිනි. මේ අනුව ඒ අදිකාරම් තුමා මේ ප්‍රදේශයේ අධිපතියාව සිටි බව පෙනේ. හෙනකඳ බිසෝ බණ්ඩාර ගේ අවමඟුල දින පහක් පෙරහර කරවා සිදු කොට බෝතලාපිටියේ දෙවොල සාදන ලද්දේ ඉන් අනතුරුව ය. එ තැන් සිට ඇම්බැක්කේ දේවාලයේ දිය කැපීමේ උත්සවය සඳහා එ තැනට පැමිණෙන කපුවන් ඇගේ අවමඟුල සිහිවීම පිණිස කළු කාංගං ඉස්සෝලියල් ඇතිව ඒමත් දිය කැපීමෙන් පසු පළමුවෙන් දේව පූජා ලෙස සඳුන් හරයකුත්, කාංගනයකුත්, රිදී පඩුරු 10 කුත් පිදීමේ වරප්‍රසාදය උනම්බුවේ හා කහටපිටියේ උසස් පෙළපත් වාසීන්ට ලැබී තිබීමත් එදා සිට පැවත එන චාරිත්‍රය බව ද ධීරානන්ද හිමියෝ පවසති (78:124 පි.). උනම්බුවේ දෙවි ව සිටින්නේ මෙසේ දේව ප්‍රසාදයට පත් අදිකාරම් තුමා ද? යන ප්‍රශ්නය මෙහි දී නැගිය හැකිය.



# 17
# අලුත් කොහොඹා දෙවියෝ

කොහොඹා යක් කංකාරියේ කොහොඹා දෙවිවරු තිදෙනෙක් සඳහන් වෙති. පරණ කොහොඹා, මහ කොහොඹා, අලුත් කොහොඹා යනුවෙනි. මේ අය දේවත්වයට පත් කරන ලද්දේ යාගය කිරීමට බාර ගත්, ලකට පැමිණි මලල රජ්ජුරුවන් විසිනි. යාගය අනාගතයේ පවත්වා ගැනීම සඳහා කොහොඹා දෙවි තුන්කට්ටුව ඇතුළු ව ඉරුගල් බණ්ඩාර, කන්දේ බණ්ඩාර හෙවත් මහ වැදි බණ්ඩාර, මෙලෙයි, මහගුරු, කුඩාගුරු, වලියක් තුන්කට්ටුව ආදී පිරිසක් ඇති කරන ලදහ (45: 4පි.).

මින් කොහොඹා තුන් කට්ටුවට අයත් අලුත් කොහොඹා යනු කවරෙක් දැයි කිසිදු විවාදයක් නැත. කංකාරියේ මහ යාතිකාවේ දැක්වෙන පරිදි "අලුත් කොහොඹා දෙවියන් වහන්ස, වැළිහෙළ යක් කර වදාළ" යනුවෙන් කියවෙන්නේ දේවත්වයට පත් කර ගැන්මට පෙර වැලිහෙළ විසූවකු බවයි.

ජී. රංගනාත් විසින් වාර්තා කොට ඇති පරිදි කොහොඹා කංකාරියේ පුරාවෘත්තය ඇතුළත් පැරණි අත් ලියවිල්ලක "මලල රජ්ජුරුවන්, වැලිහෙළ ට වැඩම කරවා වැලිහෙළ ගමරාල්ලෑ අප්පුහාමි තොමරා යක් කර වදාරා අලුත් කොහොඹා නම් තබා ප්‍රසිද්ධ කරපුවෙයි." (106:

48 පි.) යනුවෙන් සඳහන් ය. අන් බොහෝ දෙනා මරා යක්කර ගනු ලැබුවත් මොහු නොමරා යක්කර ගැනීම විශේෂ සිද්ධියෙකි.

මුදියන්නේ දිසානායක වාර්තා කරන "කොහොඹා හැල්ලේ" සඳහන් පරිදි අලුත් කොහොඹා උපත ලද්දේ වැලිහෙළ වෙළඳ කුලයකය. මව ලෝකා නම් වූවාය.

දෙමවු පිය බුද් ද
ලැබෙමින් පතා ලද් ද
වෙළඳ කුල ලද් ද
එ නත් ලෝකා නමින් බුද් ද
(73: 283 පි.)

ඇය මෙම දරුවා පිළිසිඳ ගත්තා විට සිහිනයක් දැක ඇත.

මානෙල් මලක් නම්
වෙත සිට දික් කළෝ නම්
සුරතට ගත්තු නම්
බලා සැනෙකින් ඇර ගත්තු නම්
(එම)

මින් පසු කවි 23 කින් මව ගේ ගර්භණී කාලයත් විළි රුදා වැද ඇ විඳි දුකත් විස්තර වේ.

දොහොත් මුදුන වැඳ වැඳ කියමි තොල සිනේ
ගාත සන්දි ඇරෙමින් ඉස රදය උනේ
සීත නොහැර ඉදිමුන් කකියයි ළඳුනේ
ගාත වේග බෝවිය මගෙ හිමි සඳුනේ
(එම. 284-86 පිටු)

ඇසළ මස කිවි දින දෙපෝ දා පාන්දර රෙහෙන නැකතින් කුමරු උපන්නේය. ඔහුට සත් මසින් බත් කවා කොහොඹා යයි නම් තබන ලදී. සත් හැවිරිදි කල වැදි පිරිවර සමඟ ඔහු දිය කෙළිනු මල රජු දුටුවේය.

කොසඹෝ දිය නා සූ
වයි වයි ගොඩ පැන සූ
සිවිමලරජ දැක සූ
පා වැඳ ලා සිට සූ

උතුරු සලුත් ඇන් දා
එ අබරණ සින් දා
සිරි කොසඹන් කැන් දා
ගෙන යති සතොසින් දා



මල රජු බලහෙල ගලේ ගල් දොරක් අරවා එහි වට වියන් ආදිය කරවා කුමරු එහි තැබ්බ විය. කුමරා ගෙදර එන තෙක් බලා සිටි දෙමාපියෝ වැළපෙති.

අත් ඉස තබා ගෙන
උන් දැයි මඟ බලා ගෙන
එන කොලු පුතු අතින
පුතුන් කොයි දැයි විචා රන

මග දී ඇන මැරු දෝ
ගොඩ දී ඇන මැරු දෝ
කොසඹන් නො බා දෝ
මෙතෙක් වේලා නේනු කින් දෝ

යළිත් කවි විස්සකින් මේ විලාපය දැක් වී ඇත.

මානෙල් මලසේ රුව ඇති කොසඹනි
කිනිහිරි මල සේ පද ඇති කොසඹනි
බඳුවද මල සේ ලවනත රතු උනි
මගේ බඩ ඉපදුනි මේ රුව කොසඹනි

දිය කෙළියට ගිය ඔහු "සිද්ද දෙවිඳුන්" විසින් ගෙන යන ලද බව මාපියන්ට පවසන ලදී. ඉන් පසු සිහිනෙන් ද මෙය පවසන ලදී.

බලා ඇවිද වලියක් කූ
බල්ලා හෙල ගල් යක් කූ
කෙල සේනා වැදි යක් කූ
මල රජු සීනෙන් දැක් කූ

සිද්ද වරන් දූත් අම්මා
නාඩන් කොසඹුනි අම්මා
ඇද්ද මෙහෙම සිතු නම්මා
නව නව ඇද පල යම්මා

මින් පසු අවශ්‍ය වතාවත් කොට යකු පුදන ලදී.

නිසි මඩුවක් ලවා ගෙද ර
බත් බෝජන පුදා සා ර
රූ යද්දෙස්සකු අප දූ ර
කරවා බෝ ගෝසා ක ර

නැතෙයි මගේ කුමරු          න්
සිටියයි මෙ තන දැකු මෙ          න්
එර්දි බව ගනිමි          න්
අදෝ කීලය දෙකට පැලෙමි          න්

(එම 286-90 පිටු)

අලුත් කොහොඹාගේ උපත ගැන ඉතා හෘදයංගම විස්තරයක් "කොහොඹා" හැල්ලේ ඇතුළත් ව ඇති අයුරු මින් පෙනේ.



## 18
# අලුත්නුවර දේවතා බණ්ඩාර දෙවියෝ

දැඩිමුණ්ඩ යනු අලුත්නුවර දෙවියන්ගේ නාමය යි. දේවතා බණ්ඩාර යන්න එම දෙවියන් ගේ ජනප්‍රිය නාමය වේ. බෝමුල විදුරසුන් අරා වැඩ සිටි බෝසතාණන් වහන්සේ ඉදිරියට දස බිම්බරක් මාර සෙනඟ බියකරු වෙස් මවා ගෙන, විවිධ අවි අමෝරමින් රැස් වෙත් ම එහි සිටි දේව පිරිස බියෙන් වහ වහා පළායන්නට වනි. එහෙත් එම මාර පිරිසට බිය නොවී එහි රැඳී සිටි එක ම දෙවියා සුදු ඇඳුමින් සැරැසී, රත්දුන්නක් ද අතේ රඳවා ගෙන සිටි දැඩිමුණ්ඩ බව ජනප්‍රවාදයේ එයි. එසේ දැඩිව සිටි බැවින් එම දෙවියා දැඩිමුණ්ඩ යනුවෙන් හඳුන්වන්නට වනී. එය මෙසේ ද පැවැසේ:-

බුදුන් තනි කර          ලා
දෙවියන් ගියයි ඈර          ලා
දැඩි දෙවියෙක් සිට          ලා
යුද කරමි සැල කළේ වැඳ          ලා

අවියක් නොගෙන          තට
රුවන් සොළුව රැගෙන සුරන          ට
බැට දී දෙපළ කො          ට
යුද කරමි සැළකලේ මුනිඳු          ට

දස දත් දී ලො          ලා
දස දෙනෙකු ඇති කර          ලා
කරනා යුද          බලා
සිටුව ඉවසන් මාර නෙප          ලා



සදෙව් ලොව බල මි          න
නාලොව තිලොව බලමි          න
කෙනෙක් නැත සරිල          න
වන්ඩ දැඩියයි නමක් පවස          න

(ගල කැප්පු සැහැල්ල: 5-8 කවි.)

දැඩි වූ මුඩු හිසක් ඇති අයකු බැවින් ද ඔහු මේ නමින් ප්‍රකට වූ බව කියන්නෝ ද වෙති. බොක්සැල්, වීරභද්‍ර යනුවෙන් හඳුන් වනුයේ ද මේ දෙවියා ම බව පවසති. "සුදු මල්" යනුවෙන් ද මොහු හඳුන්වා ඇත. නිල්වන් වේවැලක් ඔහු අත ඇතැයි ද ජනප්‍රවාද යයි. පූර්ණක නම් යක්ෂයාගේ මාමා වන කුවේරයා විසින් මොහු මාර පරාජය කිරීමට යැවූ බව ද ජනප්‍රවාදයේ එයි. මහමෙර මත වූ මාරයා ගේ විමානය විනාශ කරන ලද්දේ ද දැඩිමුණ්ඩ විසිනැයි කියති.

දොළහ දෙවිවරුන් අතර ද සිටින ඉතා බලවත් මේ දෙවිඳු කතරගම දෙවියන් ගේ සෙනවිරත් ලෙසත්, වෙසමුනි ගේ මුණුබුරා ලෙසත් හඳුන්වා තිබේ. තවත් වරෙක ඔහු උපුල්වන් දෙවියන් ගේ අමාත්‍යවරයා ලෙස ද සැලකේ. නීතිය හා සම්මතය කඩ කරන සතුන් හට දඬුවම් දීමත්, යක්ෂ සේනාව පාලනය කිරීමත් මොහු ගෙන් සිදුවන බැවින් මොහු සෙනවිරත්න අධිකාරම් යනුවෙන් ද හඳුන්වා ඇත. පළමුව කොත්මලේ උග්ගල්කන්දේ වැඩ සිටි මේ දෙවිඳු පසුව වෙනත් තැන්වලට ගොස් ඇතැයි ද කියති (137: 536පි). ලාංකික දෙවියකු වන දේවතා බණ්ඩාර දෙවිඳුට මහනුවර යුගයේ දී ඉන්දියානු මුහුණුවරක් දීමට උත්සාහයක් ගෙන ඇති බවක් පෙනේ.

මහනුවර දිස්ත්‍රික්කයේ කතරගම දේවාලයක් ඇති තැනක පල්ලේ දේවාලය යනුවෙන් හැඳින්වෙන දේවතා බණ්ඩාර දේවාලයක් ද ඇත. ඇම්බැක්ක, මහනුවර, කළුගමුව, වල්ලහගොඩ යනාදී තැන් එයට නිදසුන් කොට දැක්විය හැකි ය. රුහුණු කතරගම කිරිවෙහෙර ඉදිරිපිට ද දේවතා බණ්ඩාර දෙවොලකි. මේ දෙවිඳුන් බොහෝ තැන්වල නිර්මාණය කර ඇත්තේ මහනුවර යුගයේ උඩරට සිටි ජනප්‍රධානයන් සැරසී සිටි මුල් ඇඳුමෙන් ය. ඇම්බැක්කේ දේවාලයේ ඇති දැවමුවා දේවතා බණ්ඩාර රූපය රතු තුර්කි වස්ත්‍රයකින් ද දැවමුවා ආභරණයෙන් ද සරසා ඇති අතර දෙවි රුව අතේ සැරයටියක් ද වූ බව ලෝරි මහතා 1896 දී ලියූ වාර්තා ග්‍රන්ථයේ සඳහන් වේ (158:219 පි).

"ඇම්බැක්කේ දේවාලයේ දේවතා බණ්ඩාර දෙවියන් ගේ විත්තිය" නමැති කවිවලට අනුව කතරගම කඳකුමරු හා දේවතා බණ්ඩාර අතර ඇති සබඳතාව පැහැදිලි වේ. ඇම්බැක්කේ දේවාලය ඇරඹුණේ මේ ගමේ

සිටි කුෂ්ට රෝගියකු සිය ව්‍යාධිය සුව කරනු වස් කතරගම දෙවියන්ට බාරයක් වී ඉන් ප්‍රතිඵල ලබා වසරක් පාසා කතරගමට ගොස් පුද පූජා පවත්වමින් සිට ගත අබල දුබල වූ පසු එහි යා ගත නොහැකිව ළතවෙන කල දෙවියන් ගේ අනුහසින් දැක්වූ ලකුණු අනුව ය. මේ බැතිමතා විසින් රජුට එ පුවත් පවසන ලදින් කඳදෙවි මැඳුර අසලින් දේවතා බණ්ඩාර මැඳුර ද සහිතව දේවාලය ද කැරවිණි. ඒ පුවත "ඇම්බැක්කේ දේවාලේ දේවතා බණ්ඩාර දෙවියන් ගේ විත්ති" කෘතියෙහි සඳහන් වේ. එයින් උපුටා ගත් කවි කීපයක් පහත සඳහන් වේ. :-

මෙලෙස මැතිවරු ඇවිත් එපියස එතැන කණුමුල් බින්ද වා
බෙරුස මෙන් බිම තනා අවටින් පහුරු පදනන් බන්ද වා
නිදොස වන මොහොතකින් දෙවිපද මහුල් කපකුත් ඉන්ද වා
තිදස පුර විමනක්සෙ තෙමහල් පාය කරවා නන්ද වා

ඉන්ධ මණ්ඩප විසල් මඩු මුළුතැන් ගෙවල් ගබඩා අටු ත්
එතැන් පත් සොඳ ළිඳ ගෙවල් හම්බා ගෙවල් හේවිසි මඩු ත්
අසින් දෙවතා සුරිඳු හට විමනක් සදා කර විසිතුරු ත්
පිටින් පහුරත් බැන්ද උයනට මලුත් නෙරළුත් පලතුරු ත්

අවටින් සත් පවි කර සැදි ගිරි දොර
සදමින් සත් මල් වූ එහි ගිරි දොර
බඳිමින් දිලි මිණි තොරණින් නොවී තර
අසකින් මාවැලි ගහ වැනි මුත් හර

තිබ්බ ඉරුවරණ මොනරෙකු මැවූ නා
කන්ද කුමරු මයුරා පිට නැඟූ නා
යකුන්ට සැම අදිකාරම් ලැබූ නා
දේවතා බණ්ඩාර නාමය ලැබූ නා

දැඩි මුණ්ඩ දෙවියන් හා උපුල්වන් විෂ්ණු දෙවිවරුන් අතර ඇති සම්බන්ධය මීළඟට සලකා බලමු. **ගලකැප්පු සැහැල්ලේ** සඳහන් පරිදි මාර යුද්ධයෙන් පසු දැඩිමුණ්ඩ බුදුරදුන් වැඳ සමු ගෙන ගොස් වෙසමුනි රජු දැක සියලු යකුන් භාර ව සිටීමට ඔහු ගෙන් වරම් ලැබ උපුල්වන් සුරිඳු බැහැ දිටී. දැඩිමුණ්ඩ දෙවියෝ මුහුදේ පා වී ආ සඳුන් හරයක් ලෙස (දෙවිනුවර) වෙරළට පාවී ආවෝ ය. දෙවියන් විසින් ආරක්ෂිත යථෝක්ත දාපුළු කුමරා මෙසේ ගොඩ බට දෙවියන්ට නිසි පුද පූජා පැවැත් වී ය. ඉන් පසුව උඩරට සතර කෝරළයේ (වර්තමාන අලුත් නුවර) කිරුන්ගන්දෙණියේ ගල්ගුහාවට දෙවියෝ වැඩම කළහ (හිතුල කඩමණ්ඩියට උතුරෙන් ඇති පාලම අසබඩ වම් පැත්තේ කන්දේ මේ ගල්



ගුහාව පිහිටා තිබේ). වර්තමාන අලුත් නුවර දේවාලය ඇති තැන දේවාලය කරවා දෙවියන් එහි වැඩම කරවන ලද්දේ මින් පසුව ය (ගලකැපූ සැහැල්ල, 16-20 කවි හා මල්යහන් කවි, 1-7 කවි). සුප්‍රසිද්ධ යකුන් ලවා ගල කැප්ප වීම සිදු වූයේ මේ දේවාලය කරවීමේ දී ය. දෙවියන් පිළිබඳ ජනප්‍රවාදයේ එන එම තොරතුරු හා සමඟ ඉතිහාසගත තොරතුරු සසඳා බලමු.

දඹතුන් වන සියවසේ දී එතෙක් කල් දෙවිනුවර තිබුණු උපුල්වන් දෙවි රුවක් මාවනැල්ලට රැගෙන අවුත් "අලුත් නුවර" තැන්පත් කර තිබේ. එයට මුල් ව ඇත්තේ අසසද්දනා පිරිවෙන් සාමි හා පළමු වැනි බුවනෙකබාහු රජු (1272-84) බව සඳහන් වේ (50). එයට පසුව සිව් වැනි පණ්ඩිත පරාක්‍රමබාහු රජු ගේ කාලයේ දී (1302-26) එම දේවාලය වැඩි දුරටත් ප්‍රතිසංස්කරණය කර තිබේ (එම). උපුල්වන් දෙවියන් ගේ අමාත්‍යවරයා (අධිකාරම්) ලෙස සලකනු ලබන දේවතා බණ්ඩාර දෙවියන් ද උපුල්වන් දෙවියන් සමඟ ම මාවනැල්ලේ අලුත් නුවරට ළඟාවූයේ මේ අනුව යයි සිතිය හැකිය. මේ නිසා ම දේවතා බණ්ඩාර දෙවොලක් ඒ කාලයේ ම අලුත් නුවර ඉදිවිය. විසිදාගම, නවගමුව, කොස්ගම, සබරගමුව, සීනිගම, උග්ගල් අලුත් නුවර, දඹදෙණියේ රාජගිරි ලෙන, හුන්නස්ගිරිය, උඩුකිඳ යනාදී තන්හි ද අලුත් නුවර දේවතා බණ්ඩාර යන අපර නාමයකින් ද හඳුන්වනු ලබන දැඩිමුණ්ඩ දෙවියන් විසූ බව **දැඩිමුණ්ඩ කන්නලව්ව** අනුව සිතා ගත හැකිය. **දේවතා බණ්ඩාර කවි, අලුත් නුවර දෙවි කවි, දේවතා වරම**, ගලකැපූ සැහැල්ල, **දේවතාපරල, කිස්සැයේ කීම, හූනියන් යකුන් කෙළි,** සළඹ ශාන්තිය, **ඇම්බැක්කේ අලංකාරය, දළුමුර සිදුම් කවි, මල්යහන් කවි** යනාදි කවිපොත්වලින් මේ දෙවියා ගැන වැඩි විස්තර දත හැකිය. කාලි, කන්නඩිරානාද, ගොපලුපිල්ලි, ගිනිජල්, ලවුදි, ගිනිබ්‍රාඩි, මල්ලව, භාග, දෙවොල්, වඩුග, ඔමරි, මංගු යනාදි නම්වලින් හඳුන්වන අය දැඩිමුණ්ඩ දෙවියන් ගේ සේවක පිරිස් වශයෙන් ද සැලකේ.

ලක්දිව විසූ යක්ෂ, නාග යන ගෝත්‍ර දෙකට අයත් දෙමාපිය දෙදෙනකුගේ සම්බන්ධයෙන් දැඩිමුණ්ඩ උපන් බවක් පෙනෙන්නට තිබේ. අලුත් නුවර දේවාලය ඉදිරියේ තිබුණු විශාල පර්වතය යක්ෂයන් ගේ සහයෝගයෙන් ඉවත් කළේ දැඩිමුණ්ඩයන් විසින් බව ගල කැපූ සැහැල්ලේ සඳහන් වේ. (අරනායක පෙදෙසේ යක්ෂ ගෝත්‍රිකයන් විසූ බව ජනප්‍රවාදයේ එයි. පසුව ආර්යයෝ ද එහි සංක්‍රමණය වූහ. මෙසේ ආර්ය, යක්ෂ, නාග යන ගෝත්‍රිකයන් සියල්ල ම පොදුවේ විසූ පෙදෙසක් බැවින් ඒ පියස "අරනායක" වී යයි ද ජනප්‍රවාදය බව මෙහි දී සඳහන් කිරීම සුදුසු ය.) දේවතා බණ්ඩාරයන් හට හැති නම් දැඩි මුණ්ඩ දෙවියන් හට

යක්ෂයන් ගෙන් වැඩ ගැනීමට හැකි වූයේ ඔවුන් ඔහු ගේ පිය පස නෑයන් වූ නිසා යයි කීමේ වරදක් නැත.

### අලුත්නුවර දෙවොල මහනුවරට ගෙන ඒම:-

කීර්ති ශ්‍රී රාජසිංහ රජු ගේ කාලයේ (ව්‍ය.ව. 1747- 82) අලුත්නුවර උපුල්වන් දේවාලයේ තිබුණු දෙව්රුව මහනුවරට ගෙනවුත් තිබේ. දැන් මහනුවර මහාදේවාලය (මහ විෂ්ණු දේවාලය) යනුවෙන් හඳුන්වනුයේ එම දේවාලය වේ. දෙවියන් (රජුන්) නැති අවස්ථාවේ දී ඒ වෙනුවට දේව අමාත්‍යයන් (අධිකාරම්) කටයුතු කිරීම සාමාන්‍ය සිරිතයි. ඒ අනුව උපුල්වන් දෙවියන් වෙනුවට දේවතා බණ්ඩාර (දැඩිමුණ්ඩ) ගේ බලය අලුත් නුවර පැතිරිණි. ඒ අතර ම දැඩිමුණ්ඩ දේව විශ්වාසය හෙවත් දේවතා බණ්ඩාර විශ්වාසය උපුල්වන් දෙවියන් පසු පස යමින් අලුත් නුවරින් මහනුවර කරා ද ඇදී ගියේ ය. ඒ මගින් ගඩලාදෙණිය ඇම්බැක්ක යනාදී ප්‍රධාන පන්තියේ දේවාල ආසන්නයේ දැඩිමුණ්ඩ නැත හොත් දේවතා බණ්ඩාර දෙවොලක් ද ගොඩ නැගිණි. මහනුවර ප්‍රධාන විෂ්ණු දේවාලය වන මහ දේවාලය අසල ද දැඩිමුණ්ඩ දේවාලයක් ඇත.

### දැඩිමුණ්ඩ විශ්වාසයේ පරිණාමය:-

දැඩිමුණ්ඩයන් ගේ උපත පිළිබඳ පැරණිතම විශ්වාසය ලෙස සැලකිය හැක්කේ පූර්ණක නම් යක්ෂ සේනාධිපතියාට දාව එරන්දතී නම් නාග කන්‍යාව ගේ කුසින් උපන්නේ ය යන පුවතයි. මෙහි වැදගත් ඓතිහාසික තොරතුරක් ගැබ් වී තිබෙන්නට ඉඩ ඇත. මුලින් දැඩිමුණ්ඩ යනුවෙන් හැඳින්වුණු මෙම දෙවියාට පසුව විදේශීය මුහුණුවරක් ආරෝපණය වන්නට විය. කුරුණෑගල යුගයෙන් පසු බණ්ඩාර දේව සංකල්පය වර්ධනය වීමත් සමඟ මෙම දෙවියන් දේවතා බණ්ඩාර යනුවෙන් හඳුන්වන්නට පටන් ගැනුණි. දඹදෙණි., කුරුණෑගල, ගම්පොළ, කෝට්ටේ යන අවධිවල දී ලක්දිවට පැමිණි දකුණු ඉන්දියන් හා ජාවක සංක්‍රමණිකයන් හා සමඟ පැමිණි විශ්වාස මේ විදේශීය මුහුණුවරට හේතු වන්නට ඇත. ඒ බඳු සංක්‍රමණික පිරිසක් වූ මලලයන් ලක්දිව බණ්ඩාර වලියක් බිහි කළ බව කිය වේ (116: 47පි.). මෙසේ විදේශයෙන් පැමිණි "පස් දේවතාවුන්" අතරට දේවතා බණ්ඩාරයන් ද ඇතුළත් කර ඇත. ("පස්දේවතාවෝ" යටතේ බලන්න.)

ව්‍යවහාර වර්ෂ 1813 දී තල්අරඹේ ධම්මක්ඛන්ධ හිමියන් ලියූ දිය සැවුල් අස්නේ සඳහන් පරිදි රුහුණු මහකතරගම දේවාල භූමියේ "අලුත් දෙවි කෝවිලක්" තිබුණේ ය.



අලුත් නාටකෙව් පසතුරු වැලේ දුලේ
දිලුත් සමුදුරෙව් ගොස නද කෙලේ තුලේ
අලුත් බණ්ඩාර දෙවි කෝවිලේ බලේ
තෙලුත් පහන් දෙවි පුද පඩුරු ලේ කලේ
(154 කව)

මේ අලුත් දෙවියා වනාහි කතරගම දෙවියන් ගේ සේනාපති වශයෙන් ද හැඳින්වෙන දැඩිමුණ්ඩයන් විය හැකිය.

දැඩිමුණ්ඩ නාමය සමඟ "සඳුන් කුමාර", "මැණික් බණ්ඩාර", "කීර්ති බණ්ඩාර" "ඌවේ බණ්ඩාර" යන නාමයන් ද සම්බන්ධ ජනප්‍රවාදයක් ද ඇත. පහත දැක්වෙන දැඩිමුණ්ඩ දේව **කන්නලව්ව** එය ප්‍රකට කරයි.

"නවද තද තෙදින් කිතු රසින් - පැරකුමෙන් - රණ බලෙන් - සත් දනන් රැක දෙමින් - අසත් දන බැට දෙමින් - වැඩ වසන දැඩිමුණ්ඩ දෙවි මහරජාණන් වහන්ස, ඔබ වහන්සේ නුවන් මන පිනවමින් හඳුන් වන අධිපතිව, සඳුන් කුමාර යයි යන නමකින් සුප්‍රසිද්ධව ලක්දිව පුරා වික්‍රම ප්‍රතාප දක්වා විසිදාගම ගලේ පහළව නවගමුවට, කොස්ගමට, සපරගමුවට, හුන්නස්ගිරියට, උඩුකිඳට අරක් ගත්තා සත්‍යවාදී සැබෑ වී නම් දෙවියනේ ඔබ වහන්සේට කියා සිටින කන්නලව්ව දිව කනට ඇසී දිව නෙතට පෙනී මෙ කියන සිතන පතන සකල දෙය ඔබ තෙදින් ඉෂ්ට කර දී වදාරණ සේක්වා. (**දේව කන්නලව්ව**, පාලිත සෝමකීර්ති සංස්. නුගේගොඩ, මොඩන් පොත් සමාගම, බු. ව. 2526, 31 පි.).



## 19
## අවතාර දෙවියෝ

හියු නෙවිල් කාව්‍ය සමුච්චයේ ඇති "කළුදැකඩ කුමාර කවි" නම් කවි පෙළේ දී අවතාර දෙවියන් ගැන සඳහන්ව ඇත (161, 3: 101 පි.). මින්නේරියේ හත්රජ්ජුරු දෙවියන් මුහුදින් එතර සිට ගල් නැවක නැඟී සපිරිවරින් යාපා පටුනට ගොඩ බසින අවස්ථාවේ ඔවුනට පන්දන් අල්ලා උදව් කළේ අවතාර දෙවියන් වියිනි. මින්නේරි වැව බැඳීමේ දී වස්දොස් හැරීමට කළුදැවා බිළිදුන් අවස්ථාවේ (කළුදැකඩ දෙවියන් පිළිබඳ පුවත බලන්න.) රජු සමඟ සහායට සිටියේ ද අවතාර දෙවියන් හා රත්රන් දේවියත් එර්දිවානෝ (?) ත් ය. (එම).

## 20



# අස්වානේ දෙවියෝ

උඩුගම්පොළ විසූ සකලකලාවල්ලභ රජතුමා, ඒ ප්‍රදේශයේ ගොවිතැන් දියුණුව සඳහා වැව් අමුණු බැඳ ඉමහත් සේවාවක් සිදු කර තිබේ. එ බැවින් එතුමා මිය යෑමෙන් පසුව දේවත්වයේ ලා සැලකීමට ගැමියෝ පුරුදු වූහ. ඒ රජතුමා මිනුවන්ගොඩ ඔය හරස් කොට බැන්ද වාන (බැම්ම) අසල දේවාලයක් ඉදි කරවූ ගැමියෝ ඒ දෙවියන් ගෙන් උපකාර පැතූහ. ඒ නිමිති කර පුද පූජා පැවැත්වූහ. තවමත් එම දේව ඇදහිල්ල එම පළාතේ පවතී. කලකට පසු ව එම වාන කැඩී ගියේ ය. එයට පසුව එය අස් - වාන (වාන අස් වුනා) යයි ව්‍යවහාර වන්නට වනි. ඒ අනුව දේවාලයේත්, දෙවියන් ගේත්, ගමේත් නම පෙරදී අස්වානේ දේවාලය, අස්වානේ දෙවියෝ, අස්වානේ ගම යනුවෙන් භාවිත විණැයි පැවසේ. සමහරුන් අස්වානේ දෙවියන් "කබලෑවේ දෙවියන්" යනුවෙන් ද හඳුන්වන බව අසන්නට ලැබේ. (සූනියන් දෙවි, ගම්භාර දෙවියන් ලෙස ඇදහීමෙන් කලක් ගිය පසු වෙනත් ගම්භාර දෙවියන් ද එක ම සූනියන් දෙවි වශයෙන් සැලකීම නිසා මේ අවුල සිදු වී ඇති බව දෙවිවරුන් පිළිබඳ තොරතුරු විමසීමේ දී අපට හැඟී ගිය කරුණකි. කබලෑවේ දෙවි ද සූනියම් දෙවි ලෙස හඳුන්වා ඇත්තේ ද මේ පටලැවිල්ලෙන් බව සිතිය හැකිය. සූනියම් දෙවි, කබලෑවේ දෙවි යටතේ එන තොරතුරු ද බලන්න.)

**මේ ගැන ඇති තවත් පුවතක්:**

සකලකලාවල්ලභ රජු විසින් කළවානේ (වාන කළ - කළවාන) වැව බන්දවන ලදී. එහෙත් ටික කලක දී වැව්බැම්ම කැඩී ගියේය. එවිට රජු ගේ අනියම් බිසොවක වන (රජක) කාන්තාවක එයට බිලි කරන ලදී. එහෙත් එයින් ද ප්‍රයෝජනයක් නොවී ය. මෙයින් දැඩි සොවට පත් රජු ද වැවට පැන මිය ගියේ ය. මිය ගිය රජ දෙවියකුව උපන්නේ යයි ගැමියෝ සිතූහ. ඒ නිසා ඒ ආසන්නයේ දෙවොලක් ඉදිකරවා අස්වානේ දේවාල යයි එයට නම් තබා පුද පූජා කිරීමට පටන් ගත්හ (18: 121-2 පිටු).



## 21



# ඇම්බැක්කේ දේවතා බණ්ඩාර

ඇම්බැක්කේ දේවතා බණ්ඩාර පිළිබඳ කවිවල ඇම්බැක්කේ දේවාලය කරවීම පිළිබඳ ප්‍රවෘත්තියක් එයි.

ඇම්බැක්කේ අසල රන්ගම එක්තරා කුෂ්ට රෝගියෙක් විය. හෙතෙම සිය ව්‍යාධිය පිළිබඳව කතරගම සුරිඳුන් හට බාරයක් විය. දෙවි වරයෙන් සුවය ලබා වසක් පාසා ම කතරගම ගොස් පුද පූජා පවත්වමින් සිටියේ ය. මහළු ව දුබල ව ගිය කල්හි කතරගමට ගොස් තමාට එහි තවත් ආ නොහැකි බව දුකින් අඩා දෙවිඳුට සැල කර සිටියේ ය. ඔහු පෙරළා ගෙදර ආ කල්හි දෙවියෝ රාත්‍රියේ සිහිනෙන් පෙනී සිට තමා රූකකින් ලකුණක් පෙන්වන බවත් ඒ අනුව කටයුතු කරන ලෙසත් දැන්වූහ. ගමට නුදුරු මල්වත්තක පඳුරු කපා එළි කරමින් යන විට කඳුරුගසකට කැති පහර ගැසූ කල්හි එයින් ලේ වැගිරෙන්නට විය. බැතිමතා එවිට ජනයා පිරිවරා දෙවොලක් තනා මුළුතැන් පූජා පැවැත් වී ය. මෙහි දී කඳ සුරිඳු තෙද බල මහිමයෙන් කැන්ද කොළයක ජලය යොදා පත්තු කළ පහනක් ද දැල්විණි. පසුව රජ මැති ආදීන් විසින් තෙමහල් පායක් දේවාලයක් ලෙස ගොඩ නංවන ලදී (90: 31-32 පිටු).

ඇම්බැක්කේ දේවාල භූමිය තුළ කතරගම දෙවිඳු ගේ අදිකාරම් පදවිය දරන දේවතා බණ්ඩාර දෙවිඳුන් ගේ දේවාලයක් ද ඇත. ඔහුගේ ස්වභාවය මෙසේ විස්තර වේ:

මතුවට කී කවි ලොව පවතින වා
නට වාලා දෙරණත් වෙවුලන වා
සුරතින් වේවැල් රැගෙන වඩින වා
දේවතා බණ්ඩාර රජුනි වඩින වා

ඇම්බැක්කේ පිළිබඳ තවත් පුවතක් දුටුගැමුණු රජතුමන් හා සම්බන්ධ කොට දැක් වේ.

ගැමුණු නිරිඳු යුදයට යන වැත්තේ
පිහිට වන්ට මට කවුරුද ඇත්තේ
දේවතා බණ්ඩාර තෙද බල ඇත්තේ
යන්ට සැදුණි පෙරමුණට කැමැත්තේ

කතරගමින් කඳ කුමරු වඩිනව ට
කැටුව වඩින දේවතා අදිකාරම ට
අතරතුරේ ගුවනේ වැඩ සිටිය ට
වටහ කොතන කර වන්ට පුදුසු ව ට

දේවතා බණ්ඩාර දිවස් බලා ලා
හෙල් හතරෙන් උඩ බිමක් බලා ලා
මල්වත්තට දෙවි කරුණා කර ලා
ඇම්බැක්කේ බිම හොඳයි වදා ළා
(37: 114-15 පි.)

මේ අනුව ඇම්බැක්කේ දේවාලය පිහිටුවීම පිළිබඳව වෙනත් අර්ථ කථනයක් දිය හැකියි. අලුත් නුවර දේවතා බණ්ඩාර (දැඩිමුණ්ඩ) පිළිබඳ පුවතකුත් ඇතැම් විට මේ දෙවියන් හා සම්බන්ධව පවතී.

බෝසත් බෝමුල වැඩ හිඳි දවසේ
වසවතු මර සෙන් යුද කළ දවසේ
මිහිකත මිහිපිට දෙස් කළ දවසේ
දේවතා බණ්ඩාර දෙස් වස් එමසේ
(37: 116)

ඉහත සඳහන් කවිය උපුටා ගැනුණේ හියු නෙවිල් ගේ ලේඛන අනුසාරයෙන් මහාචාර්ය තිස්ස කාරියවසම් පළ කළ **සිරිලක දෙවිවරු** පොතේ 'දේවතා බණ්ඩාර' කවි පන්තියෙනි. මේ සම්මිශ්‍රණය නිසා ඇම්බැක්කේ දේවතාබණ්ඩාරත් අලුත් නුවර (දැඩිමුණ්ඩ) දේවතා බණ්ඩාරත් එක් අය ම දැයි සැකයක් ඇති වේ.



## 22
## ඉඩමට අරක් ගත් දෙවියෝ

හැම ඉඩමකට අරක් ගත් දෙවියෙක් ඇතැයි දැදුරු ඔය බඩ වැසියන් තුළ විශ්වාසයක් පවතී. එම දෙවියා ඒ හා බැඳී ඉඩමේ නමින් ම හඳුන්වනු ලැබේ. එම ඉඩමේ කෙබඳු හෝ කටයුත්තක් ආරම්භ කරන්නේ නම් ඉඩම් හිමි දෙවියා සිහි කිරීම ද සිරිතෙකි. මේ දෙවියා 'මුත්තා' යනුවෙන් ද



හැඳින් වේ. ඉඩමේ නම තුඹකැටිය නම් එහි දෙවියා 'තුඹකැටියේ මුත්තා' නමින් හැඳින් වේ. සෙසු ඉඩම් හිමි දෙවියාගේ නාම ද සඳහන් වන්නේ ඒ අයුරිනි. (29: 17 පි.)



## 23
## ඉදිරිල්ලේ කුමාර

මේ නමින් යුත් දෙවි කෙනකු ගැන හියු නෙවිල් එකතු කළ කවි පන්ති අතර ඇති 'දොළොස් දෙවි කවි' පෙළක සඳහන් වේ. මේ කවි පන්තියේ සඳහන් අනෙක් දෙවිවරු නම් මැණික් බණ්ඩාර, මාවත්තේ, කොස්ගම, පරකාස, කළු බණ්ඩාර, කුමාර බණ්ඩාර, රත්ඇල්තොට කුමාර, වන්නි බණ්ඩාර, මීරියබැද්දේ යන අයයි.

මෙහි සඳහන් පරිදි ඉදිරිල්ලේ කුමාර තෙමේ විවිධ භාෂා දන්නා පිරිවරක් ඇත්තෙකි.

දේසත් දෙමළ ගෝවේ රට කුමරුන් තෝ
බාසත් දැන ගෙන සිංහල රට කුමරුන් තෝ
දහසක් පිරිවර වඩිනා දැලේ කුමරු වඩින්තෝ
අපටත් පිහිටයි ජය ඉදිරිල්ලේ කුමරු වඩින්තෝ

කාල් සැවිට සුම්බර ඉස ලන් නා
රීල් නොකර රන් වේවැල ගත් නා
හාල් ගරා අකුරෙන් තික් මෙන් නා
කාල් මෙ තරගේ ජය කුමරුවඩින් නා

කළු ගහ දැලේ වතුපිටි කොට වා
ළිං පෙත් බලමින් රඹ පැළ ඉඳු වා
වට කර අහනෝ රතුමුව දුටු වා
තො ඉඳුල් රඹ කැන් කුමරුට පිදු වා
(37: 135 පි.)

මේ කවරෙකු දැයි පැහැදිලි නැත. 16 වන සියවස අගදී පෘතුගීසින්ට එරෙහිව කැරැල්ලක් මෙහෙය වූ එදිරිල්ලේ රාළ හෙවත් දුමින්ගු කොරෙයා පෘතුගීසින් අතට හසු වී මරණීය දණ්ඩනයට පත්වීමෙන් පසු දේවත්වයට



6. ර.මු.නි.ස. - 93939

නැංවූයේ දැයි සැකයකි. ඉහත විවිධ භාෂා දත් සේනාවක් ගැන සඳහන් වේ. ගෝවේ රට යනු පෘතුගීසින් ගේ පෙරදිග මූලස්ථානයයි.



## 24
## ඉන්දක දෙවි

ඉන්දක යනුවෙන් හඳුන්වනු ලබන මේ දෙවියා, බදුලු පෙදෙසේ නමුණුකුළ කන්දේ වාසය කරන බව ඌව පළාත්වාසීහු විශ්වාස කරති. එම කන්දේ පැරණි දේවාලයක් වැන්නක් තිබුණු බවට සලකුණු අදත් දක්නට ඇතැයි ද පැවැසේ (84: 106 පි.). මෙකී ඉන්දක දෙවියන් ගේ ආරාධනයෙන් බුදු රජාණන් වහන්සේ මුතියංගණයට වැඩි බව ද කියති. මේ දෙවියා ගේ පිළිරුවක් මුතියංගණ විහාරයේ (මැද විහාරයේ) දක්නට ඇත්තේ එම සම්බන්ධය නිසා විය යුතුය (84: 103 පි.). ඉන්දක දෙවි මුතියංගණය භාරව සිටිනා බවක් ද පැවැසේ. (ඌව වංශ කථාව, ඌව පළාත් සහා සංස්කෘතික අමාත්‍යාංශය, 1991, සංඥාපනය)



## 25
## ඉඳිගොල්ලේ දෙවියෝ

ඌව, උතුරුමැද, වයඹ යන පළාත්වල ජනප්‍රියව සිටි මෙම දෙවියන් ගැන දීර්ඝ විස්තරයක් හොන්රි පාකර් කර තිබේ (174: 186-203 පිටු). ඔහු විසින් සෙලිග්මාන්වරුනට සපයා ඇති විස්තරය අනුව ගලේ යකා යනුවෙන් ගම් වැද්දන් විසින් ද ඉඳිගොල්ලැ යකා යනුවෙන් අන්‍යයන් විසින් ද මේ දෙවියෝ හඳුන්වනු ලබති (178: 182 පි.).

මෙම දෙවියා ඉන්දියාවේ සිට සිය අග්‍රාමාත්‍ය කුරුම්බඩයා සමඟ ලක්දිවට ආ බවත් ඔහු වර්ෂාවත් භෝග වර්ගත් ලබා දෙන සුබසෙත සලසන අයකු ලෙස සැලකෙන බවත් පැවසේ (178: 182 පි.). ඔහු ගේ



ප්‍රධාන දේවාලය වයඹ පළාතේ නිරාමුල්ලේ තිබිණි. (එම). මෙම දේවාලවලට යාබදව දෙවියන්ගේ නටපාගල නමින් වූ පර්වත දෙකක් ද විය. මේ ගල් මත 'අනුමැතිරාළ' නමින් හැඳින්වුනු යථෝක්ත දේවාල කපුවෝ සිය අන්තේවාසිකයන් ගේ ආධාර ඇතිව ඇසළ මාසේ දී (පෝය දිනය මග හැර) මෙම ගලේ නැටුම කරති. මද්දහන් වේලාවේ කෙරෙන මෙම නැටුම පැයක් පමණ පවතී. නැටුම අවසානයේ කැවුම්, කිරිබත්, තුන්මාලු සහිත දානයක් දෙවියන්ට ද පුදා සියලු දෙනා විසින් අනුභව කරනු ලැබේ (174: 190- 202 පිටු). ගලේ දෙවියන්ට (හෙවත් ඉඳිගොල්ලේ දෙවියන්ට) මෙම ගලේ නැටුම කරන ලද ස්ථාන රාශියක් පාකර් සඳහන් කර තිබේ. මේවායින් 17 ක් කුරුණෑගල දිස්ත්‍රික්කයේ නැගෙනහිර කොටසේ ද එකක් මාතලේ දිස්ත්‍රික්කයේ ගලේවෙල ද පිහිටා තිබිණි (එම: 192 පි.). වැදි ජන ප්‍රදේශයන්හි රුගම වැව අසළ ඕමුන ගල ද, හෙනන්නෙගල, කොක්කාගල, අඹරාගල, උනකිරිගල, මාවහෙල, දිවුලාන වැව අසළ ගල ද මේ නැටුම් කරන ලද ස්ථාන විය (එම:191පි.).

යථෝක්ත ඉඳිගොල්ලෑවේ දේවාලයේ දී ගලේ දෙවියන් ගේ බිසව වන ඉඳිගොල්ලෑවේ කිරි අම්මා ද පුද පූජා ලැබුවාය (174: 184 පි.). මහඔය ප්‍රදේශයේ ගම් වැද්දන් ද ගලේ යකාටත් කිරි අම්මාටත් පුද පූජා පවත්වා ඇත (එම: 185 පි.). සීතල වන්නියේ වැදි ජනයා අතර ඉඳිගොල්ලේ යකා සලකන ලද්දේ ප්‍රධාන යකා වූ කන්දෙ යකා ගේ ඉතා සමීප අන්තේවාසිකයා ලෙසටය. (174: 223 පි.)

සෙලිග්මාන් ග්‍රන්ථයේ මෙම කවිය බණ්ඩාරදූවෙන් ලැබුණක් ලෙස සඳහන් ව තිබේ.

ඊරි කන්ද මොනරාගලට වාඩි යා
ඊ දහසක් විද තර කරපු දුනු දි යා
යන්ඩ එන්ඩ දිය පා මං බලා පි යා
ඉඳිගොල්ලේ දෙවි වැඩියොත් සුබා වි යා
(178: 303 පි.)

ඔවුන්ට සීතල වන්නියෙන් ලැබුණු ඉඳිගොල්ලේ යකු ගේ යාතිකාවක මෙසේ සඳහන් වේ:

ඉතිරිය කන්ද මද දෙගල වාඩියා
ඊ දහසක් ගෙන සරසාපු දුනු දියා
ඉඳිගොල්ලේ දෙවි වැඩියොත් සුබාවියා
මිනී ඊරි ඔරුවකට තිබමින් බොමින් ළයා
(178: 301 පි.)

වැදි ජනයා අතරට ඉදිගොල්ලේ යක් විශ්වාසය වැද්ද ගන්නට ඇත්තේ සිංහල ජනයා මගින් බව සෙලිග්මාන්වරුන් ගේ අදහස ය. වීරියකා යනු ඔහු ගේ තවත් නමකැයි වැදි ජනයා පැවසීම මෙම මතයට තවත් රුකුලක් විය (178: 185 පි.).

පාකර් විසින් මෙන් ම සෙලිග්මාන් යුවළ විසින් ද ඉදිගොල්ලේ දෙවියන් හා ඉදිගොල්ලේ කිරි අම්මා පිදීම දක්නා ලද්දේ දහ නව වන සියවසේ අග දී හා විසි වන සිය වසේ මුල දී යි. මේ විශ්වාස ක්‍රමයෙන් අභාවයට ගොස් වර්තමානයේ ඉදිගොල්ලේ කිරි අම්මා පිළිබඳ මතකය පමණක් ඉතිරි වී ඇති බවක් පෙනෙන්නට ඇත. බින්තැන්න ප්‍රදේශයේ සිංහල ජනයා අතර තිබුණු පහත සඳහන් කවි පෙළ අප වෙත සපයා එවන ලද්දේ පියසේන කහඳගමගේ මහතා විසිනි.

ඉදිගොල්ලේ කන්දේ මම යන කල — ට
ගල් කුරා මල් සුවඳයි සොඳ රුව — ට
එමල සොයා හිමයේ මා යන කල — ට
ඉදිගොල්ලේ දෙවි වැඩියා ඉස්සර — ට

ඉදිගොල්ලේ කන්දේ වැඩ — සිටින්නේ
රීරි ඔරුව පිට සක්මන් කරන් — නේ
අඹුමස් අමු රීරි වෙද නුඹ — බුදින්නේ
ඉදිගොල්ලේ කිරි අම්මා — වඩින්නේ

ඉන්ද්‍රනීල මැණිකෙන් වෙද — උපන්නේ
ගින්දසේම කල එළිමයි — දකින්නේ
චන්ද්‍ර මඬල උඩ බවනේ — වෙසෙන්නේ
ඉදිගොල්ලේ කිරි අම්මා — වඩින්නේ

ඇලි ගිගිරන් පිට ඉඳ ඔරු පදින — ළමා
දිය ගිගිරන් පිට ඉඳ ඔරු පදින — ළමා
කතරගමට පුරු මස් දක්කාපු — ළමා
දැන් වැඩියා ඉදිගොල්ලේ බාල — ළමා

ඇලි ගිගිරන් පිට ඉදිවලු කටින — ළමා
දිය ගිගිරන් පිට ඉදිවලු කටින — ළමා
රිදී ඔරුව පිට සක්මන් කරන — ළමා
ඉදිගොල්ලේ දෙවි වැඩි යයි බිළිඳු — ළමා

(3)





# 26
# ඉරු දෙවියෝ

සූර්යයා දේවත්වයෙන් පිදීම පෞරාණික ශිෂ්ටාචාරයන්හි සුලබ ලක්ෂණයක් විය. ක්‍රිස්තු පූර්ව 3500 දී පමණ පැරැණි ඊජිප්තුවේ සූර්ය දේව වන්දනය පැවැති බව ඉතිහාසඥයෝ විශ්වාස කරති. මින් පසු ක්‍රි.පූ. 2000-1500 පමණ ඉන්දියාවට පැමිණි ආර්යයන් අතර ද ඒ අවධියේම මැද පෙරදිග බලවත් වූ හිටයිට්වරුන් අතර ද ක්‍රි.පූ. 1200 පමණ සිට වර්ධනය වූ ග්‍රීක ශිෂ්ටාචාරයේ ද, ක්‍රි. පූ. 1000 සිට වර්ධනය වූ රෝම ශිෂ්ටාචාරයේ ද සූර්ය දේව වන්දනාව තිබුණු බවට සාධක ඇත. ග්‍රීකයන් අතර 'හෙලියොස්' යන නමින් හැඳින්වුණු සූර්ය දෙවියෝ ඉතා ප්‍රබල දෙවි කෙනෙක් වූහ.

අනුරාධපුරයේ අභයගිරි විහාරයේ තිබී සූර්ය දේවතාවා ගේ යැයි සැලකෙන ප්‍රතිමාවක් ලැබී ඇත. භාරතීය රජවරුන් තමන් සූර්ය වංශයෙන් හෝ චන්ද්‍ර වංශයෙන් හෝ පැවත එතැයි යන අදහස්, ක්‍රි.ව. 9 වන සියවසේ පටන් සිංහල රජවරුන් ද අනුගමනය කරන්නට පටන් ගත් බව පෙනේ (22: 51 පි.). පොළොන්නරුවේ ශිව දේවාලයෙන් සූර්ය දෙවියන් ගේ පිළිමයක් ලැබී ඇති අතර මෙය හින්දූන් අතර ද ප්‍රචලිතව තිබූ වන්දනාවක් බව ඉන් පැහැදිලි වේ (22: 186 පි.). දොළොස් වන සිය වසට අයත් බුත්සරණේ තීර්ථක දමනයේ සූර්ය දිව්‍ය පුත්‍රයන් ගැන ඇති සඳහනෙන් ද, දාහතරවන සිය වසට අයත් මයූර සන්දේශයේ 'කරව මයූර 'රිවි දෙවිහට රැහුම් පුද' (21 කව) යන සඳහනෙන් ද සිංහලයන් අතර එම අවධිවල සූර්ය දෙවියන් ගැන පැවැති විශ්වාසය පැහැදිලි වේ.

මහනුවර යුගයට අයත් යැයි සැලකෙන කමත්හැල්ලේ මෙසේ සඳහන් වේ.

ඉරු දෙවියෝ වැඩිය — තැනේ
බොල් පිති නොතිබෙයි එතැ — නේ
සඳ දෙවියෝ වැඩිය — තැනේ
කරුවල නොතිබෙයි — එතැනේ

(90: 260 පි.)

එම යුගයේ දී ම අත්තරගම රාජගුරු බණ්ඩාර ගේ කෘතියක් වශයෙන් සැලකෙන වදන් කවිපොත සූරිය දෙවි ගැන මෙසේ සඳහන් වේ:-

සූරිය කුල ඇති ඉරු දෙවියන් තේ
පැවිය අණසක ලොව පවතින් තේ
කාරිය සිතුවා සාදා දෙන් තේ
සූරිය දෙවියනි නුවණක් දෙන් තේ
(54 කව)

අනෙක් බොහෝ දෙවිවරුන්ට මෙන් සූර්ය දෙවියන්ට විශේෂ පුද පූජා කැරුණු බවක් සඳහන් නොවේ. කමත් හැල්ලේ දී කියවෙන ලෙස ඉරු දෙවි සරණ පැතීම, ඉරු දෙවියන් ගෙන් අවසර ගැනීම වැනි කටයුතුවලට මේ දෙවියන් පිළිබඳ විශ්වාසය සීමා වී පැවැති බව පෙනේ.



## 27
## ඉරුගල් බණ්ඩාර දෙවියෝ

දොළහ දෙවියන් අතරට වැටී නැති මේ දෙවියා කොහොඹ කංකාරියේ දී තුන්වන තැනට පත්ව පුද පඬුරු බාර ගන්නෙකි. "සණ ශාසන පරිපූර්ණ ලංකාද්වීප ප්‍රදීපායමාන වූ යක්ෂාන්ධකාරය දුරු කළා වූ, මනොමය එර්ධි ඇත්තා වූ ඉරුගල් දෙවියන් වහන්සේට යි මේ ආරාධනා කරන්නේ ...." (45: 61 පි.) යනුවෙන් කොහොඹා කංකාරියේ දී සඳහන් කරනු ලබන මේ දෙවියා ද යකුන්ට නායකයෙකි. මොහු සූර්ය රශ්මියෙන් හටගත් බව ද කියති. හන්තානා කන්ද මොහු ගේ වාස භූමිය වෙයි. ඉඳ හිට එහි සිට බතලේගලට ද යන බව පැවසේ. දෙ නුවරට ම ඔහු ගේ බැල්ම ඇත (137: 537 පි.). මලය රජු සිරිලකට පැමිණෙන්නට ආසන්න කාලයේ ඉරුගල් බණ්ඩාර, දෙවි බවට පත් වූ වගක් කියැ වේ (45: 76 පි.). යකුන් ගෙන් වැඩ ගත් මේ දෙවියා අඹන්වල වලව්වේ කුමාරයකු බව ද ඇතැම් තැනක සඳහන් වේ (124: 689 පි.). ගෝඹර ඉරුගල් බණ්ඩාර, කන්දේ බණ්ඩාර යනුවෙන් ද මේ දෙවියා හඳුන්වා ඇති බව ද සඳහන් වේ (141: 33 පි.).

**ඉරුගල් බණ්ඩාර දෙවියන්ගේ උපත:-**

මහවැලි ගඟබඩ පිහිටි හිඳගල පායින්ගොමුවේ ගමගෙදර යුවළට දරුවෙක් සිටියේ ය. ඔහු නිතර හඳ ඉල්ලා හැඬීම පුරුද්දක් කර ගෙන



සිටි බව කියති. මේ දරුවා ගේ හඳ ඉල්ලා හැඬීම පරක්කු කිරීමට දෙමාපියන් කෙතෙක් වැර දැරූ මුත් එයින් වැඩක් නොවී ය. බැරිම තැන හඳ ඇති රැයක උක්ත දරුවා එළියට දමා දොර වසා ගන්නට දෙමහල්ලන්ට සිදු විය. මෙයින් පසු හඬමින් සිටි ළමයා ගේ හැඬීම ටික වේලාවකට නතර විය. එහි දී කුතුහලයට පත් මව දරුවාට කුමක් වී දැයි බැලීමට දොර විවර කළා ය. දරුවා දක්නට නො ලැබිණි. ගේ අවට ළඳු කැලය පීරා බැලූ නමුත් ළදරුවා දැක ගන්නට නො ලැබිණි. පසුව දෙමහල්ලෝ විලාප නගමින් ඒ අවට පිරික්සන්නට වූහ. ඒ අතර හන්තානේ කන්දේ සිට "මම දැන් ඉරුගල් බණ්ඩාර දෙවියෝ" යන හඬක් ඇසිණි. ඒ දෙවියෝ එදා සිට හන්තානා කන්දේ ම විසූහ. ඒ අතර ඒ දෙවිඳු ගේ අණින් ඔහු ගේ පියා විසින් ද ඉරුගල් කෝවිල නමින් දෙවොලක් මහවැලි ගඟ බඩ ඉදි කැරිණි. මේ දෙවොල ව්‍ය.ව. 1947 ගංවතුර දක්වා ම එහි විය. එම ගංවතුරෙන් එය විනාශ වී ල. හන්තානේ විසූ ඉරුගල් බණ්ඩාර දෙවියන් හඳුන් ගෑ ගල "හඳුන්ගල" යනුවෙන් දියසෙවෙල් නොබැඳී හන්තානේ කන්දේ දක්නට ලැබේ.

එසේ ම හන්තානේ කන්දේ ඇති ඕනෑ ම පලතුරක් එහි දී කෑ හැකිය. නිවසට ගෙන ආවොත් එහි පණුවන් දක්නට ලැබේ යයි ජනප්‍රවාද යයි. ඉරුගල් බෝධිය, ඉරුගල් ලෙන යන තැන් අද පවා ඒ දෙවියන් සිහි ගැන්වෙන ස්ථානයෝ වෙති. ඉරුගල් බෝධියේ සිට හන්තාන කන්ද දක්වා පුරාණයේ දී උමං මඟක් තිබුණු බව ජනප්‍රවාදයේ එයි. දැන් නම් මෙ කී ලෙන වැසී ගිය ආකාරයක් දක්නට ලැබේ. ඒ ආශ්‍රිතව රාමඤ්ඤ නිකායට අයත් ආරාමයක් මේ දිනවල දක්නට ලැබේ. මේ භූමිය දැන් හඳුන්වනුයේ මහකන්ද යනුවෙනි. මේ ආසන්නයේ ඉරුගල් බණ්ඩාර යන පරපුරක් සිටි නමුත් දැන් නම් එය එහි දක්නට නැති සේ ය.

**හන්තානේ අතීතය:-**

පඬුවස් දෙව් රජුට වැළඳුණු දිවි දොස් සමනය කිරීම සඳහා මලය රජු ලකට එන විට රාහු අසුරිඳු ඌරු වෙසක් මවා ගෙන ඒ රජුට පෙර ඌරාවෙල මැදින් හන්තානට ගිය බවත්, එහි දී ඌරා ගල් වූ බවත්, එම ගල ඌරාගල යනුවෙන් අදත් හැඳින්වෙන බවත් ජනප්‍රවාදයයි. ඌරාපොළ වැනි ග්‍රාම නාම උක්ත ඌරා මුල් කර ගෙන නිපන් නම් සේ ද සැලකේ. එසේ ම උඩුනුවර ලංකාතිලක, ගඩලාදෙණිය යන විහාර පිහිටි ගල්තලා සිට හන්තානා කඳු වැටිය දෙස බලන විට එහි විශාල භූතයකු දිග ඇදී උඩබැලි අතට නිදා ගෙන සිටින විලාසයක් දිස් වේ. මෙයින් එක්තරා භූතයකු හන්තානේ සිට උඩුනුවර වැදගත් ස්ථාන ආරක්ෂා කරන බවක් නිරූපිතව ඇති යන්න ජනප්‍රවාදයේ එයි.

එසේ ම හන්තානා කන්දේ මුදුනේ නැගෙනහිර පැත්තේ විශාල පරිමාණයේ ගල්ලෙන් දෙකක් දක්නට ලැබේ. එහි පුරාණයේ යක්ෂ ගෝත්‍රිකයන් වසන්නට ඇතැයි අනුමානය කළ හැකිය. එම ලෙනේ වැලිවිට සරණංකර සංඝරාජයන් ද විවේකීව සිටි බව සඳහන් වේ. උඩුවෙල විහාරය ඇත්තේ මේ ලෙනට පහළින් බව සැලකිය යුතුය. කුවේණිය ගේ දරුවන් ද මේ කන්දේ විසූ බව ද ජනශ්‍රැතිවල එයි. කුවේණිද හන්තානේ කන්දෙන් පැන දිවි තොරකර ගත් බවක් ද ජනප්‍රවාදයේ සඳහන් ව ඇත.

ඉරුගල් කෝල්මුර යන කවිවලින් ඉරුගල් බණ්ඩාර දෙවි ලකට පිටරටින් පැමිණියකු සේ කියා වේ. දේශීය ජන්මයක් ඇති ඇතැම් දෙවියනට විදේශීය තත්ත්වයක් ආරෝපණය කිරීමේ ප්‍රවණතාව අනුව මෙය සිදුවන්නට ඇත.

මේ දෙවිඳු භික්ෂූන් දහසකට දන් දී අනාගතයේ බුදු වීමට පැතූ වගක් ද කියැ වේ. ගහේ බණ්ඩාර කව්වල මෙන් ම වෙනත් වැදගත් යාදිනිවලත්, පත්තිනි යාදිනිවලත් මේ දෙවි ගේ නම සඳහන් වේ.

**හන්තානේ හා ඉරුගල් බණ්ඩාර දෙවියන්ගේ විත්තිය:-**

| | |
|---|---|
| ඉරුගල් බණ්ඩාර දෙවිඳුගේ | දුල්ලේ |
| අණයෙන් තම පිය තුම සිත | ලොල්ලේ |
| පායින්ගමුවේ ගහබඩ | එල්ලේ |
| සැදුවයි කෝවිල එතැන | ඇසිල්ලේ |
| ගලේ කරපු කෝවිලක | උදාරය |
| විලේ පිපුණු මානෙල් | සම්බාරය |
| මලේ රොනට එන බඹරුගෙ | ආලය |
| ගලේ උපන් ඉරුගල් | බණ්ඩාරය |
| මුදුන් නැමැති පායින් ගොමුවේ | මුල |
| සඳුන් මඩල හන්තානා ගල | කෙළ |
| තුදුන් ඉඩක් යකෙකුට ඉඩමක් | කල |
| යකුන්ට නායක ඉරුගල් දෙවි | මුල |
| ඉරුගල් නන් සොඳ දිවස් | බලන්නේ |
| මෙරගල් සේ එන යකුන් | බිඳින්නේ |
| පෙනෙන්ට සිටි තලුගල් වෙච් | ලන්නේ |
| ඉරුගල් බණ්ඩර රජුනි | වඩින්නේ |



| | |
|---|---|
| සල් සපු නා සුවඳැති මල් | යහනේ |
| වල් වැද යක් සෙන් බියපත් | වෙමිනේ |
| සෙල්ලම් සැප විඳ එම සිරි | යහනේ |
| මුල් ඉඩමෙකි පරසිඳු හන් | තානේ |
| හන්තානේ මුදුනේ වැඩ | ඉන්නේ |
| උන්තානේ සිට දිවැස් | බලන්නේ |
| දැන් යහනේ පට පඩුරු පුද | න්නේ |
| හන්තානෙට මුල රජුනි | වඩින්නේ |
| | (90: 37 පි.) |
| බඹර බඳින් උඩ පළමු හිමා | ලේ |
| වඳිති පුදති දෙවියන්ට දෙවේ | ලේ |
| පිපුණුමලට වදබඹරිඳු ආ | ලේ |
| ඉරුගල් බණ්ඩර දෙවිඳුට ආ | ලේ |
| තිරසාරයි වැඩියා ලංකා | වට |
| පරකාසයි වැඩියා ගල මුදු | නට |
| කඩුපාරයි කෙටුවේ ගල මුදු | නට |
| අපි බාරයි ඉරුගල් බණ්ඩා | රට |
| අටවාලා රන් දුන්න උරේ | යා |
| තනවාලා රන් මාල කරේ | යා |
| ලෙල දීලා රන් ගිගිරි අතේ | යා |
| නටවාලා ඉරුගල් වඩිනේ | යා |
| | (29: 195-6 පිටු) |

('මහ කොහොඹා දෙවියෝ' යටතේ ද බලන්න.)



## 28
## ඉලන්දාරි දෙවියෝ

කුළුම් හරකුන් හට අධිපති වන මේ දෙවියා තමන්කඩුව පියසේ බලවතා මෙන් පෙනී සිටී. කිරි කළයක් ලේ කළයක් කොට දස්කම් දක්වමින් සක් දෙවිඳු ගේ සිත දිනා ගත් ඉම කී ඉලන්දාරි දෙවියා හට මින්නේරියේ දොළොස් දූව පෙදෙසේ පාලනය හිමි විය. ඒ අනුව ඔහු

එහි අණසක පතුරුවමින් සිටි. හරකුන් පිළිබඳ සියලු කාර්යයන් හා කංකාරිය ද මේ දෙවිඳු ගේ නමින් එහි පැවැත්වේ. ඒ ගැන ඇති කවක් මෙසේ යැ:-

මින්නේරිය දොළොස් දුව පසුකර සක්මන් කරන් ඩ
ඉන්නැරිය මෙ සිංහලේ වැව් බැඳි රට බලා ඉන් ඩ
කන්කාරිය සමහ මෙ ඔබ කිරි ඉතිරුම් බාර ගන් ඩ
දැන් සූරිය රැස් විලසින් ඉලන්දාරි දෙවි වඩින් ඩ
(137: 539 පි.)

තවත් තැනෙක කියවෙන පරිදි කලා බලලු වැව් සහිත විල්හත ප්‍රදේශයේ ද, මින්නේරියේ ද, ඔහු ගේ අණසක පැතිරී ඇත. ඔහු ගේ අතේ රන්දුන්නකි.

කලා බලලු වැව විල් හත මින්නේරිය සිටිති මුරේ
ලො ලා වඩන රන්දුන්න ද ගතිති අතට සැම වරේ
සලා දි දී හත් දූවේ ගල රැල එන තැනට පිරේ
බලා සොඳට කිරි ඉතිරුම් බුලත් යහන් තේව කෙරේ
(37: 20-21 පිටු)

ඉලන්දාරි දෙවියන් ගේ වාහනය සුදු මීමකු බවත්, ඔහු අතේ අංකුසයක් ඇති බවත් විටෙක කියවෙන අතර ඔහු ඇතු පිටින් ගමන් කරන අවස්ථා ද සඳහන් ව තිබේ.

දු ල් ල වඩනා සුදු මීමෙකු පිට දෙවි වඩි මින්නේ
ලොල්ල වඩනා අංකුසය ද සුරතට ගෙන වඩි මින් නේ
අ ල් ල කියා අලි අතු බැඳ ගෙන දෙවියන් සිටි මින්නේ
සෙ ල් ල මසින් ඉලන්දාරි දෙවි ඇතුපිට වඩි මින් නේ
(37: 26 පි.)

ඉලන්දාරි දේවතාවා යනුවෙන් ද හඳුන්වනු ලබන මේ දෙවියා අයියනායක දෙවියන් ගේ සේවකයකු වශයෙන් ද සලකා ඇත. ඒ කාරණය "අයියනායක දෙවියන් ගේ කෝල්මුර" කවිවල මෙසේ සඳහන් ව ඇත.

බලා මොහොත් පිළුනු නැබේ සත් මල් පහයෙන් වඩින් ඩ
බෙදලා සත්මල් පහයේ මුදුනට රන්කොත් තියන් ඩ
වැල්ල මුහුදු වෙරළ දිගින් අලි ඇතු පිට වැඩම වන් ඩ
කැන්දා ළඟ ඉලන්දාරි දේවතාවට බාර දෙන් ඩ
(37: 5 පි.)



ඉලන්දාරි දෙවියන් උපන්නේ පත්තිනි දේවිය හිසේ පැළඳ ගෙන සිටි සපු මලකින් බව පැවසේ. ඉන් පසුව ඇය විසින් කුමරා දරුවකු ලෙස හදා වඩා ඇත.

සැපත පතිනි ජල කෙළියට ගන්තෙර ගොස් සලු දිග ඇරි
විපත ඉසේ තිබූ සපුමල සලුපොට පිට ගෙන දිග ඇරි
නැවත එසපු මල බැලූ විට කෙළ කෙළ රන් කු මාරි
උපත පතිනි නම කිව්වේ කුමරු මගේ ඉලන් දාරි
(37-21 පි.)



# 29
# ඊශ්වර දෙවියෝ

හින්දූන් ගේ ප්‍රධාන දෙවිවරුන් අතර ඊශ්වර දෙවියෝ ද වෙති. මහේෂ්වර, පශුපති, රුද්‍රශංකර, නටරාජ යනාදී නම්වලින් ද ඔහු හඳුන්වනු ලබත්. බ්‍රහ්ම, විෂ්ණු, මහේශ්වර යන ත්‍රි මූර්තියෙන් ලෝකය මැවීම බ්‍රහ්මයා ගෙන් සිදුවන අතර විෂ්ණු ලොව පාලනය කරයි. ඊශ්වරයා ගෙන් ලෝකයේ විනාශය සිදු වේ. මෙය ජනයා අතර පවත්නා පොදු විශ්වාසයයි. පොළොන්නරුවේ මහපරාක්‍රමබාහු අවධියේ රචිත පාලි අභිධානප්පදීපිකාවේ ඊශ්වර දෙවියාට කියන නම් මේ ආකාරයට සඳහන් වේ.:

"මහිස්සරො සිවො සූලි
ඉස්සරො පසු පතය" (මහෙශ්වර, ශිව, සූලි, ඊශ්වර, පශුපති)

මේ නිසා පොළොන්නරු යුගයේ දී පාලි සාහිත්‍යයට සිව දෙවියා ද එක් ව ඇති බව පෙනී යයි. ඊශ්වරමාලය නමැති කුඩා කවි පොතේ සඳහන් වන ආකාරයට ශිව, උමාදේවි, අනංග යන තිදෙනා බුදු රදුන් අභිධර්මය දෙසූ අවස්ථාවේ ඒ අසල සිටි බව ද සඳහන් වේ. මෙය ශිව දෙවියා බෞද්ධයකු කිරීමට ගත් තැනක් සේ ද සඳහන් කළ හැකි යයි ද ඒ පුවතේ වැඩිදුරටත් සඳහන් වේ (124: 704 පි.).

ලක්දිව ඊශ්වර දෙවියන් ඇතුළු හින්දූන් ගේ වේද කථාවල සඳහන් දෙවිවරුන් ගැන දැනුමක් ප්‍රාග් බෞද්ධ අවධියේ සිට පැවැති බව ඓතිහාසික මූලාශ්‍රයන් ගෙන් ඔප්පු වේ. අපේ පැරැණිතම ශිලාලේඛන

වන ක්‍රි. පූ. 3 වන සියවස සිට ක්‍රි.ව. 1 වන සියවස දක්වා ලිපිවල එන පහත නම් දෙස බැලීමෙන් මෙය පැහැදිලි වනු ඇත. 'බමදත' (බ්‍රහ්ම දත්ත), ගොපල (ගෝපාල), කණ (කෘෂ්ණ), මහශිව, මහශෙන, රම (රාම), ශිවබුති, ශිවගුත, ශිවරකිත, වෙශවණ (වෛශ්‍රවණ) මේ නම් බෞද්ධ උපාසකයන් ගේ ය. ඔවුන් මුලින් හින්දු භක්තිකයන් ව සිට පසුව බෞද්ධයන් වූවා විය හැකිය.

මහාවංශයේ එන තොරතුරු අනුව පණ්ඩුකාභය රජ දවස (ක්‍රි.පූ. 3 වන සියවස) 'සිවිකාසාලා' පිහිටුවීම යනුවෙන් අදහස් වන්නේ ශිව ලිංග පූජාව මෙහි පැවැති බව විය යුතුයයි වල්පොළ රාහුල හිමියෝ සිතති (176: 45 පි.). බුදුසමය ස්ථාපනය වූ සමයේ දී මේ බාහිර ආගමික වතාවත් මඳක් පසුබාන්නට ඇති නමුත් පසුව දකුණු ඉන්දියා ආක්‍රමණයන් ආදී සිද්ධීන් ගෙන් පසුව ඒවා යළි පැතිරෙන්නට ඇත. **වංසත්ථප්පකාසිනියේ** සඳහන් පරිදි මහසෙන් රජු (ව්‍ය.ව. 247-301) විසින් දිවයිනේ සියලු තන්හි ශිව ලිංග විනාශ කරන ලදී. මින් අදහස් වන්නේ එම පුද පූජා ඒ වන විට පැතිර පැවැති සැටියි. යළි දෙවන මිහිඳු රජු දවස (ව්‍ය. ව. 777-797) හින්දු දේවාලයන්ට අනුග්‍රහ දැක්වීමෙන් පෙනෙන්නේ එම ඇදහිලි මෙහි පැවැති අයුරුයි. පොළොන්නරු යුගයේ දී හින්දු සංස්කෘතිය යළි ප්‍රබල වීමෙන් ශිව, විෂ්ණු දෙවිවරුන් ප්‍රධාන කොට හින්දු දෙවිවරුන්ට ආගමික වතාවත් අතර වැදගත් තැනක් ලැබෙන්නට ඇත. 13 වන සියවසේ දී **සද්ධර්මරත්නාවලිය** කීප විටක් ම 'විෂ්ණු මහේශ්වරාදී භක්ති නැතිව තුනුරුවන්හි ම භක්ති ඇතිව' කටයුතු කරන ලෙස සඳහන් කරන්නේය (122: 344 පි., 516 පි.).

කෝට්ටේ යුගයේ දී පැවැති ඉසුරු (ඊශ්වර) කෝවිලක් ගැන **සැළලිහිණි සන්දේශයේ** ද සඳහන් වේ:-

කළුවැල් කපුරු දුම තුළ ලෙළෙන දද පෙ ළ
පුවිසල් මිහිතු සක් සත් මිණි හඩ පත ළ
කැරැලොල් සතන් පවසනු නියූ ගී දෙම ළ
මතකල් ඉසුරු කෝවිල ලගිනේ ළ ක ල
(22 වන කව)

**තිසරයේ** ද (87 කව) **පරෙවියේ** ද (55 කව) - 'සුදර්ශන' දේවාල ගැන සඳහන් ය. **තිසරයේ** දේවාලය පිහිටියේ කළුතරත් පානදුරත් අතර ය. **පරෙවියේ** සඳහන් දෙවොල පානදුරත්, පොකුපිටියත් අතර පිහිටියේ ය. මේ ඊශ්වර දේවාල විය හැකියි. ඇතමුන් ගේ මතය අනුව ඒ විෂ්ණු දේවාල විය හැකිය. වර්තමානයේ ලක්දිව කතරගම දේවාල ආශ්‍රිතව ඊශ්වර දේවාලයක් පවත්වා ගැනීම බෞද්ධ සිද්ධස්ථාන සමහරක දැක්ක හැකියි.





# 30
# උඩුවේරියේ කපුරුහාමි බණ්ඩාර දෙවියෝ

කුරුණෑගල දිස්ත්‍රික්කයේ උඩුවේරිය යන ගමේ උපන්නකු ලෙස හඳුන්වනු ලබන හත්කට්ටුවේ දෙවිවරුන් අතර සිටින මෙම කපුරුහාමි දෙවියා මනුෂ්‍යයකුව සිටි අවධියෙහි විශේෂ ගති පැවතුම් ඇතිව සිටියෙකි. හේ කොටි පැටවකු හීලෑ කරගෙන විසී ය. එම කොටි පැටියා ලවා තමන්ට අවශ්‍ය දේ ඉටු කරවා ගැනීම ඔහු ගේ සිරිත ව තිබිණි. මේ දිවියා හරකුන් ගේ බාන කවින් ගෙන උන් දක්කා ගෙන යාමට පවා පුරුදුව සිටියේ ය.

පලස්ස පස් විසි දහසක් බුදුවරයින් ඇති කාලේ වන්
දූකක් වැදුණ තැන් දිවැස් බලන කයිලාසන දෙවියෝ වන්
මහත් තෙදැති උඩුවේරිය දෙවිඳු ගේ තෙද අනසක පැවන්
හරක් එඬෙර කම් කෙරු හැටි නෑසිද දිවියෝ කවදා වන්
(29: 125 පි.)

වරක් ප්‍රදේශය කොල්ල කෑමට පැමිණි පරංගි පිරිසකට උක්ත කොටියා මගින් ඔහු පහර දුන් වගක් ද, කොටියා පරංගි පිරිස අතර සිටි පූජකයකුගේ බෙල්ලට පැන්න වගක් ද සඳහන් වන්නේ මෙසේ ය:-

ආල වඩන දෙවි තෙද බල පාදිලියට පාපු රගි න්
ලීල නො කර දිවියා ගොස් බෙල්ල බදා ගති සැණෙකින්
කෝල වෙව්වි පාදිලියා යැද්දැයි හණිකට දෙවි ය න්
රාල හාමි උඩුවේරිය බණ්ඩාරට වැඳ පවස න්
(29: 67-72 පිටු)

අන්තිමේ දී පරංගින් බේරී ගියේ රන් කැත්තක් පුද දීමට බාර වෙමිනි.

තායි දේස බාස කියා සතර දිගට වැද වැටෙ තී
බාජු සැට්ට කමිස ඉරා ඇඟ ඔක්කම පහුරු ගා තී
සිවි ගාතේ ඇති සතකුට වන් එ නුවර ඉන්ඩ නොදෙ තී
රත්තරනේ කැත්ත දෙන්ඩ පාදිලියා බාර වෙ තී
(29: 127 පි.)

"උඩුවේරිය රාළහාමි" නමින් ද ප්‍රකට වූ මොහු පුත්තලම සිට කොළඹ දක්වා ද යළි ඌව බදුල්ල ප්‍රදේශය දක්වා ද අණසක පතුරුවන බව කියති.

වත්තල මෝදර නව කොල ගන්කොට ඔහුගේ
කෙරුවා දැක විගසින්
ගස්වල සිට රං ගෙඩි පැසුනා මෙන් ඕලන්දේ
රට බලති ගොසින්
පුත්තලම ද රට දෙමළ හත්පත්තුව ඌව බදුල්ල ද
රට මෙ පිටින්
සක්වළ කරදිය වළල්ල ඇතුළත බණ්ඩා ඔබ මිස
නැතිය වෙනි ත්

(එම. 126 පි.)

ඔහුගේ ආයුධය රන් කැත්තකි. මෙ කී කපුරුහාමි බණ්ඩාරට තිවුන් සහෝදරයෙක් ද සිටියේ ය. මේ සහෝදරයා කපුරුහාමි බණ්ඩාර දෙවියා ගේ කුරුම්බරයා ලෙස ද සලකනු ලැබේ. දැනට නම් උඩුවේරියේ කපුරුහාමි දෙවි ඇදහිමක් දක්නට නැත. එම දේවාලයේ දැන් අදහනු ලබන්නේ රත්න මලල කීර්ති බණ්ඩාර දෙවියා යි. (එම).



## 31
## උනුවින්නේ බණ්ඩාර දෙවියෝ

මේ දෙවියා වන්නි බණ්ඩාර යනුවෙන් ද හඳුන්වා ඇතත් ඔහු ගේ ප්‍රධාන වාසය උනුවින්නේ වූ බැවින් ඔහු උනුවින්නේ බණ්ඩාර යන නමින් සඳහන් වන බව හියු නෙවිල් ගේ අදහසය. මේ පිළිබඳව වැඩි දුරටත් කරුණු දක්වන නෙවිල් මෙම දෙවියන් පන්විල කෝවිල, කන්දෙ කෝවිල, වන්නි ප්‍රදේශය ආදියේ සැරිසරන අතර විටෙක කතරගම ට ගොස් එම දෙවියන් ගේ වරම් ද ලබා සිටින බව පෙන්වා දෙයි (161,1: 233 පි.). මොහු වනාශ්‍රි වනය ආශ්‍රිත දෙවි කෙනෙකි. ගෙතෙම ගල්කොටුවට ගොස් එහි දී කීර්ති බණ්ඩාර දෙවියන් මුණ ගැසේ. ඔහු ගුරුබැද්දේ ගල්තලාවේ දී හමු විය හැකිය. ඇඳිරිබැද්ද, කටුපත්වෙල, හම්බිලිය ගල් දේවාලය, දිය බුබුල, හකුරුතලේ කන්ද, ගෝණාගම,



හිඟුරුවඩුවෙ කෝවිල ආදි ස්ථානයන් වෙත ද යන්නේ ය. කුමාර දෙවියන්ගෙන් වේවැලක් ලබා ගත් ඔහු කැලෑ ඇතුන් ඇල්ලීමට ද සමත්ය (161,1: 233 පි.). ඇතකු පිට නැඟී ජයසක පිඹිමින් යන මේ දෙවියා, ඇතැම් තැනෙක යකකු ලෙස ද සඳහන් වේ. තව තැනෙක "වන්නි දෙවියෝ" යනුවෙන් ද හඳුන්වා ඇත.

වතුරු රුවැති දිය බුබුලට වැඩි යේ
පතුරු වමින් තෙද අණසක කැටි යේ
තපුරු වියරු ලෙඩ දුක් දුර හැරි යේ
හකුරු තලේ හෙල මුදුනට වැඩි යේ

(161, 1: 233 පි.)

මෙම උනුවින්නේ දෙවියන් වන්නියේ බණ්ඩාර යනුවෙන් ද හඳුන්වන බැවින් වන්නියෙ බණ්ඩාර යටතේ ද බලන්න.



## 32
## උපාසක දෙවියෝ

නම නැති දෙවියා ම උපාසක දෙවි නමින් හඳුන්වා ඇතැයි එල්. ඩී. බානට් මහතා කියයි (141: 133 පි). වැඩි විස්තර සඳහා "නම නැති දෙවි" යටතේ ද බලන්න.



## 33
## උපුල්වන් දෙවියෝ

පසළොස් වන සියවස පමණ වන තෙක් අපේ ප්‍රධානතම දෙවියකු ලෙස සලකන ලද මේ දෙවිඳු දේශීය ප්‍රභවය ඇත්තකු ලෙස හඳුන්වා දිය හැකි ය. වෙනත් බොහෝ දෙනකු ගේ පිළිගැනීම භාරතීය දෙවියකු කියා ය. මුනිදාස කුමාරතුංග මහතා ද මේ දෙවිඳු ලාංකිකයකු වශයෙන්

සැලකිය හැකි බව සඳහන් කර තිබේ. **අෂ්ටාදශ පුරාණය, රාමායණය, මහාභාරතය** ආදී පොත්වල උපුල්වන් යන නමක් සඳහන්ව නැති නිසා ඒ මතයේ පිහිටීමට සිදුව ඇතැයි ඒ මහතා වැඩිදුරටත් සඳහන් කරයි. (65: 41 පි.) එහෙත් එකී පුරාණ ග්‍රන්ථවල එම දෙවියා ගැන සඳහන් වන බව ඇතමෙක් කියති. (137: 533 පි.) මේ දෙවියා කිහිරැළි, කිහිරැළි උපුල්වන්, උප්පලවණ්ණ, උප්පලදත්ත, උපුල්දත් යනාදී නම් කීපයකින් ම හඳුන්වා ඇත.

අතීතය:- බුදු රජාණන් වහන්සේ මාර පරාජය කරන අවස්ථාවේ දී, එම ස්ථානයේ දූත්නක් ද අතැතිව සිටි දෙවියකු වශයෙන් මේ දෙවියා හඳුන්වන්නෝ ද වෙති.

**මයූර සන්දේශයේ** එය මෙසේ සඳහන් වේ:-

සවි දිගු බිතු කිරණවි යස උදුල් වන
සැවි බල පෑ එදිනෙවි බුදු මඟුල් වන
දෙවි නුවරෙහි හට දෙවි රජ උපුල් වන
දෙවි මෙ හඳුන් මතු සවි සිරි විපුල් වන
(97: 4 වන කව)

මේ, මෙම දෙවිඳු බෞද්ධයකු බව පැවැසීමට ගත් තැනක් විය හැකිය. මේ අදහස ම පැරැකුම්බා සිරිතේ මෙසේ දක්වා තිබේ:-

යමල් හලැ මුනි ලෙසින් වදහළ මෙ ලක
රකිනුව මෙත් සිතින්
උපුල්වන් දෙවි මහරජාණන් වඩිනු දැක
මහ සයුර තින්
නිමල් ගුණ යුත් නමින් දාපුළු සෙන් රජෙක් ආ
එ මොහො තින්
විපුල් සිරි දෙවි නුවර කරවා පිහිට කරවිය
යහප තින්
(24 වන කව)

විජය කුමාරයා ලක්දිවට පැමිණි දිනයේ පිරිනිවන් මංචකයේ වැඩ හොත් බුදු රජාණන් වහන්සේ සක් දෙවිඳු අමතා, මතු දිනයෙහි ලංකාවේ බුද්ධ ශාසනය පිහිට වන හෙයින් විජය හා පිරිස ද ලක්දිව ද රක්නට වදාළ බවත් ඒ වදහිනු සක් දෙවිඳු එම කාර්යය සඳහා උප්පලවණ්ණ දෙවියන් යෙද වූ බවත් **මහාවංශයේ** සඳහන් වේ. (99 : 1-5 ගාථා) මහාවංශ ටීකාවේ එන අදහස අනුව මේ දෙවියන් විජය කුමරු ගේ මුල් භූමිය හා සම්බන්ධ අයෙකි. (බටුවන්තුඩාවේ සංස්. : 180 පි.)



උපුල්වන් දෙවියන් ගැන ඉතිහාස ගත ප්‍රකට තොරතුරු මෙසේ යි:-

1. දාපුළුසෙන් (**පැරැකුම්බා සිරිත** : 24 කව) හෙවත් සාමි දප්පුල (**මහාවංශය** 45 : 56) විසින් බදිරාළි විහාරය කරවා 'දෙවියන්' පිදූ බව මේ සම්බන්ධයෙන් ඉතිහාසයේ ඇති පළමු සටහනයි. මේ රජු අනුරාධපුරයේ සත් දිනක් ද, රෝහණයේ තෙවසරක් ද රජ කළ අයෙකි. (**මහාවංශය** 45 : 81-2).
2. දෙවන පැරකුම්බා (ව්‍ය. ව. 1236-1270) රජ දෙවිනුවරට ගොස් පූජාවක් කළ බව **මහාවංශය** සඳහන් කරයි. (83 : 49). රජුට වැළඳුණු ව්‍යාධියක් දුරු කර දෙන ලෙස දෙවියන් ගෙන් ඉල්ලූ නමුත් එය කළ නොහැකි බව දෙවිඳුන් සිහිනෙන් පවසා තිබේ. (130 : 62 පි.)
3. යාපහුවේ පළමුවන බුවනෙකබා රජ දවස (1272-84) උපුල්වන් දෙවියන් පද්දාවෙල අස්සද්දනා පිරිවෙන් සාමීන්ට සිහිනෙන් කළ නියමයක් අනුව අලුත් නුවර දේවාලය කරවන ලදැයි 'අලුත් නුවර දේවාලය කරවීම' නම් පැරැණි ලිපියේ සඳහන් වේ. (50)
4. දහතුන්වන සියවසේ දී අලුත් නුවර දේවාලය කර වුවද දාහතර වන, පහළොස්වන සියවස්හි රචිත සන්දේශයන්ගෙන් වැඩි ගණනක් දෙවිනුවර උපුල්වන් දෙවිඳුන්ට ඔප්පු කිරීමෙන් පෙනෙන්නේ එහි ද දෙවියන් වැඩ සිටි බවත් මෙම දෙවියන් ගේ බල මහිමය ඉහළින් ම සලකන ලද බවත් ය. **තිසර, මයූර, පරෙවි, කෝකිල** යන සන්දේශ හතර ම දෙවිනුවර උපුල්වන් දෙවියන්ට ඔප්පු කර ඇත. **කෝකිල සන්දේශයේ** 23 වන පද්‍යයද **පරෙවි සන්දේශයේ** 206 වන කවිය ද පැහැදිලිවම පෙන්වන්නේ උපුල්වන් දෙවියන් (විෂ්ණු නොව) තමාගේම අනන්‍යතාවක් ඇති දෙවි කෙනෙකු බවයි.

පසළොස් වන සියවසින් පසු උපුල්වන් දෙවියන් දැරූ ඉහළ ස්ථානයට ක්‍රමයෙන් කතරගම දෙවියන් පත් වන්නට පටන් ගැනිණි. (විස්තර ඉහත පළමුවන කොටසෙහි 5.2 යටතේ දක්වා ඇත.)

උපුල්වන් දෙවිඳුන් යනු විෂ්ණු දෙවියන් ම බව දැනට දෙවිනුවර දේවාලයේ පවතින විශ්වාසය වේ. අලුත් නුවරින් මහනුවරට ගෙන ආ උපුල්වන් දේවාලය පසුව විෂ්ණු දේවාලය බවට පත් විය. දැන් ගඩලාදෙණියේ ඇති විෂ්ණු මුලින් එහි පැවැතුණා යයි (ධර්මකීර්ති හිමියන් ගේ ශිලාලේඛනයේ) සඳහන් වන උපුල්වන් දෙවොල බව පෙනේ. (160 : 54 පි.).

මහචාර්ය පරණවිතාන මහතාගේ මතය වන්නේ උපුල්වන් යනු පුරාණ ඉන්දු ආර්යයන්ගේ වරුණ දෙවියන් බව ය. (169). මහාචාර්ය ගණනාථ ඔබේසේකරයන් විසින් උපුල්වන්, දැඩිමුණ්ඩ, විෂ්ණු යන

දෙවිවරුන් ගේ ස්වරූපය එකට සංකලනය වී ඇති ආකාරය වෙත අවධානය යොමු කර තිබේ. **තිසර සන්දේශයේ** (18 වන කව) සහ **කෝකිල සන්දේශයේ** (21 වන කව) මෙන්ම සිව්වන බුවනෙකබා රජු ගේ ලංකාතිලක සෙල්ලිපියෙන් ද විෂ්ණු සහ උපුල්වන් යන දෙවිවරුන් ගේ සුවිශේෂ අනන්‍යතා ලක්ෂණ දක්වා තිබීම ඔවුන් එක් දෙවියකු නොවන බව ඔප්පු කිරීම සඳහා තර්කයක් කර ගත යුතු නැත යනු ඔබේසේකරයන් ගේ මතයයි. දෙවි කෙනකු ගේ අනන්‍යතාව ස්වරූප කීපයකින් සමන්විත විය හැකි ආකාරයට මනා නිදසුනක් ඔහු දක්වා ඇත. හින්දු භක්තිකයන්ට විෂ්ණු, ක්‍රිෂ්ණ, රාම, බුද්ධ යන ස්වරූප වෙන්වෙන් ව දැක්වීමට පුළුවන. එහෙත් හින්දු විශ්වාසයන්හි තවත් අවස්ථාවක මේ ස්වරූප එක් අනන්‍යතාවක් බවට පත් වේ. එහෙයින් උපුල්වන් යනු විෂ්ණු ගේ ම පැරණි බෞද්ධ මුහුණුවරක් ලෙසත් "විෂ්ණු" යන නාමය සම්පූර්ණයෙන් ම හින්දු සංකල්පයක් ලෙසත් ගතහොත් ඉහත **තිසරය**, **කෝකිලය** හා ලංකාතිලක සෙල්ලිපිය වැනි තන්හි එන යෙදුම්වල අමුත්තක් නොපෙනෙනු ඇත යනු ඔබේසෙකරයන් ගේ අදහසයි. "උපුල්වන්" යනුවෙන් දිවයිනේ මුල් සිංහල පදිංචි කරුවන් විසින් අදහන්නට ඇත්තේ තමන් ගේ මුල් දේශයේ සිටි නීල වර්ණ ගත් දෙවි කෙනකු විය හැකි බව ද ඔබේසේකරයෝ කියති. (166 : 315-16 පිටු)

මේ අතර දැඩිමුණ්ඩ දෙවියන් හා උපුල්වන් දෙවියන් යනු එක් අයකු ම ලෙස හඳුනා ගන්නා තැන් ද සිංහල සම්ප්‍රදායේ ඇති අයුරු ඔබේසේකරයන් විසින් පෙන්වා දී තිබේ. රබලියේ පත්තිනි කපු මහත්වරුන් අත ඇති දැඩිමුණ්ඩ සැහැල්ලේ මෙ බඳු කවි තිබේ :-

පුල්වන් පුරිඳුට අස්න    සදන්නේ
මල්ගෙන සුවඳින් යහන්    තබන්නේ
අවුලා පහනුත් නිගි සුදු    දෙන්නේ
සෙල්ලම් කර දැඩි මුණ්ඩ    වඩින්නේ

මාර යුද්ධය අවස්ථාවෙහි අන් සියලු දෙවිවරුන් බුදුන් වහන්සේ වෙනින් පලා ගිය නමුත්, උපුල්වන් දෙවිඳුන් පමණක් එහි නැවතී උන් අයුරු තිසර සන්දේශයේ 4 වන කවෙහි ද කෝකිල සන්දේශයේ 30 වන කවෙහි "වසවතු යුදට පැමිණෙන තමා ම සැව් බල පෑ" යනුවෙන් ද දක්වා තිබේ. අලුත් නුවර දේවතා බණ්ඩාරයන් දැඩිමුණ්ඩ නාමය ලැබුවේ මාර යුද්ධය අවස්ථාවේ තනිව බුදුරදුන් අසල සිටීම නිසා යැයි ඔවුන්ගේ කෝල්මුරවල කිය වේ. (දැඩිමුණ්ඩ පිළිබඳ විස්තරය බලන්න.) මේ අදහස් සම්මිශ්‍රණයට හේතුව ඓතිහාසික සිද්ධීන් හා සම්බන්ධ බව ඔබේසේකරයන් විසින් පෙන්වා දී ඇත. (166 : 320-21 පිටු) මෙහි ලා වැදගත් සිද්ධි තුනක් තිබේ.



1. උපුල්වන් දෙවියන් සඳහා අලුත් නුවර දේවාලය කරවීම.
2. පෘතුගීසීන් විසින් දෙවිනුවර දේවාලය විනාශ කිරීම.
3. අලුත් නුවර වැඩ උන් උපුල්වන් දෙවියන් මහනුවරට වඩමවා ගෙන යෑම.

මේ ඓතිහාසික සිද්ධීන්හි ප්‍රතිඵල වශයෙන් අලුත් නුවර ප්‍රදේශයේ මුලින් සිට දේවතා බණ්ඩාරයන් අලුත් නුවර දෙවියන් ලෙස ම එහි ඉතිරි වූ බවත්, ඒ අතර ම දෙවුන්දරින් වඩමවා ගෙන ආ උපුල්වන් දෙවියන් ගේ ඇතැම් ලක්ෂණ ද අලුත් නුවර දෙවියන්ටත් ආරෝපණය වූ බවත් සිතිය හැකිය.



## 34
## උලපනේ බණ්ඩාර

මහනුවර ප්‍රදේශයේ දියකෙළිනාවල නම් ස්ථානයට යාබද නාරුක් ගොමුවක පිහිටුවන ලද දොඩන්වල දේවාලය හා සම්බන්ධ දෙවිවරුන් නව දෙනා අතුරෙන් කෙනෙකි. "මහ නා බණ්ඩාර" යටතේ ද බලන්න.



## 35
## උල්හිටියාවේ දෙවියෝ

මේ දෙවිඳු ගැන වැඩි යමක් දැන ගන්නට නැත. පුරාණ **සිවිපද** සංග්‍රහයේ සඳහන් කවි පන්තිය හැර වෙන තැනක් අපට හමුවූයේ නැත. උල්හිටියාවේ දෙවියන් හා පිටියේ දෙවියන් අතර සම්බන්ධයක් පවත්නා වගක් එම කවි තුළින් පෙනී යයි. :-

උල් හිටියාවේ පාර බලන්    වයි
එම හිටියාවේ පැළ පොත ලන්    වයි
පොල් කිරියාවේ දළු ලියලන්    වයි
උල් හිටියාවේ දෙවියො වඩින්    වයි

දුඹුරු පිටියේ හුදක් පෙනෙන් — නේ
ඊට උඩින් රතු තිලක් පෙනෙන් — නේ
චාමර මුතු කුඩ එමට පෙනෙන් — නේ
පිටියේ දෙවිඳු ගෙ උයන පෙනෙන් — නේ
(90 : 300 පි.)



## 36
## උස්වැලිකන්දේ දෙවියෝ

හියු නෙවිල් ගේ කාව්‍ය සමුච්චයේ "උස්වැලිකන්දේ සුරිඳු" නමින් ද (37 : 25 පි.) "අලුත් සුරිඳු කවි" නමින් ද (161, 3 : 357) උස්වැලිකන්දේ දෙවියන් ගැන සඳහන් වේ. ඉහත දෙවැනි සඳහනේ දැක්වෙන අයුරු මේ අලුත් දෙවි කෙනෙකි. මේ දෙවියන්ගේ උපත ගැන හෝ විශේෂ වික්‍රම ගැන සඳහනක් නො වේ. සමහර විට මේ නමින් හඳුන්වා ඇත්තේ මහනුවර දිස්ත්‍රික්කයේ පස්බාග කෝරළයට අයත් ගලබොඩ උස්වැලිකන්දේ දේවාලයේ අධිගෘහිත දෙවියා විය හැකිය. ඔහු ගේ දස්කම් ගැන නම් ජනප්‍රවාද එම පෙදෙසේ අසන්නට ලැබේ.

"අලුත් සුරිඳු කවි" පෙළට අනුව මේ දෙවියෝ මුතු මැණික් පැළඳ සුවඳින් සැරසී අනංගයා මෙන් වසන්නෝය. ඔවුන් ගේ නම් කියූ පමණින් මරණය වැළකෙයි. රැළේ ගවයෝ වැඩි වෙති. දෙවියෝ යක් සෙන් පිරිවරා ලක වටා වේගයෙන් ගමන් කරති. එතුමෝ වනයට අධිපති වෙති. මල් සුවඳ ප්‍රිය කරති. දැඩි ගුණැති පරංගීහු එතුමන් ගේ කෝවිල බින්ද අවස්ථාවේ දෙවියෝ ඔවුන් මැදට පැන සිය තෙද බල පෙන් වූහ. මහපොළොවෙන් දෙබරුන් මතු වී ඔවුනට අනින්නට වූ හෙයින් පරංගියෝ මාවුස්සා පඳුරු ඇති වනය මැදින් දුවන්නට වූහ.

උස්වැලි කන්දට යන මේ දෙවියෝ අංකෙළි පුද ගනිමින් උස්වැලිකන්දේ දෙවියෝ යැයි අමතනු ලබති. (161, 3 : 357)

කොඩි කුඩ සේසත් ගෙන මන — තාන්දේ
ඉඩ නැරම යක් සෙන් සිට — වැන්දේ
දිඩ බල සුරිදෙක් මෙලෙස කොයින් — දේ
වැඩ සිටි රහ බල උස්වැලි — කන්දේ



බොරුවට ගරුවට සොඳට අඩී — රුයි
සොරුනට බැට දෙනවා තිර සා — රයි
යිටිවිට හේනට බස් සොඳ මී — රයි
සුරිඳුට උස් වැල්ලේ අප — බාරයි
(37 : 25 පි.)

හියු නෙවිල් ගේ කාව්‍ය සමුච්චයේ "ගහේ බණ්ඩාර කවි" පෙළක ද තවත් දෙවියන් එකොළොස් දෙනකු සමඟ උස්වැලිකන්දෙ බණ්ඩාර නම් කර ඇත. (161, 2 : 137 පි.)



## 37
## ඌවේ ගම්බාර දෙවිවරු

පහත සඳහන් දෙවිවරුන් දහතුන් දෙනා ඌවේ ගම්බාර දෙවියන් ලෙස ඌවේ වංශ කථාවේ සඳහන් වේ. ඔවුන් සඳහා ඉදි වූ කුඩා දේවාල ඒ ඒ ගම්වල ඇති බවත්, ඇතැම් තන්හි එම දේවාල විහාරානුබද්ධ ව ඇති බවත් සඳහන් ය. ඔවුන් ගේ නම් මෙසේ යː- 1. අප්පුහාමි දෙවි, 2. කටුගහ බණ්ඩාර දෙවි, 3. කළු බණ්ඩාර දෙවි, 4. කැලේ බණ්ඩාර දෙවි, 5. ගහේ බණ්ඩාර දෙවි, 6. ගොඩේගෙදර දෙවි, 7. දැලිවේ අලුත් බණ්ඩාර දෙවි, 8. නිකවැරැටියේ බණ්ඩාර දෙවි, 9. බෝවල අලුත් දෙවි, 10. මින්නේරියේ දෙවි, 11. ලොකු බණ්ඩාර දෙවි, 12. වන්නියේ බණ්ඩාර දෙවි, 13. සාමාපොල අලුත් බණ්ඩාර දෙවි.

මේ දහතුන් දෙනා ද ගම්බාර දෙවිවරුන් සේ සඳහන් කර ඇත්තේ කුමන පදනමක් යටතේ දැයි සඳහන් නො වේ. ඉහත සඳහන් අය ගෙන් ඇතැම් අය ගැන (කටුගහ බණ්ඩාර දෙවි වැනි) වෙන ම විස්තර සඳහන් වන බව ද සැලකිය යුතුය (125 : 115 පි.).

"ඌවේ දෙවි පස්කට්ටුව" "ඌවේ බණ්ඩාර දෙවි පස් දෙනා" යන සිරස්තල යටතේ ද මේ හා සමාන දෙවි පිරිසක් ගැන සඳහන් ව ඇත.



## 38



# ඌවේ දෙවි පස්කට්ටුව

ඌව වංශ කථාවේ මේ නමින් දෙවි පස් කට්ටුවක නම් සඳහන් වේ. ඔවුන් එසේ වර්ග කර ඇත්තේ කුමන පදනමක් යටතේ ද යන්න ගැන පැහැදිලි නැත. ඌවේ බණ්ඩාර දෙවි පස්දෙනා යටතේ ද බලන්න. 'ඌවේ මැණික් බණ්ඩාර දෙවියෝ' යන නමින් වූ දෙවියකු ගේ ඡායාරූපයක් ඌව වංශ කථාවේ 2 වන කාණ්ඩයේ දක්නට ලැබේ.

ඉහත සඳහන් පස් කට්ටුවේ නම් මෙසේ ය:-

මුරුගල් බණ්ඩාර, පළුගල් බණ්ඩාර, කළුගල් බණ්ඩාර, වාහල් බණ්ඩාර, කළුබණ්ඩාර යන පස්දෙනා වෙති. ඔවුන් ගැන ද පැහැදිලි යමක් සඳහන් නො වේ. (125 : 115 පි.)

## 39



# ඌවේ දේවතාවියෝ

මුළු ලක පුරා විසිරී සිටින බොහෝ දෙනා විසින් අදහනු ලබන පත්තිනි දේවිය පිදීම ඌව ජනතාව විසින් ද සිදු කෙරේ. එයට අමතරව පහත සඳහන් අය ද ඔවුන් අදහන බව ඌවේ වංශ කථාවේ සඳහන් වේ. ඔවුන් ඌවේ දේවතාවියන් සේ ද සලකන බව පෙනේ.:-

1. ශීතා පරමේශ්වරී
2. මහලොකුවෝ දේවි
3. මිරිය බැද්දේ කිරි අම්මා
4. හඳුන් කුමාරී කිරි අම්මා

(125 : 210 පි.)



මෙහි සඳහන් වන ශීතා පරමේශ්වරී, රාම බිරිඳ වන සීතා ය. ඇය ඌව පළාතේ රඳවා සිටි බැවින් ඇය ද ජන ජීවිතයට එක් වී ඇති බව එම ඇදහිල්ල අද දක්වා එහි පැවැතීමෙන් පැහැදිලි වේ. සීතාව ද පතිවත රැකි කතකි.

මහලොකුවෝ දේවි යනුවෙන් හඳුන්වන්නේ සමන් දෙවිඳු ගේ වැඩිමහල් අක්කා ය. මහලොකු අක්කා යනුවෙන් ඇති විස්තරය ද බලන්න. රත්නපුරේ සමන් දේවාලයේ ඇයට ද පුදනු ලැබේ.

ඉතිරි දෙදෙනා කිරි අම්මාවරු වෙති. පත්තිනිය වෙනුවෙන් පුද පූජා ලබන කිරි අම්මාවරු සත් දෙනෙකි. ඔවුන් ගේ නම් කීප ආකාරයකට දක්වා ඇත. මේ අතර වැදි ජනයා විසින් අදහන කිරි අම්මලා ද වෙති.

වත්තියෙ බණ්ඩාර කිරි අම්මා, උනාපානේ කිරි අම්මා, කුකුළාපොල කිරි අම්මා යනු ප්‍රකට කිරි අම්මා වරු වෙති.

කිරි අම්මා වරුන් යටතේ ද බලන්න.

## 40



# ඌවේ බණ්ඩාර දෙවිවරු පස්දනා

ඌවේ වංශ කථාවේ, එම පළාතේ වාසය කළ බණ්ඩාර දෙවියන් පස් දෙනකු ගේ නම් සඳහන් වේ. එහෙත් ඔවුන් පිළිබඳව වැඩි විස්තරයක් එහි සඳහන් නොවේ. එහෙත් ඒ පස්දෙනා දෙවන රාජසිංහ රජු ගේ පුතුන් ලෙස සිතා ඇති බවත් හැඟී යයි. බණ්ඩාර දේව ඇදහීම මළවුන් ඇදහීමක් සේ ද සැලකේ. එය වැදි ජනතාව අතර පවත්නා චාරිත්‍රයෙකි, එකී බණ්ඩාර දෙවි පස් දෙනා ගේ නම් මෙසේ ය:- ඉහළ වලව්වේ අලුත් දෙවියෝ, පහළ වලව්වේ දෙවියෝ, දිසාබණ්ඩාර දෙවියෝ, පටබැඳි අලුත් දෙවියෝ, කඩවත දෙවියෝ (2 කා : 361 පි.)

ඌවේ දෙවි පස් කට්ටුව යටතේ සඳහන් වන්නේ බණ්ඩාර දෙවිවරු පස්දෙනෙකි. (එය ද බලන්න).

## 41



# ඌවේ බණ්ඩාර හත්කට්ටුව

පහත නම් සඳහන් දෙවියන් ඌවේ බණ්ඩාර දෙවි හත් කට්ටුව බව ඌව වංශ කථාවේ සඳහන් වේ. මේ අය පිළිබඳව වෙන් වශයෙන් විස්තර ද සඳහන් වේ. ඔවුන්ගේ නම් යටතේ බලන්න.

ඉරුගල් බණ්ඩාර, කන්දේ හෙවත් වැදි කුමාර හෙවත් කළුවැදි බණ්ඩාර, අකරගම බණ්ඩාර, කීර්ති බණ්ඩාර, පිච්චමල් බණ්ඩාර, මැණික් බණ්ඩාර. (2 කා : 40 පි.)

ඇතමකු ගේ මතය අනුව "ඌවේ බණ්ඩාර" නමින් දැඩිමුණ්ඩයන් ද ප්‍රකටව සිටි බව පෙනේ. ඔවුන් වෙනුවෙන් ඉදි වූ දේවාල මාදෝවිට, විදුරුපොල, කොටවෙර, කිරිවානාගම, බලගල යන තැන්වල ඇති බව සඳහන් වේ. (125 : 136 පි.)

## 42

# එර්දි බණ්ඩාර දෙවියෝ

මේ දෙවියා වෙස්සභූ බුදු රජුන් ගේ කාලයේ බමුණු කුලයක ඉපදී සිටියේ ය. එවකට තරුණයකු ව සිටි හේ සෘද්ධියෙන් වඩිනා රහතුන් දැක තමාටත් එවැනි බලයක් ලබා ගත හැකි නම් මැනැවැයි සිතී ය. ඒ නිසා බණ අසා මතු ජාතියක දී එවැනි බලයක් තමාට ලැබේවා යි පැතී ය. ඒ අනුව ගෞතම බුදුන් ගේ කාලයේ දී එර්දි බණ්ඩාර නමින් උපන්නේ ය. මෙයට වැඩි යමක් මේ දෙවිය ගැන දක්නට නො ලැබිණි.

"එර්දි බණ්ඩාර දෙවියන් ගේ විත්තිය" කවිවලින් කීපයක්:-



සවන් මෙ අප සසුනෙහි සව්වො කී වි ට
තමන් ඒ බල ගන්නට ගොස් ඇසූ වි ට
සවන් බණ අසා පැහැදී ගොස් එවි ට
මමත් පතමි මතු එර්දි ලබන්න ට

ඒ තැනින් මෙම කප සැදී ආ කැ තේ
පතමින් ඔබ සිවු බුදුවරු දකි තේ
සිතමින් එර්දිය මුනි වෙත ගොයි තේ
සතොසින් වැඳ විවරණ ඇර ගත් තේ

බමුණු කුලේ ඉපදී දුටු විල සේ
සැදුණු පලින් පල දැක මුනි දෙ ඇ සේ
තිබුණු පිනින් විවරණ ගෙන සැප සේ
ලැබිණි එර්දි ගවුතම මුනි දව පේ

තදයි සිතේ එර්දිය ලැබුණ වූ වර
මදයි කිපුණ ලෙස ගොස් හිම වට ක ර
සදයි එදිව මල් වෙහෙර පිදූ ව ර
එදයි තමන් සැදුණෙ එර්දි බණ් ඩර

තර් ජනයෙන් අසූ රෝදය එන් නේ
වර්දන කර ආපසු හරවන් නේ
මර්දන කර පිසසුන් දුර ලන් නේ
එර්දිය බණ්ඩර දෙවියො වඩින් නේ

(90 : 52 පි.)

## 43



# කටුගහ බණ්ඩාර දෙවියෝ

බණ්ඩාරවෙල ඇටම්පිටිය පාරේ පිහිටි මේ ගමේ කටුගහ බණ්ඩාර නමින් පුරාණයේ සිටි ජනප්‍රධානියකු දෙවි බවට පත් වී ඇත. ඔහු ගේ දේවාලය කටුගහ අලුත් දේවාලය යනුවෙන් නම් ව ඇත. (125 : 124 පි.)

ඌවේ ගම්බාර දෙවි කෙනෙකු ලෙස මොහු සැලකිලි ලබයි (125 : 11 පි.)



# 44

# කඩවර දෙවියෝ (කොහොඹා කංකාරියේ)

"කඩවර", "කඩවර යක්", "කඩවර දෙවි" යන නම්වලින් හැඳින්වෙන මෙ තෙම කොහොඹා කන්කාරියේ "කන්කාරි යාදින්නේ" දී නව වන තැනට ආරාධනා ලබන්නේ ය. (49: 76 පි.). එහි ම එන "කඩවර යාදින්නේ" කඩවරයෝ පස් දෙනෙක් සඳහන් වෙති. ගිනි කඩවර, මල් කඩවර, දළ කඩවර, අලුයම කඩවර, පෙරයම කඩවර යනුවෙනි. (එම 37 පි.). මීට අමතරව ඇතැම් තැනෙක මද්දිම කඩවර කෙනකු ගැන ද සඳහන් වේ.

කඩවර ලක්දිවට පැමිණියේ කොහොඹා කන්කාරිය සඳහා තුන් බෑ රජුන් ලක්දිවට එද්දී ඔවුන් ගේ අතවැසි ලෙස බව කොහොඹා කන්කාරියේ සඳහන් වේ. ප්‍රධාන පිරිස සන්තානෙට ඇවිත් බැලූ විට කඩවර මඟ නැවතුණු බව පෙනී උදහස්ව මෙ රට නැවතී ඉරුගල් බණ්ඩාර සමඟ එක්ව තේවය කරන ලෙසට අණ කරන ලදී. (එම 37 පි.).

කඩවර උපත දැක්වී ඇත්තේ මෙලෙසට ය:

මීන රාශි රේවත නැකති ත්තෝ<br>
මන්ත්‍රි සහෝදර යාමෙ උප ත්තෝ<br>
යන්ත්‍ර මන්ත්‍ර මඳකුත් නාස ත්තෝ<br>
කළුගල් යකුහට ජාතක ව ත්තෝ<br>
(කඩවර කවි, 36 පි.).

එහි ම අන් තැනක මෙසේ ද කිය වේ:-

ආඩි වඩක්කර රටේ උපන්නේ<br>
බහුපති දේවි ගෙ ගැබේ උපන්නේ<br>
දේව අංග රජහට දූ වන්නේ<br>
මෙ වැනි ලකුණු කඩවර දෙ වියන්නේ<br>
(එම 38 පි.)



හියු නෙවිල් කාව්‍ය සමුච්චයේ ඇති "කඩවර උපත" නම් කවි පෙළට අනුව මෙ තෙම මලයභල දේසයේ මහ රජුට අගපත් හෙවත් අග්‍රාමාත්‍ය විය. ඔහු මල රජු සමඟ සන්තාන පටුනට පැමිණ කෙළි පුද ගන්නා බව මෙහි කියැවේ. කඩවර මෙහි දී පෙනී සිටින්නේ මොණර වේශයෙනි. (161, 3: 10 පි.).

කඩවරයා දකුණු ඉන්දියාවේ සිට මෙහි පැමිණියවුන් ගේ බර උසුලන්නකු බවත් කොටගම වාචිස්සර හිමියෝ පවසති. (116: 105 පි.). පසු ව ඔහු දේවත්වයට පත්ව ඇත. මෙයට අමතරව මලයාලය ජන්ම භූමිය කර ගත් කඩවරයෝ දහස් ගණනක් වෙති. (කො. කෞ. 3151) ඉහත කී කඩවරයන් ගෙන් සමහරු දෙවියෝ වෙති. ඇතමෙක් යක්කු වෙති. මල රජු ගේ අවසරය මත ලකට පැමිණි කඩවරයන් ගෙන් කීප දෙනකු සන්තානා පටුනෙන් ලකට ගොඩ බැස මෙහි පදිංචි වූ බව කියා තිබේ. ඔවුන් ගෙන් දහ අට දෙනකු ගේ නම් මෙසේ ය:- ලේ කඩවර, මල් කඩවර, සමයන් කඩවර, කුමාර කඩවර, ගොලු කඩවර, තොට කඩවර, දළ කඩවර, රති කඩවර, ගිනි කඩවර, සපුමල් කඩවර, ආඩි කඩවර, බිහිරි කඩවර, දෙවොල් කඩවර, භූත කඩවර, අභූත කඩවර, මුල් කඩවර, සෙල්ලම් කඩවර, කලුගල් කඩවර (එම). මීට අමතරව තවත් මූලාශ්‍රවල "සිරිමේ, තෙල්, ගොපලු, පුළුටු, අඳ, මඳ" යන කඩවරයන් ගැන සඳහන් වේ (161, 3: 108 පි.). මෙයින් මුල් කඩවරයා විෂ්ණු භවනෙහි වසන බව ද පැවසේ. තෙද කඩවර හෙවත් ගිනි කඩවර සිරිලකට එවන ලද්දේ මල රජු විසිනි. මොහු දීපංකර බුදු රදුන් ගෙන් තෙද වරම් ලබා ගෙන ඇතැයි ද පැවැසේ. (116: 106 පි.). කඩවරයන් ගෙන් ඉතා බලවතා දළ කඩවරයා බව ද පැවැසේ. පහත දළ කඩවර යටතේ ද බලන්න. තවත් "තොට කඩවර", "රත්න කඩවර" හා "අභූත දෙවි" යටතේ ද බලන්න.

### දෙතිස් කඩවර:-

කොහොඹා යක්කමේ දී දෙවිවරුන් 90 ගේ නම් සඳහන් වේ. ඒ පිරිසට කඩවරයෝ දෙ තිසක් ද ඇතුළත් වෙති. ඒ නම් මෙසේ ය:-

1. වැලිහෙල කන්දේ බාර වූ අලුත් කොහොඹා දෙවි
2. පරණ කොහොඹා දෙවි
3. මහ කොහොඹා දෙවි

4,5,6. වලියක් තුන්කට්ටුව

7. ඉරුගල් බණ්ඩාර
8. කන්දේ බණ්ඩාර

9,10,11. වීරමුණ්ඩ තුන්කට්ටුව (අලෙල, මලෙල, රාම නිර්ණ)

12. කළු බණ්ඩාර
13. වැදියක් කඩවර
14-49 දක්වා පුදන වැදි යක් 36 දෙනා (මේ පිරිස කුවේණියගේ පරපුරේ වැද්දෝ වෙති. කණ්ඩායම් වශයෙන් 36 කි.)
50-56 දුම්බර පිටියට අයත් මෙලෙයි සත් දෙනා
57. මහගුරු
58. කුඩාගුරු
59-80 කඩවර 31 කි. වැදියක් කඩවර සමඟ 32 කි.
(125: 688 පි.).

**කඩවර පත්තිස් කට්ටුව:-**

කඩවර පන්තිස් කට්ටුව යනුවෙන් කීවද එසේ තිස්පස් දෙනකු ගේ නම් කිසි තැනක දක්නට නැත. (ඇත්තේ 33 දෙනකු ගේ නම් පමණි). ඉහත සඳහන් 18 දෙනාට අමතරව සෙනෙවිරත් කඩවර, තනි කඩවර, සත් කඩවර, අඳුන් කඩවර, පුළුටු කඩවර, රත්න කඩවර, කම්බිලි කඩවර, අලියම් කඩවර, පෙරයම් කඩවර, මද්දිම කඩවර, පිල්ලි කඩවර, ආදීහු ද මූලාශ්‍රවල සඳහන් වෙති. කොහොඹා කන්කාරියේ ඇතැම් විටෙක "කඩවරයන් දොළහක්" ගැන සඳහන් වන බව පෙනේ. (71: 214 පි.).

"කඩවර යාදින්නේ" සඳහන් පරිදි:

"අහනෝ මේ රට පටන් ගත්තු ලෙඩ වන්නට. තද කුසතුළ කකියන්නේ. ගෙඩියක් සේ පෙරළෙන්නේ. සන්දි රුජා තොර වෙන්නේ. වදන රුදා නැති කරවති. ගැබයේ දී දරු මරති. වෙද ගුරු වෙදකන් නාසති. අපට මෙලෙස බැරිය කියති" (49: 37 පි.). අහතුන්ට වන මේ ලෙඩට පිළියම කඩවරයන්ට කෙළි පුද දීමයි. එය කරන අයුරු දෙවියන් පේනෙත් කියා ඇත්තේ මෙ ලෙසටයි. "කිරි ඇති රුක බලමින්නේ - තනා මඩුවක් නොලසා, ගොම පිරිබඩ ගා සකසා, රුසිරැති මෙහෙකරුවෙක් ගෙන, දත මැද ඉස් සෝදා ගෙන, නො ඉඳුල් පිරිවට අඳිමින, ඇල් වී ලාසක් ගෙන, කොටා සහල් සතක් රැගෙන, මිහිරි පැනින් බත් පිස ගෙන, අල පස් වගයක් සමඟින, බොඩ පස් වගයක් සමඟින, සැවැන්දරත්, ඉරිවේරිත්, දුම්මල තෙල් සඳුන් රැගෙන, හපුමල් පන්මල් සමඟින, පිච්චමල් ද රන්මල් ගෙන, මෙසේ ම පස් වගයක් ගෙන, තොට පොල් දැන සරසන විට, සත් රියනක් උස මැස්සට, පුහුල් හතර හතර කොනට, කන්වැල් සතරක් මෙලෙසට, බැඳලා එහි සතර කොණට, පිදේනි දොළසක් මැස්සට, පිදේනියක් දියේ නැවට, පිදේනියක් දී උගුලට, පිදේනියක් දක්වා දොළ දී ..................." (එම: 37-38 පි.).



කඩවර දෙවියන්, ප්‍රධාන දෙවිවරුන්ගේ අන්තේවාසිකයකු ලෙස සලකන ලද නමුත් ඔහුට සංග්‍රහ කිරීම අනිවාර්යයෙන් කළයුතු බව පිළිගැනේ:

මහ මුහුදේ රළ නවතා වෙරළ දිගට වැඩම වත් ඩ
අලුයම සත් පැයක් තියා කඩවර දෙවි වැඩම වත් ඩ
රත් කෙඳි ගෙතුවා විලසට හැඩ පලු පිට මැද කෙළින් ඩ
කන්දසාමිටවත් බැරි ගොටුව නොදී වළක්වත් ඩ
(29 : 149 පි.)



## 45

# කඩවර දෙවියෝ (වැවගම් වාසීන්ගේ)

ඉහතින් සඳහන් වූයේ කොහොඹ කංකාරිය අනුව හඳුනා ගත හැකි කඩවර දෙවි/යක් පිරිස් ගැනයි. මීට අමතරව තවත් කඩවර දෙවි කෙනෙක් වැවිගම් වාසීන් අතර ප්‍රකටව සිටිති. හැට හත්කට්ටුවක් බණ්ඩාරවරුන් ගේ පමණක් නොව අවශේෂ කඩවර සේනාවක නායකයා වන කඩවර දෙවියන් ඔවුන් සලකන්නේ තමන් ගේ ප්‍රධාන ආරක්ෂක දෙවියන් ලෙස ය.

පම්මුල්ලා රතු තොප්පිය සිරස දරා ලා ඔප කොට
රැලි අල්ලා ජේස රත්න නීලවර්ණ සළුව ඉණට
රත් තිල්ලා බීත රාම සැට්ටේ පොරවා දෙඋරට
බිසිබිල්ලා වැදපල්ලා සෙනෙවිරත්න කඩවර හට
(29: 39 පි.).

මේ අන්දමේ භක්ති ප්‍රණාම ගැබ් වූ කවි "කුමාර කඩවර" හා "මල් කඩවර" යන නමින් ද ඇත. එහෙත් වැඩිපුර කවි වල සඳහන් වන්නේ "සෙනෙවිරත්න කඩවර" යි. (එම: 39-44). මේ දෙවියන් නඩුහබ දිනවීමට සමත් වන බව ද, ලෙඩ රෝග සුව කරන බව ද සලකනු ලබන අතර ඔවුනට කෙරෙන පූජාව කිරි ඉතිරීමයි. (එම: 36 පි.)

මෙම දෙවියන් ගේ උපත දැක්වෙන්නේ පුරාණයේ කලාවැව ආරක්ෂා කරමින් සිටි "කලා සිටාණන්" වැව් බැම්ම ආරක්ෂා කිරීමට කළ වෑයමක් ව්‍යර්ථ වීමෙන් කලාවැවට පැන මිය ගිය අවස්ථාවේ උපන්නකු ලෙසටයි.

අයියො මගෙ වැව බිඳුණට දෙයියො වත් නැද්ද    මෙරට
හයියෙන් හඩ තළා එවිට පැන නැසුණයි එනඩ    වලට
කඩවල පැන ලා නැසුණම කඩවර නම යෙදුණි    ඔබට
තෙද ඇති දෙවියෙක් මෙලොවට ඇත්තේ දැන් මුළු දෙරණට
(එම: 49 පි.)

එම දෙවියන් ගේ පිරිවර සේනාවට අයත් විශාල යක්ෂ පිරිස විවිධ කඩවර නම්වලින් හැඳින් වෙන බව ද, වැව්ගම්වල විශ්වාස කෙරේ. තමන්ට ලෙඩ දුක් ඇති කරවන මොවුන්ට දොළ වශයෙන් පුළුටු ගොටුවක් තුංමං සලක ඇවරි කණුවක පුදනු ලැබේ. (එම: 36 පි.)



## 46
# කඩුගත් බණ්ඩාර දෙවියෝ

මේ නම් දඹදෙණියට නුදුරු කටුගම්පළ ප්‍රදේශයේ ගෞරවයට පාත්‍රවන ප්‍රාදේශීය දෙවියෙකි. මොහු ගේ උපත සිව් වන බුවනෙකබාහු (ව්‍ය. ව. 1341-51) කාලය හා සම්බන්ධය.

ඒ අවධියේ සීතාවක පුරයෙන් ආ උඩුවේරිය නම් වංශාධිපතියෙක් කටුගම්පළ ගමෙහි පදිංචි විය. ඔහු ගේ කුලීනත්වයත්, කාය ශක්තියත් ගැන පැහැදුණු රජතුමා තම නැගණිය ඔහුට විවාහ කර දුන්නේ ය. පිරිවර බලයෙන් ද ක්‍රමයෙන් ශක්තිමත් වූ කටුගම්පළ රාළ රජුට අභියෝග කරන තත්ත්වයකට පත් විය. ප්‍රදේශ වාසීන් රජු වෙත ගෙන යන පුද පඩුරු ඔවුන් ගෙන් උදුරා ගැන්මට හෙතෙම සිය පිරිස යෙද වී ය. මේ පුවත සැළ වූ විට රජු කටුගම්පළ රාළ විනාශ කිරීමට ඇමතිවරුන් මෙහෙයුව ද ඒ කිසිවෙක් එය කිරීමට ඉදිරිපත් නොවූහ. පසු ව වැද්දන් ගෙන්වා මෙකී භාරකාරත්වය ඔවුනට පැවරුව ද ඔවුහු ද කටුගම්පළ රාළ අබියසට යෑමට බිය වූ හ. මින් පසු අණබෙර ලැවූ රජ කටුගම්පළ රාළ විනාශ කරන්නකුට ඇතකු බරට වස්තුව දෙන බව ප්‍රකාශ කළේ ය. එවිට මාබෝපිටියේ හිටිහාමි නමැත්තෙක් එයට ඉදිරිපත් වී දුන්නක් හා විෂ පෙවූ ඊතලයක් ලදොත් තමා එය ඉටු කරන බව පැවසී ය. එය ඔහුට ලැබිණි. හිටිහාමි මහ අසළ සැඟ වී සිට ඇතු පිටින් යමින් සිටි කටුගම්පළ රාළ විද මරා දැමී ය.



කටුගම්පළ රාළ දින සතකින් යක්ෂයකුව ඉපිද මහමහුල් කෝරළය හෙවත් වන්නි ප්‍රදේශයට ගොස් එහි දී සිවුවරම් දෙවිවරුන් හමු විය. දෙවිවරු ඔහු ගේ සුරතට රන් කඩුවක් දී පිරිවර සත්සියයක් සමඟ කටුගම්පළට ගොස් මිනිසුන්ට පිහිට වන ලෙස වරම් දුන්හ. මෙයින් පසු කටුගම්පළට පැමිණි ඔහු මල්අත්තා නම් පුද්ගලයකු හමුව තමාට විමානයක් කරන දෙන ලෙස අණ කළෙන් එය ඉටු කරන ලදී.

එතැන් පටන් කඩුගත් බණ්ඩාර දෙවි යනුවෙන් හැඳින්වුණු ඔහු කැලෑගෙදර, කවුඩුමුන්න, බටපොත ඇළ, කන්තිමුල්ල, වැත්තෑව, ඇටබේ, මතව, මහන්ගල්ල, උඩපොළ, මොහොත්තාව, මහනාගොඩ, යටත්තාවල, කටුගම්පොළ යන ගම්වල සිය අණසක පතුරන්නට විය. මල් අත්තා පටන් ඔහු ගේ පරපුරේ උදවිය කඩුගත් බණ්ඩාර දෙවියන් ගේ තේවාවේ යෙදී සිටිති. අද දක්වා දෙවියන් වෙනුවෙන් ගම් මඩුවක් වාර්ෂිකව පැවැත් වේ. (2)



## 47
# කතරගම දෙවියෝ

අද දින ලාංකික දෙවිවරුන් අතර ප්‍රධාන වශයෙන් පුද පූජා ලබන්නාහු කතරගම දෙවියෝ වෙති. ස්කන්ධ කුමාර, කාර්තිකේය ආදි නමින් සිංහලයන් ද, මුරුගන්, වේලුපිල්ලේ, කන්දසාමි ආදි නමින් දෙමළ ජනයා ද හඳුන්වනුවෝ මේ දෙවියෝම වෙති. ශරවනභව, සුබ්‍රමණ්‍ය, සනත් කුමාර ආදි සංස්කෘත නාම ද ඇතුළුව මොහුට නම් 37 ක් ඇති බව පෙනේ. මේ දෙවියන්ට මුහුණු සයක් ද, අත් දොළොසක් ද ඇතැයි සැලකේ. ඔවුන් ගේ වාහනය මයුරයෙකි. ප්‍රධාන දේවාලය කතරගම පිහිටා ඇති අතර ලක්දිව පුරා අන්‍ය කිසි ම දෙවියකුට වඩා වැඩි දේවාල ගණනක් මේ දෙවියන් ගේ නමින් ඉදි වී ඇත.

මෙම දෙවියන් ගේ උපත ගැන භාරතීය දේවකථාවන්හි ප්‍රධාන මත හතරක් ඇත. (19: 216-30 පි.) මීට අමතරව මෙම දෙවියන් බුද්ධ වර්ෂාරම්භයට පෙර කතරගම නුවර විසූ මහාසේන රජතුමා යැයි කියා ද (56 : 105 පි.) ඉන්දියාවේ සිට මෙහි පැමිණ පදිංචි වූ යුද්ධ දක්ෂයකු මරණින් පසු දේවත්වයට පත් වීමකැයි කියා ද (90 : 23 පි.) මත ඇත්තේ ය.

මෙම දෙවියන් සම්බන්ධ වන ප්‍රකට සිද්ධි කීපයක් ලංකා ඉතිහාසයේ ඇති බව ජනප්‍රවාදයේ පවතී.

1. දුටුගැමුණු රජතුමා එළාර හා යුදට යන විට කතරගම දෙවියන්ට භාරයක් වී යැම යුද්ධය දිනා කතරගම දේවාලය තැනවීම. මහාවංශයේ නැති මේ පුවත ජනප්‍රවාදයේ පවතින්නකි. (56:113 පි.)
2. දෙවන කාශ්‍යප රජු ගේ පුත් මානවම්ම කුමරා කඳකුමාර වරම ලැබීම පිණිස ගෝකර්ණ මුහුදු වෙරළේ සිට මන්ත්‍ර ජප කළ බවත්, මැදියම් රැයේ මයුර වාහනාරූඪව කඳ කුමරුන් පෙනී සිටි කල්හි මොණරාට එළ වූ බිලියක් නොමැත්තෙන් මතු වන ලාභ සලකා සිය ඇස උගුළා ගොදුරු පිණිස පිදූ බවත්, අනතුරුව මානවම්මයන්ට සතුරන් දිනා රාජ්‍යය ලැබීමට (ව්‍ය. ව. 684-718) කඳකුමරුන් පිහිට වූ බවත් මහාවංශයේ සඳහන් වේ. (99 අ : 60 පි.)
3. උග්ගල් අලුත් නුවර කතරගම් දේවාලය කරවන ලද්දේ යාපා මහරජුන් හා 1 වන රාජසිංහයන් යුද වැදුණු වේලේ යාපා මහරජු සතුරා ජය ගැනීමට කළ බාරය අනුව ලැබූ ජයග්‍රහණය සිහිපත් කරමින් බව අලුත් නුවර ලේකම් පිටියේ සඳහන් වේ. (56 : 121 පි.)

කතරගම නම් ස්ථානය ලංකා ඉතිහාසයේ මුල් යුගයේ සිට වැදගත් කමක් දරන තැනකි. ධාතුවංශයේ සඳහන් පුවතක් අනුව බුදු රදුන් ගේ තුන්වන ලංකා ගමනේ දී "කතරගම දාගැබ් වහන්සේ පිහිටුවන්නා වූ ස්ථානයෙහි පන්සියයක් රහතුන් හා සමාපත්තියට සම වැදී එ තැන්හිදු පොළොව වෙවුලුවා ඒ ස්ථානයෙහි මතු රකවල් පිණිස මහාඝෝෂ නම් දෙව් රජකු රඳවා වැඩි බව" සඳහන් ය. (51 : 284 පි.)

ලක්දිවට මහබෝ වැඩමවන අවස්ථාවෙහි එතැන රැස්වූ පිරිස අතර කාජරගාමයෙහි ක්ෂත්‍රියන් ද වූ බව මහාවංශය පවසයි (19 වන පරි. 53-4 ගාථා). මහාබෝධියේ ප්‍රථම අෂ්ටඵල බෝධියක් ද මේ ස්ථානයේ සිටුවන ලද බවත් එහි සඳහන් ය (19 වන පරි. 62 ගාථාව). මේ ක්ෂත්‍රිය පරපුර අනුරාධපුර රාජ පරම්පරාව හා අසම්බන්ධ ස්වාධීන ක්ෂත්‍රිය පරපුරක් බව මහාචාර්ය පරණවිතාන ඇතුළු ඉතිහාසඥයන් විසින් පිළිගැනේ. (159 : 852 පි.)

ස්කන්ද දෙවියන් ලක්දිව සතරවරම් දෙවිවරුන් ගෙන් කෙනකු ලෙස පළමු වරට සඳහන් වන්නේ 14 වන සියවසට අයත් නිකායසංග්‍රහයෙහි ය. "සිරිලක අරක් ගත් කිහිරැලි උපුල්වන්, සමන් බොක්සැල්, විභීෂණ, ස්කන්ද කුමාර යන සතරවරම් මහරජුනට" (80 : 26 පි.) යනුවෙනි. සැළලිහිණි සන්දේශයේ 26 වන කවෙහි "මහසෙන් දෙව්රද පායක්



කෝට්ටේ තිබුණු බව ප්‍රකාශ වේ. කෙසේ වුවද මේ කාලයේ දී එනම් 16 වන සියවසේ දී පමණ සිට කතරගම ග්‍රාමය දෙවියන් ගේ ප්‍රධාන දේවාලය පිහිටි තැන බව පිළිගෙන තිබුණු බව පැහැදිලි ය. (171, 2: 764 පි.). මේ අවධියෙහි දී රට වැසියන් කතරගම දෙවියන් කෙරේ පැවැති අසාමාන්‍ය භයපක්ෂභාවය විදේශිකයන් ගේ විමතියට හේතු විය. සිය රජුට එරෙහිව ඔත්තු දීමට ඇතැමුන් සූදානම් ව සිටියත් කතරගම දේවාලය කොල්ල කෑමේ අරමුණින් එයට මඟ පෙන්වන ලෙස විදේශිකයන් කොතෙකුත් බල කළත් කිසිවකු ඊට කැමැති වූයේ නැත. ඇතැම්හු ඒ නිසා මරණයට පවා පත් කරන ලදහ. (177 : 81-82 පිටු)

ලක්දිව සිංහල, දෙමළ මෙන් ම වැදි ජනයා අතර ද කතරගම දෙවියන් සම්බන්ධ පුරාණ කථා ඇත. කතරගම දේවාලය දකුණු ඉන්දියාවේ ද ප්‍රසිද්ධය. පැරණි ද්‍රවිඩ සාහිත්‍යගත තොරතුරුවලින් පෙනෙන ආකාරයට කන්ද ආශ්‍රිතව ද්‍රවිඩ ජනයා විසින් අදහනු ලැබූ දෙවි කෙනකු පසු කලෙක ස්කන්ද කුමාර නමින් හින්දු දේව කථා ආශ්‍රිත විශ්වාස හා සමඟ බද්ධ වීම සිදු වී ඇතැයි ඇතැම් උගත්තු සිතති. (152:174 පි.)

වැදි ජනයා අතර පවතින කන්දෙ දේව විශ්වාසය තුළ කතරගම පවතින දේවාලයේ ආරම්භය දැක්ක හැකිය යනු සෙලිග්මාන් පඩිවරුන් ගේ අදහසයි (178 : 167-68 පි.). කතරගම දෙවියන් හා වල්ලි අම්මා අතර විවාහය වනාහි දඩයම් කරුවන් හා කෘෂිකාර්මික ජනයා අතර සමාජ සංස්කෘතික සම්මිශ්‍රණය සංකේතවත් කරන සිද්ධියක් බව ගොම්බ්‍රිච් සහ ඔබේසේකර පවසති. (152 : 175 පි.) කතරගම දෙවියන් ගේ දේව පූජාවට දඩමස් ද ඇතුළත් වන බැවින් එයින් ද මේ දෙවියා ගේ මූලික ස්වභාවය හෙවත් ප්‍රභවය පැහැදිලි වන්නේ ය යනු ඔවුන් ගේ අදහසයි. (එම). ඒ කෙසේ වුව ද අද දින කතරගම දෙවියන් ගෞරවාදරයට පවත්නේ බෝධිසත්ව ගුණෝපේත දෙවියකු වශයෙනි.



## 48
## කන්ද කුමාර දේවිය

හියු නෙවිල් කවි සමුච්චයේ ඇති "කිරි අම්මා කවි" පන්තිය ඇය හඳුන්වා ඇත්තේ "කන්ද කුමාර දේවී" යන නමිනි (161, 1 : 324 පි.)



7. ර.මු.නි.ස. - 93939

මේ සඳහන කඳ කුමරුන් ගේ මව ගැන විය හැකි යැයි හියු නෙවිල් ගේ අදහසය (එම). එහෙත් මේ නමින් හැඳින් වෙන්නී වල්ලි අම්මා විය හැකි යයි ද අනුමාන කළ හැකිය. "කිරි අම්මා" යනුවෙන් සිය පරපුරේ ආදිතමයන් වන්දනා කිරීම වැදි ජනයා ගේ චාරිත්‍රයක් වන බැවින් සිය පරපුරේ උත්කෘෂ්ට ආදී කාන්තාවක වන වල්ලිය ඇගේ සැමියා ගේ නම අනුව මෙසේ සඳහන් කළා විය හැකිය. මේ කවි පෙළේ ඇය මාලක්කන්ද දේසේ උපන් බවත් කන්දෙ දොළපාර අසබඩ කුරුණෑ රුකක් යට මල් යහනේ ඇ සැතපෙන බවත් දළුමුර පුද ලබන බවත් පැවසේ. තවත් ප්‍රශස්තිවල දී ලංකාගල මුදුනේ හිරු මෙන් ද, රන් දද ගල මුදුනේ හෝ බිබිලෙ තොටේ හෝ පෙනී සිටින "ඇලේ කිරි අම්මා" යනුවෙන් ද, කඩුවක් සුරසින් දරා වෙල්ලස්ස පාලනය කරන "මහ කිරි අම්මා" ලෙසින් ද, පනාන්පිට සිට ඇඳගල දේවාලයට වඩින "පනාන් කිරි අම්මා" ලෙසින් ද ඇය හඳුන්වා ඇත.

කලා පහෙන් එනව ද ලොකු වා
කලා පහෙන් එනව ද කිරි අම්මා

නැනිතලා ප්‍රදේශවල සිට ඇ පැමිණෙන්නේදැයි ඇසූ අයුරක් මෙහි පෙනේ. "ලොකුවා" යනුවෙන් ද ඇ හැඳින් වී ඇති බව තවත් කවක එන "එන්නේ ඔලගල මා ලොකුවෝ" යන්නෙන් පෙනේ.

| | |
|---|---|
| වෙල්ලස්සේ රජකම දුන්නා | වාගේ |
| බින් තැන්නට රන් කොත් තිබ්බා | වාගේ |
| කුකුළා පොළට තලමල පිපුනා | වාගේ |
| නටවා වරෙන් විදුලිය කෙටුවා | වාගේ |

(එම; 325 පි.)

හියු නෙවිල් කවි සමුච්චයේ ඇති "දේවතා කවි" නම් කවි පෙළේ ද කන්දකුමාර කිරි අම්මා වර්ණනා වන්නීය. හඳුන් කුමාර කිරි අම්මා නමින් ද හැඳින්වෙන්නී, පොළොං විස නැති කරන්නීය ලෙස ද සඳහන් වන්නීය. (161,1: 331 පි.)



## 49
## කන්දේ දෙවියෝ

කොහොඹා, වීරමුණ්ඩ, ඉරුගල් බණ්ඩාර යන දෙවිවරුන් සමග කොහොඹාකංකාරියේ දී පුද ලබන මේ දෙවියා, මැද දුම්බර වේවරුවේ



හා ඒ අවට පෙදෙසේ අධිපතියා ලෙස සැලකේ. යක්ෂයන් මවා පෙන්නා අන් අය බියට පත් කළ අයකු ලෙස ද සලකනු ලැබේ (137 : 537 පි.)

මාතලේ දඹුල්ල, ලග්ගල යන පළාත්වල අඩුක්කු පිදීමේ දී ප්‍රධාන දෙවිවරුන් පස් දෙනකු ගැන සඳහන් වේ. ඒ පස් දෙනා අතර කන්දේ දෙවි නමින් හඳුන්වන දෙවි කෙනෙක් ද වෙති. (13 : 85 පි.)

මංගර දෙවියන් ද කන්දෙ දේවාලයේ දෙවි යනුවෙන් හඳුන්වා ඇති බව පෙනේ. මංගර දෙවි යටතේ එන විස්තරය ද බලන්න. උඩුනුවර කුරදෙණියේ ද කන්දේ දේවාලය යන නමින් හැඳින් වෙන දේවාලයකි. එහි වසන දෙවි කන්දේ බණ්ඩාර වේ. එබැවින් එම දෙවියා "කන්දෙ බණ්ඩාර දෙවි" යටතේ විස්තර වේ. කන්දෙ දෙවියන් "කන්දේ අලුත් දෙවි" යනුවෙන් ද හැඳින් වේ.

| | |
|---|---|
| අහසට නායක ඉර හඳ | දෙවියෝ |
| පොළොවට නායක මිහිකත | දෙවියෝ |
| ජලයට නායක ගංගා | දෙවියෝ |
| මෙ ලොවට නායක කන්දේ | දෙවියෝ |
| රන් දවයේ රජ පාලිය | වලියා |
| බැන්ද විරුද ජය කොඩි අග | කෙළියා |
| මන් ද වැටුණි තනි කලලට | දිවියා |
| කන් දෙ අලුත් දෙවියන් දැන | ගතියා |

(13 : 86 පි.)

මේ දෙවියන් අඩුක්කුව සඳහා ආරාධනය කිරීමේ දී එය ආරම්භ වන්නේ මෙසේ ය :- "කතරගං කන්දට හුන්නස්ගිරියේ කන්දට, දියතලා කන්දට, කොබෝනීල කන්දට දිවස් ලාපු කතරගම කන්දේ අලුත් දෙවියෝ ........" (එම). කතරගම් කන්දට මෙම දෙවියන් සම්බන්ධව සිටීම ඉතා වැදගත් ය. මීට අදාළ අදහසක් ඉහත කතරගම දෙවියන් යටතේ ද දැක් වී ඇත.



## 50
## කන්දේ බණ්ඩාර දෙවියෝ

කන්දෙ බණ්ඩාර දෙවියා කතරගම දෙවිඳු ගෙන් වරම් ලැබ උඩුනුවරට පැමිණ එහි විසීය. ඔහුගේ ආයුධය වන ඊතලය උඩුනුවර කුරදෙණියේ

දේවාලයේ දක්නට ලැබේ. දුනු දෙවියාට ද රීතලයක් ඇති බව සඳහන් වේ. (දුනු දෙවි යටතේ ද බලන්න.) කහවදල (කහවත්දල?) රත්පොතුව, හා හත්තානේ ද මේ දෙවියා සතු දේවාල ඇතැයි පැවසේ. (49 : XIV පි.) මල රජු විසින් උඩුනුවර අඹන්වල නම් ගමේ හෙට්ටි නයිදේ නම් කුමාරයෙකු කන්දේ බණ්ඩාර යන නමින් යක් කර වූ බවක් ද සඳහන් වේ. (49 : 71 පි.). (අලුත් කොහොඹා සහ පරණ කොහොඹා දෙවියන් පිළිබඳ විස්තර බලන්න).

වැදි ජනයා අතර පවතින විශ්වාසය අනුව බඹර බැඳීම ආදිය සිදු වන්නේ ඔවුන් ගේ දේව ගණයේ ප්‍රධානත්වය දරණ "කන්දෙ" යකා හෙවත් කන්දෙ බණ්ඩාර දෙවි නිසාය. සිංහලයන් ගේ කොහොඹ කන්කාරියේ මහ යාදින්නේ ඉරුගල් බණ්ඩාර දෙවියන් ළඟට ආරාධනා කරනු ලබන්නේ කන්දෙ බණ්ඩාර දෙවියන්ට වේ. (එම : 13 පි.) අයිලේ යැදීමේ දී "ශ්‍රී සම්පූර්ණ ලංකාදීපප්‍රදීපාය මාන යක්සාන්දකාරේ දුරු කළා වූ අහසටත් නො නඟින්නා වූ පොළොවටත් නොබසින්නා වූ අතර ගුවන් සක්මන් කරන්නා වූ රන් ධජයක් මෙන් ගුවන් ප්‍රාතිහාර්ය පාන්නා වූ ලෝකප්ප්‍රසිද්ධ වූ කන්දෙ බණ්ඩාර දෙවියන් වහන්සේටයි මේ ආරාධනා කරන්නේ ...." යයි කියැවේ. (73 : 64 පි.) "කන්දෙ දෙවියන් ගේ කීම" නම් කංකාරි කවි වලින් සමහරක් උපුටා දක්වමු:-

පඬුවස් තිරිඳුට වන් දිවි දෝ සෙට
මල රජ වැඩි යයි සඳුන් මඬල යට
කගයෙන් කෙටුවයි මල රජ උෟ රට
විවරණ ලැබුණයි කන්දේ දෙවි . දුට

කඳු නවයට ගුවනින් දෙවි වඩිතී
දැඩි කර යක් සෙන් හට බැට දෙවතී
කුරදෙණිය විමනේ වැඩ සිටිතී
අද මේ ගෙට කන්දෙ දෙවි වඩිතී

කුරදෙණිය සොඳ මදුර පුරේයා
මදු රද ඇවිදින් නියම කළේයා
එදා සිටන් තෙද ලොව පැතිරේයා
එක්කර ගෙන ගොස් යක් කර නේයා

කන්දෙ දෙවිඳුගෙ හැඩ ගම් හෙල්ලේ
ඇර ගෙන වඩිතෙයි නියම මුළුල් ලේ
අනික් යකුන් පය අග සිළගිල් ලේ
මැණික් බැඳපු රන් තැල්ලකි බෙල් ලේ



අලගල්ලේ දෙවි සක්මන් කරතී
බතලගලේටත් ගුවනේ වඩිතී
මුළු ලෝ සැම දෙන කෙළි පුද දෙවතී
අද මෙ රහට කන්දෙ දෙවි වඩිතී

අකුල කපා පාරට නම් වන්නේ
රුකුල පුරා මීයේ පැණි ලන්නේ
කපුරු මලේ සුවඳයි විහි දෙන්නේ
ලකුණු තමයි කන්දේ දෙවි යන්නේ
(49 : 19-20 පි.)

මුදියන්සේ දිසානායකයන් සංග්‍රහ කළ කංකාරි ගීත සාහිත්‍යය යන කෘතියේ මේ කවි පෙළට වඩා සම්පූර්ණ කවි පෙළක් දක්වා ඇත. එහි 108-110 පිටු බලන්න.

කඳු මුදුන්වල වාසය කිරීමට වැඩි රුචියක් දැක් වූ මේ දෙවියා උඩුනුවර මැද පළාතේ නියමකන්දේ සංඝරාජ ගල්ලෙනට ඉහළින් පිහිටා ඇති ගල්ලෙනේ මුල දී විසීය. දේවතා බණ්ඩාර දෙවියන් ඇම්බැක්කට පැමිණීමෙන් පසු මේ දෙවි නියමකන්ද අත හැර දමා කෝවිල් කන්දට ගියේය. ඇතමෙක් කන්දෙ දේවාලය මුල දී ගම්පොළ උනම්බුවේ ඉදිවී තිබුණැයි ද කියති. මේ කවි එයට නිදසුන් කර දැක්වේ.

කාන්ගනුත් කළු කව්චි වඩන් ඩයි
නාම්බමුත් වල් ඇතුන් වඩන් ඩයි
සයන් වලින තෙද බල පෙන්වන් ඩයි
උනම්බුවෙ බණ්ඩාර වඩින් ඩයි
(37 : 36 පි.)

ඉහත කවියක "කුරදෙණිය විමනේ වැඩ ඉන් නේ" යන සඳහන කන්දෙ බණ්ඩාර හඳුනා ගැනීමට ඉතා වැදගත් වේ. ඊ ළඟට වැදගත් සඳහන් "කුර දෙණිය සොඳ මදුර පුරේ යා" - "මදු රද ඇවිදින් නියම කෙරේයා" යන්නයි. මේ අනුව පෙනෙන්නේ මදු රදු විසින් එක් කර ගෙන ගොස් යක් කර ඇත්තේ කුරදෙණියේ විසූ පුද්ගලයකු බවය.

හියු ෙ ාවිල් එකතු කළ කවි අතර ඇති "කන්දෙ බණ්ඩාර කවි" නම් කවි පෙළ මෙහි ලා තවත් වැදගත් තොරතුරු හෙළි කරයි.

කුරදෙණිය සොඳ මදුර පුරේ යා
පොල් පුවකින් සොඳ සැදි පවු නේ යා
කසා ඉහුරු ඇති එහි මග තේ යා
කුරදෙණියෙ දෙවියෝ වඩි තේ යා
(37 : 38 පි.)

මේ කවි පෙළේ ම අඹන්වල රාළ හෙවත් අඹන්වල දෙවි ගැන සඳහන් කවි ද තිබේ.

බණ්ඩර වලියෙන් පැවතුණ තෙද ටා
ගාපු සඳුන් සුවඳයි සිය ලඟ ටා
පාප කෙදයි අණසක ඇති රහ ටා
රාළ අඹන්වල පිහිටයි දුක ටා
(37 : 36 පි.)

තව දුරටත් එම කවි පෙළ ම උනම්බුවේ බණ්ඩාර කෙනකු ගැන සඳහන් කරන්නේය.

අලුත් උනම්බුවෙ දෙවිඳු උපන් තේ
මලුත් සමඟ පට පඬුරු පුදන් තේ
දිලුත් දිමුතු සුදු සළු පළඳින් තේ
උනම්බුවේ බණ්ඩාර වඩින් තේ
(37 : 38 පි.)

ඔහු කතරගමින් වරම් ලබා සිටී.

පළමුව කලුහස බැල්ම හෙළූ බල
පළමු කතරගම වරම් ගත්තු බල
පළමුව උඩරට බැල්ම හෙළූ කල
පළමුව ඔබහට වෙයි ජය මං ගල
(37 : 39 පි.)

මේ සියල්ලෙන් කියැවෙන පුවත නම් මල රජු විසින් මදුර පුර නම් වූ කුරදෙණියෙන් යක් කරන ලද අඹන්වල දෙවියන් උනම්බුවේ අලුත් බණ්ඩාර යන නම්වලින් ද හැඳින් වෙන කන්දෙ දෙවියන් බවයි. මේ දෙවි කතරගමින් වරම් ලබා මයුර වාහනයක නැඟී "අලුත් බණ්ඩාර" යන නමින් ද පෙනී සිටී.

අලුත් දිමුතු සුදු සැට්ට වඩත් මයි
තිලුත් පැහැය ඇති සළු පළඳින් ටයි
මලුත් එ දලුමුර පඬුරු වඩත් ඩයි
අලුත් බණ්ඩර දෙවියනේ වඩින් ටයි
(37 : 35 පි.)

කොහොඹ කංකාරියේ සඳහන් "පරණ කොහොඹා" යනු ද මෙම දෙවියන් ම බව කරුණු පරීක්ෂා කිරීමේ දී පෙනේ. (පරණ කොහොඹා දෙවි යටතේ ද බලන්න.)



**කුරදෙණිය දේවාලයේ කන්දේ දෙවියන් ගේ අනුහස්:-**

හරකුන් ගේ රෝගවලට හා අලි ඇතුන්ගේ උමතුවට මෙහි පැමිණ යාතිකා කරගත් විහා ම එම රෝග සුව වන බව ජනතාව තුළ පවත්නා දැඩි විශ්වාස යයි. මෙයට අමතරව වෙනත් ඕනෑම දෙයක් සඳහා මෙහි පැමිණ යාතිකා කරවා ගත් විහා ම එහි ප්‍රතිඵල කල් නොයා ම ලැබෙන බව ද පැවසේ. මෙම දේවාලය විවෘත වන්නේ ඉරු දිනයේ පමණි. පිටියේ දේවාල හා කුමාර බණ්ඩාර දේවාල ද විවෘත වන්නේ ඉරු දිනයේ පමණක් බව ද සැලකිය යුතුය. මෙම කන්දෙ දේවාලය එක පරපුරකට හිමි පෞද්ගලික දේවාලයක් බව පෙනෙන්නට තිබේ. එහි වාර්ෂික පෙරහර ද පැවැත් වේ.

**මේ දේවාලය පිළිබඳ ඇති ජනකතා:-**

දෙවෙනි රාජසිංහ රජු එතරම් දේව විශ්වාසයක් තැබූවකු නොවන බව පෙනේ. එබැවින් දේවාලවල කපුවන් රජ වාහලට ගෙන්වා ඔවුන් ගෙන් පේන අසා එයට සත්‍ය පිළිතුරු නොලද හොත් ඒ අය ගේ හිස ගසා දැමීමට නියම කිරීම රජු ගේ සිරිත විය. ඒ අනුව මෙ කී කන්දේ දේවාලයේ දෙවියන් ගේ සත්ත බැලීමට සිතූ ඒ රජ තුමා දේවාලයේ කපුවා වාහලට කැඳවා දේවාලයේ සත්ත පෙන්වීමට අණ කළේය. බිය පත් වූ කපුරාළ දේවාලයට ගොස් බියෙන් තැවෙමින් වැතිර සිටි කල්හි ඔහුට සිහිනෙන් පෙනී සිටි දෙවියෝ ගැටළුවෙන් මිදෙන අයුරු කියා දුන්හ. ආපසු රජු වෙත ගිය කපුරාළට රජු රෙදි කඩකින් වෙළූ සිය සුළඟිල්ල පෙන්නා මෙය තුළ ඇත්තේ කුමක් දැයි කීමට අණ කළේය. සිහිනෙන් දෙවියන් දුන් අණ පරිදි කපුරාළ "දෙයියෝ මුදු වත්ඩ ඇඟිල්ලේ පණුවන් ගසා ඇතැයි" කියා සිටියේ ය. විස්මයට පත් රජ වෙළුම ගලවා ඇඟිල්ල බැලූ කල්හි එහි පණුවන් දැක දෙවියන් ගේ හාස්කම් වහාම හඳුනා ගත්තේය. දේවාලයට ගම් වරක් පුද දී කපුරාළට ද තෑගි බෝග ප්‍රදානය කෙළේ ය. (මේ සමාන ජනප්‍රවාදයක් යටිනුවර පැළව අඹරාගොපනි දේවාලය ගැන ද ඇත.)

## 51



# කබලෑවේ දෙවියෝ

දැදුරු ඔය බඩ වසන සිංහලයන් විසින් හූනියම් දේවතාවා ලෙස සලකනු ලබන්නේ කබලෑවේ දෙවියා යි. ඒ දෙවියා පිළිබඳ කෝල්මුර අවසන් වන්නේ මේ අයුරිනි. :-

ආ නියමේ මල් යහන වඩින වා - මේ නියමේ දුන් මෙ පුද ලබනවා
මේ නියමේ සවිසත ගොඩ ලනවා - හූනියමේ දෙවි යහන වඩින වා
(29 : 20 පි.)

මේ දෙවිඳුගේ උපත පිළිබඳව සීප ආකාරයක තොරතුරු සඳහන් වේ. ඒවා වෙන් වෙන් ව දැක්වීම වඩාත් සුදුසු යයි සිතේ. 'කබලෑවේ බණ්ඩාර', 'කබලෑවේ මුත්තා' යනුවෙන් ද හඳුන්වා ඇති මේ දෙවියා හූනියම් දේවතාවා, හූනියම් යකා යනුවෙන් ද ඇතැම් තන්හි දක්නට ලැබේ. එසේ ම දැඩිමුණ්ඩ දෙවි ගේ අදිකාරම් ලෙසත්, පොත්ගුල් හතරක් ආරක්ෂා කරන්නා ලෙසත් විත්ති පොත්වල දැක්වේ. ඊශ්වර දෙවියන් ගේ විෂ ධූමයෙන් හූනියම් දෙවියන් උපන් බව කියන්නෝ ද වෙති.

| | |
|---|---|
| එවිට දකුණ හැරි විසදුම් | ජාලෙනි |
| අවට රුදුරු මහ ගිනි කඳ | මැවිණි |
| වමට හැරිය නයි විස දුම් | ජාලෙනි |
| ලොවට හූනියම් දෙවිදුන් | ඉපදුණි |

(90 : 40-41 පිටු)

### කබලෑවේ දෙවි උපත මෙසේ ද සඳහන් වේ:-

කුරුණෑගල පළාතේ දීගල්ලේ සිටි උපාසකයෙක් මාතර දක්වා වන්දනාවේ ගියේ ය. එහි එක්තරා නිවසක දී කිසි දිනක නොලිහන පොරොන්දුව මත ඔහුට ඒ නිවැසියා පුස්කොළ පොතක් දුන්නේ ය. උපාසකයා ඒ කීම අනුව ඔහුට ලැබුණු පුස්කොළ පොත කිසිවකුට නොකියා ම තම නිවසට ගෙන ගොස් පෙට්ටගමක් තුළ තැබී ය. කලක් ගියේ ය. එම උපාසකයා ගේ නිවසට පැමිණි දොඩම්පාවුල නම් ගමේ



විදුවෙක් කෙසේ හෝ එම පුස්කොළ පොත දැක, එය වැදගත් මන්තර පොතක් යයි සිතා සොරා ගෙන ගියේ ය. මෙසේ සොරා ගෙන ගිය ඔහු ඒ පොත ලිහන්නට වනි. ගියේ මොහොතකි. පොත ලිහත් ම ඒ තුළින් යකෙක් එළියට පැන්නේ ය. පසු කාලයක දොඩම්පාවුල දෙවි වූයේ මේ යකා ම යයි ද පැවැසේ. කීර්ති ශ්‍රී රාජසිංහ රජු ගේ කාලයේ දී ඉදිවී ඇතැයි කියන සත්කෝරළයේ කුඹල්වල පුරාණ විහාරයේ මේ දෙවියා ගේ රුවක් ඇඳ ඇත. කබලෑවේ ගම්වැසියනට මහත් උවදුරක් සිදු කරන මේ යකා දමනය කිරීමට කිසිවෙකු ඉදිරිපත් වී නැත. අන්තිමේ දී කබලෑවේ විදු වැඩිහිටි යකදුරෙක් නවගුණ මන්තරය ලක්ෂවාරයක් නාගුණ වැළකට මතුරා එය සත් පොටක් කොට එය ඉහත කී යකා ගේ කරේ රැඳවී ය. එදින සිට දොඩම්පාවුල දෙවියන් මහජනයාට ශාන්තියක් කරන අයකුගේ තත්වයට පත් විය. කබලෑවේ. රාළ විසින් දමනය කළ බැවින් ඔහු කබලෑවේ දෙවි නමින් ද ප්‍රසිද්ධ ය.

### ඉහත කී පුවත වැඩි විස්තරයක් සමඟ මෙසේත් සඳහන් වේ:-

පුරාණයේ දඹදිව එක්තරා පෙදෙසක යක්ෂ උවදුරක් උද්ගත විය. මේ යක්ෂයාගෙන් බේරීමට සිතූ ඒ රටවැසියෝ තෙළිඟු රටේ යකදුරකු ගේ උපකාරයෙන් උක්ත බිහිසුණු යක්ෂයා අල්ලා බැඳ තබා යළි මන්තර පොතක් තුළට ඇතුළු කොට හිරකර තැබූහ. පසුව එම මන්තර පොත තෙළිඟු රටට හා එයින් පසුව ලංකාවට ද යැවිණි. යළි එය මාතර පළාතට ගෙනවුත් තිබෙන්නේ ශත වර්ෂ 1284 බක් මස පසළොස්වක ලත් ගුරු දිනයේ ය. ඒ කාරණය මඩිඩිසය නම් පොතේ මෙසේ සඳහන් වේ.:

| | |
|---|---|
| එක්වා දහසකි සක රජ වරු | සේ |
| දෙසිය අසූ හතරෙකි බක් මා | සේ |
| පුර පසළොස්වක ගුරු දින දව | සේ |
| රැගෙන මෙ පොත මෙ පුරට ගොඩ බැස් | සේ |

මේ සිදුවීම සීතාවක රාජසිංහ රජු ගේ කාලයේ දී සිදුවූවක් සේ ද ඇතමෙක් පවසති. (124 : 696 පි.)

මාතර තිබුණු මේ පොත සත්කාර සම්මාන සහිතව සත් කෝරළයට ගෙනවුත් දීගල්ල - දික්වැහැර යන ගම් දෙක අතරේ තැන්පත් කරන ලදි. පසුව කාගේත් අනුමැතිය ඇතිව එය බැඳ තිබුණු රන් හුය ලිහන ලදි. ගියේ මොහොතකි. හුයෙන් හිරකර සිටි යක්ෂයා එයින් ඉවතට පැන්නේ ය.

මේ කාරණය මඩිඩිසයේ සඳහන් වන්නේ මෙසේ ය:-

ගොඩ බැස සිංහලයට නොව ලයි — නා
මුදා බලමු පොත මැසිවරු කිය — නා
මුදා එලනු පොත වට බැමි ලිහ — නා
එදා පැනපි ගුවනට එර්දියෙ — නා

මෙයින් බියපත් වූ පිරිස කලබල වී, ලණුව යළි තද කරන ලෙස මොර දී ඇත. එසේ තද කරන විට ලනුපොට කැඩී ගියේ ය. නැවත බැහැරින් කඹ ලා හිර කරනු යයි විධානයක් ඇසිණි. ඒ අනුව කඹ ගෙනවුත් යළිත් පොත හිරකර බඳින ලදි. ඒ ආකාරයෙන් පොත හිරකර ලූ තැන කඹලැව, කබලැව යයි ප්‍රකට විණැයි ජනප්‍රවාදයේ එයි. පසුව මේ පොත ඒ අසළ වූ කුඹල්වල නමැති ගමට ගෙන ගියෝ ය. එහිදී පොත බාර ගෙන අසළ වූ ්‍ ග ගසේ දෙබලක රඳවන ලදි. එසේ කොට ඒ පොත වෙනුවෙන් නිැ මිත තේවාව කිරීමට ද කටයුතු යෙදිණි. කලක් ගිය පසු එම පොත නුග ගසේ දෙබලට ම හාවී ගියේ ය.

පොතෙන් පැන ගත් යක්ෂයා නොයෙක් විත කරමින් හිතු මතේ හැසිරෙන්නට වනි. විශේෂයෙන් මන්ත්‍ර ගුරුකම් ඉගෙන ගන්නා පිරිමි ළමයි ඔහු අතින් විනාශ වූහ. මේ යක්ෂයා යළිත් බැඳ තැබීමට මහජනයා අදහස් කළේ උගේ දාමරික කම් වැඩි වූ හෙයිනි. කබලැ යකා, කබලැ භූතියන් යක්ෂයා යනුවෙන් ද හැඳින් විණි. ඒ කාරණය මෙසේ පැවැසේ.:-

කවුවැල්ලට දෙවියෝ වැඩි ගම — තේ
සිව්වල් පොල්මුල්ලේ පොල් සෙව — ණේ
වැටවල් පොඩි කර ගිජිදෙකු ලෙයි — තේ
වැටවල් පීරා බිය ගන්වමි — තේ

මේ විපතින් ගැලවෙනු සඳහා ගම්වැසියෝ අඹව සිල්වත් රාළ නම් උපාසකයකු ගෙන් මේ යකා අල්ලා බැඳ තබන ලෙස ඉල්ලා සිටියෝ ය. එකී උපාසකයා නව ගුණ මන්තරයෙන් නූල් හත්පොටක් ලක්ෂ වාරයක් මතුරා එය එම යකු ගේ ගෙලේ දැමී ය. එයින් බිය පත් යක්ෂයා මහත් වෑයමකින් නූල් හත්පොටෙන් හතර පොටක් කඩා දැම්මේ ය. එහෙත් ඉතිරි පොටවල් තුන කැඩීමට හේ අසමත් විය. මෙයින් පසුව යක්ෂයා අපරාධ කිරීම අතහැර මිනිසුනට සෙත කිරීමට පටන් ගති. පසුව මිනිසුන් ගේ කන්තලව්වලට ද ඔහු කන්දීම නිසා ඒ යකු දෙවියකු ලෙස ද අදහන්නට වනි. කබලැවේ යකා දෙවි වූයේ මේ අයුරිනි. ගම් වැසියන් ගේ කරදර උපද්‍රවවලට පිහිට වූ බැවින් 'කබලැ මුත්තා' යනුවෙන් ද ඔහු හැඳින්වෙන්නට වනි. දැන් කුලියාපිටියට තුදුරු කබලැවේ දේවාලයේ පුද ලබන්නෝ මේ කබලැවේ දෙවියා යි.





# 52
# කම්බිලි දෙවි තුන්කට්ටුව

මේ සහෝදරයෝ තුන් දෙනෙකි. මොවුන් කළුකම්බිලි, සුදු කම්බිලි, රත්තකම්බිලි යනුවෙන් නම් කර ඇත.

**උපත:-** පණ්ඩුකාභය රජු ගේ කාලයේ දුම්රක්ගල නම් පෙදෙසේ චේතිය නම් යැකිනියක් සිටියා ය. ඇය වෙළඹක ලෙස ද පෙනී සිටි අවස්ථා වෙයි. ඇය පණ්ඩුකාභය රජුට (කුමරුට) වසඟව සිටි බව ද පැවැසේ. මෙම වෙළඹ පිට ගිය ඒ කුමරු නැම සටනකින් ම ජය ලැබී ය. කලක් ගිය පසු එම යැකිනියට දරුවෝ තිදෙනෙක් උපන්හ. පළමු වැන්නා කළු පාට ය. දෙ වැන්නා මඳ කහපාට ය. තෙ වැන්නා රන්වන් පාටින් යුක්ත ය. එබැවින් ඒ තිදෙනා පිළිවෙළින් කළුකම්බිලි, සුදුකම්බිලි, රත්තකම්බිලි යන තුන්කට්ටුව යනුවෙන් හඳුන්වා ඇත. මේ තුන්කට්ටුව ගැන ඇති විත්ති කවිවලින් උක්ත කියමන් තහවුරු වන බැවින් එය පහත දක්වනු ලැබේ.

කම්බිලි දෙවි තුන්කට්ටුවේ විත්තිය:-

පණ්ඩුකාභය ය — නා
කුමරුන් කලෙහි සිදුවූ — ණා
පුදුමයක් විලසි — නා
සියම් පුවතක් අසන් සතොසිනි — නා

චේතිය නමැති — විල
හොඳ යකැසි එම — සල
පතුරුවා නෙළ — බිල
සිටිය සිතු ගේ තදුම් රැස් — ගල

කුමරුන් වහා — කුළේ
යන විට දැකපු එක — ලේ
තිඹිරිය යන වී — ලේ
යකිනි අස් වෙළඹකට — බැබැලේ

කුමරු වෙහෙසම්      නෝ
වෙළඹ අල්වා රැගෙ      නෝ
ගිය කුමරු ඒදි      නෝ
යකිනි කුමරුට වසඟ වෙමි      නෝ

වෙළඹ වේස යකිනිගෙ පිට නගිමි      න
නිලඹ රුවින් රජු යුදයට ගිය නැ      න
එළඹ ගියවූ යකිනි ගෙ ආදාරෙ      න
කළඹ දකින හැම යුදයෙන් ජය ගෙ      න

මෙසේ කල් පසුව ගිය යකිනියගෙ      කුස
විසේසයෙන් මෝරා ගැබ එක ලෙ      ස
රසේ සැපත් විඳ ගිය පසු දස ම      ස
යසේ කුමරු තිදෙනෙක් බිහිවිය නො      ස

පළමු තනි කළු වර්ණය කුම      රු
දෙවනුව මඳ කහ පැහැයෙන් කුම      රු
තුන්වැනි රන්වන් පාටින් කුම      රු
උන් වැනි නෙද අය වෙන නැත කුම      රු

වැත්ත දැනේ දිඹුලාගල ඔහු      සිට
කැත්ත ගෙනේ ඇතක ගොස් ගල      පිට
හැත්ත ජනේ ගොස් අසුවුණු වර      දට
කැත්ත මුනේ දේවාලය කර      සිට

නදා ලෙසින් බිය වී සැම සෙන්      බිලී
සදාපු පසු වරදෙන් මුදවා      ලී
නදා ඇසුණු හඬ සළඹ ගිගිරි කෙ      ළි
එදා පැතිරි දෙවතා කළු කම් බි      ලි

රළු ලෙස කළු කම්බිලිය අඳින්      නෝ
පළු කර හිස කළු ජටා බඳින්      නෝ
දළු මුර හෙප්පුව තේව කරන්      නෝ
කළු කම්බිලි මල් යහන වඩින්      නෝ

(90 : 67-69 පිටු)

හියු නෙවිල් විසින් සොයා ගන්නා ලද අත් පිටපත් අතර තිබුණු 'කම්බිලි උන්නැහේ ගේ කවි' පත්තියට අනුව කම්බිලි උපත දඹදිව සිදුවූවකි. ඔහු ගේ සැඩකම් නිසා රටින් පිටුවහල් කරනු ලැබ ගල් නැවකින් මෙහි සම්ප්‍රාප්ත විය. රට රැකවලේ සිටි දෙවිවරු ඔහුගේ ගමන වැළැක්විය නොහැකි බැවින් පුද පඩුරු දීමට පොරොන්දු වූ හ.:



උපන් කිරි මුහු දෙ      න්
වැවුණු කළුනික පඳු රෙ      න්
ගිනි කුමරිගෙ කුසි      න්
උපන් කම්බිලි දෙවිඳු වඩම්      න්

කන්නඩි උරුවිසි නෙලිහ ගවුඩි මලල      රට
ලුන්තඩි උරුකලු කම් උපන් මෙනුවර      ට
ඉන් දැඩි නර මුගුරු රැගෙන මිනී මරන      කොට
උන් දැඩි කුමරුන් දුවපි මුහුදෙන්      එතෙරට

කල් දැන කම්බිලි මෙකරට එනවා දැක      ලා
ගල් නැව මුහුදෙන් මෙකරට දෙවියෝ වැඩ      ලා
වල් පට කැමැති දැතින් රැලි ගවසා      ලා
නිල් මල් මුණ්ඩාසන ඉන් දෙරණත වෙවු      ලා

එලුවා ගල් යකදාවෙන් මුහුද දෙ බැ      කොට
බැලුවා දෙවියෝ දුවගෙන ඇවිදින් පස්ස      ට
එනවා නියමයි රකින්ඩ බැරි තිර සාරෙ      ට
දෙනවා නියමයි වාලක්කම් තුඹෙ නාමෙ      ට

(37: 33 පි.)

'කළු කම්බිලි' යටතේ ද බලන්න.



## 53
## කළුවැදි දේවතාවා

මහසොහොන් සමයමේ දී මොහුට යකා යයි කියා ඇත. මොහු වෙනුවෙන් වූ කළුවැදි බන්ධනය යනුවෙන් වූ බන්ධනයක් ගැන ද සඳහන් වේ. වැලිගම පෙදෙසේ මෙතෙම බලවතෙකි. කළුවැදි දෙවියා ගෙන් දඩයම් සඳහා පිහිට ලැබීම ගැන විශ්වාසයක් තිබේ. ඔහු ගේ අතේ දුන්නක් ඇතැයි සැලකෙන්නේ එහෙයිනි. දඩයම ඉටු වූ පසු ඔහුට කුඩා මුව පැටවකු කැප කර දීම සිරිතක්ව තිබුණි. දඩයමට ගිජුව ඇවිදින කළුවැදි දේවතාවා අත රන් ගිරයෙකි. මෙය ඔහුට විශ්වකර්ම දෙවියා විසින් දෙන

ලද ත්‍යාගයක් සේ සැලකේ. දඩයම හා බැඳී සිටින මේ දෙවියා ඌව, පානම යන ප්‍රදේශවල විශේෂයෙන් සැලකිලි ලබයි. ඇතැමකු මොහු කලවැදි දෙවි යනුවෙන් හඳුන්වන බව ද පෙනේ. (32 :102-3 පිටු)



## 54
## කළුකම්බිලි දේවතාවා

මොහු දේවතාවකු වශයෙන් සලකන්නේ නමුදු මොහු ගේ උප්පත්තිය දෙස බලන විට යක්ෂයකු වශයෙන් සැලකිය හැකි බවක් පෙනී යයි.

උපතඃ- මහනුවර දිස්ත්‍රික්කයේ හාරිස්පත්තුවේ බොක්කාවල කඩවතේ රැක සිටි සිංහල රජු ගේ ආරක්ෂක භටයෝ එ තැනින් යන වෙළඳුන් ගෙන් පුංගම් අය කළෝ ය. එය තුට්ටුවක මුදලකි. දිනක් දුන්කොළ මිටියක් කර ලා ගත් වෙළෙන්දෙක් කඩවතට ළං විය. එහි වූවෝ එම වෙළෙන්දා ගෙන් පුංගම් ඉල්ලූ හ. ඒ සඳහා දුම්කොළ ප්‍රමාණයක් දීමට වෙළෙන්දා ඉදිරිපත් වූ නමුත් එය මුදලින් ම දිය යුතුයයි රැකවලේ සිටියෝ තරයේ ම කියා සිටියා හ. අන්තිමේ දී වෙළෙන්දා හා මුරපොළ සිටියවුන් අතර බහින් බස් වීමක් විය. එය කෙළවර වූයේ මුරකරුවන් වෙළෙන්දාට පහර දී ඔහු ගේ දුම්කොළ මිටිය උදුරා ගැනීමෙනි.

වෙළෙන්දා මන්තරකරුවෙකි. ඔහු තම නිවසට ගොස් මන්තර ජප කර. කළුකම්බිලියක් පොරවා ගත් වෙළෙන්දෙකුගේ ආකාරයේ පිල්ලියක් බොක්කාවල මුරපොළට එවීමට ඒ තරම් කාලයක් ගත නොකළේ ය. මේ පිළිබඳ ඇසූ නොදන් කඩවතේ නියුක්තවූවෝ සිපින් ඉදිරි ඔහු ගෙන් පුංගම් ඇල්ලූහ. එවිට වෙළෙන්දා මෙන් පෙනී සිටි භූතයා, තමා ළඟ තිබුණු දුම්කොළ මිටියෙන් මුරකරුවකුට හොඳට ම පහර දුනි. ඔහුට පස් මුරකරුවෝ වහා ම එතැනින් පළා ගියෝ ය. මේ සිද්ධියෙන් පසුව එම කඩවතේ මුර සිටීම නතර විය. මුරකාවල තිබී ගිය තැනක් බැවින් එදා සිට එම පෙදෙස 'බොක්කාවල' යනුවෙන් පළ විණි. ඒ කාලයේ සිටම මේ ජනතාව ශ්‍රද්ධාවේ කළුකම්බිලි දේවතාවා ගේ අවතාරය ගැවසෙන බවට ඇමියන් අතර දැඩි විශ්වාසයක් පවතී. කළු කම්බිලියක් පොරවා ගත් භූතයෙකු බැවින් ඔහු කළු කම්බිලි දේවතාවා වශයෙන් ද සලකන්නට විනි. (18:121-7 පි.). කම්බිලි දෙවි තුන් කට්ටුව යටතේ ද බලන්න.



කෝල්මුරඃ-

කළුනික පොකුණට ගොසින් බසින්    නේ
වන්ගු හතක් ඒ පොකුණ පෙනෙන්    නේ
උනා වරළ පිට මැදට හෙලන්    නේ
කළුකම්බිලි දෙවියනේ වඩින්    නේ

සුදු නික පොකුණට ගොසින් බසින්    නේ
වන්ගු තිහක් ඒ පොකුණ පෙනෙන්    නේ
ඉස් සෝදා නා ගොජට බසින්    නේ
තෙද කළු කම්බිලි දෙවතා එන්    නේ

ඉනන්ගුවෙන් මල් කෙළියට    එන්නේ
පරක්කුවෙන් මල් දම් කර    ලන්නේ
නලන්ගුවට මල් අස්න    සදන්නේ
තෙද කළු කම්බිලි දෙවතා    එන්නේ

කළුවට කළුවන් කළු දෙයියා    මයි
අතපය සුද ඇති බොරු නැතුවා    මයි
කළු නික පොකුණට වැඩම කළා    මයි
කළු දෙයිය ගෙ වග එළවෙ සැබෑ    මයි

(39)



## 55
## කළුකුමාර දෙවියෝ (උඩුගම්පොළ)

කෝට්ටේ යුගයේ දී උඩුගම්පොළ පුවරජ ව සිටි සකලකලාවල්ලභ (කත්විල) රජු ගේ තොසම කුලයේ (රජක කුලයේ) බිරිඳක ගෙන් උපන් කුමාරයෙක් කළුකුමාර යන නමින් ප්‍රසිද්ධව සිටියේ ය. කුමාර බණ්ඩාර, මැණික් සාමි, මල්මද කුමරා යනුවෙන් ඔහුට තවත් නම් විය. (46 : 5 පි.). මේ කුමාරයා උඩුගම්පොළ රාජ්‍යය තමාට ලබා දෙන ලෙස පිය රජුගෙන් ඉල්ලී ය. එය ඉටු නොවූ බැවින් ඔහු තම පියා මැරවීමට අදහස් කොට නානතොටේ උල් සිටුවා ලී ය. පසු ව ඒ කරුණු දැනගත්

පියරජු ඔහු අල්ලා සිරකර තැබීමට අණ කළේ ය. මෙයින් බියපත් වූ කළුකුමාරයා, වීරා යනුවෙන් හැඳින් වූ තම සේවකයා ද කැටුව සමනළ අඩවියට පැන ගියේය. එහෙත් එහි දී ජීවත් වීමේ අපහසුතා මතු වූ හෙයින් කළුකුමාරයා වීරාත් සමඟ පර්වතයකින් පැන මිය ගියේය. මෙසේ මිය ගිය කුමාරයා කළුකුමාර දෙවි යනුවෙන් ද වීරා නම් සේවකයා වීරමුණ්ඩ (යකු) දෙවි වශයෙන් ද උපන් බව ජනප්‍රවාදයයි. (18 : 140පි.) මේ පුවත පුරාණ සිව්පද සංග්‍රහයේ දැක්වෙන පහත සඳහන් කවිවලින් ද තහවුරු වේ.

නමින් පසිඳු උඩුගම්පළ පිය සා
පියත් මරන ලෙස ඇවිදින වය සා
දෙපත්සියක් උල් සදලා පත සා
කියත් වරුණ බල තෙද පැ විල සා

මේ බව පිය රජ තුම දැන ගත් තේ
උල් සෑදුවේ මට කවුද අසත් තේ
මල්මද කුමරා සැදුව කියත් තේ
අමු සොහොනක ලා මරව කියත් තේ

පරම්පරාවෙන් පැවතෙන කුමරුන්
නිරන්තරෙත් එන සතුරකු විලසින්
වරත් ඇතුව ලොව කෙළි පුද ගනිමින්
මරන්ට බැරිවිය පිත් ඇති කුමරුන්

කෝන්තියක් ආයෙන් පිය දෙවියෝ
කෝන්තියෙන් ලොව අණසක දැඩියෝ
පැණිගල් ඇල්ලේ වැල්ලට වැඩියෝ
හැටක් කතුන්ගේ බෙලි කැඩූ දෙවියෝ

(90 : 48-49 පිටු)

මොහු උඩුගම්පළ මැණික්හාමි (කළුබණ්ඩාර) යනුවෙන් ද හඳුන්වා ඇති බව පෙනේ. (හත් තව්වුවේ දෙවිවරු යටතේ ද බලන්න.)

බොන්සැල් දෙවියා ගේ අවතාරයක් ද කළුකුමාර යන නමින් ඇති බව සඳහන් වේ. (බොක්සැල් දෙවි යටතේ බලන්න.) සෙන්කඩගල කළු කුමාර යනු වෙනත් දෙවි කෙනෙකි. වෙල්ලස්සේ බණ්ඩාරද කළුකුමාර නමින් හැඳින් වේ. (එම විස්තර බලන්න)





## 56
## කළුකුමාර දෙවියෝ (සෙන්කඩගල)

සෙන්කඩගල කළුකුමාර දෙවියන් වශයෙන් සැලකෙන්නේ සෙන්කඩගල රජ කළ පළමුවන විමලධර්මසූරිය (ව්‍ය.ව. 1592-1604) රජු ගේ වැඩිමහලු පුත් රාජසූර්ය අස්තාන කුමරුන් ගේ පුනර්ජන්මය යි. විමලධර්මසූරිය රජු හා කුසුමාසන දේවියට (දෝන කතිරිනා) පුතුන් සිව් දෙනෙක් හා එක් කුමාරිකාවක් ද වූහ. රජුගේ ඇවෑමෙන් ඔහු නෑ සොයුරු සෙනරත්, කුසුමාසන දේවිය විවාහ කර ගෙන රජ තැන් පත් විය. ඔවුනට මතු දෙවන රාජසිංහ ලෙස රජ වූ කුමරා උපන්නේ ය. රාජසූරිය අස්තාන ගේ මරණය සිදු වූ අයුරු රාජාවලියේ වාර්තා වන්නේ මෙසේ යි:-

"විමලදහම්සූර්ය රජුට ජාතක වැඩිමහලු කුමාරයා දිය කෙළියට මාවැලි ගඟට ඇර ලා ඒ කුමාරයා ගේ මවු බිසවට නො දන්වා එක්ක ගියවුන් ලවා දියේ ඔබා මරා දැමූවාහ. පසුව රටටත්, සේවාවටත් මේ බව සැලවෙලා කුමාරයා දිය කෙළියට ගියාම සදි කළ යි කියා බිසවටත් සැළකර රජ දිව ගොස් මළ කඳ තිදහන් කළාහ." (113 : 238 පි.)

කුරුල්ලකු පිළිබඳ හබයක් නිසා එය සිදු කරන ලද බව 'සෙන්කඩගල කළුකුමාර කවි' වල සඳහන් ය. කොණ්ඩ කුරුල්ලන් පොරට යැවීම ප්‍රිය කළ කුමරා රජුට අයිති කුරුල්ලකු පොරට යැවීමට නොදුන් නිසා උරණව ඌ මැරූ බවත් එම වරද පිට දමා කුමරා පිටුවහල් කොට පසුව මරණයට පත් කරන ලද බවත් ඒ කවිවල කියැවේ:

කූ ඩු ව ඇතුළේ සිටියා වැද ලා
පා ඩුව දැන එ කුමරිඳුන් වැඩ ලා
ජෝඩුව රජහට නොදෙති සිතා ලා
කූ ඩු ව ඇතුළට දැමුවයි මර ලා

පුර වර සෙනරත් බෑති හෙත් නුවේ
ඇර වෙන කවුරුද මා විම සූවේ
උර ණ වෙලා කළු කුමරිඳු ඇසුවේ
වර ද මොකද කොණ්ඩයා මැරුවේ

(37 : 228 පි)

වතේ උපන් වන සතකුට ලොබිනා
සෙනේ උතුම් කුමරුට නැත කරුණා
මෙනේ සිතින් පිට වාසල් කරනා
අනේ කුමරු වඩිනට මහ සදනා
(37 : 229 පි.)

වෙයි ද මෙහෙම නපුරක් රජ කුමරු ට
කොයි ද කියා ඇවිදියි විමසති ව ට
අයියො මරණ ලන් වෙලාය හඬික ට
පයින්ඩ කරපු කළුදිය වළ පල්ල ට
(37 : 231 පි.)

මෙසේ බී ඊදුණු මරණයකට පත් වූ කුමරා යකකු වී උපදින්නේ පිටියේ දෙවියන් ගේ අනුග්‍රහයෙනි:

බලවත් පිටියේ දෙවියෝ වැඩ තිති
මළකද දියවර පල්ලේ බල වති
ජලමැද මානෙල් මල සේ උප දිති
කළු කුමරුන් යක්වෙලා මෙ පුර ඇති
(37 : 231)

රාජ වංශයට අයත් කුමරා සිය තෙද බල පා මිනිසුන් මරවයි. තමාට පුද පූජා කිරීම පිණිස දේවාලයක් තනවන ලෙස ඔහු අණ කරන්නේ ය.

පොටක් උතුම් රජ වලියෙන් එන්නේ
නැතක් අවදි යක් වෙලා උපන්නේ
රටක් නොතෝරා මිනී මරන්නේ
ඊයේ මරණ කල් කවුරුද දන්නේ?

දිමුත් උතුම් තෙද දෙවියෝ නැටුවා
තමත් එතන කළුකුදිවල ගාවා
නෙතත් මරුව එතනම සරි පාවා
තනත් එතන දේවාලෙ කිව්වා
(37 : 231-2)

තමන්ගේ තෙද බල පැතිර ඇති ප්‍රදේශයෙහි වඳ ගැනුන් ගැබ් ගැන්වීමෙහි සමතකු ලෙස මේ දෙවි සැලකේ.

අමුණුගම ද පිළවල දුම්බර රට
නැසුණු සෙනඟ දැක ලා කරුණා වට
පැමුණුණු දරුවන් වඳ ගැහැනුන් හට
දෙවැනිව තෙද බල පාලා වැඩ හිට



මෙතෙක් සෙනඟ නැති උණා බලාලා
හැටක් ගැහැනු වඳ උන් ගෙන්නාලා
තවත් හඳුන් බඩ පරහද දීලා
හැටක් වැදුව බඩ ගැබ මෝරාලා
(37 : 226 පි.)



# 57
# කළුදෑකඩ දෙවියෝ

මාතලේ කළුත්දෑව යන ගම හා බැඳි දෙවියා වන මොහුට ඔප්පු දෙන "ගම්බැඳි රාජකාරිය" නම් පිදවිල්ල මුළු ගම ම එක් වී කරන සෙත් ශාන්තියෙකි (118 : 79). මෙහි දී දඹුලු විහාරයට හේම කදක් හා කඩපයියක් ඔප්පු කරන බව ද පැවැසේ. කළුත්දෑව පන්සලේ පිළිමගෙය තුළ කළුදෑකඩ දෙවියන් ගේ පිළිමයක් තබා තිබීම විශේෂ සිද්ධියෙකි. (33 : 201 පි.) මේ දෙවියා ගේ උපත තුන් ආකාරයකින් දැක්වී ඇත.

(1) මල්වර රටේ රජු ගේ පුත්තු සත් දෙනෙක් වූහ. ඔවුහු ගල් නැවකින් කිරිමුහුද, ලේ මුහුද, ගොළු මුහුද, මහ මුහුද යන මුහුදු තරණය කොට මන්තාරම්න් පිරිලකට ගොඩ බැස්සෝ ය. කෙමෙන් තලෙයිමන්තාරමට පැමිණි ඔවුහු අනුරාධපුර, මිහින්තලේ, රිටිගල, විජයනුවර, නුවරගලකන්ද, ආදාගල පතන, ගල්ළිඳකන්ද යනා ප්‍රදේශ වල ක්‍රමයෙන් සැරිසරා මින්නේරි වැව ඉදිකිරීම සඳහා කටයුතු කොට පළමුව එහි මෙහෝරි වඩුළෝ ය. එයින් පසුව ඒ සියෙය මින්නේරිය යතුවෙන් පළට විණි. යළි එහි වැවක් ඉදිකිරීමට ආරම්භ කළ ඔවුනට එම වැව් කණ්ඩිය ශිලාබන්නා බවක් දක්නට ලැබිණි. මෙයට මිනිස් බිල්ලක් දිය යුතු බව ඔහු ගේ අදහස විය. එම අවස්ථාවේ උක්ත කුමාරවරුන් හත් දෙනාගෙන් අයෙක් බිල්ලට සූදානම් වූහ. එහෙත් ඒ වෙනුවට කළුදෑවකු (වලසෙකු) බිලි කැරිණි. උක්ත කුමාරයා පැන ගොස් කළුත්දෑවේ සැඟවිණි. එයින් පසුව එම කුමාරයා නමින් "කළුදෑකඩ" කියා දෙවොලක් ඉදිවිණි. මේ, මෙම දෙවියාගේ උපත පිළිබඳ පුවතකි. (90 : 54-58 පිටු)

(2) මහසෙන් රජු මින්නේරි වැව තනවන අවස්ථාවේ දී එය ඉටු කර ගැනීම සඳහා කුමරකු බිලිදිය යුතු යැයි නිමිති පාඨකයෝ පැවසූහ.

හේතුව, පෙර කීප වරක් ම වැව් බැම්ම කැඩී යාමයි. මේ අවස්ථාවේ මාලිගාවේ කුමාරවරු දෙදෙනෙක් සිටියාහ. රජු ගේ පුතෙක් ද රජ නැහැණිය ගේ පුතෙක් ද වශයෙනි. රාජ පුත්‍රයා තම මස්සිනා බිල්ලට දෙන්නට සැලසුමක් ඇති බව ඔහුට රහසෙන් කීවෙන් ඒ බෑනණු කුමරා පළා ගොස් කළුන්දෑ කන්දේ සැඟවී සිටියේය. මේ සිද්ධියෙන් පසු රජුට තම පුත්‍රයා අකැමැත්තෙන් ම බිලි දීමට සිදුවිය. රාජ පුරුෂයෝ කුමරා බිල්ලට සූදානම් කර ගෙනගොස් ඒ වෙනුවට එළුවකු මරා බිලි දුන්හ. ඒ අතර ම කළු දැවකු (වලසකු) වශයෙන් බිලි දෙකක් ම දී කුමරා බේරා ගත්හ. කන්දේ සැඟවුණු කුමාරයා කළුදැකඩ දෙවි නමින් පුද පූජාවට භාජනය වන්නට විය. (33 : 201 පි.)

කළුන්දෑවේ විහාරයේ බුදුරුව දකුණු පැත්තේ කළුදැකඩ කුමාරයා ගේ පිළිරුවක් ද දක්නට තිබීම විශේෂ සිද්ධියෙකි. වෙසක් පුර පසළොස්වක දින සිදු කෙරෙන අලුත් සහල් උත්සවයේ දී උක්ත කළුදැකඩ දේව රූපයත් අදාළ අලුත් සහලුත් දඹුල්ලේ විහාරයේ විෂ්ණු දේවාලය වෙත ගෙන යෑම චාරිත්‍රයයි. (එම).

(3) මින්නේරියේ බලය අල්ලා ගෙන සිටින දෙවියා ලෙස ද හඳුන්වනු ලබන කළුදැකඩ දෙවි, යකුන් වැනසීමේ දක්ෂයෙකි. මහනුවර අවධියේ ජනප්‍රිය වූ කථාවකට අනුව මින්නේරියේ සත් රජුන් යාපා පටුනට ගොඩ බැස යළි අනුරාධපුරයට පැමිණ බුදු රජුන් ගේ පටී ධාතුව නිදන් කොට ජේතවන චෛත්‍යය ඉදි කරවා පසුව රිටිගල ගොස් එහි විසූහ. මින්නේරිය වැව ඉදි කිරීමේ දී ඒ සඳහා කුමරකු බිලි දීමට සිදු විය. එහි දී මහසෙන් රජු තම පුත් කුමරා එයට බිලි දුන්නේය. එහෙත් රජු ගේ බිසොව වන රත්තරන් දේවිය තම කුමරා රහසින් පිට කොට ඒ සඳහා කළුදැවකු යෙදූ වගක් ද පැවැසේ. වැවේ කටයුතු අවසන් වූ පසු රත්තරන් දේවිය තම පුතු ලබා දෙන ලෙස අවතාර දෙවිටත් වැව් දෙවිටත් ආයාචනය කළත් එයින් වැඩක් නොවී ය. මේ වන විට ඒ කුමාරයා මිය ගොස් ය. එයින් පසුව හේ දෙවියෙක් වී සත් රජුන්ට එක්විය. (පරස්පර විරෝධී අදහසක් ඇති මේ පුවතින් මහනුවර යුගයේ දී ලකට පැමිණි පිරිසක් "මින්නේරි සත්රජු" ලෙස හඳුන්වා ඇති වගක් පෙනීයයි. මෙහි දී මහසෙන් රජු කළ ජේතවන සෑය ඔවුන් කළ දෙයක් ලෙස දැක්වීමට ද දෙවිවරුන් වශයෙන් ඔවුන් ජනප්‍රිය කරවීමට ද උත්සාහයක් ගෙන ඇති බව කොටගම වාචිස්සර හිමියෝ පෙන්වා දෙති. (116 : 105 පි.)

කළුදැකඩ දෙවියන් හා ඉලන්දාරි දෙවියන් පිළිබඳ විශ්වාසය සම්මිශ්‍රණය වූ අවස්ථා ද දක්නට ඇත. හියු නෙවිල් මහතා එකතු කළ



ජනකාව්‍ය සංග්‍රහයේ "ඉලන්දාරි උන්නැහේගේ කවි" යන නමින් ඇති කවි පන්තියේ එම අදහස ඇති කවි දෙකක් ඇත.

ඉන්ඩ මුරේ මින්නේරියෙ හත් දූවේ බාර වෙව්වි
වන්ඩ රුදුරු සුදු හරකුන් වල් ගවයෝ තියම වෙව්වි
යන්ඩ මුරේ කිරි දොවන්ඩ අනේ මන්ද නැතුව යව්වි
ගන්ඩ එමදු වැල් වළල්ල හරක් එ කුදලන්ඩ වෙව්වි

බැලුව ලූ නෙද අණසක ලොව මදු වැල ගෙන යපට තියා
එලුව ලූ ගවයින් සැම තැන අත් පා ගෙන එකට තියා
නෙළුව ලූ දළු බුලත් සියය යහන් එදා හිසට තියා
කිවුව ලූ පසු වෙතින් නමත් කළු දැකඩ කුමරු කියා

(37 : 21 පි.)



58

## කළුදේවතා බණ්ඩාර දෙවි

මේ දෙවියා, සිරිමා බෝ රදුන් රැකීම සඳහා පැමිණියකු වශයෙන් පෙනී යයි. පහත දැක්වෙන කෝල්මුර කව්වලින් එය වඩාත් පැහැදිලි වේ.

මාර සෙනඟ බිඳ බුදුවුණ මුනි පිටදුන් බෝතුමන් ඩ
බාර වුණේ මුගුරු දුනු ද ගිනි අවි ගෙන මුර කරන් ඩ
ගෝර යකුන් බිය දුරකර සිරිලක හැම තැන රකින් ඩ
දිර බලැති කළුදේවත දෙවි සුබ පේනෙට වඩින් ඩ

මලලුන් සැඩි දෙමළු නසා එළාර රජු එළා ගත් ඩ
එම යුදයෙන් ගැමුණු නිරිඳු මතු සාසනෙ දියුණු වෙන් ඩ
කරන වෙහෙර වැඩ සිට ගෙන එක සිය විසි රියන් ගත් ඩ
බඳී රුවන්මැලි සෑය නව වර පොළොවට ගිලෙන් ඩ

වැල්ල වෙරළ නිබඳ සිටින විමසා කරදිය වළල් ල
වැල්ල වෙරළ යනෙනා හැම හම්බන් කප්පර උදුල් ල
ගොල්ල සමඟ වෙළඳම් කර පට පඬුරුත් ලැබ සියල් ල
නල්ල තිරල කළුදේවතා වඩිනෙයි කෙටු මෙන් විදි ල් ල

(29 : 180 පි.)

අනුරාධපුරයේ ශ්‍රී මහාබෝධිය අද දක්වා ම ආරක්ෂා කරන්නේ මේ දෙවියා ය. කළුදේවතා බණ්ඩාර යනුවෙන් එහි පැවැත්වෙන යාතිකාවන්හිදී පැවසෙන්නේ මොහු ගැනය. ශ්‍රී මහාබෝධියේ රැකවරණය එදා භාරගත් දෙවියන් දෙදෙනා වන වරුණ, ජුතින්ධර යන අයගෙන් කළුකුමාරයා යනුවෙන් හඳුන්වා ඇත්තේ වරුණ දෙවියා යයිද පැවසේ. කළු දේවතා බණ්ඩාර යනු විෂ්ණු දෙවියන් යයි ද ඇතැමෙක් පවසත්. (34 : 18 පි.) අද දින අනුරාධපුර ශ්‍රී මහාබෝධි මළුවේ බටහිර වාහල්කඩ මෙම දෙවියන්ගේ දේවාලය ලෙස යොදා ගෙන බාර හාර යනාදිය සිදු කෙරෙනු පෙනේ.

'කළුදේවතා උන්නැහැට' යනුවෙන් සඳහන් වන කෝල්මුර පංතියකට අනුව මේ දෙවියෝ පූර්ණක නම් පියකුට දාව එරන්දතී නම් මවක කුස පිළිසිඳුණු අයෙක් වෙති.

මෙම දෙමාපියන් විධුර පණ්ඩිත කථාවේ එන යක්ෂ සේනාධිපති ද නාග කන්‍යාව ද විය හැකියි. නරයන් ගේ වයසින් සත් අවුරුද්දක් කුසයේ සිට උපන් කුමරු පියා ගේ උදහසට ලක් වූ හෙයින් හිමයට පැන ගියේය. පසුව අයියනායක, පත්තිනි යන දෙවිවරුන් ගේ අනුග්‍රහයෙන් ශ්‍රී මහාබෝධිය ආරක්ෂා කිරීම ඔහුට බාර විය. ඔහු විදේශයකින් පැමිණ ලක්දිව ගොඩ බට හෙයින් දහඅට භාෂාවක් දන්නා බවත්, සුරතින් කොහොඹ ලීයක් දරා සිටිනා බවත් කියවේ.

එරන් දතී කුස පිළිසිඳ පූර්ණක පිය රජු දා කොට
නරන් වයස සත් අවුරුදු කුමරුන් පිළිසිඳුණ ලෙස ට
නිරන් නරේ පියරජු ගෙන් උදහස් ලැබුණෙත් කුමරු ට
නරන් රකින්නට වල් වැද පැන්නා සත් ගව් හිමය ට

සුද්ද ලේසි ගමෙන් ගමට බැලුවා මතු පත් දහස ට
ඇද්ද තවත් මට වැඩියෙන් වල් වැද පැන්නේ හිමය ට
සුද්ද යසිරි අයියනායදෙවි පත්තිනිහට යැළි කරන් ට
මැද්ද දේසයට පලගන් ශ්‍රී මා බෝ වඩින තැන ට

උඩමළුවේ ජයරජ සඳ බාර දෙලා මුර සිටින් ට
මඩ පෝකර දළුමුල්තැන් කිරි ඉසිරුම් බාර ගත් ට
කඩ පොවී එක නැවී කප්පර නව කොටමුළුවලට යන්ට
මල්හල කිරි වෙහෙර බලා කළු දෙවතා ගොඩ බසින් ට

සතර මහා දීපෙට අදිපෙති සිරිමා බෝ රකින් ට
තිසරම මුර කරනා ලෙසට රන් සඳුවට වැඩ සිටින් ට
අසුර යකුන් බය දුරුකර සිරිලක හැම තැන වඩින් ට
මල්විල කිරිවෙහෙර බලා කළු දෙවතා ගොඩ බසින් ට



රීස් ක්‍රන්ති කයිවිරයුන් කිරිස්නාඩි හරු දේසේ
රීස් ක්‍රන්ති නාගර කර කල්ලු සගුන් කුර්න බාසේ
ජන්දස් එළු පාලි රැගෙන යක්ස දේව සැම බාසේ
රීස් ක්‍රන්ති කළු දේවතා කියතිය දහ අට බාසේ

කලේ පෙරළි මයි මේ රට දුටු දුටුවන් බය කරන් ට
පැලේ සිටින මිනිසෙකු දැක බැලතණ හිමයට හරින් ට
බලේ බැරිය ඒ දෙවිඳු ගෙ බැරිය පෙරළි නවත්තන් ට
කරේ ලවති නාගුණවැල මුනිඳු ගෙ අණ යට හරින් ට

බරක් රැගෙන ශ්‍රී මාබෝ රන්කඳ දැක වැඩ සිට ලා
නිලන් නරේ මුර කරන්ට මෙ සිරි ලකට ගොඩ බැස ලා
අරන් සුරත කොසඹ ලීය බුද්දි මුරේ යට ගහ ලා
නරන් රකින කළු දෙවතා සාමි වරෙන් නුගුණ වෙ ලා

සූරි ය නැගි උදා ගිරේ රැස් විහිදෙනවා මුළු ල්ල
නැරි ය සක්වළ හැම තැන කෙළි පුද ගන්නට මුළු ල්ල
බේරි නාද මල් කෙළියට මල් නවඩන් බැඳට බෙ ල්ල
කාරි ය බල අදිපොති සුර කළු දෙවතා වඩින ලොල්ල
(39)



## 59
# කළු බණ්ඩාර දෙවියෝ

දොළහ දෙවියන් අතර සිටින මෙම දෙවියෝ කොහොඹ කංකාරියේ ද සඳහන් වෙති. කොහොඹ කංකාරියේ කළු කුමාර දෙවියන් ද (උඩුගම්පොළ) සඳහන් වන බව කිව යුතුය. කළු බණ්ඩාර දෙවියෝ බින්තැන්න හා සම්බන්ධ අයෙක් වෙති. බින්තැන්නේ විෂ්ණු දේවාලයට එම දෙවියන් ගෙන් මුර සේවාව ලැබී තිබේ. බුදු රදුන් මයියංගණයට වැඩි අවස්ථාවේ කළු කුමාරයා උන්වහන්සේ ගෙන් වරම් ලැබිය. (73: 136 පි.) ඒ කෙසේ වුවද ඔහු වනය හා සම්බන්ධ කොට ම දැක්වේ.

හුන්නස්ගිරියේ කන්දේ කොට        තී
දුන්නක් ඇරගෙන දඩයම් කර        ති
දඩයම් කළ තැන විමසා බල        තී
කළු බණ්ඩර දෙවි යහනට වඩී        තී

කළුවෙන් කළුවට කළු වැදි        සාමී
කළුවර දුරු කර වැඩි සඳ        සාමී
හුඹ හෙන් එළියට ආ නයි        සාමී
දැන් වැඩි යයි කළු බණ්ඩර        සාමී

ඌරා ගල සිටි අතු සම්        වැද්දෝ
අතු සම් ඇඳ ඇඳ එන්නම්        වැද්දෝ
අතුසන් මිතුසන් දුනුසන්        වැද්දෝ
කළු බණ්ඩර දෙවි මලයට        විද්දෝ
(3)

ඔහුගේ වාහනය දිවියෙකි. වෙල්ලස්සේ බණ්ඩාර යනුවෙන් ද ඔහුට නමක් ඇත. (49 : XVII පි.)

දහලා මුණ්ඩාසනය        බඳිනවා
ඇහලා මෝපා සළු පළඳි        නවා
දැකලා සව් සත බියපත්        වෙනවා
අඩ දැනලා කළු කුමරු        වඩිනවා

කළුගල් මුදුනේ වැඩ සිටි        නේයා
පළුකන් දළුමුර මිටි බඳි        නේයා
වළුමල් බැඳි තොරණුත් බඳි        නේයා
කළු කුමාර දෙවි රජ වඩි        නේයා
(73 : 137 පි.)

රූබර අභනුන් දැක දුම්බරට වැඩම කළ කඩවසම් සිරුරින් යුත් කළු බණ්ඩාරයන්ට පිටියේ දෙවියන් ගේ අවසරය ද ලැබිණි.

අම්බර තරුසේ කෙළ ඇවිදින්        නේ
රූබර අභනන් දැක ලොබ වෙන්        නේ
දුම්බර වෙල වෙල මැද ඇවි දින්        නේ
දුම්බර පිටියට වැඩම කරන්        නේ



පිටියේ දේවාලේට        වඩින්නේ
සිටියේ අවුරුදු ගණනකි වැන්        නේ
අටියේ වඩවන කළු කුමරුන්        නේ
පිටියේ මහරජ අවසර දෙන්        නේ
(එම : 140 පි.)

මොහු ඌවේ ගම්භාර දෙවිකෙනකු ලෙස ද සලකනු ලබන්නේය (125: 111 පි.).



## 60
## කළු රජා (බණ්ඩාර)

මේ නමින් යුත් දෙවි කෙනකුට පිටියේ දෙවියන් හා සමග දළුමුර පූජා කෙරෙනු 'පිටියේ දළුමුර කවි' නමින් යුත් හියු නෙවිල් එකතු කළ කවි සමුච්චයේ ඇති කවි 55 ක කවි පන්තියක දක්නා ලැබේ. (161, 1 : 315 පි.) පිටියෙ දෙවියන් විසින් යක් කර ගන්නා ලද හෙට්ටි නයිදේට කළු බණ්ඩාර යන අපර නාමය ද යෙදුණු බව එහි සඳහන්ය. පහත සඳහන් කවියේ කළු නයිදේ නමින් හැඳින්වෙන්නේ මේ දෙවි විය යුතුය.

වීර විකුම් ඇති කළු නයි        දේයා
සාර රුවන් තනහිලා නයි        දේයා
දිර පංගර ගම්මන නයි        දේයා
නෑර සතුන් රැක සෙත් සිරි        දේයා
(37 : 176 පි.)

(පිටියේ දෙවි යටතේ ද බලන්න.)

## 61



# කළුවැදි දේවතාවා

මේ දෙවියා ගේ නමින් ම ඔහු වැදි නායකයකු බවක් පෙනෙන්නට ඇත.

"........ වැද්දන් තුන් දෙළසක් පිරිවරා ගත්තා වූ කළුවැදි දේවතාවුන් වහන්සේටයි මේ ආරාදනා කරන්නේ....." යන කොහොඹ කංකාරියේ අයිලෙ යැදීමේ එන කන්නලව්වෙන් ද ඒ කීම සනාථ වේ. (73 : 64පි.)

කොහොඹ කංකාරියේ අයිලෙ යැදීමේ දී පස්වන ස්ථානයට ආරාධනය ලබන මේ දෙවියා වන හා ගිරි දුර්ග සහිත ගම්වල වසන කතුන්ට කළුකුමාර දිස්ටිය හෙළන බවට ද විශ්වාසයක් පවතී. සමහර තැනක කළුවැදි යකා යනුවෙන් ද සඳහන් කර ඇති කළුවැදි දෙවියා දෙවොල් දෙවි සමඟ මේ ලකට වන් බව ද පැවසේ. (124 : 695 පි.)

කොහොඹා කංකාරියේ විවිධ අවස්ථාවන්හිදී,

1. වඩින්න කළුබණ්ඩර වෙල්ලස්සේ
2. බානු ලෙසට කළුකුමර වඩින්නේ
3. නටවාලා කළු රජු වඩපෝයා
4. වැදී කුල දහසක් පිරිවරා යන්නා වූ කළුවැදි දේවතාවාණන් වහන්සේ

යනාදී ආකාරයට වනා ඇත්තේ එක ම දෙවියකු යයි ද ඔහුට ඒ අවස්ථාවන්හිදී කළුවැදි දේවතා, කළුකුමාර, කළුබණ්ඩාර, කළුරජ යනාදී නම් යෙදෙන බවද පවසනු ලැබේ (124 : 690 පි.)



## 62



# කාලී දේවී

මුලින් යක්ෂණියක ව සිටි මැය පසුව දේවත්වයට පත් ව ඇත. පාලි සාහිත්‍යයට අයත් ධම්මපදට්ඨ කථාවෙහි එන කාලියක්ඛිණී කථාව අනුව යැකිනියක ව සිටි කාලි බුදුබණ අසා දැහැමි ජීවිතයකට පත්ව සාගේත් දැහැමි බිලි උපහාර ලබා ගෙන තිබේ. සද්ධර්මරත්නාවලී කාරක ධර්මසේන හිමියන් ගේ කාලය වන විට කාලි ඇදහිල්ල ලක්දිව ද පතලව තිබුණු බව පෙනී යන්නේ ඒ හිමියන් "........උයිත් මහත් වූ ලාභ සත්කාර ඇතිව කාලි බරාඩි යයි ප්‍රසිද්ධව" යන්නෙන් කාලි යකින්න ගේ කථා වස්තුවෙහි සඳහන් කර තිබීම නිසා ය. එසේ වන විට ඇගේ දෙවොල කාලී බරාඩි යන්නෙන් ලක්දිව හඳුන්වා ඇති බව සිතාගත හැකිය. පළමුවන රාජසිංහයන් පිහිට වූ සීතාවක බැරැන්ඩි කෝවිල යනුවෙන් හඳුන්වා ඇත්තේ උක්ත කාලි දේවිය ගේ නාමයෙන් විය යුතුය. හින්දුන් අතර පවතින විශ්වාස අනුව කාලිය, උමා, පාර්වතී, ගිරිදේවි, ගෞරී, ජගන්මාතා ආදී නම්වලිනුත් ඇගේ භීෂණ ස්වරූපය දැක්වීම සඳහා දුර්ගා, ශ්‍යාමා, කාලී, භෛරවී, චාමුණ්ඩි, මෝහනී ආදි නම් භාවිතා කර ඇති බවත් පෙනී යයි. ඉහත දැක් වූ නම් අතර භෛරවී යන නාමක් ද කාලී සතුව ඇති බව පෙනී යයි. මෙකී භෛරවී යන්නෙන් ද බහිරව කෝවිල් යන්න බිඳී ඒමට බැරිකමක් නැත. කාලි අම්මා යනුවෙන් ද, විශේෂයෙන් වතුකරයේ ද්‍රවිඩයන් අදහනු ලබන්නේ ද උක්ත කාලි දේවිය ම විය යුතුය. බෙන්තොට වූ කාලී කෝවිලක් ගැන පරෙවි සන්දේශයේ 92 වැනි කවේ සඳහන් වීමෙන් පෙනෙන්නේ කෝට්ටේ යුගයේ මෙහි කාලී ඇදහීම (දෙමළ ජනාවාස සමග) තිබුණු බවය.

භාරතයේ හින්දු භක්තිකයන් අතර කාලිය අතිශයින් ප්‍රසිද්ධ වන්නීය. දුර්ගා යන ස්වරූපය ගත් ඇය විසින් මහිශාසුර නම් යක්ෂයා මර්දනය කළ කථාව නිසා ඇයට භද්‍ර කාලී යන නමක් ද, එම සටනේ දී සතුරන් මැරූ හෙයින් ශ්මාසන (සොහොන්) කාලී යන්නක් ද ඇති හෙයින් ඇගේ ස්වරූප දෙකකි. දකුණු භාරතයේ ඉතා ප්‍රබලව පැවති කාලි ඇදහීම ලක්දිවට ද අවුත් තිබේ. අදට මෙහි ඇති ප්‍රකට කාලි දේවාලය

මුන්නේස්වරමේ පිහිටා ඇත. පුරාණයේ භාරතයේ සිටි කාලිය සිංහලයන් විසින් බෞද්ධ මුහුණුවරක් ගැන්වීම **ධම්මපදට්ඨකථාවේ** හා **සද්ධර්මරත්නාවලියේ** සඳහන් පුවතින් පෙනී යයි (152:135 පි.). ඇතැම් සිංහල ලේඛනයන්හි ඇය "පත්‍රකාලී" යනුවෙන් හැඳින් වෙයි. ලෙඩ රෝග හා සම්බන්ධ කොට "වදුරු මා දේවි" යනුවෙන් ද හැඳින්වෙන්නීය.

ගම්මඩුව පූජා කර්මයේ දී පත්තිනිය විසින් ලෙඩ රෝග ඇති කරන වදුරු මා දේවිය මර්දනය කරනු ලැබේ. (152 : 139 පි.) මහනුවර රාජ සමයේ දී හෝ ඊට පෙර සිංහල බෞද්ධයන් අතර කාලිය පිළිබඳව විශේෂ සැලකිල්ලක් තිබූ බවක් නොපෙනේ. (එම).

එහෙත් විසිවන සියවසේ දී කාලිය සිංහල බෞද්ධයන් ගේ විශේෂ අවධානයට යොමු වී සිටින්නීය. ඇය වෙනුවෙන් බෞද්ධ දේවාල නැතත් මුන්නේස්වරම හෝ වෙනත් හින්දු කෝවිල් ආශ්‍රිතව ඇයට පුද පූජා පවත්වා යම් යම් කාර්ය ඉටු කර ගැනුමට බෞද්ධයෝ උත්සුක වෙති. (එම: 140 - 141පිටු). මේ සමග ම කාලි පූජා ගැන විශේෂඥයන් වන කාන්තාවන් ද බෞද්ධයන් අතර සිටින බව පෙනී ගොස් ඇත. (එම). මේ සිද්ධි නාගරික ප්‍රදේශවලට සීමා වී ඇත. (එම :143 පි.) කාලිය ගෙන් උපකාර ඉල්ලා සිටින්නේ විශේෂයෙන් පෞද්ගලික ගැටුම්වල දී තමනට කරන ලද අකටයුත්තක් සඳහා පළි ගැනීම පිණිසය. (එම). මහනුවර අවධියෙහි දී පත්තිනිය සතුව තිබූ තත්වය අද ක්‍රමයෙන් කාලිය අතට පත්වෙමින් පවතින බව ගොම්බ්‍රිච් සහ ඔබේසේකර පවසති. (එම : 160-162). නූතන සමාජයේ පවතින තරඟකාරීත්වය, පෞද්ගලික සට්ටන ආදිය නිසා කාලිය වැනි ප්‍රබල සැර පරුෂ අයකු ගේ පිහිට පැතීම වඩා උචිත බව පෙනී යෑම මීට හේතුව ලෙස දැක්වේ.



## 63
## කැබිලිත්තේ දෙවියෝ

"පානම් පත්තුවට අදිපති දෙවි හාමුදුරුවන්" ලෙස හැඳින් වෙන්නාහු කුමන පිහිටි කැබිත්තේ "දේවාලයට" අධිගෘහිත දෙවියෝය. මේ දේවාලය පිහිටා ඇත්තේ රුහුණු කතරගම දෙවියන් ගේ අඩවියට අයත් කුඹුක්කන්



ඔය අසබඩ යාල ජාතික වනෝද්‍යානය තුළය. පානම් පත්තු ජනතාව තමන් ගේ සැම දුක් ගැනවිල්ලක් හමුවේ දී පිහිට පතන්නේ මේ දෙවියන් ගෙනි. (47 : 49-53 පිටු)

මේ දෙවියෝ "දිවුලානේ කැබිලිත්තේ දෙවි" වශයෙන් ද හැඳින් වෙති. "සියඹලාපෙ දෙවියෝ" යන නමින් හැඳින්වෙන්නෝ ද මේ දෙවියෝය. එයට හේතුව මේ දෙවියන් එක්තරා සියඹලා ගසකට අධිගෘහිතව වෙසෙන බවට ඇති විශ්වාසයයි. යථෝක්ත සියඹලා වෘක්ෂය කුමන ගම්මානයේ සිට බටහිර දෙසට සැතපුම් 25 ක් පමණ කුඹුක්කන් ඔය ඉහළ පිහිටා තිබිණි. ඝන වනාන්තරය තුළ පිහිටි මේ ස්ථානයේ ගොඩනැගිල්ලක් නොමැත. පුද පූජා පැවැත්වුණේ සියඹලා වෘක්ෂය පාමුල ය. දැන් එම මුල් සියඹලාව විනාශව ඇත. ඒ අවට කුඩා සියඹලා ගස් ගණනාවක් තිබේ.

කැබිලිත්තෙ දෙවියන් ගේ පිහිට විශේෂයෙන් අපේක්ෂා කෙරෙනුයේ ලෙඩ රෝගවලින් ආරක්ෂාවට වඩා සොර සතුරු උපද්‍රව වල දී ය. සතුරන්ට පළිගැසීම අරභයා මේ දෙවියෝ ප්‍රසිද්ධ වෙති. (4)



## 64
## කැලේ කඩවර දේවින්නාංසෙ

මේ දෙවියකු නොව දේවතාවියක බව දේවින්නාංසේ යන වහරින් ම පෙනී යයි. ඇය ගැන වැඩි විස්තරයක් හමුවූයේ නැත. මේ ගැන දැක්වී ඇති කරුණු අනුව ඇතැම් විට "බෝගම්බර දෙයියං" හැටියට දෙවිවරු කීප දෙනෙක් සැලකෙතියි සඳහන් කෙරේ. එම දෙවිවරුන් ගේ නම්:-

මංගර
පල්ලේබැද්දේ බණ්ඩාර (ආබරණය - වහුං කැත්ත)
කැලේ බණ්ඩාර (ආබරණය - හෙන්ඩුව)
නායක බණ්ඩාර (ආබරණය - හෙල්ල)
නායක දේවින්නාංසෙ (ආබරණය - බෝකොළේ)
තනිකර බණ්ඩාර
අබුත බණ්ඩාර

නම නැති බණ්ඩාර
කැලේ කඩවර දේවින්නාංසෙ

මේ දෙවිවරුන් ගැන සඳහන් කරන විට "උන්නැහැ" "යස්සනී" යන්න ද සුදුසු පරිදි යෙදේ. (70 : 50 පි.)

කරලේ කඩවර දේවින්නාන්සෙ කැලේ බණ්ඩාර දෙවි ගේ බිරිඳ විය හැකිය.



## 65
## කැලේ බණ්ඩාර දෙවියෝ

ලග්ගල විසූ යක් සෙනෙවියකුට නන්දනී නම් බිසොවක් වූවාය. ඇය ගැබිණිව සිටියට දී යක් සෙනෙවියා විජය කුමරු අතින් මරණයට පත්විය. මෙයින් බියපත් වූ ඕ බැද්දට පැනගත්තාය. කැලේ දී ඇයට දරුවෙකු ලැබිණි. ගියේ දින හතකි. බිළිඳා ගේ මව වන නන්දනී මිය ගියාය. එහි දී අසරණ වූ මේ බිළිඳාට වග වලසුන් විසින් කිරි දී පෝෂණය කරන ලදී. කෙමෙන් කැලේ ම වැඩුණු මේ ළදරුවාට එහි වූ නිදන් පහළ විණි. තරුණ වියට පත් හේ කැලේ බණ්ඩාර දෙවි යන නමින් පරසිඳු විය. ඒ පුවත මෙසේ සඳහන් වේ:-

වසන් නොව කවි ක    ර යක් සෙනෙවි ජන ප    ති
බසින් පවසමි නොර තු    ර කැපෙමින් ගියා දැක නි    ති
උතුන් දෙවි පින් ස    ර ඔහු බිසව නන්ද    නි
අසන් මෙ කවි කැලේ බණ්ඩ    ර බිසව පැන ලා ගොසින් හැංගෙ    ති

පෙර සිට පැවත එ    න යක් පෙදෙස හැර    ලා
පරසිඳු ලග්ගලය ය    න රුක් ගල් හිමය සිට    ලා
විජය රජ පැමුණු    න කුසය බර වී    ලා
කලෙහි සැම යක්සෙන් කපාල    න උපන් කුමරෙක් වීය එක    ලා

ගත්තිය සෝ ගිනි තනි වන මැද    වෙති
අත්විය කුමරෙක් පෙරකම් පල    දෙති
මත්විය යක් බිසවුන් ඇද වැටෙ    ති
පත්විය සත් දින දී මරු නන්ද    නී



දකිනා දිවි සිහ වග වැලහින්    නේ
පැමිණා කිරි පොවමින් ඔහු යත්    නේ
ලකුණා පෙරපින් ඇති බව දත්    නේ
රැකුණා දිවි මෙම ලෙස කුමරුන්    නේ

වෙර ඇති කුමරුන් දින දින වැඩෙ    නා
මෙර උසුලන මෙන් සවිබල ලැබු    ණා
බෙර පැළි ලෙස තිබු නිදන් පිපුරු    ණා
පෙර පින් ලෙස රන් ගබඩා ඇරු    ණා

සදා පුරය කරනෙමි මෙ කැලේ    යා
කියා වැදුණි මහ සෙනඟ කැලේ    යා
තදා සෙනඟ ගල් කරපු කැලේ    යා
එදා පසිඳු විය දෙවියො කැලේ    යා

බලේ සෙනඟ ගල් වැඩ කරමින්    නේ
කැලේ කෝවිලක් කර ගනිමින්    නේ
බලේ සෙනඟ මුදවා හරිමින්    නේ
කැලේ ඒ බණ්ඩර දෙවියො වඩින්    නේ

(90 : 53 පි.)

ඌවේ නෙළුදණ්ඩගම ප්‍රදේශයේ කැලේ බණ්ඩාර දෙවියෝ විශේෂ පුද පූජාවට ලක් වෙති. ඒ තුමන් නමින් පොල් එල්ලීම හා අතු එල්ලීම කරනු ලැබේ. වැදගත් කටයුත්තක් ඇරඹීමේ දී හෝ ගමනක් පිටත්වීමේ දී මේ දෙවියන් සිහි කොට සාර්ථකත්වය පතා අසල ඇති ගසකින් කොළ ඉත්තක් කඩා මඳක් උසින් ඇති ගස් දෙබලක රැඳවීම ගැමියන් ගේ චනාවකි. (86 : 209 පි.)



## 66
## සීතගම සිටිබණ්ඩාර දෙවියෝ

දැදුරු ඔය බඩ විසූ තරුණයෙක් බිත්තඹුරු වැලකින් වල් අලියකු ගැට ගසා ගෙන ගොස් සීතාවක වාසලට ඉදිරිපත් කළේය. මෙයින් අතිශය සතුටට පත් වූ මහවාසලින් එම ගැමියාට රන් කොතක් තිළිණයක් ලෙස ලැබිණි. එසේ ම දැදුරු ඔය බඩ වල් ඇතුන් ගෙන් සිදුවන උවදුරු මැඩ

ලත ලෙස ද රජු ඔහුට නියම කළේය. මෙ වැනි දස්කම් පෑ ඔහු මිය ගිය පසුව දේවත්වයේ ලා සැලකීමට ගැමියෝ යුහුසුලු වූහ. දේවත්වයට පත් මොහු ගේ සේවකයා ගිනි කුරුම්බර යනුවෙන් හඳුන්වනු ලැබීය. කල් යාමේ දී ගිනි කුරුම්බරයා ද ගිනි කුරුම්බර දෙවි බවට පත්වූයේය.

ඇතෙක් අල්ලමින් කර දේ දවටා ලා දීපු දැකු   න්
කොතක් සදා රත්තරනින් කිතගම ඉඩමේ තබමි   න්
ඇතා කරපු අතවරයට කවුද පිහිට උනේ ඉති   න්
කිතගම හිටි සුරපති හට වැද නම කර කවි පවස   න්
(29 : 32 පි.)

මේ දෙවියා සතු දේවාලය කුරුණෑගල දිස්ත්‍රික්කයේ දේවමැදහත්පත්තුවේ, බලදොර කෝරළයේ කිතගම නම් ගමේ පන්සල් වත්තේ පසෙක පිහිටා තිබේ. එයට පෙරත් එහි දේවාලයක් තිබුණු බවත්, එය විනාශ වී ගොස් ඇති බවත් සඳහන් වේ. ඒ ගැන ඇති කවියත් මෙසේ යː-

දොළොස් රියන් උළුගේ බැඳ රන් කොත් තබවා මුදු නට
ලොවේ වඩන කවි පවසමි කිතගම හිමි මහ සුරිඳු   ට
(29 : 50 පි.)

ගම් වැසියන් මේ දෙවිඳු ගැන කියන විට අපේ හිටිබණ්ඩාර මුත්තා යනුවෙන් ද සඳහන් කරන බවත් පෙනේ. මුල දී හිටිහාමු යනුවෙන් හඳුන්වනු ලැබූ මොහු ගේ පියා කිතගම විදූ ප්‍රභූවරයෙකි. යටිහේනේ දැන් හේනේ ගෙදර කියන නිවසේ විදූ කාන්තාවක් ඔහුගේ මව වන්නීය. හිටිබණ්ඩාරට පුත්තු නො වූහ. දුවක් වූවාය. ඇය දිග ගොස් ඇත්තේ යටිහේනේ අයකු සමඟය. පෘතුගීසීන් ඒ පළාත මංකොල්ල කන අවස්ථාවේ දී හිටිබණ්ඩාර තම සහචරයන් සමඟ පෘතුගීසීන්හට සාර්ථක ලෙස මුහුණ දී තිබේ. හිටිබණ්ඩාර කෝල්මුරවල ඒ බව කියවේː-

පරංගි රජුහට රට ගිය කා   ලේ
සාසන තුන නැති කරති ඒ වේ   ලේ
වෙඩි සැරයෙන් රට වනසති කෝ   ලේ
හිටිබණ්ඩර රට රැක්කයි ආ   ලේ
(29 : 160 පි.)

මොහු ගේ දස්කම් දුටු සූරිය රජ තුමා (රාජසූරිය?) හිටිහාමි කැඳවා ඔහු අරමුදලේ ලේකම් තනතුරට පත්කර ගත්තේ ය. ඒ සමඟ ම ඔහුට බණ්ඩාර නම ද පට පදින ලදි. ඒ වග සඳහන් වන්නේ මෙසේ යː-

සීතාවක සූරිය මහ නර   නිඳු
පළමුව අරමුදලේ ලේකම   යෙදූ
ඒ වෙනි තිලේ පිට දෙවමින් නම   යෙදූ
හිටිබණ්ඩර කිව් සූරිය නර   නිඳු
(29 : 51 පි.)



රාජ සේවාවේ යෙදී සිටි ඔහුට අතීසාර රෝගය වැලඳිණි. එවිට ඔහු රාජ ගෞරව සහිත පෙරහරකින් තම ගම්පියසට පැමිණියේය. එහෙත් ගමට පැමිණි ඔහුට ජීවත්වීමට හැකි වූයේ සත් දිනකි. සීතාවක රජවාසල ඔහු මළ බව අසා බලවත් ශෝකයට පැමිණ රාජ නියෝග පනවා අවසාන කටයුතු ඉතා හොඳින් කරවීය. මෙම ආදාහනය යටිහේනේ දී සිදු විය. දරසෑයේ ගිනි බුරබුරා නැඟෙද්දී හිටිබණ්ඩාර ගේ හිතවතා වූ තෙලිසිං අච්චිල නමැත්තා එයට පැන මිය ගියේය. හෙතෙම දෙවියා ගේ ගිනි කුරුම්බර ලෙස උපත ලැබීය. දැදුරු ඔය වම් ඉවුරේ සිටින ඇත් රංචුව මේ දෙදෙනා භාරයේ සිටින බවට ජනයා තුළ දැඩි විශ්වාසයක් පවතී. හිටිබණ්ඩාර පරපුරට අයත් අය දැනුදු කිතගම වෙසෙති. (29 : 49-59: 157-161 පි.)

## 67
## කිරිඅම්මා දෙවිවරු

වැදි ජනයා ගේ ආගමික අදහස් ඔවුන් වෙසෙන පළාත්වල සිංහල ජනයා අතර ද තරමක් දුරට පැතිර ගොස් ඇති බවට ඌව, බින්තැන්න, නුවර කලාවිය, තමන්කඩුව ආදී ප්‍රදේශවල කලක පැවැති බවට සාධක ඇති "කිරි අම්මා" නම් දේව පිරිසක් පිළිබඳ විශ්වාසයෙන් පෙනේ. මේ කිරි අම්මා දෙවිවරු වැදි ජනයා අදහන මිය ගිය ඥාති (නායක යකුන්) පිරිසට අයත් වෙති. ඔවුන් අදහන කිරි අම්මාවරු කීප දෙනෙක් වූහ.

විවිධ මූලාශ්‍රයන්ගෙන් අපට ලැබුණු කිරිඅම්මාවරුන්ගේ නම් මෙසේයි:

ඉදිගොල්ලේ කිරිඅම්මා
කුකුළාපොළ කිරිඅම්මා
උනාපාන කිරිඅම්මා
වෙල්ලස්සේ කිරිඅම්මා
කොස්ගම කිරිඅම්මා
බිළිඳු කිරිඅම්මා
කොටවැව කිරිඅම්මා
මහ කිරිඅම්මා
ඉදිගස්වෙල කිරිඅම්මා
පොල්ගහගම කිරිඅම්මා
කොලොන්විත්තේ කිරිඅම්මා
ගෝනාපාලාවේ කිරිඅම්මා
ඉහබේ කිරිඅම්මා
ඉනාවැල්ලේ කිරිඅම්මා
දොඹගහවෙල කිරිඅම්මා
කපුයායේ කිරිඅම්මා



8. ර.මු.නි.ප. - 93939

| | |
|---|---|
| මීරියබැද්දේ කිරිඅම්මා | මැදගංගොඩ කිරිඅම්මා |
| පුස්පරාග කිරිඅම්මා | තල්කොට කිරිඅම්මා |
| බෝවල ගෙදර කිරිඅම්මා | දඹගල්ලේ කිරිඅම්මා |
| බාලගිරි කිරිඅම්මා | හඳුන්කුමාරි කිරිඅම්මා |

මේ අතුරෙන් කුකුළාපොළ කිරිඅම්මා ලෙස වැදි ජනයා දේවත්වයට නංවා ඇත්තේ සිය පරපුරේ ආදිතමයක වන කුවේණිය යැයි මතයක් තිබේ. වැදි ජනයා විසින් සිය පරපුරේ ආදි පුරුෂයන් "නෑ යකුන්" ලෙසින් අදහනු ලබන අතර "කිරි අම්මලා" ඒ සැලැස්ම තුළ කාන්තා දෙවිවරු වෙති. උනාපාන කිරිඅම්මා උනාපාන නම් වැදි වරිගයේ ආදි කාන්තාවය. කොස්ගම කිරි අම්මා යනු කොස්ගම දෙවියන් ගේ බිසව බව ද සැලකේ. (එම) වැදි ජනයා ගේ ආගමික වතාවත් අතරින් "රුවල" හා "අවන" කිරිඅම්මා වන්දනාව සඳහා යොදා ගැනේ. (178 : 152-54 පිටු)

සිංහල ජනයා ගේ කිරිඅම්මා දෙවිවරුන් පිළිබඳ විශ්වාසය පත්තිනි දෙවියන් හා සම්බන්ධ වේ. "සත් පත්තිනි" සංකල්පය අනුව පත්තිනි දෙවියන් ගේ ස්වරූප හතක් හඳුනා ගනු ලැබේ. (පත්තිනි දෙවි යටතේ බලන්න.) වැදි ජනයාගේ අදහස් ද මේ හා මුසු වී ඇති බව පෙනේ. පත්තිනි දෙවියන් ඇතැම් විට "හලඹ කුමාරි කිරිඅම්මා", "හඳුන් කුමාරි කිරිඅම්මා" යන නමින් ද හැඳින් වෙන බව සඳහන් ව ඇත. (157 : 54 පි.). දකුණු පළාතේ ප්‍රචලිත ශාන්තිකර්මයක් වන රට යකුම හෙවත් රිද්දි යාගයේ දී සඳහන් වන රිද්දි බිසවු සත් දෙනා පිලිබඳ සංකල්පය ද පුරාණ වැදි ජන විශ්වාසයෙන් පැවැති කිරිඅම්මලා විශ්වාසය හා මුසු ව ඇතැයි පෙනෙන බව සී. ද ඇස්. කුලතිලක මහතා විශ්වාස කරයි. (එම). සබරගමු පළාතේ සිදුවන රට යකුමෙහි දී රිද්දි බිසවුන්ට දෙන පිදේනිය "නැව් පිදේන්න" නමින් හැඳින් වෙන අතර වැදි ජනයාගේ "රුවල" නම් ශාන්ති කර්මයෙහි "රුවල" නම් යාත්‍රාවක ස්වරූපය ගත් සැලැස්මක් ගොඩ නහා ගන්නා බව ද සඳහන් කළ යුතුය. සිංහල ජනයා අතර පවතින කිරිඅම්මා විශ්වාසය විශේෂයෙන් මොනරාගල, මහඔය යන වැදි ජනාවාසයන්ට කිට්ටු ප්‍රදේශවල දැක්ක හැකිය. මංගර දෙවියන් සඳහා වන කිරිමඩු යාගයේ දී ද කිරිඅම්මා පිදවිල්ලට ම ඇරුණු "තොරන් පහන් එළිය", "හුදු මල් එළිය" යන ශාන්තිකර්මයන්හි දී ද කිරිඅම්මාවරු පුදනු ලබති. (කුලතිලක, එම) ලෙඩ රෝග සුව කර දීමට ඔවුන් ගෙන් ඉල්ලා සිටීම මෙන් ම වඩාත් වැදගත් වන්නේ දරුවන් ගේ ආරක්ෂාව ඉල්ලා සිටීමත්, දරුවන් නැති අයට දරුවන් ලබා දීමත් ය. රට යකුම ද වඳ භාවයට පිළියමක් ලෙස කෙරෙන බව මෙහි සඳහන් කළ යුතු වේ.



| | |
|---|---|
| කිරි අම්මොයි දැන් ඔබ කොයි රට | දෝ |
| වැඩී යයි තුන් රට තව බල ගතු | දෝ |
| මම කියනා මැසිවිලි නෑ සේ | දෝ |
| පුතකු දෙන්ඩ මම කී කවි මදි | දෝ |
| රන් රුවලේ කිරි අම්මා එන් | නේ |
| මල් උයනට වැඩ දිවැස් බලන් | නේ |
| බිළිඳුට කළ ලෙඩ ඉන් නැති වන් | නේ |
| දළමුර හෙප්පුව දැන් පුද ගන් | නේ |

(157 : 64 පි.)

කිරි අම්මාවරුන් සම්බන්ධ කර ගෙන මොනරාගල ප්‍රදේශයේ කෙරෙන ශාන්ති කර්මය මුළු රැයක් පුරා කෙරෙන්නකි. එහි දී මහකිරි අම්මාට කෙරෙන යාදින්න විශේෂ ලක්ෂණ දරන්නකි.

"නමෝ තෙද වරන්, ගුරු වරන්, පස්වාන් දහසකට බුදු වෙන්ඩ ආයු බොහෝ වන්ඩ, ආයු බොහෝවන්ඩ, ආයු බොහො වන්ඩ. හොර මොරට හොර මොර කිව්වා, හොර මොර කොන් රුප්පෙට, කොන් රුප්පේ කිව්වා, ඇලැවල වෙල් එළියට වෙල් එළිය කිව්වා, නා රුස්සට නා රුස්සේ කිව්වා, මහගල මහත්නාමිට මහත්නාමි කිව්වා, හැලගලට හැලගල කිව්වා, මාදේගලට මාදේ ගල කිව්වා, මයියන්ගනේ හාමුදුරුවන්ට මයියන්ගනේ හාමුදුරුවො කිව්වා, මහගල මහත්නාමිට මහත්නාමි කිව්වා, මහගල මහත්නාමිගෙ ඉස්සෙට්ටි යන්නෝ සූ සැටයි. පස්සෙට්ටි යන්නෝ සූ සැටයි. බත් පෙට්ටි කාරයෝ සූ සැටයි. බුලත් පෙට්ටි කාරයෝ සූ සැටයි. අමාමුල් කාරයෝ සූ සැටයි. කාරිය කියන්නෝ සූ සැටයි, කාරිය නොකියන්නෝ සූ සැටයි. අත් අදින්නෝ සූ සැටයි, පය අදින්නෝ සූ සැටයි, නිය අදින්නෝ සූ සැටයි. මහගල මහත්නාමිට කියන කන්නලව්ව, මයි කිරි අම්මා දාහට උදහස් වෙන්න එපා. අනුහස් ඇති කිරි අම්මා, තේජස් ඇති කිරි අම්මා, සාදු බුදු වන කිරි අම්මා, මයි කිරි අම්මා අත ගෙවෙන කම් වදින්නේ, කට ගෙවෙන කම් කියන්නේ, වෙනස් ගරුවකට මුසිප්පාත්තුවකට නොවෙයි. මේ ලේ බිළින්දා ආලේ පාලේ යන හින්දා මයි. කිරි අම්මාට ශුද්ධ භාස් කෙළියක් ගෙන පාවා දෙන්නේ, මේ ලේ බිළින්දාගේ හොරි කට්ට දඩු කට්ට, ගෙඩි වදුරු මල් වදුරු ගසා දුරු කර, මේ ලේ බිළින්දා අල්ලා ගොඩ දී පන්" (157 : 67-68 පිටු)

මෙහි දී කිරිඅම්මාට විවිධාකාරයෙන් සේවය කරන්නා වූ හැට හතර බැගින් පිරිස් සඳහන් කිරීමෙන් ඇගේ තේජවන්ත භාවය ප්‍රකාශ වේ. මෙම කන්නලව්වේ භාෂා විලාසය චමත්කාර ජනකය. ග්‍රාමීය දේවතාවක වන

ඇය සඳහා යෙදෙන ළෙන්ගතු විධි ක්‍රියාව අප අවධානයට විශේෂයෙන් යොමු විය යුතුය.

අන්‍ය පළාත්වල සිංහල බෞද්ධයන් අතර පවතින "කිරි අම්මාලෑ දානය" පත්තිනි දේවිය මුල් කොට සිදුවන්නකි. මෙය "දෙවියන්ගෙ ලෙඩ" ලෙස සැලකෙන පැපොල්, සරම්ප ආදී අවස්ථාවල සිදු වන බාරයක් ඔප්පු කිරීම සිදුවේ. "මේ ලොව හත් වාරයක් පහළ වූ සත් පත්තිනි දිව්‍යාංගනාවුන් වහන්සේ" නමින් දරුවන් ඇති අම්මලා හත් දෙනකුට දානය පිරිනැමේ. ඔව්හු හිමිදිරි පාන්දර සුදු පිරුවටයෙන් සැරසී නිවසේ ඉදිරි දොරෙන් ඇතුළු වී පිරුවට අතුරන ලද පැදුරුවල වාඩි වෙති. දානයේ අග්‍ර භාගය පත්තිනි දෙවියන්ට පුදනු ලැබේ. මෙහි දී පන්සිල් ගෙන පත්තිනි දේවියට කන්නලව්වක් කොට දානය පිදූ අනතුරුව කිරිඅම්මලා සත් දෙනාට දානය පුදනු ලැබේ. ඉන් පසු නිවසේ සියල්ලන්ට සෙත් පතා ගායනා කරන කවි පන්තියක් ඇත. පහත දැක්වෙන්නේ ඉන් සමහරකි.

එර්දි වෙලා උඩු ගුවනෙ වඩි      න්නෝ
එර්දි සළුව ගෙන පවන් සල      න්නෝ
සුද්ද ඇතුව දෙන දන් පිළි ග      න්නෝ
සිද්ද පතිනි දෙවි මේ පින් ග      න්නෝ

රුහුණු රටේ කිරි අම්මා වරු      නෝ
රුහුණු සතරවට දිවස් බලන්      නෝ
දූන්නු මෙ කිරි දන වරද නොගන්      නෝ
රුහුණු රටින් කිරි බිසව් වඩින්      නෝ

(මී ළඟට "එනුග හතේ" "ගාල් හතේ" "පට්ටි හතේ" "එවිල් හතේ" කිරි අම්මාවරුන් ගැන ද මෙසේ ම සඳහන් කවි ගායනා වේ.)

අඹෙන් උපන් පත්තිනි දෙවියන්      ටයි
සමන් දෙවිඳු සහ කඳ කුමරුන්      ටයි
නාග පත්තිනි නව ග්‍රහ දෙවියන්      ටයි
පින් දෙමි වැඳ පත්තිනි දෙවියන්      ටයි

කලක්වෙලේ සිට අප කැප      වෙනවා
තොට පිරිබඩ ගා පිරිසිදු      වෙනවා
නො ඉඳුල් දානේ පිං පමුණ      නවා
පත්තිනි අම්මා මතු බුදු      වෙනවා

දකුණු පළාතේ මේ දාන අවස්ථාවේ දී එක් එක් අම්මා ඉදිරි පිට පොල්තෙල් පහන බැගින් තබනු ලැබේ. ඇතැම් පළාත්වල දී පහන



වෙනුවට දැල් වූ පහන් තිරයක් අතට ගෙන ගෙවැසියන්ට සෙත් ශාන්ති කරනු ලැබේ. දානය අවසානයේ දී කිරිබත්, කැවුම් යනාදී රස මසවුළු පිරවූ පැසක් ගත් කිරි අම්මාවරු ගෙදර පැළ දොරෙන් පිට වී යති. ගෙයින් පිට වන විට තමා අත ඇති පහන හෝ පහන් තිරය ගෙයි පිළ උඩ තබා ඇති වතුර බඳුනක දමා නිවා යෑම චාරිත්‍රයයි.



## 68
## කිවුලෙගෙදර අලුත් දෙවියෝ

සිය ගම් පියෙස වූ වියළුවේ වෙසෙමින් 1818 මහ කැරැල්ලේ දී ඉංගිරිසීන්ට එරෙහිව සිංහල සේනා සංවිධානය කළවුන් අතර සිටි කිවුලෙගෙදර මොහොට්ටාල ගේ පියා වන කිවුලේගෙදර මහ මොහොට්ටාල "කිවුලෙගෙදර අලුත් දෙවි" යනුවෙන් දෙවි බවට පත්ව සිටී. උක්ත කැරැළි කාර කිවුලෙගෙදර මොහොට්ටාල ද "පුංචි අලුත් බණ්ඩාර දෙවියන්" නමින් දෙවි බවට පත්ව සිටින බව ද මෙහි ලා සඳහන් කළ යුතුය. කිවුලෙගෙදර පරපුරේ සත් දෙනකු ම දෙවි බවට පත්ව සිටිති. (පුංචි අලුත් බණ්ඩාර දෙවියෝ" යටතේ බලන්න)

කිවුලෙගෙදර මහ මොහොට්ටාල අලි ඇතුන් මෙල්ල කිරීමේ දක්ෂ යෙක් විය. දක්ෂ ගොවියෙක් ද වූයේය. රාජ සේවාව සඳහා නිතර සෙංකඩගල මහ වාසලට යන ඔහුට මහ වාසලට හෝ බිසෝවරුන් ගේ පල්ලේ වාහලට යාමට අවසර තිබුණි. මන්තර ශාස්ත්‍රයෙහි කෙළ පැමිණියකු වූ ඔහුට යක්කු ඉමහත් බියකින් පසු වූහ. දිනක් වියළුවේ සිට සෙංකඩගලට එන ඔහු මහවැලි ගඟ තරණය කොට තැන්නේකුඹුර හරහා බුවැලිකඩට පැමිණි කල්හි එහි පාර දෙ පස කඳු දෙකට පා තබා ගෙන සිටි බහිරවයකු දුටුවේය. කෙනකු ගේ පා යටින් රිංගා යෑම අන්ත නිග්‍රහයක් ලෙස සිංහලයෝ එදා සැලකූහ. "දෙපැරන්ද අස්සෙන් රිංගා පිය" යනු අධික පරිභවයෙකි. එහෙයින් එ තැනින් ඉවත් වන ලෙස යකුට කී නමුත් ඉවත් නොවූ හෙයින් දැඩි කොවට පත් මොහොට්ටාල යකු විනාශ කිරීමට මන්තර ජප කළේය. මින් බියට පත් බහිරවයා වහා රජ වාහලට ගොස් මොහොට්ටාල ගේ මන්තර ජප කිරීම නවත් වන ලෙස

රජු ගෙන් අයදමින් එසේ කළහොත් තමා සතු සියලු වස්තූන් රජුට දෙන බව බැගෑපත්ව කියා සිටියේය. වස්තු තෘෂ්ණාවෙන් මඩනා ලද රජු පයිංඩ කාරයකු යවා මොහොට්ටාල ගේ මන්තර ජප කිරීම නැවැත්වූයේය.

එතැන් සිට මොහොට්ටාල විනාශ කිරීමට බහිරවයා මාන බලමින් සිටියේය. පල්ලේ වාහලට වේලාවේ හෝ අවේලාවේ හෝ මොහොට්ටාල යන බැවින් ඒ මඟින් තම සිතැඟි ඉටු කර ගැනීම හොඳම උපක්‍රමය බව බහිරවයාට පෙනිණි. පල්ලේ වාහලට රජු පිවිසෙන රහස් දොරක් තිබේ. එයින් මොහොට්ටාල යැව්වොත් රජුට ගතු කියා තම අභිමතාර්ථය ඉෂ්ට කර ගත හැකි බව දුටු බහිරවයා පල්ලේ වාහලේ දොරටු පාලකයා ගිවිස්සා ගෙන ඉදිරි දොර වසා දමා මොහොට්ටාලට රහස් දොරටුවෙන් පල්ලේ වාහලට පිවිසීම සැලසුම් කළේය. මේ බව වහා රජුට දැනුම් දී හොර රහසේ එය රජුට දැක ගන්නට ද සැලැස්විය. මෙයින් උදහස් වූ රජතුමා වහා කටුපුල්ලේ ඇත්තන් කැඳවා මොහොට්ටාල ගේ හිස ගසාදැම්ම වීමට අණ කළේය. හිස ගැසුම් කෑ කිවුලේගෙදර ඒ සැණින් දේවත්වයට පත් විය. (137 : 538 පි.)

කිවුලේ ගෙදරයි දෙවිඳු උපන්නේ
සයුරේ තෙදබල බෝය නමුන් නේ
උයනේ සපු මල් ගෙන පළඳින් නේ
කිවුලෙගෙදර දෙව් සැණින් වඩින් නේ

පට බඳින්ඩ වාසලට වැඩිය ද
රට ලැබිලා සිය රටට වැඩිය ද
පිට එළවා වල් ඇතු ලුහු බන් ද
කිවුලෙගෙදර දෙවි ඇතාව බන් ද

සෙල්ලම් ගම කිවුලේ දේවා ලේ
එන් නම් ඇත් රළ නිතර දෙවේ ලේ
බෙල්ලම් බිඳ මුතුවට කර මා ලේ
දෙසද්සැයි දෙවිඳුට සත් පොට මා ලේ
(3)

සෙල්ලන් කිවුලේගම දේවාලේ
බොල්ලන් බිඳ තද කරවට මාලේ
එන්නත් ඇත් නිතර දෙවෙ ලේ
දෙන්නත් දෙවි අට සත්පොට මා ලේ
(90 : 298පි.)



බදුල්ලේ ළිඳමුල්ලේ දේවාලයේ අද ඇති රූප අතුරෙන් එකක් කිවුලේගෙදර අලුත් දෙවියන් ගේ යැයි ඇතැමුන් පවසන අතර තවත් ඇතැමුන් ගේ මතය ඒ පුංචි අලුත් බණ්ඩාර දෙවියන්ගේ බවය. (84 :106පි සහ 174 ඒ : 421 පි.)



# 69 කිවුලේගෙදර බණ්ඩාර දෙවියෝ

බදුල්ලේ පහරගම්මන බොහෝ කලක සිට මහමදිකයන් පදිංචි ගමකි. දෙවන රාජසිංහ රජු උපවේ සටන් පැවති අවධියේ දී වරෙක මේ ගමෙහි සැඟ වී සිටියේය. පෘතුගීසිහු රජු ලුහුබැඳ යද්දී ඔහු සැඟ වී සිටින තැන මුස්ලිම් කතක ගෙන් විමසූ හ. එය දැන සිටි නමුත් ඒ බව නො පැවසූ හෙයින් කෝපයට පත් පෘතුගීසීහු ඇය මරා දැමූ හ. පසුව බේරුණු රජු කළ ගුණ සැලකීම් වස් එම ස්ථානයේ සිට පෙනෙන තෙක් ඉඩම් සන්නසකින් යථෝක්ත කාන්තාව ගේ පියාට පරිත්‍යාග කළේය.

මේ පහරගම්මන ගමේ රූබර නව යොවුන් මුස්ලිම් කතක් දුටු කිවුලේ ගෙදර බණ්ඩාර නම් තරුණයා ඇගේ අත පතා සිටියේය. එහෙත් ඇගේ දෙමාපියෝ ඊට විරුද්ධ වූහ. එහෙත් බණ්ඩාර නිතර නිතර කරන ඇවිටිල්ලෙන් ගැළවීමට සිතූ මුස්ලිම් වැඩිහිටියෝ අපේ තිස් අමුණ කෙතේ ගොයම් තනිවම දිනයක කපා දීමට සමත් වුවහොත් දුව ඔහුට දෙන බව පැවසූ හ. පුදුමයෙකි. කිවුලේගෙදර බණ්ඩාර එය ඉටු කළේය. එයින් පසුව අකමැත්තෙන් වුවද සිය පොරොන්දුව ඉටු කිරීමට මුස්ලිමුන්ට සිදුවිය. එහෙත් එයින් සත් දිනකින් කිවුලේ ගෙදර බණ්ඩාර අද්භූත ලෙස ළිය ගියේය. (76:180 පි.) තිස් අමුණක ගොයම් කැපීම් නිසා වෙහෙස වී තමා ගේ පෙම්බර මුස්ලිම් කත ගේ උකුල මත හිස තබා හුන් ඔහු මළා යයි මුස්ලිමුන් විසින් වළ ලන ලද බවත් පසුව ඔහු කෙඳිරි ගානු අසා වැද්දන් ලවා වළ හාරා ඔහුට විද මරන ලද බවත් ජනප්‍රවාදයේ පවතින තවත් පුවතකි.

කිවුලේගෙදර බණ්ඩාර ගේ මරණයෙන් පහරගම්මන වාසී මුස්ලිමුන්ට මහත් ව්‍යසන සිදු විය. මෙය ඔහු ගේ සාපයෙන් සිදුවන බව ඇදහූ ඔවුහු ඔහු වෙනුවෙන් පුද පූජා පවත්වන්න වූහ. අවට ගම්වාසීන් අතර ද මේ

පුවත පළ වීමෙන් ක්‍රමයෙන් කිවුලෙගෙදර බණ්ඩාර ගේ ඔද තෙද පැතිරී ඔහු දේවත්වයට පත් විය. (76 : 180 පි.)

| | |
|---|---|
| කිවුලේ ගෙදරයි මුළිකි | තානේ |
| පුටු පිට ඇතිරිලි දාපු විදා | නේ |
| මෙරටට ඇවිදින් පැනපු විදා | නේ |
| වඩිති කියන්නන් මුළිකි තා | නේ |
| කොස්ගම රාළගෙ තිසි අත | පත්තු |
| දුර එනවා දැක ළංකර | ගත්තු |
| රහස් කියන්නට මැදි කර | ගත්තු |
| රහස් දිනේ දී හදි කර | ගත්තු |
| බෝ අත්තට වද කීර සමන් | නේ |
| ආපස්සට වද මූණ පෙරළ න් | නේ |
| තම්මැත්තෝ දෙවියන් තට වන් | නේ |
| තඹර දුන්නෙ දෙවි රජා වඩින් | නේ |

(90 : 299 පි.)

**කිවුලේගෙදර දේව කන්තලව්ව:-**

'නමෝ තෙදවරං ගුරුවරං තෙද වරං ගුරුවරං තෙදවරං ගුරුවරං දිවස් පස්වානු දහසකට ආයුබෝවේන්ඩ හිමි හාමුදුරුවනේ, ඔබ තමුන්නාන්සේ සේරුපිටියේ උප්පාද්ද වෙලා, කිවුලේගෙදරට වැඩලා කිවුලේගෙදර නින්දගන් කොටුවක් කරවා ගෙන, එතැනින් පහරගම්මනයට වැඩ ලා තිස් අමුණක වෙල කප්පවා ගෙන මළකද පොළොවට පස් කරවා ගෙන කතරගමට වැඩලා කතරගම දෙවියන්ගෙන් වරම් ලබා ගෙන, සේරුපිටියේ කිරින්දේ දේවාලයක් කරවාගෙන එතැනින් කහටරුප්පසේට වැඩ ලා දේවාලයක් කරවා, පහරගම්මානයට වැඩ ලා, දේවාලයක් කරවාගෙන පරදේශක්කාරයින් දහසක් දහ දම්මවාගෙන, දහසක් මරාගෙන දහසක් උප්පද්දවා ගෙන ඔබ තමුන්නාන්සේගේ තෙදහස්කම් පාලා, කිවුලේගෙදරට වැඩලා මුල් පුටුව හයිකරවාගෙන, මැණික් පුටුව හයි කරවාගෙන ඔබ තමුන්නාන්සේ ඉහල වලව්වේ පහල වලව්වේ අප්පුහාමි බණ්ඩාර අලුත් දෙවියන්ටයි මං මේ ආරාධනා කරන්නේ.

තවද ඔබ තමුන්නාන්සේ එක්ක එක් කඩවතේ ඉන්නා පුංචි බණ්ඩාර අලුත් දෙවියන්ටයි මං මේ ආරාධනා කරන්නේ.

එනම් ඔබ වහන්සේලා ළඟට දොළොස් පන්සියයකට වියලුව අට පංගුවකට තෙදහස් කම් පාලා අප්පුහාමි දෙවියන්ටයි මං මේ ආරාධනා කරන්නේ



තවද කිවුලේගෙදරින් යක් වෙලා අරංගලට, මරංගලට පුරවරට ගල් කැප්ප වූ දේවාලයට තුවර සතර බිම්නැත්නට තේජස් පාලා සඳගනාවේ තිස් අමුනේ වෙල අස්සද්දවාලා පහර ගම්මානයේ වීදියක් කරවා ගෙන පතහගල පුටුවේ වැඩ හිඳගෙන සඳලුරාවේ පිහිදි දෙක හයි කරවා ගෙන රියනට කුරෙන් එන්නට වරං දී ගෙන කිවුලේගෙදර මහ මිදුලේ පුස් පොල් ගහේ පස්විලු පෑහෙන්ඩ වරං දී ගෙන කිවුලේ ගෙදර දියා බණ්ඩාර දෙවියන්ටයි මං මේ ආරාධනා කරන්නේ.

(දැනට මෙහි සඳහන් ගම්මානවල ගැමියන් විසින් පාරම්පරිකව පුද පූජා දැක්වූ කිවුලේ ගෙදර දෙවියන් වෙනුවෙන් කැප කළ දේවාල ඇත. එසේ ම කිවුලේගෙදර පරපුරට අයත් ගැමියෝ ද අද පවා සිටිති.)



## 70
## කීර්ති බණ්ඩාර දෙවියෝ

මේ දෙවි කීර්ති ශ්‍රී රාජසිංහ රජු ගේ යකඩ දෝලියකගේ පුතෙකි. කිරිබණ්ඩා නම් මොහුගේ දක්ෂතාවත් ඔහු සතු ශරීර ශක්තියත් පිළිබඳ ව රජු අතිශයින් සතුටට පත්ව සිටියේය. මේ නිසා රජු ගේ කැමැත්ත පරිදි එතුමා ගෙන් පසුව රාජ්‍යය මේ කුමරාට ලැබෙන ලෙස රජු ක්‍රියා කරනු ඇතැයි අධිකාරම්වරුන් තුළ සැකයක් පහළ විය. ගොවි කුලයේ බිසෝවක ගේ පුතකු වන මේ කුමාරයාට රාජ්‍යය ලැබුණහොත් උක්ත කුමාරයා ගේ ඥාතීන්හට රජවාසලේ බලය ලැබෙන බවත්, එසේ වූ විට තමන් හට ඒ අයට යටත් ව සිටීමට සිදුවන බවත් රදළ පේරුවේ අය සිතූහ. මෙය වැළැක්වීමට ඇති හොඳම මාර්ගය මොහු කෙරෙහි රජු ගේ ඇති ප්‍රසාදය බිඳ ලීමයයි සිතූ අධිකාරම්වරු බොරු ගතු කියා කිරිබණ්ඩාර හා රජු අතර පවත්නා හිතවත්කම බිඳ ලූහ. පිය රජු ගේ උදහස ගැන ඉව වැටුණු කිරිබණ්ඩාර පිටිසර පළාතක් වන දනගමුවට ගොස් එහි මහා පරිමාණයේ වෙල්යායක් අස්සද්දා ගොවිතැනේ නියැලී සිටියේ ය. අවට ගම්වාසීහු මේ ආගන්තුගයා ගේ හැකියාවන් ගැන තුටු ව ඔහු වටා රොක් වූහ. ගත වූයේ මඳ කලෙකි. කිරිබණ්ඩාර පෙදෙසේ නායකයා විය. ටික කලෙක දී කිරිබණ්ඩාර පිළිබඳ නව තොරතුරු

දැනගත් රජවාහල සිටි බලවත්හු වඩාත් බියපත් වූහ. මෙහි දී උපක්‍රමශීලී වූ ඔවුහු කිරිබණ්ඩාර කුමරු හද්දා පිටිසරට ගොස් රාජ්‍යය ගැනීම සඳහා සේනා සංවිධානය කරමින් සිටින බවට රජුට සැළකර සිටියෝය. රජු මේ ගැන කිසිදු තැකීමක් කළේ නැත. එහෙත් පුන පුනා අධිකාරම්වරුන් පවසන නිසා ම රජු නිකමට මෙන් දනගමු පියසට යෑමට පිටත් විය. මේ දින ගණනක් යායුතු ගමනකි. මේ අතර ම රජු දනගමුව බලා එන්නේ කිරිබණ්ඩාර සතු වෙල්යාය රාජ සන්තක කිරීමට ය යන්න හොර රහසේ කිරිබණ්ඩාර වෙත දැන්වීමට ද අධිකාරම්වරු සමත් වූහ. රජු දැන් දනගමුව අසළටම පැමිණ ඇත. අධිකාරම් වරුන් ගේ බොරුවට රැවටී සිටි කිරිබණ්ඩාර රජු එහි ළඟා වෙත් ම ඉදිරියට පැන "මගේ කුඹුරු යාය නම් මම අර කන්දෙන් පෙරළා මැරුවත් නොදෙමැ යි" ගුගුළේ තමා ඉදිරියෙන් ඉන්නේ මහරජු යයි නොසිතන්නාක් මෙනි. ඔහුට රජුත්, රජවාසලත් එතරම් ම පුරුදුව ඇත්තේ ඔහු කුඩා කාලයේදී එහි වැඩුණු හෙයිනි. මෙය වචන හුවමාරුවක් බවට පෙරළිණි. අවට වූවෝ ගල් ගැසී සිටියෝය. රජුට මේ ගැටයාගේ එකට එක කීම ඉවසිය නොහැක්කක් විය. දැඩි කෝපයෙන් වෙලී ගිය රජු අත දිගු කොට " ඕකා තල්ලු කොරලා දාපිය" යැයි අණ කළේය.

මෙවැන්නක් කිරීමට අර අඳිමින් සිටි අධිකාරම්වරු සැණෙකින් ඒ අණ ඉටු කළෝය. අසරණ කිරිබණ්ඩාර මිය ගියේය. එහෙත් මිය ගිය සැණින් හේ එම පළාතේ දෙවියා බවට පත්විය. අලුත් දෙවියෝ රජුගේ ඇතු එතැනින් ඉවත්ව යාමට ඉඩ නොදුන්නෝය. අසරණ වූ රජුට ආපසු යෑමට හැකි වූයේ, ඒ අසල වූ ඇතු පමණට උසට වැඩුණු තෙළඹු ගසක රජු ගේ නළල් පටය බැඳ, ඒ පෙදෙස ම අලුත් දෙවියා වන කීර්තිබණ්ඩාරට පිදිවිලි කිරීමෙන් පසුවය. (137:538 පි.)

මෙයට මඳක් වෙනත් ආකාරයෙන් ද කීර්ති බණ්ඩාර දෙවි ගේ උපත ගැන සඳහන් වන බව ද සැලකිය යුතුය. ඒ අනුව පළමුව හේවාහැටේ අරාවේ කඹුරු අස්සවද්දා සිටි කිරිබණ්ඩාර, රජු ගේ උදහසින් දනගමුවට පිටුවහල් කළ බවත්, යළි රජු එහි ගොස් ඉහත දැක් වූ ආකාරයේ සිද්ධියකින් පසු පර්වතයකින් හෙළා මරවා ඇති බවත් සඳහන් වේ. මේ පිළිබඳව ඔග දිගට ජනකතා යන පොත බැලීම ප්‍රයෝජනවත් වේ. කීර්ති බණ්ඩාර දෙවි ගැන ඇති කවක් මෙසේ යෑ:-

වීරිය දනගමුවේ හිර කර නා
සෝලිය වැද ගල මුදුනෙත් දම නා
නැවිය යක් විය තෙද බල පා නා
කීර්ති බණ්ඩර දළමුර මෙ තැ නා



**කීර්ති බණ්ඩාර දෙවියන් ගේ උපත මෙසේත් දැක්වේ:-**

මෙතෙම කාශ්‍යප බුදුන්ගේ කාලයේ ගොවි කුලයක ඉපිද සිටියේය. එකල බොහෝ වෙහෙස ගෙන මහ දන් දී උපදපත් ජාතිවල දී දෙවි වෙම්වායි පැතීය. බුදුන් ගේ කාලයේ දී ධර්ම මණ්ඩපයක් ඉදිකරවා පුදා සදා කල් කීර්තිය ලබම්වායි පැතීය. එයින් පසු කාලයක ලක්දිව උපන් හේ කීර්ති බණ්ඩාර යන නමින් යන නමින් පතළ විය. පහත දැක්වෙන කවි පන්තියෙන් ද ඒ බව කියවේ.

**කීර්ති බණ්ඩාර දෙවියන්ගේ විත්තිය:-**

එතන සිටන් දෙවි වෙම් සිත මින් නෝ
උපන් උපන් ජාතියෙ දන් දුන් නෝ
දැයෙන් දැයට පින් වැඩි වී එන් නෝ
රතන මෙ ගව්තම මුනි දකිමින් නෝ

තනමින් දම් මණ්ඩපයක් එම දින
පුදමින් මුනි සහ සඟහට සතොටි න
බැතියෙන් කඩිනන් කර දන් දී ගෙ න
ගනිමින් වැඳ මුනි සඳුගෙන් විවර ණ

සොඳා ලෙසින් විවරණ ගත් බලය ට
රඳා තිබෙයි අණ සතහට දැකුම ට
සදා කල්ම කීර්තිය පවතින්න ට
උදා වුනිය දෙවි මේ ලංකාව ට

දස්ස කමින් දන් දී පැතුවා මෙන්
අස් නොව විහිදෙන තේජස් මහි මෙ න්
වස් නැත පද බැඳිමට තෙරුවන මෙන්
රැස් බල විහිදෙයි විෂ්ණු සුරිඳු මෙන්

කීර්තයින් සේ ලොව බබලන් නෝ
සිර්ති කිං කිණි මැදුර දිලෙන් නෝ
පිර්ති රුවනින් බරණ දරන් නෝ
කීර්ති බණ්ඩර දෙවියෝ වඩින් නෝ

(90:43පි.)

කීර්ති බණ්ඩාර පිළිබඳ ඇති යාදින්න මෙසේ යෑ:-

"කිවුලේ ගෙදරින් දෙවි වෙච්ච කීර්ති බණ්ඩාර දෙවි රාජෝත්තමයාණන් වහන්ස, ඔබ වහන්සේ උතුම් වූ මහාවාසලින් වරදක් වැටී දනගමුවට ගොස් දාපු තැනේ දී දසසාමුණු ගබඩා ගමක් අස්සද්දා ගෙන වැඩ සිටි කාලයේ දී රජ්ජුරුවන් වහන්සේට ගතු සැලකරපු තැනේ දී රජ්ජුරුවන්

වහන්සේ එතනට වැඩ ලා ඔබ වහන්සේගේ මඟුල් ගබඩාගම ඉල්ලූ තැනේ දී අර ගලින් දමනක් දෙන්ට බැරිය කී තැනේ දී අර ගලෙන් දාපු පැයට පැය මුක්කාලට යක් වී, ගිය සෙනඟට සේනාවට උන ගිනියම් දී ගෙන රජ්ජුරුවන් වහන්සේ වැඩමවන මඟුල් ඇතා ගල් කරවාගෙන ඉනේ තිබුණු රන් පටිය තෙලඹුවේ බන්දවා ගෙන මත්තට පවතින්න එගොඩ ගල්කට්ටුව මෙගොඩ ගල්කට්ටුව කරවා ගෙන ඇත් බන්දනේ මිණි බන්දනේ අඩංගු කරවා ගෙන නරලොව නරයින්ට උන ගිනියම් දී ගෙන දැකුම් අය පඬුරු ඔප්පු කරවා ගෙන එලගවයින් මී ගවයින් ආඩිඩ කරගෙන හුන් කිරි පයිඩවල් අය කරවා ගෙන මඩ බෝග ගොඩ බෝග ආඩිඩ කරවා ගෙන අලුත් සල් මංගල්ලවල් අඩුක්කු මංගල්ලවල් හාලුවඩා මහා යක් මංගල්ලවල් අය කරවා ගෙන අං කෙළි මංගලවල්, පොල් කෙළි මංගලවල් අය කරවා ගෙන යක් මඩු, ගී මඩු අය කරවා ගෙන දළුමුර මංගලවල් අය කරවා ගෙන දොළහ දෙවි දාහත් කට්ටුවක් රාජාංගු දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේලා සමඟ එක යහනේ කෙළි පුද වරන් ලබා ගෙන යෙහෙන් වැඩ සිටින කීර්ති බණ්ඩාර දෙවි රාජෝත්තමයාණන් වහන්ස, ඔබ වහන්සේ රුහුණු සතරට, සතර වන්නියට කවුඩාවට මාරාවට එක් අප්සට දනාගමුවට කෙළිඇල්ලට, කෝන්රුප්පයට, සිරිගල් පොත්තට, හඳගනාවට, බැබියට, හලගොල්ලට ඌව දොළොස් දහස් පත් සියයට සොරබොරට, බින්තැන්නට වත්‍ය දොළොස් පත්තුවට කුඩා දැවගම්මනට මහාදැවගම්මනට රන්පට බැඳි තෙලඹුවට තෙද කීර්ති බලපා වදාරාලා යෙහෙන් වැඩ සිටින කීර්ති බණ්ඩාර දිව්‍ය රාජෝත්තමයාණන් වහන්ස", (90 : 43-44පිටු)

හියු නෙවිල් විසින් එකතු කරන ලද කවිපන්ති අතර ඇති "කීර්ති බණ්ඩාර කවි" නම් කවි 26 හි සඳහන් පුවත වෙනත් එකකි. උඩුනුවර කිරිය නම් පෙළපතට අයත් අරාවේ බණ්ඩාර කිසියම් වරදක් නිසා මරණයට නියම වූ නමුදු රජතුමා ගේ කරුණාවෙන් ඒ වෙනුවට පිටිසර ප්‍රදේශයකට පිටුවහල් කරන ලද්දේය. ඔහු දනගොමුවට ගොස් එහි කුඹුරු අස්වද්ද ගෙන වෙසෙන කල රජතුමා හදිසියේ එහි සම්ප්‍රාප්ත වීමත් අනතුරුව රජ අණින් මරණයට පත්වී දේවත්වය ලැබීමත් ඉහත කථාවෙහි දැක්වෙන පරිදිම ය. මෙම කවිවල රජතුමා විසින් කීර්ති බණ්ඩාර දෙවියන්ට පුද කරන ලද අරුක්වත්ත, දනගොමුව වෙල්යාය, කෙහෙල් ඇල හා රන්ටැඹේ ඇල ගැනද සඳහන් වේ. (161,1:262 පි.)

එහි ඇති කවක් මෙසේය:-

ඇතා පිටින් මහරජ වැඩී යේ යා<br>
පතා ජාති අත්කම සැදූණේ යා<br>
ඉතා ම තෙද බල පෑ එදිනේ යා<br>
ඇතා එතැන මළුවේ වැටුණේ යා (එම)



ඌවේ බිබිල සමීපයෙහි කීර්ති බණ්ඩාර යන නමින් දෙවොලක් ඇත. ඒ අසල ම රන්හොටි බණ්ඩාර යන නමින් ද දේවාලයෙකි.

කීර්ති බණ්ඩාර නමින් කෙරෙන දේව පූජාව "මල් එළිය" නම් වේ. මෙහි දී කීර්ති බණ්ඩාර දෙවියන්ට අමතරව කොහොඹගොඩ, දැඩිමුණ්ඩ ආදී දෙවිවරු ද පූජාවට පාත්‍ර වෙති. තොවිල් දිනයේ දී එය සිදු කෙරෙන නිවස මිදුලේ මල් යහන් හා මල් පහන් පැල සකස් කරනු ලැබේ. කපුරාළ ආතුරයා හා තොවිලයට සහභාගී වන සියල්ලෝ හා පිරිසිදුව පැමිණෙති. ගෙ දොර ද පිරිසිදු කෙරේ. තොවිලය සඳහා ගෙන එන "අකාල සන්න" ඇත්තේ දෙවියන් අරක්ගත් පැරණි ගසකය. තොවිල් දින සවස් භාගයේ දුළු පෙරහැරකින් එහි යන කපුරාළ එහි ගොස් ඒවා රැගෙන සම් පොරවා ගෙන තොවිල් පොළට එයි. තොවිලයේ දී ආවේශ (පරළ) වන කපුරාළ පේන කියන්නේය. (86 : 201 පි.)

දැදුරුඔය නිම්නයේ උඩුවේරිය දේවාලයේ දැන් පුද ලබන්නේ රත්න මලල කීර්ති බණ්ඩාර නම් දෙවිකෙනෙකි. මලල දේසෙන් පැමිණි ඔහු පස්වන බුවනෙකබා රජු බැහැ දැක රතින් බළලෙකු මවා පා රාජ ප්‍රසාද ලැබූ බවත් පසුව රජු විසින් ඊර්ෂ්‍යාව නිසා මරනු ලැබූ බවත් ඉන් පසු දෙවි වූ බවත් පැවසේ. මොහු පිළිබඳ පුවත් හා කෝල්මුර අන්‍ය දෙවිවරුන් හා මිශ්‍රව ඇති බැවින් ව්‍යාකූල ය. (29 :68-72 පිටු).



## 71

## කුඩා බණ්ඩාර

මහනුවර දිස්ත්‍රික්කයේ දියකෙළිනාවල නම් ලෙන් විහාරයට ආසන්නයේ නාරුක් ගොමුවක පිහිටුවන ලද දොඩම්වල දේවාලය හා සම්බන්ධ දෙවිවරුන් නව දෙනා අතුරෙන් කෙනෙකි. "මහ නා බණ්ඩාර" යටතේ බලන්න.

# 72



## කුමාර බණ්ඩාර දෙවියෝ

මේ නමින් දෙවිවරුන් කීප දෙනකු ම හැඳින්වෙන බව පෙනේ. ඉතා ප්‍රකට කුමාර බණ්ඩාරවරු දෙදෙනෙකි. එනම්: කුරුණෑගල රිදී විහාරයේ රන් පිළිමය ආරක්ෂා කරන කුමාර බණ්ඩාර සහ උඩුනුවර ලංකා තිලක විහාරය භාරව සිටින කුමාර බණ්ඩාර යනුවෙනි. මෙම දෙවියන් ගේ උපත කීප ආකාරයකින් දක්වා ඇත.

(1) පත්තිනි කථාවෙහි එන පඬි රජු ගේ පුතුන් දෙදෙනා අතුරින් බාලයා ය. පාළඟ සොයා යන පත්තිනියට මේ දරු දෙදෙනා හමු වුණි. බාල කුමාරයා පාළඟ මරා දමා ඇති බව පත්තිනියට දැන් වුයේය. පත්තිනිය පඬිපුර ගිනි තබා විනාශ කරන අවස්ථාවේ දී මේ කුමාරයා ආරක්ෂා කරගෙන සිංහල දේශයට ගෙනවුත් රිදීගම පදිංචි කරලුවාය. මදුරා පුරයෙන් රන් පිළිමයක් ද ගෙනවුත් රිදීගම තැබූ ඈ යථොක්ත දරුවාට කුමාර බණ්ඩාර යයි නම් තබා ඒ පිළිමය ආරක්ෂා කර වීමට යෙදුවාය.

පෙමා වඩන සොරතල්
ළමා කුමරු දැක සන්තොස — කුමරුන්නේ
උමා පතිනි දෙවි වරමුත් — වන්නේ
කුමාර බණ්ඩර නම් පට — දෙන්නේ
බඳින්නේ

(161, 3:161 පි.)

(2) තවත් විස්තරයකට අනුව මොහු යථෝක්ත පුවත පත්තිනියට දැන්වීම නිසා පිය රජු විසින් මරණයට පත් කරන ලදුව දෙවි බවට පත් විය. (55:163 පි.)

(3) වෙනත් විස්තරයකට අනුව මොහු මදුරාපුර සිංහබා නිරිඳුගේ පුත්‍රයා ය. ඔහු සිංහල දේශයට ඒමට මුහුද සත් දිනක් පීනා පුත්තලමට ගොඩ බැස්සේ ය. (29:175-76 පිටු)

(4) මොහු මලල බණ්ඩාර ගේ වැඩිමහලු සහෝදරයා ලෙස ද ඇතැම්හු හඳුන්වති. (29:78 පි.)



(5) හියු නෙවිල් කවි එකතුවේ ඇති "දොළොස් දෙවි කවි" පන්තියකට අනුව කුමාර බණ්ඩාර වනාහි සමන් පුරේ රාළ ගේ බිසව කුස උපන්නෙකි.

සමන් පුරේ රාළ ගෙ බිසවුන් — නේ
අටගති දරුගැබ ඒ බිසවුන් — නේ
පුරා දොළොස් මසකුත් පසු වෙන් — නේ
කුමාර නම් සොඳ නමකි ඔබින් — නේ

(37:135 පි.)

(6) උඩුනුවර ලංකාතිලක විහාරය ආශ්‍රිත ජනප්‍රවාද අනුව මෙය භාරව සිටින කුමාර බණ්ඩාරයෝ මහාවංශයේ සඳහන් එළාර රජුගේ පුත්‍රා වෙති. අනිසි ලෙස අස්රිය පදවා වසු පැටවකු මැරීමේ වරද නිසා ධර්මිෂ්ඨ පිය රජු තඹු අසා ඔහු ද එසේ ම මරණයට පත් කළ අයුරු මහාවංශයේ සඳහන් ය (21 පරි:16-19 ගාථා). මේ කුමරා මරණින් පසු කුමාර බණ්ඩාර නමින් දේවත්වයට පත් විය. උඩුනුවර වැසියන් ගේ චිරාගත චාරිත්‍රය අනුව කිරි එළදෙනකට පැටවකු ලැබුණු විට මෙන් ම තමන්ට දරුවකු ලැබුණු විට ද කුමාර බණ්ඩාර දෙවිඳුන්ට පඬුරක් ගැට ගැසීමේ චනාවත මේ හා සම්බන්ධ විය හැකිය.

(7) හියු නෙවිල් කවි එකතුවේ ඇති "කන්දමාලේ" නම් කවිපන්තියෙහි සඳහන් පරිදි මෙම කුමාර දෙවියෝ ගෝවේ උපත ලබා කොළඹ පැමිණි අයෙකි. ඔහුගේ කෝවිල කතරගම පිහිටා ඇත. (161, 3:354 පි.)

(8) ගම්පළ ප්‍රදේශයේ ඇති එක් ජනප්‍රවාදයකට අනුව හෙණකද බිසෝ බණ්ඩාර කුසේ වික්‍රමබාහු රජුට දාව උපන් කුමරා කුමාර බණ්ඩාර වේ. (160:43 පි.)

(9) කොහොඹ කංකාරියේ එන "වීරමුණ්ඩ දෙවියන්ගේ කීම" අනුව මොහු මල්ලව හෙවත් මලල නුවර රජ පවුලේ උපන්නේ ය. වැඩිමලා, දෙවොල් වූ අතර මද්දුමයා වීරමුණ්ඩ විය. බාලයා කුමාර බණ්ඩාරයි. (73 : 85-86 පිටු).

හියු නෙවිල්ගේ කාව්‍ය සමුච්චයේ ඇති දොළහ දෙවි කවි පෙළක ඉහත කී විස්තරය හා ගැළපෙන කවි කීපයක් තිබේ:

බාලේ පුරුදුව බොන්නෙ — අරක්කු
දෑලේ පන්දම් දෙකයි — විලක්කු
වටයින් පිරිවර ගනිති — තුවක්කු
අද මඩුවට එති කුමාර — යක්කු

කුමාර දෙවියන් ගේ පොදු ආදී
වියන් බඳින්නට ලණු දෙති ගාඩී
මේසෙට කුකුළන් අරක්කු ජාඩී
වස් නැති ගෙඩිගේ තැනුවයි පේඩී

වස් නැති ගෙඩිගේ රුවල සදාලා
ඒ පිට රත්තේ බොන්දි ලබාලා
මුදුන් මාල ජගලත්තු ලබාලා
කුමරු වඩිති යක් දුරය ලබාලා
(37 : 132 පි.)

වදුරු වසංගත දුරු කිරීමට පත්තිනි දෙවියන් ගෙන් විශේෂ වරම් ලබා ඇතියකු ලෙස සැලකෙන මෙතෙම පත්තිනි දෙවියන් ගේ පෙරහැරේ පෙරමුණේ යයි. ඇයගේ රන් හලඹේ මුර කරු ද වේ.

අල් ප ඇතුව ඔබ දැනට හලඹත් රන් කඩුවක් සුරනට දරනා
විලි බාවේ රන් හලඹට මුරකරු කුරුණෑගල වැව දිය කෙළිනා
කල්ප ගණන් ඔබ සතරක සත්තෙන් රිදී ගමට රන් තොට ලෙසිනා
මල් පිට බඹරා කෙළින සුබාවට පත්තිනි සමහ පෙරමුණ වඩිනා

මේ නිසා පත්තිනි දේවාලයක් යම් තැනක තිබේ ද කුමාර බණ්ඩාර දෙවොලක් ද එහි ඇතැයි යන විශ්වාසයක් පවතී. (55:163 පි.)

ගත්තු එරන් කග සුරනට එරන් කර්ග පට කඩ වල
කොටන විදුලි කලඹක්සේ ගුවනින් යන පා තෙද බල
ඇස් බඩ ලෙඩ වදුරු වසූරිය ලෙඩවල් හැම දුරු කළ
නිතින් මෙ අප සැම රැක දෙති කුමාර බණ්ඩර හැම කල

අටමුළු තොප්පිය හිස ලා සුරත කඩුව ලෙල දෙන් නේ
ඉණට බැඳපු තරු සහලද තොප්පාරම වැඩ තිම කොට
දැනට රන් ගිගිරි හලඹ අඩ හැර පානා විලස ට
කුමාර දෙව් වඩින කලට සූරිය පායන විලස ට
(29 : 176 පි.)

ව්‍යවහාර වර්ෂ 1813 දී තල්අරඹේ ධම්මක්ඛන්ධ හිමියන් ලියූ දියසැවුල් අස්නෙහි 155 වන කවෙන් කතරගම දේවාලය භූමියේ තිබුණු කුමාර බණ්ඩාර දේවාලයක් විස්තර වේ.

කුමාර සුදු ලෙව් නිති සිරි මති ගති
නිමාර කළ අනත දුක් සව් සති ගති
කුමාර බණ්ඩාර දෙවිඳුනි මෙති සිති
සමාර මෙ දුක් ම විඳින බැති රුති



ඉහත සඳහන් රිදී විහාරයේ හා ලංකාතිලක විහාරයේ හැරුණු විට යටිනුවර කැටකුඹුරේ කන්දේද කුමාර බණ්ඩාර දේවාලයක් තිබේ. (66). මාතලේ දිස්ත්‍රික්කයේ කුමාර බණ්ඩාර දේවාල කීපයෙකි. අස්ගිරි කෝරළයේ ගෙදර වෙලේ විහාරයේ ද, වවුල්ගලේ උරුලෑවත්තේ විහාරයේ ද, කොහොන්කාසිය පත්තුවේ මකුලේමඩ කාලගිරි ලෙන් විහාරයේ ද එම දේවාල ඇත. (55:163 පි.)



## 73
## කුඹුක්ගොල්ලේ රජු

මේ නමින් යුත් දෙවි කෙනකු ගැන හියු නෙවිල් විසින් එකතු කරන ලද කවි පන්ති අතර ඇති "කිරි අම්මලාගෙ කවි" නම් කවි පන්තියක සඳහන් වේ.

කුඹුක් ගොල්ලෙ ගහ එගොඩට සැ දෙන් ටයි
රඹුක් ගොල්ලෙ ගහ මෙ ගොඩට සැදෙන් ටයි
ඉඹුක් ඉදල් පොඩි සුළහට වැදෙන් ටයි
කුඹුක් ගොල්ලෙ රජු මෙතනට වඩින් ටයි
(38:25 පි.)

මීට වඩා විස්තරයක් මෙම දෙවිඳු ගැන නො ලැබිණි.



## 74
## කොටුවතු දෙවියෝ

මේ දෙවියා නම් කීපයකින් ම හඳුන්වා තිබේ. පුංචිබණ්ඩාර සන්නස්ගල මහතා මේ දෙවියා හඳුන්වා ඇත්තේ කොටුවැදි දෙවි යනුවෙනි. (124:690 පි.) කොහොඹ කංකාරියේ කප් සිටුවීමේ දී පවසන කව්වල කොටුඅතු දෙවි ලෙස නම්කර ඇත. එය පහත සඳහන් කවෙන් සනාථ වෙයි.

සුරිඳුන් කොසඹා දොළසක් දෙවිඳු ට
වීරමුණ්ඩ වැදි කඩවර සුරිඳු ට
කොටුඅතු දොළොසේ වැසෙනා දෙවි හ ට
අයැද අතින් කප සිටුවති මොහොත ට

(45:38 පි.)

මෙසේ කොටුවැදි, කොටුඅතු, කොටුවතු යන නම් තුනකින් හැඳින් වෙන මේ දෙවියාට "කොටු" යනුවෙන් ව්‍යවහාර කරන්නේ කුමක් නිසා ද යන්න පළමුව විමසිය යුතුය.

මස්වැද්දාට "කොටු" යයි කියන බව ධර්මසමය සිංහල ශබ්ද කෝෂයේ සඳහන් වේ. (557 පි.).

කුවේණියට වටේ සෙනෙවියා, කොටේයකා, මයිලවානා යනුවෙන් හඳුන්වනු ලැබූ මාමාවරුන් තිදෙනකු සිටි බව සඳහන් වේ. (132: 56 පි.) විජය රජු තම කඩුවෙන් උක්ත තොටේ යකාට දුන් පහරින් ඒ යකාගේ තල්ල කැඩී ගිය බවත් එය සිදු වූ පෙදෙස යකල්ල නමින් පළ වූ බවත් ජනප්‍රවාදයේ එයි. මිය ගිය තම ප්‍රධාන ඥාතීන් දෙවියන් කොට සැලකීම පුරාණ ගෝත්‍රික ජනතාව ගේ සිරිතක් ව පැවැති නිසා තොටේ යකා යනුවෙන් හැඳින් වූ ගෝත්‍රික නායකයා හෝ එවැනි වෙනත් නායකයකු "කොටුවතු" දෙවියා ලෙස සැලකීමෙන් මේ කොටුවතු දේව සංකල්පය මතු වී ඇතැයි සිතිය හැකිය. මොහු වැදි දෙවියකු යයි කීමට ද කරුණු ඇත. පඬුවස්දෙව් රජුගේ කාලයේ දී උපත ලැබී ඇතැයි සැලකෙන කොහොඹා යක්කමේ එන පහත සඳහන් දේවාරාධනාවෙන් ද එය සනාථ වෙයි. :- "වැද්දන් තුන් දොළහක් පිරිවරා ගත්තා වූ කොටුවතු රාජෝත්තමයාණන් වහන්සේටයි මේ ආරාධනා කරන්නේ (132 : 62 පි.) කොහොඹා යක්කමේ සඳහන් වන මේ පුවත අනුව කුවේණියගේ දරුවන්ගෙන් ආරම්භ විණැයි කියන වැදි පරපුරේ කණ්ඩායම් 36 ක නායකයා උක්ත කොටුවතු දෙවියා යයි පෙනේ. තවත් මූලාශ්‍රයක "වැදි තෙළ සදහසක් පිරිවරා ගත්තා වූ කොටුවතු රාජෝත්තමයාණන් වහන්සේට" ආරාධනා කෙරේ (49:76 පි.)

ඉහත කී කොටුවතු යන්නේ තවත් අරුතක් ද ඇති බවත් පෙනේ. කොහොඹා යක්කමේ සඳහන් "මල" රජු ඌරා ඇල්ලීමට උයනට වන් අවස්ථාවේ ඌරා ඇල්ලීම සඳහා ඒ රජු වැදි කෙළ දහසක් පිරිවරා කොටුවතු තුනේ රැක්කා යයි සඳහන් වේ. (51:470 පි.) මේ කීමෙන් යමකු සතු වාස්තු භූමිය නැතිනම් ගොවිපොළ ද කොටුවතු යන්නෙන් වෙසෙසා ඇති බවක් ද පෙනී යයි. මෙය ම "කොටුඅතු, අත්ත" යනුවෙන් ද සඳහන් කර තිබේ. මේ කරුණු දෙස බැලීමේ දී වැදි ජනතාව ගේ දඩබිම් කොටසේ (කොටුවතුවල) ප්‍රධාන ආරක්ෂකයා ද පසුව කොටුවතු දෙවි යනුවෙන්



හඳුන්වා ඇතැයි අනුමාන කළ හැකිය. බිත්තැන්නේ ද මෙ වැනි වැදි දෙවියෙක් විසීය. "මෙලෙයි" යකා යනුවෙන් හඳුන්වා ඇත්තෝ ද මෙ වැනි වැදි දෙවියෙකි.

"තොටේ යකා මට වැහු
තොටේ අරන් පලයෝ" නා

යනුවෙන් ගැමියන් විනෝදය සඳහා කියන කවියෙන් ද ඒ බව සනාථ වේ.

## 75
## කොස්ගම දෙවි



මේ දෙවියාට කියන නමින් ම ඔහු ප්‍රාදේශීය දෙවියකු බව පැහැදිලි වේ. දොළහ දෙවියන් අතර ද සිටින මේ දෙවියා ගැන අළුත් දෙවි කවිවල ද දොළහ දෙවි කවිවල ද සඳහන්ය. නුවර යුගයේ දී ප්‍රචාරයට පත්ව සිටි දොළහ දෙවියන් ගේ නම් විවිධාකාරයෙන් සඳහන් කර ඇති බව මෙහි දී කිව යුතු වේ. මහනුවර යුගයේ බලයේ සිටි දෙවිවරු කවුරු ද යන්න වදන් කවිපොතේ එන පහත දැක්වෙන කවි පද යෙන් දත හැකිය:

"සිද්දි පත්තිනි දොළහ දෙවියෝ බද්‍රකාලී දෙවි ගණපති"

කොටගම වාචිස්සර හිමියෝ උක්ත දොළහ දෙවිවරුන් ගේ නම් මෙසේ දක්වති. 1. මැණික් දෙවි 2. මාට(ත්)තේ දෙවි 3. කොස්ගම දෙවි 4. පරකාශ දෙවි 5. මරළු දෙවි 6. කුමාර දෙවි 7. මිහිරිබැද්දේ දෙවි 8. වන්නිබණ්ඩාර දෙවි 9. කළුබණ්ඩාර දෙවි 10. බෝවල දෙවි 11. මීගහපිටියේ දෙවි 12. කිවුලේගෙදර අලුත් දෙවි යනුවෙනි. (116:103-4 පිටු) (දොළහ දෙවිවරුන් වෙනත් අයුරින් ද හැඳින් වෙන අයුරු ඉහත 43 වන පිටුවේ දක්වා ඇත.)

කොස්ගම ප්‍රදේශයට ඊමා වූ දෙවියකු ලෙස මේ දෙවියා හඳුන්වා දෙනත් ඔහු දොළහ දෙවිවරුන් ගේ අතරට ගැනීමෙන් ඔහු ගේ තෙදබල මහිමය පැහැදිලි වේ. කොස්ගම රාළ, කොස්ගම රාළහාමි යනුවෙන් ද හැඳින් වූ ජනනායකයකු පසුව කොස්ගම දෙවි යයි පසිඳු විණැයි සිතිය හැකිය. බර්නාඩ් මහතා මොහු යකකු ලෙස හඳුන්වා ඇත. කිරිඅම්මාවරුන්

අතර සිටින කොස්ගම කිරිඅම්මා කොස්ගම රාළගේ බිරිය විය හැකි ය. කොස්ගම රාළ හෙවත් කොස්ගම බණ්ඩාර පිළිබඳව පෙලිග්මාන්වරුන් විසින් පැහැදිලි විස්තරයක් දී තිබේ. 18 වන සියවසේ හෝ ඊට පෙර සිටි මොහු රජුට දැකුම් ගෙවීම ප්‍රතික්ෂෙප කළ හෙයින් ගසකට බැඳ ඊයෙන් විද මරණයට පත් කැරුණි. (178 : 144 පි.)

තල්පේ පත්තුවේ රිහිරිගල් දෙවොල් විහාරයේ විසූ තල් අරඹේ ධම්මක්ඛන්ධ හිමියන් විසින් ව්‍ය. ව. 1813 දී ලියා ඇති දියසැවුල් උස්නෝ දී රුහුණු මහ කතරගම දේවාල භූමියේ කොස්ගම දෙවිඳුට දේවාලයක් පැවැති බව සඳහන් වේ.

පස් ගෝ රසිනි විළිකුන් රඹ පිනා පි | නා
මස් දේයෙහි ආලය කර දිනා | දිනා
කොස් ගම දෙවිඳු ඔබ මෙන් කුලුණෙනා න | නා
තොස් වම සියලු රෝදුක් සිඳුවනා මෙ | නා
(158 කව)

මේ නිසා 19 වැනි සියවසේ ආරම්භයේ දී කොස්ගම දෙවිඳු පත්තිනි, වල්ලි අම්මා වැනි ප්‍රබල ගණයේ දෙවියන් අතර සිටි දෙවියකු බව පෙනී යයි. ප්‍රාදේශීය දෙවිවරුන් ක්‍රමයෙන් අභාවයට යාමත් සමඟ කොස්ගම දෙවි ඇදහිමත් අභාවයට ගිය බවත් දක්නට ලැබේ. එහෙත් මේ දෙවියා පිළිබඳ මතකය තවම කොස්ගම ජන හදවතින් සම්පූර්ණයෙන් ම ඉවත් ව නැති බව ද මෙහි දී සඳහන් කළ මනාය.

අලුත් නුවර දැඩිමුණ්ඩ දෙවියන් ගේ කන්නලව්වේ එම දෙවියන් කොස්ගමටත් අරග්ගෙන සිටින බව කියවෙන බව ද මෙහි සඳහන් කළ යුතුව ඇත. අලුත් නුවර දේව විශ්වාසය හා මුසු වීමක් එහි දැක්ක හැකිය. කොහොඹ කංකාරියේ ගැයෙන කවි අතර "කොස්ගම දෙවියන් ගේ කවි" හයක් මුදියන්සේ දිසානායක මහතා විසින් සඳහන් කර තිබේ. (73:129 පි.)

බින්තැන්නේ "කාරි" නමින් පැවැත්වෙන ශාන්ති කර්මයේ දී ගැයෙන කාරි කවි අතර දොළහ දෙවියන් පිළිබඳ කවිවල කොස්ගම දෙවියෝ මෙසේ සඳහන් වෙති.

ඇත් දෙමි සහලක් යකුන් | නමන්නට
බැත් දෙමි පටියක් ඉණ සවි | වෙන්නට
වින් දෙමි දහදුක් සරඹ | උගන්නට
වැන් දෙමි කොස්ගම රජා | වඩින්නට

කොස්ගම රාළ ගෙ නිති අන | පත්තු
දුර එනවා දැක ළංකර | ගත්තු
රහස් පොළේ දී මැදි කර | ගත්තු
දැන් වැඩියලු කොස්ගම අදි | පත්තු (3)



කොස්ගම රාළහාමිට "කුඩා යකා" යනුවෙන් ද නමක් ඇති බව පැවසේ. (183 : 166 පි.) මොහුට කෙරෙන පිදවිල්ල "රාළහාමි කංකාරිය" නම් වේ. මෙහි දී තුන් හුලස් තුන් මාලේ මැස්සක් තනා මතුමාලය බුදු පුදටත් මැද මාලය ප්‍රධාන දෙවිවරුන්ට හා කොස්ගම දෙවියන්ටත් යට මාලය කොස්ගමගේ ප්‍රධාන අතාවුදයන් වූ "නාරන්මල් හේනයාට හා "රුවන්මල් හේනයාටත්" පුදනු ලැබේ. (8) කුඩා යකා පිදීමේ දී ද කොස්ගම දෙවි කෝල්මුර ගයනු ලැබේ. කුඩා යක් පිදීමේ අරමුණ හරකුන්ට මෙන් මිනිසුන්ට ද කල් අල්ලන හොරි, කුෂ්ට, දද, වණ ආදියට සුවය ලබා ගැනීම ය. (8). (පහත මැණික් බණ්ඩාර යටතේ ද බලන්න.)



## 76
# ගඟේ බණ්ඩාර දෙවියෝ

ගඟට අධිපති දෙවියකු නිසා හෝ ගඟේ උපන් දෙවියකු නිසා හෝ මේ දෙවිඳු මෙම නමින් හඳුන්වන බවක් පෙනී යයි. දෙවිඳුන්ගේ උපත නොයෙක් අයුරින් සඳහන් වේ. එයින් කීපයක් පහත දක්වමු.

(1) පළමුවන මතය නම් මොහු සෙන්කඩගල කළුකුමාර දෙවියන් ම බවයි. ඉහත එම නම යටතේ බලන්න.

(2) දෙවන මතය අනුව මේ දෙවි වඩිග දේශයේ උපන්නෙකි. එහි සිට හැට දහසක් දෙවොල් යකුන් ද හැට දහසක් වඩිග යකුන් ද සමඟ ගල් නැවකින් කාවේරි ගඟ දිගේ අවුත් මහමුහුදට වැටී, එය තරණය කොට හම්බන්තොටට පැමිණියේය. එහි දී ඔහුගේ ගල් නැව ගල් පරයක හැපී කැඩී ගියේය. එයින් පසුව අලුත් නැවක් තනා ගත් හේ මහවැලි ගඟ දිගේ අවුත් දාස් තොටින් ගොඩ බැස සමනළට ගියේය. එහි දී සමන් දෙවිඳු ගෙන් වරම් ගෙන මහවැලි ගඟ දැලේ සිය අණසක පැතිර විය. (141 : 25 පි.) සීනිගම දෙවොල් දෙවියා ඇතැම් විට "ගඟේ බණ්ඩාර" යනුවෙන් ද හැඳින් වෙන්නේ මේ කථාව අනුව විය යුතුය. (161,2 : 6 පි) කඳ කුමරු ගල්නැව බිඳලූවාට පසුව ගඟේ බණ්ඩාර කෙසෙල් කඳන්වලින් පාරුවක් තනා ගෙන මූදේ අවුත් මඩකලපුව හා තල්විට වත්ත පසු කරන විට මහවැලි

ගඟ දැක එහි උඩු ගං බලා ආවේය. ඔහු වේරගංතොට, මයියංගණෙ, බින්තැන්නේ ගංතොට, රන්ටැඹේ ඇළ, දඩුපොළ ඇළ, කුණ්ඩසාලෙ, ඉලුක් මෝදර, ලේවැල්ල, අලුත් ගංතොට, කටුගස්තොට, සොහොන් සලාව, ගම්පළ ඔස්සේ සමනළ හිමට සම්ප්‍රාප්ත විය. මේ ගමනේ දී තයිදේ නමැති දියේ ගිලුණ කුමරකු ද, මල් හිමි නමැත්තකු ද යක් කළේය. ඔහු සිය පාරුවේ කෙසෙල් කඳක් ගලක් මත හිටුවාපු විට තුන් දිනක් ඇතුළත ඉන් පඳුරු 67 ක් පැන නැගිණි. ඒවායේ ඇවරි හතේ කෙසෙල් කැන් ද පීදිණි. මෙයින් කෙහෙල්ගමුව ග්‍රාම නාමය ඇති විය. මෙහි දේවාලයක් ද, උස්වැලි කන්දේ නව මහලින් යුත් දේවාලයක් ද ඔහු සඳහා ඉදි විය. මොහුට ම අලුත් බණ්ඩාර, මැණික් බණ්ඩාර, දේවතා බණ්ඩාර යන නම් ද යෙදේ. (161,3 : 159 පි.)

(3) තුන් වන මතය වැදි ජනයා හා සම්බන්ධයි. සෙලිග්මාන් ගේ අදහස අනුව වැදි ජනයා අතර ගඟේ බණ්ඩාරයනට විශේෂ තැනක් හිමි වේ. හෙතෙම "ගංගාවන්ට ද කෘමීන්ට ද අධිපති" ලෙස සලකනු ලැබීය. දඩගම හා මී පැණි එකතු කිරීම සාර්ථක කර ගැන් ම සඳහා පැවැත් වෙන "කොළ මඩුව" යාගයේ දී ගඟේ බණ්ඩාර පුද පූජා ලබන්නේය. (178 : 73 පි.)

(4) සිව් වන මතය රිචඩ් ගොම්බ්‍රිච් විසින් වාර්තා කර ඇති පරිදි දුම්බර ප්‍රදේශයේ ඇති ජනප්‍රවාදයකි. මේ අනුව දොළහ දෙවියන් අතර සිටින ගඟේ බණ්ඩාර ගේ උපත දැක් වෙන්නේ නීල මහා සාගරයේ නිල් මැණිකකින් සිදු වූ ලෙසටය. මෙසේ ශුද්ධ වූ උපතක් ලත් බැවින් ද ජලය සංකේතවත් කරන හෙයින් ද ගඟේ බණ්ඩාර පිරිසිදු කිරීමේ හැකියාවෙන් යුක්ත ලෙස සැලකේ. (151 : 132 පි.)

ගඟේ බණ්ඩාරයන්ගේ විමන පොල්වතුරේ විය.

ගල් අතරේ කැලඹී සැම පවනෙන්
නිල් අඹරේ ලෙස පැණි ජල ගැඹුරෙන්
මුළු නැරේ මල් රැස් සැදි දපනෙන්
පොල් වතුරෙදි ගඟ දෙක යාවුන්

පුසිඟු යහන් සුසැදිණි එහි තැපා තැන
කෙළිත මසුන් ගංගාවක විලසි න
සොබන ගඟේ බණ්ඩාරට වැජ ඹෙන
විමන තමයි ගඟ දෙක යාවුණ තැන
(37 : 142-43 පිටු)

මේ දෙවියා පිළිබඳව "ගඟේ බණ්ඩාර කවි" යනුවෙන් වූ කවි එකතුවක් නෙවිල් කාව්‍ය සමුච්චයේ ඇත. එහි ඇති කවියක් මෙසේය:-



පොල් පුවකින් විසිතුරු සැදි පටු නේ
බුලත් ද දෝතලු තල්වතු සැදු ණේ
සල් සපු නා මල් සුරිඳුට සැදු ණේ
සෙල්ලම් ගමනකි ගඟ දිග වඩි නේ.
(37 : 80 පි.)



# 77
# ගණදෙවියෝ

මේ, හින්දු බැතිමතුන් විසින් "අප්පනේ ගණේෂම්" "ඕම් ගණෙෂම්" යනුවෙන් සාදරයෙන් අමතනු ලබන ප්‍රධාන පෙළේ දෙවියාය. ඥානයට අධිපති දෙවියා ලෙසින් හා උවදුරු දුරු කරන දෙවියා වශයෙන් ද සලකනු ලබන මේ දෙවියා මහේශ්වර උමා යන දෙදෙනා ගේ වැඩිමහලු පුත්‍රයා වේ. කඳකුමරා මේ දෙවියාගේ බාල සොයුරා වන්නේය. මෙහෙසුරු ගේ සේනාවේ (ගණ) අධිපතියා වන බැවින් "ගණපති" යන නම ද ගණදෙවිඳුට භාවිත කෙරේ. (ගණ + ඊශ් යන්නත් ඒ අරුතම දෙයි.) මහා ගණපති, වීර ගණපති, බාල ගණපති, සිත්ති විනායගර්, විස්නේෂ්වර යනාදි නම් රාශියකින් ද ගණ දෙවියන් හඳුන්වනු ලැබේ. සංස්කෘතයෙන් "විඝ්නෙශ්වර" යනුවෙන් මොහු හැඳින්වෙන්නේ විඝ්න කිරීමට මෙන් ම විඝ්න හැරීමට ද ඔහු සමත් බැවිනි. සියලු කාර්ය ආරම්භයෙහි "ශ්‍රී ගණෙශාය නමඃ "යනුවෙන් හින්දු භක්තිකයන් ඔහු සිහිපත් කරන්නේ එබැවිනි. අයියනායක, පුල්ලෙයාර්, යන නම්වලින් ද හඳුන්වනුයේ මේ ගණ දෙවියා ම යයි පැවසේ. (අයියනායක - ගණ දෙවි යනු දෙදෙනකු බව අපේ අදහසයි. අයියනායක දෙවි යටතේ බලන්න.) ඇත් හිසකින්, අත් සතරකින් හා මහා උදරයකින් නිරූපිත බැවින් මේ දෙවියන් හැඳින ගැනීමට පහසුය. මොහු ගේ වාහනය මීයෙකි. මෙම ගණ දෙවි ගේ අවතාර 18 ක් ඇතැයි පැවැසේ.

ගණ දෙවි උපත ගැනත්, ඇත් හිස ලැබීම ගැනත්, දළකින් අඩක් කැඩී තිබීම ගැනත් විවිධ කථා ඇත. (විස්තර සඳහා ධර්මබන්ධු අමරසේකරගේ, අපේ දෙවි දේවතාවෝ: 201 - 15 පිටු බලන්න).

**ගැමි කථාවක්:-** ගණ දෙවියාටත් වැඩි නුවණක් හොරාට ඇතැයි ගැමියන් අතර පවත්නා ජනප්‍රවාදය වේ. මාතර ගණදෙවි කෝවිල හොරුන් විසින් බිඳීමේ සිද්ධියක් මුල් කර ගෙන ඉහත සඳහන් කීම ජනතාව අතර පැතිර ඇතැයි ද ජනප්‍රවාදයේ වැඩිදුරටත් කියවේ. ඒ කථා පුවත මෙසේ යඃ-

කලෙක මාතර ගණදෙවි කෝවිල බිඳීමට හොරුන් උත්සාහයක් ගෙන ඇත. කීප වරක් ම ඔවුන් කළත් එය ඉටු කර ගැනීමට ඔවුනට හැකි වී නැත. මෙසේ ඔවුන් ගේ උත්සාහය සඵල නොවන අවස්ථාවේ දී එක් හොරකු ගණදෙවි වෙත ගොස් තමන් කරන උත්සාහය ව්‍යර්ථ වන්නේ කුමක් නිසා දැයි ගණදෙවිඳු ගෙන් ම විමසා ඇත. මෙයට පිළිතුරු වශයෙන් ගණදෙවි පවසා ඇත්තේ මෙය කිසි දිනක එම හොරුනට කළ නොහැකි දෙයක් බවත්, උළුවස්ස යටින් ගියොත් මිස වෙනත් ආකරයකින් මේ දේවාලයට යා නොහැකි බවත්ය. දින කීපයකට පසුව ඉදිරියේ ඇති උළුවස්ස යටින් බිඳ කෝවිලට වැදුණු හොරුන් එහි තිබුණු අගනා භාණ්ඩ ගෙන ගොස් තිබේ. එදා සිට ඉහත කී "හොරාට ගණදෙවිට වැඩිය නුවණ තිබේ" යන වහර හෙළ බසට එක් වී ල.

**ලක්දිව ගණදෙවි ඇදහිල්ලේ ආරම්භයඃ-**

හින්දු දෙවිවරුන් පිළිබඳ විශ්වාසය ලක්දිව ප්‍රාග් බෞද්ධ අවධියේ සිට පැවැති බවට සාධක ඇත. (ඉහත "ඊශ්වර" දෙවි යටතේ බලන්න.) ක්‍රිස්තු පූර්ව යුගයට අයත් සේ සලකන මිහින්තලේ කණ්ඨක චෛත්‍යයේ උතුරු වාහල්කඩේ කැටයම් අතර ඇති එක් දළක් සහිත ඇත් හිසකින් යුත් රූපය ගණ දෙවියන් ගේ දැයි ඉඳුරා කිව නොහැකිය. එසේ වේ නම් එම රූපය මෙහි දැක්වීමේ අදහස ඔහු බුදු රජාණන් වහන්සේට අවනත අයකු ලෙස සැලකීම බව පෙනී යයි.

මෙයට පසුව මධ්‍ය කාලීන යුගය වන තුරු ම ගණදෙවි රූපයක් ගැන හෝ දෙවොලක් ගැන සඳහන් වන තැනක් තව ම හමු වී නැත. ක්‍රි. ව. දොළොස් වන සියවසේ දී ලීලාවතී බිසොව ගේ කාලයේ කැරුණු සසදාවතෙහි බුදු පුදට පැමිණි දෙවියන් අතර ගණදෙවියන් ද සිටි බව සඳහන් වේ. (සසදාවත, 183 ගීය) අනතුරුව දකුණු ඉන්දියා බල පෑම් තව තවත් වැඩිවීමේ ප්‍රතිඵල වශයෙන් උඩුනුවර ලංකාතිලක විහාරයේ ගණදෙවි දෙවොලක් ඇති වී තිබේ. සිව්වන බුවනෙකබා (1341-51) අවදියට අයත් ලංකාතිලක ශිලාලේඛනය "ගණපති" ගැන ද සඳහන් කරයි.

ගම්පොළ හා කෝට්ටේ යුගවල දී ගණදෙවි ඇදහීම සැහෙන ප්‍රමාණයකින් ලක්දිව පැතිරී තිබුණු වග ඒ කාලයේ ලිය වී ඇති සන්දේශ



කාව්‍ය කීපයක ම ගණදෙවි කෝවිල් ගැන සඳහනින් පැහැදිලි වේ. තිසර සන්දේශයේ (30 කව) හා පරෙවි සන්දේශයේ (134 කව) වැල්ලේ මඩමෙහි තිබුණු ගණදෙවි දෙවොල ගැන සඳහන්ය. කොවුල් සන්දේශය කළුතර අසල ගණිඳු කෝවිලක් සඳහන් කරයි (100 කව). මහනුවර අවධියේ දී නායක්කර් වංශිකයන් රාජත්වයට පත් වීමත් සමඟ තවත් ප්‍රබල වූ දකුණු ඉන්දියානු සංස්කෘතික බල පෑම් නිසා ගණදෙවි ද වෙනත් දකුණු ඉන්දියා දෙවිවරුන් ද පිදීම වඩාත් ජනප්‍රිය වූ බව පෙනේ. ගණදෙවි හෑල්ල මෙසේ දහ අටවන සියවසේ දී ලියැවී ඇත්තේ දරුවන් අකුරු කියවීමේ දී ගණ දෙවිට වැඳුම් පිදුම් කොට "නුවණ" ඉල්ලා කරන ආයාචනයක් ලෙසිනි.



## 78
## ගනේගොඩ දෙවියෝ

ගනේගොඩ නමින් දේවාල කීපයක් උඩරට හා පහත රට දක්නට ඇත. මහනුවර දිස්ත්‍රික්කයේ උඩපළාත කඳුකර පහළ කෝරළයේ කළුගමුවේ ද, හාපිටිගම් කෝරළයේ බොකලගම ද, පැරැණි සීතාවක රාජධානියට අයත් කබුලුමුල්ලේ ද, මැදගොඩ ද ගනේගොඩ දේවාලය යන නමින් දේවාල තිබේ. එහි සිටින දෙවිඳු කතරගම දෙවිඳුය. කළුගමුවේ දේවාලය මහනුවර විදූ දෙවන රාජසිංහ රජු විසින් ඉදිකරවා ඇතැයි පැවසේ. බොකලගම හා කබුලුමුල්ලේ ගනේගොඩ දේවාලවලට පළමු වන රාජසිංහ (1581-93) රජු ගේ බැල්ම ඇති බව ජනතාව ගේ විශ්වාස යයි. එම දේවාලයේ වාර්ෂික උත්සවය පවත්වා අවසානයේ කරන කන්නලව්වල එම පුවත සඳහන් වේ. රජු මිය යාමෙන් පසුව ගනේගොඩ දෙවි නමින් ජනතාව ආරක්ෂා කරන බවත්, ඒ නිසා ම ගම්මඩු උත්සව පවත්වා බාරහාර ඔප්පු කරන බවත් පෙදෙස් වැසියෝ පවසති. (105 : 49-50 පිටු)

පළමුවන රාජසිංහ රජු ගනේගොඩ දෙවි ලෙස මැදගොඩ පත්තිනි දේවාලයේ ද පුද සත්කාර ලබයි. කබුලුමුල්ල දේවාලයේ ද ගනේගොඩ යාදින්න නමින් යාදින්නක් ඇත. බොකලගම, මැදගොඩ, කබුලුමුල්ල යන දේවාල සම්බන්ධ මේ පුවතට අදාළ තවත් ජනප්‍රවාදයක් නම්

මායාදුන්නේ බිසවට උපන් කුමරා (ටිකිරිබණ්ඩාර, පසුව පළමුවන රාජසිංහ) යක්ෂයකු ගේ පුනර්ජන්මයක් බවය. එම විශ්වාසයට අනුව බිසවට යක්ෂාරූඪයක් සිදු වූ බවත් එය ඉවත් කිරීමට භික්ෂූන් පිරිත් දෙසූ බවත් ඉන් කෝපාවිෂ්ට වූ යක්ෂයා භික්ෂූන් විනාශ කිරීමට ශපථ කර ගෙන බිසව ගේ කුස උපත ලබා පසු කලක භික්ෂූන් විනාශ කළ බවත් කියවේ. කබුලුමුල්ල දේවාලයේ උත්සවවල ගැයෙන "ගනේගොඩ යාදින්න" මෙසේයි.

සුර රජ සිරි විඳින
සිරි විජය බා නමින
එපුර රජ කරන සොඳ
එ රජ අග බිසව සඳ
පිසස් ලෙඩ පැමිණි විට
බමුණෑදුරු සමඟ එක්
සඟ නමක් මතුරු කොට
පිසසුන් ද ගෙන එවිට
යසස පෙන් වී ලොවට
කිවි එදෙන්නා එවිට
බිසවුන්ට බැඳි සෙනේ
පෙර සිට ම එන බැවින්
බිසව කුස පිළිසිඳී
දස එකඩ මස් සපිරි
උපන් කුමරිඳු බලැති
රාජසිංහ යන නමින්
පුර සඳසෙ වැඩී සොඳ
............................ (එම 49 පි.)

මැදගොඩ, කබුලුමුල්ල යන දේවාලයන්හි වාර්ෂික මංගල්ලයන්හි දී රාජසිංහ රාජ චරිතයේ ඇතැම් අවස්ථා විශේෂයෙන් රජු ගේ රණශූරතාව විදහා දැක්වෙන තැන්, නාට්‍යාකාරයෙන් දැක්වීමේ සිරිතක් තිබිණි. මෙහි දී **රජසිහ සිරිත** වැනි ප්‍රශස්ති ද හටන් කාව්‍යයන්හි කවි ද භාවිත වූ බව පැවසේ. මෑතක දී ගම්මඩු, දොවොල් මඩු ආදී ශාන්ති කර්මයන්හි අංග වාර්ෂික මංගලයන්ට සම්බන්ධ කර ගැනීම නිසා ඒවාට මුල් තැන ලැබී ගනේගොඩ දෙවියන්ට අප්‍රධාන තැනක් ලැබීමේ ප්‍රවණතාවක් ඇති බව පෙනේ (8)

හාපිටිගම් කෝරළේ බොකලගම ගනේගොඩ දේවාලය, පුරාණයේ සීතාවක පැවැති ගනේගොඩ දේවාලය පෘතුගීසි ආක්‍රමණ නිසා රට



මැදට ගෙනයාමේ ප්‍රතිඵලයක් බව එම දේවාලයේ කපු පරපුරේ විශ්වාස යයි. (8 අ.)

## 79
## ගම්භාර දෙවියෝ



ගමට අධිපති දෙවියා ලෙස සලකා ඇති මේ දෙවියා ඒ ඒ පළාත්වල විවිධ නම්වලින් හඳුන්වා ඇති බවත් පෙනී යයි. "ගම්හිමි දේවතාවා" යටතේ එන විස්තරය ද බලන්න.

සූනියම් දෙවි යනුවෙන් හඳුන්වා ඇත්තේ ද මෙ කී ගම්භාර දෙවියා ම බව පෙනී යයි. මේ දෙවියා එක්තරා යුගයක දී පොදු ජන හදවතේ බෙහෙවින් රැඳී සිටි දෙවියකු බව ද පෙනෙන්නට ඇත. යම්කිසි පිනක් කළ අයකු එම පින ගම්භාර දෙවියාට ද අනුමෝදන් කිරීමට පෙළඹීමෙන් එම කීම සනාථ වේ. මෙහි දී පහත සඳහන් ගාථාව කීම චාරිත්‍රයයි.

නානා වණ්ණො මහා තෙජො ඕදාත භාව වාහනො
ගාම සංචාරකො දොවො - ඉමං පුඤ්ඤානුමොදතු

වැඩි විස්තර සඳහා සූනියම් දෙවි යටතේ ද බලන්න.

ඇතැම් ප්‍රදේශවල "ගම්භාර දෙවිවරු" යනුවෙන් දේව පිරිසක් ගැන ද සඳහන් වේ. උදාහරණයක් වශයෙන් ඌවේ ගම්භාර දෙවිවරු මෙසේ සඳහන් වෙති.

අප්පුහාමි දෙවි, කටුගහ බණ්ඩාර දෙවි, කළු බණ්ඩාර දෙවි, දැලිවේ අලුත් බණ්ඩාර දෙවි, තිකවැරටියේ බණ්ඩාර දෙවි, බෝවෙල අලුත් දෙවි, මින්නේරි දෙවි, ලොකු බණ්ඩාර දෙවි, වත්තියේ බණ්ඩාර දෙවි, හාමාපොළ අලුත් බණ්ඩාර දෙවි. මේ අතර දේවි වරුත් සිව් දෙනෙකු ද ඇතුළත්ය. හඳුන් කුමාරි, සීතා පරමේශ්වරී, මහලොකු අම්මා, මිරිය බැද්දේ කිරි අම්මා යනුවෙනි. (125 : 114 පි.)



## 80

# ගම්හිමි දේවතාවා

යම් කිසි ගමකට අධිපතියා වශයෙන් සලකනු ලබන මේ දෙවිවරුන් රාශියක් ම සිටි බව පෙනී යයි. එම දෙවියා නැති නම් එම දේව පිරිස ගමේ මුත්තා, ගම්හිමි දේවතාවා යන නම්වලින් ද හඳුන්වා ඇත. (29 : 20 පි.)

"ගම් පරවෙණි දේවතා කවි" යනුවෙන් හියු නෙවිල් ගේ එකතුවේ ඇති මේ කවිවලින් ද කියවෙන්නේ එම අදහස බව පෙනේ:-

රුබර ගුණ උතුන්<br>
ගෝමර ළමැද ලෙලමින්<br>
ආබරණ පළඳින මෙන්<br>
මෙ වෙනි ගම් පරවේණි දෙවියන්

ගම් ඉම වට කර ට<br>
වඩිමින් එර්දියෙන් වට<br>
රතු පාට සළු කර වට<br>
වඩින් දේවතා මෙ මල් යහන ට

රත්න පාටයෙන් දිව සලුව වසා සිට<br>
රත් පට සිය ගත දෙවුර වසා සිට<br>
රන්වන් පෑ ගෝමර පෙති ඔමරි තුරා වට<br>
රත්න නීල ගම් පරවෙණි දේවතා වඩි නට

ගම් පරවෙණි තෙද බල ඇති දෙවි දේවතා<br>
මෙ ගම වට කර සීමා බඳිති ඉතා<br>
වෙන යකු දුටු විට බැට දී හරින ධූතා<br>
වඩින්න අස්න මල් පරවෙණි දේව තා

(37 : 82 පි.)





## 81

# ගලේ දෙවියෝ

මේ හිරියාල හත්පත්තුවේ නීරාමුල්ල යන ගමේ දේවාලයේ පුදනු ලබන දෙවියා යි. ඉන්දියාවේ මල්වරා රටේ උපන් මෙතෙම තම සහෝදරයන් දෙදෙනකු සමඟ ගල් නැවකින් අවුත් යාපනයට ගොඩ බැස යළි කතරගමට ගොස් ඒ දෙවි ගෙන් වාහල බණ්ඩාර යන නම ලබා ගෙන ලක්දිව රකින්නට වරම් ලබා ගත්තේය. කතරගමින් මින්නේරිය හරහා රිටිගලට ගිය හේ පල්ලේකැලේට පැමිණ එහි නොනැවති රණගිරි කන්දට ගියේය. දැන් දේවගිරි කන්ද යනුවෙන් ද හැඳින්වෙන එම කන්දේ ඒ කාලයේ සිටි භික්ෂූන් වහන්සේ ඔහුට ගල් ගසා එ තනින් නෙරපූ හ. එ තැනින් ඔහු ඉවත්ව ගියත් පසුව මල්ලව සූරයකු ද ඔහු විසින් පරාජයට පත් කර ඇත. (29 : 181-83 පි.) ගලේ බණ්ඩාර දෙවියන් ම ගලේ දෙවි යනුවෙන් හඳුන්වා ඇති බවත් ගලේවෙල ගලේ බණ්ඩාර දෙවියන් ලෙස අදහනු ලබන්නේ ද මොහු ම බවත් පෙනේ. (මලල දෙවියන් යටතේ ද බලන්න.)

ගලේවෙල බිම්බා රජමහාවිහාරයේ ඇති දේවාලයට ද අධිගෘහිත ගලේ බණ්ඩාර දෙවියෝ වෙති. රණගිරියෙන් පසු ඕතොට පත්තුව ඇතුළු තවත් පළාත් හාරව සිටින බවත් උතුරු මාතලේ, කන්ද පල්ල කෝරළයේ හා අස්ගිරි කෝරලේ ඇතැමුන් විසින් අදහනු ලබන බවත් පෙනේ. මොවුහු වාහල බණ්ඩාර, ගලේදෙවියෝ යන නමින් ද හැඳින් වෙති. ගල් නැවක නැඟී දෙවුන්දරට පැමිණ එ තැනින් සීනිගමට ද, පසු ව කතරගමට ද ගොස් එ තැනින් වරම් ලබා මිහින්තලය, රිටිගල කන්ද, කහල්ල ඔස්සේ කහලු කන්ද දිගේ ම ගොස් රණගිරිය අල්ලා ගෙන ඕතොට පත්තුව ඇතුළු ඉහත සඳහන් පළාත් හාරව සිටින බවත් පැවැසේ. (55 : 163 පි.)

## 82



# ගලේ බණ්ඩාර දෙවියෝ (කුරුණෑගල)

ගලේ බණ්ඩාර නමින් දෙවිවරු කීප දෙනෙක් වෙති. අලුත් නුවර දැඩිමුණ්ඩ දෙවියන් ද ගණේ තැන්නේ දී ගලේ බණ්ඩාර නමින් හැඳින් වෙන බව පෙනේ. (116 : 88 පි.) තවත් විටෙක දෙවොල් දෙවියා ද ගලේ බණ්ඩාර නමින් හැඳින් වේ. (116 : 99 පි.) දිවයිනේ ඉතා ප්‍රසිද්ධ ගලේ බණ්ඩාර දේවාලය පිහිටා ඇත්තේ කුරුණෑගලය. මෙයට අධිගෘහිත දෙවියන් ලෙස සැලකෙන්නේ කුරුණෑගල පළමු රජ වූ දෙවන බුවනෙකබා (1293 - 1303) රජුට දාව යොන් ලියක කුස උපන් වත්හිමි බණ්ඩාරය. පිය මව් පස ඥාති වූ යෝනකයන්ට පක්ෂපාතී වූ හෙයින් ඇමැතිවරු කුමන්ත්‍රණයක් කොට ඇතුගල මුදුනේ පිරිත් ඇසීමට යයි මණ්ඩපයක් කරවා ඉන් හෙළා කුමරා මරා දැමූහ. ඔහු ගලේ බණ්ඩාර නමින් දෙවි බවට පත්විය. (28 : 71 පි.)

කුරුණෑගල ඇතුගල සමීපයේ ගලේ බණ්ඩාර දේවාල දෙකකි. එකක් සිංහල බෞද්ධ කපුවන් සතු අතර අනෙක මුස්ලිම් කපුවන් බාරයේ පවතී.

සිත් ලෙස රජ හට මැති කළ වර දෙන්  
අත් විඳින ගල දෙස ඉන්ට බැරිව දෙන්  
වත් හිමි කුමරා මැරුණි කො රෝදෙන්  
මත් උණි නගරය ලෙඩ සෑදී මෙන්

කෙලේ වරද මැති වත්හිමි කුම රුට  
බලේ පාති දෙවියෙක් වී ගල පිට  
තලේ එහිමි ලෙස නැති තෙද පෑ විට  
ගලේ ඒ බණ්ඩර නමකි එදා සිට

නද දීමෙන් මිණි හඩ වඩ මින් තේ  
කඳ සුදු අස්වාහනකි පෙනෙන් තේ  
මඳ වත් යකුහට ගුටි බැට දෙන් තේ  
අද නෙක් ඇතුගල පිට වැඩ ඉන් තේ

(90 : 44-48 පිටු)

කඩහපොළ හොරොම්බාවේ ද ගලේ බණ්ඩාර දේවාලයක් ඇත. (2)



## 83



# ගිනි කුරුම්බර දෙවියෝ

මේ නමින් හඳුන්වනු ලබන දෙ පිරිසක් ම සිටින බව සඳහන් වේ. ඔවුහු බණ්ඩාර දෙවිවරුන් ගේ සේවකයෝ වෙත් ල. එක් එක් පළාතකට වෙන් වූ කුරුම්බරයෝ බොහෝ ගණනක් වෙති. කිතගම හිටිබණ්ඩාර ගේ දර සෑයට පින දිවි නසා ගත් ඔහු ගේ සේවකයා වූ කෙලිසිං අච්චිල නැමැත්තා කිතගම හිටිබණ්ඩාර දෙවි ගේ. කුරුම්බරයා වේ. මෙකී කුරුම්බරයා හිටිබණ්ඩාර දෙවියාගේ ඇතුන් බලන්නා ද වන්නේ ය. මේ කියන කුරුම්බරයන් මහ දෙවිවරුන් ගෙන් වරම් ලබා ගෙන ඇතැයි ද පවසති. ඒ නිසා හිටිබණ්ඩාර දෙවියා හා ඔහු ගේ කුරුම්බරයා ද යන දෙදෙනා ම එක් ව මහජනතාව රකින බව ජනතාව ගේ විශ්වාස යයි. මේ ගැන ඇති කෝල්මුර කවි කීපයක් මෙසේ ය:-

කෙලිසිං අච්චිල එ ගිනි කුරුම් බර  
හිටි සුරිඳුන්ගේ ඇමති සුපෙම් බර  
දෙන්න සමඟ ගොස් ගජරුළ මැදි කර  
පන්නා ගත්සෙකි බලෙන් උරුම කර

පන්නා ගජ රළ කිතගම පියස ට  
දුන්නා හෙණ්ඩුව කුරුම්බු සුරිඳු ට  
දුන්නා වතුපිටි ගොවිපොළවල් ව ට  
දුන්නා අවසර රකිනා විල ස ට

දෙන්නම ගොස් වරම් රැගෙන සක් ඉසිවර බඹ සුරින් ද  
විස්ණු සමන් කන්ද විබීසණ සහ පත්ති දෙවින් ද  
මෙවන් තෙදැති හැම දෙවිඳුගෙ විවරණ ලැබුණා හෙයින් ද  
නිවන් පතා සත රකිතෙයි මෙ පන්දහස හිටි සුරින් ද

දෙදෙන සිරි ලක බාර අරගෙන පන්දහසක් පත්සියය වා  
වදින ජනපද රෝග දුරු කර රකිති නර සත හැම වි වා

මෙකී ගිනිකුරුම්බර දෙවියන්ට පුද පූජා නොකරන බව පැවැසේ. (29 : 86-88 පි.)

දැදුරු ඔය නිම්නයේ ප්‍රකට නවත් ගිනිකුරුම්බරයෙකි, උඩුවේරියේ කපුරුහාමි බණ්ඩාර දෙවියන්ගේ ගිනි කුරුම්බරයා. මෙතෙමේ එම උඩුවේරිය කපුරුහාමි බණ්ඩාර දෙවියන් ගේ නිවුන් සහෝදරයා යි. එහෙත් දැනට ගිනිකුරුම්බර යනුවෙන් දැදුරු ඔයබඩ පෙදෙසේ පුද පූජා ලබන්නේ රත්න මලල කීර්ති බණ්ඩාර සමඟ මලල දේශයෙන් ලකට පැමිණි අයකු බව පැවසේ. ඔහු වෙනුවෙන් පවත්නා කෝල්මුර කවිපන්තිය මෙසේය:-

විස්තර රන් පුවක් මලක් එරන් පුහුල් දෙකක් ගත් ඩ
රත්තර නෙත් හෝල්වැලක් රන්දුනු පණිවුඩ කරන් ඩ
රත්කර කුඹ මුදුන තබා රුවල් නැතුව නැව් පදින් ඩ
විස්තර තෙද බල පාමින් මුඩත්තවට ගොඩ බයින් ඩ

කළු අන්දර හිමයට වැඩ කළු දෙබරුන් පිටත් වන් ඩ
කළු අන්දර පැණි බී ගෙන ඕය වලානට වඩින් ඩ
අයියනාක දෙවි සමඟින් වල්ලි ඇතා පිට වඩින් ඩ
නල්ල කුරුම්බර දෙවතා දෙවිරජ පේනට වඩින් ඩ

මලල කුමරු සත් දෙන සහ මෙලක් දිවට ගොඩ බයින් ඩ
සෙල්ලන් කර පුලිනේ කෙළෙ ගුවනට වෙඩි සැර අරින් ඩ
ලොල්ල වඩන ගිනිකුරුඹර සිටිය ගමින් පැවත එන් ඩ
දුල්ල වඩන ඔබ නමදිම් උඩුවේරිය නම තබන් ඩ

මිහින්තලා දාගොබ වට කැලණි වෙහෙර මුර කරන් ඩ
සමන්හ කුටේ වැඩ සිට කලාඔයේ දිය කෙළින් ඩ
දැදුරු ඔයේ උස්ගල පිට නානුමුරේ සිද්ද වෙන් ඩ
ඕයවලානට අදිපති දෙවිරජ පේනට වඩින් ඩ

(29 : 188-189 පිටු)

දැනට උඩුවේරියේ කපුරුහාමි බණ්ඩාර දෙවියන් ගේ දේවාලයේ පුද පූජා ලබන්නේ රත්නමලල කීර්ති බණ්ඩාර දෙවියන් බව ඉහත සඳහන් කළෙමු. මේ දෙවිවරු දෙදෙනා එක ම දෙවියකු බවට පත් වීමත් සමඟ ඔවුන් ගේ ගිනිකුරුම්බරයන් ද එක්වීමක් සිදු වූ බව පෙනේ. (29 : 67-72 පිටු)





## 84
## ගිරි දේවී

මේ නමින් හඳුන්වා ඇත්තේ දේවතාවියක බව පැහැදිලිය. ඕ දඹදිව දන්ත පුරයේ විසූ සිංහ කුමාර රජු ගේ හා හංසවතී දේවියගේ දුවකි. ඇය ගේ වැඩිමහලු සොහොයුරා ඇය හා සංවාසයේ යෙදෙන බව නෛමිත්තිකයන් කී බැවින් සංවේගයට පත් වූ දෙමාපියෝ ඇය ගිරිලෙනක සඟවා තැබූහ. කුඩා කුමරිය ගිරි ලෙනක විසූ බැවින් ඇය ගිරි දේවිය නම් වූවාය. මනා රූ සපුවෙකින් හෙබි ඇය ගැන අසන්නට ලැබුණු ඇගේ සොහොයුරු දළ කුමරා ඇයට ලොබ බැඳ බොරු ලෙඩ ගෙන ඇය නුදුටුවහොත් තමා මරණයට පත් වන බව පැවසීය. ඔහුට ඇය බැලීමට අවසන ඉඩ ලැබිණි. එහි ප්‍රතිඵලය වූයේ ඔහු ඇය පොළඹවා ගෙන ඇය හා සංවාසයේ යෙදීමයි. මින් සොවට පත් ගිරි දේවිය ගෙල වැල ලා ගෙන සිය දිවි හානි කර ගත්තාය.

මෙකී ගිරි දේවියත්, ඇගේ සහෝදරයා වන දළ කුමාරයාත් කකුසඳ, කෝනාගම, කාශ්‍යප, ගෞතම යන බුදුරදුන් හමුව පින් කොට මේ දෙදෙනා උපනුපන් ජාතිවල අඹු සැමියන් වන ලෙස පැතූ වග ද සඳහන් වේ. **ගිරි දේවි අස්නෙ, ගිරි දේවි උපත, ගිරි දේවි කවි,** යන පොත්වලින් ද ඇය ගැන තොරතුරු දත හැකිය. එයින් **ගිරි දේවි කවි** යන පොතේ සඳහන් කවක් මෙසේය:-

කසුන් මල් සුවඳ පෙති අතුළ දුල යහන තේ
සුසුන් ලා තුන් යමට නොයා නිදි අද නෙතේ
සතුන් හට නෙපෙනෙමින් ගියෙද නුබ වනග තේ
ඉතින් මගේ දිවි රැගෙන බැරි ඉන්ඩ ගිරික තේ

(161, 3 : 288 පි.)

ගෙල වැල ලා මිය ගිය ඇයගේ සිරුර සක්දෙවියා විසින් සැඟ වූ නමුත් එය සොයා ගැනීමට දළකුමරු සමත් විය. මෙයින් පසුව දළ කුමරු ද මිය ගොස් යකෙකුව උපන්නේය. ගිරි දේවිය ද වරෙක යැකිණියක ලෙසත් තව වරෙක දේවතාවියක ලෙසත් පෙනී සිටින බව ජනප්‍රවාද යයි. මේ නිසා



9. ර.මු.නි.ස. - 93939

ඇගේ අවතාර 12 ක් ඇති බවත් ඒ අවතාර දොළහ "ගිරි ප්‍රියෝ දොළහ" යනු වෙන් සඳහන් වන බවත් පැවසේ. ඒ දොළොස් අවතාර මෙසේය:- 1. මදන ගිරි 2. හපුමල් ගිරි 3. බාල ගිරි 4. මෝලන් ගිරි 5. භූත ගිරි 6. තිලගිරි 7. රත්න ගිරි 8. හඳුන් ගිරි 9. පට්ටි ගිරි 10. කොටගිරි 11. අඳුන් ගිරි 12. වලියක් ගිරි. (116 : 104 පි.) ඇතැම් තැනක මේ නම් මෙසේත් සඳහන් වේ.:- 1. මහාගිරි 2. රත්න ගිරි 3. තිල ගිරි 4. මදන ගිරි 5. මෝල ගිරි 6 බාල ගිරි 7. භූත ගිරි 8. පට්ටි ගිරි 9. සේල ගිරි 10. ඔකඳ ගිරි 11. වැදියක් ගිරි 12. සොහොන් ගිරි. (90 : 86 පි.)

මෙසේ අවතාර දොළසකින් පෙනී සිටින ගිරි දේවිය ගේ බාල ගිරි අවතාරය විශේෂයෙන් කුඩා දරුවනට ලෙඩ කරන බව ගැමි ජනතාව තුළ පටත්නා විශ්වාසයකි. මෙ වැනි බාලගිරි දෝෂවලට වෙද හෙදකම් කළ පිරිසක් මෑත අතීතයේ පිටිසර ගම්වල වාසය කර ඇතත් එම පිරිස දැන් කෙමෙන් අභාවයට යන බව පෙනේ. ගිරි දේවිය සඳහා වෙන් වූ දේවාල දක්නට නොලැබීම ද විශේෂයෙකි. දේවිය ගේ උපත සිදුවිණැයි කියන හංසවතී නුවර බුරුමයේ රත්ගුත් නුවර විය හැකි යයි හියු නෙවිල් අදහස් කරයි. (161, 3 : 287 පි.).

අනුරාධපුර පළාත් වාසීහු වැසි නැති කාලවල දී දළ කුමරා ගේ ද ගිරි දේවිය ගේ ද නිර්වස්ත්‍ර රූප අඹා වැව් කණ්ඩියේ තබා කවි කියති. මෙයින් පසු ව වැසි වස්නා බව ඔවුන් ගේ විස්වාස යයි. (33 : 18 පි.)

**ගිරි දේවියගේ විත්තිය** (කවි කීපයක්)

වඩා ගොයින් යහනේ ඉන්දා පූ
අඩා වැටී ගිරි ළඳ මොර ගා පූ
කුඩා නමුත් තින්දාව සිතා පූ
විඩා වයෙන් මද යුද පොළඹා පූ

එමට රුවැති බිසවුන් වෙන නැතිව ද
මෙමට ආලෙ තුඹ කුමකට සිතුව ද
නමට උතුම් රජවලිය නොවේ ව ද
මෙමට කරපු දේ කිළුටක් නම් වෙ ද



නගේ මන්ද තුඹ එහෙම සිතූ වේ
දගේ කියා මම තුඹ ගෙන්නූ වේ
මගේ මදන වෙරි තුඹ පහ කෙරූ වේ
මගේ රුවට රුව තුඹ ම ගෙනා වේ

තුඹට හිතට විළි ලැජ්ජා නැතු ව ට
මෙමට බැරිය දැන් ඔහොම හිනැත්ත ට
ලොවට දැනෙන විට කියති කටින් ක ට
එවිට සිනාසෙති ගෑනු ඉතින් ම ට

දයි කුසයට මගෙ ගිනි ඇවිලෙන් නේ
වෙයි මොකවත් මේ දුක නොතිබෙන් නේ
දෙයි යන්ටත් මගෙ දිවි නොපෙනෙන් නේ
අයි යට කල් බැඳ කොහොමද ඉන් නේ

දහස වටින සළුවෙන් අන්දා ලා
දහස වටින මාලේ කර ලා ලා
පහස විඳපු කාමෙට සිත ලොබ ලා
වෙහෙස වෙච්චි ගිරි ළඳහට එක ලා

බැන්දා වරලස පීරා කොනක ට
බින්දා පියයුරු කැකුළ ලැම්ද පි ට
කැන්දා කල් බැඳ නහා සරණ කො ට
තින්දා පවසති වද අප දෙන්න ට

තබා සිරස යහනේ ම තබා පූ
විඩාවයෙන් ගිරි ළඳ එළි බැස පූ
අඩා ඇසළ රුක මුදුනට නැඟ පූ
නොබා සිතින් බොටුවේ වැල ලා පූ

අක් බඹ වරලස උනා වැටි විවී
නෙත් කඳුලෙන් පියයුරු නෑ වෙ විවී
අත් දෙක මල් දම් සේ එල් ලෙ විවී
ගිරි කුමරිය ගිරි දේවිය වෙ විවී

(90 : 83-86 පිටු)

## 85



# ගොඩගෙදර බණ්ඩාර දෙවියෝ

දහ නව වන සිය වසේ දී පළමුව වෙල්ලස්සේ ද පසුව බදුල්ලේ ද දියා මහත්ම පදවිය දැරූ ගොඩගෙදර රටේ මහත්මයා මෙසේ දෙවි බවට පත් වූ අයුරු සෙලිග්මාන් විසින් වාර්තා කර ඇත. (178 : 143 පි.)

රටේ මහත්මයා ව්‍ය. ව. 1872 දී මිය ගියේය. තමා දෙවි බවට පත් වූ බව ප්‍රකාශ කිරීම පිණිස ඔහු ගමට ඇතකු එවා විවිධ හිරිහැර කරවිය. පසු ව වැදි ජනයා ගේ ආගමික වතාවතක් වන 'කොළ මඩුවක්' නටවන ලදින් ජේනයක් මගින් ඔහු ගේ වත ගොත හෙළි විය. මේ පිළිබඳ ජනප්‍රවාදයේ එන අදහස් නම් දෙවි බවට පත් වූ පුද්ගලයා විසින් සිය දේවත්වය ප්‍රකාශ කිරීම සඳහා විවිධ සතුන් එවිය හැකි බවය. සිංහ, හස්ති ආදීහු ඉහළ ගණයේ දෙවිවරුන් ගේ පණිවිඩ කරුවෝ වෙත්. කොටියා එවනු ලබන්නේ එතරම් උසස් ගණයේ දෙවියෙකු විසින් නොවේ. (178 : 143 පි.)

සෑම අලුත් දෙවි කෙනකු ම කතරගමින් වරම් ලැබිය යුතුය. ගොඩගෙදර දෙවියෝ සිය තෙදබල ප්‍රකාශ කරනු වස් කතරගම දෙවියන් ගේ ඇතාට පිස්සු වැට්ටවූ බව ද කිය වේ. (එම).

ගොඩගෙදර බණ්ඩාර දෙවියන් ගේ විශේෂ අවධානය යොමු වූයේ ගව ලෙඩ වළක්වා ඔවුන් ගේ කිරි වැඩි කිරීමටත්, ඔවුන් ගේ ආරක්ෂාව සැලැස්වීමටත් ය. (එම). ගොඩගෙදර බණ්ඩාර දෙවියන් ඌවේ ගම්භාර දෙවි කෙනකු ලෙස සැලකිලි ලබන බව ඌව වංශ කථාවේ සඳහන් වේ (125 :111 පි.).



## 86



# ගොපලු දේවතාවා

ලක්දිව ගොවි ජනතාව අතර ප්‍රකට දෙවි කෙනෙකි. විශේෂයෙන් ගවයන්ට අධිපති හෙයින් 'ගොපලු දේවතාවා' යනුවෙන් නම් ලබා ඇති මොහු ගේ ප්‍රසාදය ගව මහිෂාදීන් මනා සේ ඇති දැඩි කර ගැනීම සඳහා අත්‍යවශ්‍ය බව ගොවියෝ විශ්වාස කරති. කෙත්වතුවල සැරි සරන හෙයින් ඔහු ගේ තවත් වැදගත් කමක් ඇත. කමත් චාරිත්‍රයක් වන 'කලවිට පිරිත' ගැයෙන්නේ ගොපලු දේවතාවා ගෙන් බැත රැක ගැනීමට බව හතර කෝරළේ ගොවියෝ පවසති. (31 : 49 පි.)

'එරත් බණ්ඩියේ වෙසෙන ගොපලු නම් දේවතාවුන් වහන්සේ ගේ වම් උරේ කුරපයියේ පාට වර්ණය කෙසේ දැයි ඇසුවෝතින් ...' ආදී වශයෙන් එහි සඳහන් ය. (එම) නුවර කලාවියේ ද කමතට ගොයම් වඩන විට ද ගොයම් මැඩවීමට හරක් කැරැල්ල පිළියෙළ කිරීමේ දී ද ගොපලු දේවතාවාට සැලකිලි දැක් වේ. (එම) ගොපලු දේවතාවා ගේ වාහනය 'එළ විස්සෙකි'. එනම් අංග විස්සක එළ පැහැය තිබෙන ගවයාට එළ විස්සා යයි කියනු ලැබේ.

මීට අමතරව රාත්‍රියට කිරි එළ දෙනුන් ගෙන් මේ දේවතාවා හොරා කිරි පානය කරන්නේ යැයි විශ්වාසයක් ද ගැමියන් අතර පවතී.



## 87

# ගෝමර බණ්ඩාර දේවිය

ඇම්බැක්කේ දේවතා සුරිඳුන් ගේ දේවිය මේ නමින් හැඳින්වී ඇත. හියු නෙවිල් විසින් එකතු කරන ලද කාව්‍ය මාලාවේ ඇම්බැක්කේ දෙවියන් ගැන ඇති කවි අතර මේ කවි දෙක ඇත.

රූ බර නවයොවුනෙන් දිලෙමින්      තේ<br>
මේ පුර බට දිවසර විලසින්      නේ<br>
ගෝමර බණ්ඩාර ද සුපසන්      නේ<br>
බෝකර සවු සිරි සත රැක ගත්      තේ

බෝකර තම යස තුති කී කිවිඳුට සිරි සැප      දේවි<br>
ආදර යෙන් සිහි කළ සතකු ගෙ උවදුරු නව      තාවී<br>
මේවර ඇම්බැකි පුරයට පත් මෙන් සුර වනි      තාවී<br>
ගෝමර බණ්ඩාර තමයි දේවතා සුරිඳු ගෙ දේව      තාවී<br>
(37 : 7-8 පි.)

මේ නාමය හෙනකද බිසෝ බණ්ඩාරයන්ගේ තවත් නමක් වීමට ඉඩ තිබේ.



## 88

# ජයවීර බණ්ඩාර

මහනුවර දිස්ත්‍රික්කයේ යටිනුවර දියකෙළිනාවල නම් ස්ථානයට යාබද නාරුක්ගොමුවක පිහිටුවන ලද දොඩම්වල දේවාලය හා සම්බන්ධ



දෙවිවරුන් නව දෙනා අතුරෙන් කෙනෙකි. 'මහ නා බණ්ඩාර' යටතේ බලන්න.



## 89

# තනියවැල්ලේ දෙවියෝ

කෝට්ටේ විසූ අටවැනි වීරපරාක්‍රමබාහු (ව්‍ය.ව. 1477-1489) රජු ගේ පුත්, මාදම්පේ විසූ තනියවල්ලභ යුව රජු මිය යෑමෙන් පසු තනියවැල්ලේ දෙවි නමින් හැඳින්වීමට පළාත් වාසීහු යුහුසුලු වූහ. ඒ යුව රජුගේ තේජසත්, ඔහු ගෙන් පළාතට සිදු වූ සේවාවත් සලකා මෙසේ ඔහු දේවත්වයේ ලා සලකන්නට ඇත. ඔහු තනිපිටි වැව කරවා විශාල කෙත් යායක් අස්වැද්ද වීය. මේ අවධියේ දී දකුණු ඉන්දියානුවන් හලාවත මුහුදු තීරයේ බලයෙන් මුතු කිම්දෙන බැව් ඇසූ වීරපරාක්‍රමබාහු රජු සිය පුතුන් වූ උඩුගම්පොල සකලකලාවල්ලභත්, මාදම්පේ තනියවල්ලභත් ඒ වැලැක්වීම සඳහා යෙදවීය. තනියවල්ලභ නැති අතර මහ ඇමැති රජ බිසව වසහයට ගැනීමට තැත් කොට ඒ නොහැකි වූයෙන් යුදයට ගිය තනියවල්ලභ මරණයට පත් වූ බව බිසවට දැන්වීය. බිසව සැමියා නමින් දිවි පිදුවාය. යුද දිනා එන කුමරාට මේ බව සැළ වී තමා ගෙන ආ වස්තු සම්භාරය ගල් අමුණ නම් ස්ථානයේ නිදන් කොට එය රැකීමට පුත් කුමරාට අණ කොට මාලිගාවට පැමිණියේය.

සිදු වූ දේ විමසූ රජතුමා විනිශ්චය කොට දුෂ්ට ඇමැතියා වධයට පමුණුවා යළි තමා නවතා ආ කුමරු ධනය නසන බව අසා ගල් අමුණ වෙත ගොස් ඔහු ගේ ගෙල සිඳ දඬුවම් පමුණුවා තම දිවියේ ද පලක් නොමැති බැව් දැන තනිපිටි වැව පිටියේ සිය මහුල් කඩුව සිටුවා ඒ මත පැන දිවි තොර කර ගත්තේය. එදා සිට එම ස්ථානය 'කඩු පිටි මාදම්පය' යැයි හඳුන්වනු ලැබේ.

මින් පසු කෘතවේදී ජනයා විසින් රජු දේවත්වයට පත් කරන ලදි. මේ වෙල්යායේ වාර්ෂික අස්වැන්න කපා ගත් පසු අලුත් සහල් ගෙන තනියවල්ලභ දෙවිඳුන් නමට දානයක් පූජාවේ.

ගල් අමුණේ දී ගෙල සිඳුම් ලැබූ කුමරා ගලගත් බණ්ඩාර නමින් දෙවිව උපන් බවද කියවේ. (8)

සුප්‍රසිද්ධ තනියවැල්ලේ දේවාලය මාදම්පේ පිහිටා ඇති අතර එහි රජුගේ වාහනය වන සුදු අශ්වයාගේ පිළිරුවක් ද වේ.



## 90
## තේවානි අම්මා දේවී

කතරගම ස්කන්ද කුමාර දෙවියන් ගේ ඉන්දියා බිරිය තේවානි අම්මා බව ප්‍රකට ය. සිරිලක පැමිණි ස්කන්ද කුමරා කතරගම දී වල්ලි අම්මා හමු ව ඇයට ආලය කරන්නට වූ බවත්, එහි ප්‍රතිඵලයක් වශයෙන් ඔහුට කතරගම ම පදිංචි වීමට සිදු වූ බවත් කියනු ලැබේ. ඉන්දියාවේ විසූ තේවානි අම්මා තම හිමියා ආපසු එහි නොගිය බැවින් ඔහු සොයා සිරි ලකට ආවාය. එවිට සිදුවී ඇත්තේ කුමක් දැයි ඇයට වැටහිණි. කිසිවක් කර කියා ගත නොහුණු ඇය ද කතරගම පදිංචි වූවාය. එහි මහා දේවාලයට දකුණින් පවුරකින් වට වී ඇති කොටසේ තේවානි අම්මාගේ දේවාලය දක්නට ලැබේ. කතරගම දේවාලයත් වල්ලි අම්මා දේවාලයත් සිංහල කපුරාළලා බාරයේ පවතින නමුත් තේවානි අම්මා දේවාලය දෙමළ කපුරාළලා බාරයේ පවතී.



## 91
## කොට කඩවර

හියු නෙවිල් එකතු කළ කාව්‍යය සමුච්චයේ "කොට කඩවර" යනුවෙන් ද "කොට කුමාර" යනුවෙන් ද මෙම යක්ෂයා හෙවත් දෙවියා හැඳින් වෙන



කවි පන්ති තිබේ. මෙම කවි පන්තිවල කොට කඩවර උපත කීප ආකාරයකින් දක්වා ඇත.

(1) බරණැස් රජතුමාගේ රෙදි සෝදන "හළුවා" රාජ සළු පිළි සේදීමට ගඟට ගෙන ගිය අවස්ථාවක ගලේ වනා තිබූ සළුවක් නැති වුණේය. දැන් කළයුත්තේ කුමක් දැයි ඇමැතියෙකුගෙන් උපදෙස් ඇසූ විට රටින් පැන යාම වඩාත් සුදුසු පිළිවෙත යැයි අසන්නට ලැබිණි. හළුවා ඔරුවක නැගී කාසි රටට පැන ගියේ ය. හේ බරණැස් රටින් පිටුවහල් කරන ලද රාජ කුමාරයකු ලෙස පෙනී සිටියේය. කාසි රටේ රජ ඔහු ගැන පැහැදී ධිය දූ කුමරිය සරණ පාවා දිනි. ඔවුනට පුතෙක් උපන්නේය. තනිව ක්‍රීඩා කිරීමට තරම් වයස පැමුණුණ විට කුමාරයා රෙද්දක් සෝදමින් ප්‍රීති විය. මේ අස්වාභාවික හැසිරීම දුටු ඇමැතියෙක් රජුට එය දැන්වීය. අනතුරුව තවත් පුතෙක් ඉපදිණි. හේ ක්‍රීඩා විලාසයෙන් රෙද්දක් වැනුවේය. මෙය ද රජුට දක්වන ලදි. රජු සැකයට පත්ව සිය බෑනා කැඳවා බරණැස් නුවර රජ මාලිගය හා වීදි ඇඳ පෙන්වන ලෙස කීවේය. හළුවා දී බරණැස් පුරයේ චිත්‍රයක් සිය කඩු මුණතෙන් බිම අඳින්නට විය. රජ මාලිගය, බ්‍රාහ්මණයන් ගේ වීථිය, වෛශ්‍යයන්ගේ වීථිය ආදිය පෙන්වමින් යන ඔහුට එම උනන්දුව නිසා තමන් ගැන ද අමතක වී තිබිණි.

ඉන්ද්‍ර දිගට වෙළඳුන් ගේ වීදිය
වයඹ දිගට ගොවි කුලයේ වීදිය
ඊසානට රජ කුලයේ වීදිය
උතුරු දිගට අපෙ රදා මෙ වීදිය

මේ ඇසූ සැණෙකින් තම සැකය තහවුරු වූ රජ කුමා මොහු ගඟ තොටු පොළට ගෙන ගොස් හිස ගසා දැමීමට නියම කළෙන් එය ඉටු කරන ලදි. හෙතෙම යකකු වී තොටේ ඇති නුග රුකට අරක් ගත්තේය. සිය බිරිය ව සිටි කුමාරිය එහි නෑමට ආ අවස්ථාවේ දී යක්ෂයා ඇයට ආවේශ වී ලෙඩ කළේය. තිමිති බැලූ බ්‍රාහ්මණයා ගේ උපදෙස් පිට බලි යාගයක් කරන ලදින් ඕ සුවපත් වූවාය. මින් පසුව යක්ෂයා නැව් නැඟී සිංහල දේශයට ආවේය. යාපා පටුනේ ගොඩ බසින්නට නැත් කළ ඔහුට නාථ දෙවිඳු ඉඩ නුදුන් හ. යළි මුහුදෙන් ගොස් වීරමුණ්ඩ දෙවියන් ගේ අවසරය පිට ගොඩ බැස විෂ්ණු දෙවියන්ට පුද පූජා පවත්වා දැදුරුඔය, මෝදර, කළුවැල්ල තොටු පළට පැමිණියේය. පසුව රුහුණට ගිය විට කඳ සුරිඳුන් විසින් පන්නා දමන ලදී. සිව්වරම් දෙවිවරුන්ට කන්නලව් කිරීමෙන් ඔහු යළි පත්තිනි දේවිය ගෙන් වරම් ලැබ දෙවොල් දෙවි සමග සිරිලකට ගොඩ බැස්සේය. (161, I: 51 පි.)

(2) "තොට කුමාර බලිය" නම් මේ කවි පෙළේ සඳහන් වන්නේ මොහු කාසි රජුට සේවය කළ කරණා නම් රජකයකු බවයි. සොළී රටට පැන ගොස් කසී රට බිම්බා නුවර බිම්බා රාජ පුත්‍ර කුමාරයා ලෙස පෙනී සිටියේය. මෙම කවි පෙළේ දී ඔහු රජකයන් ගේ වීදිය වයඹ දිගට යයි විස්තර කර ඇත. මෙහි ඔහුට දාවූ එක පුතකු ගැන පමණක් සඳහන්ය. (161, 2: 186 පි.)

(3) "තොට කඩවර උපත" නම් කවි පෙළේ සඳහන් පරිදි හෙතෙම කසී රට බිම්බා නුවර රත්න ජේඩි නම් හළුවෙකි. රජුගේ සළුව පුළඟින් මුහුදට ගසා ගෙන ගිය බැවින් හේ සොළී රටට පැන ගියේය. එහිදී බිම්බා නුවර රජු ගේ පුත්‍රයා ලෙස පෙනී සිටියේය. සොළී රාජ කුමාරිකාව ගේ ස්වාමියා බවට පත් ඔහුට පුත්තු දෙදෙනෙක් උපන්හ. ඔවුන් ගේ ප්‍රියතම ක්‍රීඩාව වූයේ ඇඳුම් මැසීමයි. තවත් පුත්තු දෙදෙනෙක් උපන් කල ඔවුහු රෙදි සේදීම ක්‍රීඩාව කර ගත්හ. රජ කුමා ඔහු ගේ ව්‍යාජ භාවය ඉහත 1 වන පුවතේ ආකාරයෙන්ම දැන ගත්තී. එහෙත් මේ කවි පෙළෙහි රජක වීදිය, ඊශාන දිගට ඇති ලෙස දැක් වී ඇත. ගං තොටේ දී හිස ගසා දමන ලදුව යක්ෂයෙකුව ඉපදී බිරියටත් දරුවන් සිව් දෙනාටත් ආවේශ විය. බලි බිලිවලින් සෑහීමකට පත් නොවූ ඔහුගේ රුක් විමන වෙත යථෝක්ත ආතුරයෝ පිරුවට හැඳ පැමිණි අවස්ථාවේ කුමරුන් සිව් දෙන යකුන් බවට පත් කර ගත්තේය. සතරවරම් දෙවිවරුන් ගේ වරමින් යක්ෂයාටත්, බිරිඳටත්, දරුවන්ටත් දඹදිව පුරා බලිබිලි ගැනීමට ඉඩ ලැබිණි. (161, 3 : 12 පි.)

---

ඉහත (2) වැනිව සඳහන් තොට කුමාර බලි කවිවල තොට කඩවරයාත්, බිරිඳත් නිරූපණය කළ යුතු ආකාරය විස්තර වේ. බිරිඳ ගේ ඇඟ වටා සර්පයකු එති සිටිය යුතුය. ඇගේ දෙ ඉණෙහි දරු දෙ දෙනෙකි. තවත් දරුවෙක් තොට කඩවරගේ පා ළඟ සිටී. තොට කඩවරගේ හිස නිල් නයි පෙණයකි. ඔහු රන් තෝඩු පැළඳ කඩුවක් ද, අසෝක අත්තක් ද ගෙන සිටී. දෙ ඉණේ දරු දෙ දෙනෙකි. දෙ පතුල් මත තවත් දරු දෙ දෙනකු කළවයි. දරුවන් ගේ ගෙල වටා ද, නාගයන් සිටිය යුතුය. මොහු ගේ වාහනය ද දරණ ගැසූ නාගයෙකි. ඔහු ඉණ වටා ද නාගයකු සිටිය යුතුය. (161, 2 : 186 පි.)

මොහු "තොට කුමාර" යන නමින් ද හැඳින්වෙන බව නෙවිල් සමුච්චයේ ඇති "තොට කුමාර විත්තිය" නම් කවි පෙළෙන් පෙනේ. (161, 3 : 9 පි.) හෙතෙම විටෙක පිරිවර 8 දෙනකු සමඟ ද තවත් විටෙක පිරිවර 36 දෙනකු සමග ද ව්‍යාධිගත පුද්ගලයන් දුව කිරීමට පැමිණෙයි. මෙහි



දී සඳහන් වන්නෝ නම් වලියක් කඩවර, කොහොඹා කඩවර, වැදියක් කඩවර, දැඩියක් කඩවර, අවර යක් කඩවර, දෙවොල් කඩවර, භූත මහ කඩවර, අලුයම කඩවර, පෙරයම කඩවර, මද්දිම කඩවර, ලේ කඩවර,මස් කඩවර, අභූත කඩවර, ඊරි කඩවර, පුළුටු කඩවර, මල් කඩවර, හපුමල් කඩවර, ගිනි කඩවර ආදීහු යි. (එම).



## 92
## දත්තුරේ බණ්ඩාර

මහනුවර දිස්ත්‍රික්කයේ යටිනුවර, දියකෙළිනාවල නම් ස්ථානයට යාබදව නා රුක් ගොමුවේ පිහිටුවන ලද දේවාලය හා සම්බන්ධ දෙවිවරුන් හා සම්බන්ධ දෙවිවරුන් නව දෙනා ගෙන් කෙනෙකි. "මහ. නා බණ්ඩාර" යටතේ ද බලන්න.



## 93
## දහනක බණ්ඩාර දෙවියෝ

කුරුණෑගල දිස්ත්‍රික්කයේ කහල්ල, පරවාගම, පල්ලේකැලේ යන පෙදෙස්වල මේ දෙවි ගැන දැඩි විශ්වාසයක් පැතිර පවත්නා බව පෙනී යයි.

උත්පත්ති කථාව අනුව මේ දෙවි කුරුණෑගල පෙදෙසේ කහල්ල නම් ගමේ වලව්වේ විසූ දක්ෂ තරුණයෙකි. එහෙත් ඔහු තම දක්ෂකම හා තරුණකම පළාත්වාසීන් පෙළීම සඳහා යොදවා ඇත. මේ හේතුවෙන් පළාත්වාසීහු ඔහු පිළිකුල් කළෝය. එයින් නොනැවතුණු ඔවුහු දහනායක

නමින් හැඳින් වූ ඒ දාමරික තරුණයා මැරීමට ද කුමන්ත්‍රණය සාළෝය. දහනායක නැති නම් දහනක තරුණයා දඬුයමට දැඩි රුචියක් දැක්වූවෙකි. එබැවින් දඬුයමට ගෙන යන මුවාවෙන් ඔහු බැද්දට ගෙන ගොස් මරා දැමීමේ හැකියාව ගැන සිතූ ගම්වාසීහු උක්ත තරුණයා කබැල්ලෑ දඬුයමට පොළඹවා ගෙන කැලයට ගෙන ගියහ. එහි වූ කබැල්ලෑ ලෙනකට දහනක තරුණයා දඬුයමට රිංග වූ ගම්වාසීහු වහාම ලෙන් කට ගල් පුවරුවලින් හොඳට ම වැසී යන ආකාරයෙන් තර කොට වැසූහ. ලෙනෙහි හිර වූ දහනක තමාට හදි කළ ගම්වැසියන් ගෙන් පළිගන්නා බවට සාප කරමින් ම ඒ ලෙන තුළ ම මියැදී ගියේය. මෙසේ මිය ගිය දහනක තරුණයා යක්ෂයකු ව ඉපිද ගම්වැසියනට විපත් කිරීමට පටන් ගත්තේය. මෙයින් බියට පත් ඇතැම්හු සිය, ගම අත් හැර ගියෝය.

මේ අයුරින් පළාතට විශාල විපතක් සිදු කරන උක්ත යක්ෂයා දමනය කිරීමට කතරගම දෙවියෝ ද රිදීගම කුමාර බණ්ඩාර දෙවියෝ ද ඉදිරිපත් වූහ. එහි දී හේ මෙල්ල වී කතරගම දෙවි යටතට පත් විය. මේ යක්ෂයා පසුව තම දේව සභාවට ද ඇතුළත් කරගත් කතරගම දෙවියෝ යළි දාමරික තම් නොකරන ලෙසට තදින් ම ඔහුට අණ කොට කහල්ල, පරවාගම, පල්ලේ කැළේ ආදී පෙදෙස්වල ආධිපත්‍යය දහනක බණ්ඩාරට පවරා දුන්හ.

මෙම දහනක බණ්ඩාර දෙවියා සතු දේවාලවල දිය කැපීමේ පෙරහරට ඇතුන් සපයනු ලබන්නේ ඔහු විසින් ම යයි ජනප්‍රවාදයේ එයි. දිනක් පෙරහර සඳහා එක ද ඇතකුදු නො වීය. ඒ අවස්ථාවේ බැද්දට වන් දහනක බණ්ඩාර දෙවිඳුට එහි වූ මිය ගිය ඇතින්නක ගේ සිරුරක් දක්නට ලැබිණි. එම ඇත් කුණට පණ දුන් දහනක දෙවි එම ඇතිනිය පෙරහරට සම්බන්ධ කරගත්තේය. ඇගෙන් යළිත් එහි ඇත් රංචුවක් බෝ වූහ.

මෙකී ඇත් රළට අලි ඇතුන් තුන්සිය පනස් දෙනකු සිටි බවට ජනතාව තුළ විශ්වාසයක් පවතී. මෙහි සඳහන් දහනක දෙවි ගේ වාහනය ද ඇතකු බව පැවසේ. මොහු ගේ ආයුධ රන් හෙණ්ඩුවක් හා කැත්තක් බව හියු නෙවිල් මහතා සඳහන් කරන්නේය. (161,3: 226 පි.)

මහපිටියේ රුකත් අගින් දුළුනට පොඩි වෙන හැටියට
මහ මුහුදේ දිය රැළ පිට පෙණ රැළ කැර කෙන හැටියට
දහස් වටින රන් කැති ගෙන එරන් කැත්ත ගෙන සුරතට
දහනක දෙවි වඩින කලට සුරිය සායක විලසට
(37 : 104 පි.)



දහනක දෙවි ගැන ඇති කවිපන්තියක් මෙසේය:-

කහලු කන්ද වද ඔබ වැඩ ඉන්නේ
දාමළුවටමයි බැල්ම හෙලන්නේ
එතැන සිටින මළ ඇතිනි දකින්නේ
හෙංඩුව දී ඇත් කඳ නැඟිටින්නේ

කසලූ යයි යන නමක් සැදෙන්නේ
එතැන් පටන් ඇත් රළ බෝ වෙන්නේ
ඇත් වාහනයට බැල්ම හෙළන්නේ
ඇතා පිටින් දෙවි වැඩම කරන්නේ

ඇත් රළ බෝ වෙනා
තුන්සිය පනස් තුන් දෙනා
පෙරහර ද කරමිනා
මෙසේ දහනක සුරිඳු වඩිනා
(69)



## 94
## දළකඩවර

කඩවර දෙවියකු වන මෙතෙම සිංහ නම් රජු ගේ පුතෙකි. සිය සොහොයුරියකට පෙම් බැඳ සිටියෙන් ඇමතියකු විසින් ඔහු මරා දමන ලදී. එවිට සක් දෙවියෝ ඇත් දළයකින් අභිනවයෙන් කුමරකු මැවූහ. එකුමරා දළ කඩවර නමින් ප්‍රසිද්ධ වූයේය. "දෙමළ කඩවර" "අලුත් කඩවර" "සොහොන් කඩවර" "ලේ කඩවර" "දළ කුමාර" "ගරා යකා" යන අපර නාමයෝ ද මොහුට වෙති. ඇතමෙක් දළ කඩවරයා සිය සොහොයුරිය සමඟින් රුවන් කරඬුවකින් උපන් බව ද පවසති. මොහු ගේ හිස වටා නයින් වෙලා ගෙන සිටින ආකාරයෙන් මොහු ගේ පිළිරුව නිරූපිතය. එමෙන් ම මොහු ගේ මුවේ දළ දෙකක් ඇති හෙයින් දළකඩවර යයි මොහු අමතන බවද එක් මතයෙකි. බලගල පෙදෙසේ නිතර නිතර

මොහුගේ සංචාරය ඇතැයි ද පැවසේ. ගුරුදෙණියේ දී මිනිසුනට ආවේශ වීම ද මොහුගේ සිරිතක් ල. කඩවරයන් සියල්ලෝ ම මල්වර දේශයේ උපන්නෝය. එ බැවින් ඒ සියල්ලෝ ම දෙමළ බසින් කථා කළෝය. (116 : 105-6 පිටු) මොහු පිළිබඳව ඇති කවක් මෙසේ ය:-

ගින්දර සේ ම පත්තිනි දෙවියො වැඩ — සිට
රන්දම සේම ගුවනින් අත පොවා — සිට
පන්දම් පහලොවෙන් ගෙන කුකුළන් — අතට
නීල ගරා නම පවතී එදා — සිට

දළකඩවරයාට "අඳුන්ගරා" "හඳුන්ගරා" "පෙරියන්ගරා" "මායංගරා" "දළකඩා" "නීලගරා" "සිරා" යන නාමයන් ද භාවිත කර ඇති බවත්, ඇතැම් විට මේ නම්වලින් සඳහන් ව ඇත්තේ කඩවර හත්කට්ටුව බවත් කියන්නෝ ද වෙති. මෙහි ඇති "කඩවර" යන්න ද බලන්න. හියු නෙවිල් ගේ කාව්‍ය සමුච්චයෙහි ඇති "දළ කඩවර උපත" අග්‍රව ඉහත කී වරදටම මොහු මරණයට පත් කරන ලද්දේ ඇතකු ලවාය. ශක්‍ර දෙවිඳු විසින් ඔහුට ඇත් දළයක උපදින්නට සලස්වා දෙන ලදී. දළය පළා ගෙන පිටතට ආ ඔහුට මූණු තුනක්, අත් අටක් හා හිසට උඩින් නයි පෙණයක් තිබිණි. ලෙඩ පමුණුවා යළි බලි පුද ගෙන ඒ සුව කිරීමේ බලය ඔහුට සතුය:

සැර වැර දළ කඩවර කුමරුන් — නේ
නර ලොව හැම තැන ඇවිද බලන් — නේ
කර ලෙඩ අහනන් කෙළි පුද ගන් — නේ
ඇර පිරිපත රෝදුක් දුර ලන් — නේ

(161, 1 : 50 පි.)



## 95

## දළ කුමාර දෙවියෝ (ගරායක්)

දළ කුමාරයා දෙවියකු ලෙසින් මෙන් ම යක්ෂයකු ලෙසින් ද සලකනු ලබන්නෙකි. ඔහුගේ වඩා ප්‍රචලිත නම "ගරා යකා" යන්නයි. මඩු තොවිල් වැනි ශාන්ති කර්ම අවසානයේ කෙරෙන ගරා යක් නැටුම පොදුවේ වස් දොස් හැරීම පිණිස කෙරෙන්නකි.



ගරා යක්කු නම් යක්ෂ කොට්ඨාශයට යක්ෂයෝ දොළොස් දෙනෙක් අයත් වෙති.: අඳුන් ගරා, සොහොන් ගරා, දේස ගරා, සඳුන් ගරා, පුෂ්ප ගරා, කණ ගරා, උමා ගරා, ලවුනා ගරා, වාත ගරා, තොටය ගරා, නීල ගරා, හා කිල ගරා යනුවෙනි. ඒ එක් එක් ගරා යකුට එ නමින් යුත් ගිරි දේවියකි. සියලු ගරා යකුන්ට නායක වූයේ දන්තපුරේ බඹදත් රජු ගේ පුත් සිංහ කුමාර රජු නිසා හංසවතී දේවියට උපන් දළ කුමාරයාය. දළ කුමාරයා එක් කුස උපන් තම නංගී සමඟ සංවාසයේ යෙදෙන බව නෛමිත්තිකයන් පැවැසූ හෙයින් හංසවතී බිසොවට දුවක උපන් කල ඇය ගිරි ලෙනක සඟවා ඇති දැඩි කරන ලදී. එහෙත් දළ කුමරා ඇය ගැන අසා බොරු ලෙඩ ගෙන ඈ තමා සමීපයට ගෙන්වා ගෙන සංවාසයෙහි යෙදුණේය.

රන් දම් සේ අත් දෙක අල්ලා — ගෙන
කැන් දා ගොස් යහනේ ඉන්දා ගෙ — න
මන් දැන් විඳි දුක් නුඹම සිතා ගෙ — න
රන් තලි මද යුද හැසුරුණු කැන් ද — න

ගිරි ළඳ මින් මහත් කම්පාවට පත්වූවාය

එමට රුවති බිසවුන් වෙන නැති — වද
මෙ මට ආලෙ නුඹ කුමකට සිතුව — ද
නමට උතුම් රජ වලිය නොවේ — වද
මෙ මට කරපු දේ කිළුටක් නම් — වෙද

දළ කුමරු නොයෙක් අස්වැසිලි බස් කිවුවත් ඉන් නොසැනසුණු කුමරිය අවසරයක් බලා ගෙල වැල ලා මිය ගියාය. පසුව මේ තතු දැනගත් දළකුමරු මුළු සක්වළ පුරාම ඇය සෙවීය.

පතර මෙ සක්වල වට විම — සාපී
හතර එ දිවයින ඇවිද — බලාපී
විතර මහත් කඳු හෙල් පෙර — ලාපී
නිතර ගජන් බිම ගසා — මරාපී

අවසානයේ දී ශක්‍ර දෙවිඳු ඔහුට නැහෙණියන්ගේ මළ කඳ පෙන්වීය.

ඔසරි පොටෙන් ඇඟ ගත පිරි මැද — ලා
තිසරු ලෙසින් පියයුරු දෙක දැක — ලා
වියරු මතින් වන සිඹ සත සා — ලා
කියති ඉතින් දෙන් පණ පිහිටා — ලා

ශක්‍ර දෙවිඳු ඇය පණ පිහිටුවා ශක්‍ර බවනට ගෙන ගියේය. තමාට වූ අභාග්‍යය ගැන වෛර බැඳ ගත් දළ කුමරු යක්ෂයකු බවට පත්විය.

එදා සිය වයිර බැඳපු — අකුස්සා
සොඳා එවිග පැන ගැසිය — විලස්සා
විදා ඒ හද රළු වෙමින් — අකුස්සා
එදා මැවිණි දෙවි එදළ — රකුස්සා

දළ කුමාර හෙවත් ගරා යකු වස් දොස් දුර ලෑමේ හැකියාව ලැබුවේ ඔහු අතින් අවසානම දෝෂය වන එක්කුස ඔත් සොහොයුරිය කෙලෙසීම සිදු වූ හෙයින් යයි මහාචාර්ය ඔබේසේකර අර්ථ කථනය කරයි. (166 : 184 පි.) ඔහුට සෑම දේම ගිල දැමීමේ අසීමිත හැකියාවක් ද ඇත. මේ අනුව සියලුම අපවිත්‍ර වස්තූන් හා අමූර්ත සංකල්ප වන වස්දොස් ද දුරු කර ලීමට ඔහුට හැකියාව ඇති බව පැවසේ.

**දළ කුමාර හා ගිරි දේවි බලියඃ-**

මෙය තද නියං කාලවල දී වැසි ලැබීම පිණිස වැව් බැඳි රාජ්‍යේ වැසියන් විසින් කෙරෙන යාතු කර්මයෙකි. දළ කුමාරයා ගේ ද ගිරි දේවිය ගේ ද නිර්වස්ත්‍ර රූප අඹා රාත්‍රියේ වැව් පිටියේ තබා, කවි කියමින් නටා අවසන ඒ රූ එතැනම තබා ගිය පසු මේ රූප නිර්වස්ත්‍රව තබා යෑමෙන් තමනට කළ නිග්‍රහ වසා දමනු වස් දෙවිවරුන් වර්ෂාවක් මවා යටකී බලි රූප සේදී යාමට සලස් වනු ඇතැයි ගැමියෝ විශ්වාස කරති. (ගිරි දේවිය යටතේ ද බලන්න.)



## 96
## දැඩි මුණ්ඩ දෙවියෝ

මේ නමින් හැඳින් වෙන්නේ අලුත් නුවර දේවතා බණ්ඩාර දෙවියා යි. ඒ යටතේ බලන්න.

බ්‍රිතාන්‍ය සිවිල් නිලධාරී හියු නෙවිල් (1848-1897) විසින් එකතු කරන ලද පුස්කොළ පොත් අතර "දැඩි මුණ්ඩ උපත" (161, 1 : 40 පි.), "දැඩි



මුණ්ඩ වරම" (161, 3 : 5 පි.), "දැඩි මුණ්ඩ පරල" (161, 3 : 4 පි.), "දැඩි මුණ්ඩ වරම" (161, 3 : 5 පි.) ආදිය දක්නා ලැබේ. "දැඩි මුණ්ඩ වරමේ" සඳහන් වන පුවත අනුව දැඩි මුණ්ඩ, බුදු රදුන්ගෙන් ද නාරායණ, විෂ්ණු, ශක්‍ර, කන්දකුමාර, වෙසමුනි යන දෙවියන් ගෙන් ද වරම් ලබා ගෙන නැව් නැගී ලක්දිවට එද්දී නැව බිඳුණෙන්, දෙවුන්දරට ගොඩ බසී. එහි දී ගැබ් බරව සිටි සෝමාවතී දේවිය මිය ගිය අවස්ථාවේ ඇය කුසේ සිටි කුමරුද සමඟ ආදාහනය සිදු වූ විට සොහොන් අළුවලින් යළි එම කුමරා මවා පාන ලද්දේ දැඩි මුණ්ඩ විසිනි. එහෙයින් එ කුමරු "දාපුළු" නම් විය. පසුව කුමරා දෙවුන්දර රජ බවට පත් විය. ඉක්බිති සීනිගමට ගිය දෙවිඳු අනතුරුව උග්ගල් නුවරට ද පසුව දඹදෙණි නුවරට ද ගොස් රජගිරි ගල්ලෙනේ විසීය. පසුව රන්දෙණි ගල්ලෙනේ දෙව් විමනක් කරවා විෂ්ණු දෙවියන් ගෙ රූපයක් ඔහු විසින් තබ්බන ලදී. (161, 3 : 5 පි.)

"දැඩි මුණ්ඩ අවතාරය" කවි පෙළේ සඳහන් පරිදි ලක්දිව බුදු සසුන වසර පන්දහසක් කල් රකින්නට බුදුරදහු ඔහුට වරම් දුන්හ. මාර යුද්ධයේ දී ඔහු කළ වික්‍රමය ද මෙහි සඳහන් ය. (අලුත් නුවර දේවතා බණ්ඩාර විස්තරය ද බලන්න.) ඔහු ගේ පිරිවරට ප්‍රේත, නාග, කාලි, කණ්ණඩි, රාග, නාද, ගොපලු, පිල්ලි, ගිනිජල්, ලව්ඩි, ගිනි බ්‍රාඩි, මල්ලව, බාග, දෙවෙල්, වටුක, ඔමරි, මංගර යන යක්ෂයෝ ඇතුළත් වෙති. තම තෙද බල පෙන්වීම පිණිස මේරු පර්වතය මුදුනේ වූ විමානය දුන්නෙන් විද පුණු විසුණු කළේය. ඔහු ගේ දෙපස ගිනි කඩවර දෙවිවරු දෙදෙනෙක් මුරට සිටිති. (161, 3 : 3 පි.)



## 97
## දැලිවේ අලුත් බණ්ඩාර දෙවි

මොනරාගල දිස්ත්‍රික්කයේ මඩුල්ල උප දිසාපති කොට්ඨාශයට අයත් රුවල්කන්ද පාමුල පිහිටි රුවල්වෙල නම් ගමේ මේ දෙවියන් අදහනු ලැබේ. දෙවන රාජසිංහ රජුට සේවය කළ ලොකු බණ්ඩාර ඇමති තුමා මෙසේ දේවත්වයට නංවා ඇතැයි පැවසේ. (125 : 139 පි.)

## 98
# දිවස් දෙවියෝ



මේ දෙවියා ගැන අපට ලැබුණු විස්තර අනුව මෙය අඹරාපොති දේවිය ගේ තවත් නාමයකි. එච්. සු. ප්‍රඥාලොක හිමියන් සිය පුරාණ සිව්පද සංග්‍රහයේ "දිවස් දෙවියන්ගේ කවි" ලෙස දක්වා ඇත්තේ පහත දැක්වෙන කවි සතරයි:

| | |
|---|---|
| දිවස් බලාලයි මේ රට වැඩි | යේ |
| මලක් නෙළා ගෙන සුරතින් වැඩි | යේ |
| කලක් කියන්නට කවිපද සරි | යේ |
| දිවස් සුරිඳු වැඩියොත් කල එළි | යේ |
| | |
| මස් තැන් කෝවිලට අදික්ක | ත් |
| පුටු පිට ඇතිරිලි සේල පැදක්ක | ත් |
| දැකට දහමල කැපූ ඉනක්ක | ත් |
| දිවස් සුරිඳු සබ මැදට ඉනක්ක | ත් |
| | |
| කෙළ කෙළ එහි රාගංව එකය් | යේ |
| පෙළ පෙළ ගජතුන් හවතිති සෙය් | යේ |
| තැන තැන කෝවිල් බන්දති වී | යේ |
| බලගල වැඩ ඉඳිනෙයි කවි ඊ | යේ |
| | |
| සිරි අම්මය් දැන් ඔබ කොයි රට | දෝ |
| වැඩිය උතුන් රට නව බලගල | දෝ |
| මා කියනා මැසිවිලි නෑ සුණි | දෝ |
| පුතෙකු දෙන්ට මා සී කවි මදි | දෝ |

(90 : 301 පි.)

මෙම කවිවලට වඩා සම්පූර්ණ ස්වරූපයක් අඹරාපොති අම්මා සම්බන්ධව ඇත. එම දෙවියන් පිළිබඳ විස්තරය බලන්න.



## 99
# දීගල් පොත්තේ අලුත් දෙවියෝ



මේ නමින් යුත් දෙවියකු ගැන හියු නෙවිල් එකතු කළ කවි අතර ඇති "සිරි අම්මලා ගේ කවි" පන්තියක සඳහන් වේ. (38 :25 පි.)

| | |
|---|---|
| වඩිති පොකුණු තැන් තැන්වල | තැත්තේ |
| රකිති බා කඩවත් දැන | ගත්තේ |
| විදපි පැනපි ගොනුහට මේ | වැත්තේ |
| වඩිති අලුත් දෙවි දීගල් | පොත්තේ |

මේ කවිය මුද්‍රිත පිටපතේ එන අයුරින් ම සඳහන් කළෙමු. ඇතැම් වචන අපේ පිටපත් කරුවන් අතින් විකෘති ව ඇති බව පෙනේ.

## 100
# දූනු දෙව් රජ



පරෙවි සන්දේශයේ සඳහන් වන අයුරු මේ උපුල්වන් දෙවිඳු ගේ හා සඳවත් (චන්ද්‍රවතී) දේවිය ගේ පුතාය. ඔහු ධනු ශිල්පයෙහි දී රාම රාජයා මෙන් ප්‍රසිද්ධය. ගන රන් දුන්නක් හා හී ද දරන්නේය. අසුරයන් ජය ගත්තේය. මොහු ගැන **පරෙවි සන්දේශයේ** එන කවක් මෙසේය.:-

දුනු කම් රම් රජු මෙන් ලොවැ පුවතර　　　ව
දුනු පෙර සුරන් මෙන් රන් දුනු සර දර　　　ව
දුනු පුල්වන් දෙව් රජ කුලැ ගරුතර　　　ව
දුනු දෙව් රජ හට ද මෙ තෙපුල් සැළකර　　　ව
(206)

මේ දෙවියා දෙවිනුවර උපුල්වන් දේවාල භූමියෙහි වාසය කර ඇති ඉන් නිගමනය කළ හැකිය. උපුල්වන් දෙවිඳුට අස්න සැළ කොට අනතුරුව එම අසුන ඒ දෙවියන් ගේ බිසෝ සඳ වෙත හා පුත් වන දුනු දෙව් රජුට ද සඳහන් කරන්නට පරෙවියාට අණ ලැබේ. වර්තමාන දෙවිනුවර උපුල්වන් දෙවොල මධ්‍යයේ ඇති වැඹික දුන්න අතින් ගත් මේ දෙවියා ගේ කැටයමක් දක්නා ලැබේ. තෙල්වත්තේ තොටගමු විහාරයේ ඇති දුන්න ගත් දෙවියා ද මොහු ම විය හැකියි. විෂ්ණුට "උභ සැව් ගුරු" යන නමක් වේ. (**පරෙවිය** 53 කව) උක් දුන්න ගත් යන අදහසක් "උභ සැව්" යන්නෙහි ගැබ්ව ඇත. ඒය අනංගයාට නමෙකි. ඔහු ගේ පියා (ගුරු) විෂ්ණුයි. මේ සබඳතාව අනුව බලන කල්හි "දුනු දෙවිඳුගේ" පියා "උපුල්වන්" නම් දෙවිනුවර ඇත්තේ විෂ්ණු දේවාලයකැයි **පරෙවිය** ලියැවෙන අවදියෙහි පිළිගෙන තිබෙන්නට ඇත.



## 101
## දුනුමාලේ දෙවියෝ

උඩුගම්පොල විසූ සකල කලා වල්ලභ රජුට දරුවෝ සත් දෙනෙක් වූහ. ඒ සත් දෙනා පිය රජු මැරවීමට කුමන්ත්‍රණය කොට රජු පැන් නාන පතහේ උල් සිටුවා ලූහ. කුමන්ත්‍රණය හෙළි වීමෙන් පසුව රජුගේ උදහසට ලක් වූ ඔවුහු උඩුගම්පොලින් පැන ගොස් දිවයිනේ නොයෙක් පළාත්වල විසූහ. මින් බාල ම කුමාරයා "කිරි බොන ඇපා" නම් විය. ඔහු මරණින් පසු දුනුමාලේ දෙවියන් බවට පත් විය. (46 : 6 පි.)

මේ පුවතට වෙනත් පුවතක් දුනුමාලේ බිසෝ බණ්ඩාර දෙවි නමින් ඇත. ඒ පුවත සකල කලා වල්ලභ රජුගේ උපත හා සම්බන්ධ වේ. (දුනුමාලේ බිසෝ බණ්ඩාර දෙවි පුවත ද බලන්න). එකී බිසෝ බණ්ඩාර



දෙවිවරුන් ගැන ඇති ජනප්‍රවාදය වර්තමානයේ දුනුමාලේ නම් ප්‍රදේශයේ පවතින අතර "කිරි බොන ඇපා" පිළිබඳ කථාව වර්තමාන උඩුගම්පොල ප්‍රදේශයෙහි පවතින්නක් බව පෙනේ.



## 102
## දුනුමාලේ බිසෝබණ්ඩාර දෙවියෝ

දුනුමාලේ යනු සියනෑ කෝරළය හා තුන් කෝරළය හමුවන මායිමේ පිහිටි ගමකි. මෙහි බිසෝබණ්ඩාර දෙවිවරුන් ලෙස පුද පූජාවට භාජනය වන්නේ සියනෑ කෝරළයේ විසූ ප්‍රාදේශීය පාලකයකුගේ භාර්යාවෝ වෙති. මොවුහු සිය මාලිගය පිහිටා තිබුණු කන්දෙන් පැන දිවි නසා ගත්තෝය. පති භක්තිය නිසා එසේ දිවි තොර කර ගත් අය වෙනුවෙන් පසු කාලීන ජනතාව විසින් දේවාලයක් ඉදි කරන ලදී. එම දේවාලය වර්තමාන දුනුමාලේ රංජනාරාම විහාරස්ථානයේ ඉදිරි පසින් ඇති කන්දේ ගල් ගුහාවක පිහිටා තිබේ.

සියනෑ කෝරළයේ අලවල හෙවත් මහකන්ද නම් ස්ථානයේ මාලිගාවක් තනා ගෙන විසූ ප්‍රාදේශිය රජකුට විටෙක තුන් කෝරළයේ සිටි වෙනත් පාලකයෙකු හා සටනකට යාමට සිදු විය. රජතුමා සටනට යාමට පෙර තම පිය බිරියන් සත් දෙනා කැඳවා තමාට සටනකට යෑමට සිදු වී ඇති බවත්, තමා සටනින් දිනුවහොත් සුදු කොඩියක් ඔසවන බවත් යම් හෙයකින් පරාජයට පත් වුවහොත් රතු කොඩියක් ඔසවන බවත් පැවසීය. එසේ කියා සටන් වැදුණු රජුට පහසු ජයක් ලැබුණේ ඔහු කිසිසේත් නොසිතූ අයුරිනි. මෙයින් උද්දාමයට පත් වූ ඔහු තමා අසල සිටි මුනිසික්කෙදා් නම් සේවකයකු අමතා තෝ වහා ගොස් මා ජය ගත් බව මගේ ආදරණීය බිසෝවරුන්ට කියව යි අණ කළේ ජයග්‍රාහි ස්වරයෙනි. මුනිසික්කෙදා් තම ස්වාමියාගේ ජයග්‍රහණයෙන් ඉමහත් සතුටින් එන අතරමග ඌරු මයින් හා මත් පැනින් සප්පායම් විය. මෙයින් බිසෝ මාලිගාව කරා එන ගමන ප්‍රමාද විය. ජයග්‍රාහි රජු දැන් මේ වෙලාවට නම් මුනිසික්කෙදා් බිසෝ මාලිගයට යන්නට ඇතැයි සිතා, තම ආදරණීය බිරියනට විහිළුවක් කිරීමේ අරමුණින් කෝරළ තුනේ වූ

රත්තාගල නම් ගල මුදුනට ගොස් රතු කොඩියක් එස විය. තම හිමියා පරාජයට පත් විණැයි එම සලකුණින් සිතා ගත් බිසෝවරුන් සියල්ලෝ ම අසළ වූ පර්වතයකට නැඟ එයින් පහළට පැන්නෝය. උක්ත බිසෝවරුන් අතර සිටි ගැබිනි බිසවක් ද ඇගේ ගැබිණි බවවත් නොසිතා එම ගලමත්තේ සිට පහළට පැන්න නමුත් ඇය කන්ද පාමුල වූ ලැහැබකට වැටුණු බැවින් ඇයගේ දිවි රැකිණි. (මේ බිසොව ඇතකු මතට වැටුණු බව ඇතැමෙක් පවසති.) වන ලැහැබට වැටුණු ගැබිණි බිසොව ඒ අසළ වූ ගමේ රාළ තම නිවසට ගෙන නොගොස් ඒ අසළ වූ ගල්ලෙනක රඳවා රැකවරණ ලැවීය. ඒ මොහොතේ දීම ඇය පුතකු ලැබුවාය.

යුදෙන් දිනූ ප්‍රාදේශීය රජු සිය ආදරණීය බිරියන් සමඟ ජයපැන් බීම සඳහා බිසෝ මාලිගාවට පැමිණියේ නිම් හිම් නැති සතුටිනි. එහෙත් මාලිගාවට ළංවත්ම මේ දුක්ඛිත ආරංචිය ඔහුගේ කතේ වැටිණි. එය ඔහුට අදහා ගත නොහැකි කරුණක් විය. අසළ වූ පර්වත පාමුලට ගොස් බැලූ විට තම ආදරණීය බිසෝවරුන් සය දෙනක ගේ සුණු විසුණු වී ගිය මළ කඳන් විසිරී තිබෙනු දක්නට ලැබිණි. බලවත් සේ කම්පාවටත්, සොවටත් පත් වූ ඔහු මළ කඳන් සියල්ල රැස් කොට කළ යුතු උපරිම ගෞරවයෙන් ඒවා ආදාහනය කළේය. ඉක්බිති ගැබිණි බිසොව ගැන විපරම් කළ රජුට ඇය අසල ගමේ ගමරාළ ගේ රැකවරණය මත ගල්ලෙනක බිළිඳු දරුවා ද සමඟ වාසය කරන බව දැනගන්නට ලැබී, මඳකට සැනසී ගමරාළ සොයා ගියේය. එහි ගොස් බිළිඳු දරුවාත්, ජීවත්ව සිටින එක ම බිසොවත් දැක සතුටට පත් හේ තම ගෙල බැඳි රන් මාලය ඒ ගමරාළගේ ගෙලේ බැන්දේය. එදා සිට ඒ ගම දුන්නු - මාලේ - ගම යයි හැඳින්විණි. පසු ව එය දුනුමාලේ ගම යනුවෙන් පතළ විණි. බිසොව නතරව සිටි ලෙන දුනුමාලේ දේවාලය යනුවෙන් අද පවා හඳුන්වනු ලැබේ. ඉහත සඳහන් බිසෝවරුන් සත් දෙනා තුළ පැවැති පති භක්තියේ තරම ගැන විස්මයට පත් පසු කාලීනයෝ ඒ සත් දෙනා වෙනුවෙන් ම "දුනුමාලේ බිසෝ බණ්ඩාර දෙවියෝ" යනුවෙන් දෙවොලක් ඉදි කළෝය. මේ දෙවියන් හට බුහුමන් දක්වන අය සතර කෝරළය, තුන් කෝරළය සීනාදි සිව් කෝරළය යන ප්‍රදේශවල සිටිති.

ගොවිතැන් කටයුතු සඳහා මෙකී දෙවි සත්කට්ටුවෙන් විශේෂ අනුග්‍රහයක් ලැබේ යයි පළාත් වාසීන් තුළ දැඩි විශ්වාසයක් පවතී. එබැවින් නව අස්වනු නෙළා ගත් පසු සෑම ගෙදරකින් ම දුනුමාලේ දෙවියන් සඳහා වී මුළක් වෙන් කරති. වසූ පැටවුන්, කුඩා ළමයින් අතුරු දත් වූ විට දුනුමාලේ දෙවියන් සිහි කොට පොල්ගස් අතු බඳිති. ගොයම් පීදෙන කාලයේ දී ඒ දේව විශ්වාසය ඇති නිවෙස් වාසීහු පිටි කෙටීම,



කැවිලි වර්ග සෑදීම ආදී කිසිවක් නොකරති. පැපොළ ආදී බෝවෙන රෝග ගමේ පැතිරී යන කාලයේ දී ගම්වැසියෝ දුනුමාලේ දෙවියනට බාරහාර වෙති. රෝගය පැතිරීම නවතී.

මුලින් සඳහන් ගලෙන් පැන්න බිසොවට ලැබුණු දරුවා පසුව උඩුගම්පොළ සකලකලා වල්ලභ යන නමින් පතළ විනි. (77:94-95 පිටු)



# 103

# දෙවොල් දෙවියෝ

ලාංකිකයන් විසින් දැඩි භක්තියෙන් අදහනු ලබන දෙවිවරුන් අතුරෙන් සැහෙන පිරිසක් භාරතයෙන් මෙහි පැමිණි අය බව ප්‍රකට කරුණකි. දෙවොල් දෙවි සත්කට්ටුව අයත් වනුයේ ද එම ගණයටයි. ඇතැම් තැනක "රටවත් දෙවි" කියා ද, තවත් තැනක "දෙවොල් යකුන්" කියා ද මේ පිරිස හඳුන්වා ඇත. "සතර දෙවොල් බණ්ඩාර" යනුවෙන් ද මේ පිරිස දක්වා තිබේ. (දොළහ දෙවි යටතේ ද බලන්න.) මෙම සත් දෙනා සහෝදරයන් යයි ද පැවසේ. පස්බාග කෝරළයේ "රටවත් දෙවි" යනුවෙන් ද, දකුණු පළාතේ දී "වේරගොඩ දෙවි" යනුවෙන් ද දෙවොල් දෙවියන් හඳුන්වා ඇත. ඇතැම් විට "වාහල හාමුදුරුවෝ" යන නම ද යෙදේ.

## දෙවොල් සත්කට්ටුවේ නම්

මහාවැලිවංසය නම් ග්‍රන්ථයේ මොවුන් දොළහ දෙවියන් අතරෙහි ලා සඳහන් කර ඇතත් ඔවුන්ගේ නම් එහි සඳහන් කර නැත. (137 : 535 පි.) එහෙත් සිංහල ශබ්දකෝෂයේ දෙවොල් දෙවි සත්කට්ටුවේ නම් ඉදිරිපත් කිරීමට උත්සාහයක් ගෙන ඇති බවක් පෙනී යයි. එහි ඔවුන් ගේ නම් මෙසේ යයි දැක් වේ. 1. දෙවොල් සාමි 2. අලුත් බණ්ඩාර 3. මහාසාමි 4. ඉරුරැස් සාමි 5. සඳරැස් සාමි 6. තෙදරැස් සාමි. 7. ගඟේ බණ්ඩාර යනුවෙනි. (12 කා. 5571 පි.)

සිංහල ශබ්දකෝෂයේ සඳහන් නම් දෙස බැලීමේ දී එහි යම්කිසි වරදක් සිදු වී ඇති වගක් පෙනී යයි. ඒ නාම ලේඛනයේ "සාමි" යනුවෙන් හඳුන්වන දෙවියන් අතර බණ්ඩාර යනුවෙන් හැඳින් වෙන දෙවියන්

දෙදෙනකු සිටීම මේ වරදයි. දෙවොල් **කුමාර සත්කට්ටුවේ විත්තිය** යන කවි පන්තියක් අපට දැක ගන්නට ලැබිණි. එහි මෙසේ සඳහන් වේ:-

ඉරු දින ඉරු රැස් සාමි උපන්නේ<br>
සඳු දින සඳරැස් සාමි උපන්නේ<br>
කුජ දින තෙදරැස් සාමි උපන්නේ<br>
බුද දින බුදුරැස් සාමි උපන්නේ

ගුරු දින ගිනි රැස් සාමි උපන්නේ<br>
කිවි දිනයේ මහ සාමි උපන්නේ<br>
කුඩා සාමි සනි දිනයෙ උපන්නේ<br>
කුමරුන් සත් දෙන මෙලෙස උපන්නේ

මේ කවි දෙක දෙස බලන විට උක්ත දෙවොල් දෙවිවරුන් ගේ නම් මෙසේ විය යුතුය:- 1. ඉරුරැස් සාමි 2. සඳරැස් සාමි 3. තෙදරැස් සාමි 4. බුදුරැස් සාමි 5. ගිනිරැස් සාමි 6. මහා සාමි 7. කුඩා සාමි යනුවෙනි. (අලුත් සාමි, කෙහෙල්ගමුවේ දෙවි, වාහල් දෙවි, ගලේ බණ්ඩාර දෙවි යනුවෙන් ද හඳුන්වා ඇත්තේ දෙවොල් දෙවියන් ම බව කියන්නෝ ද වෙති. ඇතැමෙක් අලුත් නුවර දැඩිමුණ්ඩ දෙවියන් ද උක්ත නම්වලින් හඳුන්වා ඇතැයි කියති. ඒ දැඩිමුණ්ඩ ගේ අවතාර සේ සැලකීමක් විය හැකිය.) තවත් නම් කිරීමක් අනුව ඔවුහු 1. අලුත් කුරුම්බර 2. එක්සේ කුරුම්බර 3. රිද්දි කුරුම්බර 4. මුල් කුරුම්බර 5. හැඩ කුරුම්බර 6. දළ කුරුම්බර 7. වඩිග කුරුම්බර යනු වෙති. (120 : 27 පි.)

## දෙවොල් උපත

මේ සත් දෙනා රාමසිංහ නම් ඉන්දියානු ප්‍රාදේශීය රජෙකු ගේ දරුවෝ වෙති. එකී රජුට 1.තෙදපති 2.සුරපති 3.අසුරපති 4. යුදපති 5. ගුණපති 6.මිහිපති 7.සිරිපති යැයි බිසෝවරු සත් දෙනෙක් වූහ. (161, 1: 6 පි.) මෙම බිසෝවරුන් සත් දෙනා දවස් සතට පුතුන් සත් දෙනකු ලබා ඇත. මේ කුමාරවරුන් සත් දෙනා කුඩා කාලයේ දී ම සතුන් මැරීම, මිනිසුන් හට හිංසා කිරීම ආදිය සිදු කළ නිසා පිය රජු විසින් පිටුවහල් කරන ලදී. ඔවුන් දොළුවර, කණ්ණඩි, කවිසි, බඹර, යොන්පුර, අරමණ, කෝසි, මුදින්, පිල්ලි, කුරුම්බර, වඩිග, තුලුක්කර, කල්ලු, දෙමළ, පුලයාරු, නායේරු, මැරුවරු, මුක්කරු, පල්වරු, සෙට්ටි, ගුජ්ජර, කල්ලුමුක්කු, සිලයාන, වඩක්කර, දිල්ලි, මලල, උරුමුසි, දයක්කර යනාදි පිරිසක් පිරිවරා ගෙන රුවල් නැව් මගින් බුද දිනක ලකට පැමිණි වග ද සඳහන් වේ. (161, 1 : 7පි.). ඔවුන් පැමිණි රුවල් නැව් මුහුදේ දී කැඩී ගියෙන් ඉතා අමාරුවෙන් යන්තමින් රුවල් සකස් කර ගෙන සීනිගමට ගොඩ බට බව ද පැවසේ. මේ පිරිසට සක් දෙවිඳු ගල් නැවක් සාදා



දුන් බව ද ඇතැම් තැනක සඳහන් ය. මොවුන් පළමුව පානදුරයට ගොඩ බැස පසුව බේරුවලට ගිය බව ද සඳහන් ව ඇත. (එම)

"දෙවෙල් යාදින්න" නම් කවි පොතට අනුව දෙවොල්වරු තිදෙනෙකි. ඔවුන් රුවල් නැව්වලින් එන විට මුහුදේ දී ඒවා විනාශ විය. එහෙත් එහි දී ඉදිරිපත් වූ මණිමේඛලා නම් දෙවි දුව ඔහුනට ගල් ඔරු සාදා දුන්නාය. ඔවුන් වෙරළට ගොඩ බැසීමට තැත් කළ විට පත්තිනි දේවිය ඊට විරුද්ධ වූ නමුත් ඔවුහු යකඩින් කළ වැටක් බිඳ ගිනි කඳු මැඩ ගොඩ බැස දෙවුන්දර, මුහුදු රැගම, උඩුගල්පිටිය, බෙන්තොට, කළුතොට, උණවටුන, සීනිගම, පානදුරේ යන තැන්වලට පැමිණ ඒ ඒ පෙදෙස්වල පදිංචි වූහ. (161, 3 : 246 පි)

තවද, "මහ දෙවෙල් විදිය" නම් කවි පෙළට අනුව දෙවොල් දෙවි වරු සත්දෙනෙකි. ඔවුන්ගේ පිරිවර අතරට ඕලන්ද යකුන්ද ඇතුළත් බව කියා තිබේ. දෙවියා අතේ වළල්ලක් ගෙන හිමාල අඩවියේ නර්තනය කරන්නේය. ඔහු දෙමළ අයකු බවද එහි කියැවේ. (161, 2 : 223පි.).

තවත් කවි පන්තියක සඳහන් වන පරිදි මොවුන් යාපනයට ගොඩ බස්නට තැත් කළ විට නාථ දෙවිඳු ඊට ඉඩ දී නැත.

ජලෙන් උපන් ජල කුමරෙක නාථ දෙවියො යන සුරිඳෙ ක<br>
ඇත සිටන් එනවා දැක දෙවොල් කුමරු ඒ ගල් නැව ක<br>
බීත කොටින් ආ උන් දැක යාපා පටුනේ තොට රැ ක<br>
නාත දෙවියො යන උතුමෙක දෙවොල් යකුට බල පෑනෙ ක<br>
(90 : 18 පි.)

මේ දෙවොල් කුමාරවරුන් භාරතයේ සිට වෙළදාම සඳහා පැමිණ වෙළඳ පිරිසක් ලෙස ද ඇතැම් තැනක සඳහන් වේ. ඒ මේ අයුරිනි:

යමුව වෙළදාම ට<br>
හොඳ බඩු සොයා නැවක ට<br>
නැව රුවල් බැඳ සි ට<br>
එන්ට නික්මුණු සදෙහි මෙකර ට<br>
(90 :71 පි.)

ඔවුන් සීනිගමට ගොඩ බසින විට පත්තිනිය මුල දී ඉඩ දී නැත. කන්නලව් කිරීමෙන් පසු අවසර ලැබී තිබේ ඒ කන්නලව්ව මෙසේය:-

කන්නුරන් පුර දී දුටු අක්කා<br>
මදුර පුර දී දුටු අපෙ අක්කා<br>
දැන් මෙ තැනදී දුටුවෙමු අපෙ අක්කා<br>
යන්නට ගොඩ ඇරපන් නොව ලක්කා<br>
(90 : 72 පි.)

පත්තිනි දේවිය ඔවුන් ගොඩ බිමට ඒම වැළැක්වීම සඳහා ගිනි කඳු හතක් මැව්වාය. දෙවොල් දෙවිවරු සිය තෙද බල පෙන්වමින් ඒ ගිනි කඳු පාගා නිවා දැමූහ. ගිනි පෑගීමේ පූජා කර්මයේ ආරම්භය මෙය ලෙස සැලකේ.

ගිනි පෑගීමේ දී කියන කාන්ත කියමන් ලෙසින් හඳුන්වා දී ඇති කවි පෙළින් මෙය පැහැදිලි වේ. ඉන් සමහරක් පහත දක්වමු:

දීප පසිඳු පත්තිනි දෙවියන් හට
කෝප කෙනෙක් සරි ලද්දෝ මෙපු රට
කීප දෙනෙක් බැස්සා ඇත වෙර ළට
තාප දුන්නු ගිනි කඳන් මැවෙ නට

සොබමන් පත්තිනි දෙවිඳු තෙදින් නේ
මවමින් ගිනිකඳු සත සැණෙකින් නේ
පනිමින් එහි ගිනි මැදට රොසින් නේ
නිවමින් ගිනි මැද පැන විගසින් නේ

නත් බරණින් සැරසී ගිනි කෙළිය ට
නන්බර තොප්පාරන් බැඳ සිරස ට
බිම්බර මෙන් සෙනඟක් රැස්වී සි ට
නන්බර මුගුරක් අරගෙන සුරත ට

ජය ගත් සක් රජ සේම සිති න්නේ
කහ මුගුරක් තම සුරතට ගත් තේ
ළඟ ඇවිළෙන ගිනි මැදට පනින් නේ
රඟ බල ඔහොමයි දෙවොල් යකුන් නේ

නොදා තියන ගඟ දිය මෙන් සිහිල් වෙවි
උදාර යෙන් පැන ගිනි මැදට සැක නෙවී
අ දා සිතින් ගොඩ බටු අණසක බෝවී
එ දා පතිනි නම් තැබුවේ දෙවොල් දෙවි

(56 : 96-98 පි.)

සීනිගමට ගොඩ බැසීමෙන් පසු සීනිගම නම් මැතිඳු ගේ අසනීපය සුව කිරීමට හීනෙන් කියවා, එම රෝගය සුව වීමෙන් ඉක්බිති එම මැතිඳු විසින් සීනිගම දෙවොලක් කරවා දුන් බව ද සඳහන් වේ. එසේ වුවද බලවත් දුක්ෂරතා මධ්‍යයේ දකුණු ලක සීනිගමට ගොඩ බට මේ පිරිසට එහි වැඩි කලක් රැඳී සිටීමට ඉඩක් ලැබී නැත.

සීනිගමට දෙවොල් පිරිස කරදරයක් වූ බැවින් කඳකුමරු ඔවුන්ට තරවටු කළ බව කියවේ.



වැඩලා එතනට දෙවි කඳු කුමරු
දැකලා සෙනඟට කරපු අමාරු
සිටින්ට මෙතොපට මෙහි නැත මාරු
වැඩලා යන්නට කිවි මග සේරු

(90 : 73 පි.)

මෙසේ අණ ලැබූ ඔවුන්ගෙන් එකෙක් සීනිගම නැවැතිණි. අන්‍යයෝ තැනින් තැන යන්නට වන්හ. දෙවුන්දරට ගොස් එතැන කිසිවෙකු නැවතුණ අතර වරකාවට ගොස් එහි දී වරකා ලීයෙන් කළ උලුවස්සෙන් හටගත් වරකා ගෙඩි තුන සහනට දන් දී තමන් තුනුරුවන් කෙරේ බැති බර බව පළ කොට ඒ අයුරින් පස් පළකට ගොස් ඒ ඒ තැන එක් එක් අයකු නැවතුණු බවත් බාල ම දෙදෙනාගෙන් වැඩිමලා කෙහෙල්ගමුවේත්, බාලයා වටද්දරත් නැවතුණු බවත් කියවේ. දෙවොල් දෙවිවරුන් මහත් හාස්කම් ඇති අය ලෙස සැලකෙන අතර ඔවුන් ගම්බාර දෙවියන් ලෙස ද සලකනු ලැබෙන අයුරු කෙහෙල්ගමුවේ දී හා වටද්දර දී පෙනෙනු ඇත. (137: 536 පි.). දෙවොල් දෙවිවරු සැඩ පරුෂ අය ලෙස ප්‍රසිද්ධය. මෙ නිසා දෙවොල් දේවාල පළි ගැසීම සඳහා විශේෂ වේ. වටද්දර සිටින බාල ම දෙවොල් දෙවි ගේ සැඩ පරුෂ බව ඉතා ප්‍රසිද්ධව ඇත්තේ ඔහු විසින් රාජකාරිය සඳහා ඉදිරිපත් වූ කපුවන් ද මරා දමා ඇතැයි ජනප්‍රවාදයේ පවතින බැවිනි.

ප්‍රසිද්ධතම දෙවොල් දේවාලය හික්කඩුව ට නුදුරුව මුහුදේ සීනිගම පිහිටා තිබේ. මීට සමීපව උණවටුනේ රූමස්සල කඳු බෑවුමේ ද වෙරළින් සැතපුම් පහක් පමණ උතුරේ වේරගොඩ ද දෙවොල් දේවාල ඇත. වේරගොඩ තැනක සිය සැරයටිය පිහිටුවා එය ගසක් වශයෙන් වැඩීමට සැලැස්වූ දෙවොල් දෙවි ඒ ගමින් සහකාරියක් ද ලබා ගත් බවක් කියැවේ. අමනාවල ද, ගලබඩ ද දෙවොල් දේවාල ඇති අතර අමනාවල ඇත්තේ මහසාමි ගේ දේවාලය බව ද සලකනු ලැබේ.

'දෙවොල් විස්තරය' නමැති අමුද්‍රිත පුස්කොළ පොතෙහි දෙවොල් දෙවියන් කුදුප්පර නුවර ශ්‍රී රාමසිංහ රජුට දාව උපන් සත් කුමාරයන්ගේ 'මහාසාමි' නමැත්තා බවත්, පිය අණින් නැවකට නංවා පිටුවහල් කළ අවස්ථාවේ අතරමග දී යාත්‍රාව බිඳී ගියෙන් ශක්‍රයාගේ පිහිටෙන් විශ්වකර්මයා විසින් තනන ලද ගල් පහුරකින් ලක්දිව යාපා පටුනට ගොඩබැසීමට තැත් කළ බවත් එහි විසූ නාථ දෙවියන් ගේ විරෝධය නිසා සීනිගමට පැමිණ එහි විසූ පත්තිනිය ගේ වරම් ලබා සීනිගමට පැමිණ එහි වෙසෙන බවත් සඳහන්ය. සීනිගම දේවාලපුරාණයේ දැක්වෙන පරිදි දෙවොල් සත් තැනකින් තොරපුණු බව කිව හැකිය. සමනොළ

දී සුමන දෙවියන් විසින් ද, යාපා පටුනේදී නාථ දෙවියන් විසින් ද, කතරගම දී කඳ කුමරුන් විසින් ද, දෙවුන්දර දී විෂ්ණු විසින් ද, ඊරිගල් දේවාලයේ දී ඊරිගල් බණ්ඩාරයන් විසින් ද, ගින්තොට දීත් උඩුගල්පිටියේ දීත් මහාබ්‍රහ්මයා විසින් ද එළවා දමනු ලැබූ දෙවොල් දෙවි අවසානයේ දී සීනිගමට පැමිණ පත්තිනියට සිය අනුහස් පෙන්වා වේරගොඩ හොරවල දේවාලවල සිය ලකුණු පිහිටුවා නැවත සීනිගමට පැමිණ එහි වැඩ වෙසෙමින් දේවාල එකොළහකට බැල්ම හෙළන බව ද කිය වේ.(8)



# 104
# දොඩම්වල දෙවි

මහනුවර දිස්ත්‍රික්කයේ යටිනුවර කොටසේ පිහිටි දොඩම්වල යන ගම ආශ්‍රයෙන් උපන් දෙවියකු වශයෙන් දොඩම්වල දෙවි හඳුන්වා දිය හැකිය. ගම්පොළ අංගම්මන ද දොඩම්වල නමින් දෙවොලක් ඇත. අමුද්‍රිත උඩුනුවර විහාර වංසයේ ඒ ගැන විස්තරයක් එයි. (67)

## දොඩම්වල දෙවි උපත

එක්තරා බ්‍රාහ්මණ යුවළක් දඹදිව සිට පාත්‍රයක සිටි වූ බෝ පැළයක් ද රැගෙන ලකට අවුත් විවිධ පළාත්වල සංචාරය කළහ. ඔවුන් රාත්‍රියෙහි නවාතැන් ගන්නා යම්කිසි ස්ථානයක බෝපැළයේ මුල් පොළවට ඇදී ගියේ නම් එම පියසේ මම එය වැඩෙන්නට හැර ඒ ඇසුරේ ම ඒ යුවළ වාසය කළ යුතුයැයි සිතුවෝය. මෙසේ සංචාරය කළ ඒ යුවළ අන්තිමේ දී යටිනුවර පැමිණ එක්තරා වෙල්යායක් අසළ වූ ගොඩැල්ලක බෝ පැළය සහිත පාත්තරය තබා, අසල් වැසි නිවෙස්වලින් ආහාර පාන ලබාගනිමින් ඒ ගමේ දින කීපයක් රැඳී සිටියෝය. මෙසේ පොරොන්දුව සිටි ඔවුහු ඒ ගමින් යා යුතු යයි සිතා සිරිත් පරිදි ගෙනයනු ලබන පාත්තරය ගැනීමට තැත් කළහ. පුදුමයෙකි. පාත්තරයේ සිටුවා තිබුණු බෝ පැළයේ මුල් පොළවට ඇදී ගොස් තිබිණි. එයින් පසු මේ අඹුසැමි යුවළ ඔවුන් සම්මත කර ගෙන තිබුණු කතිකාව අනුව එම බෝ පැළය එහි ම වැඩෙන්නට ඉඩ තබා ඒ ආසන්නයේ ම නතර ව එම බෝධියට



පුද පූජා පවත්වන්නට වූහ. මෙය දඹදිව පිහිටි ශ්‍රී මහා බෝධියේ අංකුරයක් යයි එකී බමුණු යුවළ පැවසූ බැවින් අසල් වැසි බෞද්ධයෝ ද එයට පුද පූජා පැවැත්වීමට ඉදිරිපත් වූහ. මේ පුවත මෙයට මඳක් වෙනස් ආකාරයෙන් කියන්නෝ ද වෙති.

මෙහි විසූ බමුණකු හේනක් සකස් කිරීමට එහි වූ කදුරු ගසකට කොටන විට එයින් රුධිර ධාරාවක් විහිදුණු බවත්, එබැවින් උක්ත බමුණා එහි දෙවොලක් ඉදිකරවා ඇත යන්නය ඒ. (කදුරු ගස හා බැඳී ඇත්තේ කතරගම දෙවි බව සැලකිය යුතුය.) ඇම්බැක්ක, කළුගමුව යන දේවාල පිළිබඳව ද මේ හා සමාන කථා පුවතක් අසන්නට ලැබේ. බොහෝ දේවාල ගැනත්, බෝරුක් රෝපණය ගැනත් මේ හා සමාන ජනකතා ඇති බව ද මෙහි දී සඳහන් කිරීම උ[illegible]නය.

උක්ත බෝධියේ පාලකයා ද එම බ්‍රාහ්මණයා ම වූයේය. ඉතා ආදරයෙන් බෝධිය රැක බලා ගත්, පුද පූජා නියි වේලාවට පැවැත් වූ ඒ බමුණා කලකින් මිය ගියේය. මිය ගිය බමුණා දෙවියෙකු වී මැදියම් රැයේ එම බෝධිය වැඳීම සඳහා පැමිණෙන බවට විශ්වාසයක් ජනයා තුළ පැතිරෙන්නට වනි. එයින් පසුව එම දෙවියා උදෙසා ද දේවාලයක් බෝධිය අසල ම ඉදිවිණි. එය කලක දී දොඩම්වල දේවාලය යන නමින් පතල විණි. (16 : 70-73 පි.)

## දොඩම්වල දේවාලය පිළිබඳ ඇති විවිධ තොරතුරු

දෙවැනි රාජසිංහ රජ තුමා (1635-1687) දිනක් මේ දේවාලය අසලින් දෝලාවෙන් යන්නට වනි. එහි දී දෝලාවේ කඳ මහත් හඬක් නංවමින් දෙකඩ විය. මේ ගැන විමසූ රජුට දැනගන්නට ලැබුණේ මේ දේවාලය අසලින් කිසිවකුට දෝලාවකින් ගමන් කළ නොහැකි බවත්, රජු එවැන්නක් සිදු කළ නිසා දේව උදහසින් එම අනතුර සිදු වූ බවත්ය. උදහස් වූ රජ, උඹලා ගේ දෙවියාට එවැනි බලයක් තිබේ නම්, නැවතත් මේ දෝලා කඳ තිබුණු ආකාරයට ම සදා දීපල්ලා යයි ගුගුළේය. මේ විට දේවාලයේ කපුවා සුදු පිරුවට ඇඳ පේවී, දේවාලය තුළට වැද යාතිකා කළේය. පුදුමයෙකි. දේව බැල්මෙන් දෙකඩ වුණු දෝලා කඳ වහාම හාවිණි. මෙයින් විශ්මයට පත් රාජසිංහ රජතුමා දොඩම්වල දේවාලය ඉදිකරවීය. දැනටත් දක්නට ලැබෙන්නේ එම ගොඩනැගිල්ල බව ජනතාව ගේ විශ්වාසයයි. ඒ අතර ම ඒ රජු ගේ පියා වන සෙනරත් රජු වාඩි වී සිටි ආසනයද (පුටුව) මේ දේවාලයේ තැන්පත් කරන ලදැයි පැවසේ.

මෙයට වෙනත් පුවතක් ද වේ. ඒ අනුව ලේවැල්ලේ සටනින් ජය ගත් දෙවන රාජසිංහ රජතුමා මෙම දේවාලය ඉදිකරවා ඇත යන්නයි. (සිංහල විශ්වකෝෂය ô, කා.: 110 පි.)

දෙවන රාජසිංහ රජතුමා බලන සටන සඳහා යන විට ඉහත දැක්වූ දෝලා දණ්ඩ කැඩීම සිදු වූ බවත්, එයින් පසුව රජු මේ දේවාලය තුන් මහල් කොට ඉදි කරවූ බවත් පැවසේ. දොඩම්වල දේවාලය ඉදිරියේ දක්නට ලැබෙන සපු ගස එදා දෝලා දණ්ඩ තැබුණු තැන වූ සපු ගස යයි ද කියති. මේ වටා ඉපැරණි නා ගස් සමූහයක් ද දක්නට ලැබේ.

දෙවන රාජසිංහ රජු හා සම්බන්ධ තවත් ජනප්‍රවාදයකට අනුව බලනේ කොටුවට යුදයට රජු යනවිට මේ දෙවියා සිය බලය යොදා බලයෙන් යුද දිනවා දුනහොත් ඔටුන්න සහිත වූ සියලු රාජාභරණ දේවාලයට ඔප්පු කරන බවට පොරොන්දු වී ගියේය. ඒ අනුව යුදයෙන් ජය ගත් රජ ආපසු එන ගමනේ දී පොරොන්දු වූ පරිදි ඔටුන්නත්, රාජාභරණ සහිතව ගම්වරත් පවරා දී වර්ෂයක් පාසා පෙරහර කරවන්නට විධිවිධානත් යොදා ගියේ ය. මහනුවර ජාතික කෞතුකාගාරයේ තිබුණු ඔටුන්න මෙම දොඩම්වල දේවාලයේ තිබී පසුව මහනුවරට ගෙනයන ලද්දක් ල. (90: 33-36පි.)

දැලේ නා විමනක් සද වා ලා<br>
ගැටඹේ තොටට ම වීදිය සද ලා<br>
ඒ මැද පෙරහර යන්ට සදා ලා<br>
මතුවට පවතින්නට ගම් දී ලා

පරංගි ඇවිදින් ගැලුවා මළුව ට<br>
තියන්ට දේවාලෙට උන් ගිනි වැ ට<br>
බැලුවා දෙවියෝ දිවසින් විගස ට<br>
එව්වා යක්කඩි දෙබරුන් කන්න ට

නයි පොළඟුන් විත් බිම පැට ලිව්වි<br>
පයින් යන්ට බැරි මහ නොපෙ නිව්වි<br>
බියෙන් වැදී ගොස් වල්මත් වෙව්වි<br>
මෙයින් උතුම් තෙද බලේ පෙනි ච්චි

හැට හත් කව්ටුව පළමු දොඩම් වල<br>
පුටුවක් තිබූ කල පෙරළෙති දෙවි බල<br>
කොටුවක් කරවා සැදුවා නා පැළ<br>
දුටු තෙක් වඳිමුව දෙවියො දොඩම් වල<br>
(90: 36 පි.)

දෙවැනි රාජසිංහ සමයේ දී වරක් පෘතුගීසීන් මහනුවර ආක්‍රමණය කළ අවස්ථාවක ඔවුන් දොඩම්වල දේවාල භූමියට ද පැමිණි බවත් එහි දී කළු දෙබරුන් නයි පොළඟුන් ආදීන් ගෙන් අතවර පැමිණ ඔවුන්ට පලායන්නට සිදු වූ බවත් මේ දේවාලය හා සම්බන්ධ ඉහත කව්වල සඳහන් වේ.





# 105
# දොළහ දෙවියෝ

මේ නමින් හඳුන්වනුයේ බණ්ඩාරවලියට අයත් දෙවියකු යයි සිංහල ශබ්දකෝෂයේ සඳහන් වේ. (12 කා 5653 පි.) ලක්දිව සමහර පළාත්වල පුදනු ලබන දෙවියකු දොළහ දෙවි යනුවෙන් හඳුන්වන බව ශ්‍රී සුමංගල ශබ්දකෝෂයේ සඳහන් වේ. (1 භාගය :491 පි.) දොළහ දෙවි යනුවෙන් හඳුන්වන්නේ එක් දෙවියකු නොව දෙවියන් දොළොස් දෙනකු බවත්, එසේ ම ඒ දොළොස් දෙනා නොයෙක් පළාත්වල නොයෙක් නම්වලින් හඳුන්වන බවත් අපට පෙනී යයි. මෙම දොළහ දේව විශ්වාසය මහනුවර යුගයේ දී තදින් ම පැතිර ගිය වග වදන්කවි පොතේ දැක්වෙන පහත සඳහන් කවියෙන් තහවුරු වේ.

සිද්ද කිහිරැලි සමන් බොක්සැල් විබීසණ සිව්වරම් රජ තිති<br>
සිද්ද මහබඹු ශක්‍ර ඉසිවර කතරගම දෙවියනුත් සිත රුති<br>
සිද්ද පත්තිනි දොළහ දෙවියෝ භද්‍රකාලි දේව ගණ පති<br>
සිද්ද සිරිලක මෙ හැම දෙවියෝ මෙ මට ආසිරි දිගා දෙත් තිති<br>
(69 වැනි කව)

මේ කවියෙන් මහනුවර යුගයේ දී ගැමියන් වඩාත් භක්තියෙන් පුද පූජා කළ දෙවිවරුන් කවුරු දැයි පැහැදිලි වේ. සමන්, විභීෂණ වැනි ප්‍රධාන දෙවිවරුන්ට අමතරව වෙනම ම දොළහ දෙවි පිරිසක් සිටි බව පෙනේ.

දොළහ දෙවියන් ගේ නම් විවිධාකාරයෙන් දක්වන අයුරු මෙසේයි:

(අ) 1. පිටියේ දෙවි 2. පල්ලෙබැද්දේ දෙවි 3. අලුත් දෙවි 4. කළුකුමාර දෙවි 5. දේවතාබණ්ඩාර දෙවි, 6. කළු බණ්ඩාර දෙවි, 7. කොහොඹා දෙවි, 8. කීර්තිබණ්ඩාර දෙවි, 9. දෙවොල් දෙවි, 10. ගහේබණ්ඩාර දෙවි, 11. වන්නිරාජ දෙවි, 12. අබිමාන දෙවි. (124 : 704 පි)

(ආ) 1. මැණික් දෙවි, 2. මාවත්තේ දෙවි, 3. කොස්ගම දෙවි, 4. පරකාස දෙවි, 5. මරළු දෙවි, 6. කුමාර දෙවි, 7. මීරිය දෙවි, 8. වන්නිබණ්ඩාර දෙවි, 9. කලුබණ්ඩාර දෙවි, 10. බෝවල දෙවි, 11. මීගහපිටියේ දෙවි, 12. කිවුලේගෙදර අලුත් දෙවි (126: 30- 31 පිටු)

(ඈ) 1. නම නැති දෙවි, 2. සතර දෙවොල් බණ්ඩාර දෙවි, 3. අලුත් බණ්ඩාර දෙවි, 4. ඉරුගල් බණ්ඩාර, 5. ඇම්බැක්කේ දේවතා බණ්ඩාර, 6. හත්තානේ කන්දේ බණ්ඩාර, 7. කීර්ති බණ්ඩාර, 8. උස්වැල්ලේ කන්දේ බණ්ඩාර, 9. මොරපේ බණ්ඩාර, 10. පල්ලෙබැද්දේ බණ්ඩාර, 11. කලුබණ්ඩාර, 12. ගනේ බණ්ඩාර (161, 2:137 පි.)

(ඇ) මැදදුම්බර වේඩරුවේ දොළහ දෙවියනට කැප වූ දේවාලයක් ඇති බවත් එහි පහත සඳහන් අය දොළහ දෙවි වශයෙන් අදහන බවත් මහනුවර අස්ගිරියේ ගෙඩියගේ විහාරවාසි වේඩරුවේ උපාලි හිමියෝ පැවසූහ. 1. වැදියක් දෙවි, 2. වලියක් දෙවි, 3. කොහොඹා දෙවි, 4. වීරමුණ්ඩ දෙවි, 5. වන්නිබණ්ඩාර දෙවි, 6. දේවතා බණ්ඩාර දෙවි, 7. මංගර දෙවි, 8. කුමාර බණ්ඩාර දෙවි, 9. ඉරුගල් බණ්ඩාර දෙවි, 10. දෙවොල් බණ්ඩාර දෙවි, 11. පිටියේ බණ්ඩාර දෙවි 12......?

(ඉ) මහවැලි වංසයේ දොළහ දෙවිවරුන්ගේ නම් සඳහන් වන්නේ මේ අයුරිනි. 1. දෙවොල් දෙවි, 2. අලුත් නුවර දෙවි, 3. පිටියේ දෙවි. 4. කළුකුමාර දෙවි, 5. කළුබණ්ඩාර දෙවි, 6. අබිමාන හෙවත් කඩවර දෙවි, 7. කීර්ති බණ්ඩාර දෙවි, 8. වන්නියේ බණ්ඩාර දෙවි, 9. අලුත් දෙවි, 10. පල්ලෙබැද්දේ දෙවි (137 : 535 පි.)

(ඊ) "මල්පල කව්පොතේ" (අප්පුහාමි පිහිල්ලේගෙදර මහතා විසින් එකතු කර ඇති) "දොළහ දෙවියන්" ලෙස දැක් වී ඇත්තේ දෙවිවරුන් දහ දෙනෙකි :- 1. දේවතා බණ්ඩාර, 2. ළමාසුරිඳු (බණ්ඩාර), 3. මැණික් සුරිඳු (බණ්ඩාර), 4. කීර්ති බණ්ඩාර, 5. වන්නියේ බණ්ඩාර, 6. ඉරුගල් බණ්ඩාර, 7. කලුබණ්ඩාර, 8. වීරමුණ්ඩ, 9. කලු කුමාර, 10. හඳුන් කුමාර, (98 : 639 පි)

(උ) 1. මැණික් බණ්ඩාර 2. මාවත්තේ දෙවි 3. කොස්ගම දෙවි 4. පරකාස දෙවි 5. කලු බණ්ඩාර 6.කුමාර බණ්ඩාර 7. ඉදිරිල්ලේ කුමාර 8. රත් ඇල්තොට කුමාර 9. වන්නිබණ්ඩාර 10. මීරිය බැද්දේ දෙවි 11. බෝවල දෙවි 12. කහටපිටියෙ දෙවි (37: 134- 37 පිටු)

තවත් දොළහ දෙවි නාමාවලි ඉහත පළමුවන කොටසේ 7.1 "දේව සංඛ්‍යා" යටතේ දක්වා ඇත. මෙහි දී අප සැලකිල්ලට ගත්තේ පැරණි සම්ප්‍රදායෙහි දැක්වෙන දොළහ දෙවිවරුන් ය. එම සම්ප්‍රදාය බිඳී ගොස් ඇති අද දින කතරගම, පත්තිනි, දෙවොල් වැනි දෙවිවරුන් ඇතුළුව නම් දොළහක් කියවෙනු දක්නට ලැබේ. (166: 293 පි.). විරාගත දොළහ දෙවියන් අතර සිටියේ ග්‍රාමීය නැතහොත් ප්‍රාදේශීය දෙවිවරුන් පමණකි.





## 106
## ධර්මමුණ්ඩ දෙවියෝ

මේ නමින් වූ දෙවියෙකු ගේ චිත්‍රයක් බදුල්ලේ ලිදමුල්ල නම් පත්තිනි දේවාලයේ බිත්තියේ ඇඳ ඇත. එයින් ඒ නමින් වූ දෙවියකු පිළිබඳ විශ්වාසයක් බදුලු වැසියන් තුළ පැවැති බව සනාථ වේ. මේ හැර වෙන තොරතුරක් අපට හමු නොවීය. පහත සඳහන් දෙවිවරුන් ගේ චිත්‍ර ද එකී ලිදමුල්ල දේවාලයේ දක්නට ලැබේ:

ධර්මමුණ්ඩ දෙවි, සතරවරම් දෙවි, මංගර දෙවි, මැණික් බණ්ඩාර දෙවි, අලුත්ගෙදර දෙවි, කිවුලේ ගෙදර අලුත් දෙවි, බෝවල දෙවි, කුමාර බණ්ඩාර දෙවි, වාහල බණ්ඩාර දෙවි, අනුහස් බණ්ඩාර දෙවි. (84 : 106 පි.)



## 107
## නම නැති දෙවියෝ

සෙංකඩගල රජ කළ සෙනරත් (1604-35) රජු ගේ අගමැති පදවිය දැරූ යාලේගොඩගේ මුතුන්මුත්තෙකු විසින් 17 වන සියවසේ දී ලියා ඇති ආඩිමාලය නම් පද්‍ය ග්‍රන්ථයේ සඳහන් පරිදි විල්බාවේ නම් ආඩි යක්දෙස්සකු හෙවත් ගණේත්නැහේ කෙනකු විසින් හඳුන්වා දෙනු ලැබූ යකා, නම නැති දෙවියා වශයෙන් ප්‍රසිද්ධ විය. (124 : 327 - 8 පි.) මේ යකා හෙවත් දෙවියා "නම නැති බණ්ඩාර" යනුවෙන්ද හැඳින් වේ. මේ දෙවියා වෙන දෙවිවරුන්ට වඩා වෙනත් මුහුණුවරක් ගත්තා බව පෙනේ. පොළොව සෙලවීමේ හැකියාවක් මේ නම නැති දෙවියාට ඇතැයි



10. ර.මු.නි.ස. - 93939

ද පැවසේ. එසේ ම ඔහුට යකුන් එළවීමේ හැකියාවක් තිබිණි. මාරපරාජය කිරීම සඳහා බුදු රජුනට කියි ම ආකාරයකින් ආධාරයක් නොදුන් අයකු ලෙස ද ඔහු හඳුන්වා තිබේ.

වෙන්ඩ එ බුදු බව මුනි වැඩ උන්දා
නොම දෙන්ඩ එ වසවතු මර යුද වන්දා
දෙන්ඩ බැටය නම නැති මෙ සුරින්දා
නොම යන්ඩ වූයේ කොතැනක වැඩි යෙන්දා
(37 : 141 පි.)

මේ නම නැති දෙවියා රදළවරුනට වඩා බලවත් තැනැත්තෙකි. එසේ ම මේ ලෙසින් හඳුන්වනු ලබන්නේ යුදෙව්වන් ගේත්, කිතුනුවන් ගේත් පමණක් නොව මුස්ලිම් ජනතාව ගේත් දෙවියන් විය හැකි යැයි හියු නෙවිල් අනුමාන කරයි. (161, 3 : 195 පි.) එහෙත් එල්. ඩී. බර්නට් මහතා මොහු "උපාසක දෙවි" නමින් හඳුන්වා දී ඇත. (141 : 135පි.)

ප්‍රබල පරසතුරු ආක්‍රමණ සිදුවූ දෙවැනි රාජසිංහ රජු ගේ කාලයේ දී මහජනතාවට බලවත් දෙවියකුගේ පිළිසරණ සොයන්නට සිදු විය. මේ නිසා පෘතුගීසි, ඕලන්ද ආදි ජාතිකයන් විසින් අදහනු ලැබූ දෙවිවරුන් ද නම නැති දෙවි ලෙසින් සිංහලයන් විසින් අදහන්නට වී යැයි කිව හැකිය. වෙනත් අය අදහන බලවත් දෙවියකු නිසා හෝ මොහු ගේ නම නො කියා ඔහු නම නැති දෙවි නමින් ඇදහීම නිසා හෝ මේ නමනැති දේව සංකල්පය බිහිවී ඇතැයි අනුමාන කළ හැකිය. හියු නෙවිල් එකතු කළ කවි අතර ඇති "නම නැති දෙවි" කවි පෙළක මෙසේ සඳහන්ය.

"දැන නැර වදිමු හැම දෙන පිං දී ලා"

කියන පේන බොරු නැති එක සත්තේ
නම ලබන පිහිට සතහට කිම නැත්තේ
ඇඳින මෙ නමනැති සුරිඳුට තිත්තේ
අපි වඳින පමණ මිස කිම වෙන නැත්තේ
(37 : 141 පි.)

එහෙත් ඉහත සඳහන් කළ ආඩිමාලය මෙම දේව විශ්වාසය දැඩි විවේචනයට ලක් කරයි.

පෙර ඇති උතුම් දෙවියන් හට නොවී සැකා
නමනැති කියනු නෝවද තගෙ අගේ යකා
දනුමැති කෙනෙක් කොළඹට ළං වූ දි නෙසා
වනසති ඊට පළමුව පලය හැර ලකා
(127 අ: 444 පි.)



කකා අබින් කංසා සොරා රා බො මින්
විකාර වැඩි ආඩින්ගේ බස් අස මින්
නොකා නොබී සරිකර පිනකට නොදෙ මින්
යකාට පුද නොකරවු රටුනි නෙපි මින්
(127 අ: 453 පි.)

බුදු සමය අත හැර නමනැති යකුන් ඇදහීම ද හෙළා දැක ඇත.

නමකුත් නොලත් යකු අදහා ගන දුදන
අගපත් මුනිඳු සමයම හරිනු කෙලෙ සින
වැලිබත් පිසිනු දැක බිළිදෝ මග ඉදි න
කිරිබත් නොකා දැමූ වැනි රජ ගෙන් දෙව න
(127 අ: 443 පි.)

ආඩිමාලේ නමැති මෙම කෘතියෙහි පද්‍ය 98 කි. එයින් ලැබෙන අභ්‍යන්තර සාධක අනුව සෙනරත් රජු ගෙන් පසු රජ පැමිණි දෙවන රාජසිංහ රජ සමයේ දී (1634-84) නමනැති දෙවි ඇදහීම උච්චස්ථානයට පත්වී තිබුණි. මේ ගැන අගනා විස්තරයක් රොබට් නොක්ස් ගේ ලංකා කථාවේ ද (1681) ඇත. රටවැසියන් විවිධ දෙවියන් සිටි අයුරු පවසන නොක්ස් එදා සත් කෝරළේ විල්බාව නම් ගමේ පුද්ගලයකු නමනැති අලුත් දෙවියකු ගැන සඳහන් කරමින් ජනතාවට එම දෙවියා අදහන්නට යයි ප්‍රකාශ කරන්නට පටන් ගත් ආකාරය සවිස්තරව සඳහන් කරයි. නමනැති දෙවියන් නොයෙක් ලෙඩ දුක් සුව කරන්නට පටන් ගත් අතර ඔහු ඉතා ශීඝ්‍රයෙන් ජනප්‍රිය විය. අතික් දෙවිවරුන් ගේ දේවාල කඩා බිඳ දමන ලෙස නමනැති දෙවියන් අණකර ඇති බවද කියන ලදී. මෙය ද සිදු විය. මීට වැසියන් ගෙන් හෝ දෙවිවරුන් කිසිවකු ගැන විශ්වාස නොකළ රජු ගෙන් හෝ බාධාවක් නොවිණි. මේ කටයුතු නිසා නමනැති දෙවියන් ගේ කීර්තිය පැතිරුණි. වඩ වඩා බැතිමත්හු ඔහු වෙත රොක් වන්නට වූහ. තමා ගේ දෙවියා,වඩ වඩා ජනප්‍රිය වෙත් ම තවත් නිර්භීත වූ කපුරාළ (විල්බාව) රජකම ලබා ගන්නට මාන බැලීය. ඒ කාරණය ප්‍රසිද්ධ වන්නට වූයෙන් උදහස් වූ දෙවන රාජසිංහ රජු විල්බාව ගේ සහායක කපුවකු මහනුවරට ගෙන්වා ඇත්දත් මංජුසාවක තම මුද්ද බහා, එය තරයේ වසා, කපුවා වෙත යවමින් එය තුළ තිබෙන්නේ කුමක් දැයි කියන ලෙස අභියෝග කළේය. තමා ජනයා ගේ ලෙඩ සුව කරනු මිස මෙ වැනි දේ නොකරන බව කපුරාළ කීවේය. මෙවිට රජු කපුරාළ ගසක බැඳ අව්වෙන් හා වැස්සෙන් පීඩා වන්නට සැලැස්විය. මේ පුවත සැළ වෙත්ම නමනැති දෙවියා නිර්මාණය කළ විල්බාවේ තමා රැස් කර ගෙන තිබුණු හරුබස්ස ද රජු ගේ ඇතකු ද රැගෙන කොළොම්පුරට පලා

ගියේය. එහි දී ඔහු ඕලන්දයනට කියා සිටියේ තමා රාජසිංහ රජු ගේ දෙවන සොහොයුරු මාතලේ විජයපාල රජු ගේ පුතා බවයි. (මාතලේ විජයපාල රජු පෙර දිනෙක කොළඹට පලා ආ විට පෘතුගීසින් විසින් ඔහු ගෝවට පිටත් කර යවනු ලැබ එහි දී මිය ගියේය.) විල්බාවේ රාජකීයෙකැයි ප්‍රකටවත් ම මිනිස්සු ඔහු කරා රොක් වන්නට වූහ. මෙයින් තමන්ට කරදරයක් වේ යැයි සිතූ ඕලන්දයෝ ඔහු වටා රැකවල් ලැවූහ. එයින් බියපත් විල්බාවේ යළි රාජසිංහ රජු ගේ පෙදෙසේ පිහිටි තම ගමට පලා ගියේය. රාජසිංහ රජතුමා ඔහු අල්ලා සතර කඩකට පළා තැනින් තැන එල්ලා දැමීය. මේ සිද්ධියෙන් පසුව ද ඇතැම් අය නමනැති දෙවියා අදහා ඇති බව නොක්ස් සඳහන් කරයි. රජකම ගැන නොසිතා තම දේව කාරිය කරගෙන සිටියා නම් ඔහුට යහතින් වසන්නට ඉඩ තිබුණේ යැයි ද නොක්ස් පවසන්නේය. (155 : 133-135 පිටු) නමනැති දෙවියන් ගේ දේවාලය කොතැන වීදැයි නිශ්චිතව කිව නොහැකිය. සත් කෝරළයේ විල්බාවේ විය හැකිය.

වර්ෂ 1992 දී ඉතා ප්‍රසිද්ධියට පත් නිකවැරටියේ මීවැල්ලාවේ මහමිතව ආයුපාල හිමියන් විසින් කෙරන ශාන්ති සේවයට පිහිට වන දෙවිවරුන් අතර "නමනැති දෙවියන්" ද සිටින බව කියැවී තිබේ. (1992 මාර්තු මස 20 වන දා සුබසෙත පුවත් පතේ 8-9 පිටු බලන්න.) එම ලිපියේ සඳහන් පරිදි ආයුපාල හිමියන්ට ම වරෙක ව්‍යාධියක් පුව කර දුන් නමනැති දේවතාවුන් වහන්සේ බුද්ධ ධර්මයේ දැනුමක් ඇත්තෙකි. එම දේවතාවුන් ආරූඪ වූ කල්හි ඉතා ගැඹුරු ධර්ම කාරණා දේශනා කිරීමට එම ආරූඪය ලද පුද්ගලයා සමත් වේ. තවද මෙම දේවතාවා ශ්‍රී මහා බෝධිය ආරක්ෂා කරන කළු දේවතාවුන් වහන්සේ ගේ ඇසුරෙහි සිටින දෙවි කෙනකු බව ද එහි සඳහන් වේ. ප්‍රසිද්ධියට නොකැමැති මෙම දෙවියෝ පුද පූජා පවා බලාපොරොත්තු නොවන්නෙකි. මේ නමනැති දෙවියන් යථෝක්ත 17 වන සියවසේ පහළ වූ නමනැති දෙවියන්ගෙන් වෙනස් කෙනකු බව එම විස්තරයෙන් පෙනේ.





# 108
# නවග්‍රහ දෙවිවරු

හියු නෙවිල් එකතු කර ඇති කවි අතර තිබෙන "නව ග්‍රහ ශාන්ති" කවි පෙළ කීපයකි. ඉන් එකක ග්‍රහ දෙවිවරුන් ගේ උපත් ගැන කියැවේ. (161, 1 : 33පි.) "නව ග්‍රහ සිවු ශාන්ති" නම් අනෙක් කවි පෙළේ ඒ ඒ ග්‍රහ දෙවිවරුන් ගේ ආයුධ, වාහන, ආදිය සඳහන්ය. (161, 2 : 309) මෙම තොරතුරු සටහනක් මගින් පහත දක්වමු.

| දෙවිගේ නම | උපත | ආයුධය | වාහනය | වෘක්ෂය | දිසාව |
|---|---|---|---|---|---|
| 1. හිරු හෙවත් රවි | කළිඟුරට | සිරිවත | අශ්වයා | ඉඹුල් | ඉඳුරු දෙස (නැගෙනහිර) |
| 2. සිකුරු | බොජගනරට | සුදු චාමරය | වෘෂභයා/ හස්තියා | කරද | ගිනිකොණ |
| 3. අඟහරු | මැද දෙස | රන් හෙණ්ඩුව | මයුර | කොලොම් | දකුණ |
| 4. රාහු | ලංකාව | ඡේමස | සෙන්ධව | වැටකේ | නිරිත |
| 5. සෙනසුරු | සයුරා රට | නදවත | කාකයා | නුග | වරුණ (බටහිර) |
| 6. සඳු | යමුනා දෙස | මෙවුල | හස්තියා | දිවුල් | වයඹ |
| 7. බුදහු | මකද දෙස | සංඛය | මීමා | කොහොඹ | උතුර |
| 8. ගුරු | සාලින්ද දෙස | ඝටය | රථය | බෝගස | ඊසාන |
| 9. බඹ හෙවත් කේතු | මාලව දෙස | නවගුණවැල හා පුස්තකය | සිවලා | කෙහෙල් | පාතාල |

මෙම නවග්‍රහ දෙවිවරුන් ගේ දෙමාපියන් ගැන තොරතුරු හා තවත් නොයෙක් විස්තර ද "නව ග්‍රහ ශාන්ති කවිවල" තිබේ. (161, 1: 33 පි.)

(1) රවිගේ මව කමලා දේවිය යි. රවි රන්වන්ය. (2) සිකුරුගේ මව මදුරු දේවිය යි. පියා භාර්ගවයි. වර්ණය සුදුයි. (3) අඟහරු ගේ මව මහිය. වර්ණය රතුය (4) රාහු අසුරිඳු ගේ මව කේසරා දේවියයි. පියා

මහ බඹුය. ඔහුට නාග මුහුණක් ඇති අතර වර්ණය සුදුයි. (5) සෙනසුරු ගේ පියා හිරුය. මාතාව ආදිත්‍ය දේවිය යි. වර්ණය කළුයි. (6) සඳු ගේ මව සෝමවල්ලිය. පියා සෝම රුසිය. වර්ණය සුදුය. (7) බුදහු ගේ වර්ණය නිල්ය. මව ඉක්ෂා දේවි යයි. පියා වෙතිවු සෘෂිය. (තවත් තැනක මව සිංහ දේවිය බවත් සුරෙන්ද්‍ර රුසි පියා බවත් කියා තිබේ. (161, 2: 311 පි.) (8) ගුරු උපන්නේ සිංහ වල්ලී නම් මව කුසය. පියා සිංහ රුසිය. වර්ණය රන්වන්ය. (9) බඹ හෙවත් කේතුට මව වූයේ කේසර දේවියයි. පියා මහ බඹු විය. ඔහුගේ වර්ණය දුම්වන් ය.

හියු නෙවිල් කාව්‍ය සමුච්චයෙහි ඇති "නවනාථ කවි" නම් කාව්‍ය පන්තියෙහි ග්‍රහයන්ගේ අනුපිළිවෙළ මෙසේ දැක්වේ:

රවි සඳු කුජ බුද ගුරු සිකුරා යා
සැනි පති කේතුද ග්‍රහ මෙ ලෙසේ යා
පිරිවර යක් සෙන් සමහ මෙසේ යා
තමතම විමනට යවි සැප සේ යා
(161, 2 : 316 පි.)

එහි "නවග්‍රහ ශාන්ති" කවි පෙළක එක් එක් ග්‍රහයන් ප්‍රබල වන කාල සීමා දැක්වී තිබේ:

රවි 6 වසරයි: සිකුරු 20 වසරයි:
අඟහරු 7 වසරයි: රාහු 18 වසරයි:
සෙනසුරු 19 වසරයි: සඳු 10 වසරයි:
බුදහු 17 වසරයි: ගුරු 16 වසරයි, කේතු 7 වසරයි (161, 2 : 311පි.)

මෙසේ මිනිස් දිවියට අයත් සේ සැලකෙන 120 වසර විවිධ ග්‍රහ දෙවිවරුන් ප්‍රබල වන කොටස් නවයකට බෙදී ඇත.



## 109
## නා ගස දෙවියෝ

පස්වන බුවනෙකබාහු (ව්‍ය.ව. 1372-1408) රජ යුගයට අයත් සගම ශිලා ලේඛනයේ එම රජු ගේ අමාත්‍යවරයන් වන අලකේශ්වර හා දේව මන්ත්‍රීශ්වර දෙදෙනා "ලක්දිව ලෝසසුන් වැඩ සඳහා කරන උත්සාහයට



පිහිට ව ස්වප්නයෙන් පෙනී ජය කාරණා දක්වා" ලූ සෙංකඩගල නාථ සාමීන් ගැනත් නා ගස දෙවියන් ගැනත් සඳහන් වේ. එහෙයින් මේ දෙවිවරුන්ට ඉර හඳ පවතිනා තාක් පා බත් පුදනා ලෙසට කුඹුරු පූජාවක් කර තිබේ. පස්වන බුවනෙකබා රජු දවස උතුරේ යාපන රාජ්‍යය දකුණු දිගට මාතලේ දක්වා ආක්‍රමණයක් කරන තරම් බලවත් ව සිටි අවස්ථාවේ එයට එරෙහි ව සිංහල සේනා සංවිධානය කරන ලද්දේ අලකේශ්වර හා දේවමන්ත්‍රීවරයන් විසිනි. (147: 86 පි.) නාරුක්ගොමුවේ, දොඩම්වල දේවාලය දියකෙළිනාවල හා සම්බන්ධ දෙවිවරුන් නව දෙනා ආදිය ගැන ජනප්‍රවාදයන්හි ඇති තොරතුරු මෙහි දී සිහිපත් කළයුතුව ඇත. හියු නෙවිල් කාව්‍යාවලියේ "පෙරහර මාලය" නම් කවි පෙළේ "මහ නා බණ්ඩාර" යනුවෙන් සඳහන් වන්නේ යථෝක්ත නා ගස දෙවියන් විය හැකිය. එහි සඳහන් පරිදි දොඩන්වෙල දෙවි රජ යනුවෙන් ද සඳහන් වූ මෙම දෙවියන්ගේ මුලස්ථානය සෙංකඩගල විය (161, 1 : 316 පි.).



## 110
## නාථ දෙවියෝ

හින්දු ආගමට හෝ ප්‍රාදේශීය නායක ගණයට හෝ සම්බන්ධයක් නැති දෙවියකු වන නාථ දෙවිඳු මහායාන බෝධිසත්වයකු ලෙස සැලකෙති. සමහරුන් මතු බුදුවන මෙත් බෝසතුන් ද මෙ තුමා ම යයි කියතත් මෙත් බෝසත්, අවලෝකිතේශ්වර නාථ යන නම්වලින් ඇතැම් විට හඳුන්වා ඇත්තේ දෙදෙනකු බව 14 වන සියවසට අයත් ලංකාතිලක ශිලාලේඛනයේ "මෛත්‍රි බෝධිසත්වයන් වහන්සේත් ලෝකේශ්වර නාථයන් වහන්සේත්" (160 : 145 පි.) යන්නෙන් ද ගඩලාදෙණිය ශිලා ලෙඛනයේ "නාථ මෛත්‍රී" යනුවෙනුත් (160 : 137 පි.) පැපිලියාන ශිලාලෙඛනයේ "නාථ මෛත්‍රි දෙනැනට" (60.:41පි.)යනුවෙනුත් එන සඳහනින් සනාථ වේ.

"අවලෝකිතේශ්වර නාථ" යන්නේ මුල් කොටස ඉවත් වී "ලොකේශ්වර නාථ" යනුවෙන් ලංකාතිලක ශිලාලේඛනයේ සඳහන් වන අතර යළි ගඩලාදෙණියේ ලිපියේ "ලොකේශ්වර" යන්න ද ගිළිහී "නාථ" යන්න පමණක් ඉතිරි වී තිබේ. මෙයින් මේ දෙවියා අවලෝකිතේශ්වර නම් මහායාන බෝධිසත්ත්වයන් යැයි කීම සුදුසුය. නාථ මෛත්‍රී වෙනස

පසළොස් වන සියවස වන විට නැතිවිය. තොටගමුවේ ශ්‍රී රාහුල හිමියෝ මෙත්, නාථ යනු එක් අයකු වශයෙන් සලකති. උන්වහන්සේ තම කාව්‍යශේඛරය අවසාන කරමින්

සිරි පෑ හිරු | තරිඳු
තෙද යස දියත | පරසිඳු
මතු වන බුදු | රදු
සැරද තොටගමු වෙහෙර | නතිඳු

යයි පවසති. (15 වන සග: 24 කව)

මහායාන විශ්වාස ක්‍රිස්තු වර්ෂාරම්භයට පෙර සිට පැවත එතත් එය ලක්දිවට පැමිණියේ වොහාරතිස්ස රජුගේ කාලයේ (ව්‍ය.ව. 209-31) ය. එය සිංහල ගත්කතුවරයන් හඳුන්වා ඇත්තේ වෛතුල්‍ය වාදය යනුවෙනි. වාජිරිවාදය, රත්නකූට සූත්‍ර, නීලපට දර්ශනය යනුවෙන් හඳුන්වා ඇත්තේ ද මේ මහායාන අදහස් ම බව පෙනේ. විටින් විට මහායාන අදහස් ලක්දිව ප්‍රචලිත වුවත් ථෙරවාදීන් ඒ අදහස් නොරිස්සූ බැවින් විවිධ රජවරුන් විසින් ඒවා මර්දනය කර තිබේ. එහෙත් අනුරාධපුර අපර භාගයේ දී මහායානය ලක්දිව ප්‍රචලිතව පැවැති අයුරු පුරාවිද්‍යා සාධකයන්ගෙන් මනාව පැහැදිලි වේ. අභයගිරිය, ජේතවනය යන විහාර සංකීර්ණයන් ද, කලක් මිහින්තලය ද මහායාන ආයතන විය. ඒ අතර දිවයිනේ වෙනත් තන්හි ද මහායාන ගොඩනැගිලි ඉදි වී ඇත. වැල්ලවායට තුදුරු බුදුරුවගල, බුදුරුව මැදි කොට දෙපසින් බෝධිසත්ව පිළිම දෙකකි. එයින් එකක් අවලෝකිතේශ්වර බව පිළිගෙන ඇත. ඒ සමග බෝධිසත්වයන් ගේ බිසව වන තාරා දෙවඟන ගේ රුවක් හා බෝසත් පුත් සුධන කුමාරයන් ගේ රුවක් ද වේ. වැලිගම අසල ඇති කුෂ්ටරාජගල යනුවෙන් හඳුන්වනු ලබන සෙල්මුවා පිළිමය ද අවලොකිතෙශ්වරයන් ගේ පිළිමය කැයි සෙනරත් පරණවිතාන මහතා කියයි. (162: 181 පි.) බුදුරුවගල හා කුෂ්ටරාජගල ප්‍රතිමා ව්‍ය.ව. 9-10 සියවස්වල අයිතිය. වර්ෂ 1991 දී යළි තනා සිටුවන ලද දඹේගොඩ ප්‍රතිමාව ද මේ අවධියට ම අයත් අවලෝකිතේශ්වර රූපයෙකි. ගම්පොළ යුගයට අයත් **තිසර සන්දේශයේ** දැක්වෙන පරිදි එදා දොරවක තිබුණ නාථ දෙවිඳුගේ හා තාරා බිසොව ගේ පිළිම ගෞරවයෙන් පුදනු ලැබූ බව පෙනේ. එහි 128, 129 යන කවි හා 130 දසපද සැහැල්ලෙන් මේ නාථ හා තාරා දෙවිවරුන් ප්‍රශස්තියට භාජනව ඇත. තාරා දෙවඟන සිංහල කවියන් විසින් සඳහන් කැරුණු තැන් ඉතා දුර්ලභය.

නාථ දෙවියන් ද සිංහල රාජත්වය ද අතර විශේෂ සබඳතාවක් මහනුවර රාජධානි යුගයේ දී දක්නට ලැබේ. රජකුගේ අභිෂෙකයේ දී ඔහුට අයත් වන රාජ නාමය දෛවඥයන් විසින් රන්පත්හි ලියා නාථ



දේවාලයේ තැන්පත් කරන ලද නාම අතුරෙන් තෝරා ගැනීමත් මහනුවර අවධියේ චාරිත්‍රය බව සඳහන් වේ. (148: 209 පි.)

දඹදෙණි විජයබා (ව්‍ය.ව. 1220-1224) රජු විසින් කරවන ලදැයි කියන තොටගමුවේ රජමහා විහාරයත් (දැන් තෙල්වත්තේ විහාරය) එහි ම ඇති නාථ දේවාලයත් කෝට්ටේ යුගයේ දී ඉතා උසස් තත්ත්වයේ පැවති වග තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන් විසින් **පරෙවි සන්දේශයෙහිත්** (80 වැනි කව) **ගිරා සන්දේශයෙහිත්** (230 වැනි කව) ගෞරවයෙන් සඳහන් කිරීමෙන් ද පෙනී යයි. ගිරා සන්දේශය යැවෙනුයේ හවන පරාක්‍රමබාහු රජතුමා හා රාජ්‍යය ආරක්ෂා කරන ලෙස නාථ දෙවිඳු යදින ලෙස ශ්‍රී රාහුල හිමියනට සැළකරනු පිණිසය. රාහුල හිමියන් තුළ නාථ දෙවිඳු කෙරෙහි විශේෂ භක්තියක් පැවැති බව පැහැදිලිය.

උඩුනුවර වේගිරියේ දේවාලයේ ද නාථ දෙවිඳුගේ ද තාරා බිසොවගේ ද කඩවසම් පිළිම දෙකක් දක්නට ලැබේ. මහනුවර නාථ දේවාලයේ නාථ පිළිමය ගැන කියයුතු විශේෂයක් නම් එය ලෝහමය බවයි. එහි පැරණි පිළිමයේ අතක් කැඩී තිබේ. (ඒ ගැන සරණාතල අනුනාහිමියන් හා බැඳී ඇති ජනප්‍රවාදයක් තිබේ) මාතලේ අස්ගිරි කෝරළයේ පුළුනාපහුර විහාරයේ ඇති නාථ පිළිමය ඉතා පියකරුය. සෙංකඩගල පිටි රජකු මේ පිළිමය එහි ගෙන ඒම සඳහා එතැනින් ඉවත් කර ගත්තේ වී නමුත්, එය බැහැරට ගෙන යා හැකිවූයේ බඹ කීපයක් පමණි. එයට ඉදිරිපත් වූවනට කළු දෙබරුන් ගෙන් හිරිහැර විය. ඒ අවස්ථාවේ දී ඔවුන් "නාතා පුස්ස" යනුවෙන් හඬ නගා ඇත. එදා සිට මේ මැනක් වන තුරු ම ඒ පෙදෙස නාතාපුස්ස යනුවෙන් හැඳින් වූ වග ද පැවසේ. මේ සිද්ධියෙන් පසුව පුළුනාපහුරේ නාථ දේවාලයට පූජාකර තිබුණු රුසීගම සෙංකඩගල නාථ දේවාලයට පූජා කළ බවත් වැඩි දුරටත් සඳහන් වේ. (55: 161 පි.)

## නාථ දෙවියන් ගේ මහනුවර ආගමනය:

මහනුවර නාථ දේවාලය කවර කලෙක දී ආරම්භ වී දැයි ස්ථිරව කිව නොහේ. අනුරාධපුර මුල් යුගයේ දී ම සිරිමා බෝ අංකුරයක් නාථ නමැත්තකු ගෙනවිත් මෙහි රෝපණය කිරීමෙන් පසුව මේ භූමිය නාථ බෝධිය යනුවෙන් හඳුන්වා ඇතැයි ද ඇතමෙක් පවසති. වර්ෂ 1380 දී පමණ පිහිටුවන ලද සගම ශිලා ලිපියේ සඳහන් වන "සෙංකඩගල නාථ සාමීන්" යනු නාථ දෙවියන් ම යැයි සිතිය හැකි අතර එම ශිලා ලේඛනයේ ම දැක්වෙන "නාගස දෙවියන්" පසුව නාථ දෙවි නමින් හඳුන්වා ඇතැයි ද සමහරුන් තුළ සිතුවිල්ලකි. ඒ කෙසේ වෙතත් 14 වැනි සියවසේ දී

කඳුකරයේ ද නාථ දේව විශ්වාසය තහවුරුව පැවති වග ලංකාතිලක ශිලා ලේඛනයෙන් තහවුරු වන බව කිවයුතුය. ගම්පොළ යුගයෙන් පසුව මෙකී නාථ විශ්වාසය දැඩි ලෙස පොදු මහජනයා අතර මුල් බැසගත් ආකාරයක් පෙනී යයි. මේ නිසා තොටගමුව, කෝට්ටේ, දොරවක, වේගිරිය හරහා සෙංකඩගලට නාථ දේවාල සංක්‍රමණය විණැයි. සිතිය හැකිය.

නාථ දෙවියන් පිළිබඳව කන්දඋඩ පස්රටේ විවිධ ජනප්‍රවාද අසන්නට ලැබේ. කලක් දුම්බර අධිපතියාව සිටි නාථ දෙවි එහි පැමිණි ආගන්තුක බලවතකු වූ පිටියේ දෙවියන් විසින් යුද කරනු ලැබ සෙංකඩගලට පලවා ඇතැයි එන ජනප්‍රවාදයෙකි. පිටියේ දෙවියන් ගේ අතවරයෙන් නාථ දෙවියන් බේරා ගන්නා ලද්දේ දේවතා බණ්ඩාරයන් විසින් යැයි පැවසේ. අවසානට පස්ගමට පැමිණි නාථ දෙවි එහි පිහිටි ගලක සිය විලුඹ ඔබා සටහනක් කළේය. පස්ගම නාථ දේවාලය මහත් අනුහස් ඇති තැනක් ලෙස සැලකේ. පස්ගමින් ධර්මරාජ ගලටත් එතැනින් මහනුවරටත් නාථ දෙවිඳු පැමිණි බව කියවේ. (154: 427 පි.)

වන්නිබණ්ඩාර ද නාථ දෙවියන් පරාජය කර ඇතැයි පැවසේ. (55: 161 පි.) එහෙත් ඒ අතර ම මහනුවර යුගයේ දී මිනිසුනට විත කළ කඩවරයා රුහුණට පළවා හැරීමට නාථ දෙවිඳු සමත් වූ බව ද පැවසේ. කලක් පසු බැස තිබූ නාථ දේව විශ්වාසය මහනුවර අන්තිම කාලයේ දී යළිත් පණ ගැන් වී ඇති ආකාරයක් පෙනේ. චූලවංශයට අනුව මහනුවර නාථ දේවාලය 18 වන සියවසේ දී නරේන්ද්‍රසිංහ රජු විසින් පිළිසකර කරවන ලදී. (97පරි: 47 ගාථාව.) මහනුවර ඇසළ පෙරහැරේ දී දළදා පෙරහර ළඟට ගමන් ගන්නේ නාථ දේවාල පෙරහරයි. එයට හේතුව නාථ දෙවියන් ගේ බෝධිසත්ව තත්ත්වය විය හැකිය.

අතීතයේ යාපනයේත්, (කොඩුල් : 239 කවි) දොරවකත් (කිසර: 128-9 කවි) නාථ දේවාල තිබුණු නමුත් වර්තමානයේ නාථ දේවාල තොටගමුව, වේගිරිය, පස්ගම, හුනාපහුර, උරුලැවත්ත, මහනුවර, යනාදි ස්ථානවල පමණක් දක්නට ලැබේ. මෑත දී ඉදිවුණු නාථ දේවාලයක් බෙල්ලන්විල ද තිබේ.





111

# නාමල් කුමාර (නාමල් බණ්ඩාර) දෙවියෝ

මේ දෙවි, සෝලිය (ඇතැම් කවිවල කෝලිය) දේසයේ රජුට හා බිසොවට උපන්නෙකි. ඔහු ගැබ් ගත් දින බිසොව සිහිනෙන් නා මලක් ගිලෙනු දුටුවාය. නෛමිත්තිකයන් විසින් පෙන්වා දෙන ලද්දේ මෙය නපුරු කුමාරයකු ගේ උපතක් පෙන්වන බවයි. නව මසින් බිහිවූ කුමරා සමඟ "සපුමල් දේවතා", "අවතාර දේවතා" සහ "මිනීමරු දේවතා" නම් තිදෙනෙක් ද උපදිති.

හතර දෙනා එක සමා ගමේ  සිට
නිතර දෙවේලේ මල් කෙළි  ගන්නට
අතර තුරේ රට දහ අට දේ  සෙට
නිතර පටන් ගති මිනී මරන්  නට
(37 : 153 පි.)

මින් පසු ඔවුහු සිංහල දේසයට නැව් නැඟී පැමිණෙති. මෙහි පැමිණෙන විට ඔවුන් සමඟ පිරිවර සේනාවක් ද මෙරටට එති. මහ පටුනු රට ගොඩ බැසීමෙන් පසු එහි බෝවී සිටි යක්ෂ සේනාව නාමල් කුමරු තනිවම ඔවුන් වනසයි. ඉන් ඔහුට කඳ කුමරු ගේ ප්‍රසාදය හිමි වේ. (37 : 153 පි.)

පසුව තමහට කරන ලද නිග්‍රහයක් නිසා රදාවෙල නම් ගම සම්පූර්ණයෙන් වනසා දමයි.

රදා වෙලේ හැම මිනී මරා  ගෙන
සදා අන්දු මල් කෙළි අය කරගෙ  න
එදා සිට ම ගම වලංගු කර  ගෙන
උදා ර මෙන් යකු ගම ඇර තික් මෙ  න
(37: 156 පි.)

නාමල් බණ්ඩාර ගේ අප්‍රකට කෝල්මුර කවි පන්තියක් පහත දක්වමු.

තෙද ඇති නාමල් කුමරු සුරින්	දා
බැඳ යති සුදු ගොනු පිට පර පිද්	දා
සොඳ ගුරුවර හට දරුවකු මෙන්	දා
බැඳ යති කුමරුන් ගහලට කැන්	දා

ගහලද උක්ගල පතත් බලා	ගෙන
අඹ නද ඇලගොමුවේ මල් කෙළි	ගෙන
. දහලවමින් බොටු මිරිකා මර	මින
ගහල තඹත්කඩ මල් කෙළි ඇර	ගෙන

ගත් බල විවරණ පුල්වන් තෙද	ඇති
ලන් කර මල් කෙළි සැම තැන අය	වෙති
ගුත්තල වැදි රට පානම	අල්ලති
පුත්තල මෙන් උඩ මල් කෙළි අය	වෙති

මින්නෙරි වැවේ වැකන්දේ සිටි	කුමරු
රදාවෙලේ බෝකණුවට ඇවිත්	ගරු
එකදා රට හැට හැට මැරුවේ	තපුරු
රදාවෙලෙන් ආවද නාමල්	කුමරු

කරදිය වටල්ලේ සිටි දෙවතා	දෙන්න
මේ රට වලල්ලේ ආවට මල්	ඔන්න
ගහල රටට ආවට මේ මල්	ඔන්න
කුමරුන් දෙන්න බාරයි ගත් දෙක	ඔන්න

පාර කොතනින් ද මට මේ රට	යන්ට
ඉහළ මෝදරින් උඩ අමුණ	ගාවට
වැඩියේ පට පඩුරු දෙවිඳුට පුද	දෙන්ට
බාර කලේ රට නාමල් කුමරුන්	ම

කොඩී ය බැන්ද ලෙස රට ගම පාලුව	ට
වැඩි යෙන් පට පඩුරු දෙවිඳුට පුද දෙන්	ට
අඩි යෙන් අඩිය ආපසු පස්සට යන්	ට
පඩි යේ ගසා දිළලේ මිනි නොමරන්	ට

නාගය මිත කොළ තුරෙහි වෙසෙන්	නේ
එම ගස මල් පිපී වට රුස්වෙන්	නේ
එම ගස මල් රේනුවෙන් උපන්	නේ
නාමල් බණ්ඩාර කියා නටන්	නේ



නාමලු බෝමලු පවනැලි	දැකලා
ඒ මල් සුවඳට තිකි සැර	පීලා
මේ මල් කෙළියට දිවස්	බලාලා
නාමල් කුමරුන් වරෙන්	නටාලා

නමින් උපත් නාමල් කුමරුන්	නේ
සැරෙන් උතුන් ගිනි හළඹ දරන්	නේ
වරෙන් කියා සිත්හලට බසින්	නේ
සැරෙන් තමයි රට පාලු කරන්	නේ

නාමල් ඇල්ලේ තිතරම	සෙල්ලත්
පොල්මල්වල බමරුන් නද දී	නත්
මේ මල් කෙළියට දිවස් බලා	නත්
නටා වඩිති වාහනයේ	දෙවියන්
(39)

කතරගම දෙවියන් ගෙන් වරම් ලබා ගත්තොරුවට පැමිණි ඔහු පත්තිනිය ගෙන් ද වරම් ලබාගෙන අනතුරුව මින්නේරි දෙවියන්, දේවතා බණ්ඩාර, වීරමුණ්ඩ, රිදීගම යන දෙවිවරුන් ගෙන්ද වරම් ලැබූහ.

නාමල් කුමාරයන් ගැන විශේෂයෙන් සඳහන් වන තැනක් රදාවෙල වේ. මෙහි දී ගෞරවාදරයට පාත්‍ර වූ හෙයින් "රදාවෙල බණ්ඩාර" යන නමින් ඔහු හැඳින්වේ. මිනීමැරූ දේවතාවා වැදිරට වාසීන් විසින් ද ගෞරවයට පාත්‍ර කරන ලද බවට සාධක ඇත. (141: 266-7 පි.)



## 112
## නායක දේවින්නාංසෙ

මැය, දේවතාවියක බව නමින් ම පැහැදිලි වේ. ඇය ගේ ආභරණය බෝ කොළය යැයි ද කියති. මැය නායක බණ්ඩාර දෙවිගේ බිරිය විය හැකිය. එයට වැඩි යමක් ගැන කිව නොහේ. කැලේ කඩවර දේවින්නාංසේ යටතේ එන විස්තරය බලන්න.



## 113
## නායක බණ්ඩාර දෙවියෝ

මේ දෙවි ගේ වගතුග සඳහන් නොවේ. ඔහුගේ ආයුධය හෙල්ලායුදය බව නම් සඳහන්ව ඇත. කැලේ කඩවර දෙවින්නාංසෙ යටතේ බලන්න.



## 114
## තිකවැටියේ අලුත් දෙවියෝ

දිගාමඩුලු ප්‍රදේශයේ පුදපූජා ලබන මේ දෙවියෝ 'තිකවැටියේ පස්සර පලාවත්ත නින්දගම් ඇල්ලූ දියානායක අලුත් බණ්ඩාර හාමුදුරුවන්' ලෙස යාදිනිවල හැඳින්වෙති. මේ දෙවියන් මෙන් ම එම ප්‍රදේශයට ම අයත් පාදාගොඩ අලුත් දෙවියන් ද වැඩියෙන් පිහිට වන්නේ දඩයමේ යන උදවියට දඩයම් ලබා දීමෙන් බව පෙනේ. මොවුන්ට අයිති දේවාල ද ඇති බව සඳහන්ය. මෙම දෙවියන් ගේ ප්‍රභවය නැසී ගිය ජනප්‍රධානයකු ගෙන් විය හැකියයි ද අනුමාන කෙරේ. (100: 99-100 පි.)





## 115
## තිකවැරටියේ දෙවියෝ

මොනරාගල දිස්ත්‍රික්කයේ පිහිටි තිල්ගල නම් ගමේ අදහනු ලබන දෙවි කෙනෙකි. (125: 131 පි.)



## 116
## නිරාමුල්ලේ යාපා බණ්ඩාර දෙවියෝ

දහසය වන සියවසේ දී කුරුණෑගල දිස්ත්‍රික්කයේ හිරියාල හත්පත්තුවේ නිරාමුල්ල නම් ගමේ වලව්ව වත්ත නම් ස්ථානයේ කුඩා රාළ නම් රදළයෙක් විසීය. ඔහුට සුවදහාමි නම් පුතෙක් විය. දක්ෂ දඩයම් කරුවකු වූ හෙතෙම වරක් හුදකලාව දඩයමේ ගොස් වල් අලියකුගෙන් පහර කා මිය ගියේය. එම මරණින් පසු ගමේ භූත බලයක් පැතිරෙන්නට විය. මේ කාලයේ ගම්වැසියන් දෙවියන් ලෙස අදහා ඇත්තේ ගලේ දෙවියන් නමින් හැඳින් වූ මලල බණ්ඩාර දෙවියන් පමණි. එම මලල බණ්ඩාර දේවාලයේ වාර්ෂික පෙරහර පවත්නා දිනෙක එහි සිටි කපුවෙක් මායම් වී තමන් යාපාබණ්ඩාර බවත් එබැවින් තමන් වෙනුවෙන් ද පුදපූජා පැවැත්විය යුතු බවත් කියා සිටියේය. එදා සිට ගලේ දෙවියන් හා සමග යාපා බණ්ඩාර දෙවියන්ට ද පුද පූජා පැවැත්වීම ඇරඹිණි.

මේ දෙවියන් ගේ උපත ගැන මෙසේ ද සඳහන් වන්නේය: නිරාමුල්ල වලව්වේ යහපත්හාමි නම් බණ්ඩාර කෙනෙක් විසූහ. ඒ කාලයේ නිරාමුල්ල මූලස්ථානය කර ගෙන ඕතොට ගම් දොළහ භාරව සිටියේ

ගලේ බණ්ඩාර දෙවිඳුය. එම දෙවියන් විසින් තම ඇමැති වූ කුරුම්බරයා ලවා යථොක්ත යහසත්හාමි මරවා තම සහකරු බවට පත් කර ගන්නා ලදී. එදා සිට ගලේ බණ්ඩාර දෙවියන් හා යාපා බණ්ඩාර යන දෙවිවරු එකට පුද පූජා ලබන්නට වූහ. ව්‍යවහාර වර්ෂ 1632 දී ලියන ලදැයි සැලකෙන කෝල්මුර කවිවල කියා තිබෙන්නේ මොහුගේ නම සුවඳහාමි වූ බවයි. දේවාලයේ ඇති අත් ලියවිල්ලකට අනුව දේවත්වයට පත් වූ සිය ඥාතියා සඳහා පුද පූජා පෙරහර ආදිය පැවැත්වීමට අවශ්‍ය කටයුතු වලව්වේ ඇත්තන් විසින් සම්පාදනය කරන ලදී.

යාපා බණ්ඩාරයන් හා සමග ගලේ දෙවියන් ගේ වාර්ෂික මංගල්ලය ද සිදු කරන ලද අතර එම උත්සවයේ දී "ගල් නැටුම" නම් විශේෂ නැටුමක් දේවගිරිකන්දේ ගල්තලාමත පැවැත්විණි. මංගල්ලය අවසානයේ "දහඅට දෙනා ගේ දාන සම්භාරය" නම් දානයක් ද පැවැත්විණි.

අතීතයේ එක් අවස්ථාවක දෙවියන්ට වෙන් කරන ලද කෝස් ගසක ගෙඩියක් දුප්පත් මිනිසකු කඩා කෑ සිද්ධියක් අරභයා බැතිමතුන් කළ පැමිණිල්ලකින් පසුව "හෙරළි ගෙඩියකටත් මට මිනිපුන් මරන්ට කියනවාද?" යනුවෙන් උදහස් වූ දෙවියන් ගම අතහැර ගිය බව කියනු ලැබේ. මෙයින් පසු නිරාමුල්ල දේවාලයේ පුද පූජා පැවැත්වෙන්නේ ගලේ දෙවියන් සඳහා පමණි. ඔහු නමින් පමණක් සඳහන් වන අතර එම ස්මරණය ද දැන් ජන හදින් ගිලිහෙමින් පවතින බැව් පෙනේ.

යාපා බණ්ඩාරයන්ගේ කෝල්මුර විරහාලාපයක ස්වරූපය ගනී.

පිටත්වම සොඳ මිහිරි අවිවෙ දඩයමට සිත ලොබ  වෙලා
සිනත් තද දුක් වෙමින් අම්මෝ අඩ අඩා තනි මං  වෙලා
නැතක් ගම්වල සෙනඟ අවුදින් දෙවෙනි දා එවි දැයි  බලා
මෙතෙක් කල් යහ සුවඳසාමිනි නොවැඩියේ කිම දෝ  බලා

පතන් වල දළු කමින් ඇත් රළ සිටිති වනයේ පුල  පුලා
සොඩින් පැටියන් මැදට කරගෙන ඇතින්නන් යති කෙළ  කෙළා
ගොයින් සිල් කර දෙරණ දැමූ කල ගොයින් සැහවුණි පණනලා
ඉතින් අපගේ මෙ යාපා රජ මැරෙව්වේ කිම දෝ  බලා

(29: 58-67 පිටු)





# 117
# නෙළුදණ්ඩගම කැලේ බණ්ඩාර දෙවියෝ

මොහු ද ප්‍රාදේශීය ගැමි නායකයෙකි. මිය යාමෙන් පසු දේවත්වයට පත්ව ඇත. ඌවේ නෙළුදණ්ඩගම පෙදෙස් වාසීන් මේ දෙවියාට පුදපූජා කරන බව පෙනේ. ඔහු වෙනුවෙන් පොල් එල්ලීම, අතු එල්ලීම ආදී උපචාර විධි ගම්වැසියෝ පවත්වති. (86: 209 පි.)



# 118
# පට්ටියේ ගෙදර කටුගහ බණ්ඩාර දෙවියෝ

ඌවේ කටුගහ ගම් පෙදෙසේ මේ බණ්ඩාර දෙවි පුද සැලකිලි ලබයි. ගමේ මිය ගිය ගැමි නායකයෙකි. ගොවිකම් පිළිබඳ කටයුතුවල දී විශේෂයෙන් මේ දෙවි ගේ ආරක්ෂාව ගැමියෝ පතති. ඒ සඳහා ඔවුහු පිදවිලි කරති. (86:209 පි.)



## 119
# පණික්කි බණ්ඩාර දෙවි

මේ මුහුදුබඩ සැරිසරන දෙවියකි. එසේ සැරිසරනුයේ යකුන් එළවීමටත් නැව් විනාශ කිරීමටත් බව පැවසේ. එසේ ම මේ දෙවි වන්නි රටේ නායකයා ද වන්නේය. ඇතුන් පිළිබඳව ද ක්‍රියාකාරී බලයක් සතුව තිබිණැයි කියන මේ දෙවියා හලාවත මහවැව පෙදෙසේ ජනතාව ගේ ඉමහත් භක්තියට භාජනය විය. (141 : 71පි.)

හියු නෙවිල් ගේ කවි එකතුවෙහි පණික්කි බණ්ඩාර කවි පෙළක් තිබේ. එහි සඳහන් පරිදි මේ දෙවියෝ දිය රළ මතුපිට පා තබා ගමන් කරන අතර ඒ පාදයන්ට පෑගෙන්නා වූ දියරළ නිසල වේ. දකුණතින් යගදාවක් ගෙන ලුණු ලේවාය වටා යමින් යකුන් පළවා හරී. හම්බාන්, නැව්, කප්පර ආදී යාත්‍රා බිඳ දමයි. වන්නි රටේ අධිපති වශයෙන් අංකුසයක් හා චාමරයක් ද අතැති ව ගෝමර ඇතකු පිට ගමන් කරයි. ඔහුගේ ඇඳුම සුදුවන්ය. මේ කවිපෙළ හලාවත අසළ මහවැවෙන් ලැබුණක් බව වාර්තා වී ඇත.

මුද්දාරාවෙද දෙවි වැඩ ......... ඉන්නේ
මුදේ රැළ නවතා වඩිම් ... න්නේ
මුදු වැටිය වට විමසා ... එන්නේ
පණික්කි බණ්ඩර දෙවිඳු වඩි ... න්නේ

(161,3: 302 පි.)

පණික්කි බණ්ඩාර යනු වැදි ජනයා විසින් දේවත්වයට නංවන ලද ඓතිහාසික වැදි නායකයකු බවට සාධක සෙලිග්මාන්වරුන් ගේ ග්‍රන්ථයෙහි ඇතුළත්ව තිබේ. ව්‍ය.ව. 16 වන සියවසේ දී පමණ වැදි ජනයා අතුරින් ඇතමකු වනයේ සිටිමින් රාජ සේවය සඳහා සංවිධානය වී සිටි අතර පණික්කි නමැති වැදි නායකයා බණ්ඩාර මුදියන්සේ යන ගෞරව නාමය ද රජ වාසලින් ලබමින් රජුට ඇතුන් අල්ලා දීම වැනි කටයුතුවල නිරත විය. ඔහු ගේ තවත් විශේෂ දක්ෂතාවක් වූයේ කුළු මීමුන් අල්ලා ගැනීම බව ජනප්‍රවාදයේ පැවතිණි. (178 : 141 පි.) විසි වන සියවසේ මුලදීත් හේනෙබැද්ද වැදි ජනාවාසයේ පැවතුණු කොළමඩුව නම් යාතු කර්මයේ දී පණික්කි යකාට ආරාධනා කොට මිනිසුන්වත්, ගවයන්වත්



වන රෝග පීඩාදිය වළක්වා තමනට සෙත සලසන ලෙස ඉල්ලා සිටිනු දක්නට ලැබිණි. (එම) එදා වැදි රටේ සිටි සිංහල ගොවි ජනතාව විසින් ද පණික්කි යකාට පුද පූජා සිදු කරන ලදී. (178 : 163 පි.) සෙලිග්මාන්වරුන් වාර්තා කොට ඇති පණික්කි යකා ගේ යාදින්න මෙ බඳුය.

අස ගුරු කපයි බොල තෝපා යාළුවා
පොලෝ ගුරු කපයි තෝපා යාළුවා
ගසන්තේත් සුලන්මයි බොල තෝපා යාළුවා
ඉහලෙන්තේත් පඩරමල් මයි බොල තෝපා යාළුවා

කසා ඉරට පිටෙන් ඉර කේන්දි ආදින්නවු ආදින්නවු
මුන මුන පාරක්කු තිලමේ නීලා

කුඩා නැම්බි රලෝ නැවතුන් බාලකැකැා ද බාලන්නාද
කුඩා නැම්බි රැලත් කොදේම ඇයි බොල තෝපා යාලුවා
මහා නැම්බි රැලෝ නැවතුං බාල කැකැද බොල තෝපා යාලුවා
මදා නැම්බි රැලෙත් කොදේ බොල තෝපා යාලුවා

දුන්න ගතත් සොද විදමන් පනික්කියා
පොල්ල ගතත් සොද නැවතුං පනික්කියා
මන්ද ගතත් සොද බඳමං පනික්කියා
අද මෙතනට එයි ගොඹර පනික්කියා

(178 : 282 පි.)

(මේ ඉංග්‍රීසි අකුරෙන් ලියා ඇති යථෝක්ත යාදින්න සිංහල අකුරට නැගීමක් බව සලකන්න. කිසිවක් වෙනස් නොකළෙමු.)

කුලියාපිටියේ වේරහර නම් ගමේ ඇති පැරණි විහාරයේ මේ දෙවියා වෙනුවෙන් ඉදි වූ දේවාලයක් ද ඇත. (පේරාදෙණිය භාරතී පරිවේණාධිපති පණ්ඩිත යායමුල්ලේ දයානන්ද හිමියන් දැන ගත් පුවතකි.)



## 120
# පත්තිනි දෙවියෝ

සිංහල බෞද්ධයන් පුද පූජා පවත්වන භාරතීය ප්‍රභවයක් ඇති දෙවිවරුන් අතර ප්‍රධාන තැනක් පත්තිනි දෙවියන්ට හිමිවේ. හින්දු

සම්ප්‍රදායට අනුව ශිව දෙවියන් ගේ භාර්යාව වන පාර්වතීය ගේ අවතාරයක් වන්නීය. එහෙත් සිංහල සම්ප්‍රදායට අනුව බෝධිසත්ව පාරමිතාව පුරන්නියකි.

සිංහල ජන විශ්වාසයෙහි සඳහන් වන අයුරු පත්තිනිය අඳුන්ගිරි පර්වතයෙහි හිඳ බුදු බව පතා උග්‍ර තවුස් දම්හි යෙදුණාය. ඇගේ ශීල තේජසින් ශක්‍ර දිව්‍ය රාජයාණන් ගේ පඬුපුල් අස්න උණු විය. ඇගේ ශීලය විමසනු වස් බමුණු වේසයක් ගත් ශක්‍රයා එහි පැමිණ "නැහැණියනි මට දානයක් දුනමැනවැ" යි ඇයදුමෙන් "ඕකත් මට අපූරුවක් ද" කියා අඳුන්ගිරි පර්වතය පයින් මඩ කර සුවඳ ඇල් වී වපුරා එයින් බත් සාදා ශක්‍රයාට පිළි ගැන්වූවාය. (ගම්පහ පහළගම යටවත්තේ දේවාලයේ කියවෙන යාතිකාවක මේ කාරණය සඳහන් වේ. මෙම දේවාලය ගම්භාර දේවාලයකි.)

පත්තිනිය ගින්නෙන්, මලෙන්, අඹෙන්, ආදියෙන් සත් වාරයක් උපන් හෙයින් "සත් පත්තිනි" යැයි ද දොළොස් වාරයක් "දොළොස් පත්තිනි" යැයි ද සඳහන් වන්නීය. මේ උපත් කථා පිළිබඳ විවිධ මත ජනප්‍රවාදයේ ඇත. එනම් දෙමට මලෙන්, ගනි කඳෙන්, නයි කඳුලෙන්, විදුලියෙන්, පිනි බින්දුවෙන්, සිභාරලෙන්, මවිත අඹෙන්, සළු පොටෙන්, නුග පත්‍රයෙන්, කදුරු පොත්තෙන්, හෙණයෙන්, ජලයෙන් යනුවෙනි. (34 : 186 පි.)

දක්ෂිණ භාරතයේ සුප්‍රකට **සිලප්පදිකාරම්** මහා කාව්‍යයේ පත්තිනි උපත හා ඈ දේවත්වයට පත්වීම විදහා දැක්වේ. මේ අතර පත්තිනි ඇදහීම ද දක්ෂිණ භාරතීය බෞද්ධ මහා කාව්‍යයන් වන **මණිමේඛලාවේ** ද කියවේ. මෙම මහා කාව්‍ය දෙක ව්‍ය. ව.500-900 අතර ලියවී ඇති බව විද්වතුන් ගේ මතයයි. (166 : 516 පි.) මහාචාර්ය ඔබේසේකර විසින් පෙන්වා දී ඇති පරිදි මෙම මහා කාව්‍යයන්හි නිරූපිත පත්තිනි පුවත ජෛන හා බෞද්ධ සංකල්ප අනුව හැඩ ගැසී තිබේ. (166 : 511-17 පි.) පසුව හින්දු ආගම හා දක්ෂිණ භාරතීය ජන ඇදහිලි විසින් පත්තිනි වන්දනාව ස්වකීය ආගමික සංකල්පය අනුව සකස් කර ගෙන තිබේ. එහෙත් ලක්දිවට පත්තිනි ඇදහීම හඳුන්වා දී ඇත්තේ පූර්වෝක්ත දක්ෂිණ භාරතීය බෞද්ධ සම්ප්‍රදාය තුළින් බව ඔබේසේකර පෙන්වා දී ඇත. **සිල්ප්පදිකාරම්** කාව්‍යයේ සඳහන් පරිදි සෙන්ගුට්ටුවාන් නම් සොළි රජ පත්තිනි දේවාලය පිහිට වූ අවස්ථාවේ දී ලංකාවෙන් "කයවාගු" රජු ද ඒ උත්සවයට සහභාගී වී ඇත. සිලප්පදිකාරම් කාව්‍යයට පසුව ලියන ලද සන්නවල කයවාගු විසින් පත්තිනි පූජාව ලක්දිවට හඳුන්වා දෙන ලද බවද කියැවේ. (166 : 362 පි.) "කයවාගු" යනු ව්‍ය.ව. දෙවන සියවසේ ලක්දිව රජ කළ පළමුවන ගජබාහු යැයි හඳුනා ගැන්මට බොහෝ ඉතිහාසඥයෝ කැමති වෙති. එහෙත් ලක්දිව සමකාලීන ඓතිහාසික මූලාශ්‍රවල මේ සිද්ධිය සඳහන් නොවන නිසාත්, කෝට්ටේ අවධියට පෙර මෙහි පත්තිනි පූජාව තිබුණු බවට කිසිදු සාධකයක් නැති නිසාත් මේ මතය පිළිගත නොහැකි බව ඔබේසේකර පෙන්වා දෙයි. පත්තිනි පූජාව ලක්දිවට හඳුන්වා දෙන ලද්දේ කෝට්ටේ අවධියේ දී බව ඔහුගේ මතයයි. (166 : 526 පි.) අට වන සියවසින් පසු දකුණු ඉන්දියාවේ හින්දු සමය ක්‍රමයෙන් ප්‍රබල භාවයට පත් වෙමින් දහ වන, එකොළොස් වන සියවස්හි උච්චස්ථානයට පත් වූ කල්හි කේරළයේ ද වෙනත් ප්‍රදේශවල ද සිටි ද්‍රවිඩ බෞද්ධයන් ඇතැමකු ලක්දිවට සංක්‍රමණය වූ අයුරු මධ්‍යකාලීන ලංකා ඉතිහාසයෙන් පෙනේ. අලගක්කෝනාර, සේනාලංකාධිකාර වැනි පවුල් මේ සම්බන්ධ ප්‍රකට උදාහරණය. මේ දක්ෂිණ භාරතීය බෞද්ධයන් තමා අතර ජනප්‍රිය පත්තිනි දේවිය ලක්දිවට කැඳවා ගෙන එන්නට ඇත යනු ඔබේසේකර ගේ මතයයි . (166 : 528 පි.) කෝකිල සන්දේශයේ 117 වන කවෙහි සඳහන් පරිදි සවැනි පැරැකුම්බාවන් විසින් කෝට්ටේ තෙමහල් පත්තිනි දේවාලයක් ඉදි කරවූයේ ඇය මෙහි ජනප්‍රිය වූ හෙයින් විය යුතුය. පසුව දාහත් වන හෝ දහ අට වන සියවසෙහි ලියවුණු, රාජාවලියේ ප්‍රථම වරට ගජබාහු රජු සිව්දේවාලයන්හි දේවාභරණත්, පත්තිනි සලඹත් මෙ රටට ගෙන ආ බව සඳහන් වන නෙක් අප ඓතිහාසික මූලාශ්‍ර ගජබා පුවත හා දේව පූජා අතර සම්බන්ධයක් දක්වා නැත. **සිලප්පදිකාරම්හි** සඳහන් වන ගජබාහු රජ ජනප්‍රවාද ගත අයකු මිස ඓතිහාසික පුද්ගලයකු නොවන බව ඔබේසේකර ගේ විශ්වාස යයි. (166: 322-8 පි.)

පත්තිනි උපත හා ජීවිත කථාව විවිධ මූලාශ්‍රවල විවිධ අනුකාරයෙන් දැක්වෙතත් හැම එකක ම කියවෙන මූලික පුවත් එක සමානය.

(1) **සිලප්පදිකාරම්** මහාකාව්‍යයේ දැක්වෙන පරිදි වෙළඳ කුලයේ උපන් කන්නගී නම් කාන්තාව සමකුල කෝවලන්ට ළාබාල වියේ දී ම විවාහ කර දෙන ලදී. පසුව මාධවී නම් වෙසඟනක හා මිත්‍රව ධනය නසමින් කලක් විසූ කෝවලන් යළි කන්නගිය වෙත එයි. වෙළඳාම පිණිස මූල ධනය සොයා ගන්නට කන්නගියගේ පා සළඹක් විකිණීමට මධුරාපුරයට ගිය කෝවලන් එහි රජ බිසොව ගේ සළඹක් ද නැතිවී තිබුණු හෙයින් එය ගත් සොරා ලෙස චෝදනා ලැබ මරණයට පත් කරනු ලබයි. මේ සිදු වූ අසාධාරණය ගැන කන්නගිය කළ සාපයෙන් රජු ද බිසොව ද මිය යති. කන්නගී සිය වම් පයෝධරය සිඳ නගරයට විසි කරන්නීය. එයින් විහාරාරාම, භික්ෂූන්, ළමුන් ආදීන් හැර මුළු නගරය ම ගිනි බත් වේ.

(2) **පත්තිස් කෝල්මුර** නම් සිංහල කවියන් විසින් කෝට්ටේ අවධියේ දී පමණ රචිත කාව්‍ය පන්තියට අනුව කලිඟුපුර එක්තරා

සිටුවරයෙක් මහ දනක් දී දඹදිව අගරජු වීමට පැතීමෙන් මදුරාපුර මහ රජව ඉපැදිණි. ඔහු ගේ මානය මර්දනය කිරීම පතා එබඳු ම පින්කමක් කළ කාන්තාවක් එම රජු ගේ අඹ උයනේ අඹයක උපත ලබන්නීය. අන් කිසිවකුට නෙළීමට නොහැකි මේ අඹය නිසා රජු ගේ තෙද නැති වේ. වෙස් වලාගත් සක් දෙවිඳු ඊයෙන් විද බිම හෙළූ පසු එය කළයක බහා ගඟේ පාකර හරින ලදින් එය සොයා ගත් වෙළෙන්දෝ අඹෙන් උපන් කුමරිය හඳුනා ගනිති.

(3) "අඹ විදමන" නම් තවත් කෝල්මුර කවි පන්තියකට අනුව ඇය උපන්නේ මහකෙළ නම් නා රජු හැඩූ කඳුළෙනි. මිනිස් ලොව විලක දිය නාන ඇගේ සළු පිළි කිසිවකු සොරා ගත් බැවින් දියෙහි ගිලි මළ ඇය මලක උපන් බවත් පසුව අඳුන්කුළෙහි තපස් රැක දන් පතා එහි පැමිණි බමුණු වෙස්ගත් ශක්‍රයාට ගල මැඩ, වී ඉස, සහල් මවා, දන් දී මදුරාපුර පඬි රජුගේ තෙද බල සිඳීමට අඹයක උපදින්නට පැතූ බවත් කියැවේ.

(4) හියු නෙවිල්ට ලැබුණු "පත්තිනි පැතුම" නම් දෙවුන්දර දේවාලයට සම්බන්ධ යැයි කියන ලද කෝල්මුර කවි පන්තියකට අනුව පත්තිනිය ගේ දෙමාපියෝ ද කකුසඳ බුදුරජ දවස විසූ මනිමේග නුවර සිරිමා කුලහතත් බොළඳ සිටුත්ය. ඕ සත් හැවිරිදි වියේ සපිරිවරින් නෑමට යන්නී කලිඟු නුවර සිටුවරයකු භික්ෂූන් වහන්සේලාට චීවර දානයක් දෙන බව අසා තමා ද දන් දෙනු කැමැතිව කඨින චීවර දහසක් ද සෙසු සිවුරු තුන් දහසක් ද දන්දුන්නාය. ඇගේ පිරිවර යෙහෙළියෝ දනට මී අඹ ගෙනාහ. ඉන් එකක් නරක්ව තිබුණු හෙයින් පත්තිනිය එය පැළ කළාය. එය පැළවී අගනා අඹයක් පළ ගත් කල්හි පත්තිනිය එය කකුසඳ බුදුන් වහන්සේටත් රහතන් වහන්සේලාටත් පූජාකර ඒ පිනෙන් අඹයක ඉපදීමට ප්‍රාර්ථනා කළාය. ඈ පැතූ තවත් දේ නම් මහ රජකුගේ මානය දර්පණය කිරීම, දෙවි මිනිසුන්ට වඩා තෙදවත් වීම, දසැඟිල්ලෙන් ගිනි විහිදුවන්නට හැකිවීම, එය අමා දියෙන් නිවන්නට හැකිවීම යනුයි. කලිඟු සිටුවරයා පඬි රට රජ වීමට පැතිය. මේ සිද්ධියට පසු පත්තිනිය කකුසඳ බුදු රදුන් ගේත් දෙමාපියන් ගේත් අවසරය ලැබ අඳුන් ගිරට තපස් රැකීමට ගියාය. (161,3 : 150 පි.)

කාවේරියේ වෙළඳ කුලයක උපන් පාලඟ කුමරුට පත්තිනිය විවාහ කර දෙනු ලැබේ. පාලඟ වෙළඳාමට යද්දී මාදේවී නම් වෙසඟන හා එක්ව ධනය නසයි. පසුව කන්නගිය වෙත පෙරළා යන ඔහුට විකොට මුදල් උපයාගනු සඳහා තම අගනා පාසළඹ දෙකෙන් එකක් දෙන්නීය. මෙහි



දී රජ බිසොව ගේ පාසළඹ සොරා ගත් වරදට නිරපරාදේ චෝදනා ලබන ඔහු මරණයට පත් කරනු ලබයි. ඔහු සොයා යන කන්නගිය සත්‍ය ක්‍රියා බලයෙන් සැමියාට පණ ලබා දෙන අතර ඔහු දෙව් ලොවට පිවිසේ. රජ සබයට යන කන්නගිය බිසොව ගේ නැති වූ සළඹ සොයා දී එය පොළොවේ ගසන ලදින් ඉන් නැඟුණු ගින්නෙන් නුවර දැවේ. "විත්තිය" නම් කවි පෙළේ එසේ කියැ වී ඇති. සිලප්පදිකාරම් මහා කාව්‍යයේද මේ කථාව එයි. එහෙත් එහි ද "වැදි පූජාව" නම් කවි පෙළට අනුව ද ගින්න ඇති වන්නේ පත්තිනිය සිය පයොධරය කඩා පොළොවේ ගැසීමෙනි. පසුව අමා විලක් මවා ගිනි නිවන කන්නගිය දෙව් ලොවට යන්නීය. පසු දිනක දෙව් ලොවින් බසින ඈ වැදි රටට ගොස් පත්තිනි දේවිය ලෙස පුද පූජා ලබන්නීය. එහි දි පැතුමක් ද කරන්නීය.

එක් හිමි මම පැතුවෙ මි
දුක් විඳ හිමි කැටුව එමි
එන මෙත්තේ මුනිඳු දකි මි
මමත් පිරිමි බව ලබ මි

(123: "වැදි පූජාව," 80)

පන්තිස් කෝල්මුරවලට අයත් "ගජබා කතාවෙන්" කියැවෙන්නේ එක්තරා දුප්පත් මිනියකු තම අංකොට මීමා සොරා ගැනීමේ අපරාධය ගැන සිංහල රජු පිළියම් නොකළ හෙයින් සොළී රටට ගොස් එ රජු පොළඹ වා මෙ රට ආක්‍රමණය කොට ලක් වැසියන් 12,000 ක් සිර කරුවන් ලෙස ගෙන ගොස් කාවේරියේ වැඩට යෙදවීමත්, ලක්දිව ඊළඟට රජකන් පත් ගජබා රජ, නීල මහායෝධයා සමඟ ගොස් යථොක්ත සිරකරුවන් හා තවත් එරටින් 12.000 ක් ද පත්තිනි දෙවියන් ගේ මිණි සළඹද පත්තිනි කථාව ඇතුළත් දෙමළ පොතක් ද, මෙරටින් පැහැර ගෙන ගොස් තිබුණු බුදු රදුන්ගේ පාත්‍ර ධාතුව ද ගෙනවුත් නවගමුවේ දෙවොලක් තනා සඳුන් හරින් පත්තිනි රුවක් කොට මිණි සළඹ එහි තබා පත්තිනි පුද පූජා ඇරඹූ පුවතයි. (123 : xi-xviii පිටු.)

භාරතීය ප්‍රභවයක් ඇති නමුත් පත්තිනි දේවියට බෞද්ධ මුහුණුවරක් සිංහල බැතිමතුන් අතින් ලැබී තිබේ. ඉහත පන්තිස් කෝල්මුරවලට අයත් පුවත් මගින් ඒ බව පැහැදිලි වේ. කාශ්‍යප බුදු රජාණන් වහන්සේ ගේ කාලයේ දහසක් කඨින චීවර දන්දීමේ අනුහසින් ඇය අඳුන්ගිරි පර්වතයේ දෙව් ජන්මයක් ලැබූ බව කියන පුවතක් ද ඇත. (166 : 48 පි.)

පත්තිනි පූජාව ලක්දිවට හඳුන්වා දෙන ලද්දේ කෝට්ටේ අවධියේ දී පමණ බව ඉහත දැක්විණි. එය මහනුවර අවධිය වන විට ඉතා ජනප්‍රිය භාවයට පත්විය. පැරණි මහනුවර රාජධානියට අයත් ප්‍රදේශයේ පත්තිනි

දේවාල රාශියක් තිබීමෙන් මේ බව පෙනේ. එසේ ම පත්තිනි දේවි හා සම්බන්ධ අංකෙළිය නම් වතාවත ද පොල් කෙළිය, ලී කෙළිය, ඔළිද කෙළිය වැනි ක්‍රීඩා ද සාම්ප්‍රදායික සිංහල සමාජයේ ඉතා වැදගත් කොට සලකන ලද අවස්ථා විය. අංකෙළිය පිළිබඳ පැරණිම සඳහන දාහත් වන සියවසේ ලක්දිව ගැන පොතක් ලියූ රොබට් නොක්ස් ලියා ඇත. මෙම වතාවත ගැන විධිමත් පරීක්ෂණයක යෙදුණු මහාචාර්ය ඔබේසේකර පෙන්වා දී ඇති පරිදි උතුරු, උතුරුමැද හා වයඹ පළාතේ ඇතැම් තැනෙක හැර මුළු ලක්දිව පුරාම බෞද්ධ හින්දු දෙ පක්ෂය විසින් ම මේ වතාවත සිදුකර තිබේ. (166 : 383 පි.)

අපේ ග්‍රාම නාම අතර නිතර හමුවන උඩුපිල, යටිපිල, අංපිටිය, පොල්පිටිය, ආදිය මේ වතාවත් සමාජයේ පැතිර පැවති ආකාරයට සාධක වේ. පුබ වස්තුවක් ලෙස සැලකෙන හක්ගෙඩිය වනාහි කන්නගිය විසින් කඩා දැමූ වම් තනයෙන් උපන්නකැයි විශ්වාසයක් පවතී.

පත්තිනි පූජාවේදී විශේෂයෙන් ගෞරවය දැක්වෙන උපකරණය පත්තිනි සළඹයි. "සළඹ සාන්තිය" නම් කවි පෙළින් පෙනෙන්නේ එම පූජා වස්තුවෙන් අපේක්ෂිත ශාන්ති දානයයි.

"පන්තිස් කෝල්මුර" නම් දීර්ඝ කාව්‍ය එකතුව පත්තිනි පූජාවේ වැදගත්කම විදහා දක්වන මහඟු සාධකයෙකි. මුද්‍රිත පිටු 499 ක් පමණ වන මේ කවි එකතුව මුඛ පරම්පරාවෙන් ඒම නිසා විවිධ විකල්ප ස්වරූපවලින් යුක්තය. (123 මූලාශ්‍රය බලන්න) හියුනෙවිල් විසින් "පන්තිස් කෝල්මුර" දෙ ආකාරයෙන් දක්වා තිබේ.

1. හියු නෙවිල් දක්වන
**පළමුවන ලැයිස්තුව :**

1. විසිතුරු යාග 2. ගජබා පුවත 3. මඩුපුර 4. දන්කටින 5. පාඩි උපත 6. පතස 7. සාගත 8. පතිවෘත්ත උප්පැත්ති 9. අඹ උපත 10. ලංකාවිස්තරය 11. වන විස්තරය 12. ගඟ හෙළි සොළී උපත 13. ගඟදිය කෙළිය 14. වදපව් කෝවිල 15. තරඟ කතාව 16. සෙණ්ඩු කෙළිය 17. වළලු කතාව 18. සලඹ පුවත 19. තපසට ගිය පුවත 20. දූ කෙළි කතාව 21. වලිනඩ 22. කන්නුරන් 23. වෙසඟ ඇඳීම 24. කරහලු බොරු බස් කියා මැරීම 25. පත්තිනි පණ ගෙන්නූ පුවත 26. විත්ති හත 27 සත් කල්පෙ දැන කීම 28. වැදි පුද 29. දෙවි මෙවන් පුවත. ඉහත 26 වැනිව යෙදෙන විත්ති හත හතක් ලෙස ගතහොත් 35 සම්පූර්ණ වේ. (161, 3: 145 පි.)



**2.** හියු නෙවිල් දක්වන
දෙවන ලැයිස්තුව:

1. මඩුපුර 2. දන්කටින 3. පාඩි නළුව 4. පතස 5. සොළී රටේ සාගතය 6. පත්තිනි පැතීම 7. අඹ විදමන 8. වන විස්තර 9. කාවේරි ගඟ දිය හෙළීම 10. කවිතාල උපත 11. ගඟ බැඳීම 12. දිය කෙළි කථාව 13. කෝවිල් පේවීම 14. තුරඟුන් නැගීම 15. පන්දු කෙළිය. 16. විවාහ කොට දුන් අවවාදය 17. මිණිපුවත් නළුව 18. තපස් කවි 19. මාදේවි රඟුම 20. දූ කෙළි කථාව 21. වලිබදය 22. කන්නුරන් කථාව 23. වේයි මඩම 24. පාළඟ මැරීම 25. ඉපදීම 26. ගී විත්තිය 27. ලක් මත් පත්තිනි කථාව 28. වැදි පුර 29. ගණ රුව (161,3: 142 පි.) විත්තිහත ලෙස දැක්විය යුත්තේ කැටකිරිලියගේ විත්තිය, කවුස්සන් දෙදෙනාගේ විත්තිය මැඩියා ගේ විත්තිය, සාවාගේ විත්තිය, දර කැටියාගේ විත්තිය, එළදෙනගේ විත්තිය හා කොබෙයියාගේ විත්තියයි. (161, 3 : 146 පි.) ඉහත නම්වල විකෘතිවීම් ඇතත් නෙවිල් ලියා ඇති අයුරින්ම දැක්වීමු.

3. **පූජ්‍ය පරවාහැර සද්ධාජීව හා ප.බ.ජී. හේවාවසම් යන කතුවරුවන් දක්වා ඇති පන්තිස් කෝල්මුර නම් :** 1. යහන් සැහැල්ල 2. විසිතුරු කථාව 3. මඩුපුරය 4. පහන් ගැඹුර 5. දංකටිනය 6. පාඩි නළුව 7. අමාරසය 8. පතස 9. සොළී පුර සාගතය 10. පත්තිනි පැතුම 11. අඹවිදමන 12. හිමාලය වන විස්තරය 13. කාවේරි ගඟ දිය හෙළීම 14. කරිකාලි උපත 15. ගඟ බැඳීම 16. දියකෙළි කථාව 17. කෝවිල් පේවීම 18, 19 තුරඟුන් නැගීම හා සෙන්දු කෙළිය 20. ළඳ සරණ කර දුන් අවවාද (මෙහි නොලැබේ.) 21. රුවන් නළුව 22. තපස් හටන 23. මාදේවි කතාව හා වේයි මඩම 24. දූ කෙළි කථාව (මෙහි නොලැබේ.) 25. වලිනඩය 26. කන්නුරන් කතාව 27. වේයි මඩම 28. පාලඟ මැරවීම 29. මරා ඉපැද්දවීම 30. විත්තිය 31. සත්පත්තිනි කථාව (මෙහි නොලැබේ.) 32. වැදි පූජාව 33. ගජබා කතාව 34. ගතරුව කතාව 35 මෙවන්පාන (123: පටුන)

පත්තිනි පූජාව සමඟ සිදු කෙරෙන සර්ව රාත්‍රික යාග කීපයකි. දිවයිනේ පහත රට පළාත්වල හා සබරගමුවේ පැවැත්වෙන මේ යාග නම් "ගම්මඩුව" "පාන් මඩුව" හා "දෙවොල් මඩුව" ය. මේ වායේ "පත්තිනි භාගය" නම් කොටසක් තිබේ. ඊට අමතරව "දෙවොල් භාගය" හා "වාහල භාගය" යන කොටසක් ද තිබේ. (34:184).පත්තිනි පූජාවේ ජනප්‍රිය භාවය කෙතරම්ද යත් 1954 කළ ගණන් බැලීමකට අනුව ලක්දිව පත්තිනි

දේවාල 593ක් තිබිණි. (56 : 61පි.) ඉන් ප්‍රධාන පෙළේ ලා ගැණෙන දේවාල නම් අල්දොර, මහුරුගොඩ, හොරගුණේ, බොල්තුඹේ, බටවල, ඇල්ලගාවා, මඩවල, රබලිය, කබුලුමල්ල, උස්වැලිකන්ද, අමනාවල, පලුගොල්ල, පලුගස්වාහල, කැලියපුර, කොර අඹේ, උඩවෙල, බුංගිරිය, දේවාලගම, කඩුවෙල, නවගමුව, එල්ලක්කල, බොල්ලෑගල යනුයි. (එම)

පත්තිනි දේව විශ්වාසය තවමත් පවතින නමුත් පුරාණයේ තිබුණු ඇතැම් පත්තිනි දේවාල දැන් අභාවයට ගොස් ඇති බව පෙනේ. අන්තිම සිංහල රජුගේ කාලයේ මහනුවර අවට පත්තිනි දේවාල 22 ක් තිබුණු බව ලෝරි විසින් වාර්තා කර ඇත. (158 : 734 පි.) ඒ කවරේ දැයි නමින් සඳහන් කර නැතත් ඇතැම් දේවාල දැනට නැති බව කිව හැකිය. උඩුනුවර යාලේගොඩ කැබැල්ලරුප්පේ පත්තිනි දේවාලය එවැන්නකි. දොඩම්වලපිටියේ හා මාලගම්මන පත්තිනි දේවාල පිරිහෙමින් පවතින බව පෙනේ. පස්බාග කෝරළේ නාවලපිටියේ පල්ලේගම පත්තුනුපිටියේ පත්තිනි දේවාලය තවම මනා තත්වයේ පවතී.

සරම්ප, පැපොල, වසූරිය, වැනි රෝග පත්තිනි දෙවියන්ගේ ආරක්ෂාව බලාපොරොත්තු විය යුතු "දෙයියන්නේ ලෙඩ" ලෙස සිංහලයෝ සලකති. "අම්මාවරුන්ගේ ලෙඩ" යනුවෙන් ද මේ හැඳින් වේ. මේ ලෙඩට මෙන් ම වෙනත් රෝග අවස්ථාවල දී ද කිරි අම්මලෑ දානය සඳහා බාරහාර වීම සිංහල සිරිතයි.

විසිවන සියවසේ දෙවන භාගය වන විට ලක්දිව සිංහල බෞද්ධයන් අතර පත්තිනි පූජාව පිළිබඳ විශේෂඥ වූ කපු පරම්පරා හයක් මහාචාර්ය ඔබේසේකර විසින් හඳුනා ගෙන තිබේ. එනම්:-

1. බස්නාහිර පළාතේ මොරවක් කෝරළයේ රබලිය පරපුර
2. බස්නාහිර පළාතේ කොළඹට නුදුරු හෙයියන්තුඩුව පරපුර
3. දකුණු පළාතේ හික්කඩුව බද සීනිගම පරපුර
4. දකුණු පළාතේ මොරවක් කෝරළයේ ඌරුබොක්ක පරපුර
5. දකුණු පළාතේ මාතර පරපුර
6. සබරගමුව පළාතේ රත්නපුරය පරපුර

මේ කපු පරපුර විසින් ගම්මඩු ආදී පත්තිනි පූජාවේ කම් ඉටු කරනු ලැබේ. (166 : 1 පි.)

දකුණු ඉන්දියාවෙහි තමිල්නාඩු හා කේරළ ප්‍රාන්තයන්හි පත්තිනිය ක්‍රමයෙන් කාලි, දුර්ගා, හා ද්‍රෞපදී බවට පත් වී සිටින්නීය. පත්තිනි පූජාවේ පැරණි ස්වරූප වඩාත්ම ඉතිරිව ඇත්තේ කේරළයේ ය. එහෙත් එහි ඇය කාලිය බවට පරිවර්තනය වූ අවස්ථා වැඩිය. (166 : 540 පි.)



සිලප්පදිකාරම් මහා කාව්‍යයේ සඳහන් සෙංගට්ටුවාන් විසින් කේරළයේ පිහිටුවන ලද පත්තිනි දේවාලය අද දින කොඩුංකෝළුර් කාලි කෝවිල් බවට පත්ව ඇත. මෙහි ඇදහෙන කාලිය "ඔර්රමුලච්චි" (තනි පියොවුරු ඇත්තී) යනුවෙන් හැඳින්වෙන්නීය. මේ දේවාල භූමියේ ඇති එක් කවියක "වසූරිමාලා" නම් වසූරියට හා වසංගත රෝගවලට පිහිට වන දෙවඟනක් ද වන්නීය. (166 : 535-6 පි.) සිංහල සම්ප්‍රදාය හා සමඟ මෙහි ඇති සමානතා අවධානයට යොමු විය යුතුය.



## 121
## පත්‍රකාලි අම්මා (පත්‍රකාලි දේවි)

මැය කාලි දේවිය ගේ අවතාරයක් ලෙස සමහරු හඳුන්වා දෙති. කාලි දේවියගේ අවතාර අටක් ඇති බව ප්‍රකට විශ්වාස යයි. (කාලි දේවි යටතේ බලන්න.) මෙහි දැක්වෙන පත්‍රකාලි අම්මා, මහාමේරුව වසා ගෙන සිටි මහකෙළ නා රජු ගේ හුළහට කැඩී ගිය පෙණයෙන් උපන් බව ඒ හා බැඳි කවි පන්තියක සඳහන් වේ. උක්ත නා රජු ගේ කැඩී ගිය පෙණ ගොබය නිසා ගලා ගිය රුධිරවලින් කාලි අට දෙනකු උපන් බව ද පැවැසේ. එය එසේ නම් මේ කාලි ගේ අවතාර නවයක් විය යුතු බව පෙනී යයි. මේ සම්බන්ධ තවත් විශ්වාසයක් නම් යටකී රුධිරය ගලා ගොස් තෙත් වූ බොරලුවලින් බහිරවයන් උපන් බවයි. පත්‍රකාලි අම්මා උපත මෙම කවි පෙළේ දැක්වී ඇත.:-

තෙදින් කැරකී එන මෙර පැටලී පළමුව මල් කවුව ට
නමින් පැරණි මහමෙර විය එතැන් පටන් ලංකාව ට
ගොසින් එනා රජ මහමෙර වෙලා දරනයෙන් පස් පො ට
සොඳින් එපෙණ ගොප් කරමින් වසා සිටී මෙර මුදුන ට

මුරුදු පත්‍ර කඩින් උපන් නිසා පත්‍ර කාලි වෙ තී
තදින් ඉදුණු වට උරිරෙන් අට දෙන කාලිය මැවෙ තී
යටින් සිටිය බොරලුවලින් බහිරව අට දෙනෙක් වෙ තී
තෙදින් එ පිරිවර සමඟි ව කාවෙරි පුරයට වඩි තී

සත් තොසිනේ වැඩ සිටියත් මුහුදු වෙරල ගොසින් එතන
මින් දෙරණත් හිම ගව්වත් ගිය පිරිවර රැගෙ   න
මින් මෙතනේ හොරතල් කව් කෝල් මුරෙන් ඔප්පු කර න
දැන් වඩිනේ රන් විමනේ මහමෙරවත් පොඩි කරගෙ   න
(131 : 248-49පි.)



## 122
# පතම් දෙවියෝ

මෙම දෙවියන් සෙංකඩගල අගනුවර වීමට පෙර ඒ ප්‍රදේශයේ බලවත් ව සිටි දෙවි කෙනෙකු බව පෙනේ. අද දින මෙම දෙවියන් ගැන තොරතුරු විරල ය. හියු නෙවිල්ට ලැබුණු "පතම් දෙවි කවි" නම් කවි පංතියක දැක්වෙන විස්තර අනුව ගම්පොළ යුගයේ ප්‍රබලව සිටි ගිරිවංශිකයන් අතර පුද පූජාවට ලක් වූවෙකැයි සිතිය හැකිය. (161, 3 : 53 පි.). පසුව තමන්කඩුවේ ක්‍රියාත්මකව සිටි බවට සාධක ඇත.

හියු නෙවිල් උපුටා දක්වා ඇති "පතන් බණ්ඩාර උපත" නම් කවි පෙළක පතම් දෙවියන් මහනුවර දී කළ වික්‍රම සඳහන් වේ. නුවර කලාවියේ සිට කටුගස්තොට තොටුපොළට පැමිණි ඔහු තොටියා මුදල් නැතිව එ තර කළ නොහැකැයි කී බැවින් අට දවසක් තුළ ඔහු ගේ අඹුදරුවන් ලෙඩ කරවා විනාශ කළ බවක් කියැවේ. ඉන්පසු:-

සෙන්කඩගල නුවරට ගොස් නාගස් මුදුනේ සිටින්   ඩ
අන්දමකට සැන්දෑවේ හතර වීදිවල වඩින්   ඩ
නම් ගම් කියමින් අඩගහ එන්නන් දැක බිලි බඳින්   ඩ
තුන් දහසක් මිනී මරා ලේවැල්ලෙන් එතෙර වෙන්   ඩ

පුරා නුවර සිටිය සෙනහ මැරුවේ හත් අවුරුද්ද   ට
තරාසයෙන් මැරුව සෙනහ උණ වනයට ගිනි ජලය   ට
දරා මහත් බණ පිරිතෙන් ලස්සෙ පුරවති බඳින්   ට
දරා තෙදින් සතුන් හැටක් ගසා මැරුවෙ ඔළු ඉන් ඉ   ට



පායන සඳ විලසින රැස් දැක ලා සිත සන් තොසි   නේ
අටකණු වීදිය බැස ලා සක්මන් කෙරු හොර රහ   සේ
නාගහ වීදිය බැසලා ලියෝ නැටුව දස දහ   සේ
ඔබ කළ දස්කම් විකාර මතු පවතින පන් දහ   සේ

මේ වග මොකදැයි කිය ලා පත්තිනි දිවසින්   බැලුවා
බොහෝ මිනි මරා ඇවිත් සිටිනා බව දෙවි දුටු   වා
හොදේය සෙදි කුමරුට වද කරන්ඩ දෙම් සිතු   වා
මෙසේ මිනී නොමරන්නට හළඹේ දිවි රෙව්   වා
(37 : 161 පි.)

එතැනින් කතරගමට ගිය පතන් දෙවි එහිද සිය තෙද බල පළ කළේය.

එතනින් තෙද බල වරමුත් ලබා පතන් දෙවි වැඩ   ලා
සිතමින් තෙද බල ලබන්ට කතරගමට වැඩම ව   ලා
එතනින් දෙවි සුදු ගවයින් හැටක් මරා නැති කර   ලා
දකිමින් උයනා මුලුතැන් බත් මාලුත් පිනී කර   ලා
(එම: 162 පි.)

ඉන් පසුව "මහබෙත්මේ කපුරාලට" ඔහු අල්ලන ලෙස අණ ලැබිණි. එයින් ගැළවීමට සුදු ඇත් පැටවකු අල්ලා දැකුම් දුන් පතම් දෙවි ආපසු මින්නේරියට ගියේය. එහිදී මින්නේරියේ හත්රජ්ජුරු දෙවියන්ට සිය බලය ප්‍රකාශ කිරීමට ඔහුට අවශ්‍ය විය.

මින්නේරියට වැඩමවලා දොළොස් දූවෙ වැඩ සිටින්   ඩ
දොළොස් දූවෙ වැඩ සිටි බව දැන ගන්නට තෙද කරන්   ඩ
මෙ ලක්ෂණෙන් හුන් කිරි අවපාට කරති තෙද පෙනෙන්   ඩ
මෙලෙස මෙ වග මොකද කියා හත් රජ්ජුරුවන් අහන්   ඩ
(එම)

මෙසේ පතම් දෙවියන් ලක්දිව අනෙක් ප්‍රධාන දෙවිවරුන්ට අභියෝග කළ ප්‍රබලයෙක් ලෙස නිරූපිතය.

කළුකුමාර දෙවියන් මෙන් මොහු ද කතුන් ගේ සතුරකු ලෙස දැක් වේ.

දුම්බර එළියට වැඩ ලා සිටි   නී
පෙම්බර අහනන් තනපට කඩ   නී
පින්බර සහ සැට නමකුත් මර   නී
රම්බර දස අවතාරෙන් වඩි   නී
(161, 3: 53පි.)

පනම් දෙවියන්ගේ විලාසය මෙම කවෙන් කියැවේ.

වංගු මුගුරු සුරත දරා තුන් මල් හෙන්ඩුව දරන්ඩ
අංගු වංගු අතට හලඹ පටකඩ අල්ලා වඩින්ඩ
වංගු වැටෙන රැලිපාලන් රතු හහලද ඇඳ වඩින්ඩ
තොන්ගු දිදී පනන් දෙවිඳු සෙදමල් කෙළියට වඩින්ඩ
(37: 158 පි.)

'පනම් දෙවි කවි' පෙළෙන් කියැවෙන්නේ මෙම දෙවියන් වැව් බැදි රටේ ප්‍රබලව සිටි අයුරුයි. තිරිකුණාමල ප්‍රදේශයේ ද මෑතක් වන තුරු මෙම දෙවියන් ගැන විශ්වාසයක් පැවති බව පෙනේ. (161, 3 : 52 පි.)

මාතලේ කණ්ඩලම ප්‍රදේශයේ ද මොහු රත් පණම් බණ්ඩාර යනුවෙන් පුද පූජාවට භාජනය වන බව වාර්තා වී ඇත. (74 : 271 පි.)

මින්නේරිය ප්‍රදේශයේ ප්‍රචලිත ජන ප්‍රවාදයනට අනුව පනම් යකා මහසෙන් රජතුමන් විසින් දමනය කරන ලද්දෙකි. ඒ පුවත මෙසේය. රජතුමා ගේ ගව පට්ටියෙන් දොවා ගෙනෙන කිරි කළ ලේ බවට පත් විය. මීට හේතුව සොයන විට එය යක්ෂයකු විසින් කරන ලද්දක් බව පෙනුණේ ඔහුට පනම් හත් කළයක් බැර කොට යළි කිරි කළ ප්‍රකෘති තත්වයට පත් කර ගැනිණි.

යක්ෂයා අල්ලා ගැනීමට සිතූ රජතුමා මින්නේරි වැව මැද්දේ ඇති පට්ටි ගොඩැල්ලේ පිරිත් මණ්ඩප්පයක් කොට භික්ෂූන් සැට නමක් පිරිත් කීමට යෙදවීය. ආටානාටිය සූත්‍රය කියත් ම අනෙක් සියලු යකුන් දමනය වූ නමුත් පනම් යකා පැමිණියේ නැත. මඩකනයෙකුගේ වෙස්ගෙන මඩ යට සැඟවුණත් මඩ රත්වන්නට වූ හෙයින් පිටතට නැවිත්ම බැරි විණි. එහෙයින් අවසානයේ පිරිත් මණ්ඩපය වෙත එන අතර මහදී මී හරක් රැළක් හමුව උන් එකකුගේ ගාතයක් කඩා පිරිත් මණ්ඩපය මැදට වීසි කළෙන් සංඝයා තිගැස්සී පිරිත නැවැත්වූහ. මෙයින් අවකාශ ලද යක්ෂයා එම සැට නමගේ බෙලි කඩා දැමුවේය. (තමන්කඩුවේ භික්ෂූන් පිරිත් පිමට මැළිය යන ජනප්‍රවාදයේ මුල මෙය යැයි කියනු ලැබේ.)

රජතුමා කෝප වී රන් වරමන්දක් සහිතව ගොස් යක්ෂයා ඇල්ලීමට ඇමැතිවරුන්ට නියම කළේය. ඇමැතියන් ඔහු පන්නා ගෙන ගොස් ඔහු අඹන් ගඟෙන් පනින විට මන්ද දැමුවෙන් එය ඔහුගේ ඉණට වැටිණි. යක්ෂයා එහි වෙළි දෙකක් කඩා දමද්දී 'මහසෙන් රජුගේ අණ තේජස් දන්නේ නම් නවතිනු' යි කීයෙන් නවතින්නට සිදු විය. රජු වෙතට ගෙන යන ලද යක්ෂයා තමාද රාජ පරපුරේ අයකු ලෙසින් සාමයෙන් ජීවත් වීමට අවසර ඉල්ලා සිටියේය. එම වරම ලබා 'පනම් බණ්ඩාර දේවතා, පනම් බණ්ඩාර හාමුදුරුවෝ' යනුවෙන් පුද පූජා ලබන්නේය.



රාජ පරපුරට ඇති හිමිකම කවරේද යන්න ජනප්‍රවාදයේ විස්තර කෙරෙන්නේ ඔහු එළාර රජුගේ පුත් වූ වසු පැටවකු රියට යට කොට මැරීමේ වරදට රජු විසින් රථයට යට කොට මරණීය දණ්ඩනයට පත් කරන ලදින් යක්ෂයකුව උපන් අය බව දක්වමිනි. මේ සමාන ජනප්‍රවාදයක් බින්තැන්නේද ඇති බව පූජ්‍ය කොටගම වාචිස්සර හිමියන් විසින් දක්වා ඇත. පනම් දෙවියන්ගේ ජන්මය පිළිබඳ ඉහත දැක්වූ විස්තරයත් ඔහු කළ තමන්කඩුවේ සංඝ ඝාතනයත් වාචිස්සර හිමියන් ද සඳහන් කර තිබේ. (116 : 119-20 පිටු).

යක්ෂයන් දමනය කිරීමේ විශේෂ හැකියාවක් ඇතැයි සැලකෙන මොහු වසංගත රෝග ඇති කාලයේදී සෙත සලසා ගැනීම සඳහා පුද පූජාවට ලක්විය.

සඳුන් රුකේ මල් සුවඳට බඹරිඳු එන්නා වාගේ
එල්ලා බැඳි මහ කුඹුකට තබාපු ඊ කොණ වාගේ
නුපුරුදු අය දුටු හරකට කොටියා දුටුවා වාගේ
පුරුදු අයට පනන් දෙවිඳු වදපු අම්මා වාගේ
(37 : 160 පි.)



## 123
## පරකාස දෙවියෝ

දොළහ දෙවියන් අතර සිටින මේ දෙවියා ගේ උරහිසේ දුන්නක් දරා සිටින බවත්, කතරගම දෙවියන් ගේ පිරිවර දෙවියකු බවත් පෙනේ. ඔහු ගේම පිරිවර තව සතර දෙනෙක් සිටිති. හියු නෙවිල් කළ කවි අතර මේ කවි තුන ඇත.

1. කතරගමයි නිතරම වැඩ ඉන්නේ
   සතර දෙනයි කැටුව ම ඇවිදින්නේ
   නිතර උරෙන් රන් දුන්න දරන්නේ
   කතර ගමින් පරකාස වඩින්නේ

2. ආරණ මුත්තා සේ වැඩ ඉන්නේ<br>
දෙරණ තලේ ගින්දර ඇවිළෙන්නේ<br>
මරණ ලෙසට බොරු වැරදි නොගන්නේ<br>
කතර ගමින් පරකාස වඩින්නේ

3. ගලෙන් උතුම් ගල හත් පොඩි ගලමයි<br>
මලෙන් උතුම් මල මානෙල් මල මයි<br>
විලෙන් උතුම් විල මානෙල් විල මයි<br>
නමෙන් උතුම් පරකාස රජා මයි.<br>
(37 : 134 පි.)



## 124

## පරණ කොහොඹා දෙවියෝ

මේ දෙවියාට ද සුප්‍රකට කොහොඹා කංකාරියේ එන කොහොඹා දෙවි තුන්කට්ටුවට අයත් වූයෙකි. මොහු ගේ උපත ගැන විවිධ මත දක්නට ලැබේ. මෙතෙම බරණැස් නුවර ඉපිද එහි ම හැදී වැඩී, පියා ගේ උදහසට ලක්ව ලක්දිවට අවුත් මලය පෙදෙසේ පදිංචි විය. ඒ පුවත මෙසේ පැවසේ:-

පරණ කොහොඹ දෙවි උපත අසන් නේ<br>
පොරණ එ බරණැස් නුවර උපන් නේ<br>
උරණ සිතින් රජු සහ කුමරුන් නේ<br>
මරණ බියෙන් රට හැර පැන යන් නේ<br>
(45 : 113 පි.)

මේ දෙවියා වැලිහෙල කොහොඹ දෙවි යනුවෙන් ද හඳුන්වා ඇති බව ද පෙනේ (එම). දඩුමොනර කතාව හෙවත් මලේ රාජ කතාවෙහි දැක්වෙන ඉන්දර භූපති (සුරඹා අවාහ කර ගත් චන්ද්‍රවතී කුමරිය ගේ පියා) පරණ කොහොඹා යැයි ද මතයකි. (71 :61 පි.) මහායාතිකාවේ මොහු ගේ උපත සඳහන් වන්නේ මෙසේ ය:- "මදුර පුරයෙන් අඹන්වල සෙට්ටි අප්පුහාමි යන මන්ත්‍රීශ්වරයා ගෙන්වා නොමර යක් කර කන්දේ



බණ්ඩාර යයි වදාරා පරණ කොහොඹා දෙවියෝ කියා නම් තබා" (45: 50 පි.) මේ පුවතින් කන්දේ බණ්ඩාරත් පරණ කොහොඹාත් එක ම තැනැත්තකු බව කිය වේ. එවිට ඔහු මදුරපුරයේ සිට ආ අයෙකි. මේ යාතිකාවේ දක්නට ලැබෙන වදන් දෙස විමසිල්ලෙන් බලන විට එම පුවත මහනුවර යුගයට අයත් බව පෙනී යයි. "අප්පුහාමි" යන පදවි නාමය මහනුවර අවධියෙහි දී රජ මාලිගයේ රජතුමා ගේ අන්තෙවාසිකයකු ලෙස සේවයට ගන්නා ලද උසස් පවුල්වල අය සඳහා යෙදුණකි. (148 : 109 පි.) හෙට්ටි අප්පුහාමි එ බඳු ප්‍රභූ පවුලක කෙනකු බව පෙන්වීමට මෙ නම යොදන්නට ඇත.

ජී. රංගනාත්ගේ කලා පරපුරේ අත් පිටපත් අනුව මුද්‍රිත "හෙළ මහ යක්කම" පොතේ මෙසේ සඳහන් ය." අඹන්වලට වැඩමවා අඹෑවල අප්පුහාමි නො මරා යක් කර දෙසීයක් වැදි සේනාව බාර දීලා ශ්‍රී ලංකාද්වීපයෙහි කෙළි පිදේනි වරම් දී ලා කන්දෙ බණ්ඩාර නම ප්‍රසිද්ධ කරපු වෙයි.

"වින්දෙ අණසක ලොව පව තින්නේ<br>
බැන්දේ වලුමල් දෙපස සදන් නේ<br>
පන් දහසක් අවුරුදු පවතින් නේ<br>
කන්දේ බණ්ඩර නාමේ තබන් නේ

එතනින් පරණ කොහොඹා දෙවියන්ට දෙසීයක් වැදි සේනාව බාර දී ලා ශ්‍රී ලංකාද්වීපයේ හෙල්ලුම් මඩු කන්ව කියා වරම් දී ලා පරණ කොහොඹා යයි නම් ප්‍රසිද්ධ කරපු වෙයි." (106 : 47 පි.)

මෙයින් පැහැදිලිව ම පෙනෙන්නේ අඹන්වල දෙවියන් සහ කන්දේ බණ්ඩාර හෙවත් පරණ කොහොඹා යනු එක් අයකු ම බව ය. (අලුත් කොහොඹා සහ මහ කොහොඹා යටතේ ද බලන්න.) ඉහත බරණැස් පුරය හා සම්බන්ධ අදහස්වලට වඩා අඹන්වල සම්බන්ධය වඩා ප්‍රබලව මූලාශ්‍ර කීපයක සඳහන් බව කිව යුතුය (කුරදෙණිය කන්දේ බණ්ඩාර විස්තරය ද බලන්න.).



11. ර.මු.නි.ස. - 93939



## 125
# පල්ලේබැද්දේ දෙවියෝ

දොළහ දෙවියන් අතර සිටින මේ දෙවියා උතුරු මාතලේ, කලාවැව හා හබරණ ආදී පෙදෙස්වල සිටින බලවතා වශයෙන් සැලකේ. මොහු වලැකුත් භාරව සිටින්නකු බව පහත සඳහන් කවෙන් හැඟී යයි.

පල්ලේ වීදියෙ සෙනවිරත්න රජ කරන සොළී  රට<br>
නල්ලේ සිංහල දීපෙට අපි යමු කියනා බණ්ඩා  රට<br>
හෙල්ලේ අරගෙන වල් අලි භාරව සිටිනා සිංහල  රට<br>
පල්ලේ බැද්දේ දෙවියන් යහනට වඩිනා මේ පේ  නට

(137: 538 පි.)

"පල්ලේබැද්දේ අප්පුහාමි දෙවි" යන නමින් ද දොළහ දෙවියන් අතර "පල්ලේ බැද්දේ බණ්ඩාර" නමින් ද හැඳින් වෙන්නේ මේ දෙවි ම විය යුතුය. ඇළක් කපා ගුරුදෙණියට ජලය ලබා ගත් දක්ෂ ගොවියකු ගේ පුනරාවතාරය බවට ඉඟියක් ඇත. පල්ලේබැද්දේ දෙවි මොනරාගලේ කැලේ වැඩ වසන බව එක් කවියක කියවේ.

මොනර ගලේ දෙවියන් ගෙ කැලේ  යා<br>
අබරමේ මහුල සරණින දිලේ  යා<br>
ගුගුරන විදුලිය ලෙසට දිලේ  යා<br>
මොනරගලේ දෙවි වැඩ සිටියේ  යා

(37: 164 පි.)

හියු නෙවිල් කාව්‍යාවලියට අයත් "ගහේ බණ්ඩාර" කවි පෙළකට අනුව ගහේ බණ්ඩාර හා සමඟ සඳහන් වන අනෙක් දෙවිවරුන් එකොළොස් දෙනා අතර පල්ලේ බැද්දේ බණ්ඩාර ද සිටී. (161, 2: 137 පි.) ඉහත "දොළහ දෙවි" යටතේදැක්වුණු "ඇ" ලැයිස්තුව බලන්න. ඔහුගේ විලාසය මෙසේ දැක් වී ඇත.



ඉසලන තොප්පිය නිල් මැණිකක්  සේ<br>
ඇඟ ලන ඔසරිය පියත් පතක්  සේ<br>
අල්ලන වේවැල රන් කරඬුව  සේ<br>
පල්ලෙ බැද්දෙ දෙවි රන් පැලයක්  සේ

(37: 164-5)

මොහු ගුරුදෙණිය පෙදෙසට අධිපති පිටියේ දෙවියන් ගේ පිරිවරට අයත් බව "පිටියේ දෙවියන් ගේ කවිපොතේ" සඳහන් වේ.

දෙවිඳුන් පිවිතුරු පල්ලේ  බැද්දේ<br>
පිවිතුරු බණ්ඩාර ද වෙල්  ලස්සේ<br>
යක් කරගත් අබකොන් මැතිඳු  න්<br>
රාල භාරගම සෙත්සිරි දෙවි  දුන්

(37: 176 පි.)



## 126
# පස් දේවතාවෝ

මේ නමින් දෙවියන් පස් දෙනකු කියවෙන බව නමින් ම හැඟී යයි. "පස් දේවතා කවි" යන පුස්කොළ පොතේ සඳහන් වන ආකාරයට ඔවුන් ගේ නම් මෙසේ ය: කළුදේවතා, කම්බිලි දේවතා, ගුරුමා, හැඩයා, රත්න කඩවර යන පස් දෙනා ය. දේවතා බණ්ඩාර යනුවෙන් ද දැඩිමුණ්ඩ යනුවෙන් ද හඳුන්වන දෙවියා මේ පස් දෙනා ගේ ප්‍රධානයා වේ. (161, 1: 210 පි.) මේ පස් දෙනා සක් දෙවිඳු ගෙන් අවසර ගෙන කළුතරින් ලකට ගොඩ බට බව පෙනේ. දේවතා බණ්ඩාර දෙවියන් ඉහත කී පස් දෙනා සමඟ මඩකලපුවෙන් ගොඩ බැස යකුන් හා එක් ව දෙවනගලට ආ වග පස් දේවතා කවිවලින් පැවසේ. (116 : 110 පි.)

මෙයට අමතරව ඉහත කී අය පෙරියන්කුලමට ගොඩ බට බවක් ද කියති. උක්ත පස් දෙනා ගෙන් රත්න කඩවරයා මැණික් ගඟ ආසන්නයේ වාසය කර ඇති බැවින් ඔහු මැණික් කඩවර, මැණික් දෙවියා යනුවෙන් හඳුන්වා ඇති බව ද පැවසේ. ඇතමෙක් මොහු ගේ නම බහිරව යනු යැයි

කියති. මේ ගැන විස්තරයක් රත්න සාඩවර යටතේ එයි. පස් දේවතා කව්වල සඳහන් කවක් මෙසේ යː

සුදම් සබේ වරන් දෙව්දු දුන්නා ගුණ බල දරන් ඩ
යකුන් සැමට අදිපොති වී අදිකාරන් ලැබී එන් ඩ
නෙතින් යකුන් දෙස බැලූවොත් අළු දූවිලි වෙලා යන් ඩ
ඉතින් මෙ දෙවතා පස් දෙන පෙරියන්කුලමට වඩින් ඩ
(161, 1ː 210 පි.)

ඉහත කී කළුදේවතා, කම්බිලි දේවතා, දේවතා බණ්ඩාර යන තිදෙනා තිදෙනකු වශයෙන් ම හඳුන්වා දී තිබේ. නමුත්, පසු කාලයක කළුදේවතාවත්, කම්බිලිදේවතාවත් එක ම අයකු සේ සලකා ඇත. එක ම දෙවියා නම් කීපයකින් හා වෙන වෙන පළාත්වල වෙනත් නම්වලින් ද හැඳින්වීම මහනුවර යුගයේ බහුල ව දක්නා ලැබෙන්නකි. (116ː 110 පි.) වන්නි දෙවිවරුන් යටතේ ද පස් දේවතා කෙනෙක් සඳහන් වෙති.



## 127
## පහුරේ අරුත් දෙවියෝ

'මාතලේ දෙවි තුන්කට්ටුව' යටතේ බලන්න.



## 128
## පාදාගොඩ අලුත් දෙවියෝ

දිගාමඩුල්ලේ වැවගම්පත්තුවේ ජනතාව විසින් දේවාල ඉදි කොට අදහනු ලබන දෙවියෙකි මේ. මේ දෙවියා 'පාදාගොඩ අලුත් දෙවි' කියාත්,



'අලුත් බණ්ඩාර හාමුදුරුවෝ' කියාත් හඳුන්වනු ලැබේ. පාදාගොඩ ගමේ ජීවත් වූ කෝරාළ කෙනකු ගේ අවතාරයක් සේ ද සැලකේ. නිකවැටියේ 'දිශානායක අලුත් බණ්ඩාර හාමුදුරුවෝ' ද මෙ වැන්නෙකි.

මේ දේවාලවල අවුරුදු පතා මංගල උත්සව සිදු කෙරේ. ඒවා සිදු නොකළ හොත් කරදර පැමිණිය හැකි බවත්, ඒවා සිදු කළහොත් විපත්වලින් මිදිය හැකි බවත් ජනතාව තුළ පවත්නා දැඩි විශ්වාසයයි. දඩයමේ යන අය මෙකී අලුත් දෙවියාට භාර වෙති. දෙවියන් ගේ අඩුක්කුව සඳහා හාල් හා පොල් ගෙඩියක් වෙන් කොට එය මුට්ටියක ලා, දුම් අල්ලා, අත පිට තබා ගෙන දෙවියන්ට කන්නලව් කිරීම ඔවුන් ගේ සිරිති. මේ ආකාරයට දෙවියන්ට අඩුක්කු පුදා දඩයමට ගිය හොත් නොවරදවා ම දඩයම් ලැබේ යයි ඔවුන් තුළ විශ්වාසයක් පවතී. එ වැනි දඩ වැද්දන් අලුත් දෙවියාට කන්නලව් කරන්නේ මෙසේ යː

'මේ පාදාගොඩ නින්දගම් ඇල්ලු අලුත් බණ්ඩාර හාමුදුරුවෝ මේ දඩ වැද්දාට අද වූ දවසේ, ගවර මාගල්ලයෙක්, ගවර මාගල්ලියක්*, දෙපාට වං අම්බරයෙක්, අම්බිරියක්** මේ දඩ වැද්දා යන ඉස්සරට අංගස්සල කංගස්සල - කොව් ගස්සල - දෑස් ඇදිරි කරවල - දෙකක් බිහිරි කරවල - කණා කොරා - ගොලුවා - බිහිරා කරවල - ගෙනත් බස්සා දීල වෙඩි මුණ උඩ පාත නොකර - අමර දොළහෙන් ගියත් මර දොළහෙන් වද්දල - එහෙම්ම අකා මකා කරවා දුන්නා සේම තමුන්නාන්සේලාට, පාදාගොඩ අලුත් බණ්ඩාර හාමුදුරුවන්ටත්, පේරාදෙණි අලුත් බණ්ඩාර හාමුදුරුවන්ටත්, නිකවැටියේ පස්සර පාලාවත්ත නින්දගම් ඇල්ලු දිසානායක අලුත් බණ්ඩාර හාමුදුරුවන්ඩත්, ඉසින් මාලු ඇතුව - කරින් මාලු ඇතුව - හතර ගාතෙන් මාලු ඇතුව - ඇතුල් වැටි - පිට වැටි - ලීල ගෙඩි - මීට ගෙඩි - ඇතුව තමුන්නාන්සේලාට මෙහෙවි නෑ කියන්ඩ රුවන් අඩුක්කුවක් ඔප්පු කැර දෙනවා හාමුදුරුවෝ.

බොරු අර්දියක් නොවෙයි. සුබ අර්දියයි. මෙ දඩ වැද්දාට - අද හෙට අනිද්දා කියන්ඩ - තුන් දවසෙන් - පස් දවසෙන්- හත් දවසෙන් - මෙ පිට හොඳ දඩයම් එල්ල පහමු කරවා දෙන්ඩ යහපති. ආයි බොහෝ - ආයි බොහෝ. (100 ː 99-100 පිටු.)

වැව්ගම්පත්තුවේ පවත්නා මේ බණ්ඩාර දෙවියන් ඇදහිල්ල බොහෝ දුරට බින්තැන්නේ වැදි ජනයා අතර පවතින නෑ යකුන් පිළිබඳ විශ්වාසයට කිට්ටුය. නෑ යක්කු වනාහි මිය ගිය ඥාතීහු වෙති. ඔවුන්ගෙන් සිදුවන ප්‍රධාන කාර්යය දඩයමේ යන විට ආරක්ෂාව සලසා දීමත්, දඩයම් ලබා දීමත් ය.

* ගොන් නාම්බෙක්, නැම්බියක්
** මුවෙක්, මුවැත්තියක්



# 129
# පිච්චමල් බණ්ඩාර දෙවියෝ

පච්ච පාට දිව සළු අඳින මේ දෙවියා විෂ්ණු දෙවිට පිච්චමල් පහිඩය සිදු කරන බව සඳහන් වේ. එයට වැඩි විස්තරයක් හමුවූයේ නැත. එම දෙවි පිළිබඳ විත්තිය මෙසේ දැක් වේ:

1. දිස්න පුර රජු    ගේ
   විෂ්ණු අණ ඇත    දෙවිගේ
   විෂ්ම දෙවිලා    ගේ
   ඉක්මනින් එර්දි වෙයි    වේගේ

2. රුස් තුඹ ළඟ    තඩේ
   දිස් නුවර ලබන්    ඩේ
   කිස්නු රන් දණ්    ඩේ
   විෂ්ණු හට පිච්චමල් පහි    ඩේ

3. ගමින් ගම වෙත්    කර
   නමින් හිම ගත මල්    බර
   එමින් මල් නෙලූ    සැර
   පෙමින් අස පිච්චමල් බන්    ඩර

4. ගොසින් එර්දි බලයෙන් හිම එව    නේ
   තොසින් සමන් මල් උයන දකි    මිනේ
   රොසින් පතින යකුනට බැට දෙමි    නේ
   දොසින් එ යකු බැට කා ගෙන යන්    නේ

5. තිච්ච ඇතිව මල් උයන් වෙත ගො    සින්
   වෙච්ච තැනදි රකුසන් බිඳ විග    සින්
   පච්ච පාට දිව සළු ඇඳ සතො    සින්
   පිච්ච සමන් මල් තේව කර යට    සින්

(90: 51 පි.)





# 130
# පිටියේ දෙවියෝ

සෙංකඩගල යුගයේ දී දුම්බර ප්‍රදේශයෙහි ඉතා බලවත් දෙවියා ලෙස නැඟී ආයේ පිටියේ දෙවි ය. මෙම දෙවි කවරෙක් ද යන්න ගැන විවිධ මත ඇත.

1. සොළී රටේ රජකුට දාව උපන් මේ කුමරා තම රියට අසුකර වසු පැටවකු මැරූ හෙයින් එයට දඬුවම් වශයෙන් එම රියට ම යට කොට මරන ලදුව යක් බවට පත් විය. (90:49 පි.) මේ පුවත එළාර රජතුමා ගැන පැවසෙන්නක් හෙයින් පිටියේ දෙවි එළාර රජු ගේ පුතෙක් යැයි ද විශ්වාසයක් පවතී.

2. කාවේරි පුර විසූ සොළී නම් රජු ගේ අග බිසවට උපන් මේ කුමාරයා නැකැත් ඇදුරන් කී අනාවැකිය අනුව සොළොස් හැවිරිදි වියේ දී දුම්බරට පැමිණ එහි සිටි නාථ දෙවියන් පලවා හැර එම පෙදෙසට අධිපති විය. (37:168 - 76 පි.) මෙතෙම සොළී කුමාරයෙකි යන්න වඩා ම ප්‍රකට විශ්වාසයකි. (161, 1:23 පි. සහ එම, 3: 621 පි.)

3. ගජබා රජ දවස සොළී රටින් ගෙනා දොළොස් දහසක් සොළින් ගේ නායකයා ය. දුම්බර මිටියාවතේ සංවර්ධන කටයුතු භාරව සිටි මොහු ගබඩාගම් විස්සක්, බැද්දේගම් නවයක් හා පත්තගම් කුල හතරක් ද සංවර්ධනය කර ඇතැයි යාදින්නක සඳහන් වේ.

4. සිකුරු ගේ කුණ්ඩලාභරණය දේව යුද්ධයක ප්‍රතිඵලයක් වශයෙන් මහ පොළොවේ ශ්‍රී ලංකාවේ තැනකට වැටෙන බව දැන මෙහි පැමිණි භාරතීය බ්‍රාහ්මණයෙක් එය ලබා ගත නොහී එම සොවින් මහවැලි ගඟේ ගිලී මිය ගොස් දේවත්වයට පත්විය. (101 : 429 පි.)

5. දුටුගැමුණු රජු ගේ ගොඨයිම්බර යෝධයා, මිය ගිය පසු දේවත්වයට පත් වී පිටියේ දෙවි වූයේ ය. (117 අ:117 පි.)

සෙංකඩගල විසූහයි සැලකෙන සඳ මහ රජ ගුරුදෙණියේ කෙතක් කරන්නට වෑයම් කළත් එහි වූ ගලක් නිසා එම වෑයම ව්‍යර්ථ විය. ඉන්

පසු සෙංකඩගල රජ පැමිණි වික්‍රමබාහු රජු ද එම ගල කැඩීමට වෑයම් කොට එය ව්‍යර්ථ වී සිටිනා සඳ සිහිනෙන් පෙනී සිටි පිටියේ දෙවියෝ තමන්ට රන් කඩුවක් සාදා දුන්නොත් ගල කඩා දෙන බව කීහ. රජ රන් කඩුව සාදා දුන්නෙන් පිටියේ දෙවියෝ සිය යක්ෂ සේනාව මෙහෙයවා ගල කඩා දුන්හ. ඉන් පසුව වී කොටා බත උයා ගෝනකු මරා මස් ද සහිතව දෙවි පුද පවත්වන ලදී. ගෝනා මැරූ තැන ගෝනාවත්ත විය. (37: 175 පි.)

මින් කලකට පසු සෙනරත් රාජ සමයේ දී රජුට ගහේ මෙ ගොඩ සිට එගොඩට කිරි ගෙන යන සෙබළා ගේ ඔරුව ගඟ පහළට පාවී ගොස් තිබුණු කල්හි දෙවියන් යැදීමෙන් ඔරුව උඩු ගං බලා ඔහු වෙතට ආයේය. (එම : 175 පි.) රාජසිංහ රජ දවස රජු නාතුමුර කරන ගංතොටේ පැවැති ගිරි කුළක් ඉවත් කරන්නට අවශ්‍ය වී මෙය කරන්නට පිටියේ දෙවියන් මිස අන් සමතෙක් නැතැයි රජු කියා ආපසු ගිය බවත් පසුව දා වන විට එකී ගිරි කුළ අසල වූ ගලක් මුදුනේ තබා තිබූ බවක් කියැවේ. (එම). නරේන්ද්‍රසිංහ රජු ගේ ඇස් රෝගයක් පිටියේ දෙවියන් සුව කළ හෙයින් දම්බරාවේ පිටියේ දේවාලය කරවන ලදැයි විශ්වාසයක් පවතී. ඇස් රෝගය සුව වී මේ දේවාලය කරන ලද්දේ දෙවන විමලධර්මසූර්ය රජු විසිනැයි තවත් විශ්වාසයක් ඇත.

ඉංග්‍රීසි පාලන සමයේ සිදු වී යැයි සැලකෙන ප්‍රාතිහාර්යයන් ගැන ද ජනප්‍රවාද පවතී. මහවැලි ගඟ අද්දර කැලේ දේවාලය පිහිටි තැන මාබේරි වතු යායට ඈඳා ගන්නට අදහස් කළ ඉංග්‍රීසි වතු පාලකයන් දේවාලය අවට කැලෑව එළි පෙහෙළි කරවන්නට ඇරඹී විගස දෙබරුන් හා නයින්ගෙන් උපද්‍රව පැමිණියෙන් කම්කරුවන් බිය පත් වූ හෙයින් එය නවතා දමන්නට සිදු වූ බවත් ලෙන තුළ වූ දේවාලය අන් තැනකට ගෙන යාමට සූදානම් කළ කපුරාළ ඒ සඳහා ලී දඬු සම්පාදනය කොට රාත්‍රී නින්දට ගිය කල සිහිනෙන් පෙනී සිටි කෙනකු එය නොකරන ලෙස පැවසූ බවත් පසු දා වන විට ඔහු එකතු කළ ලී දඬු ගහේ පාවෙමින් තිබෙනු දක්නට ලැබුණු බවත් ඉන් පසු ඔහු පැරැණි දේවාලයේ ම තේවාව පවත්වා ගෙන ගිය බවත් කියනු ලැබේ.

ලක්දිවට පැමිණි පිටියේ දෙවියන් විසින් 'යක් කර ගත්' අය ගේ නම් දෙවියන් ගේ කවිවල සඳහන් ය.

දෙවිඳුන් පිවිතුරු පල්ලේ බැද්දේ
පිවිතුරු බණ්ඩාර ද වෙල්ලස්සේ
යක් කර ගත් අබකොන් මැතිඳුන්
රාළ හාරගම සෙත් සිරි දෙවිඳු



පසන් ගිරාගම එතතින් සාමින්
කඩුගම්පොළ රාළත් සුපසන්නේ
පායින්ගමුවෙහි සී බණ්ඩාරත්
මනනඳ කඩුවෙල රාළ ද සොඳි නේ

රුදුරු තෙදැති දැඩි අප්පුද සිරිමත්
සොඳුරු රුවැති කළු අප්පුද අගපත්
සසිරු රෝග නෙක උවදුරු අසමත්
අඳුරු දුරල රවි මෙන් ලෙඩ දුරලත්

වීර විකුම් ඇති කළු නයිදේ යා
සාර රුවන් තනහිල නයි දේ යා
දීර පහර ගම්මන නයි දේ යා
නැර සතුන් රැක සෙත් සිරි දේ යා

සුවිපුල් තෙද ඇති කුමරා සාමින්
මනකල් රුසිරු තිබු මුතු සාමින්
පිළිමල් දප හළ බිළිඳු එ සාමින්
හැම කල් සත රැක පුලියා සාමින්

මෙලෙසින් යක් සෙන් පිරිවර රැගෙනා
සුපසන් පිටියේ සුරනිඳු නිති නා
රකිමින් සවි සත වෙත කර කරු නා
මෙලෙසින් වැජඹෙයි සුරඳුරු සිරි නා

(37: 176 පි.)

පිටියෙ දෙවියන් ගේ වික්‍රම අතර ඉතා ප්‍රකට සිද්ධිය වන්නේ නාථ දෙවියන් හා යුදකොට දුම්බර තමා අත්පත් කර ගැනීමයි. මේ පුවත ඉහත නාථ දෙවියන් පිළිබඳ විස්තරයේ ඇතුළත් කර ඇත.

පිටියෙ දෙවියෝ ගොවි ජනතාවට විශේෂ වූ දෙවි කෙනෙකි. ගල බිඳ කෙත සාදා දීම නිසා ප්‍රථමයෙන් ජනාදරයට පාත්‍ර වූ මේ දෙවියෝ නිසි කලට වැස්සත් ඉඩෝරයත් සලසා ලමින් ගොවි ජනයාට සෙත සලසති. එහෙයින් පිටියෙ දේවාල වෙල්යාය අසල පිහිටුවීම නිතර දක්නා ලැබේ. මුල් යුගයේ මේ දේවාලවල විශේෂත්වයක් වූයේ වහලයකින් තොරව නිර්මාණය වී තිබීම බව පෙනේ. තෙල්දෙණියේ ඉඩම් ගලේ පැරැණි පිටියෙ දේවාලය මෙ බඳු විය. තවත් ප්‍රකට පිටියෙ දේවාල ගුරුදෙණියේ, හාරගම, දම්බරාව, හුරිකඩුව, දෙගල්දොරුව, වටපුළුව, හපුගොඩ ද පිහිටා ඇත. පිටියෙ දෙවියන් හා සම්බන්ධ පුරාණයේ පැවති දේවාල දැන් අභාවයට ගොස් ඇත.



**මොනරා හැඩුගල** - තෙල්දෙණියෙන් එපිට කුඩාදෙණිය ගමේ හුළුගඟ අද්දර පිහිටි ගල්තලාවක තිබූ මේ දේවාලය වික්ටෝරියා ජලාශයට යට වූ හෙයින් රඹුක්වැල්ලේ පැරණි දේවාල භූමියට ගෙන ගොස් ඇත.

**පල්ලෙ බැද්ද** - මයියංගණ පාරේ ගුරු මය දක්වා යන මාවතේ පිහිටා තිබුණු මෙ දේවාලය ද වික්ටෝරියා ජලාශයට යට වී ඇත. ඒ වෙනුවට මහවැලි "සී" කලාපයේ දෙවොලක් පිහිටු වීමට යන බව අසන්නට ලැබිණි.

**හාරගම** - හාරගම් ගම්මැද්දේ වැල්ලේ කැලේ අසල උස් බිමක පිහිටා ඇති මෙය නාථ දෙවියන් හා පිටියෙ දෙවියන් අතර සටන් වැදුණු මාර්ගයේ පිහිටුවන ලද්දකැයි පැවසේ.

**හිඟුරුකඩුව** - හාරගම - අධිකාරිගම මාර්ගයේ අලවතුපිටිය වෙල්යාය අසල විය. මේ දේවාලය සෙංකඩගල කළුකුමාර දෙවියන් (පළමුවන විමලධර්මසූරිය පුත්‍ර) සමඟ සම්බන්ධ කොට ද දැක්වේ.

**ඉඩංගල** - පැරණි තෙල්දෙණිය නගරයට ජලය සැපයූ ස්ථානයේ විය. දැනට එම ස්ථානය වික්ටෝරියා ජලාශයට යට වී ඇත. මේ දේවාලය කීර්තිබණ්ඩාර හා සමඟ සම්බන්ධ කොට ද දැක්වේ.

කළුගලින් කොටූ කර වහලකින් තොරව නිර්මිත වූ මේ දේවාලයේ ගල් ආසනයක් තිබිණි. පිටිශය දෙවියන් ඇතුළුව දොළහ දෙවින්ට පුද පූජා මේ ආසනය මත තැන්පත් කරන ලදී.

**අලුත්වත්ත** - පල්ලෙ කැලේ වතුයායට අයත් ව තිබුණු මේ ප්‍රදේශය දැන් ජනපදයෙකි. එහි කුඩා කඳු ගැටයක් මත පිටියෙ දේවාලය විය. ගොඩනැගිල්ලක් නැති මුත් අක්කර එක හමාරක පමණ ප්‍රදේශය දේවාලය සඳහා වෙන් කර ඇත.

**පරණගම** - ඉහත කී අලුත්වත්ත ජනපදය පසු කොට ගිය විට රජය සතු පොල් ඉඩමේ (අතීතයේ පැවැති තුග ගසක් යට) කුඩා ගලක් මත තෙළන ලද ඇත් රුව එම පැරණි පිටියෙ දේවාලයේ කොටසක් ලෙස සැලකේ. ඇත් රුව දෙවියන් ගේ වාහනය ලෙස සලකනු ලබන අතර අවශ්‍ය වන විට බැහැරින් කපුවකු ගෙනවුත් මෙහි පිදවිලි කරන බව අසන්නට ලැබිණි.

**පල්ලෙකැලේ** - මහවැලි ගඟ අද්දර පිහිටි මේ ස්ථානය ගල්ලෙනක පිහිටා ඇත. මාබේරි වතු යායට එම ස්ථානය ඇදා ගන්නට ඉංග්‍රීසි රාජ යුගයේ කරුණු වැයමක් පිටියෙ දෙවියන් විසින් ව්‍යර්ථ කරන ලැදැයි විශ්වාස කෙරේ.



**දෙගල්දොරුව** - නොහොත් අමුණුගම (පුරාණයේ) දැන් දෙගල්දොරුව රජමහා විහාරයට ඉහළින් ගල්තලාවේ තිබිණැයි සැලකෙන මේ දේවාලය පසුව ඊට පහළින් ඉදි කරන ලදැයි ජනප්‍රවාදයේ කියැවේ. මෙහි වාර්ෂිකව පෙරහර ද පැවැත්වේ.

**හුරිකඩුවේ ගම්භාර දේවාලය** - ගුරුදෙණිය වෙල්යායට බාධකයක් ව පැවති ගල්පරය විනාශ කොට දුන් පිටියෙ දෙවියන් ගේ වික්‍රමය නිසා ඒ අසළ කළුගල මත දේවාලය ඉදි කැරුණි. මෙහි බෝධි වෘක්ෂයක් ද පන්සලක් ද ඇත. දේවාලය අබලන් තත්වයේ පවතී.

**දම්බරාවේ පිටියේ දේවාලය**:- මෙය දැනට පවත්නා වැදගත් ම පිටියෙ දේවාලය සේ සැලකේ.



## 131
## පුංචි අලුත් බණ්ඩාර දෙවියෝ

මේ නමින් දේවත්වයට පත්ව ඇත්තේ 1818 උඩරට මහ කැරැල්ලේ වීරවරයකු වූ කිවුලේගෙදර මොහොට්ටාලයි. මේ කැරැල්ලේ දී රජ බවට පත් කැරුණු දොරේසාමි රජු වෙස් ගැන්වීම සඳහා අවශ්‍ය වස්ත්‍රාභරණ ලබා දෙන ලද්දේ කිවුලේගෙදර විසිනැයි කියැවේ. වියලුව ප්‍රදේශයේ පෞරාණික පෙළපතකින් පැවත එන ඔහු ගේ මී මුතු පරපුර වැද්දන් වූ බව කියනු ලැබේ. කිවුලේගෙදර මොහොට්ටාල, නව රජුට දැක් වූ පක්ෂපාතීත්වය නිසා ඔහු වලපනේ දිසාපති ලෙස පත් කරන ලදී.

කැරැල්ල මැඩ පැවැත්වීමට සමත් වූ ඉංග්‍රීසිහු අවසන කිවුලේගෙදර පිළිබඳව ඔත්තුවක් දෙන අයකුට රන් පගෝඩි 500 ක් දෙන බව පළ කළහ. කැප්පෙටිපොළ හා මඩුගල්ලේ 1818 නොවැම්බර් අග දී අල්ලා ගන්නා ලද නමුත් කිවුලේගෙදර අල්ලා ගැනීම පහසු නො විය. හේතුව ඔහු ගැන ඔත්තුවක් ගැමියන් ගෙන් ලබා ගත නොහැකි වීමයි. ඔත්තු බැලීමට යොදවා සිටි මරක්කල මිනිසුන් දෙදෙනකු විසින් 1818 නොවැම්බර් 20 වන දා පරණගම දී සිහන්නෙකු සේ වෙස්වළා සිටි

කිවුලේගෙදර අල්ලා ගන්නා ලදී. පළමු ව අලුත් නුවරට ද පසුව බදුල්ලටද ගෙන යන ලද හෙතෙමේ යුද්ධාධිකරණයක තීරණය අනුව දෙසැම්බර් 18 වන දා මරණීය දණ්ඩනයට යටත් කරන ලදී. (174 ඒ,: 420පි.)

කිවුලේගෙදර පරපුරේ දේවත්වයට පත්වූවෝ සීප දෙනෙක් වෙති. මුලින් ම දේවත්වයට පත්වූයේ " බණ්ඩාර වැද්දා " ය. අනතුරුව පරපුරේ පස් දෙනෙක් ම දේවත්වයට පත් වූහ.

ඉහළ වලව්වේ දෙවියෝ
පහළ වලව්වේ දෙවියෝ
දිසා බණ්ඩාර දෙවියෝ
පට බැඳි අලුත් දෙවියෝ
කඩ වත අලුත් දෙවියෝ

" පුංචි අලුත් බණ්ඩාර දෙවියන් " වශයෙන් දේවත්වයට පත් වූයේ ඉහත කැරැල්ලේ නායක කිවුලේගෙදර මොහොට්ටාලයි. (174 ඒ : 575 පි.)

මේ දෙවි සත්කට්ටුවේ දේවාලය ගම්මේවෙල කෙත අබියස වූයේය. විසි වන සියවස වන විට බිඳ වැටී තිබුණු එය 1939 දී යළි ඉදි කැරිණි. තම වර්ගයා වෙනුවෙන් නිර්භීතව යුද වැදුණු පුංචි අලුත් බණ්ඩාර දෙවියන් ගේ බෝ කොළ හැඩය ගත් රන් ආයුධ ය පෙරටු කොට ගෙන වියලුව ජනයා වාර්ෂිකව පොසොන් මස දී ඔහු සිහිපත් කරති. මයියංගණය වන්දනාවේ යන්නෝ වනගත මංවල දී ඔහු සිහිකොට කොළ අත්තක් එල්ලා යති. බදුල්ලේ ළිඳමුල්ලේ පත්තිනි දේවාලයේ ඇති රූපයක් " පුංචි අලුත් බණ්ඩාර දෙවි " රූපය ලෙස හඳුන්වා දී තිබේ. පොල් ඊ. පීරිස් මහතාගේ සිංහලේ ඇන්ඩි ද පේටරියව්ස් පොතේ 421 වන පිටුවට මුහුණ ලා මේ චිත්‍රය දක්වා ඇත. (174 ඒ : 421 පි.) මෙම චිත්‍රය කිවුලේගෙදර අලුත් දෙවියන්ගේ යැයි ද මතයක් ඇත. (84: 106පි.)

ව්‍යවහාර වර්ෂ 1813 තල්අරඹේ ධම්මක්ඛන්ධ හිමියන් රචනා කළ දිය සැවුල් අස්නේ 154 වන කවට අනුව රුහුණු මහ කතරගම දේවාල භූමියේ " අලුත් බණ්ඩාර දෙවි " කෝවිලක් විය. මේ සඳහන් වන්නේ කිවුලේගෙදර දේවාලය විය යුතුය. 1852 වර්ෂයේදී කතරගම දේවාලය වෙත ගොස් ඒ පිළිබඳ විස්තරයක් ලියූ සී. එල්. ෆර්ඩිනන්ඩ් නමැත්තා එහි මළුවේ තිබුණු අඩි 6 x 6 පමණ කුඩා කෝවිල් දොළහක් අතර "කිවුලෙගෙදර දෙය්යන්ගෙ කෝවිල" ද තිබුණු බව පවසයි. එයින් නම් වූයේ 1818 හිස් ගැසුම් කෑ කිවුලෙගෙදර මොහොට්ටාල බවද ඔහුට දැන ගන්නට ලැබුණි. (Young Ceylon, vol. iii, 1852, p85).





# 132
# පුල්ලයාර් දෙවියෝ

ගණදෙවිඳු ම පුල්ලයාර් දෙවි යනුවෙන් ද උතුරු මැද පළාතේ හා දකුණේ වැවගම් පත්තුවේ හඳුන්වන බව පෙනී යයි. (" ගණදෙවි " යටතේ බලන්න.)

පුල්ලයාර් දෙවි මල් යහනට වැඩමවීම යන කවිපන්තියෙන් කොටසක් මෙසේ යː-

ගල්වා සඳුනෙන් පිරිබඩ ලත් — තේ
තැල්ල මාල රත් රුවසෙ දිලෙන් — තේ
අල්ලව මිත් කඩවර දෙවියන් — තේ
පුල්ලයාරෙ මල් යහන වඩින් — තේ

යසයි කියා මම වැඳ පවසන් — තේ
තේජස් නුබෙ නැතුවා නොසිතන් — තේ
මතක් කරන්නට මට සිහිවන් — තේ
පුල්ලයාරෙ මල් යහන වඩින් — තේ

මංමාවත්වල රැකගෙන ඉන් — තේ
මං මේ ලෙස දැන් වැඳ පවසන් — තේ
අම්මාගෙන් උඹ විවරණ ගත් — තේ
අම්මා වාගේ කෙනෙක් සොයන් — තේ

මත් ද ඔතන උඹ බලා සිටින් — තේ
මං මේ ලෙස දැන් වැඳ පවසන් — තේ
මතක් කරන්නට මට සිහි වෙන් — තේ
මල් යහනට උඹ සැණෙන් වඩින් — තේ

වන්නි ප්‍රදේශවල සිංහලයෝ කැලයට යන විට මේ දෙවියන් සිහිකරමින් ගසකින් අත්තක් කඩා එය ගසක ම එල්ලා යෑමට අමතක නොකරති. පුල්ලයාර් විසින් ඔවුන් ආරක්ෂා කරන බව ද විශ්වාස කෙරේ.

වන්නි පළාතේ හැම ගමක ඇති හන්දියක 'පිල්ලෙයාර්' නමින් හඳුන්වනු ලබන ගණදෙවිඳු ගේ කුඩා රුවක් දක්නට ලැබේ.

අනුරාධපුර - මිහින්තලා මාවතේ මල්වතු ඔය පසුකරත් ම හමුවන හන්දිය ද හඳුන්වනුයේ පුල්ලෙයාර් හන්දිය යනුවෙනි.

වැවගම් පත්තුවේ සිංහලයන් ද සිය පළාතට අධිපති දෙවි ලෙස සලකන්නේ පුල්ලෙයාර් ය. ගල්ඔය ජනපදය බිහිවීමට පෙර සිට ම අම්පාරේ පුල්ලෙයාර් කෝවිලක් තිබුණි. එයට ගැමියෝ පුද පඬුරු ඔප්පු කළහ. ගොවිජනපද ඇතිවීමෙන් පසු පුල්ලෙයාර් කෝවිල් වඩාත් දියුණු වූ බවත් ජාතපදිකයන් " පිං වි " හෙවත් " අක්කියාල් " වී එම කෝවිල්වලට පූජා කිරීම නවසිය පණහ දශකය තෙක් දිගටම සිදු වූ බවත් පියසේන කහඳගමගේ මහතා වාර්තා කර ඇත. එහෙත් 1957 සිදු වූ ජාතිවාදී කෝලාහල වලින් පසු මේ දේවාලය ක්‍රමයෙන් සිංහලයන් අතහැරිය බව ද ඔහු විසින් වාර්තාකර තිබේ. එහෙත් ලෙලි ගැසූ පොල් ගෙඩියක හුණු ඉර ඇඳ එල්ලා තබා පසුව පුල්ලෙයාර් කෝවිලට එය ගෙන ගොස් පොල් ගසන වැඩිහිටියන් දැන් ද සිටින බවත් ඔහු පවසයි. (3)

වනයට පිවිසෙන විට පුල්ලෙයාර්ගේ පිහිට පතා ගසක අතු කැබැල්ලක් එල්ලා යාම පැරණි චාරිත්‍රය විය. එබඳු අතු එල්ලන ගහක් "පුල්ලෙයාර් ගහ" යනුවෙන් හැඳින්වුණි. එහෙත් මේ සිරිත ද දැන් අභාවයට ගොස් ඇති බව පෙනේ.

පොල් ගැසීම:- ගණ දෙවියන් ඉදිරියේ පොල් ගැසීම විශේෂ උපහාරයක් ලෙස සිදුකෙරේ. මේ සඳහා උපයෝගී කරගනු ලබන්නේ ඇස් තුනක් ඇති පොල් ය. මේ ඇස් තුනෙන් හැඟවෙන්නේ ඊශ්වරයාගේ ඇස් තුනයි. ගණදෙවියන් විසින් ඊශ්වරයගෙන් ලබා ගත් වරමක් අනුව මෙසේ පොල් ගැසීම සිදුවන බව ද කියති. මහනුවර කටුකැලේ ඇති ගණදෙවි කෝවිල හැඳින්වෙන්නේ පුල්ලෙයාර් කෝවිල යනුවෙනි.





## 133
## බටගොල්ලේ දෙවියෝ

මෙ නමින් යුත් දෙවි කෙනකු ගැන හියු නෙවිල් එකතු කළ කවි පත්ති අතර ඇති " කිරි අම්මලා ගේ කවි " නම් කවි පෙළේ සඳහන් වේ.

බට ගොල්ලේ හෙල මුදුනේ සිටි — කලට
ගොකරැල්ලේ මල් පසුවයි එම — රුවට
එමල් පිපි ගලවට සුවඳ යන — කොට
හෙරප් කියන් බට ගොල්ලේ — දෙවියන්ට
(38 : 25 පි.)

මීට වඩා විස්තරයක් මෙම දෙවියන් ගැන ලැබී නැත.



## 134
## බණ්ඩාර දෙවියෝ

ලග්ගල පළාතේ ඇති අදහස අනුව " බණ්ඩාර දෙවි " නමින් දෙවියෙක් සිටි. එම දෙවියාහට කියන යාදිනිවල දී ඔහුට නම් කීපයක් ම භාවිත කරන බව පෙනී යයි. ඔවුන්ට කෙරෙන යාදින්න මෙසේ ඇරඹේ:

"නත් දෙසට, බ්‍රාහ්මණ දෙහට, ආගර පොල්ලට, මැණික් ගංගාවට ජය මුණ්ඩාසන සලුවට, කුරුල්ලා බැඳි ආයුධයට දිවැස් ලාපු බ්‍රාහ්මණ බණ්ඩාර නොහොත් ගහේ බණ්ඩාර දෙවියෝ, තමුන්නාන්සේගේ අභයේ

තරුගාණේ, පොළොවේ වැලි ගානේ, මුහුදේ රැළි ගානේ, සියඹලා ගසක කොළ පත්‍ර ගානේ, යකුන් යක්ෂණියන් අඩංගු කර ගත් ගණේ බණ්ඩාර දෙවියෝ......... යනුවෙනි. (13 : 85 පි.)

බණ්ඩාර දෙවියන් ගේ ආයුධය ලෙස බෝ කොළය භාවිත කරන බව සඳහන් වේ. සෙසු දෙවිවරුන්ගේ ආයුධ ද මේ ආකාරයට එහි දක්වා තිබේ. මංගර දෙවියන්ට හෙණ්ඩුව, කන්දේ දෙවියන්ට කඩුව, මායාදුන්නේ රජ්ජුරු බණ්ඩාරට දුන්න. (13 : 84 පි.)

බණ්ඩාර දෙවියන් ගැන කියවෙන කවි දෙකක් පහත දැක් වේ:-

රුව ඇති ගල මැද්ද කරන වට ම තියෙයි කඳු වළල් ල
සුද්ද වන්න ගරුඩ නමින් ගෙනත් වඩයි රන් වළල් ල
රත්තරනෙන් තැනුවාදෝ දෙවිඳුට කෝමාරි පොල් ල
අනොතත් ජල විල සරි යයි සුරිඳු පිහිට දිය වළල් ල

එදින සඳුන් මල් පැළඳ උයන් වතු දෙවිඳු ගෙ ගලවට වනන්ත රේ
පදින රතේ ගොස් තේව කරන දිය සිදී ගලට ගොස් නාතු මු රේ
පරණ පුරුදු රන් ආයුධ ඇරගෙන දෙවිඳුගෙ ගලවට පත්වතු රේ
යනෙන ගමන් අප සිද්ධිය රැක දෙන් ගහෙ බණ්ඩර දෙවි නිරන්තරේ
(13 : 86 පි.)

මෙහි " ගහෙ බණ්ඩාර " යනුවෙන් හැඳින්වෙන අතර ඉහත යාදින්නේ ද "බ්‍රාහ්මණ බණ්ඩාර" නොහොත් " ගහේ බණ්ඩාර " දෙවියෝ යනුවෙන් කියැවෙන බව පෙනේ.

බණ්ඩාර දෙවියන්ට ආරාධනා කිරීමේ දී කරන යාදින්න මෙහි මුල දී සඳහන් විය. බණ්ඩාර දෙවියන් ගේ පිරිවර දොළොස් දෙනෙකි. එනම් 1. කන්දෙ දෙවියෝ 2. මින්නේරි දෙවියෝ 3. දේවතා බණ්ඩාර දෙවියෝ 4. හඳුන්කුමාර දෙවියෝ 5. කළුකුමාර දෙවියෝ 6. බුලත් වඩන දෙවියෝ 7. යාපා බණ්ඩාර දෙවියෝ 8. ආස්ථාන දෙවියෝ 9. කුමාර බණ්ඩාර දෙවියෝ 10. අභූත උන්නැහෙ 11. කුම්බලේ දෙවියෝ 12. මංගර දෙවියෝ යනුවෙනි. (13 : 84 පි.). ගහේ බණ්ඩාර ප්‍රධාන දොළොස් දෙවි පිරිය ගැන ඉහත "දොළොස් දෙවි" යටතේ "ඇ" ලැයිස්තුවේ දක්වා ඇත.

වෙල්ලස්ස හා සම්බන්ධ බණ්ඩාර දේවතා කෙනෙකු ගැන කෙටි විස්තරයක් හියු නෙවිල් එකතු කළ කවි අතර ඇත.

වෙල්ලස්සේ වැද නිරිඳු සිටින්නේ
තල්ලස්සෙන් එලු පොරලු තිබෙන්නේ
තුන්ලක්සෙන් එක ලක්සෙ තිබෙන්නේ
වෙල්ලස්සේ වැඩි රජු කවුද සිටින්නේ



බිබිලේ තොට ගහ එගොඩ එ දන්නේ
බිබිලේ තොට ගහ එගොඩට යන්නේ
කවුරු නීලද්දද සුදලිය වන්නේ
විජය බණ්ඩාර ගජනක සිටින්නේ
(37: 177 පි.)



# 135
# බණ්ඩාර දෙවි හත්කට්ටුව

මෙම හත්කට්ටුව කීප ආකාරයකින් දැක් වී ඇත. තේජා ගුණවර්ධන වාර්තා කොට දක්වන අයුරු:-

1. ඉරුගල් බණ්ඩාර 2. කන්දෙ බණ්ඩාර 3. කීර්ති බණ්ඩාර 4. මැණික් බණ්ඩාර 5. පිච්චමල් බණ්ඩාර 6. අතරගම බණ්ඩාර 7. කුමාර බණ්ඩාර (45 : 43 පි.)

ඒ. එච්. එම්. ආර්. අබේරත්න වාර්තා කොට ඇති පරිදි ඉහළ පුලියන්කුලම ශාන්ති කර්ම කාරක පෙළපත විසින් භාවිත කරන ලද කව්වල බණ්ඩාර හත්කට්ටුව මෙසේ දක්වා ඇත.

වීරමුණ්ඩ, කළුකුමාර, කිතගම හිටි මැති, උදා ර
යාපා බණ්ඩාර සමඟ මැණික් සාමි කළු කුමා ර
කුමාර බණ්ඩාර සමඟ පෙරමුණ දෙවතා කඩ ව ර
නැර කෝල් මුර දක්වමි හත්කට්ටුව ගෙන් අවස ර
(14 : 208 පි.)

තිත්තපජ්ජල සුරඹා විසින් නම් කොට ඇති හත්කට්ටුව මෙසේ ය:-

උඩුනුවර ඉරුගල් බණ්ඩාර, මයියන්ගනේ කීර්ති බණ්ඩාර, කොත්මලේ ගොමර බණ්ඩාර, සමනළ අඩවියේ පිච්චමල් බණ්ඩාර, ගම්පොළ බිසෝ බණ්ඩාර, රත්නපුරේ මැණික් බණ්ඩාර, නවගමුවේ අලුත් බණ්ඩාර (72: 8 පි.)

රොනල්ඩ් වෝල්කට් දක්වන බණ්ඩාර සත්කට්ටුව නම්:-

ඉරුගල් බණ්ඩාර, කීර්ති බණ්ඩාර, ගොමර බණ්ඩාර, විහු බණ්ඩාර, අකරගම බණ්ඩාර, කුමාර බණ්ඩාර යන හය දෙනා ය. (72 : 8 පි.)

දෙවනගල සයිමන් යක්දෙස්සා දක්වන පරිදි බණ්ඩාර හත්කට්ටුව නම්:-

ඉරුගල් බණ්ඩාර, මැණික් බණ්ඩාර, හැට බණ්ඩාර, දපා බණ්ඩාර, ගලේ බණ්ඩාර, කීර්ති බණ්ඩාර, උඩුවේරිය බණ්ඩාර යන අය යි. (72: 8 පි.)



## 136
## බණ්ඩාර හැට හත්කට්ටුව

මේ පිළිබඳව නිශ්චිත නිගමනයක් නැති බවත් හුදෙක් සාම්ප්‍රදායික සඳහනක් පරිදි මේ යෙදුම යෙදෙන බවත් පෙනේ. මේ ගැන කරුණු සෙවූ මුදියන්සේ දිසානායක ගේ මතය නම් එම හැට හත් දෙනා ගේ නම් සියල්ල කිසිවකු විසින් තවම නිශ්චිත ව දක්වා නොමැති බවයි. ඔහු විවිධ මූලාශ්‍ර ඇසුරෙන් නම් හතළිස් හයක් දක්වා තිබේ.

1. දේවතා බණ්ඩාර
2. කුමාර බණ්ඩාර
3. නාමල් බණ්ඩාර
4. වීරමුණ්ඩ බණ්ඩාර
5. උඩුවේරිය මැණික් බණ්ඩාර
6. වානක බණ්ඩාර
7. හෙනකඳ බිසෝ බණ්ඩාර
8. ඇහැළ බණ්ඩාර
9. කිතගම හිටි බණ්ඩාර
10. උඩුවේරිය කීර්ති බණ්ඩාර



11. උඩුවේරිය කපුරුහාමි බණ්ඩාර
12. මයියංගනේ කීර්ති බණ්ඩාර
13. කන්දෙ බණ්ඩාර
14. තිරාමුල්ලේ යාපා බණ්ඩාර
15. ගහේ බණ්ඩාර
16. හැට බණ්ඩාර
17. විල්බාකඩ බණ්ඩාර
18. මලල බණ්ඩාර
19. අකරගණේ බණ්ඩාර
20. උඩපොල හපු බණ්ඩාර
21. සමනළ අඩවියේ පිච්චමල් බණ්ඩාර
22. රත්නපුරේ මැණික් බණ්ඩාර
23. නවගමුවේ අලුත් බණ්ඩාර
24. ඌවේ බණ්ඩාර
25. වන්නි බණ්ඩාර
26. හුන්කිරි බණ්ඩාර
27. පට්ටියේ බණ්ඩාර
28. කදිරාවේ බණ්ඩාර
29. තාරුකා බණ්ඩාර
30. බුදුරජ් බණ්ඩාර
31. ඉරුරැස් බණ්ඩාර
32. සඳරැස් බණ්ඩාර
33. දොඩම්වල බණ්ඩාර
34. වත්හිමි බණ්ඩාර
35. කඩවර බණ්ඩාර
36. පා බණ්ඩාර
37. ගලේ බණ්ඩාර
38. කොත්මලේ බණ්ඩාර
39. ගොඹර බණ්ඩාර
40. විහු බණ්ඩාර
41. උඩුවේරිය ජයසිරි බණ්ඩාර
42. කළුකුමාර බණ්ඩාර
43. අයියනායක බණ්ඩාර
44. දෙවොල් බණ්ඩාර
45. සූනියම් බණ්ඩාර
46. ටිකිරි බණ්ඩාර

(72 : 8 පි.)

මෙම ලැයිස්තුවේ සඳහන් ඇතැම් බණ්ඩාරවරුන් ගැන කිසිදු අනෙක් තොරතුරක් දැනට සොයා ගත නොහැකිය.

මේ අතර අපගේ ගවේෂණයෙහි ප්‍රතිඵල හැටියට පහත සඳහන් බණ්ඩාර දෙවිවරුද මෙම ලැයිස්තුවට ඇතුළත් විය යුත්තෝ යි.

47. අනුහස් බණ්ඩාර
48. අලියම බණ්ඩාර
49. අලුත් උනම්බුවේ බණ්ඩාර
50. ඉරුගල් බණ්ඩාර
51. උනුවින්නේ බණ්ඩාර
52. උලපනේ බණ්ඩාර
53. කටුගහ බණ්ඩාර
54. කඩුගත් බණ්ඩාර
55. කළු බණ්ඩාර
56. කළු දේවතා බණ්ඩාර
57. කැලේ බණ්ඩාර
58. කිවුලේගෙදර බණ්ඩාර
59. කුඩා බණ්ඩාර
60. ගොඩගෙදර බණ්ඩාර
61. ජයවීර බණ්ඩාර
62. දන්තුරේ බණ්ඩාර
63. දහනක බණ්ඩාර
64. දැළිවේ අලුත් බණ්ඩාර
65. දුනුමාලේ බිසෝ බණ්ඩාර
66. නායක බණ්ඩාර
67. නෙළුදණ්ඩා ගම කැලේ බණ්ඩාර
68. පනික්කි බණ්ඩාර
69. බිළිඳු බණ්ඩාර
70. බූතරුවන් බණ්ඩාර
71. බ්‍රාහ්මණ බණ්ඩාර
72. මල්වත්තේ බණ්ඩාර
73. මහ නා බණ්ඩාර
74. මයා දුන්නෙ රජ්ජුරු බණ්ඩාර
75. මිනී මරු බණ්ඩාර
76. මොරපෙ බණ්ඩාර
77. යටිගල් ඔලුවෙ බිසෝ බණ්ඩාර
78. යමසිංහ බණ්ඩාර



79. රාජමරලු බණ්ඩාර
80. වැවේ බණ්ඩාර
81. වීදිය බණ්ඩාර
82. වෙල්ලස්සෙ බණ්ඩාර
83. හඳපොළ බණ්ඩාර
84. බිළිඳු බණ්ඩාර

" හැටහත් කට්ටුව " යන්න හුදු චාරිත්‍රානුකූල යෙදුමක් මිස එහි නිශ්චිත සංඛ්‍යාවක් පිළිබඳ අදහසක් ගැබ්ව නැති හෙයින් මෙසේ විශාල සංඛ්‍යාවක් බණ්ඩාර දෙවිවරුන් දක්නා ලැබීම ස්වාභාවික කරුණක් සේ ගත යුතුය. එ මතු ද නොවැ විටින් විට අලුත් බණ්ඩාර දෙවිවරුන් පහළ වන බැවින් ද සංඛ්‍යාව වැඩි වන්නේ ය.



## 137
## බම්බා දෙවියෝ

වලගම්බා රජ වනගතව සිටි කාලයේ කලක් මාතලේ විල්ගමු පෙදෙසේ ද අප්‍රසිද්ධ වේශයෙන් සිටියේය. ඒ කාලයේ දී එ තුමා විසින් පළාතේ දියුණුව පිණිස වාරිමාර්ග ඉදිකිරීම් කුඹුරු අස්සැද්දීම ආදි කටයුතු රාශියක් කරන ලදී. මේ නිසා ඒ රජතුමා මිය යෑමෙන් පසුව " බම්බා " දෙවි නමින් ඉපිද ඇතැයි ලග්ගල ජනයා අපාර විශ්වාසයක් පවතී. මේ පළාතේ වැසියෝ ගොයම් කපා පාගා ගත් පසු බම්බා දෙවියන් ශස්‍යයෙන් පුදති. වළගම්බා යන්න බම්බා යනුවෙන් පසු කාලයේ දී භාවිතා විණැයි පැවසේ. (83 : 74 පි.)

මාතලේ දිස්ත්‍රික්කයේ ගලේවෙලට නුදුරුව සුප්‍රසිද්ධ බම්බා රජමහ විහාරය ලිහිටා ඇත. එහි දේවතා බණ්ඩාර හා ගලේ බණ්ඩාර දෙවිවරුන් සඳහා දේවාල දෙකකි. ඇසළ මාසේදී දේවපූජා ද පැවැත්වේ. "බම්බා" යනු විජයාවතරණයට පෙර විසූ යක්‍ෂ ගෝත්‍රික රජෙකුගේ නාමයකැයි විශ්වාසයක්ද මෙහි පවතී. (130 අ: 107-8 පි.) කුවේණිය ගේ ඥාතිවරයකු වන බම්බා නම් යක්ෂයා මිය ගිය පසුව බම්බා දෙවි යනුවෙන් සලකා ඇතැයි යනු අප ඇසූ තවත් ජනප්‍රවාදයෙකි.



# 138
# බස්නාහිර දෙවියෝ

රුහුණේ වනගත දේවතාවන් අතර මුල් තැනක් හිමිවන්නේ " රජ්ජුරු බණ්ඩාර " යනුවෙන් ද හඳුන්වන මේ දෙවියාට ය. මාතර, හම්බන්තොට යන දිස්ත්‍රික්කවල බලපාන මේ දෙවියා ගේ ප්‍රධාන දේවාලය මොරවක් කෝරළ මධ්‍යයේ ගිරි දුර්ගයක ඇති එළමල්දෙණියේ පිහිටා ඇත. මෙහි ඇති ගල්ලෙන් විහාරයේ බුදු පිළිමයේ ඉස්දොරින් බස්නාහිර දෙවියා ගේ පිළිමය දක්නට ලැබේ. මේ මැටිමුවා පිළිමය මහනුවර යුගයට අයත් යයි සිතිය හැකිය. උඩරට තිලමේ ඇඳුමකින් මේ දේව රූපය සරසා ඇත. සෝලු ලියක් ද අතේ වේ. කිරම සිත්තන්ගල්ලෙන විහාරයේත් මේ හා සමාන පිළිරුවකින් ඔහු නිරූපිත ය. මොරවක්කෝරළයේ කොටපොළ අසල ගැටබේරුවේ ඇති මේ දෙවියා සතු දේවාලයේ ඔහු නිරූපිතව ඇත්තේ අත් හතරක් සහිතව ය. එක් අතක පියුමක් වේ. මෙය පසුකාලීන පිළිමයක් ලෙස සැලකිය හැකි අතර එළමල්දෙණිය හා සිත්තම්ගල්ලෙන පිළිම වඩා පැරණි බව පෙනේ. බස්නාහිර දෙවියන් ගැන පරණවිතාන මහතා ගේ මතය මොහු වෛදික වරුණ ම විය යුතු බව ය. වරුණ වෛදික විශ්වාසය අනුව බටහිරට අධිපතියා වේ. දෙවිනුවර දේවාල සමීපයේ පුරාණයේ සිට පැවත එන බස්නාහිර දෙවි ගේ දෙවොලක් ඇති හෙයින් මුල් උපුල්වන් (හෙවත් වරුණ) ඒ නමින් ඇදහීම යටපත් වී ගිය කලෙක " බස්නාහිර දෙවියන් " යනුවෙන් ඔහු ඇදහීම අඛණ්ඩය පිළිබඳ එක් නෂ්ටාවශේෂයක් බව පරණවිතාන ගේ මතය වේ. (136 . 56 පි.) වෛදික යුගය තරම් ඈතට දිවෙන ඉතිහාසයක් මෙම බස්නාහිර දෙවියන්ට තිබේ ද යනු සැක සහිත ය.

එහෙත් ඇතමෙක් මෙම දෙවියන් ද දේවතා බණ්ඩාර දෙවි මෙන් ම කතරගම දෙවියන් ගේ පරිවාර දෙවියකු වශයෙන් හඳුන්වා දෙති. කතරගමට බටහිරින් විසූ හෙයින් ඒ දෙවියා බස්නාහිර දෙවි යන නමින් හඳුන්වා ඇතැයි ද අනුමානය කෙරේ. බස්නාහිර දෙවි යනුවෙන් හඳුන්වා ඇත්තේ නාථ දෙවියන් විය හැකි යයි ද මතයෙකි. (136 : 70 පි.)



ඉහත දැක් වූ එළමල්දෙණිය යන ගම රජ්ජුරු බණ්ඩාර ගේ ගබඩාගම යයි ද පැවසේ. ඔහු වාසය කර ඇත්තේ ද උඩරුමුත්තේ රාජචන්ද්‍ර නම් කැලේය. මේ නිසා මේ දෙවියන් මහනුවර යුගයේ උදා වූ බණ්ඩාර දෙවිවරුන් ගේ ගණයට අයත් දෙවියකු සේ අනුමාන කළ හැකිය. නො එසේ නම් බස්නාහිරි දෙවියනට පසු කාලයේ දී බණ්ඩාර යන්නක් ආරෝපණය කර ඇතැයි සිතිය හැකිය. රජ්ජුරු බණ්ඩාරට පුද පිණිස පැවැත්වෙන දේව තොවිලය "රන්දෙහි මඩුව" හෙවත් "හාමුදුරුවන් ගේ මඩුව" යනුවෙන් හැඳින් වේ. මේ තොවිලය ගැන විස්තරයක් පූජ්‍ය පොළොම්මාරුවේ හේමසිරි හිමියන් විසින් කර ඇත. (136 : 57 පි.) එසේ ම තෙළගල සිට පැමිණියකු බැවින් "සිද්ධ තෙළගල රජ්ජුරු බණ්ඩාර පාන හාමුදුරුවෝ" යනුවෙන් හඳුන්වන බවත් මේ දෙවියන් රිරියකා බන්ධනය කරගෙන සිටින බැවින් එක් වියත් සතරඟුලක් පමණ වූ රිරියකාගේ රූපයක් දෙවියන් ගේ පිළිමය අසල ඇති බවත් කියනු ලැබේ. (136 : 57 - 58 පි.)

රයිගම අඟුරුවාතොට පාරේ ගංණිකන්දේ පුරාණ විහාරයේ ද බස්නාහිර දේවාලයක් ද ඇත. එය මෑත දී කඩා ඉවත් කොට අයියනායක දේවාලය යනුවෙන් නම් කර ඇතැයි සඳහන් වේ. (89 : 64 පි.) ඉහත සඳහන් පරිදි කිරම සිත්තම් ගල්ලෙන, කොටපොළ, පොළතුගොඩ යන තැන්වල ද පැරණි යුගයේ සිට මේ දෙවි උදෙසා වූ දේවාල ඇත. දෙවුන්දර උපුල්වන් දේවාල භූමියේ ඇත්තේ මෑතක කරවූ දේවාලයක් බව පෙනේ. පොළොම්මාරුවේ හේමසිරි හිමියන් දක්වා ඇති පරිදි බස්නාහිර රජ්ජුරු බණ්ඩාර දෙවියන් ගේ දේවාල බොහොමයක් පිහිටා ඇත්තේ කඳුකරයේ ගිරි දුර්ගවලය. දෙවියන්ගේ බල ප්‍රදේශය වශයෙන් බටහිර සීමාව කිරම සිත්තම්ගල්ලෙනත්, දකුණු සීමාව මාතර ගහබඩ පත්තුවේ පොළතුගොඩ බජ්ජමගේවත්තත් ගිනිකොන සීමාව ගිරුවාපත්තුවේ බෙලිඅත්තට තුදුරු දම්මුල්ලත් ගත හැකිය. දම්මුල්ලේ නාමශේෂ දෙවොලකි. මාතර දිස්ත්‍රික්කයේ කඳුකරය බස්නාහිර දෙවියන් ගේ බල ප්‍රදේශය වශයෙනුත් මුදුකරය දෙවිනුවර උපුල්වන් දෙවියන් ගේ බල ප්‍රදේශය වශයෙනුත් සැලකෙන්නට ඇතැයි ඒ හිමියෝ පවසති. (136: 58-59 පිටු.)



## 139
# බහිරව දෙවියෝ

බහිරව, වයිරව, බැරැන්ඩි යන නම්වලින් ද හඳුන්වනු ලබන මේ දෙවියන් භූමිගත වස්තුවට අධිපති බව පැරණි විශ්වාසය විය. එහෙයින් මැණික් පතල් කැපීමේ දී බහිරව පූජාවක් කරනු ලැබේ. ද්‍රවිඩයන් විසින් අදහනු ලබන විට බහිරවයන් නව දෙනකු ගැන සඳහන් වේ. සිංහල ජනයා අතර බහිරව පූජාව පිළිබඳ උච්චස්ථානයට පත්වූයේ මහනුවර අවදියේ දී බව පෙනේ. කුලුඳුලේ පුතකු ලැබුණු විට බහිරව දෘෂ්ටිය ඔහුට ඇති වීමෙන් මුළු පවුල ම වැනසී යන බිය නිසා එම කුලුඳුල් පුත්‍රයා බහිරවයාට බිලි දීමේ සිරිතක් එකල පැවැති බවට හෝඩුවාවක් ඇත. (116 : 107 පි.) මහනුවර නගර සීමාවේ පිහිටි බහිරව කන්ද එබඳු බිලි පූජා පැවැත් වූ තැනක් ලෙස ජනප්‍රවාදයේ එයි. ජනප්‍රවාදයේ එන තවත් සිද්ධියක් නම් මහනුවර රාජධානියේ අවසාන අවධියෙහි දී ශ්‍රී වික්‍රම රාජසිංහ රජ අණින් කන්‍යාවියක් බිලිදුන් අවස්ථා කීපයක් ඇති බවයි. (149 : 282 පි.)

" බහිරව අෂ්ටක " නම් පුස්කොළ පොතක සඳහන් පරිදි බහිරවයා ඇතැම් විට දේව විලාසයෙන් ද ඇතැම් විට යක්ෂ විලාසයෙන් ද පෙනී සිටී. දේව විලාසයෙන් සිටිනා කල්හි මනුෂ්‍ය රූපයෙන් ද අනෙක කඩුවක් හා අනෙක කුසලානක් ද ගනී. ඔහුගේ වාහනය විශාල සුනඛයෙකි. (එම).

පැරණි විශ්වාස කෙසේ වෙතත් වර්තමානයේ බහිරව දෙවියන් සෙත් ශාන්ති පතා පුද පූජාවට පාත්‍ර වන බව පෙනේ.

අනුරාධපුරයේ අභයගිරි චෛත්‍යය භූමියට ඇතුළුවන පියගැට පෙළ දෙපස ඇති මුරගල්වල නිර්මිත සංඛ, පද්ම රූප දෙක බහිරව දෙවිවරුන් ගේ රූ ලෙස සලකා එ තැන දේවාල දෙකක් තනා තිබේ. බහිරවයන් පිළිබඳ විශ්වාස අතීතයේ සිට පැවත ආ නමුදු මේ දේවාල දෙක ඉදිවී ඇත්තේ මෑත කාලයේ, එනම් විසිවන සියවසේ දී ය. බව බෝග, වස්තු, තාන්න මාන්න, ලෙඩ දුක්, අපල උපද්‍රව, විවාහයන්, දරුපල ආදි බොහෝ කාර්යවලට පිළිසරණ පතා නන් දෙසින් පැමිණෙන බැතිමතුන් මෙම සංඛ පද්ම රූපවලට පුද පූජා පවත්වති. මෙය මුල් කොට ගෙන වර්ෂයක් පාසා අභයගිරි විහාරයේ පවත්වනු ලබන බහිරව පූජාවක් ද වේ. එම පූජාවේ දී නැටුම් හේවිසි සහිතව සිළියෙළ කර ගත් ගිලන්පස බුද්ධ පූජාව අභයගිරි චෛත්‍යයට පූජා කොට චෛත්‍යය වටා පෙරහර පැදකුණු කිරීමෙන් අනතුරුව කපු මහතා විසින් සංඛ, පද්ම රූප මුල් කරගෙන අදාළ වාර්ෂික බහිරව පූජා උත්සවය පවත්වනු ලැබේ. මෙම උත්සවය සඳහා කැකුළු හාල් මිටි 10 ක පමණ කිරි බතක් පිසින අතර එයට මුං ඇට මිටි 02 ක පමණ මුං ඇට ද, පොල් ගෙඩි 500 ක පමණ කිරි ද එක් කොට පිසූ කිරි බත බහිරව දෙවියන්ට පූජා කොට ඉතුරු සියල්ල එම පූජාවට සහභාගී වන බැතිමතුන්ට බෙදා දෙනු ලැබේ. මෙම පූජාවෙන් ආහාර කොටසක් ලබා ගැනීමෙන් තම අපේක්ෂා ඉටුවන බව පොදු ජන විශ්වාසයයි (5).



## 140
# බාල දිවස් දෙවියෝ

මෝ තොමෝ අලුත් දෙවියන් ගේ වැඩිමහලු සහෝදරිය ලෙස ද සැලකේ. අලුත් දෙවි කව්වල ද මැය ගේ නම සඳහන් වේ. (141 : 8 පි.) හියු නෙවිල් විසින් "අලුත් දෙවි රජා කවි" පත්තියට ලියූ සටහන අනුව බාල දිවස් දෙවි වනාහි දිවස් කිරි අම්මාගේ බාල සොහොයුරායි. (161, 3: 131 පි). කවි 53 කින් යුක්ත වේ. කවි පෙළේ ඇතුළත් කථා පුවත් ව්‍යාකූල හෙයින් පැහැදිලි අරුතක් හෝ කථා පුවතක් දැක්වීම අසීරුය.



## 141
# බිසෝ දෙවියෝ

සබරගමුවේ මහදේවාල පෙරහරට සම්බන්ධ අතු පෙරහර තුනකි. එයින් එක් පෙරහරක් බිසෝ දෙවියන් උදෙසා සිදු කරන්නෙකි. (34 : 33 පි.) මේ බිසෝ දේවි සමන් දෙවියන් ගේ බිරිඳ ද, අක්කා ද යන්න පැහැදිලි නැත. සැවුල් සන්දේශයේ සඳහන් පරිදි රත්නපුර මහ සමන් දේවාලයේ බිසෝ දෙවියන් ලෙස පුද පූජාවට ලක්වන්නී සමන් දෙවියන් ගේ බිසව බව පෙනේ. (203 වන කව) (මහලොකු අක්කා යටතේ ද බලන්න.)



## 142
# බිළිඳු බණ්ඩාර දෙවි

බිළිඳු දෙවි යන නමින් ද හඳුන්වනු ලබන මේ දෙවියා ළමා බිළිඳු බණ්ඩාර යනුවෙන් ද වැදි ජනතාව විසින් හඳුන්වනු ලැබේ. කළු වතක් අඳින මේ දෙවියා ගැන පිටියේ දෙවි කව්වල ද සඳහන් වන බව බානට් පවසයි. (141: 50 පි.) හියු නෙවිල් කවි සමුච්චයේ 'පිටියෙ දෙවි කවි' පෙළක ද ඔහු ගැන සඳහන් ය. (161, 3: 23 පි.) වැද්දන් අතර සාමාන්‍යයෙන් බිළිඳි යන ලෙස ද සඳහන් වන මොහු ඔවුන් විසින් ගණේ දෙයියෝ, විහාර දෙයියෝ, නයි යකා යනුවෙන් හඳුන්වමින් පුද පූජා කරන බවක් ද වාර්තා වී තිබේ. (107:175 පි.) වැද්දන් ගැන විශිෂ්ට ග්‍රන්ථයක් ලියූ සෙලිග්මාන් යුවළ දක්වා ඇති අදහස් නම් බිළිඳි යකා



වැද්දන් ගේ ප්‍රධාන දෙවියා වන කන්දේ යකා ගේ බාල සොහොයුරා බවය. (178: 122 පි.) බිළිඳු බණ්ඩාර දෙවි යනු ඔහු ම වන්නට ඉඩ තිබේ. සෙලිග්මාන් යුවළ විසින් ඔහුට කෙරෙන යාදින්න වාර්තා කර ඇත. මේ ඉන් කොටසකි:

තන්දන තනිනා තාන තනන්දෙනඃ තන්දන තානින තානි  නා
අප්පුගෙ වයසත් බොසෝ අවිරිදි නැති සත් අවුරුද්දයි පසු  උනේ
සත් අවුරුද්දට එද්දෙ වෙලා ගොස් ඒ රන් බණ්ඩාර සාමි  නේ
තන්දෙන තානින තාන තන්දෙනඃ තන්දෙන තානින තානි  නා

අප්පු සාමිට වියපු කච්චිය පියුන් දාසයි සාමි  නේ
අප්පුසාමිට වියපු පුටුවේ පියුන් දාසයි සාමි  නේ
එලමල් කිරමා අඳපු කච්චිය සේම ගහ රැලි විහිදූ  නේ
තන්දෙන තානින තාන තනන් දෙනඃ තන්දෙන තානින තානි  නා

කවි කියන්ඩත් බයේ බැරි මට උදහසක් වත් වේද අයි  යෝ
නත් නැති බැද්දේ අං ඇති ගෝනා ආතින් අල්ලා දෙන  ස්වාමී

කන්ද උඩින් දැමූ සුළං තිල්ලට නුවන් කඳුලින් තෙමෙමි  නේ
කුසේ උපන් නුඹේම මලයා මැරුවේ මොන තනි කමට ද නයි  දේ
කුසේ උපන් නුඹේ මලයත් ඇරගෙන සෙල්ලන් කරපන් නයි  දේ
අං ඇති ගවරා අල්ලා දෙන හැකි මැනික් තලාවේ බිළිඳි දෙවි  යෝ
(178 : 287 පි.)

විසිවන සියවස මුල දී මෙම ගීය ලබා ගෙන ඇත්තේ පෞරාණික වැදි නිවහනක් වූ හේනෙබැද්දෙනි. ඒ පෙදෙසේ පැවැති ජනප්‍රවාදය අනුව කන්දෙ යකා තමාට තනිකම දැනුණු බැවින් තමා ගේ මල්ලී මරා යක් කරගත්තේය. (එම : 289 පි.) වෙනත් ජනප්‍රවාදයකට අනුව කන්දෙ යකා තම කුඩා මල්ලි වන බිළිඳි බඩගින්නෙන් නිතර අඩමින් කරදර කළ නිසා කෝපයට පත්ව ඔහු මරා දැමූ බව කියනු ලැබේ (එම). පහත ළමා බණ්ඩාර යටතේ ද බලන්න.



## 143
# බුලත් වඩන දෙවියෝ

මේ දෙවියාගේ වගතුග ගැන වැඩි යමක් හමුවූයේ නැත. සමහර කෝල්මුර කව්වල නම පමණක් දක්නට ලැබේ. පුරාණ සිව්පද සංග්‍රහයේ සඳහන් කවි පන්තියකින් ඔහු ගැන යම්කිසි හැඟීමක් ඇති කර ගැනීමට ඉඩ ලැබේ. ඔහු වෙල්ලස්ස පෙදෙසේ සිටින බවත්, පල්ලේකැලේ දෙවි යනුවෙන් ද ඔහු හඳුන්වා ඇති බවත් ඒ තුළින් උකා ගත හැකිය. පුරාණ සිව්පද සංග්‍රහයේ වැදි දෙවියන් ගේ කවි අතරට බුලත් වඩන දෙවියන් ගේ මෙම කවි ද ඇතුළත් කර තිබේ:

වෙල්ලස්සෙන් වැඩි රුපත් දෙවි යෝ
හළඹත් අරගෙන ලොව රට වැඩි යෝ
කඩුවත් අරගෙන ලොව මැත දැඩි යෝ
වැඩියොත් හොඳවද සම්පත් දෙවි යෝ

එන්ඩ පටන් ගත්තයි දෙවි කිට්ටු ව
දෙන්ඩ දෙයක් නැත මේ ලොව ගැස් වු ව
ඇවිදින් වන රොද විලේ පොරොත්තු ව
බුලත් වඩන දෙවිඳුගෙ අණ පත්තු ව

පල්ලෙ කැලේ මොන මල් ද පිපෙන් නේ
පල්ලෙ කැලේ මොර මලුයි පිපෙන් නේ
නැමුණු කඳන්වල බඹරු බසින් නේ
පල්ලෙ කැලේ දෙවියෝය වඩින් නේ

(90: 300 පි.)





## 144
# බූත රුවත් බණ්ඩාර දෙවි

රුවල් යක් කව්වල සඳහන් වන ආකාරයට මොහු මුල දී යකෙකි. පසුව දේවත්වයට පත්ව ඇත. මැණික් රුවන් බණ්ඩාර, රත්රුවන් බණ්ඩාර, බූත (රුවන්) බණ්ඩාර, වටවියනේ බණ්ඩාර යන මේ සතර දෙනා සත් සමුදුර තරණය කොට ලක්දිවට වන් බව රුවන් යක් (රුවල් යක්?) කව්වල සඳහන් වන බව බානට් විසින් පවසා තිබේ. (141: 191 පි.) 'රුවල' යනු වැදි ජනයා අතර පවතින ශාන්ති කර්මයක් බව මෙහි සඳහන් කළ යුතු ය.



## 145
# බොක්සැල් දෙවියෝ

'සිද්ද කිහිරැළි සමන් බොක්සැල් විබීසණ සිව් වරම් රජ තිති' යනුවෙන් වදන් කවිපොතේ සඳහන් වන පරිදි මහනුවර යුගයේ ලක්දිව අරක් ගත් ප්‍රධාන දෙවියන් සිව් දෙනා අතර වැටෙන මේ දෙවියා බලවතකු ව සිටි බව පැහැදිලි ය. පරණවිතාන මතය අනුව 'බොක්සැල්' යන්න බිඳී එන්නේ 'භොගසාලී' යන්නෙනි. (සුමන දෙවි යටතේ බලන්න.) සමහරු සමන් බොක්සැල් යනු එක අයකු වශයෙන් සලකති. එහෙත් 'බොක්සැල්' නමින් අපට විස්තර කිරීමට ඇති දෙවියන් ඉහතින් කියැවෙන 'සමන් බොක්සැල්' නොවේ.

**බොක්සැල් උපත:** කොළඹ ජාතික කෞතුකාගාරයේ අංක 3781 දරන "බොක්සැල් උපත" යන කවිපොතේ සඳහන් වන පරිදි මෙකී බොක්සැල් දෙවියා ගේ පියා මහසෙන් නම් නිරිඳෙකි. එය මේ ආකාරයට සඳහන් වේ:

රිසින් වෙලා කුස පිළිසිඳ ගත් — තේ
මහසෙන් නිරිඳුට ජාතක නිත් — තේ

බොක්සැල් යන නුවර උපත් බැවින් මොහුට මේ නම ලැබී තිබේ. එසේ ම මොහු අට හැවිරිදි වයසේ දී අනුරාධපුර වටදාගෙයකින් වැටී ඉළ ඇට බිඳී මිය ගොස් යකකු ව උපන්නේය. ඒ බව පහත සඳහන් කවෙන් කියවේ.

උ ප තේ බොක්සැල් පුර නුවරේ — යා
කෙළිතේ අනුරාපුර නුවරේ — යා
වැටුණේ වටදා ගෙයි ගෙමැදේ — යා
බිඳු ණේ ඔබ ගේ වම දැළේ — යා

(116 : 91-92 පිටු)

මෙසේ මිය ගිය බොක්සැල් ඔහු මුල දී ආලය කළ කුමරියක නිසා එතැන් සිට ස්ත්‍රීන්හට අසනීප කරන්නට වනි. මොහුට 8000 ක සේවක පිරිසක් සිටි බව ද පැවසේ. ඔහුට "වට කුමාරයා" යන නමක් ද ඇත. (161, 1: 214 පි.). ඒ වටදා ගෙයින් වැටී යක් වුණු නිසා විය යුතුය. හියු නෙවිල් විසින් උපුටා දක්වා ඇති "කුමාර දෙවි උපත" නම් කවි පෙළේ සඳහන් වන්නේ බොක්සැල් නෙරිඳු ගේ පුත්‍රයා පිළිබඳවය. (මෙහි "නෙරිඳු" යන්න "නිරිඳු" යන්න වරදවා පිටපත් කිරීමක් විය හැකි යැයි නෙවිල් පවසයි.) සිය පිය රජු වටදා ගෙයක් කරවන විට කුමාරයා එයට නැග ඉන් වැටී මරණයට පත්ව රකුසකු සේ උපන්නේය. (මේ පුවත බොක්සැල් උපත හා සමානය) අනතුරුව මෙම රකුසා අනුරාධපුරයේ කුමාරිකාවකට ආවේශ විය. ඇය මිය ගියා සේ පෙනුණෙන් දේහය දවන්නට පිළියෙළ කරන ලදී. සොහොන් ගින්න නිවූ මොහු ඇට පණ ඉපැද විය. ඉන් පසු ඕ සොතලු බිසව නම් වූවාය. මෙයින් ප්‍රීතියට පත් බිසව ගේ ස්වාමියා වූ රජතුමා යක්ෂයා හෙවත් දේවතාවාට පුද පූජා පැවැත් විය. ඔහුට වෙසමුණි වරම ද ලැබිණි. ඔහුට වට කුමාර යන නමක් ද වේ. (161, 3: 221 පි.)

පාතරට වැසියන් අයියනායක දෙවියන් බොක්සැල් යනුවෙන් හඳුන්වන බව පාකර් කියයි. (174:168 පි.)



ඇතැම් විටෙක "කළු යකා" යනුවෙන් ද හැඳින් වෙන බොක්සැල් ගේ විශේෂ කාර්යය ස්ත්‍රීන් උමතු කරවීමයි. (116:92 පි.) මොහුට මහ ජනයා කෙතරම් බියක් දැක්වූවා ද යත් 1698 දී ඔහු ගේ රූපය මහනුවර ඇසළ පෙරහරේ ද ගෙන යන ලද බව ප්‍රකාශ වී ඇත. (116: 93 පි.)



# 146
# බෝගම්බර දෙවියෝ

මේ නමින් හැඳින්වෙන්නේ නාමල් කුමාර දෙවියන් ය යන එක් මතයකි. (116:103 පි.)

කෝලිය පුර උපත් මොහු ලක්දිවට පැමිණ කතරගම, පත්තිනි, දේවතා බණ්ඩාර ආදී දෙවිවරුන් ගෙන් අවසර ලබා අනතුරුව බෝගම්බරට සම්ප්‍රාප්ත වී ඇත. "බෝගම්බර" යනු ඔහුගේ මුල් ගමේ නමයි.

මැද්ද එ දෙස රට බෝගම්බර සිට දෙවි මෙ කරට වඩිමින් — තේ
කරේ තිබුණු රන් සළුව එලා සිට සැණෙකින් මෙ කරට වඩිමින් — තේ
මෙ ලංකාවේ දෙවියන් ගෙන් වරම් ලැබ සැමතැන කෙළි පුද අරගත් — තේ
අපේ දුකට දැන් පිහිට ලැබෙනවද බෝගම්බර දෙවියන් මෙ දි — තේ

(116:103 පි.)

මේ ගැන විස්තරයක් බෝගම්බර හතේනාත්සේ යටතේ එයි. අභූත දෙවියන් ද බෝගම්බර දෙවි යනුවෙන් හඳුන්වා ඇතැයි යනු තවත් මතයකි.

මාතලේ රත්තොට ද බෝගම්බරක් ඇත. එම දේවාලයේ පොරොත්තු දෙවියන් "කුරුවා බෝගම්බර" නමින් වෙසෙසනු ලැබේ. මෙම දෙවියන්ට නානුමුර හා කංකාරි පූජා පවත්වනු ලැබේ. "බෝගම්බර" යන්න "බෝධිගාමවර" යනුවෙන් නිරුක්තියක් ද ඇතමුන් විසින් දෙනු ලැබේ. (23: 258 පි.) බෝගම්බර දෙවියන් ගේ බල ප්‍රදේශය වශයෙන් සුදුගහ, අඹන්ගහ ආශ්‍රිත ප්‍රදේශය සලකනු ලැබේ. ප්‍රධාන බෝගම්බර දෙවොල

රත්තොට පිහිටා ඇති අතර තවත් දේවාල තුනක් කිවුල, ගුරුබැවිල හා කොස්වාන යන ගම්වල ඇත. (44:270 පි.) මෙම දේවාලයන්හි වාර්ෂික දානය විශේෂ අවස්ථාවකි. දානය සඳහා වී කෙටීම සිට දානය පිළිගැන්වීම දක්වා සියලු කටයුතු පිරිමින් විසින් ම කරනු ලැබේ. (එම)



## 147
## බෝගම්බර හතේනාත්සේ

මාතලේ දිගාවේ බෝගම්බර නම් ගමේ විසූ කළුබණ්ඩාර, හපුගොඩ බණ්ඩාර යන සොහොයුරන් දෙදෙනා වෙල්යායක් අස්සද්දා ගොවිතැනේ නිරත ව සිටියෝය. මේ දෙ දෙනා ගෙන් කළුබණ්ඩා වල් අලියකු ගේ පහරින් මිය ගියේය. එයට පසුව මිය ගිය කළුබණ්ඩාර ගේ කනිටු සොහොයුරු හපුගොඩ බණ්ඩාර, තම සහෝදරයා ගේ කුඹුරු කොටස ද වැඩ කරමින් එහි ආධිපත්‍යය ද ඔහු අතට ගෙන තිබේ. මිය ගිය සහෝදරයා ගේ වැන්දඹු බිරියට අඳයත්වත් දීමට තරම් හපුගොඩ බණ්ඩාර ගේ හිත කෘතවේදී වූයේ නැත. එහෙත් හේ තම සහෝදරයා වෙනුවෙන් ඔහු ගේ කුඹුරු යාය ඉහත්තාවේ රුක්ස ගසක් යට මල් පැලක් ඉදිකොට එහි දිනපතා ම නියමිත වේලාවක පහන් දල්වා පිදවිලි ඔප්පු කළේය. කල් යත් ඒ අසළ වූවෝ ද මේ මල් පැලේ යම්කිසි හාස්කමක් ඇතැයි සිතා එහි පුද පූජා පවත්වන්නට වූහ. ක්‍රමයෙන් එම ස්ථානය කළුබණ්ඩාර කෝවිල යනුවෙන් ප්‍රකට වූයේය.

එයට කලකට පසුව පහත සඳහන් හත්කට්ටුව දඹදිව බෝගම්බර නම් පෙදෙසේ සිට ලකට පැමිණියෝය.

1. බෝගම්බර හතේනාත්සේ
2. ගලේ හතේනාත්සේ
3. පිටියේ හතේනාත්සේ
4. දෙල්විට හතේනාත්සේ
5. කහල්ලේ හතේනාත්සේ



6. පල්ලේබැද්දේ හතේනාත්සේ
7. අලුත්නුවර හතේනාත්සේ

මේ හත්දෙනා පැමිණ ඇත්තේ මංගර දෙවියන් සමඟ යයි ද කියනු ලැබේ. මෙයින් බෝගම්බර හතේනාත්සේ මාතලේට පැමිණ සුදුගල කන්දේ ගලේ කඩුව හා දේවාභරණ තැන්පත් කොට ඒවා ඉහත කී හපුගොඩ රාළට භාර දිනි. ඔහු විසින් එම ආභරණ කළුබණ්ඩාර කෝවිලේ තැන්පත් කරන ලදී. එයින් පසුව එම ස්ථානය බෝගම්බර දේවාලය යනුවෙන් පළ විණි.

චෝළ දේශයේ බෝගම්බර කියන පෙදෙසින් පැමිණි පිරිසකට අයත් දෙවියකු සතු දෙවොලක් නිසා එයට ඒ නම ලැබුණු බව ද පැවසේ. මීට පෙර උක්ත බෝගම්බර කියන පෙදෙස නියඹෙපොළ යනුවෙන් හඳුන්වා ඇතැයි ද කියති. නියඹෙපොළ එම දේවාලය නිසා පසුව බෝගම්බර යනුවෙන් ව්‍යවහාරයට පැමිණි බවත් ද එහි ගම්‍යමාන වේ.

දෙවැනි රාජසිංහ රජු බලනේ යුද්ධයෙන් ජය ගන්නා බව මෙම දේවාලයේ කපුවා ආරූඪ වී පැවසූ බැවින් එම යුද්ධයෙන් ජය ලැබූ රජතුමා, මෙම බෝගම්බර දේවාලය වැඩි දියුණු කොට අමුණු තිහක ගොඩ මඩ ඉඩම් හා දේවාභරණ පුද කළ බවත් පැවසේ. (18 : 114, 118 පිටු)

බෝගම්බර හතේනාත්සේ යන නමින් හඳුන්වනු ලබන්නේ බෝගම්බර දෙවියන් ගේ බිසොව බව මාතලේ, මඩවල-උල්පත පදිංචි තිබ්බටුවාවේ ගෙදර පුංචි බණ්ඩා මහතා ගේ මතයයි. මේ පිළිබඳව තව දුරටත් කරුණු ගෙන හැර දැක් වූ ඒ මහතා, හතේනාත්සේලා හා බැඳි යාදින්නක් ද අප වෙත ඉදිරිපත් කළේය. දෙකිඳ හතේනාත්සේ, පල්ලේබැද්දේ හතේනාත්සේ, දෙල්විට හතේනාත්සේ, කහල්ලේ හතේනාත්සේ යයි හතේනාත්සේලා හතර දෙනකු ගේ නම් සඳහන් කළ පුංචි බණ්ඩා මේ නම් හතරින් ම හඳුන්වන්නේ එකම අයකු යයි ද පැවසීය. බෝගම්බර දේවිය ගේ ප්‍රධාන දේවාලය ඇත්තේ රත්තොට ගණේතැන්නේ යයි ද ඒ මහතා වැඩිදුරටත් සඳහන් කළේය. එම ස්ථානය නිසාවා බෝගම්බර යනුවෙන් ද හඳුන්වනු ලැබේ. බෝගම්බර දෙවි ද ඒ ඒ පළාත්වල විවිධ නාම්වලින් හැඳින් වෙන බව ද පෙනී යයි.

**යාදින්න:** බෝගම්බර හත් රජ්ජුරුවන් ගෙන් වරම් ගත් අහුත දෙවියන් වහන්ස, නම නැති දෙවියන් වහන්ස, තනිකර දෙවියන් වහන්ස, දැළිවල දෙවියන් වහන්ස, මංගර දෙවියන් වහන්ස, අලුත් දෙවියන් වහන්ස, කාම්බලේ දෙවියන් වහන්ස, නායක දෙවියන් වහන්ස, දෙමළ දෙවියන්



12. ර.මු.නි.ස. - 93939

වහන්ස, කැලේ කඩවර දෙවියන් වහන්ස, නින්ද දහසා නියම දවසේ, නියම වේලාවට සැළකර සිටින්නේ බය නැතුව ගරු නැතුව නොවෙයි. අලියෙක් ඇතොත් අල්ලා ගන්ට නොවෙයි. ... උපද්‍රාවල් නිසා, වැඳ මුදුන් පත් සරගෙන කන්නලව් කර ගෙන සිටින්නේ... වේලේ උණ, දෙවේලේ උණ, ආගන්තුක උණ, මුර උණ, ළවුණ, නොබසිනා උණ කියන, බත් තින්න, බුලත් තින්න කියන මේවා ඔබ වහන්සේලා මේ උපද්‍රා කාරයින් යන තැනකදීවත් එන තැනකදී වත් ඇල්ලක දී පිහිල්ලක දී වත් නානා තොටුපළක දී වත්, පුලුටක් කන තැනකදීවත්, දරට දියට යන තැනකදී වත්, ඔබ වහන්සේලාගේ මුරපොළක් ගාවදි වත්, දැක උදහසක් අදහසක් ඇත්තේ වී නම් බැරිකමක් කියා දෙන්ට වරන් ඇත්තේ නෑ ඔබ වහන්සේලා කීප කට්ටුව ම පත්තිස් මහනුවරින් මල්වරා දේසයට ගොඩ බැස උතුම් වූ ජය කතරගම දෙවියන් වහන්සේගෙන් වරම් විවරණ ලබා ගෙන පළමු කොට මේ ලංකාවේ පල්ලේකැලේට වැඩම කරලා, එතැනින් අහුන, නමනැති, දෙවියන් වහන්සේලා කියලා ඔබ වහන්සේ අලුත් නුවරට වැඩම කරලා, අලුත් නුවර දේවතා බණ්ඩාර තෙද වහන්සේලා වේ රුහැනින් ගල කප්පලා, උන්වහන්සේගෙන් වරම් විවරණ ලබා ගෙන මහනුවරට වැඩම කරලා, මහනුවර පාලු කරවා ගෙන, පතින් මිටින්, කුරුණිියෙන් ලේ සීරි ලබා ගෙන අඹතැන්නට වැඩම කරලා රන් අඬේ ලබා ගෙන, කඩුගන්නාවට වැඩම කරලා රන් කඩුව ලබා ගෙන කඩඉමෙන් කඩ ඉමට, මුරපොළින් මුරපොළට කඩඉම් මුර පොළවල් ලබා ගෙන ලග්ගට ගත් දහයට ගහල ගත් දහයට..." මේ යාදින්න දෙස බලන විට එයට දෙවියන් කීප දෙනකු ම සම්බන්ධ කර ගෙන කියන යාදින්නක් බව හැඟී යයි. (බෝගම්බර දෙවි යටතේ ද බලන්න.)



## 148
## බෝවල දෙවියෝ

මේ දෙවියන් දොළහ දෙවියන් ගෙන් කෙනකු වශයෙන් ද සලකනු ලැබේ. (116:104 පි.) බදුල්ලේ ළිඳමුල්ල පත්තිනි දේවාලයේ බිත්තියක



ඇඳ ඇති දේව රූ අතර බෝවල දෙවියන් ගේ රුවක් ද වේ. මේ නිසා මේ දේව ඇඳහිල්ල බදුලු (ඌව) පළාතේ පැතිරී ගිය බවක් ගැන සිතිය හැකිය. (84:106 පි.) අලුත්වල නම් ස්ථානයේ මෙම දෙවියාට කැප කළ දේවාලයක් ඇති බව සඳහන් ය. (37:137 පි.) එක් දොළහ දෙවි කවි පත්තියක බෝවල දෙවියන් සමග මැණික් බණ්ඩාර, මාවත්තේ, කොස්ගම, පරකාස, කළුබණ්ඩාර, කුමාර බණ්ඩාර, ඉදිරිල්ලේ කුමාර රත් ඇල්තොට කුමාර වන්නි බණ්ඩාර, මීරියබැද්දේ දෙවිවරුන් සඳහන් ය. (37:134-37 පිටු.) බෝවල ගෙදර කිරිඅම්මා යනුවෙන් හඳුන්වනුයේ මේ දෙවියා ගේ බිරිඳ යයි සිතිය හැකිය. (කිරිඅම්මාවරුන් යටතේ ද බලන්න) එච්.යූ. ප්‍රඥලෝක හිමියන් විසින් බෝවල දෙවි වැදි ජනයා ගේ දෙවි කෙනකු ලෙස සලකා තිබේ. (90:298 පි.)

බෝවල බෝවල බල ඇති දෙවි යෝ
රිටත් වැඩිවද ගිනිමල් දෙවි යෝ
කයෙන් පැමිණි දුක් දුරුකර හැරි යෝ
වඩිති කියන්නන් බෝවල දෙවි යෝ

බෝවල ගල වට රුවල් පදින් තේ
රීවල මල් බැඳ යකුන් විදින් තේ
වේවැලටයි දෙවි දිවස් බලන් තේ
බෝවල සත්කට්ටුවට වඩින් තේ

අන්දර මන්දර අන්ද ඉරන් දර
කැලේ ගොසින් කැපුවා වැනි අත් දර
දහ පෙරළා කැපුවා වැනි අත් දර
බෝවල දෙවියෝ අලියට ගින් දර

(90:298 පි.)

මේ කවිවල පැවසෙන පරිදි මේ දෙවි කැලෑ පෙදෙසකට අධිපතිව වනයේ යන මිනිසුන්ට රැකවරණය සලස්සන්නෙකි. තවත් කවි පෙළක දැක්වෙන පරිදි කෘෂිකර්මය සඳහා ද උදව් වෙයි:

අලුත් විලේ පුටුවේ වැඩ ඉන් තේ
සළුත් පැළඳ සළු පිට සැතපෙන් තේ
බොලුත් නැතුව රන් කරල් පැසෙන් තේ
අලුත් පුටුව බෝවල දෙවියන් තේ

බෝවල ගම පසු කර පලයල් ලා
ඉර හඳ පායන හැටි දැන ගල් ලා
පොළොවේ බිජු මතු නොවේ සියල් ලා
බෝවල අලුත් දෙවියන් වැඳ පල් ලා

(37:137 පි.)

මේ අනුව ඔහු බෝවල අලුත් දෙවි ලෙස ද හඳුන්වා දී තිබේ. පියසේන කහඳගමගේ මහතා බින්තැන්නෙන් එකතු කළ කවි අතර බෝවල දෙවියන් ගැන මෙම කවියද තිබේ.

සිහියෙන් පැළවුණු බෝපැළයක් — දෝ
සබයට ඔබ නා සඳුන් රුකක් — දෝ
දෙවිඳුන් අණසක ලෝ පැතිරෙද් — දෝ
බෝවල දෙවි රජ සිංහ රජෙක් — දෝ
(3)

හියුනෙවිල් විසින් එකතු කරන ලද කවි අතරින් මෙම කවිය උපුටා ගැනුණි.

ගලේ දහර ලන්නේ නොවිලිස් — සා
මලපිට රොන ගන්නේ මී මැස් — සා
ජලේ කිමිද යන්නේ කුඩ මැස් — සා
බලේට බෝවල දෙවි ගොඩ බැස් — සා
(37:137 පි.)

හියු නෙවිල් එකතු කළ කවි අතර ඇති තවත් දොළහ දෙවි කවිපන්තියක 'බෝවල සත් කට්ටුවක් ගැන සඳහන් වේ.

බෝවල දෙවි කැටුවම ඇවිදින් — නේ
එක යහනේ කෙළි පුද පවසන් — නේ
දුක දුරු කරවන මෙලොවට සතුන් — නේ
බෝවල සත් කට්ටුව ම වඩින් — නේ
(37:133 පි.)



# 149 බ්‍රාහ්මණ බණ්ඩාර දෙවියෝ

මෙම බණ්ඩාර දෙවියන් ගේ දේවාලය දැදුරුඔය බඩ මාඋල්ල නම් ගමේ පිහිටා තිබේ. පැරණි දේවාලය වෙනුවට දැන් දක්නට ලැබෙන්නේ



ව්‍ය.ව. 1962.02.12 වැනි දින ඉදි වූ දේවාලයකි. මේ දේවොල මිදුලේ මහුල් කරඳ ගසකි. එය පරම්පරා හැට නවයක් පමණ පරණ ගසක් යයි ඇතමෙක් කියති. (29:80 පි.)

සීතාවක රාජසිංහ රජු ගේ කාලයේ දී ඉන්දියාවෙන් පැමිණි සහෝදරයන් දෙදෙනෙක් රජු ගේ අවසරය මත මාඋල්ල ප්‍රදේශයේ ගොවිතැන් කරමින් සිටියෝය. කලක් ගිය පසු මේ සොයුරන් දෙදෙනා අතර ආරාවුලක් ඇති විය. ඒ අවස්ථාවේ දී බාල සහෝදරයා විසින් තම වැඩිමහලු සහෝදර චන්ද්‍රභාරතී නමැති අය කැත්තකින් කොටා මරන ලදී. මිය ගිය චන්ද්‍රභාරතී යක්ෂයකුව උපන්නේය. පසුව කිතගම හිටිබණ්ඩාර දෙවියන් ගේ කපුවාත්, තවත් කපුවකුත් ඒ යක්ෂයා හීලෑ කොට ඔහුට බ්‍රාහ්මණ බණ්ඩාර යන නම ආරූඪ කර ඇත. (29:80-84 පිටු).

මාතලේ ප්‍රදේශයේ බණ්ඩාර දෙවියන් යන නමින් ද, ගණේබණ්ඩාර නමින් ද උක්ත බ්‍රාහ්මණ බණ්ඩාර දෙවියන් හඳුන්වා ඇති බව එම දෙවියන් පිළිබඳව අසෝක අතුරුගිරිය මහතා කරන විස්තරයෙන් පෙනේ. (13: 85 පි.) මේ එකම දෙවියෙක් ද නැතහොත් දෙවිවරු දෙදෙනෙක් ද යන්න පැහැදිලි නැත. දැදුරුඔයබඩ පෙදෙසේ අදහනු ලබන බ්‍රාහ්මණ බණ්ඩාර දෙවියන් හා සම්බන්ධ කෝල්මුර කවි පෙළක් ඇත්. ටී. කරුණාතිලක මහතා එකතු කර තිබේ. පහත දැක්වෙන්නේ ඉන් සමහරකි:

දේස මලල උන් මැති සඳ බ්‍රාහ්මණ වංශේ උප — නා
බාස එ දහ අටක් ම දැන සිව් සැට සිල්පය තිපු — නා
ආස දැකපු ලෙස ඉදි කටු සිදුරෙන් මම කවි කිය — නා
දෝස ඇතත් බ්‍රාහ්මණ දෙවියෝ අද මට සමා වෙ — නා

විතිව්ව් කර එමට බැලිම් පළමු උපත බැරි කියත් — ඩ
දැතිව්ව් පමණට යත්තම් කවි කර පවසම් අහත් — ඩ
වෙනත් බමුණෝ සත් දෙනෙකුන් සමග කතා කර වඩිත් — ඩ
මැණික් එබුව පේරුස් මුදු අතේ මුහුණ පිරිමදින් — ඩ

සුන්ද්‍ර කොමල දීර බලැති බ්‍රාහ්මණ කුමරුන් සත් — දෙන
චන්ද්‍ර කමල නිල්වර්ණ පේස රත්න කම් බිලියෙ — න
ඉන්ද්‍ර නීල පාට වර්ණ පට ඔසරිය මුණ්ඩා ස — න
චන්ද්‍ර භාරති උදාර බ්‍රාහ්මණ කුමරුන් සත් දෙ — න

චන්දන කුංකුම පිණිදිය කපුරු කොකුම් තිල කර    වන
රත්මිණි මුතු මාල තවඩි සුද්‍රාස්ටක වැල් කර    ලන
තත් නැති ආබරණ පැළඳ පූන තුල් කරලා ගෙ    න
දුම් කොළ සහ කිරි අබින් ද කංසා කොළ ගෙන බුදිමින

අතට ඔබින කර්ග පලිස් කිරිච්චි ආයුද අර    ගෙන
ගතට ඔබින බිත සලුව අළුත් එදිච් සම් පළදි    න
රුවට මෙ ආබරණ පැළඳ පූන තුල් කර ලා ගෙ    න
නැවට නැංගෙ දේව ගණේ තිතිය ලග්න අසු කර ගෙ    න

සුළං බලා කුඹ සවි කර රුවල් ඇදපු පෙලින් පෙල    ට
තලංගුවෙන් ජල කැලතී සයුර දුවති රලින් රල    ට
අලංකාර දීර බලැති නැව පැද එති පෙලින් පෙල    ට
කෙලින්ට රට ඇදින බලා ගොඩ බැස්සයි සිංහලය    ට

ලක තුළ වට ඇවිද බලා බමුණෝ සත් දෙන එම    විට
විස්වාසෙට අයුරු අසා ගියෙ සීතාවක නුවර    ට
ලස්ස ගණන් වටිනා දේ සරසා ගෙන දැකුම්වල    ට
දස්ස කමට මුණ පෑවෙ බුවනෙකබා මහරජු හ    ට

ගෙනා වස්තු රන් රිදියෙන් තිදන් කළයි කොක්ගල    පිට
මනාපයෙන් තිදාන රැක තෙද බල පැවේ මෙ ගම    ට
ගොනා සේම හදා තිබුණ පොත පෙරළා බැලුව කල    ට
උනා පිහිට මට දෙවියෝ හිස වක්කරවා ගන්න    ට

(29:190-192 පිටු)



## 150
## භද්‍රකාලී

භාරතයේ හින්දු භක්තිකයන් අතර ප්‍රධාන දෙවි කෙනකු වන කාලිය, "දේවි" "දුර්ගා" යන නම්වලින් ද එහි හැඳින්වෙන්නීය. ලක්දිව කාලී පූජා



ඇරඹෙන්නට ඇත්තේ දක්ෂිණ භාරතීය බලපෑම් ප්‍රබල තත්ත්වයකට පත් වූ ගම්පොළ, කෝට්ටේ යුගවල දී බව පෙනේ. පරෙවි සන්දේශයේ 72 වන කවෙහි බෙන්තොට පැවැති කාලි කෝවිලක් ගැන සඳහන් වේ.

කාලිය, 'මහිෂාසුර' නම් අයහපත් බලවේගය හා සටන් කොට එය මර්දනය කළ හෙයින් ඇයට "භද්‍රකාලී" යන නම යෙදුණ බවත් එම සටනේ දී කළ මහා විනාශය නිසා ශ්මශාන (සොහොන්) කාලි යනුවෙන් ද නම් ලැබූ බවත් හින්දු විශ්වාසයන්හි එන්නේය.

අද ලක්දිව ප්‍රකට ම කාලි කෝවිල පිහිටා ඇත්තේ මුන්නේස්සරමේ යි. ඊට අමතරව කොළඹ මෝදර ද ජනප්‍රිය කාලිකෝවිලක් ඇත. මේ ස්ථාන දෙක ම හින්දූන් විසින් පාලනය කරනු ලබන ඒවා වන නමුත් වර්තමානයේ සිංහලයන් අතර කාලී පූජා ජනප්‍රිය වෙමින් පවතී. එබැවින් ඒවා වෙත බොහෝ සිංහලයන් ඇදී යන අයුරු ගොම්බ්‍රිච් ද ඔබේසේකර ද සඳහන් කර ඇත. (152: 139 - 162 පිටු). කාලිය ගේ බිහිසුණු ස්වරූපය අනුව තමන්ට අනුන් කළ අණවින මැඩ පවත්වාම සතුරන්ට පෙරළා වින කරන ලෙස ඉල්ලා සිටීමත් ඇගේ යහපත් (භද්‍ර) ස්වරූපයට අනුව ඇගෙන් සෙත් ශාන්ති ප්‍රාර්ථනය කිරීමත් මේ දේවාලවල සිදුවන බව මේ නිරීක්ෂකයෝ සඳහන් කරති. (එම 143 පි.) මෙහි දී විශේෂයෙන් පෙනෙන කරුණක් නම් කාලිය වර්තමාන නාගරික සිංහල, දෙමළ ජනයා අතර ජනප්‍රියවෙමින් සිටින බවයි. එහෙත් සාම්ප්‍රදායිකව කාලි පූජා වැඩිපුර පැවතුණේ වතුකරයේ දෙමළ ජනතාව අතරය. දකුණු ඉන්දියාවෙන් පැමිණි මෙම සංක්‍රමණිකයන් සිය පාරම්පරික දේවතාවියට මෙහි දී ද පුද පූජා පැවැත්වූහ.

මාතලේ (රත්තොට) කළුදැවල ඇති භද්‍රකාලී කෝවිල එහි සිංහල ජනයා අතර ද ප්‍රකට ස්ථානයකි. නැති වූ වස්තුව හෝ දරුවන් හෝ සොයා ගැන්මට මෙහි දී විශේෂ පිහිටක් ලැබෙන බව පොදු ජන විශ්වාසයයි. (44: 27 පි.) පැතිදෙණිය අසල ගොඩගන්දෙණියේ ද කාලි කෝවිලක් ඇත. අඹ ගසක් අසල ගල් කැට තබා මෙම දේවිය එහි සංකේතවත් කර තිබේ. මෙම සංකේත භාවිතය දකුණු ඉන්දියා ග්‍රාම දේවතා පූජාවන්හි ස්වරූපය සිහිපත් කරන්නකි. (මේ ගැන "කාලි දේවිය" "පත්‍ර කාලී" යටතේ ද බලන්න.)



## 151
## මංගර (මාංගර) දෙවියෝ

ඇතමකු මාංගර දෙවි යනුවෙන් ද හඳුන්වනු ලබන මේ දෙවියා වන සතුන් ගෙන් ආරක්ෂාවීමේ අපේක්ෂාවෙන් මහජනතාව විසින් අදහනු ලබන්නේය. කිරි හරකුන් භාරව සිටින දෙවියා වශයෙන් සලකනු ලබන මංගර දෙවි, සුදු ඇඳුමකින් සැරසී හරකුන් සමඟ නිතර සැරිසරන බව පොදු විශ්වාසයයි. රුහුණේ මීකිරිවලට මුල් තැන් ලැබී ඇත්තේ ද මේ දෙවි මුල් කර ගෙන යැයි ද විශ්වාසයක් තිබේ. මේ දෙවියන් පිළිබඳව ඇති කවි පන්ති ව්‍යාකූල තත්ත්වයක පවතී. මේ බව හියු නෙවිල් ද පවසා ඇත. (161,1: 301 පි.) මංගර උපත ගැන ඒවායේ විවිධ මත ගැබ් ව තිබේ.

(1) පත්තිනි දේවිය ගේ ශීලය පරීක්ෂා කිරීමට සිතූ සක් දෙවියෝ ඇය ළඟට අවුත් ඇල් හාලේ බතක් පිස දෙන ලෙස ඇගෙන් ඉල්ලා සිටියෝය. එවිට ඇය ගේ පතිව්‍රතයෙහි බලයෙන් එකෙණෙහි ම පහළ වූ ඇල් හාල් ගරන විට එහි ගල් කැටයක් දක්නට ලැබිණ. එම ගල් කැටයෙන් මේ දෙවියා උපන්නේය. "මං ගැරූ විට පහළ වී" යන අරුතින් මංගර වී ල. මෙසේ ලංකාවේ මායා රටේ උපන් මේ දෙවියා එයට පසු ඉන්දියාවට පලාගොස් නැවත ලකට පැමිණ රුහුණේ උසංගොඩ විසී ය. දිනක් කදිරාගොඩ දේවාලයේ නුග ගසේ තිබුණු මීයක් කඩා කන විට මීවෙක් ඔහුට ඇන්නේය. එයින් මිය ගිය මංගර ඔහු ගේ සහායකයන් විසින් කිරි ඉතිර වීමෙන් දෙවි කෙනකු ලෙස පුනර්ජන්මය ලැබීය. (56 : 3-9 පි.)

(2) දෙවැනි පුවතකට අනුව මායාපුර විසූ කිතල්වල රජතුමා ගේ බිසොවුන් හත් දෙනා අතුරෙන් එක් බිසවක් විලට නෑමට ගියා ය. ඒ දින රාත්‍රියේ නින්දට ගිය ඇයට සිහින තුනක් පෙනිණි: පළමුවැන්නේ දී නයකු ද, දෙවැන්නේ දී මැණිකක් ද තෙවැන්නේ දී තමා රන් ඔටුන්නකින් සැරසී සිටිනු ද යනුවෙනි. මේ සිහින තේරූ නෛමිත්තකයෝ භාග්‍ය සම්පන්න පුත්‍රයකු ලැබෙන බව පැවසූ හ.



දසමස ඇවෑමෙන් මව ගේ පියොවුරු දෙ මැද රන් දොරටුවෙකින් කුමරෙක් උපන්නේය. (161, 1: 301 පි.)

(3) තුන්වන පුවතට අනුව විෂ්ණු දෙවියන් ගේ නංගී උමයංගනාව පුතුන් හත් දෙනකු ප්‍රසූත කළාය. ඔවුන් එකට අල්ලා එක් අයකු බවට පත් කිරීමට සිතූ විෂ්ණු ඔවුන් එකට අල්ලා වැළඳ ගත් කල සදෙනකු අපූ වූ නමුත් සත් වැන්නා ඉන් මිදිණි. සදෙනා කඳ කුමරු බවත් අනෙකා මංගර බවටත් පත් වූහ. (එම)

(4) සිව්වන කථාවට අනුව මංගර වනාහි ඉන්දියාවේ නැගෙනහිර වෙරළ බඩ රාජ පුත්‍රයකු ලෙස උපන් සීඝ්‍ර ගති ඇති අහංකාර තරුණයෙකි. තම පියාටත්, රට වැසියාටත් එපා වූ මේ තරුණයා ඔහු ගේ පිරිසත් සමඟ රටින් පිටුවහල් කරන ලදී. මුහුදේ පා වී ආ මේ පිරිස දකුණු ලක කිරින්ද වෙරළට පා වූ හ. මෙසේ ලකට ආ මංගර ඇතුළු පිරිස ටික කලක් රුහුණේ වාසය කොට නැවත බින්තැන්නට ගොස් එහි පදිංචි වූහ. මෙසේ ලක්දිවට පැමිණියේ ඔහු ගේ 13 වැනි ආත්ම භාවයේ දී බව ද පැවසේ. එයට පෙර ද හෙතෙම ලක්දිව මායා රටේ මායා රජුට දාව ඉපිද බුදසිරි නමින් පසිදු වී සිටියේය. ගව පාලනයට දැඩි රුචියක් දැක්වූවෙකි. කුළු මීහරකුන් පවා මෙල්ල කිරීමට හේ සමත් ව සිටියේ ය. වරෙක ඉන්දියාවට පැන යළිත් ලකට වන් බව ද පැවසේ. ඒ බව මංගර හැල්ලේ මෙසේ සඳහන් වේ.

එගල් පහුර පැද ගෙන නොව ලස්     සේ<br>
ඇවිත් උසංගොඩටයි ගොඩ බැස්     සේ

මෙතෙමේ යොන්, ජෝගි, ආඩි, කන්නඩි, වඩක්කර, මුක්කර, කුරුම්බර යන සත්කට්ටුව පිරිවරා ගෙන සිටියේය. ලක්දිව දී ගොපලූ පිරියක් ද බණ්ඩාරවරුන් සීප දෙනකු ද ඔහුට එක්වීම නිසා හේ බලවතෙක් විය.

මංගර ඉන්දියාවේ සිට පැමිණියකු බව ඉහත පුවත්වල සඳහන් ව තිබේ. මේ හා සම්බන්ධ තවත් ප්‍රවාදයක සඳහන් පරිදි "බෝගම්බර හතේනාත්සේ" යනුවෙන් සඳහන් සත් කට්ටුව ගල් නැවකින් ලක්දිවට එන අවස්ථාවේ එම හත්දෙනාට එකතු වී ආ තවත් අයකු සේ මංගර ගේ නම ද කියැ වී ඇත. (18: 116 පි.)

ඉහත දෙවන පුවතේ සඳහන් මංගර සත් වරක් උපන්නේය. පළමුව නාග පෙණයෙන්, දෙවැනි ව පන්හිඳෙන්, තෙවැනි ව ගිනි දල්ලෙන්, සිව්වැනි ව මැණිකෙන්, පස්වැනි ව හිරු රැස් වළල්ලෙන් හයවැනි ව මව් කුසෙන් හත්වැනි ව දෙතන මැදින් යනුවෙනි.

නමින් ද්‍රවිඩයකු වුවත් සිංහලයන් අතර ඔහු ප්‍රචලිතව ඇත්තේ මායා රටේ උපන්නකු ලෙසටය. වල් හරකුන්, වල් ඇතුන් ඇල්ලීමේ දී ඔහුට ගොපලු යකු ගේ ආධාරය ලැබෙන බව ද පැවැසේ. (116: 98 පි.) මොහු දේවාලයක් නැති දෙවියෙකි. උසන්ගොඩ, කතරගම, බින්තැන්න, වලවේ තිම්නය යනාදී පෙදෙස් ඔහු ගේ ගොදුරු ගම් ය. වලවේ විසූ කාලයේ දී ශ්‍රී සිංහ වික්‍රම සෙනෙවිරත්න යන නමින් ද හේ හඳුන්වනු ලැබීය. සෙලිග්මාන් යුවළ දැනගත් තොරතුරු අනුව මේ දෙවියාට බින්තැන්න පෙදෙසේ කුඩා පැලක් දේවාලය වශයෙන් තිබිණි. (178 : 177 පි.). තවත් පුවතකට අනුව ප්‍රධාන මංගර දේවාලය රත්නපුර දිස්ත්‍රික්කයේ බලංගොඩ කංජම ගමේ පිහිටා ඇත. (121 අ : 180 පි.)

**මොහු ගේ දස්කම්:**

ඉන්දියාවේ දී මන්ත්‍ර ගුරුකම් උගත් මංගර ලංකාවේ දී ඒවා උපයෝගී කරගෙන දස්කම් පා ඇත. (දෙවොල් දෙවියෝ ද මෙ වැනි දස්කම් දැක් වූ පිරිසෙකි. දෙවොල් දෙවි යටතේ බලන්න.)

පහත උපුටා දැක්වෙන මංගර යාදින්නෙන් එම දස්කම් විස්තර වේ.

කිසිවකුට කැපිය නොහැකි වූ තුග ගසක් කැපීම මොහුගේ පළමු දස්කම සේ සඳහන් කළ හැකිය. ඒ හා බැඳි කව මෙසේය.

ඉරි තුග කිරි තුග මාතුග මෙලෙසි — න<br>
බෝ තුග දෙහි තුග පටතුග දිලෙ මී — නා<br>
කිරි පළු තුග යන සත් කුල තුගයෙ — න<br>
මෙ තුග සතට මැද රන් තුග පැළ වූ — ණ<br>
(56: 4 පි.)

ඔහු කදිරාගොඩ දී දරුණු කුළු මීහරකකු බැඳ දස්කම් පා ඇත. ඔහු ගේ තුන් වන දස්කම සමන් දෙවියන් ගේ ඇලි කිඹුලකු මැරීම ය. මේ වීරකම් නිසා ඔහුට සත් කෝරළයේ ඉහළ දොළොස් පත්තුව බද පෙදෙස ද තින්දගම් කොට දී ඇති වගක් ද පැවසේ. කතරගම කන්දේ සිටි ඇලි මුවකු ඇල්ලීමෙන් ද වරප්‍රසාද ලැබූ මංගර දෙවි බින්තැන්නේ මහ ලේවායේ සිටි හස්ති රාජයකු ඇල්ලූ බවක් සඳහන් වේ. (එම 4-5 පිටු).

මංගර ගේ ප්‍රධාන ඇමැතියා ගෙන් පැවතෙන්නන් මහබද්දනගේ යන නම්වලින් අද පවා හඳුන්වන බව ද, ඔහු ගේ ගව පට්ටිය භාරව සිටි අය පට්ටියගේ යනුවෙන් හඳුන්වන බව ද පැවසේ. මේ නිසා මංගර දක්ෂතම කිරිපට්ටි පාලකයකුව සිටි බව කීමේ වරදක් නැති සේ ය. තව ද මෙම දෙවියා මංගර බණ්ඩාර නොහොත් කන්දේ දේවාලයේ දේව යක්



යනුවෙන් ද හඳුන්වා ඇති බව එම දෙවියා ගැන ඇති විත්තිවලින් පැහැදිලි වේ. (එම: 5 පි.)

මංගර දෙවියෝ සිංහලයන් අතර මෙන් ම ලංකාවේ දෙමළ ජනයා, වැදි ජනයා, වන්නි ජනයා අතර ද ගෞරවයට පාත්‍ර වූවෝය. දුම්බර මිටියාවතේ (116: 98 පි.), මාතලේ ප්‍රදේශයේ (13: 87 පි.), රුහුණේ වලවේ ගඟ දැලේ හා මයියංගනයේ (136: 61 පි.), මෙන් ම තමන්කඩුවේ, හුරුලු පත්තුවේ හා අනුරාධපුර පළාතේ ද (161, 3: 301 පි.) ඔහු පිළිබඳ පුද පූජා පැවැත්විණි. මඩකලපු දිස්ත්‍රික්කයේ දෙමළ ජනයා අතර ඔහු වෙනුවෙන් ගැයෙන ස්තෝත්‍ර හියු නෙවිල්ට ලැබිණි. (161, 3: 301 පි.). එසේ ම එගොඩ පත්තුවේ ගම් වැද්දන් අතර ද හුරුලු පත්තුවේ වන්නි සිංහලයන් අතර ද ඔවුන් ඇදහුණු බව නෙවිල් සඳහන් කරයි. (එම). ජේ. ඊ. සේදරමන් විසින් ඌවට විශේෂ වූ මංගර යාතිකාවන් වාර්තා කොට තිබේ. එහි මංගර දෙවියන් ගේ දක්ෂකම් ගණනාවක් විස්තර වී ඇත.

"දස දහසක් සක්වළට කොදෙව් දෙදහසට රුහුණු, මායා, පිහිටි රට යයි යන නාමයෙන් ප්‍රසිද්ධ වන්නා වූ මෙම සිංහල දිවයිනට ඔබවහන්සේ ගේ අණ පවතිනවා සත්තවාදී සැබෑවි නම්, බින්තැන්නේ මහ ලේවායේ සිටින හස්ති රාජයා අල්ලා දණ නමස්කාරය කල ආනුභාව අද දක්වා මෙම ලංකාවේ පැතිර පවතිනවා සත්තවාදී සැබෑවී නම් කතරගම කන්දස්වාමීන් වහන්සේ ගේ ඇලි මුවා අල්ලා මරා හතර ගාතේ වෙන වෙනම කපා නැවත ප්‍රාණේ පිහිටුවා කතරගම කන්දස්වාමී වහන්සේට දණ නමස්කාර කරවපු තැනේ දී" හරි මාගේ මස්සිනෙයි" කියා කතරගම කන්දස්වාමීන් වහන්සේ ගෙන් තිසියේ තින්දගම් දහ අටක් හැඟි ලැබුවා සත්තවාදී සැබෑවී නම් ලොවුතුරා සර්වඥයන් වහන්සේ ගෙන් වරන් ගෙන දහ අට දේසයේ යකුන්ඩ ශ්‍රී වික්‍රම සෙනෙවිරත්න යයි යන නමකින් ප්‍රසිද්ධව මෙම ශ්‍රී ලංකාවේ පැතිර පවතිනවා සත්තවාදී සැබෑවී නම් සමන් සුරිඳු ගේ ඇලි කිඹුලා අල්ලා මරා නැවත ඉපැද්දූ තැනේ දී සමන් සිරිඳු ගෙන් හතරකෝරලේ ඉහළ දොළොස්පත්තුව තින්ද ගබඩාගම් කොට දුන්නු ආනුභාව මෙම ශ්‍රී ලංකාද්වීපයේ පැතිර පවතිනවා සත්තවාදී සැබෑවී නම් ගවරවිලේ සිටිය මීමා ඇල්ලූ දා කතරගම කන්දස්වාමී ගෙන් වරන් ලැබ අණ පැතිර පවතිනවා සත්තවාදී සැබෑ වී නම් රුහුණු බින්තැන්නට සසිය පනස් කෝරළයට ................." (133: 127 පි.)

මාතලේ පෙදෙසේ කඹුරු මැස්සන්ගෙන් ආරක්‍ෂා කරගැනීමට යොදා ගැනෙන මන්තරයෙහි මංගර දෙවියාට නම් හයක් පමණ භාවිත කරන බවක් පෙනී යයි.

"අබන් මැස්සෝ, වෙර මැස්සෝ, පාලි මංගර, දෝලි මංගර, කහ මංගර, කිරි මංගර, තෙද මංගර, උණ මංගර දෙවියන්ගේ අණින් වරුවට, දෙවරුවට, තුන් වරුවට මේ කෙනෙන් ඉවත් වන්ට යහපති." (13 : 83පි.) මංගර දෙවියන්ට පූජා පිණිස "කිරිමඩුව" නම් පූජා කර්මයක් සිදු කරනු ලැබේ. (56: 14-22 පිටු)

මංගර දෙවියන්ගේ ස්වරූපය මෙම කවෙහි විස්තර වේ.

සතරක් මහ බඹර දමෙන් වැඩමෙව් මනු ලොව වඩින්න
සතරක් මංගර සුරිඳුනි පෙරටුව දරන්න
කබලක් ගිනි අතෙකින් ගෙන අතෙකින් රන් කඩුව ගන්න
මලකුත් පොල් අතකින් ගෙන බැටළු වාහනෙන් වඩින්න
(121 අ: 180 පි.)

මංගර දෙවියන්ගේ රූපය වැඩිහිටි කන්දේ කතරගම් දේවාලයේ ද, බේරුවල සූනියම් දේවාලයේ ද ඇති බවත් ඒ අනුව අත් සතරකින් යුක්ත වූ මෙම දෙවියන් වමතින් ගිනි කබලක් ද දකුණතින් පොල්මලක්ද අනෙක් දකුණත අභය මුද්‍රාව ද අනෙක් වමත කඩුවක්ද දරා සිටින අතර මුව දෙකෙළවර කුඩා දළ දෙකක් ද ඇති සේ නිරූපිතය. රන් මාල හා රන් ඔටුන්නක් පැළඳ බැටළු වාහනාරූඪව ඔහු සිටී. පිටුපසින් හුඹස් දෙකක් ද දක්වා තිබේ. (121 අ: 180 පි). ඇම්බැක්කේ දේවාලයට නුදුරු වෙලම්බඩ කන්දේ දේවාලයෙහි ද මංගර ප්‍රතිරූපයක් දක්නා ලැබේ.



## 152
## මල්වත්තේ බණ්ඩාර දෙවියෝ

හතර කෝරළේ අලුත් නුවර දැඩිමුණ්ඩ දෙවියන් ගේ අන්තේවාසිකයන් වන මොහුට අලුත් නුවර දේවාල භූමියේ ඇති පල්ලේ දේවාලය අයිති බව බෑල් මහතාගේ කෑගලු වාර්තාවේ සඳහන් වේ. (143: 47 පි.)



දඹදෙණියේ රජ කළ දෙවන පැරැකුම්බා රජු ගේ පුත් 1 වන බුවනෙකබා රාජ සමයේ (1272-84) පද්දාවෙල (හතර කෝරළයේ වර්තමාන අලුත් නුවර එකල හැඳින්වුණු නම) අස්සද්දනා පිරිවෙන් තෙර සාමීන්ට දිනක් රාත්‍රියේ උපුල්වන් දෙවියන් සිහිනෙන් පෙනී "මල්වතු භූමි ප්‍රදේශයෙහි රාමශර සෝළුව පිහිටුවා මේතැන මට දේවාලයක් කරවා දෙව්" යි කී බවත් එයම එදා බුවනෙකබා රජුටත් පවසා ඇති බවත් පැරණි අලුත් නුවර දේවාල පුවත් ලිපිවල එන්නේය. (130: 65 පි.) මෙහි මල්වතු භූමිය යැයි කීයේ පද්දාවෙල දැනට අලුත් නුවර දේවාලය පිහිටා ඇති තැනය. මල්වත්තෙ බණ්ඩාර යනු අලුත් නුවර දේවාලය කරවීමට පෙර මේ ප්‍රදේශයට අධිගෘහිතව සිටි ප්‍රාදේශීය දෙවියන් යැයි අනුමාන කළ හැකිය. උපුල්වන් දෙවොල පිහිටුවූ පසුව උපුල්වන් දෙවියන්ගේ ද, දැඩිමුණ්ඩ (වාහල) දෙවියන්ගේ ද අන්තේවාසික බවට මල්වත්තේ දෙවියන් පත්වන්නට ඇතැයි හැගේ.

පල්ලෙ දේවාලය ගම්බාර සූනියම් දෙවියන්ට අයත් ය යනු දැනට පිළිගෙන ඇති මතයයි. උපුල්වන් දෙවියන්ගේ පණත් භාරව සිටියේ මේ දෙවියන් විසිතැයි ද කියැවේ. (130: 70 පි.) ඉහත සඳහන් ප්‍රාදේශීය දේව තත්ත්වය මේ හා ගැළපෙන හෙයින් පුවත් දෙකම සඳහන් කරන්නේ එක ම දෙවි කෙනෙකු ගැන යැයි සිතිය හැකිය. (සූනියම් දේවතා යටතේ ද බලන්න.)



## 153
## මලල බණ්ඩාර දෙවියෝ

මේ දෙවියා ගේ අරහන්ත යයි කියනු ලබන දේවාලය පිහිටා ඇත්තේ කුරුණෑගල දිස්ත්‍රික්කයේ කටුගම්පොළ හත්පත්තුවේ කරදාපත්තු කෝරළයේ පිහිඹියේ බවත් එහි මුල් පදිංචි කාරයන් මලල බණ්ඩාරයන් සමඟ මෙහි පැමිණි "හෙට්ටි" ගෝත්‍රිකයන් ගෙන් පැවත එන්නන් බවත් ඇන්. ටී. කරුණාතිලක පවසයි. (29: 72-73 පිටු).

මලල බණ්ඩාර දෙවියන් කොහොඹා කංකාරියේ දී "වීරමුණ්ඩ" යනුවෙන් ද, ගිරියාල හත්පත්තුවේ දී "ගලේ දෙවියන්" යන නමින් ද හැඳින් වේ. මොහු මෙ රටට පැමිණියේ සිය වැඩිමහල් සහෝදරයන් දෙදෙනා සමඟය. වැඩිමහල් සහෝදරයා දොඩොල් දෙවියන් ලෙස ද බාල සහෝදරයා කුමාර බණ්ඩාර ලෙස ද සැලකේ. (පහත "වීරමුණ්ඩ දෙවියෝ" යටතේ ද බලන්න.)

මේ තෙමේ මලල රටේ ඝේරව නම් නා රජු ගේ පුතෙකි. ඒ රජු ගේ බිසොව පුතුන් තිදෙනකු ලැබුවා ය. ඔව්හු නම්: රාම කර්ණ, සෝම නේත්‍ර, මලල යනුයි. මේ තිදෙනා වැඩි වියට පත්ව රට වැසියන් ගේ කුඩා දරුවනට පීඩා කරන්නට වූහ. මෙයින් කුපිත වූ රටවැසියෝ රජුට පැමිණිලි කළහ. ඒ නිසා තම පුතුන් තිදෙනා රටින් පිටුවහල් කිරීමට රජුට සිදු විය. මෙසේ පිටුවහල් කැරුණු ඒ තිදෙනා පන්සියයක් පිරිවර සෙන් සමඟ ගල් නැවක නැඟී මුහුද තරණය කොට ලක්දිව සීනිගමට බට හ. එහි දී ඔවුනට විරුද්ධව ඊරියගම යක්ෂයා ඉදිරියට ආවේය. එහෙත් ඒ යක්ෂයා සමඟ සටන් කිරීමට තරම් ආයුධ කිසිවක් ඔවුන් අත නොවූ බැවින් දියෙන් කුකුළකු මවා ගත් ඔවුහු උගේ මාර්ගයෙන් ඊරියගම යකුට පහර දී යකා විනාශ කළහ. සහෝදර තිදෙන එ තැනින් නවගොමුවට පැමිණ, එහි සිටි පත්තිනිය ගෙන් වරම් ලබා එ තැනින් ද නික්ම විෂ්ණු දෙවියන් ගේ බල ප්‍රදේශය වන විල්බාවට ගියෝය. ඔවුන් විසින් කරන ලද වික්‍රම සීපයෙකි. නවගමුවේ දී පත්තිනි දේවිය ගේ රත් හළඹේ නාදය නැවැත්තූ මොවුන් විල්බාවේ දී විෂ්ණු ගේ ළිඳේ පණුවන් වූහ. එසේ ම විල්බාවේ දී තල්ගස් දෙකක් එකට ගෙන එය කඹයක් මෙන් එකට අඹළ වග ද පැවසේ. යළි කුරුණෑගලට පැමිණි ඔවුහු මහවැවේ රාජකීය ඔරුව පදින්නට ද ඉඩ නුදුන්හ. එතැනින් දඹදෙණියට ගිය ඒ තිදෙනා, එම මාළිගාවේ සිටි බිසෝවරුන් සැට දෙනා ගේ බෙලි කඩා වූහ. (29: 76 පි.)

මේ දෙවියන් ගේ බලය පැතිරී තිබුණු පෙදෙස් කෝල්මුර කවිවල දැක් වේ:-

සීතා කෝරළෙ අදිපති සමගින් පිටිගල් කෝරළෙ බෙලිගල ට ත්
තානායම් සැදි මාගම් කෝරළෙ සහ රයිගම් කෝරළ තුන ත්
තානායම් සැදි සපරගමුවෙ සහ බටු ගෙදරත් සහ රුහුණු රට ත්
පානා තෙද ඇති වීරමුණ්ඩ දෙවි අලුත් නුවර සහ උග්ගලට ත්
(එම: 77 පි.)

මලල කුමාරවරුන් ගේ ලංකා ආගමනය පිළිබඳව කඩයිම් හා විත්ති පොත්වල එන තොරතුරු මෙම මලල බණ්ඩාරයන් ගේ ප්‍රභවය ගැන



වැදගත් සාධක සපයන බව පෙනේ. ක්‍රි. ව. දාහතර වන සියවසේ අග හෝ පසළොස් වන සියවසේ මුල පමණ මලය අර්ධද්වීපය ආශ්‍රිත ප්‍රදේශයෙන් පැමිණි සංක්‍රමණික පිරිසක් සිය විශේෂ දස්කම් නිසා රාජ ප්‍රසාදය දිනා ගනිමින් මෙහි පදිංචි වූ බව එම තොරතුරු අනුව සිතිය හැකිය. (72: 6-7 පිටු) මලල බණ්ඩාරයන් ගේ ප්‍රභවය මේ හා සම්බන්ධ යැයි සැලකීම යුක්ති යුක්ත බව පෙනේ.

ඇන්. ටී. කරුණාතිලකයන් විසින් වාර්තා කොට ඇති මලල බණ්ඩාර කෝල්මුර කීපයක් පහත දැක් වේ.

පෙර ළා ගෙන මුහුදේ ජලපිට කරලා ගෙන මුතු මාලය කරව ට
වැර ලා කඩුවක් ගත්තේ පුරතට පැන ලා කෙටූ ඊරියගම යකුහට
පවුනේ ඊරියගම දී මෙ රහා හටනේ 'බල පෑ හතුරන් සමහා
යැවුණේ මල රජ සෙනඟ තරංගා වැටුණේ ඊරියගම යකු මුර ගා

එල්ල බලා වැඩ සිට ගෙන සතොසින් එම විල් බා කඩ
තල්ල වෙලා කුරුණෑගල නරනිඳු හට තෙද පාන් ඩ
රැල්ල බලා දේව අහල එන වැව මත බැරි පදින් ඩ
වල්ල මලක් පෙරහැර කර ඉද්දර මුල් පුටුව ගන් ඩ

සැළලිහිණිය මෙන් නද කර දහ අට බාසාව ක්
තළලට අඩ සඳ විලසට කරට පුන නූල ක්
ගිගිරි දාපු වළලු අතේ කඳ කුමරුගෙ ඊය ක්
මලල මේ බණ්ඩාර රජුනි වෙන් අපහට පිහිට ක්
(29: 170-71 පිටු)



## 154
## මහ කළු දේවතාවා

හියු නෙවිල් කවි සමුච්චයේ "මහ කළු දේවතා කවි" නම් කවි 30 ක් තිබේ. ඒ අනුව කරඬුබාන බිසවි කුස මහ කළු දේවතාවා උපන්නේය. පියා මෙහි සඳහන් වී නැත. එහෙත් අංක 74 "කළු යක් උපතේ "විජිත

රජු ලෙස දැක්වී ඇත.) සත් මුහුද මැද සත් විලට බසින මෙතෙම එහි ස්නානය කරන්නේ ය. දෙවි රජු ගෙන් වරම් ලැබ ලක්දිවට පැමිණි පසු කළු ඇඳුම් ඇඳ රතු මාලා නවයක් පැළඳ කඩුවක් ඉණේ එල්ලා ගෙන පත්කඩයක් ද ගෙන සිටී. ඔහුට ඉරුගල් දෙවිඳු ගෙන් වරම් ලැබී තිබේ. කළු ගොනකු පිට ගමන් කරයි. සිව් මංසන්ධිවල පුද ගනී. මිනිසුන්ට ලෙඩ කරවයි. පුද ලැබ ඒ ලෙඩ සුව කරයි. ඔහුට කළුකුමාර යන නම ද වේ. සැම විට රන් දුන්නක් හා රන් ඊතලයක් දරයි. වරෙක ඉරු දෙවියන් විසින් මොහු අල්ලා මිනිසුන් ලෙඩ නොකරවයි අණ කළ විට එය ප්‍රතික්ෂේප කළ බැවින් පාගා මරා දමන ලදී. එහෙත් මවගේ අයැදුමෙන් පත්තිනිය හා සිව්වරම් දෙවියෝ මොහුට පණ දුන්හ. (161, 2: 300 පි.)

"කළු යක් යාදින්න" නම් කවි පෙළේ සත් දින මොහු සිටින විලාසය දැක්වේ. ඉරිදා බොකුටු හිස කෙස් ඇතිව කළු ලෝගුවක් පැළඳ සිටී. සඳුදා නයි ආභරණ පැළඳ සිහිනෙන් පෙනෙයි. අඟහරුවාදා ලේ විලේ පීනන මොහු අඟනුන්ට ලෙඩ කරයි. බුදදින කළු ලෝගුව ඇඳ සිටී. බ්‍රහස්පතින්දා කතුන්ට සිහිනෙන් පෙනෙයි. සිකුරාදා රන් රථයක ගමන් කරයි: නිල් ලෝගුවක් ඇඳ මං මාවත්වල සිටී. සෙනසුරාදා කතුන් වෙත සිහිනෙන් පැමිණේ. කුකුළු ලේ බොයි. ඇතුන් ගේ මස් බුදී. පොළොව පලා නාග භවනයට යයි. ඔහුගේ වාහනය වෘෂභයෙකි. (161, 2: 301 පි.)

උරා රිරි බොන්නා හිටින්නා ගජතුහ මස්     කන්නා
ඉරා දෙරණ යන්නා බසින්නා නාග ලොවේ     ඉන්නා
සරා තුබට දුන්නා ඇහෙන්නා සුප සඳුන්     ගන්නා
තුරා වකින් එන්නා බලන්නා කළු යකු බැස     එන්නා
(එම)

හියු නෙවිල් කවි එකතුවේ අංක 74 දරණ "කළු යක් උපත" මොහුගේ උපත කීප ආකාරයකින් දැක් වී තිබේ. (1) කරඬු බානා බිසව කුස විජිත රජුට දාව (2) කළුගල් කන්දී කුස කළුගල් රුසිට දාව (3) කළු කිරිමව් කුස (4) බස්මාසුරයා දැවූ ගිනි මැළයෙන් (5) ගිනි කුමාරි කුසෙන් (6) හෙට්ටියකු ලෙස ඊතලයක්, මුගුරක් හා බිල්ලට කුකුළෙකු අතැතිව ආදී වශයෙනි. මොහු ගේ උපත ගැන තවත් ප්‍රකට ජනප්‍රවාදයක් නෙවිල් සඳහන් කර ඇත. ඒ අනුව විජය කුමරුට දාව කුවේණිය කුස උපන් ජීවහත්ථ වන්නේය. (161, 1: 86 පි.)

තිලුපුල් විලසින් හිමාල වන     මැද
කළුගල් පරුවතයක් විය එහි     සොඳ
එහි විල් තෙර අදිපති කුවෙණිය     ළඳ
හොරතල් දරු උපතක් පැමුණුනු     සඳ





## 155
# මහකොහොඹා දෙවියෝ

කොහොඹා කංකාරියේ අලුත් කොහොඹා, පරණ කොහොඹා, මහ කොහොඹා යන දෙවිවරු තුන් දෙනෙක් වෙති. මින් පරණ කොහොඹා බරණැස් රජු ගේ පුතකු බවත්, මහ කොහොඹා මලය රජු ගේ සේනාපතියකු බවත් අලුත් කොහොඹා ලක්දිව වැලිහෙල පියස උපන්නකු බවත් සන්නස්ගල මහතා ගේ මතයයි. (124: 687 පි.) කංකාරියේ මහයාතිකාවල (මුදියන්සේ දිසානායක විසින් වාර්තා කර ඇති පරිදි) "මහා කොහොඹා දෙවියන් වහන්ස බරණැස් නුවර යක්කර වදාරලා, පරණ කොහොඹා දෙවියන් වහන්ස මදුරා පුරෙ යක්කර වදාරලා, අලුත් කොහොඹා දෙවියන් වහන්ස වැලිහෙල යක්කර වදාර ලා" (73: 61 පි.) යනුවෙන් කියැවේ. ඒ අනුව,

1. මහ කොහොඹා බරණැස් පුරෙති
2. පරණ කොහොඹා මදුරා පුරෙති
3. අලුත් කොහොඹා වැලිහෙළිති.

එහෙත් මුදියන්සේ දිසානායක ඉරුගල් බණ්ඩාර (හෙවත් පායින්ගොමුවෙන් යක් බවට පත් වූ කුමාරයා) "මහ කොහොඹා" ලෙස හඳුනා ගෙන තිබේ. (72: 8 පි.) තේජා ගුණවර්ධන විසින් වාර්තා කොට ඇති ආකාරයට "පායින්ගොමුවෙන් ඉරුගල් බණ්ඩාර යන මන්ත්‍රීශ්වරයා ගෙන්වා, නොමරා යක් කර, ඉරුගල් බණ්ඩාර යයි වදාරා මහ කොහොඹා දෙවියෝ ය කියා නම් තබා" යැයි කංකාරියේ දී කියැවෙන්නේ ය. (45: 50 පි.)

එහෙත් මහ යාතිකාවේ ම (මුදියන්සේ දිසානායක වාර්තා කර ඇති පරිදි) මහකොහොඹා, පරණ කොහොඹා, අලුත් කොහොඹා ඉහත කී ලෙස සඳහන් කර (මෙහි දී කොහොඹා බරණැස් නුවර හා සම්බන්ධ වේ.) ඉන් පසු "අඹන්වලින් කන්දේ දෙවියන් කිරීමත්, පාඟන්ගොමුවෙන් ඉරුගල් බණ්ඩාර යක් කිරීමත් වෙනම සඳහන් වේ. (73: 61 පි.) මෙම දෙවිවරුන් ගැන අප සම්ප්‍රදායේ ඇති අදහස්වල ව්‍යාකූලත්වය මින් පැහැදිලි වන්නේය. "කොහොඹා දෙවියන්ගේ කවි" වල දී මෙසේ ගැයේ:-

මරා ගසා ලන කොසඹ දෙනේ — යා
දරා සිතින් ගත් කඩු පලි හේ — යා
තුන් දොළසක් වැදි බාර උ නේ — යා
මහා මෙ කොසඹා දෙවි වඩි නේ — යා

(73: 113 පි.)

ජී. රංගනාත් මෙම කොහොඹා දෙවිවරුන් තිදෙනා ගැන දක්වන අදහස්ද පැහැදිලි නැතත් ඔවුන්ට ස්වදේශීය ප්‍රභවයක් ඇති බව ගම්‍ය වේ. (106 : 47 පි.).

කොහොඹා යනු වැදි ජනයා අතර ප්‍රචලිතව හුන් ස්වදේශීය දෙවිවරුන් විය හැකි යැයි පාකර් විසින් ද අනුමාන කර තිබේ. (174: 140-41 පිටු) එසේ නම් පසු කලෙක භාරතීය ප්‍රභවයක් ඔවුන් වෙත ආරෝපණය වූවා විය හැකිය. (පරණ කොහොඹා සහ අලුත් කොහොඹා යටතේ ද බලන්න.)



## 156
## මහ නා බණ්ඩාර

මහනුවර ප්‍රදේශයේ දියකෙළිනාවල නම් ස්ථානයේ පිහිටා ඇති දේවාලයක පැවැත්වෙන පෙරහර විස්තර කරන "පෙරහැර මාලය" නම් කවි පත්තියක් හියු නෙවිල්ගේ කාව්‍ය සමුච්චයේ ඇත. (161, 1: 316 පි.) දේවාලය ඉදිවීම හා පුරාවෘත්තය එම කවි පෙළේ සඳහන් ව තිබේ.

එක් මවක කුස ඔත් සොහොයුරු නව දෙනෙක් දිය කෙළිනාවලේ ස්නානයට ගියෝය. ඔවුන් තදනන්තරව" අසළ වූ නාරුක් ගොමුවේ දේවත්වයට පත් වූහ. (දියේ ගිලී මිය යාමෙන් පසුව විය යුතුය.) මොවුන් පුද පූජා ලබමින් සිටින අවධියේ වනතුංග නමැති අයෙකු මෙහි කැලෑ එළි කරන්නට ගොස් නා ගසකට කෙටූ අවස්ථාවේ එයින් ලේ දහරාවක් ඔහුගේ මුහුණට වැදුණි. ඔහු උමතු විය. ඔහුගේ වර්ගයම සත් දිනකින් මිය ගියහ. එයින් පසු ගම්වැසියෝ මෙහි දේවාලයක් තනා දෙවිවරුන් පුදන්නටත් පෙරහර කරන්නටත් පටන් ගත්හ. මින් නොබෝ දිනකින් දියකෙළිනාවලේ දියෙන් පෙන වූ වස්ත්‍රයක් ගිනි ගෙන පන්දමක් සේ



දැල්වෙන්නට විය. මෙම ප්‍රාතිහාර්යය විස්තර කිරීමෙන් අනතුරුව දොඩන්වල දෙවිරජා ගැනත් ඔවුන්ගේ මූලස්ථානය සෙංකඩගල පිහිටා ඇති බවත් සඳහන් වේ. යථෝක්ත දෙවි නව දෙනාගේ නම් වනාහි මහ නා බණ්ඩාර, මැණික් බණ්ඩාර, ජයවීර බණ්ඩාර, උලපනේ බණ්ඩාර, යමසිංහ බණ්ඩාර, කුඩා බණ්ඩාර, දන්තුරේ බණ්ඩාර, ළමා බණ්ඩාර යනුවෙනි. (මෙහි ඇත්තේ නම් අටක් පමණි. එහෙත් දේව විශ්වාසයන්හි දී මෙය වැදගත් කරුණක් නොවේ.)

යථෝක්ත දේවාලයෙහි පුද පූජාවට භාජනය වන නව තිදෙනෙක් නම්: මහාස්ථාන, කුමාරසිංහ හා අභස්ථාන යි. මොවුන් කවුරුන් දැයි නිශ්චිතව කිව නොහැකිය. සෙනරත් රජුගේ පුතුන් තිදෙනා වන මහාස්ථාන, කුමාරසිංහ හා රාජසිංහ විය හැකිය. (එස්. ජී. පෙරේරා ඉතිහාසඥයා මේ නම් කුමාරසිංහ, විජයපාල, රාජසිංහ යනුවෙන් සඳහන් කර ඇත.) මින් පසුව මූලස්ථාන යන නමින් හැඳින්වෙන්නේ දොඩන්වල දෙවියන් විය යුතුයැයි හියු නෙවිල් අනුමාන කරයි. (එම). මෙම දේවාලේ පෙරහර ගැන විස්තරයක් ද කවි පෙළේ තිබේ. පෙරහරට යටිනුවර, සාරසියපත්තුව, තුම්පනේ, හතර කෝරළේ, මාතලේ හා දුම්බර (උඩුනුවර?) ජනයා සම්බන්ධ වන බව ද එහි සඳහන් වේ.

කවි 88 කින් යුත් මෙහි අවසානයේ දී දොඩන්වල දෙවියන්, අලුත් නුවර පුල්වන් දෙවියන්, පත්තිනි දෙවියන් හා බණ්ඩාර නව දෙනාට නමස්කාර කර තිබේ. (161, 1: 316 පි.).



## 157
## මහලොකු අක්කා

සමන් දෙවියන් ගේ වැඩිමහල් සහෝදරියක වන මෝ තොමෝ "මහ ලොකුවෝ" යනුවෙන් ද හඳුන්වනු ලැබේ. උඩදුම්බර වැසියන් හා විශේෂයෙන් හසලක වැසියන් ඇය වෙනුවෙන් හසලක කඳුමුදුනේ දේවාලයක් සාදා ඇත. මෙකී දේවාලය ඉදිරියේ ඇති රුක්ස තුග ගසේ වර්ෂයකට වරක් කොඩි එල්ලා මහලොකු අක්කා දේවිය සිහි කිරීමට උත්ත ප්‍රදේශීය වාසීහු පුරුදුව සිටිති. (11)

මහියංගණ සමන් දේවාලයේ ද මහලොකු දේවිය පුදපූජාවට ලක් වන්නීය. බින්තැන්නේ වැදි පරපුර අතර ඇති විශ්වාස අනුව මේ දේවතාවිය සමන් දෙවියන්ට වඩා බලවත් වන අතර තමන්ට මව් කෙනක හා සමාන වන්නීය. (108: 55 පි.)

පදියතලාව - මහියංගණ පාර සමීපයෙහි පිහිටි වැදි ගමක් වන දෙහිගොල්ලේ සළුකන්ද නම් කඳු ගැටයේ මහලොකුවෝ දේවිය ගේ සළු ආභරණ නිධන්ව ඇති බවට විශ්වාසයක් ඇත. (125: 130 පි.)



## 158
## මහී කාන්තාව

මී දේ දුව, මහීකාන්තාව, පොළෝ මහීකාන්තාව, භූමි දේවිය යනාදී නම් කීපයකින් ම හඳුන්වන මේ දේවතාවිය අන් අයක නොව පොළොව ම දේවත්වයේ ලා සැලකීමක් බව මෙයින් ගම්‍යමාන වන්නේය. සේනාසම්මත වික්‍රමබාහු රජුගේ ගඩලාදෙණි ශිලා ලේඛනයේ "සතරවරම් දෙවියන්ගේ ආඥාවය මහීකාන්තාවගේ ආඥාවය" කියා ද සඳහන් වේ. සිංහල සාහිත්‍යයේ "මිහිකත්" දෙවි යනුවෙන් ද දැක්වෙන්නේ මහීකාන්තාව ම බව පැහැදිලි ය. (22: 210 පි.)

මඩු තෝත්‍රවල දී විෂ්ණු, සමන්, කතරගම, පත්තිනි ආදි දෙවිවරුන් මල් යහන්වලට ආරාධනා කිරීමට පෙර භූමි දේවිය ගෙන් අවසර ගැනේ. "දෙ ලක්ෂ හතළිස් දහසක් යොදුන් ගන කඩ මහ බොල් පොළොව පලාගෙන පැන නැංගා වූ මහී කාන්තා නම් දිව්‍යාංගනාවුන් වහන්ස, ඔබ වහන්සේට හිමි වූ පොළොවෙහි අද දින අප විසින් කරන ලද්දා වූ මඩු පේ කිරීම් දේවස්තොත්‍රය කරවා ලීමට මේ රංග මණ්ඩලය නොහොත් පෘථිවි මණ්ඩලය අප වෙත ඉඩ හැර දුන මැනැවැයි ඔබ වහන්සේට රිසි වූ දුම් මල් පහන් දළුමුර ගනිත් මැයි" යනුවෙන් මේ අවසර ගැනීම සිදු වේ. (36: 160 පි.)

කෘෂිකාර්මික කටයුතුවල දි මහීකාන්තාවගෙන් පළමු අවසර ලබා ගත යුතු යැයි චිරාගත විශ්වාසයක් පැවතුණු බව පහත සඳහන් කවියෙන් පෙනේ.



පළා පොළොව නඩුවට වඩිති පසු		පෙ රා
දරා පුත් කළස වසවතුට දොස්		ක රා
බලා විදුරස්න මුනිඳුන්ට පුද		ක රා
පොළොවට මිහිතු දෙවියනි අපට අවස		රා

(51 අ: 32 පි.)

බුදුරජුන්ගේ වජ්‍රාසනයට පහතින් නැගී සිට පුත් කළස අතින් දරා වසවතුට දොස් කරන මහී කාන්තාවගේ රූපය 18 වන සියවසට අයත් දෙගල්දොරුව රජ මහ විහාරයේ මාර යුද්ධය චිත්‍රයෙහි ඇත්තේය.



## 159
## මාතලේ දෙවි තුන් කට්ටුව

මාතලේ දිස්ත්‍රික්කයට අයත් ලග්ගල, දඹුල්ල යන ප්‍රදේශවල කුඹුරු ගොවිතැන ආරක්ෂා කරන දෙවි තුන් කට්ටුවක් ගැන සඳහන් වේ. ඔවුන් ගේ නම් මෙසේ ය:-

1. වන්නිය බණ්ඩාර දෙවියෝ
2. පහුරේ අරුත් (අලුත්?) දෙවියෝ
3. තෙද කීර්ති බණ්ඩාර දෙවියෝ

වී වැපිරීමෙන් පසුව දා උදේ පාන්දරින් ම කුඹුරට ගොස් කුඹුරු ආරක්ෂාව සඳහා මේ දෙවියන්ට කරන යාතිකාව මෙසේ ය:-

"වන්නියට වන්නි පහළොස් පත්තුවක්, බින්තැනි ගම් දහයක්, මාතලේ හත් දිසාවක්, ගහළ දෙකෝරළයක්, ඌවෙ වෙල්ලස්ස, මඩකලපුවට දිවැස් ඇති වන්නිය බණ්ඩාර දෙවියෝ, පහුරේ අරුත් දෙවියෝ, තෙද කීර්ති බණ්ඩාර දෙවියෝ, තමුන්නාන්සේලා තුන්කට්ටුවට අඩංගු කර ගන්ට ඕනෑ. මේ කෙතේ ගොයම් කපා අවසාන වන තුරු තමුන්නාන්සේලාගෙන් මේ කෙතට ආරක්ෂාව නිරන්තරයෙන් බැලීමෙන් කිසිම සතුරෙකුට ඇතුල් වෙන්ට නොදී තමුන්නාන්සේලාගේ තෙද වරම්

පිහිටත්ට ඕනෑ. අවසානයේ දී මේ අස්වැන්නෙන් තමුන්නාන්සේලාගේ අඩුක්කුව අපි පිළියෙළ කර දෙනවා......" යනුවෙන් දෙවියන් තිදෙනා සඳහා පඬුරු තුනක් ගෙන කුඹුරේ කඩුල්ලේ හෝ වැටේ නැගෙනහිර දිසාව බලා විහිදුණු අත්තක එම පඬුරු ගැට ගසා බාර වෙනු ලැබේ. මේ නිසා කුඹුරට නියි ආරක්ෂාව ලැබෙන බව ගොවියෝ විශ්වාස කරති. (13: 83 පි.)



## 160
## මාතලේ දෙවි පස් කට්ටුව

මාතලේ පළාතට බලපාන ප්‍රධාන පෙළේ දෙවියන් පස් දෙනකු ගැන ද සඳහන් වේ. ඒ පස් දෙනා ගේ නම් හා ඔවුන් ගේ ආයුධ මෙසේ යැ:-

1. මින්නේරි දෙවියෝ - යුද්ධා යුධය
2. දේවතා බණ්ඩාර දෙවියෝ - කඩුව
3. බණ්ඩාර දෙවියෝ - බෝ කොළ ආයුධය
4. මංගර දෙවියෝ - හෙණ්ඩුව
5. කන්දේ දෙවියෝ - (13 : 85 පි.)

කන්දේ දෙවියන් "ගල් බැඳි සෝලුව පුරන දරන" බව අන් තැනෙක කියැවේ. (37 : 39 පි.).



## 161
## මාතලේ දෙවි දාහත් කට්ටුව

මාතලේ ප්‍රදේශය හා සම්බන්ධ දෙවිවරුන් දාහත් දෙනෙකුගේ නම් මීට ඇතුළත් වේ.



| | |
|---|---|
| බණ්ඩාර දෙවි | 01 |
| ඔහුගේ පිරිවර දෙවි | 12 |
| අලුත් දෙවි | 01 |
| ඔහුගේ පිරිවර දෙවි | 03 |
| | 17 |

නම් වශයෙන් ඒ දහහත් දෙනා මෙසේ යැ:-

1. බණ්ඩාර දෙවියෝ
2. කන්දේ දෙවියෝ
3. දේවතා බණ්ඩාර දෙවියෝ
4. හඳුන් කුමාර දෙවියෝ
5. කළු කුමාර දෙවියෝ
6. බුලත් වඩන දෙවියෝ
7. යාපා බණ්ඩාර දෙවියෝ
8. ආස්ථාන දෙවියෝ
9. කුමාර බණ්ඩාර දෙවියෝ
10. අභූත උන්නැහේ
11. කම්බලේ දෙවියෝ
12. මින්නේරි දෙවියෝ
13. මංගර දෙවියෝ
14. අලුත් දෙවියෝ
15. සිංහාසනේ දෙවියෝ
16. මොනරවිල දෙවියෝ
17. කැප්පෙටිපොල දෙවියෝ
(13: 84 පි.)



## 162
## මාපල දෙවියෝ

බිබිල - නිල්ගල මහා මාර්ගයේ පිහිටි පිටකුඹුර නම් ගමේ ඇති බණ්ඩාර දේවාලය මාපල දෙවියන් ගේ යැයි සලකනු ලැබේ. (125: 132 පි.)



## 163
## මායාදුන්නේ රජ්ජුරු බණ්ඩාර දෙවි

මාතලේ පළාතේ ගොවියන් තම තමන් ගේ කමත්වල අලුවම් වැඩීමේ දී මායාදුන්නේ රජ්ජුරු බණ්ඩාර දෙවියන් ගේ ආයුධය වන දුන්න ද සිරිතක් වශයෙන් අළුවලින් සලකුණු කරනු ලැබේ. ඒ අනුව මේ දේව විශ්වාසය අද පවා මාතලේ පවත්නා බව කිව යුතුය. (13: 84 පි.)



## 164
## මාවත්තේ දෙවියෝ

මාවත්ත නම් පෙදෙසේ සිට විශාල හමුදාවක් රැගෙන විත් ලක්දිව පදිංචි වූවකු වශයෙන් හඳුන්වනු ලබන මෙම දෙවියා බෝධිය ආරක්ෂා කරන අයකු ලෙස ද හැඳින් වී ඇත. (141: 63 පි.) දොළොස් දෙවියන් අතර ගෙ වැන්නා ලෙස කොටගම වාචිස්සර හිමියෝ මෙම දෙවියන් හඳුන්වා දෙති. එනම්:- 1. මැණික් දෙවි 2. මාවත්තේ දෙවි 3. කොස්ගම දෙවි. 4. පරකාශ දෙවි 5. මරළු දෙවි 6. කුමාර දෙවි 7. මීහිරිය බැද්දේ දෙවි 8. වන්නි බණ්ඩාර දෙවි 9. කළුබණ්ඩාර දෙවි 10. බෝවල දෙවි 1. මීගහපිටියේ දෙවි 12. කිවුලේ ගෙදර අලුත් දෙවි (116: 103 පි.) මීට අමතරව මිරිස්වත්තේ අලුත් දෙවි යනුවෙන් ද දෙවියකු සිටින බව බානට් සඳහන් කරයි. එවිට මේ ගණන 13 ක් වන බව කීමට සිදු වේ. (කිවුලේ



ගෙදර අලුත් දෙවි යටතේ ද බලන්න.) දහනව වන සියවසේ දී හියු නෙවිල් එකතු කළ කාව්‍ය සංග්‍රහයේ එන "දොළහ දෙවි කවි" අතර ඇති මාවත්තේ දෙවියන් ගේ කවිවල ඉහත සඳහන් තොරතුරු අඩංගුය. පහත දැක්වෙන්නේ ඒ කවි දෙකකි.

ආ පස්සට වෙ ද මූන පෙර ළන් තේ
බෝ අත්තට වද සිරස නමන් තේ
මේ වැත්තේ මෙ දුකින් ගොඩ ගන් තේ
මා වත්තේ දෙවි රජා වඩින් තේ

මා වත්තේ සිට වැඩි සින්දා මයි
සෙනහක් කැටුවට ආ සින්දා මයි
මෙ හැමත් අණසක පුළුවන් දා මයි
මා වත්තේ දෙවි ගිනි කන්දා මයි
(37: 131 පි.)

තවත් දොළහ දෙවි කවි පෙළක මෙසේ ද දැක් වේ.

සිරසට රන් මිණි ඔටුනු දරා තද
ඉණ පිට ජය මූර්තු සලුව වඩා තද
දිලි දිලි සත කුඩයක් අර ගෙන තද
දැන වැඩි යද මාවත්තේ ගිනි කඳ
(37: 134 පි.)

ගිනි කඳක් ලෙස ඔහු ගේ තේජස ප්‍රකාශ වී ඇති බව පෙනේ.



## 165
## මැණික් බණ්ඩාර දෙවියෝ

බිත්තැන්න පෙදෙසේ කීර්ති බණ්ඩාර දෙවියන් ගේ අඩවියේ නැගෙනහිර සීමාව අවසන් වෙත් ම හමුවනුයේ මැණික් බණ්ඩාර දෙවියන් ගේ බල ප්‍රදේශය යි. නුවරඑළිය දිස්ත්‍රික්කයේ වලපනේ, වැලිමඩ

ආදී ප්‍රදේශයන් විශේෂයෙන් එම බල ප්‍රදේශයට අයත් බව පෙනේ. ඔහු මැණික් බැඳි පුටුවක හිඳ, මැණික් බැඳි වේවැලක් අතින් දරා සිටී.

මැණික් බැඳපු පුටුවේ වැඩ ඉන්නේ
මැණික් බැඳපු ජය වේවැල ගන්නේ
මැණික් රජා ගෙන් පිහිට ලබන්නේ
තෙදැති මැණික් බණ්ඩාර වඩින්නේ
(37: 131 පි.)

තවද, ඌවේ ප්‍රාදේශීය "දෙවි දොළොස් කට්ටුව" අතර මුලට ම සඳහන් වන්නේ මැණික් බණ්ඩාර දෙවියෝ ය. එතුමන් ගේ ගොරඩියකුඹුරේ දේවාලයේ වාර්ෂිකව එම දෙවි දොළොස් කට්ටුව සඳහා පුද පූජා, පඬුරු, යහන් දැක්ම හා බාර හාර ඔප්පු කිරීම සිදුවේ. (86: 216 පි.) ඌව වංශ කථාවේ 15 වන පරිච්ඡේදය මුලට මෙම ඌවේ මැණික් බණ්ඩාර දෙවියන් ගේ ප්‍රතිමාවෙහි ඡායාරූපයක් දක්වා තිබේ. ඒ අනුව උඩරට ජනප්‍රධානයකු විලසින් ඔහු දැක් වී ඇත. බදුල්ලේ ළිඳමුල්ලේ පත්තිනි දේවාලයේ ද මෙම දෙවියන් ගේ චිත්‍රයක් ඇඳ ඇති බව කියැවේ. (84: 96 පි.)

උපත: මේ පිළිබඳ කථා දෙකකි.

(1) වීදාගම විසූ රදළවරයකු සමග සටන් කොට එම රදළයා වනසා දැමූ මැණික් බණ්ඩාර නම් රණශූරයා මරණින් පසු මැණික් බණ්ඩාර දෙවි බවට පත් වී වීදාගම ගලේ ඉපිදී සිටින බව ජනප්‍රවාදයේ පවතී. (56: 135 පි.) මේ දෙවියා පිළිබඳව ඇති කවිවලින් කවි තුනක් පහත දැක්වේ.

බන්ද බන්දා වෙහෙර මුදුනේ සමයමේ දඩ වඩින වා
සේන්දිරික්කා මලේ පැහැයට තොප්පි සළුවක් වඩන වා
සාදිලිංගම් ලවා පලියක් සබ මැද වඩින වා
එදත් වීදාගමට හදි කළ මැණික් බණ්ඩර වඩින වා

මහ සෞම්‍යය මූද මැද්දේ එරන් බානකි පෙනෙන් නේ
එ රන් බානේ රුවල මැද්දේ විරුදු කොඩියක් බඳින් නේ
විරුදු කොඩියක් අතර අරගෙන බුම් සක්මන් කරන් නේ
එදත් වීදා ගමට හදි කළ මැණික් බණ්ඩර වඩින් නේ

යකඩ කද්දඹු ගඩුළු එැ කැට රිදී මාලිග හග් ගලේ
දවුල් තම්මැට්ටමුත් සොරණෑ දෙවේලේ අලුයම් කලේ
මැණික් සරසා කුණමක් කර වැඩ හිටින්නට එම ගලේ
මැණික් බණ්ඩර රජෝ බැරුවා සිද්ද වරුසා වැසි කලේ



(මෙම කවි උපුටා ගත්තේ මාපොටේ චන්ද්‍රජෝති හිමි හා ගොඩගම විපුලසාර හිමි ලියූ "ලංකික දෙවිවරු" පොතෙනි. මෙම හිමි වරුන් ගේ අදහස නම් මැණික් බණ්ඩාර යනු දැඩිමුණ්ඩ දෙවියන් ම බවයි. (56: 135 පි.) එහෙත් අපේ අදහස වන්නේ මෙ දෙවියන් අන්‍ය වූ ප්‍රාදේශීය දෙවි කෙනකු බවයි.)

වෙනත් මූලාශ්‍රයක ඇති මෙම කවි පන්තියෙන් ද වීදාගම මුදලිට හදි කිරීමේ සිද්ධිය දැක් වී ඇත.:

වීදාගම සිට දිඹුල පැවි වී
නොමදා ඉන පිට ඇත් දැයි කවි වී
නොකියා යදිනට ආවයි විවි වී
වීදාගම මුදලිට හදි වෙවි වී

ගොස් වීදාගම මෙහි දි අපන් නේ
ගොස් මේ යදි හට අවසර දුන් නේ
එරන් රුවන් කොස්ගම දෙවියන් නේ
එදා පෑ පූ තෙද තවම තියෙන් නේ

ඔක්කඳ මල කඳ දිය නා වා ලා
පස් කවි සඳු නෙත් ගිනි මොල වා ලා
රත් කඩකුත් ගෙන වැසුන් වසා ලා
කොස්ගම රන් කඳ දිවස් ලබා ලා

කොස්ගම සිට රට බලන්ට වැඩි දා
ඔක්කොම පිරිවර කැටුවම ආ දා
රැස් වී පිරිවර වටට සැදුනු දා
හග්ගල වැඩ හුන් මැනික් සුරින් දා

ගනඳුරු අඳුරට පාන් ලතෙයි කිවි
මැණික්වලට සිත පිරිය වෙතියි කිවි
අතික් යකුන්හට උතුම් වෙතියි කිවි
මැනික් එබංඩර රජා වඩිති කිවි
(98: 633 පි.)

ඉහත කවි පන්තියේ ඇති "කොස්ගම රංකඳ" යන යෙදුම අනුව සලකතොත් කොස්ගම දෙවියා යනුවෙන් ද හැඳින් වෙන්නේ මෙම මැණික් බණ්ඩාර ම ද? යන විමතිය ඇති වේ.

(2) තවත් කථාවක සඳහන් පරිදි මෙතෙම ඔළී හෙවත් සොළී කුමරෙකි. හේ රජුට බියෙන් තැන් තැන්වල සැඟවී සිටියේ ය. ඔළිගම්පොළ

යනුවෙන් හඳුන්වා ඇත්තේ ඔහු සැඟ වී සිටි පෙදෙසක් යැයි අනුමාන කළ හැකිය. මේ අයුරින් සැඟ වී සිටි උක්ත ඔළී කුමාරයා කුඹුරු අස්සද්දා ඉඩම් හිමියකු වශයෙන් පිටියෙගෙදර පෙදෙසේ විසීය. ඒ බව දැනගත් රජු වධකයන් එහි යවා උක්ත කුමාරයා මැරවී ය. එයින් පසු ඔහු මැණික් බණ්ඩාර යනුවෙන් දේවත්වයට පත් ව ඇත. (137: 538 පි.)

එච්.යූ. ප්‍රඥාලෝක හිමියන් විසින් **පුරාණ සිවුපද සංග්‍රහයේ** දක්වා ඇති "මැණික් බණ්ඩාර දෙවියන් ගේ කවි" කීපයක් පහත දක්වමු.

මැණිකක් හොරකම් කර ලා — වන්දිය
හොරකම නොකළොත් නොවැටෙයි — වන්දිය
රිදී මකලා වූ බුබුල් පැලන් — දිය
මැණික් රජා අල්ලන රන් බත් — දිය

නා ගස නා රුක නා සෙව නැල් — ලේ
බෝ ගස බෝරුක බෝ සෙව නැල් — ලේ
තුම් බෝ අත්තන අතු සෙව නැල් — ලේ
මැණික් රජාගේ කඩු සෙව නැල් — ලේ
(90 : 298 පි.)

ප්‍රඥාලෝක හිමියන් මැණික් බණ්ඩාර ගැන සඳහන් කොට ඇත්තේ වැදි දෙවියකු වශයෙනි.



## 166
# මින්නේරි දෙවියෝ

මින්නේරි වැව කර වූ මහසෙන් රජු (ව්‍ය.ව. 274-301) මිය ගිය පසුව මින්නේරි දෙවි නමින් උපන් බව ජනතාව අතර පවත්නා දැඩි විශ්වාසය යයි. තමන්කඩුව හා මින්නේරි පෙදෙස් මේ දෙවියන් ගේ අඩවිය ලෙස සැලකේ. මොවුන් ගේ ප්‍රධාන දෙවොල මින්නේරි වැව අසල දක්නට



ලැබේ. ඒ පෙදෙසේ වැසියෝ එක ම දෙවි මින්නේරි හත්රජ්ජුරුවන් යනුවෙන් ද හඳුන්වති. මේ සියවස මුල දී බැම්ම මත තැනෙන පැරැණි ගල් පිළිම ගණනාවක් එක්තැන් කොට තිබුණු බවත් එතැන "වැඩ ඉන්නා මාලිගාව" යන නමින් හැඳින්වුණු බවත් ආර්. ඇල්. බ්‍රොහියර් මහතා සඳහන් කරයි. (144 : 20පි.) මින්නේරි දෙවියන් ගේ, බිසොව ගේ අමාත්‍යවරුන් ගේ රූප ලෙස ඒවා හඳුනාගෙන තිබිණි. දැනට මින්නේරියේ පුරාණ දේවාලය ද, වැවේ දේවාලය යනුවෙන් හැඳින්වෙන නවීන දේවාලයක් ද පිහිටා තිබේ. මීට අමතරව ඇළහැර කුඩා මින්නේරි දේවාලය ද, සියඹලාව දේවාලය ද, සීගිරියෙන් හැරී අතුරු මාවතකින් ළඟාවිය යුතු වන මැද පිහිටි ගල්ළිඳ දේවාලය ද යනුවෙන් මෙම දෙවියන්ගේ අණසක ඇති දේවාල කීපයක් තිබේ.

මාතලේ පෙදෙසේ දඹුල්ල, ලග්ගල යන කොටස්වල පැවැත්වෙන අඩුක්කු පිදීමේ උත්සවවල දී මුල් තැන ගන්නා දෙවිවරුන් පස් දෙනා අතර මින්නේරි දෙවියෝ ද වෙති. (ඉහත "මාතලේ දෙවි පස්කට්ටුව" බලන්න.) මේ දෙවියන්ගේ ආයුධය යුද්ධායුධය වේ. මාතලේ දකුණු කොටසේ ගල්පාය පර්වතයේ ඇති නිධානයක හත්රජ්ජුරුවන් ගේ රාජාභරණ හා රන් රිදී මුතු මැණික් සංඛ්‍යාත අරමුදල නිධන්ව ඇතැයි ජනප්‍රවාදයකි. (119 : 226පි.) එම දෙවියන් ගැන මෙසේ ද සඳහන් වේ.

මින්නේරි දෙවියෝ - රට මැද වැඩි — යෝ
වඩුරිය හැරියෝ - බොහෝ සෙනඟක් පිනට — හැරියෝ

තල ගෝනිය පටවලා ගොනු පිට - මුළු දෙක කප ලා ඇරිය ලු දැළට
පැළ පත බල බල වැඩියලු එතර ට - මයිල රුකේ මුල ඉඩම බලා සි ට
(13 : 86 පි.)

ඉහත දෙවන කවියෙහි කියැවෙන්නේ මින්නෙරි වැව පිහිටි තැන රජ සොයා ගත් අයුරු යි. රජුගේ ගව පට්ටියේ එක් දෙනක් විටින් විට රැළෙන් වෙන්ව ආපසු එන්නීය. එසේ ආ විට ඇගේ කිරි පැණි රස වේ. ඇය යන තැන සොයා ගැන්ම පිණිස ඇගේ පිටේ සිදුරු කළ තල ගෝනියක් බැඳ යවන ලදී. පසුව ඒ තල පාරදිගේ ගොස් අගනා ජලාශයක් හා ඒ අවට ඇති වැල්මී වනය ද සොයා ගනු ලැබිණි. එහි වැවක් තැනවීම සඳහා ප්‍රදේශයේ දඩබිම් කර ගෙන ද මෙනේරි වවමින් ද සිටි වැද්දන් ගෙන් අවසර ගතයුතු විය. (144 : 18 පි.)

වැද සිට අප දුටු වැව යයි කිය — තී
එබසට මහ රජ කරුණා කර — තී
රුව ඇති කුමරා තුඩුව ට වඩි — තී
එම විට වැදි පුත් තුන් දෙන කිය — තී

එහෙම දුටු අපි කුරුයෙ බොජනු ට
නුදුනොත් නරකයි අපේ රජුන් හ ට
ගෙන උන් තුන් දෙන දුන්නේ කැට ගෙ ට
කොසිමුත් රජුහට දුන්නයි මේ ර ට

(37 : 55පි.)

මහසෙන් රජු විසින් කරන ලද නොයෙක් වික්‍රම හියු තෙවිල් එකතු කළ කවි අතර "කළු දැකඩ කුමාරයා ගේ කවි" නමින් ඇති දීර්ඝ කවි පන්තියේ වර්ණිතය. ජේතවනාරාමයේ නිධාන් කිරීම සඳහා බුදුරජුන් ගේ පටී ධාතුව සෑදධි බලයෙන් ගුවනින් රැගෙන එන කල්හි රජු අහසට පැන නැඟ කොටසක් කඩුවෙන් කපා ගත් අයුරු එහි විස්තර වේ.

දිව්‍ය ලෝක දෙව් එවූ පටි ධාතුව
එවුව මෙ ලෝකෙට පින් කළ ධාතුව
මේ ලෝකේ එළිවුණි රුව ඇති ධාතුව
මේ ලෝකේ දෙවිහට පෙනුනා ධාතුව

එර්දි වෙලා එන ධාතුව දැක ලා
නො ගැවෙල කඩුවෙන් ගැසුවේ එක ලා
අදිටන් බලයට කැපුවයි එක ලා
ධාතු එතැන පිහිටා බන්දා ලා

(37 : 51පි.)

(රිටිගල නුවර කරවීම හා එහි විසීමත් කළුදැකඩ දෙවියන් ගේ උපත පිළිබඳ පුවතත් කළුදැකඩ දෙවියන් ගැන විස්තරයේ ඇතුළත් ය.)

මින්නේරියේ පිහිටා ඇති පුරාණ මින්නේරි දේවාලයේ අලුත්සහල් මංගලය, ඉන් පසු සිදු වන දොර වහන මංගලය, මහ මංගලය, කාර්ති මංගලය යනුවෙන් මංගල හතරක් වාර්ෂිකව සිදු කෙරේ. අලුත්සහල් මංගලයෙන් පසුව එන දොර වහන මංගලයේ දී වසනු ලබන දොරටුව යළි මහ මංගලය පවත්වන සැප්තැම්බරය තෙක් එසේ වසා තබනු ලැබේ.

ඇළහැර කුඩා මින්නේරි දේවාලයේ පැවැත්වෙන්නේ එක් මංගල්ලයකි. කුඹුරුවල අස්වැන්න ගෙට ගත් පසු ගෙවලින් "අක්කියාල්" එකතු කොට දේවාලයට ගෙන ගොස් දෙවියන්ට "නිල කිරීම" සිදු කෙරේ. ඉන් පසු වී කෙටීම, කැවුම් සඳහා පිටි කෙටීම, පොල් හිඳ තෙල් ලබා ගැනීම, කැවුම් පිසීම ආදියට ගැහැණු ද සහභාගි වෙති.

දෙවියන්ට කැප කොට මහ බතක් හා එළවලු ද උයනු ලැබේ. "මහ තැම්ම" නම් මෙය වටතිර ඇද ගෞරවාන්විතව සිදු කෙරේ. යාතිකා කොට අනතුරුව මෙය සියලු දෙනාට බෙදා දෙනු ලැබේ.



## මින්නේරියේ පුරාණ දේවාලයේ යාතිකාව:

"සාදු සාදු පස්වාන් දහසකට දවස දිව වදාරන්ට, මහසෙන් මහ රාජෝත්තමයාණන් වහන්ස, පනන් දේවතා හාමුදුරුවන් වහන්ස, අඩුක්ගන්නා ස්වාමින් වහන්ස, වැවේ දෙවි ස්වාමින් වහන්ස, හිඟුරක දෙවි ස්වාමින් වහන්ස, කළුදැකඩ මහ රජ්ජුරුවන් වහන්ස, බිසෝ බණ්ඩාර මෑණියන් වහන්ස, ඔබ වහන්සේ ලා ඇතුල් වූ දේවතා පස් කට්ටුවක් බලය ඇති උතුම් වූ මහසෙන් මහරජ්ජුරුවන් වහන්ස, බලය ඇති හාමුදුරුවෝ ඔබ වහන්සේ තේජානුභාව ඉර පායන තුරු ඉර බහිනා තුරු දක්වා මේ ශ්‍රී ලංකා ද්වීපයට යහතින් බැල්ම ඇත්තා වූ උතුම් වූ මහසෙන් මහ රාජෝත්තමයාණන් වහන්ස, ඔබ වහන්සේගේ තේජානුභාව කතරගං වහලට, දඹුලු වහලට, හුරුළු වහලට, මින්නේරි වහලට, දොළොස් දූවට, සිරියැවැල්ලා රුවහට, අකුමළුවට, වැලි මකරත් මළුවට, පල්ලිය වහලට යහතින් බැල්ම ඇත්තා වූ, දැකුම් වූ දෙවි ස්වාමීන් වහන්ස, බුදුවන හාමුදුරුවන් වහන්ස, ඔබ වහන්සේ ඇති දස් පන්සිය පවතින තුරු නැති දස් පන්සිය පවතින තුරු, මතු වූ අනාගතේට, කල්ලිගේට යන තුරු සිරි යහන් වැ කඩක් කරවා එම වැ කඩ මත්තෙහි ඔබ වහන්සේගේ රුවට රුවක් වැඩ සිටුවා තිබෙන්නා වූ සත්ත පාරමිතාව ඒකාන්තරං නිතරං දෙවි ස්වාමින් වහන්ස, උතුම් වූ මහසෙන් මහරජ්ජුරුවන් වහන්ස, ඔබ වහන්සේගේ තේජානුභාව අඹන් ගංගාවට, ඇළහැරට, තමන්කඩුව ජනපදයට, වැඩි පළාතට, වෙල් පළාතට, නුවරගල් කන්දට, කෝඳුරුගල රිටිගල කන්දට, කිරි ඔය තලා වතුරට, කුමාර තුඩුවට, කැප්පුව පට පිළිනත් කන්දට, දිය කැපිල්ලට, නානුමුර ගල් මුරප්පුවට, ඔරු බැඳි සියඹලාවට, යහතින් බැල්ම ඇත්තා වූ උතුම් මහසෙන් මහ රාජෝත්තමයාණන් වහන්ස, ඔබ වහන්සේ ගේ තේජානුභාව මහසෙන් මහ විහාරයට ඔකන්ද විහාරයට, කලන්දක විහාරයට, රූ පාරමෙ විහාරයට, මුවගං විහාරයට, සුරුපිටි විහාරයට, මනොරම්ම විහාරයට, මෙම විහාරයට ආදීන්ට දිවැස් බලය ඇති වන්නා වූ ශ්‍රීමත් උතුම් වූ මහසෙන් මහ රජ්ජුරුවන් වහන්ස, ඔබ වහන්සේ සුප්‍රනීල විලාශයෙන් අති පරිශුද්ධ වන්නා වූ රාජ ආභරණින් දිලිහි දිලිහී වැඩ වාසය කරන්නා වූ ශ්‍රීමත් මහසෙන් මහරජ්ජුරුවන් වහන්ස, ඔබ වහන්සේ ගේ මඟුල් කග සුරතට ගෙන, රත්මිණි ඔටුනු පැළඳ, බලය ඇති වහන්ස, ඔබ වහන්සේලා අද දින උවදුරු දේශ දාටක, බාඹලුව ඇතුළු සක්වළට, පිට සක්වළට, වහල් හතරක, අරමුදල් දහ අටක වැඩ හිටියේ නැවත මහසෙන් මහරජ්ජුරුවන් වහන්ස, ඔබ වහන්සේලාගේ අණ ආඥාවට අද දින වූ වදුර මෙ කෙම්බර හතරදී මෙ වැනි රාජ රාජ අමාත්‍ය විසින් ඔබ වහන්සේගේ මෙම දේවස්ථානයට පැමිණ මෙම රාජ රාජ අමාත්‍යයෝ

විසින් කරන්නා වූ සියලු රැකි රක්ෂාවල් දවසින් දවස දියුණු කර වදාරන්ටත් එයින් සියලු එයින් ආය ජාය තොර හොඳාකාරව ලබා දෙන්ටත් සතුටු සන්තෝෂ භාවයෙන් කාලය ගත කිරීමටත් එසේ බව අද දින මුව දොර වැද මුදුන්පත් කරවා සාමයේ පැවැති පිහිට ආධාර මෙ දුක්ගන්නා සහගතව සැම සියලු දෙනා තමන් වහන්සේලාගෙන් වැඩ වඩා කරුණාවල් ලබා දෙන තමුන්නාන්සේලා කරුණාකර දෙවා වදාරන්ට, යහපති, යහපති, ආයු බෝවා ආයුබෝවා."



## 167
# මින්නේරි දෙවි හත්කට්ටුව

මෙහි සඳහන් නමින් ම මින්නේරියේ විසූ රජවරුන් හත් දෙනකු ගැන ද නො එසේ නම් "සත් පත්තිනි" වැනි ව්‍යවහාරයක් මෙන් එක් දෙවි කෙනකු ගැන ද යනු කීම දුෂ්කරය. හියු නෙවිල්ගේ අදහස නම් මේ වනාහි මින්නේරි දෙවි බවට පත් වූ මහසෙන් රජු ගැන සඳහනක් බවය. (161: 1: 102පි.) මේ දෙවි සත් දෙනකු හැඟවීමට යොදා ඇති සංඥා නමක් යැයි සලකන්නේ නම් ඒ සත් දෙනා ගේ නම් සෙවිය යුතුය. මින්නේරි දෙවි යටතේ එන දෙවියන් පස් දෙනකු ගේ නම් හමු විය. ඒ පස් දෙනාට අමතරව සත් රජ්ජුරු බණ්ඩාර යන නමක් ද ඇත. ඒ නම එක දෙවියකු සඳහා වුවක් ද වන්නට ද පුළුවන. පනන් බණ්ඩාර දෙවියන් ද මින්නේරි සත් කට්ටුවට අයත් වන බව මින්නේරි දෙවි සත් කට්ටුවේ විත්තිවල සඳහන් වේ. මේ කරුණු දෙස බලා මින්නේරි දෙවි සත් කට්ටුව මෙසේ විය හැකි යයි සිතමු.:-

1. මින්නේරි දෙවියෝ
2. දේවතා බණ්ඩාර "
3. කන්දෙ "
4. නාමල් බණ්ඩාර "
5. මංගර "
6. කළු දැකඩ "
7. පනන් බණ්ඩාර "



තවත් සම්ප්‍රදායකට අනුව පනම් බණ්ඩාර හෙවත් පනන් දෙවි වෙනත් අයෙකි. (ඉහත "පනන් දෙවි" යටතේ බලන්න.) ඉහත මින්නේරි දෙවියන් යටතේ දැක් වූ පරිදි සත් කට්ටුවට බිසෝවරුන් ද අමාත්‍යවරුන් ද අයත් යැයි සැලකීමට ද පුළුවන.

**මින්නේරි දෙවි සත්කට්ටුවේ විත්තිය:-**

යසින් ගුණයෙන් ව වැජ සත් ගුණෙන් දින නා
ඔෙනා සිතු මෙන් ඔබ රජ කිත් සිරි සැපත් විඳි නා
රුසින් එහි නැග දජ කිත් ලොව පතුර නා
කියම් වග මින්නේරි සත් රජ සත් දෙනෙක් රජ දෙවි ව සිටිනා

බල කිත් පතුරුව මින් යසින් බල විරි ය
යත් දෙන එ රජු සිටි මින් බසින් පවසන් නැරි ය
අද තෙක් පවති මින් ගොසින් මින්නේරි ය
මෙදෙවි එන මග මදක් අසමින් ඇසින් දැකලා මෙදෙවි කාරිය

ගණන් නොමැති සෙන් බිය වී සිටි ති
දනති එ කෝවිල් කර පුදවා ල ති
වනන් කරන තැන තැන කෝවිල් වෙ ති
පනන් බණ්ඩාර ද මීට අයිති වෙ ති

නැව පැද යන ලෙස වෙති මැද එ ජල ය
දැව තද කර අටපට්ටන් තාල ය
දැව ඇද ඇරවන ගැසු තුන් මාල ය
වැව මැද මින්නේරිය දේවාල ය

මොරොන්දු රැස් පිසපුන් දුර ලී මා
පොරොන්දු මල් නෙළමින් සත් දෙන මා
මොලොන් දාස වී මුනිඳුට පිදූ මා
පොළොන්නරුව අනුරාපුර සිරි මා

සාරව මින්නේරි චාමර තිසා යන
පාරව තරුවල ගස් මාගල් යන
සාරව එ හොරොව් නම් ලත් වැව යන
බාරව සිටි මින්නේරි රජ සත් දෙන

පින් දෙමි සත් දෙන හට වඳිමින් නේ
වින් ද මෙ දුක් මුදවා සෙත දෙන් නේ
නින්ද නොලැබ දිව නෙත් හෙලමින් නේ
මින්නේරි සත් රජ යහන වඩින් නේ

(90: 75පි.)



13. රඹුනිස. - 93939

හියු නෙවිල් කවි සමුච්චයේ ඇති එක් "කළු දැකඩ කුමාර කවි" පත්තියකට අනුව හත් රජ්ජුරුවෝ මලවරා දේහයෙන් නැව් නැගී කිරි මුහුද හරහා යාපා පටුනට ගොඩ බැස්සෝය. ඔවුහු එතැනින් අනුරාධපුර, තිස්ගම් නුවර හා රිටිගහ කන්දට ආහ. ඔවුන් මහසෙන් රජ නමින් කිරුළු පළඳවන ලද බව කීමෙන් පෙනෙන්නේ මේ "හත් රජ්" යන පුද්ගලයන් සත් දෙනකු නොව සප්ත විලාසයක් ගත් එක ම අයකු බවයි. (161, 3: 219පි.) මහසෙන් රජ තුමා ගේ අසාමාන්‍ය පෞරුෂය කෙතරම් තදින් පොදු ජනතාව ගේ සිත් වශී කරවන්නට ඇති ද යන්න මේ විරුද නාමයෙන් පෙනේ.



## 168
# මීනිමරු බණ්ඩාර

මොහු ඇතැම් වැද්දන් විසින් පුද පවත්වන ඉපැරණි දෙවි කෙනෙකැයි හියු නෙවිල් වාර්තා කොට ඇත. (161, 2 :111පි.) "මීනිමරු බණ්ඩාර කවි" නම් නෙවිල් සමුච්චයේ ඇති කව්පෙළකට අනුව මොහු උපන්නේ කළු දේසේය. මව ගිනිජල් කුමාරිය හෙවත් ගිනි කන්දා දේවිය යි. පියා සෝලිය පුරයේ මලිය සුරිඳු හෙවත් මලිය රාජ ය. රජුට සිහිනෙන් තා මලක් වැටෙනු පෙනිණි. නෛමිත්තිකයෝ මෙය රුදුරු ගුණැති පුතකු ගේ උපත දක්වන බව කීහ.

කුමරා වැඩි වියට පත් වී කළු දේසයට විනා කොට ඔඩ්ඩිරට, වඩිග රට, අරමණය ආදියටත් ගියේය. යන යන් තැන කෙළි පුද ගනිමින් මිනි මරමින් දේශය ද පාළු කරයි. විල්ලෝඩි දේසය, වඩක දේසය, සන්නායි දේසය, දොළුවර දේසය, බංකල දේසය, ගෞඩි දේසය, සින්නොරු දේසය, කන්නඩි දේසය ආදිය ද මෙසේ විනාශ කළේය. ඔහු හා තවත් දෙදෙනෙක් එක යහනේ කෙළි පුද ගනිති. එනම්: අවතාර දේවතා, නාමල් දේවතා ය. ("නාමල් කුමාර උපත" නම් කව් පෙළේ සඳහන් පරිදි සපුමල් දේවතා ද මේ පිරිසට එක් වූවෙකි.)



ඔවුහු රන් විමනක් සහිත නැවක නැඟී ලක්දිවට ආහ: යාපා පටුනට ගොඩ බැස්සෝය. මාතොට පුරදී ඔවුන් ගේ පිරිස විශාල වූහ. ඔව්හු ලක්දිව කෙළි පුද ගනිති. මිනිසුන් ද මරති. මිනීමරු දේවතාවාට අවතාර කීපයක් ඇත. හේ මින්නේරියට ගොස් එහි දී සත් රජුන්ට කෙළි පුද දී එහි වාසය කරයි. දොළොස් දූවකට අධිපති නම් කරන ඔහු ගේ වාහනය ඇලි කිඹුලෙකි. හෙතෙම තවලම් මගින් ගොස් වෙළදාමේ යෙදෙයි. රදාවෙල දී පිත්තල කළයක් ගැන හබයක් ඇති වී මිනිසුන් සැත්තෑ දෙනකු මරා දමා ගම පාළු කළේ ය. (මෙම සිද්ධිය නාමල් කුමාර දෙවියන් ගැන ද කියනු ලැබේ.)

ගොන් සැටකට බඩු පටවා ගෙන දෙම ළා<br>
නම් කියමින් උගෙ අඹුවට අඩ ගස ලා<br>
මත් එනතුරු සිට පත්තේ කිය ලා<br>
මත් බැස ලා තික්මුනි ආපසු නොබ ලා

මේ ගම පාළුවීමේ සිද්ධිය කිසියම් තවලමක් පැමිණ ගිය පසු ගමක ඇති වූ වසංගත රෝගයක් ගැන විය හැකි යැයි නෙවිල් පවසා තිබේ (එම). අප අතර දකුණු භාරතීය ප්‍රභවයක් ඇති දෙවිවරුන් ජනිත වූයේ කෙසේ ද යන්නට කිසියම් හෝඩුවාවක් මින් ලැබෙතැයි සිතිය හැකිය.

මිනීමරු බණ්ඩාර සහ නාමල් කුමාර යනු එක ම දෙවියන් බවට සාධක හියු නෙවිල් කවි සමුච්චයේ ඇති "මල් කෙළි උපත" නම් කව් පෙළින් ලැබේ. එහි සඳහන් පරිදි නැව්ගල නුවර වාසය කරන සඳ මොහුට මිනීමරු කුමරු යැයි කියනු ලැබිණ. (161, 2: 167 පි.)

මෙම දෙවියා ගේ උපත ගැන පැහැදිලි විස්තරයක් යථොක්ත කව් පෙළේ ඇත. හේ යොන් ජාතියේ උපන්නේ ය. සිංහල දෙමළ බාසා දනී. කලා, බලලු වැව් දිය ක්‍රීඩා කරයි. මේ අවස්ථාවෙක එහි දිය නාන යොන් ලියක් දැක ඇය ලෙඩ කරවා තම බිරිය කර ගත්තේය.

මේ කව් පෙළේ රදාවෙල ගම පාළු වීම ගැන ද පැහැදිලි විස්තරයක් තිබේ. යොන් පිරිසක් තවලමක පුරවා පිත්තල භාජන ගෙන මෙහි වෙළදාමට ආහ. මේ දෙවියෝ ද සුදු ගොනකු අරා එහි ආහ.

තෙද ඇති නාමල් කුමරු සුරින් දා<br>
මැද යෙති සුදු ගොනු පිට මනන්ත් දා<br>
සොඳ ගුරුවරු තම දරුවෙක් මෙන් දා<br>
බැස යෙති කුමරුන් ගහලට කැන් දා

(එම 168 පි.)

තවලම රදාවෙලට පැමිණි අවස්ථාවේ එහි මිනිස්සු පිත්තල සෙම්බුවක් සොරා ගෙන එහි මිල නුදුන්හ. එහෙයින් ගම දෙවියන්ට හරින ලදී. එදා

ඇ ම හේ මිනිසුන් ගේ, විශේෂයෙන් කුලුඳුල් අය ගේ බෙලි කඩා ලේ බොන්නට විය. එක් වරෙක සැටක් ම මෙසේ මැරුවේය. මේ විපත දුරලිය හැක්කේ තාමල් කෙළිය නම් පූජාව මගින් බව මෙහි කියැවේ. කන්ද කුමරු ප්‍රමුඛව විෂ්ණු, මින්නේරි, පත්තිනි, රිදීගම, වීරමුණ්ඩ, හත් රජ් ජුරුවන් ආදීන්ට ද ආරාධනා කෙරේ. මේ අතර තාමල් කුමරුටත් මෙය පිළිගන්නට කියනු ලැබේ. සඳුන් කණු හතරක් සිටුවා වියන් බැඳ ඇත් දළ මැද තබා රතු තිර ඇද තාමල් ඇතුළුව මල්, පහන්, සුවඳ දුම්, බත් ආදිය මෙහි දී පුදනු ලැබේ. (එම: 167 පි.)



## 169
## මිරිස්වත්තේ අලුත් දෙවියෝ

මිරිස්වත්තේ අලුත් දෙවි යන නමින් ද දොළහ දෙවියන් අතර දෙවියකු සිටින බව පෙනේ. (141: 23 පි.)

හියු නෙවිල් එකතු කළ කවි පන්ති අතර ඇති දොළහ දෙවි කවි පෙළක එන දොළහ දෙවිවරු මෙසේ ය:- 1. මැණික් බණ්ඩාර, 2. මාවත්තේ දෙවි, 3. කොස්ගම දෙවි. 4. පරකාස දෙවි, 5. රාජ මරලු බණ්ඩාර, 6. කුමාර දෙවි, 7. මීරියබැද්දේ දෙවි, 8. වන්නිය බණ්ඩාර, 9. කලු බණ්ඩාර, 10. බෝවල දෙවි, 11. මීගහපිටියේ දෙවි, 12. මිරිස්වත්තේ අලුත් දෙවි, 13. කිවුලේ ගෙදර දෙවි. (එවිට දහ තුන් දෙනෙකි.) මෙම දෙවියන් ගැන කවි විරල ය. මේ අපට ලැබුණු එකකි.

වරුස බලනවා මම කියනා කවි
ඉරිසි නොවී දෙවි අසන්න මේ කවි
දිවස් බලනවා මම කියනා කිවි
මිරිස් වත්තෙ නම් පෙරු අලුත් දෙවි
(37: 133 පි.)





## 170
## මීගහපිටියේ දෙවියෝ

දොළොස් දෙවියන් අතර එක් දෙවියෙකි.

බැන්දා ගල් මුද්‍රා රත් පටි යේ
බැන්දා ඉණ පිට මුතු රැල් කැටි යේ
වින්දා වල් රළ නවතන හැටි යේ
වැන්දා දෙවිඳුට මීගහ පිටි යේ

කැපුවා මහ ගස දඩු කප්පන්න ට
වැවුණයි තුන් ලොව එළිය වැටෙන්න ට
පෑවා අණසක ලොව පවතින්න ට
මීගහපිටියේ දෙවිඳු වඩින්න ට
(37: 133 පි.)

මෙහි සඳහන් සිද්ධි කවරේ දැයි ප්‍රකට නැත.



## 171
## මීරියබැද්දේ කිරිඅම්මා

පස්සර පිහිටි ගෝනගල නම් ගමේ ගල්ලෙනක මේ දේවතාවිය විසුවා යැයි කියනු ලැබේ. අද ද ඇය සඳහා පුද පූජා පැවැත් වේ. (125:129පි.)

හෙන්රි පාකර් විසින් මේ සියවස මුල දී අසා ඇති ජනප්‍රවාද අනුව මීරියබැද්දේ කිරි අම්මා වනාහි වැදි ජනයා අතර සිටි කිරි අම්මා වරුන් හත් දෙනා අතුරෙන් ප්‍රධාන තම දේවතාවිය වන්නීය. (174: 137 පි.)

පහත මීරියබැද්දේ දෙවියන් සම්බන්ධ විස්තරය ද බලන්න.



## 172
# මීරියබැද්දේ දෙවියෝ

දොළහ දෙවියන් අතර සිටින මේ දෙවි පුංචි අලුත් දෙවි යන නමින් ද හඳුන්වා ඇත. (141: 64 පි.) ඔහු වනගත පෙදෙසකට අධිපති බව පෙනේ.

උඩින් ඉගිල යන වැසි ලේනුන් | නේ
බිම පීරා කන වැලි කුකුලන් | නේ
මල පිට රොන් ගෙනියන බමරුන් | නේ
උන් විතරයි මීරියට නො යන් | නේ

යන්ට බැරිය මට ඇඳිරි දිවා | සේ
හෙල් කඳු නොපෙනේ පඳුරු මුවා | සේ
මී දුම් බාලා වැස්ස වලා | සේ
අහුලමු මීරියි පැදුරු තලා | සේ

(37: 132 පි.)

පුංචි වෙලා ගෙඩි පලගති | අද්දේ
කොංචි වෙලාවද ලෙඩ අට | ගද්දේ
පංචි කෙළිය සත් දෙන අස | වැද්දේ
පුංචි අලුත් දෙවි මීරිය | බැද්දේ

මීරිය බැද්දේ දෙවි වැඩ | ඉන්නේ
මීරිය බැද්දේ පුටුව | තියෙන්නේ
කාරිය සිත් දනි ලොව නර යින් | නේ
මීරිය බැද්දේ දෙවිඳු වඩින් | නේ

(37 : 136 පි.)

මේ දෙවියන් හා මීරියබැද්දේ කිරි අම්මා අතර සම්බන්ධයක් තිබේ දැයි තොරතුරු නොලැබිණි. මේ දෙදෙනා අඹු සැමි විය හැකිය.





## 173
# මුත්තුමාරි දේවතාවිය

දහනව වන සියවසේ දී හියු නෙවිල් එකතු කළ කවි සමුච්චයේ 'මුත්තුමාරි කවි' යනුවෙන් කවි එකොළහක පංතියක් ගැන සඳහන් වේ. (161, 1: 232 පි.) දෙමළ ජනයා අදහන මුත්තුමාරි අම්මන් දේවිය වන මැය සිංහලයන් අතර ජනප්‍රිය නොවූ වග නෙවිල් සඳහන් කර ඇත. (එම) ඇය මන්නාරමේ ගොඩ බැස අයියනායක දෙවි සමඟ වාසය කරන බව එම කවිවල පැවසේ. (එම). සමහර අවස්ථාවන්හි දී ඇය පත්තිනිය මෙන් ද පෙනී සිටින බව පෙනේ. ඇගේ අතේ පස්ලෝ සළඹකි. මන්නාරමේත් හලාවතත් වැසියන් ඇයට පුද පූජා කරන බව අසන්නට ලැබේ. ඇය මුලින් ම වාසය කර ඇත්තේ ඇට්ටිකුලමේ යයි ද බාතටි සඳහන් කරයි. (141: 65 පි.)

නෙවිල් සඳහන් කරන එක් කවක් මෙසේ යි:

උඩට වංගු හළඹ රැගෙන දෑ නේ සියි බියි | ගිගිරි
කරට එරන් හළඹ දමා වසා ළමැද දැමු | ඔසරි
මෙරට මේ සිංහල හැම වදුරු වසංගත | බේරි
පුරට සදිසි පුන්සඳ වැනි වඩින කලට මුතු | මාරී

(161, 1: 232 පි.)

මෙම මුත්තුමාරි කවි පංතියෙන් අදහස් වන්නේ මරණය හා සම්බන්ධ කාලී දෙවඟන ගේ ස්වරූපයක් විය හැකිය. (161, 1: 233 පි.)

සැට දහසක් අවතාර ද ඇතිව, සැට දහසක් ආභරණ පළඳින ඈ සැට දහසක් පිරිවර ඇතිව සැට දහසක් නැව් බිඳ ලූ බව කියැවේ. ඈ යාපා පටුනට ගොඩ බැස පත්තිනිය ගේ වරම් ලැබ ඔය මඩුවට ගියාය. එහි දී සිය කාලී විලාශය පා වසූරිය පතුරුවා තෙද පළ කළාය.

පුන් කරවා යග්ගල් පහුරු මෙරුගල් බිඳ දැමු | වෙම්මා
සන්සුන් ගමනෙන් නැව් පිට මෙකරට ගොඩ බැස් | සෙම්මා
නගා මිණි බරණ පිටින් තෙද වැඩි කර | තිම්මා
සිංහලයට ගොඩ බැස්සේ යාපා පටුනෙන් | අම්මා

(161, 1: 233 පි.)

හියු නෙවිල්ගේ අදහස මේ කවි ව්‍ය. ව. 16 වන සියවස පමණ කාලයට අයත් බවය (එම) "මාරි අම්මා" හෙවත් "මාරි" දකුණු ඉන්දියාවේ දෙමළ ජනයා අතර වසූරිය හා සම්බන්ධ දේවතාවිය වන්නීය. (181ඒ: 31-32පි.) මැය පිළිබඳව සිංහල කවි ද ලිය වී තිබීමෙන් පැහැදිලි වන්නේ දෙමළ දේශය හා සමග ඒ යුගයේ පැවැති සංස්කෘතික සබඳතාවයි.

දැනට ලංකාවේ ඇති ඉතා වැදගත් මුත්තුමාරි දේවාලය ඇත්තේ මාතලේ නගරයේ ය. දැනට වර්ෂ 150 කටත් වඩා පැරණි ඉතිහාසයක් ඇති මෙම දේවස්ථානය ලෙඩ රෝගවල දී පිහිට වීමත් නැති වූ දේ සොයා දීමත් ගැන විශේෂයෙන් ප්‍රසිද්ධය. හුදෙක් හින්දු ජනයා පමණක් නොව අන්‍ය බැතිමතුන් විසින් ද මෙම දේවාලය විශේෂ භක්ත්‍යාදරයකින් සලකනු ලැබේ.

(මුතුකුමාරි දේවිය යැයි කියන්නේත් මැයට ම දැයි පිරික්සිය යුතුය.)



## 174
## මූදෙ දෙවියෝ

මූදෙ දෙවියෝ හෙවත් මූදෙ යකා පිළිබඳ විශ්වාසයක් 19 වන සියවසේ දී නැගෙනහිර වෙරළබඩ වැදි ජනයා අතර පැවති බව වාර්තා වී තිබේ. (174: 138 පි.) මේ දෙවියන් වැදි ජනයා අතරට පැමිණියේ සිංහල හෝ දෙමළ ධීවරයන් ආශ්‍රයෙන් ද නො එසේ නම් පුරාණයේ සිට ම වැදි ජනයා අතර එම විශ්වාසය පැවතිණි ද යන්න ගැන නිශ්චිත නිරණයකට එළඹීම අසීරුය. (එම: 146-47 පිටු)





## 175
## මෙලෙයි දෙවියෝ

කොහොඹා කන්කාරියේ දී කියවෙන මොහු වැදි දෙවියෙකි. මෙලෙයි යකා යනුවෙන් ද මොහු හඳුන්වා ඇත.

මෙලෙයි දෙවිවරුන් (යකුන්) සත් දෙනෑකු ඇතැයි කියතත් ඒ සත් දෙනා ගේ නම් සඳහන් වූ තැනක් සොයා ගත නොහැකි විය. කොහොඹා කංකාරියේ මහයාතිකාවෙහි දී "දුම්බර පිටියේ මෙලෙයි සත් දෙනා යක් කර වදාරලා" (73: 61 පි.) යනුවෙන් සඳහන් ව ඇති හෙයින් ඔවුන් ගේ නිජ බිම දුම්බර වේ. මෙලෙයි සත් දෙනා යක් සෙනඟට නායකව සිටි බව පෙනේ. දුම්බර පිටියේ හුන්නස්ගිරියේ බලගතුව සිටි මේ සත් දෙනා ගැන කොහොඹා යක්කමේ දී "දුම්බර පිටියේ රුසිරු මෙලෙය්යා" "හුන්නස්ගිරියේ දෙව් වඩින්නේ යා" යනුවෙන් සඳහන් වීමෙන් පෙනේ. (124: 690 පි.)

මේ දෙවියන්ට කොහොඹා යක්කමේ දී පහත සඳහන් පරිදි ආරාධනය කරන බව පෙනේ. "............ මහ ගුරුන් වහන්සේටයි, කුඩා ගුරුන් වහන්සේට යි, කන්සා යෝගී මෙලෙයි දේවතාවුන් වහන්සේටයි මේ ආරාධනා කරන්නේ ............" (73: 65 පි: 50: 76 පි.) ලක්දිව කොහොඹ කංකාරිය නම් ශාන්ති කර්මය ප්‍රථම වරට පැවැත් වූ මල රජුන් විසින් අනාගතයේ එය කිරීම සඳහා ලක්දිවින් සම්බන්ධ කරගන්නා ලද පිරිසට මෙලෙයි යක්කු / දෙවිවරු ද ඇතුළත් වෙයි. (ඉහත අලුත් කොහොඹා යටතේ ද බලන්න.)

## 176



# මේස වර්ණ දෙවියෝ

මේඝය වැනි අඳුරු වර්ණයෙන් යුක්ත වූ දෙවියකු බැවින් මොහු ඒ නමින් හඳුන්වා ඇතැයි සිතිය හැකිය. මේ කොත්මලේ පුසුල්පිටියේ අධිපති දෙවියා ලෙස ද සැලකේ. උදුම්බර ගිරියේ විසූ භූමාටු දෙවියකු ලෙස ද හඳුන්වා දිය හැකි මේ දෙවියා මීට පෙර ද මේ සිංහල ද්වීපයේ හල්ලෝල නම් ගමේ ඉපිද තිවෙස්වල බැළ මෙහෙයෙහි යෙදී සිට තමන් උපයා ගත් ධනයෙන් නීලපබ්බත විහාරයේ භික්ෂූන් හට දන් දී මිය ගොස් මෙසේ මේඝවර්ණ යන නමින් උපන්නේය. මොහු ගේ බිරිය චන්ද්‍රමුඛී නමැත්තිය වන්නීය. මේ දෙදෙනා ධූමරක්ඛ පබ්බත යනුවෙන් හඳුන්වන උදුම්බරගිරියේ දී මලියදේව රහතුන් ගෙන් බණ අසා ඇතැයි පාලි රසවාහිනියෙහි සඳහන් වේ.

මලියදේව මහ රහතන් වහන්සේ විසින් දඹදිවින් ගෙනෙන ලද දඹරන් පිළිම සතර මේඝවර්ණ දෙවි විසින් රැක බලාගත්තා බව ද පැවසේ. (62: 22) මේඝවර්ණ දේවාලය ඇත්තේ පුසුල්පිටියේය. (62: 24)

වත්තේගම සිට ඇල්කඩුවට ඇදී යන මාවතේ සැතපුම් එක හමාරක් පමණ ගිය කල මාවතේ දකුණු පස ඉතා රමණීය කඳුරැලියක චන්ද්‍රමුඛී යනුවෙන් හැඳින්වෙන ලෙන් දෙකක් ඇත. එහි මේඝවර්ණ දෙවියාත්, චන්ද්‍රමුඛී දේවියත් කලක් වාසය කොට පසුව එම ස්ථානය මලියදේව රහතන් වහන්සේට පූජා කර ඇතැයි පවසති. මේ දෙවියා කොත්මලේට අමතරව මහියංගණයේ හා හුන්නස්ගිරියේ ද සිටි බව පැවසේ. (68.). මේඝවර්ණ දෙවිඳු ගේ සිතුවමක් පුසුල්පිටියේ විහාරානුබද්ධ දේවාලයේ දක්නට ලැබේ. මේ රූපයට දෙ පැත්තේ කතරගම, සමන්, විෂ්ණු, හුනියන්, දේවතාබණ්ඩාර යන දෙවිවරු ද දක්නට ලැබෙති. මේ චිත්‍ර විසිවන සිය වසේ මුල් දශකය කාලයට අයත් සේ සැලකිය හැකිය. දැඩි නියඟ පවත්නා කාලයේ කොත්මලේ මේඝවර්ණ දේවාලයට භාර වී පෙරහර කළ හොත් වැසි ලැබෙන බවට විශ්වාසයක් පවතී. මෙ වැනි සිද්ධීන් ව්‍ය. ව. 1913 හා 1982 යන වර්ෂවල දී සිදු විණැයි ද විශ්වාසයක් පවතී. (137: 536 පි.)



## 177



# මොඩරවෙල දෙවියෝ

මේ නමින් යුත් දෙවි කෙනකු ගැන හියු නෙවිල් එකතු කළ කාව්‍ය සංග්‍රහයේ ඇති "දේවතා කවි" නම් කවි පෙළක සඳහන් වේ. (161, 1: 331 පි.) මෙ කී දෙවියන් විලක්කු අවි අතු හා ආයුධ ගත් සපිරිවරින් පැමිණෙන අයුරු කියා ඇත.

සැදී මුදලිවරු පෙළට　　　සිටිනවා
ඇවිළ විලක්කු එළිය　　　පෙනෙනවා
ආවුද අවි අතු දුරට　　　පෙනෙනවා
ඔන්න මොඩරවෙල දෙවිඳු　　　වඩින වා
(38: 24 පි.)

මොනරවිල දෙවියන් යන නමින් යුත් අලුත් දෙවියන් ගේ පිරිවරට අයත් දෙවි කෙනකු ලග්ගල ප්‍රදේශයේ පුද පූජාවට භාජන වන බව වාර්තා වී තිබේ. (එම නමින් යුත් විස්තරය බලන්න.) "මොඩරවෙල", "මොනරවිල" යනුවෙන් දෙවි දෙ දෙනකු දැයි පැහැදිලි නැත.

## 178



# මොනරවිල දෙවියෝ

1818 කැරැල්ලේ නායකත්වය ගැනීම නිසා ජාතිය වෙනුවෙන් ඉංගිරිසීන් ගේ අයිපතට ගෙල දුන් වීරෝදාර සිංහල ජන නායකයකු වන

මොනරවිල කැප්පෙටිපොළ තිලමේ ම මිය යාමෙන් පසු 'මොනරවිල දෙවියෝ' යනුවෙන් දේවත්වයේ ලා මාතලේ ජනතාව අදහා ඇතැයි සිතිය හැකි ය.

මේ දෙවියන් ගැන සඳහන් වන්නේ ගොවිජනයා ගේ අඩුක්කු පිදීමේ දී ය. අලුත් දෙවියන් ගේ පිරිවර තුන් දෙනා ලෙස සිංහාසනේ අලුත් දෙවියෝ, මොනරවිල දෙවියෝ, කැප්පෙටිපොළ දෙවියෝ ද හඳුනා ගනු ලැබෙති. (13: 84 පි.). මොනරවිල, කැප්පෙටිපොළ යන නම් දෙක වෙන් වෙන් දෙවිවරුන් උදෙසා යෙදීම මෙහි විශේෂයෙකි.



## 179
# මොරටු දෙවියෝ

මේ දෙවියා මොරටු පළාතේ විසූ දක්ෂතම ගොවියෙකි. ගොවි බිමක පැල්පතක් සාදා ගත් හේ, එහි හුදකලාව විසීය. මේ අතර කුඩා දරුවන් හා හරකුන් සඟවා තබා, ඔවුන් ගේ භාරකරුවන් වෙත ගොස් මොරටු දෙවියන් වෙත භාරයක් ඔප්පු කළහොත් නැති වූ ළමයා හෝ හරකා හෝ ලබා ගත හැකි වේ යැයි කියයි. එය ඉටු වූ විට නැති වූ දෑ අයිතිකරුවාට ලැබේ. දීර්ඝ කාලයක් තුළ ම ඉතා රහසේ මෙය කරගෙන යෑමට ඔහුට හැකි විය. මේ ක්‍රියාව නිසා පළාත් වාසීන් ගේ සිත් තුළ අදෘශ්‍යමාන මොරටු දෙවි සංකල්පයක් වර්ධනය වන්නට විය. කලක් ගියේය. ගොවියා ද මිය ගියේය. මේ ගොවියා මිය ගිය බව දැනගත් ඔහු ගේ ඥාතීහු එහි පැමිණ, මිය ගිය තම ඥාතියා ගේ දේහය ආදාහනය කොට, ඔහු ගේ ගොවි බිමේ පාළුව මැකීම සඳහාත්, මළ ගිය තම ඥාතියා සිහිවීම සඳහාත් ඔහු විසූ පැල්පතේ පහනක් දල්වා ගියෝ ය. අවට විසූවෝ ද එය අනුගමනය කළෝ ය. මේ නිසා කල් යත් ම එම පැල්පත දේවාලයක් බවට පෙරළිණි. (රත්වල පහන් දැල්වීම ද මේ හා සමාන ය. රත්වල දෙවි යටතේ බලන්න.)

මේ මොරටු දේව සංකල්පය පෙදෙස් වැසියන් අතර කෙතෙක් දුරට වර්ධනය වූයේ ද යන්න පිළිබඳව මොරටු කන්නලව්ව, මොරටු යාදින්න,



මොරටු දෙවි යාදිනි යන කියමන්වලින පැහැදිලි වන්නේය. කවි පනස් තුනකින් යුත් යාදිනි කවි මාලාවෙන් මොරටු දෙවිට භාරතීය ජන්මයක් ආරෝපණය කර ඇත. කසීපුර රජ බිසොව කුස ඉපිද වැඩි වියට පැමිණි පසු ගල් නැවකින් අවුත් මොරටුවට ගොඩබට බවත්, මෙ රටට පැමිණි යකුන් දමනය කළ බවත් එහි වැඩි දුරටත් සඳහන් වේ. උඩගේ මැතිඳු, උඩගේ රාළ, උඩගේ රාළහාමි යන නම්වලින් ද මොහු හඳුන්වා ඇත. හේවාගම්, රයිගම් කෝරළවලත් ඔහු ගේ අණසක පතුරුවා ඇති බව එහි කිය වේ. (56: 41-54 පිටු)

මොරටු දෙවියන් ගේ ආභරණය ලෙස සැලකෙන්නේ කැත්ත ය. මොරටුවැල්ල, දිගරොල්ල, මයියොක්කාවත්ත, මොරටු පිටිය යන පෙදෙස් වල පතළ මේ දේව සංකල්පය පසුව අවට ප්‍රදේශවලත් පැතිරෙන්නට ඇත.

පූජ්‍ය මාපොටේ චන්ද්‍රජෝති ගොඩගම විපුලසාර යන ස්වාමීන් වහන්සේලා විසින් වාර්තා කොට ඇති මොරටු දෙවියන් ගේ යාදිනි කවි කීපයක් දක්වමු.

උතුන් පුරවර කසී යසවති දේවි කුසයෙන් උපන් නේ
මසින් දස මස් ගොසින් බිහිවුණෙ නවම් මාසේ සොඳින් නේ
රනින් රන් රුව ලෙසට වැඩෙමින් සොළොස් වයසට පිරෙන් නේ
ගලෙන් නැවකුත් සදා නැව්තොට මොරටු පුර ගොඩ බසින් නේ

රාළහාමි උඩගෙයි පවසන් නේ
ආල වඩන ඔලියල් පළඳින් නේ
නළල එ පුන් සඳ සේ බබලන් නේ
ලිහිල් කරන් ලෙඩ ආතුරයින් නේ

මයියම් දැනගෙන යන්ඩ ලසේ යා
රයිගම් කෝරළෙ මැද වඩි නේ යා
එයියම් කෙළි පුද ගන්ඩ මෙසේ යා
දෙයියන් තෙද අණසක පැති රේ යා

සේවායින් සිරි වරට සැදී ලා
ආවායින් රට දිවස් බලා ලා
හේවාගම් කෝරළේ බලා ලා
පැවා තෙද අණසක තොව ලී ලා

මොරටු පිටියට දිවස් ලූවත් මෙ පුද ලැබුමට වඩින් සාමිනි
පෙරටු කොට ඔබතුමාණන් හට දීප දුම්මල පුදම් සාමිනී
දොරටු වාසල් උඩු වියන් යට එල්ලමින් මැසි සරා පුද දිනි
තොපටු මෙම පුද ලැබූ දෙවියෝ ආතුරන් දුක් මුදන් සාමිනී
(56: 50-53 පි.)



## 180

## මොරපේ බණ්ඩාර

හියු නෙවිල් එකතු කළ කවි පත්ති අතර "ගහේ බණ්ඩාර කවි" නමින් හැඳින්වෙන කවි 50 කින් යුත් කාව්‍ය පන්තියෙහි ගහේ බණ්ඩාර සමඟ සඳහන් කර ඇති දෙවිවරුන් එකොළොස් දෙනා අතුරෙන් කෙනෙකි මොරපේ බණ්ඩාර. (161, 2: 137 පි.) මීට වැඩි විස්තරයක් මොහු ගැන ලැබී නැත.



## 181

## යට මැණියෝ

වැදි යක් යාදිනිවල සඳහන් දෙවඟනකි. එබැවින් මැය වැදි දේවතාවියක සේ සැලකිය හැකිය. මැය පිළිබඳව බාතව් සඳහන් කර තිබේ. (141: 112 පි.)





## 182

## යටිගල් ඔළුවේ බිසෝ බණ්ඩාර දෙවියෝ

මේ ජනප්‍රවාදය කුරුණෑගල රජ කළ දෙවන බුවනෙකබා රජු (1293-1302) හා සම්බන්ධය. රජු ගේ බිසෝ මාලිගය තිබුණේ පොල්ගහවෙල අසල වීරාගල් පව්ව මුදුනෙහි ය. (28: 69 පි.)

බුවනෙකබා රජු සමඟ අග්බෝ නම් රජෙක් සටනට ආයේය. යුදට යන බුවනෙකබා රජු තමා දිනුවහොත් සුදු කොඩි නංවන බව ද පැරදුණහොත් කළු කොඩි නංවන බව ද පවසා තික්මිණි.

බිසෝ මාලිගයට අලුත පැමිණි දඹපත් කුමාරි නම් තරුණිය යුදපිටියේ අවි ගැටෙන හඬ ඇසී ඉකි බිඳිමින් ඇඩූ සැටි සිහිපත් කරමින් අදත් ගැමියන් අතර මෙකී "දඹපත් කුමරි ගේ අවතාරය වාගෙයි" යන කියමනක් තිබේ.

බුවනෙකබා අතින් අග්බෝ රජු මැරුම් කෑ නමුත් බිසෝවරුන්ට යුද ජය දැනුම් දීමට ගිය පයිඩකරු සුරාමතින් සිහි විකල්ව සුදු කොඩිය වෙනුවට කළු කොඩිය නැංවූ බැවින් "අන් රජකුට අඹු නොවෙමු යි" කතිකා කර ගත් බිසෝවරු බැලුම්ගල පල්ලේ පැන සිය දිවි නසා ගත්තෝය. පසුව රජු ද එම සොවින් ගල පල්ලේ පැන සිය දිවි නසා ගත්තේය.

මොවුන් යටිගල්ඔළුවේ සහාලෙන අරණට අරක් ගෙන "හැට හත් කට්ටුවක් බිසෝ බණ්ඩාර" ලෙස දේවත්වයට පත්ව ඇත. යටිගල් ඔළුවේ බිසෝ බණ්ඩාර දෙවිවරු මොවුහු ය.

මේ සිද්ධිය සිදුවන විට සේවක ස්ත්‍රියක් රාජ කුමාරයා නාවමින් සිටි හෙයින් ඔහු ගේ දිවි ගැලවිණි. හැඩිපත්නල ගමගෙදර අප්පුවා නමින් හැඳුණු වැඩුණු තරුණයා මෙතෙමේ ය.

බුවනෙකබා රජු ඇවෑමෙන් රජ බවට පත් වූයේ අස්සැද්දුම ගමේ මුස්ලිම් රූමතියක නිසා රජකමට හිමි කම් ලැබූ වත්හිමි කුමාරයා ය. ඔහු ගේ පක්ෂපාතිකම් නිසා සිදුවූ විපතත් ඔහු ගලේ බණ්ඩාර බවට

පත් වීමත් වෙන ම ම කථාවකි. (ගලේ බණ්ඩාර දෙවියන් යටතේ බලන්න.)

දැන් හිස් වූ සිංහාසනයට උරුම කරුවා සොයමින් ගම් දනව් සැරි සරා ආ මංගල හස්තියා අප්පුවා ඉදිරියේ දණ ගැසීය. පණ්ඩිත පරාක්‍රමබාහු (1302-26) ලෙස රජවූයේ මේ කුමාරයා ය. (28: 71 පි.)



## 183
## යමසිංහ බණ්ඩාර

මහනුවර ප්‍රදේශයේ දියකෙළිනාවල නම් ස්ථානයට යාබදව නා රුක් ගොමුවක පිහිටුවන ලද දේවාලය හා සම්බන්ධ දෙවිවරුන් නව දෙනා ගෙන් කෙනෙකි, ("මහ නා බණ්ඩාර" යටතේ බලන්න.)



## 184
## යෝගී ගුරු දෙවියෝ

දහ නව වන සියවසේ දී හියු නෙවිල් එකතු කළ කවි සමුච්චයේ කවි 30 කින් යුත් "යෝගී ගුරු යාදින්න" කවි පෙළ ගැන සඳහන් වේ. නෙවිල් විසින් වාර්තා කොට ඇති පරිදි එහි එන කථාව මෙසේ යः-

මදුරාපුර විසූ යෝගී රජ යුවළ දරුවන් නැත්තෙන් කෝවිලකට පුද පූජා පැවැත්වූවාහු අනතුරුව තිවුන් පුතුන් දෙ දෙනකු ලදහ. ඔවුහු දොළොස් වන වියට පත් වූ කල දෙමාපියන් හැර දමා යෝගී වෙස් ගෙන "කාසි, දිලය, වඩිග, සෙන්කුලන්, මලල, ගෝව, පුරුදුකල්, උරුමුසි, සොළී, කණ්ණඩි, දොලුවර හොළී" යන රටවලට ගියහ. අනතුරුව ඔව්හු



නැව් නැගී සිංහල රටට යාත්‍රා කොට සලාවතට පැමිණ සිංහල රජු හා යුද වැදුණෝය. රජු ගේ මහලැතු මරා රජු පරදවා ලූහ. රජු නැවැත යුද කොට කුමරුන් දෙදෙනා මැරුවේය. යක් බවට පත් වූ කුමරුවෝ ඇතාට පණ දුන්හ. මින් ප්‍රීතියට පත් රජ ඔවුන්ට පුද පූජා පවත්වන්නට අණ දිනි. මේ පූජාවට රා, කංසා, ගොධූම, ගිතෙල්, කැවිලි ආදිය විය. ඔවුනට දෙල්විට කෝවිලක් තැනිණි. ඉකිරිවතු පියසේ හුන් කඩවරයන් වන සරගම රට සාමි, වෙල්ලස්සේ බණ්ඩාර සාමි, උඩුවෙල පියස රාළසාමි කටුගම්පල රාළසාමි, කළු අප්පුහාමි යන පස් දෙනාත් සමඟ මේ දෙදෙනාත් යන සත් දෙනකු වී කෙළි පුද ගන්නට වූහ. යෝගී ගුරු දෙදෙනා ගේ නම් කවරේදැයි සඳහන් නොවේ. (161, 3: 242 පි.)

මධ්‍යකාලීන ලාංකික සමාජය තුළට සංක්‍රමණය වූ නවත් දකුණු ඉන්දියා දෙවි කෙනකුන් පිළිබඳ පුවතක් මෙහි ඇතුළත් බව පෙනේ.



## 185
## රටවන දෙවියෝ

නැහෙනහිර පස්දුන් කෝරළයේ කුඩලිගම ග්‍රාමයට අධිපති යැයි සැලකෙන රටවන දෙවි ගම්භාර දේවතා කෙනකු ලෙස සැලකිය හැකිය.

අවුරුද්දක් පාසා මෙම ග්‍රාමයේ ගම්මඩුවක් පවත්වා රටවන දෙවියන්ට පුද පඬුරු ඔප්පු කොට පිහිට පතනු ලැබේ. පාරම්පරික කෘෂිකාර්මික ග්‍රාමයක් වන මෙහි කුඹුරු කපා අස්වැන්න එකතු කරන අවස්ථාවේ දී පළමුවෙන් කොටසක් මේ දෙවියන්ට වෙන් කරනු ලැබේ. නියඟයක් වැනි පොදු ව්‍යසනයන්හි දී ද, ලෙඩ රෝග වැනි පෞද්ගලික ආපදාවන්හි දී ද පඬුරු පුද කොට දෙවියන් ගේ පිහිට පතනු ලැබේ. (9)

රටවන් දෙවි යනුවෙන් ද හඳුන්වනුයේ මේ දෙවි ම යැයි සිතේ. ඒ කියන රටවන් දේවාලයක් නාවලපිටිය ආසන්නයේ රඹුක්පිටියේ ඇත. එකී රටවන් දෙවියා දෙවොල් දෙවිවරුන් අතරට අයත් අයකු සේ ද පස්බා ගේ වැසියෝ සලකති. දෙවොල් දෙවියන්ගේ කවි අතර මෙම කවියද ඇත:

රටවත් දෙවියෝ එතනට වඩී තේ
රත්වත් රඹපත බිම සිටු වත් තේ
රඹපත වටකර මොටියන් එන් තේ
සත් දව සට රඹ කැනක් වැටෙන් තේ
(90 : 73 පි.)



## 186
## රත් ඇල්තොට කුමාර

හියු නෙවිල් එකතු කොට ඇති කාව්‍ය සමුච්චයේ "දොළොස් දෙවි කවි" පත්තියක ඇති මෙම කවි පහ රත් ඇල්තොට කුමාරයා ගැනයි.

ගහෙන් එගොඩ රත් ඇල් වපු රන්නේ
අත් වැල් බැඳ ලා එකක් කරන්නේ
රත් ඇල් කොටවා මුළු තැන් දුන්නේ
රත් ඇල් තොට කුමරුනේ වඩින්නේ

රත්තරනෙන් කඳු හතර සදාලා
රත්තරනෙන් උළු පලේ තනාලා
රත්තරනෙන් රඹ තොරණ සදාලා
කුමරු වඩිති සක් දුරේ ලවාලා

වාඩි අරිති සැම තැනම සියල්ලා
සෝඩු මාඩු හම්බා ජය උල්ලා
පාඩු කේඩු තෙල හාලුත් අල්ලා
ආඩි මගේ වග සැළ කර පල්ලා

දිමියි තටා ගෙන එත් දැයි මඩුවට
තවයි කදලි අන්නක්කා පලය ට
කවියි බසක් නොකියත්ත නොවී සැට
කවියි තපි ද සැළ කරපත් හනිකට



කප්පිත්තා නයිදේ සාමින් තේ
දුක් ගන්නා මම හරි දෙවියන් තේ
මන් ගැත්තා කී කවි අහපන් තේ
කප් පිත්තෙයි වග සැළ කර වත් තේ
(37: 135-36 පිටු)

මොහු කප්පිත්තා යනුවෙන් ද හැඳින් වී ඇති හෙයින් පිටරටින් පැමිණියකු වන්නට පුළුවන. තුන්වන කවියේ ඇති සඳහන අනුව දකුණු ඉන්දියා, සම්බන්ධතාවක් ඇති බවක් පෙනේ.



## 187
## රත්න කඩවර

කඳකුමරුගේ සගයකු වශයෙන් සලකනු ලබන රත්න කඩවරයා, මැණික් ගඟ අසබඩ ජීවත් වූයේය. මැණික් කඩවර, බහිරව යන නම්වලින් ද හේ හඳුන්වනු ලැබීය. සීතාවක බැරැන්ඩි කෝවිල ඉදිකරවා ඇත්තේ මෙකී රත්න කඩවරයා උදෙසා යයි පැවසේ. මැණික් කඩවර යන ප්‍රදේශ නාමය මොහු විසූ නැති නම් මොහු ගේ බලයට යටත්ව තිබුණු පෙදෙසක් නිසා ලැබිණි දැයි විමසිය යුතුය. මෙම බහිරවයා හට කළුඳුල් පුතකු බිලිදීම සිරිතක් කර ගෙන තිබුණු හෙයින් මහනුවර නගරයට යාබදව ඇති බහිරවකන්ද ඔහු ගේ නම අදත් අපේ මතකයට නංවන බව පෙනේ. ඇතැම් පළාත්වල ඔහු මැණික්පාල දෙවි යනුවෙන් ද හඳුන්වා ඇත. "වෛරවාන්" යන දෙමළ වදනින් ද හඳුන්වනුයේ මේ දෙවි ම යයි සිතිය හැකිය. භෛරව යන්නෙන් භීෂණ රූපයක් ඇති ශිව දෙවියා කියැවෙන බව ද මතයකි. කඩවර යනුවෙන් හඳුන්වා ඇත්තේ මොහුගේ මෙහෙකරුවන් යයි ද කියති. මොවුන් ලකට පැමිණෙන විට අතර මඟ දී මිය ගිය අය ද මෙහි දී මිය ගිය අය ද කඩවර යකුන් ගණයෙහි ලා අදහන්නට ඇත. දැඩිමුණ්ඩ දෙවියන්ට මෙ වැනි කඩවරයන් 880 ක් සිටි බව ද සඳහන් වේ. (116: 108 පි.)

රත්න කඩවර දෙවියා ගේ උපත ගැන හියු නෙවිල් එකතු කළ අත්ලිපි අතර ඇති කවි පන්තියක වෙනත් පුවතක් සඳහන් වේ. ඒ අනුව අවරගිරි දේසේ රත්න වල්ලි දේවිය කුස ඔහු ඉපැදී ඇත.

ලසේ වඩන රත්නවල්ලි දේවි කුස පිළි සිඳි ලා<br>
යසේ ලෙසින් දසමස හැර බිහිවුණු තැන තෙද පා ලා<br>
විසේ සයෙන් අගය නොකොට රන් දුහුලක් එහි දර ලා<br>
මෙසේ අවරගිරි දේසේ දේවතාව උපත් ක ලා

ඔහු ලක්දිවට පැමිණියේ ගල් නැවකිනි. ඔහුගේ වීර වික්‍රමයන් නිසා පසුව ශ්‍රී මහා බෝධිය ඇතුළු අනුරාධපුරය මුර කිරීම ඔහුට පවරන ලදි.

කරන පෙරළි කඩවර දෙවි රට අල්ලා මෙ සිරිලක ට<br>
පොරණ එ සම්මත නිරිඳු ගෙ නීලා යෝදයා ලෙස ට<br>
සරණ සීල අනුහසයෙන් බැම්මට අසු කරලා සි ට<br>
සරණ ලෙසින් මුර බාරයි සිරිමා බෝදී සාමි ට<br>
(37: 42-43 පිටු)



## 188
# රත්න කම්බිලි දෙවියෝ

රතුවන් කම්බිලියකින් සැරසී සිටින මේ දෙවි වේතිය නම් යැකිනිය ගේ තුන් වන පුතු ය. පළමු වන පුතු කළු කම්බිලිය. දෙවන පුතු සුදු කම්බිලිය. රත්න කම්බිලි නම් මෙතෙම තෙවැන්නා ය. අයියනායක දෙවියන් හා සමඟ එකතුව ලේවාකඩට අදිපතිව වෙසේ. (90: 69 පි.)

ගල් නැවකින් ලක්දිවට ආයේ ය. කතරගම රන් තොරණ මුර කරයි. රතු ඇඳුම් ඇඳ සිටී. මොහු ගේ බල ප්‍රදේශය කාරදූව සිට කලා ඔය දක්වා වන්නේ ය. මොහුගේ වික්‍රම අතර තමන් රවටා හිසට මැතුරූ ඇණයක් ගැසීමට තැත් කළ කඳුබඩගම මහ වෙදා ගේ කොන්ද කඩා ඔහු ගේ බිරිඳ ගේ ද දරුවන් ගේ ද බොටු කඩා දැමීම ද වේ. ඔහුට



වීර වික්‍රම රත්න බණ්ඩාර, මල් බලිගල දෙවි, රත්න කඩවර දෙවි, කම්බිලි කුමරු යනුවෙන් ද ඇමතේ. ඔහු සියලු ලෙඩ දුක් වසංගතය හා උමතු රෝග සුව කරයි. (161, 3: 320-21 පි.)

වැඩ සිටිනා කදිර මොලේ රන් තොරණේ මුර කරන් ඩ<br>
කඩ නැතුවම ගව ගාලේ වල් ඇච්චා හෙටු බිඳින් ඩ<br>
වැඩ සිටිනා අසූ ගෙ කොන්ද කඩවර දෙවි පොඩි කරන් ඩ<br>
කඩ වරයට වැඩි හපනා රත්න මෙ කම්බිලි කියන් ඩ

පෙන්නු බලේ කතරගමට යන්ඩ නොදී වුණු තර හෙට<br>
පෙන්නු බලේ ගොම පිරිබුඩ ගාන්ඩ කිවූ අවිහිර ගෙට<br>
උන්නු කොලු ගෙ බොටුව කඩා තිවුවෙ උගෙ ළපැත්ත පිට<br>
දුන්නු දූගෙ ඇහුද බොල කඳුබොඩගම මහ වෙදාට<br>
(37: 43 පි.)

කළුකම්බිලි දිඹුලාගල ද, සුදු කම්බිලි කසාගලද රත්න කම්බිලි ලේවාකඩ ද අදිපතිව වෙසෙති:

සයිය නොයෙක් යුද කර ජය ගත් තුව<br>
මයිය ම බලමින් එන යකු ඔත් තුව<br>
දයිය සාම සැර ලති නැව් පත් තුව<br>
අයිය එ නායක සමඟින් එක තුව

දුම් රක්ගල යක්සනි මවුසෙන් දි ලි<br>
දිඹුලාගල වැඩිමල් කළු කම් බි ලි<br>
කසාගලය දෙවෙනි වූ සුදු කම් බි ලි<br>
ලේවාකඩ අදිපති රත් කම්බි ලි<br>
(90: 69 පි.)

හියු නෙවිල් දක්වන තවත් විස්තරයකට අනුව මල්වරා නුවර සිට යාපා පටුනට ගොඩ බැස්ස රත්න කම්බිලි කදිරාන, පුල්වන්, විභීෂණ යන දෙවිඳුන් ගෙන් වරම් ගෙන අයියනා සුරිඳු සමඟ වාසය කරමින් පහළොස් පත්තුවට අධිපති බව දරයි. රන් කගක් අතින් ගෙන අසුපිටින් යයි.

සිරි සර පිඩ මල්වර සෝමවල්ලි ළඟ මව් කුස<br>
පිරි වර යක්සෙන් සමඟිව ඔබ වැඩ පුන් සඳක් විල ස<br>
සරි පෙර ගිරි සිඳු කොට පසු කර නැඟි රුවන් දිනිඳු විලස<br>
දිරි තර තෙද රත්න සුරිඳු යාපා පටුනට ගොඩ බැස<br>
(161, 3: 323 පි.)



## 189
# රත්වල දෙයියෝ

කෑගල්ල නගරයට යාබදව රත්වල යන නමින් ගමක් ඇත. දෙවන රාජසිංහ රජු ගේ කාලයේ රජුට අයත් වී අටුවක් නැතිනම් පත්තායමක් ඒ ගමේ තිබිණි. එකල රත්වල ගමේ අලවතුරේ රාළ, ගණේගොඩ රාළ යන නමින් හැඳින්වූ දැඩි මිතු දමින් වෙළී සිටි තරුණයෝ දෙදෙනෙක් වූ හ. ගමේ කෙබඳු කටයුත්තක් වේ නම් එය මේ දෙදෙනා ගේ එකතුවෙන් ම සිදුවිණි. අසල් වැසියෝ එය හොඳින් දැන සිටියෝය. දිනක් රත්වල ගමේ තිබුණු රජු ගේ පත්තායම බිඳ එහි වූ වී සොරා ගෙන ගොස් තිබේ. එ වැන්නක් ගම තුළ කිරීමට සමත් කිසිවෙක් නොවූහ. අසල ගම්වලින් මේ ගමට වැද එ වැන්නක් කිරීමට සමත් කිසි කෙනෙක් නොවූහ. එ වැනි දේ ඒ කාලයේ ගම්වැසියනට නොදැනී පිට ගම්වැසියකුට සිදු කිරීමට කොහෙත්ම ඉඩක් නො තිබිණි. ගමේ සිදුවන වැරදිවලට මුළු ගම ම වගකීමට ගැමි සමාජය ම බැඳී සිටීම ද එකල සිරිත විය. මේ නිසා පත්තායම බින්ද හොරු කවුරුද යන්න ගැමියනට රහසක් නො වීය. මේ කාරණය පත්තායමේ ලේකම් මගින් සෙංකඩගල මහ වාසලට දැන ගන්නට ලැබිණි. මේ නොහොබිනා අකටයුත්ත සිදුකර ඇත්තේ අලවතුරේ රාළත්, ගණේගොඩ රාළත් බව රාසිං දෙවියන් ගේ කනට ද ගියේය. දැඩි කෝපයෙන් වෙළී ගිය රාසිං දෙයියෝ පහත් ක්‍රියාවක් සිදු කළ ඒ දෙදෙනා අල්ලා මහ වාසලට ඉදිරිපත් කරන ලෙස කටුපුල්ලේ ඇත්තන් හට අණ කළෝ ය. ආඥා වේවැල සුදු පිරුවටකින් ඔතා ගත් කටුපුල්ලේ නායකයා (රාළ) නව දූත දෙනකු ගෙන් සමන්විත කණ්ඩායමක් ලෙස ගැටබේ තොටින් එගොඩ වෙත් ම ඒ බව රත්වල ගණේගොඩ රාළටත්, අලවතුරේ රාළටත් දැනගන්නට ලැබුණේ ඒ වැන්නක් සිදු විය හැකි බව සිතමින් ඔවුන් විමසිල්ලෙන් සිටි නිසා ය. කටුපුල්ලේ ඇත්තන් ගන්නෝරුව පසු කොට දන්තොට වතුර මැදින් බලන කඩවතට ළඟාවන්නට පෙර රත්වල රාළ ලා කිසිවකුටත් නොදැනෙන අයුරින් රත්වලින් පිටමංව යටියන්තොට මැදින් අවිස්සාවේල්ලට ළඟා වීමට වැඩි කාලයක් ගත කෙළේ නැත. කෙමෙන් කැලණි ගඟබඩට



ගිය ඔවුහු කැලණි ගඟේ ද තවත් පහළට ගොස් තවදුරටත් කන්ද උඩරට රාජධානියෙන් ඈත් වීමට සිතා ගං ඉවුරේ වූ උණ ගස් කීපයක් කපා, අසල ලැහැබෙන් වේවැල් ඇද ඒවා එකට ගැට ගසා පහුරක් තනා ඒ මගින් ගඟේ පහළට ඉතා ලෙහෙසියෙන් ම පා වී ගියෝ ය.

මෙසේ ගඟ පහළට සෑහෙන දුරක් ගිය අලවතුරේ රාළ 'දැන් මට නම් ගියා ඇති' කියා ගං ඉවුරේ පහුරෙන් ඉවත් වී ඒ අසළ වූ ගමේ පදිංචි විය. ගණේගොඩ රාළ ඒ පහුරෙන් ම තවත් පහළට ගොස් ගඟබඩ වූ දන්ගල්ල නම් ගමේ පොරොත්තු වූයේය. මේ රාළ වැඩි කල් නොගොස් ඒ ගමෙන් ම තරුණියක පාවා ගති.

අළවතුරේ රාළ පදිංචි වූ ගම කිසිම දියුණුවක් තිබූ තැනක් නොවේ. එහෙත් ඒ පෙදෙසේ වූ කැලෑ එළි පෙහෙළි කොට නව ගමක් උදා කිරීමට ඔහුට එතරම් කාලයක් ගියේ නැත. මෙසේ තමා අලුතින් ඉදි කළ ගම්මානයට තමා ගේ ජන්ම භූමියේ නම වන "රත්වල" යන්න ම තබන ලද්දේ උපන් ගම කෙදිනක වත් අමතක කළ යුතු නැත යන්න සිතා විය යුතුය. ගමේ නව දියුණුවක් උදා කළ මේ රාළට ගම්වැසි කාගේත් ගරු බුහුමන් නොමදව ලැබිණි. ඇතමකු ඔහු දෙවියකු වශයෙන් සලකා ඇත්තේ ඔහු තුළ පැවති පරහට දයාව දැක්වීම, කරුණාව, ඉවසීම, සමානාත්මතාව වැනි මිනිස් සාරධර්ම තම හදවත නිදන් කර ගෙන සිටින මහත්මයකු නිසාය. අළවතුරේ රාළ කම් වූ පරිදි මිය ගියේ ය. ඔහු මිය ගියත් ගමට අරක් ගෙන සිටින බවට ගැමියෝ දැඩි සේ විශ්වාස කළෝය. එබැවින් ඔහු වෙනුවෙන් දේවාලයක් ඉදි කොට එය රත්වල දෙවිට කැප කිරීමට ද ඔවුහු කටයුතු කළෝය. කැලණි ගඟට අරක් ගත් රංවල දෙවියා ම බව ඔවුන් ගේ විශ්වාසය විය. කල් ගිය පසු ඒ දෙවියාට පඬුරු වෙන් කිරීම, පහන් දැල්වීම, බලිතොවිල් පැවැත්වීම ආදියට ද ගැමියෝ පෙළඹුණෝය. මේ දෙවි ගේ විවිධ හාස්කම් පිළිබඳව ද නොයෙක් ජනකතා ඒ පෙදෙසින් අසන්නට ලැබේ. තෝල්කයකු ගොළුවීම, කිඹුල් කොටා ගේ බරා නැමැත්තාට කැලණි ගඟේ ගුහාවක දී රත්වල දෙවියන් හමුවීම, ගලේ සිට වූ යකඩය වැනි කතා ඒ අතර වේ. (18: 104-7 පිටු) මේ කථාව තවත් අයුරකින් ද සඳහන් වී ඇත.

(2) මහනුවර විසූ දෙවන රාජසිංහ රජු ගේ කාලයේ (1635-87) ඒ රජු ගේ පත්තායමක් (වී අටුවක්) කෑගල්ල අසල වූ රත්වල තිබිණි. මේ පත්තායම අසවත් රාළ, රත්කිරි රාළ යන තරුණයන් දෙදෙනා විසින් හොඳින් ආරක්ෂා කරගන්නා ලදී. එහෙත් මේ ගැන ඊර්ෂ්‍යා කළ පිරිස අර දෙදෙනාට හොරෙන් පත්තායමට ගිනි තබා ඒ බව මහ වාසලට දන්වා තිබේ. උරණ වූ මහ රජතුමා ඔවුනට දඬුවම්

පමුණුවන්නට යන බව කෝහල්පිරි රාළ නමැත්තා මගින් දැනගත් උක්ත තරුණයෝ දෙදෙනා ගමින් පැන අරන්දරට අවුත්, ගුරුගොඩ ඔය දිගේ ගඟ පහළට ගියෝ ය. ඔවුන් විසින් ම සාදා ගනු ලැබූ පාරු දෙකක් මගින් යන ඒ දෙදෙනා ගෙන් අස්වන් රාළට ගඟබඩ ගී කියන කතක ගේ ගී රාවයක් ඇසිණි. අස්වන් රාළ එයට වසී වී ඔහු ද එයට ප්‍රතිගීයක් ගැයීය. එය ගී සංවාදයක් බවට පත් වී එහි අවසන වූයේ අස්වන් රාළ ගේ ගමන එ තැනින් කෙළවර වීමයි. මෙය දැන ගත් රත්කිරි රාළ තමා යන ගමන නතර නො කොට සියනෑ කෝරළය පෙදෙසට ගොස් එහි ගිරිදර නතර විය. අඹන්වල රාළ ගී ගැයූ යුවතිය සමඟ ඇගේ නිවසට ගියේය. එහෙත් නුපුරුදු පිට පළාතක තරුණයකු සමඟ පැමිණි තම දුව පිළිගැනීමට ඇගේ දෙමාපියෝ කිසිසේත් කැමැත්තක් නොදැක්වූහ. අසරණ වූ මේ යුවළ ඒ ආසන්නයේ වූ දන්ගොල්ල යන ගමේ පදිංචි වූහ. 'ලැගුම් බිම' යන ගල්ලෙනේ වාසය කළ ඔවුහු හේනක් කොටා හේන් ගොවිතැන් කළෝය. අද හේනේගම යනුවෙන් හඳුන්වන්නේ ඒ ගොවි පළයි. ඔවුන් ගේ මඩ ගොවිතැන් භූමිය අස්වන් වෙල යනුවෙන් හැඳින්වේ. ටික කලක දී යුග දිවිය අත් හල අස්වන් රාළ කැලණි ගඟබඩ අසපුවක් ඉදිකොට එහි විසීය. හුදකලාව විසූ හේ තම අසපුව වටා රාත්‍රියේ පහන් දැල්වීම සිරිතක් කරගත්. ගඟේ පාරු පදින අයට එය පහසුවක් විය. අස්වන් රාළ මිය ගිය පසුව ද එම පහන් දැල්වීම පාරුකරුවන් ද අසල් වැසියන් ද නොකඩවා සිදුකර ගෙන ගොස් තිබේ. අවුරුදු ගණනක් ම එය එසේ ම විය. ඒ අතර ඒ අසල වූ තොටුපොළ භාර ගත් අය ද එම කාර්යය ඉටු කර තිබේ. තොටුපොල භාරකරු වෙත පැමිණි පොඩියා නමැති ද්‍රවිඩ ජාතිකයා ද එය එසේ ම සිදු කර ඇත. 1900-02 කාලයේ දී අවිස්සාවේල්ල දුම්රිය මාවත ඉදිවීම නිසා පහන් දැල්වන ස්ථානය මඳක් වෙනස් කොට තාර පාර අසල ට ගෙන ගොස් තිබේ. (75: 152-156 පිටු.)

ඉහත සඳහන් ආකාරයට බිහි වූ රන්වල දෙවියා ගෙන් ගොවිතැනේ ආරක්ෂාවත්, මහ ජනතාව ගේ ආරක්ෂාවත් සිදුවන බව ඒ අවට ගැමියන් ගේ දැඩි විශ්වාසය විය. මේ නිසා සීතාවකින් පහළ පෙදෙසේ රන්වල දෙවියන් පිදීම බහුල ව සිදු කෙරේ. කොළඹ - අවිස්සාවේල්ල මහ මාවතේ හිඟුරල අඹගසක් ඇත. එහි රන්වල දෙවියනට පුද පූජා පැවැත් වේ. ඇස්වත්ත, මල්වාන, වැනි පෙදෙස්වල ද කැලණි ගඟ දෙ පස ද මෙම දෙවියා වෙනුවෙන් පුහුල් පහන් දැල්වීම සිදු කෙරේ. 'හිඟුරල පහන' නමින් හැඳින්වෙන ස්ථානය පඬුරු ලන තැනකි. මෙයින් රන්වල දෙව් හාමුදුරුවන් ගේ බැල්ම නොඅඩු ව ලැබෙන බව මහ ජනතාව ගේ විශ්වාස යයි.





## 190
## රාජ මරලු බණ්ඩාර

මෙම දෙවියා ගැන හියු නෙවිල් කාව්‍ය සමුච්චයේ ඇති 'දොළහ දෙවි' කව්පත්තියක සඳහනක් වේ.

මරු උන් කන්දට වැඩම කරන් තෝ
මරු ලත් දහසක් බොටු සිඳ වන් තෝ
රන් දුන්නේ වෙද වාස කරන් තෝ
රාජ මරලු බණ්ඩාර වඩින් තෝ
(37: 131 පි.)

මේ දෙවියන් ගැන මීට වැඩි විස්තර ලැබී නැත.



## 191
## රාජසිංහ අලුත් දෙවියෝ

හියු නෙවිල් එකතු කළ කවි පත්ති අතර ඇති 'අලුත් දෙවියන් ගේ කවි' යනුවෙන් නම් කොට ඇති කවි පත්තියේ වර්ණනා වන්නේ දේවත්වයට නංවන ලද දෙවන රාජසිංහ රජතුමා බව පෙනේ.

ඔටුනු පැළඳ ගෙන රජ කළ හින් දා
පමුණුගමුත් ලොව නැති වුණු සින් දා
කඩු බඳිනා රජසිහ නර තින් දා
දුකට පිහිට වුණු අලුත් දෙවින් දා
(37: 120 පි.)

මේ දෙවන රාජසිංහ බව පැහැදිලි වන්නේ සෙංකඩගල පුර අවට පෙදෙස් ගැන ඇති සඳහනිනි.

කුමාර කෙළියේ වැඩ සිටි සේ　යා
පෙමා එ බුවැලිකඩ නුවරේ　යා
පමා නැතුව සිටියෙන් ගහි නේ　යා
හැමා පෙමින් රජ පහළ වුණේ　යා
(එම)

වරද වැඩී අවසර දී සිර　ගෙට
පින් බලයෙන් මල් යහනේ වැඩ　සිට
පින් දෙම් දෙවියන් තිරස දරා　සිට
තුන් ලොව වටිනා ගම්පළ නුව　රට

පරුවතයකින් වැඩී යයි මෙත　නට
පේම සිතින් වැඩී යයි තෙල් දෙණි　යට
ආය ගොසින් සැළ කළෝය දෙවි　දුට
බෝවා කල් ආසිරි වඩ වන්　නට
(එම: 121 පි.)

සඳ පානේ ගමනයි ගහ පහළ　ට
දිය සෙවණේ ගමනයි ගහ ඉහළ　ට
නිසි ගමනක් වැඩී යයි ජන එළි ය　ට
කරුණා වයි ගමනයි ලේ වැල්ල ය　ට
(එම 122 පි.)

මේ කවිවලින් රජ විසින් කරන ලද විශේෂ කර්තව්‍යයක් කියවෙන්නේ නැත. රජතුමා ගේ යශෝකීර්තිය නිසා ඔහු දේවත්වයට පත් කරන ලද බවක් පෙනේ.

වැඩියා සඳ සේ වැඩ සැත　පෙන්නට
එළියට වැඩී කල සූරිය　වංසෙට
මේ ලොව සතහට රෝග කරන්　නට
පොළොවේ වැලි මදි දෙවිඳු ගෙ　නඩුවට
(එම: 121 පි.)



# 192
# රිටිටා දේවි



මෝ තොමෝ ඉතා අවලක්ෂණ තැනැත්තියක බව සඳහන් වේ. ඇය ගේ වාසය ගරුඩා පිට බව ද පැවසේ. ඒ ඒ දිනවල ඇගේ වෙනස්වීම් සිදුවන බව සඳහන් වේ. අපල කරවන තැනැත්තියක වශයෙන් ද ඇතැම් තැනක සඳහන් වන මැය ගැන දතයුතු දෑ පහත දැක්වෙන කවිවලින් මැනවින් කියවේ.

දිනෙන් දිනට නෙක ලෙස දිග　ඇත්තී
සුනෙර වලා සාගව් දිග　ඇත්තී
බැම යුග අට ගව්වක් දිග　ඇත්තී
සැම ලකුණේ රිටිටාවිගෙ　විත්තී

තළලත ලොම් නෙත් වැසී දික්ව　එති
උල්ව තිබෙයි දස තිය පැහැපත්　ඇති
නොබඳින ඉසකේ පිටට එලා　ලතී
නොගනුව වැඩ නම් අපලම කරව　තී

ඇඳි වත වැරහැලි රතුවන් පාටි　න
නපුරුයි ලක්ෂණ රිටිටාවිගෙ　දැන
පොරණේ තුන් ලොව සිටියා දැන　ගෙන
රිටිටා යම ජුතිගෙ අව ගුණ　දැන

අන්තර බාදිලි දිගුව　වඩන්නී
රන්වන් පැයට කොළ තිය　වන්නී
නොතන මතා නෙක කැවිලි ද　කන්නී
ඇලි නැඟි ගරුඩා පිටයි　වෙසෙන්නී

පැය ලෝක කම් මායන්　දන්නී
මේරුව වටකර විගසට　යන්නී
දාවල් ලක්සය ගමන් උගන්　නී
රිටිටාවගෙ ගති මෙලෙසට　පෙන්නී

ඉරිදා නවසියයක් උස ඇත්තී
සඳුදා නවසියයක් උස ඇත්තී
කුජදා තුන් සියයක් උස ඇත්තී
බුදදා අටසියයක් උස ඇත්තී

ගුරුදා එක්සිය සරියන් උසතී
කිවිදා අට සියයක් උස ඇත්තී
සනිදා නවසියයක් උස ඇත්තී
අසතුය මේ රිටිටාවිගෙ විත්තී

ඇසක් අඳුන් ගා එක් කන් පැතැ තී
තනයක කිරි ගෙන තනයක පිසි තී
පයක් කොරව ඉඳ සක්මන් කර තී
ඉරිදා දිනයට ඇගෙ ගුණ මෙවෙ තී

දෙනෙත් ඉතා වණ ඇති ඇය් ලෙඩ කී
බතුත් නැතුව කය වේලුණු බස තී
අතක් නැඟී ගැට තද ගඩපොළ කී
සඳුදා දවසට ඇගෙ ගුණ මෙසෙ කී

තිලත් බරෙන් තන ගඩපොළ ලෙඩ කී
උරත් දෙකින් වණ ගඩපොල ලෙඩ කී
බරත් දීර කය තිරිහත් වයස කී
කුජ දින දවසට ඇගෙ ගුණ මෙතෙ කී

දඩු සර රිවි දින පිළි වියත් නී
වඩු කර සඳුදා ගෙවල් තනත් නී
අඩු කර කුජදා නැව් බින්දත් නී
බුද දිනයේ මේ තපස් රකිත් නී

ගුරුදා තම හිමි හට පවතින් නී
කිවිදා සෙල්ලම් කර ඇවිදින් නී
සනිදා ලොවවට ගිනි මොලවත් නී
රිටිටාවිගෙ ගති මෙලෙසට පෙත් නී

ඉරිදා රත්වත් කොළ අට වත් නී
සඳුදා සුදුවත් කොළ අට වත් නී
කුජදා දඩයම් කර ඇවි දිත් නී
බුදදා රහමෙර ගෙන ඇවි දිත් නී



ගුරු දින රත් පා බොරළු උයත් නී
කිවිදින සෙනෙහස පලය කියත් නී
සනිදින කැඩපත් මූණ බලත් නී
රිටිටාවිගෙ ගති මේ ලෙස පෙත් නී

ඉරිදා වෙළඳම් කඩය සදත් නී
සඳුදා බේතට කොළ අඹරත් නී
කුජදා තමහට දැලි වඩවත් නී
බුදදා සිව් සැට සිල්ප උගත් නී

ගුරුදා තමහට මරණය ගත් නී
කිවිදා ඉන්නට දීග අසත් නී
සනිදා ආබරණත් පළ දිත් නී
රිටිටාවිගෙ ගති මෙ ලෙසට පෙත් නී

(90: 86-88 පිටු)



## 193
# රිටිගල දෙවියෝ

රිටිගල දෙවියන් ගැන සඳහනක් හියු නෙවිල් එකතු කළ කවි පත්ති අතර ඇති "පිටියෙ දෙවි කවි" නම් කවි 112 ක කවි පෙළේ තිබේ. පිටියෙ දෙවියන් හා සම්බන්ධව සඳහන් කර තිබීමෙන් ඔවුන් අතර කිසියම් සබඳතාවක් ඇති බව අනුමාන කළ හැකිය. (161, 3: 23 පි.)



# 194
# රිදීගම දෙවියෝ

නමින් ම පෙනෙන පරිදි මෙම දෙවියෝ රිදී විහාරය පිහිටුවා ඇති රිදීගම හා සම්බන්ධ වෙති. රිදී විහාරය භාර ව සිටින කුමාර බණ්ඩාර දෙවියන් ම මේ නමින් හැඳින්වෙන බව සාමාන්‍ය විශ්වාස යයි.

පඬි රජු ගේ පුත් වූ මේ කුමාරයා පාඬි රටේ දී දෙවි ව (ඉහත කුමාර බණ්ඩාර යටතේ බලන්න.) පසුව සත් දිනක් පිනා පුත්තලමට ගොඩ බැස්සේය. යකුන් ලුහු බැඳ ඔහු කළ සපත්කම් නිසා ඔහු ගේ තෙද බල රටේ පැතිරිණි. ඔහුට පත්තිනි දේවිය ගේ වරම් ද ලැබිණි. දුටුගැමුණු සමයේ දී දැදුරු ඔය පෙදෙසේ වෙළදාමට පැමිණි වෙළඳුන් පිරිසක් කුමාර බණ්ඩාර දෙවියන් ගේ අනුග්‍රහයෙන් රිදී ලෙන සොයා ගත්හ. ඒ බව රුවන්වැලි සෑය බඳින රජුට ද දැන් වූහ. එයින් සතුටු වූ රජ, රිදීගම විහාරය කරවා එය ආරක්ෂා කිරීමට කුමාර බණ්ඩාර දෙවියන්ට භාර කළේය.

ඇත්තු ඇතුව ගැමුණු නිරිඳු ගිරි ලෙනයේ වැඩ සිට ලා
නිත්ත කඩට දේවාලේ විගසින් වැඩ නිම කර ලා
ගත්තු පඩුරු සහ ගම්බිම් රත් පිළිමෙට පුද කර ලා
සත්ත ඇතුව කුමාර දෙවි ඔබට මෙ පුද බාර ක ලා

එතැන් පටන් මෙ සිරිලකට කුමාර දේවි වැඩම වලා
නෙතින් බලා රිදී ලෙනේ රන් පිළිමය බාර වෙලා
අතින් ඇන්න වදුරු හලඹ හැම යකු හට ගිනි දීලා
ඉතින් වඩිති කුමාර දෙවි පොල්පිතිගම ඉඩම බලා

(29 : 178-9 පි.)

එච්. යූ. ප්‍රඥාලෝක හිමියන් විසින් වාර්තා කොට ඇති "කුමාර බණ්ඩාර" දෙවියන් ගේ විත්තියෙන් කොටසක් පහත දැක් වේ.



පැතුම් බලේ දෙවි ජාති කුසල් කර තෙද අණසක මුළු ලොව පව නී
මෙ තුන් ලොවේ නැත යකුන්ට තිරිදෙක් සියලු යකුන් බැඳ වද කරනී
සතුන් සැමට ලොව වැසියන් උවදුරු වදුරු මකා දෙවි පිය හරි නී
උතුන් රිදීගම කුමාර බණ්ඩර සළඹ ගිගිරි නද කර වඩී නී

එදා මෙ සිරි ලක එක් දහසේදින් සිංහල දීපෙට වැඩිය රහෝ
උදා වෙලා රිවි බානු ලෙසින් දෙවි නාග ලොවේ තෙද පාපු රහෝ
බෙදා දෙරණ මහ පොළොව පළා ගෙන මකර ජලාවට වැඩිය රහෝ
මදා ර මල් පෙති රන් පිළිමය ලෙස මකර කටේ ගිනි කෙළපු රහෝ

සතර වරම් දෙවි සිව් කොන වැඩ සිට කුමරුට තිති මුර කරයිටි නී
අතර තුරේ සිව් දිවයින් වල සිටි හැම දෙවියෝ එතනට වඩී නී
පතර ගිරග ගල් පර්වත උණු වී සියලු යකුන් කුමරුට වඳි නී
කතර ගමේ දෙවි පත්තිනි සමගින් පංචතුරෙන් එතනට වඩී නී

සිද්ද උතුම් කුමාර දෙවි සිරිලක් වට බැන්ද කොඩි ය
ලද්ද රකුසු යක් පිරිවර දැලේ පිරිවරා සිටි ය
බැද්ද නොයෙක් විමානවල පිසසුන් හට කරන වද ය
ඇද්ද මෙ සිරිලක දෙවියෙක් යකුන්ට රිවි රැස් විහිදි ය

මහමුහුදට වැඩ ලා දෙවි රන් කරඬුව දර මින් නේ
මහ මුහුදේ රළ පිට යන දැති මෝරුන් කොට මින් නේ
මහ මුහුදේ ජල පිට එන රැළි පෙරළා කරක වන් නේ
වදුරු වසංගත සැම දොස් පයින් ගසා දුර ලන් නේ

ගොසින් එදා කුවෙර පුරට වෙසමුනි විවරණ ලබන් ට
ලසින් සියලු යක් සෙනගට අදිකාරම් කම ලබන් ට
උසින් කම්බු කනුව තනා කම්බිලි කනුවේ බඳින් ට
රුසින් රුදුරු ගිනි සැර දී සියලු, යකුට වද කරන් ට

සිද්ද උතුම් රිදීගමට බැල්ම හෙලා වැඩ සිටින් ට
සිද්ද පතිනි රන් සළඹේ සැම කල් මුර කර සිටින් ට
සද්ද ගීත පංචතුරෙන් සැම පූජා ලබා ගන් ට
විද්ද සැරෙන් සිරිලක වට එර්දි බෙලෙන් වැඩ සිටින් ට

(90: 41-42 පිටු)

තව ද ජනප්‍රවාදයකට අනුව මාතලේ දිස්ත්‍රික්කයේ උරුලැවත්ත ග්‍රාමයේ පිහිටා ඇති දේවාලයේ පොරොත්තුව සිටින "රිදීගම" දෙවි වනාහි යථොක්ත ග්‍රාමය පිහිට වූ හේරත් බණ්ඩාරගේ පුනර්ජන්මයයි. (154: 210 පි.)

කොහොඹා කංකාරියේ දී රිදීගම දෙවියන් ගැන වෙනත් පුරාණ කථාවක් දැක්ක හැකිය. දෙවොල් දෙවියන් ගේ ද වීරමුණ්ඩ දෙවියන් ගේ ද බාල සොයුරා ඔවුන් හා සමඟ සිරිලකට පැමිණ රිදීගම දෙවි බවට පත් වූ වගක් එම පුවත අනුව දැක්වේ. "වීරමුණ්ඩ දෙවියන්ගේ උත්පත්තිය" නම් ගායනාවෙහි මෙසේ කියැවේ.

මහමුහුදේ දිඹුල් නැවෙන් මෙතරට ඔබ වැඩමෙව්වේ
සීනිගමයි දෙවෙල් දෙවියො පළමුවෙන් පල පැවේ
වීරමුණ්ඩ දෙවිඳුගෙ තෙද මුල් කෝවිල විල් බා වේ
කුමර බණ්ඩාර දෙවියො රිදී ගමයි බල පැවේ
(73: 97 පි.)

(වීරමුණ්ඩ දෙවියන් පිළිබඳව එන විස්තරය ද බලන්න.)



## 195
## වට කුමාර දෙවියෝ

ලක රකිනා දෙවිවරුන් සිව් දෙනා අතර සිටින බොක්සැල් දෙවි ද මේ වටකුමාරයා ම යයි කියති. සතරවරම් මල් යහන, කඩවර කවි, වටකුමාර කවි යන පුස්කොළ පොත්වල මොහු ගැන සඳහන් වන බව බානවි කියයි. (141 : 12. පි.)

විස්තර සඳහා බොක්සල් දෙවි යටතේ ද බලන්න.

ඌවේ ප්‍රාදේශීය දෙවි දොළොස් කට්ටුවට වටකුමාර දෙවියා ද අයත් බව තවත් ජනප්‍රවාදයක පැවසේ. (86: 215 පි.)

හියු නෙවිල්.සපයන විස්තරයට අනුව පෙනෙන්නේ වටකුමාර යනු දහ අට සන්නියේ එක් සන්නියක් බව ය. තමාට ලැබුණු "වට පත්ති බලිය" නම් කවිපත්තිය කවි 36 කින් යුක්ත බව ද එහි සඳහන් පුවත අනුව වට කුමාරයා බුදුන් ගෙන් වරම් ලැබ අතේ රන් තැටියක් දරා සිටින බව ද කවි පත්තියේ ඔහුට පිදෙන බිලිය පිළියෙළ කරන ආකාරය විස්තර වී ඇති බව ද නෙවිල් පවසයි. (161, 1: 14 පි.)





## 196
## වතුරේගම දේවාලයේ රටගිය මුදියන්සේ

කොළඹ කෞතුකාගාරයේ ඇති ජාත්‍යාලංකාරය නම් පුස්කොළ පොතක සඳහන් දෙවි කෙනෙකි. (මෙම කෘතිය ලියා ඇත්තේ 19 වන සියවසේ පැවැති කුල අතර වාද විවාද සමයේ දී සලාගම කුලය නංවා තැබීමට බව පෙනේ.) දහ අට වන සියවස මැද දී ලක්දිව මුහුදු තීරයේ බලවත් ව සිටි ලන්දේසීහු දකුණු ඉන්දියාවේ තමන්ට යටත් ප්‍රදේශයක් වූ කොචින් ප්‍රාන්තයේ කැරැල්ලක් මැඩීමට කොස්ගොඩින් අගම්පොඩි සේනාවක් "අමරාල්" නම් සෙනෙවියා ගේ ප්‍රධානත්වයෙන් ද සිංහල මුදලිවරුන් කීප දෙනෙකුගේ උප ප්‍රධානත්වයෙන් ද පිටත් කළහ. කැරැලි මැඩ ආපසු එන ගමනේ දී එක් සිංහල මුදලිවරයෙක් මිය ගියේය. මළ සිරුර මුහුදේ නිධාන කළ දිනට පසු දා මුහුදේ සුදු නාග පැටවකු සිටිනු දුටු පිරිස සිය නායකයා දේවත්වයක් ලබා ඇතැයි වටහා ගෙන එහිදී ම මේ වඩා පුද පූජා පැවැත්වූහ. නැව වැලිතොට වරායට පැමිණි කල්හි කුඹගස ගලවා ගෙන පුද පෙරහරින් වතුරේගමට ගෙන ගොස් දෙවොලක් කොට "සුදු මල් දේවතා" යන නම ද පට බැඳිණි.

දහනව වන සියවසේ අවසාන භාගයේ එම කුලයේ තවත් මුදලිවරයෙක් එම දේවාලයේ දී දේවත්වය ලැබීය. ඒ අමරපුර නිකාය පිහිටු වීමට උපස්තම්භක වූ සහබන්දු මුදලි තුමාය. මේ දෙවියන් හැඳින්වෙන්නේ "අලුත් දෙවි" යන නමිනි. වතුරේගම දේවාලයේ විශේෂත්වයක් නම් එය දකුණු පළාතේ අන්‍ය දේවාල මෙන් කතරගමට යටත් වන්නේ නැති ව පැවතීම බව කියනු ලැබේ. (8).



14. ර.මු.නි.ස. - 93939

# 197



## වදුරු මා දේවි

හියු නෙවිල්ගේ කාව්‍ය සමුච්චයේ "වදුරු ශාන්තිය" (161, 2 : 105පි.) යනුවෙන් කවි 28 ක කවි පෙළක් හා "වදුරු මා දේවි කවි" (161, 3: 50 පි.) යනුවෙන් කවි 20 ක කවි පෙළක් ද තිබේ. මීට අමතරව "වදුරු මා කාලි උපත" යනුවෙන් තවත් කවි පෙළක් ද ඔහු සඳහන් කර තිබේ. (161, 1 : 239 පි.)

මෙහි දී වදුරු මා දේවිය වදුරු රෝගය හෙවත් වසූරිය සුව කරවන දෙවියන් ලෙස හඳුනාගෙන තිබේ. විෂ්ණු, කන්ද කුමාර, පත්තිනි යන දෙවිවරුන් ගේ වරමින් රෝගය පතුරුවන යකුන් දුර ලන්නා වූ මෙම දේවිය පත්තිනිය ගේ දකුණු වාසලෙහි වාසය කරන බව ද පැවසේ. ඇගේ පුරනේ අවිපොතකි. අනෙක් අතේ සෙත් හළඹය.

දුල්ලා මුතු මාල ඔසරි තුනු ඉණවට දිළි සෙත්    තේ<br>
නිල්වා බඳ ඔසරි දමා වණට හළඹ අදි මින්    තේ<br>
ගල්ලා ගත සඳුන් සුවඳ නෙයියාඩම් කෙළි මින්    තේ<br>
අල්ලා ගෙන නපුරු යකුන් ගිනි රැස් දී එළ වන්    තේ

සෙනේ සිතින අයියන දෙවි වැඩ සිට බල පාන්    ට<br>
අනේ මෙ මුලදි යන මේ නුඹෙ කරුණු සිතින් රකින්    ඩ<br>
දැනේ ඔබගෙ තෙද අනුහස් වඩිග දෙමළ යක්ෂයින්    ඩ<br>
ගුණේ වදුරු මා දේවිය සැණෙකින් පේනට වඩින්    ඩ

කුඩ කොඩි සේසත් චාමර නිතර සේව මුර කර    තී<br>
පොඩි කර සැම යක් සෙනඟ වදුරු වසංගත රකි    තී<br>
කඩවර දෙවි කැටුව සිටින ලෙසට පතිනි අවසර දෙ    තී<br>
වැඩි කර තිස් මාල හහල ඔමරි ද ගෙන නෝර්තන කර    තී

(38 : 83-84 පිටු)



"වදුරු ශාන්තිය" යනු වසූරිය සුව කිරීම සඳහා කළ යුතු ශාන්ති කර්මයෙකි. මෙහි දී වසූරියේ සප්ත ස්වරූපයක් සඳහන් ව ඇති අතර ශාන්ති කර්මය සඳුදා උදේ ආරම්භ විය යුතු බවත් එය කරන්නා පත්තිනිය මෙන් ස්ත්‍රී විලාසයෙන් පැළඳ පැමිණිය යුතු බවත් කියවේ. මෙහි දී පත්තිනිය විසින් ලොව භාර දී ඇති කාලී දේවියට ආමන්ත්‍රණය කෙරේ. (161, 2 : 105 පි.) ඉහත සඳහන් "වදුරු මා කාලි උපත" නම් කවි පෙළෙන් කියැවෙන්නේ වදුරු මා දේවිය ගේ එක්තරා ස්වරූපයක් හෝ කාලිය ගේ එක්තරා ස්වරූපයක් විය හැකිය.

(මහකෙළ) නා රජු මහා මේරුව පෙණ ගොබින් වසා සිටි අවස්ථාවේ දී මේඝ රජු මහා මේඝයක් මවා නාගයා ගේ පෙණය විනාශ කළේය. එම පෙණ ගොබය කැඩීම නිසා ගලා ආ රුධිරය සක්වළ ගලා ගියේය. ඒ ලේවලින් කුමරියෝ අට දෙනෙක් උපන්හ. මෙයින් පළමු වැන්නිය කතරගම අධිපතිනිය වූවාය. ඇගේ නම වදුරු කාලි නම්. හත් වැනි වියේ දී ඇය දිල්ලි රට බැලීමට ගියාය. ඈ මිට මෙළ වූ වම් අතින් අවීචි නිරයේ අග්නිය දරා සිට විසල් පුරයට ඉන් පහර දී ඇතුන්, ගවයන් අසුන් අතර වසංගත පතුරුවා ඇත. එහි දී කන්ද කුමාරයා ඇය මෙල්ල කොට දම්වැල් සත් පටකින් බැඳ දැමීය. සත් දිනකට පසුව ඉන් මිදුණු ඈ පළා ගොස් යළි ආපසු පැමිණ සමාව ලබා ගෙන ලක්දිවට පැමිණ සියලු දුක් කරදර සමනය කරන්නීය. (161, 1 : 293 පි.) මේ කවි පන්තියේ ඇති විශේෂ විස්තරයක් නම් නර ලොව වදුරු රෝග පැතුරුණු ආකාර යයි. අන් දෙවිවරුන් පත්තිනියට වටා කෙළි පුද කරමින් සිටින අවස්ථාවේ වදුරු පෙට්ටි බිඳී විසාලා නුවර වසංගත රෝග පැතිර ගියේය. මේ කවි පන්තිය අසම්පූර්ණ නිසා වදුරු පෙට්ටි බිඳී යෑම පිළිබඳ විස්තර දත නොහැකිය. (161, 1 : 293 පි.) මේ නෙවිල් විසින් උපුටා දක්වා ඇති කවි යයි.

සිදුරු නැතුව හැම දෙවියෝ පත්තිනි දෙවි ළඟ සිටි    එදා<br>
අඳුරු ඔබා මේඝ ගිගුම් කරති එ සැන කෙළිය    එදා<br>
පඳුරු ලාන ලෙස ජනපද විසල් පුරට වැදුනි    එදා<br>
වදුරු පෙට්ටි හත බිඳගෙන පැන්නේ නරලොවට    එදා

(එම)



## 198
# වත්තියෙ බණ්ඩාර දෙවියෝ

මේ දෙවි වියලුවේ ගබඩා ගමේ උපන්නෙකි. ඔහු උපන් තැන හුනුකැටේ ගෙදර නම් විය.

උපන් ගමයි වියලුවේ ගබඩා ගම<br>
බල පෑමට ලෝකේ සැම තැනට ම<br>
නමින් උතුම් හුනු කැටේ ගෙදර ග ම<br>
වත්තියෙ බණ්ඩාර ඔත්න කතරග ම

(137 : 538 පි.)

කතරගමට ගොස් යක් බවට පැමිණ ඇතකු පිට නැඟී උඩරට පැමිණියේය. මේ ගමනේ දී දත්කොටුව, ගල්කොටුව, ගුරු බැද්ද, ආදිරබ්බ, කටුපත්වෙළ, හබ්බිලිය, හකුරුතලේ, ගෝනගම, සිහුරුවඩුව, ආදී ස්ථානයන්ට ඔහු පැමිණ තිබේ. (37 : 22-24 පිටු). පසුව අරුක්වත්ත, දනගමුවෙල, හෙල්ඇල්ල, මඩකලපුව, තල්වත්ත, පානව, තමන්කඩුව ආදි පෙදෙස්වල ද සංචාරය කරමින් ජන සම්මානයට පාත්‍ර විය. "වත්තියෙ දෙවි රජ්ජුරුවෝ" යන නමින් මෙන් ම "වත්ති බණ්ඩාර දෙවි" යන නමින් ද උනුවින්න වාසය ප්‍රිය කළ හෙයින් "උනුවින්නෙ බණ්ඩාර" යන නමින් ද හැඳින් වී ඇත. "උනුවින්න බණ්ඩාර යටතේ ද බලන්න.) හෙන්රි පාකර්ගේ මතය නම් මොහු ම "අයියනායක" "බිළිඳු බණ්ඩාර" යන නම් වලින් ද හැඳින් වී ඇති බවය. (174 : 15 පි.)

හියු නෙවිල් කවි එකතුවේ ඇති එක් "වත්ති බණ්ඩාර කවි" පෙළකට අනුව මේ දෙවි යකුන් අතර මහත් තෙද බල ඇත්තෙකි. කතරගම දෙවියන් ගෙන් වරම් ලබා බලගල දේවාලයෙහි වසයි. එහි වැද්දන්ට ලෙඩ පමුණුවන්නේය. අලි රළ නවතා තඹලගල දී ඔවුන් එකතු අල්ලා ඌ අරා ජය සක් පිඹිමින් වනය පීරා ගමන් කරයි.



සුද්ද කරන වත්තියෙ දෙවි රජුන් තෝ<br>
බැද්ද බිඳින අලියා පිට අඹන් තෝ<br>
යුද්ද මෙ ජය සක පිඹන වඩින් තෝ<br>
සිද්ද වේය වත්තියෙ දෙවි රජුන් තෝ

(161, 1 : 296 පි.)

තවත් "වත්ති බණ්ඩාර කවි" පෙළකට අනුව මේ දෙවියන් ගේ දේවාල දුම්බර හිරිමල්වත්තේ ද, බුටාවත්තේ ද තිබිණි. හේ උඩුගොඩ තුන් මහල් පායක් ගොඩ නැංවීය. නවයාලතැන්නට ද ගිය ඔහුට උනුවින්නේ ද පුරනාලේ ද දේවාල තිබිණි. ඇතකු පිට උඩරටට ගොස් බූත යකුන් අල්ලා බැට දෙයි. ගල් කොටුවට පැමිණ එහි වාසය කරමින් අරුක්වත්ත, දනගමුවවෙල, කෙහෙල්ඇල, මඩකලපුව, තල්වත්ත, රුණුව, පානව, තමන්කඩුව ආදී තැන්වලට ද යන්නේය. ඔහුට පුද ලැබුණු විශේෂ තැනක් නම් උතුරු කරයේ පදවිය රටයි. (161, 2 : 283 පි.)

ගල් කොටුවේ වැඩ සිටි දෙවියන් තෝ<br>
මල් පුටුවේ වට කර සරසන් තෝ<br>
වෙල් කොටුවට අලියා ගෙන දෙන් තෝ<br>
ගල් කොටුවට පෙරහැරෙන් වඩින් තෝ

(එම)

මේ කවි පෙළ පළමු වන හෝ දෙවන රාජසිංහ අවධියට (එනම් ව්‍ය.ව. 16 වන සියවසේ අග හෝ 17 වන සියවසට) අයත් යැයි නෙවිල් නිගමනය කර තිබේ. (එම)

හුරුලු පළාතේ කුංචුට්ටු කෝරලේ සහ ඒ අවට ප්‍රදේශයේ පවතින විශ්වාස අනුව වනයට අධිපති වත්තියෙ බණ්ඩාර නම් දෙවි කෙනෙක් මයිල හෝ සියඹලා ගසක් ආශ්‍රිතව වෙසෙති. වනයට ඇතුළු වන විට බෝල්පනා කොළ කඩා එල්ලා මේ දෙවියන් සිහි කොට ආරක්ෂාව පැතීම සිදුවේ. වත්තියෙ බණ්ඩාර දෙවියන් ගේ පිහිටාරක්ෂාව හේන් ගොවියෝ විශේෂයෙන් ප්‍රාර්ථනා කරති. අලින් ඇතුළු සතුන් ගෙන් පැමිණෙන උවදුරු වලකා ලීමට මේ දෙවියන්ගෙන් පිහිට පතනු ලැබේ. හේන් වපුරා අවසානයේ මයිල ගසක් හෝ සියඹලා ගසක් මුල් කරගෙන කිරි උතුරුවා දෙවියන් ගේ පිහිට ප්‍රාර්ථනා කරනු ලැබේ. (5)

මේ සියවස මුල දී හෙන්රි පාකර් විසින් වත්තියෙ බණ්ඩාර පිළිබඳව දක්වා ඇති පුවත් ඉහත හුරුලු පළාතේ ඇති විශ්වාසයන්හි පූර්ව අවස්ථාවක් නියෝජනය කරන බව පෙනේ. මේ ප්‍රදේශයේ විසූ වත්ති ජනයා දඩයමේ යාමට හෝ මී කැඩීමට හෝ යාමට පෙර තම ඉෂ්ට

දේවතාවා ලෙස සලකා වත්තිය බණ්ඩාරටත්, කිරිඅම්මා, කතරගම දෙවියෝ, කළු දේවතා, කම්බිලි උන්නැහේ ආදී තවත් දෙවිවරුන්ටත් පුද පූජා පැවැත්වීම සිරිත විය. තම කටයුතු සාර්ථක වීමත් පසුව සුදුසු පරිදි බාර හාර ඔප්පු කරන ලදි. (174 : 167-72 පිටු) (මාතලේ දෙවි තුන් කට්ටුව යටතේ ද බලන්න.)



## 199
# වත්තියේ දෙවිවරු

වත්ති පෙදෙසේ අරක් ගත් දෙවියන් කීප දෙනකු ගැන හෙන්රි පාකර් මහතා සඳහන් කරයි. ඔවුන් ගේ නම්:- 1. වත්තියෙ බණ්ඩාර 2. පස් දේවතාවෝ 3. සත් රජ්ජුරුවෝ යන අයයි. මෙයින් වත්ති බණ්ඩාර දෙවි යනුවෙන් හඳුන්වා ඇත්තේ අයියනාර් (අයියනායක) හෝ වැදි ජනයාගේ ගලේ යකා හෝ විය හැකි යයි ඔහු අනුමාන කර තිබේ. (174: 158 පි.)

වත්තියට අරක් ගත් "පස් දේවතාවෝ" ලෙස ඉලන්දාරි දෙවි, අයියනාර් දෙවි (අයියනායක), කළු දේවතා, කඩවර දේවතා සහ මංගලයා දෙවි යන පස් දෙනකු ගැන සඳහන් වේ. (මෙහි මංගලයා යනුවෙන් සඳහන් වන්නේ මංගර දෙවි විය හැකිය. මංගර දෙවි යටතේ ද බලන්න.) මෙහි මුලින් ම දැක් වූ ඉලන්දාරි දෙවි වැදි දෙවියෙකි. හේ වනගත පෙදෙසේ බලවතා වන්නේය. කිරි අම්මා ගේ පුතකු ලෙස ද සඳහන් වේ. (මොහු ගැන ඉලන්දාරි දෙවි යටතේ එන විස්තරය ද බලන්න.) කළු දේවතාවා ද උතුරු මැද පළාතේ සිටින දෙවියෙකි. (මේ ගැන විස්තරයක් කළුදේවතා බණ්ඩාර යටතේ එයි. එය බලන්න.) කඩවර දෙවි සිව දෙවියා විසින් කුමරුන් සත් දෙනකු කැටි කරන අවස්ථාවේ දී එයින් ගිලිහී ගිය දෙවියා ලෙස ද සැලකේ. (කඩවර දෙවි යටතේ එන තොරතුරු ද බලන්න.) මංගල දෙවි පුරාණයේ දී ත්‍රිකුණාමලය, මඩකලපුව යන පළාත්වල සිටි ඇත් දඩයම් කාරයකු ලෙස පාකර් හඳුනා



ගනී. (174 : 160 පි.) ඇතැම් තැනක අයියනායක දෙවියන් ගේ ඇමැතියන් පස් දෙනා ලෙස ඉලන්දාරි දෙවි, කළුදේවතා, කඩවර දෙවි, කම්බිලි උන්නැහේ, ගුරුමා දේවතාවා යන අය හඳුන්වා ඇත. (174 : 667 පි.)

"අයියනායක දළුමුර කවි" නම් කවි පන්තියක සඳහන් පරිදි කළුකුමාර බණ්ඩාර, ඉලංගසිංහ බණ්ඩාර, දිවාකර බණ්ඩාර, රාජ කරුණා බණ්ඩාර, වන රාජ බණ්ඩාර යන කුමාර පස් කට්ටුව මදුරපුර රජු ගේ අපරාධයක් නිසා කලකිරී ලක්දිවට පැමිණි අයුරුත් ඔවුන්ට අයියනායක දෙවියන් ගේ රැකවරණය ලැබී වත්ති පළාතේ පදිංචි වූ අයුරුත් විස්තර වේ. (8)



## 200
# වල්ලි අම්මා

මෝතොමෝ කඳකුමරුගේ ලාංකික බිරිය වන්නීය. කුවේණිය ගේ අක්කා යයි ද වැදි ජනයා අතර ජනප්‍රවාදයක් තිබේ.

කතරගම පූජා භූමියේ වල්ලි අම්මා දේවාලයට යාබද ව පැරණි සියඹලා ගසක් දක්නට ලැබේ. එහි ඇති විශාල බෙණය මුල දී වල්ලි අම්මාට නිවහන වී යැයි ජන විශ්වාසයේ පවතී. සෙල්ල කතරගම ද වල්ලි ගුහාව යනුවෙන් හැඳින්වෙන තැනකි. එහි ද වල්ලි අම්මා වාසය කර ඇතැයි කියනු ලැබේ. කඳ කුමරු සිරිලක පැමිණියේ ද මැය සොයා ගෙන බව ප්‍රකට කරුණකි. කඳ කුමරුන් හෙවත් කතරගම දෙවියන් ඇය බිරිය කර ගත් බැවින් ඇය ද දේවත්වයට පත්ව ඇත. කතරගම ඇසළ පෙරහර මහ දේවාලයේ සිට ගමන් කරන්නේ ද වල්ලි අම්මා ගේ දේවාලයට ය. පෙරහර පවත්වන දින පහලොවේ දී ම රාත්‍රියේ කතරගම දෙවියන් ගේ ආභරණ කරඬුවේ සභාවා ඇතු පිට වඩමවා ගෙන එන කපුරාළ එය අතට ගන්නා හා ම ඔහු අදෘශ්‍යමාන කරන සේ විශාල ඇතිරිල්ලකින් වසනු ලැබ අන්‍ය කපුරාළලා විසින් මෙහෙයවමින් වල්ලි අම්මා

දේවාලයේ ඇතුළු ගැබට කැඳවා ගෙන යනු ලබයි. දේව ආභරණ එහි තැන්පත් කර කපුරාළ පිටතට එන අතර ආභරණ ඇතුළු ගැබේ කිසියම් වේලාවක් තබනු ලැබේ. එම කාලය තුළ නොකඩවා තූර්ය නාද පැවැත් වේ. යළිත් පෙර සේම ඇතිරිල්ලෙන් වසනු ලැබ එම ආභරණ සහවාගෙන ඇතුළු ගැබෙන් එළියට එන කපුරාළ විසින් ආභරණය ඇතු පිටින් මහ දේවාලය වෙත යළි ආපසු වඩමවා ගෙන යනු ලැබේ. පෙරහර අවසාන වන පසළොස්වක පොහෝ දින රාත්‍රියේ දේවාභරණ වල්ලි අම්මා දේවාලයේ තබනු ලැබේ. පසුදා උදෑසන ප්‍රතිමාව ආපසු වැඩම වන්නේ රහස් කටයුත්තක් ලෙසිනි. එදින පාන්දර දිය කපා අවසන් කොට පළමුවෙන් ම වල්ලි අම්මා දේවාලයට ගොස් එම ජලය මහජනයාට බෙදා දීම විරාගත චාරිත්‍රයයි.



## 201
## වලානේ පත්තිනි දෙවියෝ

සිංහලයන් විසින් පුද පූජා පැවැත්වෙන ප්‍රධාන කාන්තා දේවිය පත්තිනි අම්මා ය. එයට අමතරව තවත් කාන්තා දේවියක් දැදුරුඔය නිම්නයේ පුද පූජා ලබන්නීය. ඒ වලානේ පත්තිනි දේවි හෙවත් වලානේ අම්මා ය. ඇය පතිව්‍රතයෙහි බලයෙන් පත්තිනි දෙවි බවට පත් වූ හෙළ කාන්තාවක බව ද පෙනී යයි. ඇයගේ දේවාලය කුරුණෑගල දිස්ත්‍රික්කයේ දේවමැදි හත්පත්තුවේ තිස්සව රජ මහා විහාරය ආසන්නයේ ඇත. මෙතැනට පැමිණෙන්නේ මූනමල්දෙණිය - කටුපොත මාවතේ කනෝගමින් හැරී සැතපුම් දෙකක් පමණ යෑමෙනි.

පඩුවස් දෙව් රජු ගේ කාලයේ තිස්සව සිටි තිස්ස නම් ඇමැතියා හට දුවක් වූවාය. සත් බඹ එක් රියනක් දිගු කෙස් කලඹක් ඇය සතු විය. දිනක් නාන තොටුපළේ දී ඇය අතුරුදහන් වූවාය. පසුව ඇගේ මළ සිරුර දමුණුව ගමේ දමින්නා ගසක දෙබලයක් මත තිබිණි. සළු පිළි පමණක් ඉතිරි කොට ඇගේ සිරුර අතුරුදහන් විය. සළු පිළි බැබලිණි. මෙසේ මිය ගිය ඇය දේවත්වයට පත්ව සිටින බව ඇය විසින් ම ඇගේ මවට සිහිනෙන් ප්‍රකාශ කර තිබේ. පසුව වලානේ අම්මා යනුවෙන් ඕ හඳුන්වනු ලැබුවාය. වලාන නම් ගමේ උපන් බැවින් ඒ නම ඇයට ලැබී ඇතැයි සිතිය හැකිය. අසරණයනට පිහිට වීම වලානේ පත්තිනි අම්මා ගේ සිරිත ය. ඇය සඳහා වූ දේවාලයේ වාර්ෂික මංගලය අගෝස්තු මාසයේ දී සිදු කෙරේ. මේ අසල ම දැඩිමුණ්ඩ, වීරමුණ්ඩ යන දේවාල දෙකක් ද වේ. (29 : 92-97 පිටු).

| | |
|---|---|
| පායන සූරිය මෙන් රැස් කත් | දා |
| පායන පුන්සඳ සේ ගුණ කත් | දා |
| පායන තරු මෙන් මෙලොව රකින් | දා |
| මාගම කිත් දෙවි වඩින පබත් | දා |
| කර තිබු හත් පොට මා්ලය එම | විට |
| සුරතින් ගලවා හෙළමින් පොකුණ | ට |
| අත තිබු රන් හළඹද ගෙන එම | විට |
| ඉර හඳ මෙන් දැමුවේ පවතින් | නට |
| ගුණේ සිතින් මේ සක්වළ දෙවි | යනි |
| රනේ රුවට රජසා කළ දෙවි | යනි |
| ගුණේ ඇතත් මුළු ලොව සැම දෙවි | යනි |
| අනේ පිහිට වත් වලානෙ දෙවි | යනි |
| වලා තුමුසු පායන පුන් සඳ ලෙසි | න |
| බලා මහත් සක්වළ දිවයින් සොඳි | න |
| මුළා වක් නැතිව ලොව නරයින් රකි | න |
| වලා නෙ පතිනි දෙවි වැඩ ලා සළු සල | න |

(29 : 193-94 පි.)



## 202
## වලියක් දෙවි තුන් කට්ටුව

තුන් කට්ටුව යන්නෙන් තිදෙනකු හඳුන්වනු ලැබේ. කොහොඹා කංකාරියට අයත් වන දෙවියන් ගෙන් ඉතා බලසම්පන්න දෙවියන්

තිදෙනා මෙහි වලියක්කු වෙති. ළමා වියේ දී රාජ ගුරුන් වෙත සිට අකුරු ඉගෙන ආපසු එන මේ තිදෙනාට පත්තිනියත් පාලභ කුමරුත් හමුවූහ. පත්තිනිය ගේ ද පාලභ කුමරු ගේ ද අඹ කඩන කෙකි එකට ඇමිණී තිබුණේ මේ අවස්ථාවේය. මෙය දුටු ඉහත කී කුමරුන් තිදෙනා එම කෙකි එක දිශාවට ඇද්දෝය. එවිට පාලභ කුමරුගේ කෙක්ක කැඩී ගියේය. පත්තිනිය එසේ වලි ලෑ කුමරුන් හට වලි යක් නමින් වරම් දී යළි දේව ගණයට ඇතුළත් කර ගත්තාය. (45: 69 පි.) පත්තිනි පූජාවක් ලෙස පැවැත්වෙන අංකෙළිය මෙම සිද්ධිය සිහිපත් කරවන්නකි. මහනුවර ඇසළ පෙරහර අවසානයේ වලියක් නැටුමක් පැවැත් වේ. මෙයින් පෙරහර සමයේ කිසියම් අපලයක් සිදුවිණි නම් එය ඉවත් කෙරෙන බව විශ්වාස යයි.

වලියක් දෙවි යනුවෙන් හැඳින් වෙන්නේ කොහොඹා කන්කාරිය ප්‍රථම වරට පැවැත් වූ බව කියන 'මල රජුන්' බව තවත් මතයකි. (132: 17 පි.) මලය කුමරුන් ගේ උපත කොහොඹා කන්කාරියේ 'වලියක් දෙවි තුන් කවිටුවේ' කීමෙහි ද, 'පලවැල දානේ' දී ද, 'සළුභත් කතාවෙහි' ද 'මලය රාජ කතාවෙහි' දී ද විස්තර වේ. මෙම කතා පුවතට අනුව රාම රජු හා සීතා වනයෙහි වසන සඳ, වරක් සීතා විසින් රාවණා ගේ රූපයක් අඳිනු ලැබීම ගැන කෝපයට පත් රාම රජ ඇය මරවන්නට ලක්ෂ්මණට භාර කළේය. මේ වන විට සීතා ගැබ් ගෙන සිටි හෙයින් ඇයට අනුකම්පා කළ ලක්ෂ්මණ ඇය මුදා හැරියේය. වනයේ සැරි සැරූ සීතා තපස් වරයකු හමුව ඔහු ගේ සෙවණේ වෙසෙමින් පුතකු වැදූවාය. බිළිඳු කුමරා පන්සලේ තබා පලවැළ නෙලීමට සීතා වනයට ගිය විටක කුමරා යහනෙන් වැටිණි. ඔහු නැති විණැයි බිය වූ තවුසා සිය සෘද්ධි බලයෙන් මානෙල් මලකින් වෙනත් කුමරෙකු මවා යහනෙහි තැබීය. අසපුවට පැමිණි සීතාට අනෙක් දරුවා කෙසේ පහළ වී දැයි සැකයක් විය. එය දුරලනු වස් තවත් දරුවකු ඊතණ කෙන්දකින් මැවීමට තවුසාට සිදුවූයේය. සීතා ගේ කුසින් උපන් කුමරු 'අඳළිඳු' වූ අතර මානෙල් මලින් උපත් කුමරු 'මල රජු' කියා ද, ඊතණ කෙන්දෙන් උපන් කුමරු 'කිත්සිරි' යනුවෙන් ද පසිඳු වූහ.

විජය රජුට කුවේණිය ගේ දිවි දෝසයෙන් (සාපයෙන්) සැප්පුව අනතුරක් නො වීය. බුදු රදුන් විසින් ම දෙන ලද පිරිත් හුය දෙවියන් විසින් ඔහු ගේ අත බැඳීම එයට හේතුව සේ සැලකේ. එහෙත් ඔහු ඇවෑමෙන් රජ පත් පඬුවස් දෙව් රජුට එම දිවි දොසින් මිදීමට නොහැකි විය. ඔහුට



දෙතිසක් වදුරු රෝග වැළඳිණි. රජු ගේ ධවලඡත්‍රයෙහි වසන දේවතා දූව මේ කාරණය සක් දෙව් රජුට දැන් වූ හෙයින් තිස්තුන් කෝටියක් දෙවිවරු රැස්ව රෝගය දුරු කරන උපක්‍රම සෙවූහ. එය දුරුකළ හැක්කේ මලින් උපන්නකුට පමණක් බව පෙනිණි. මල කුමරුන් විෂ්ණු ගේ (රාමාගේ) පුතුන් බව ද හෙළි වූයේය. කුමරුන් ලක්දිවට ගෙන ඒමේ කාර්යය රාහු වෙත පැවරිණි. ඌරු වෙස් ගත් ඔහු මල කුමරුන් ගේ උයන පාළු කරමින් ඔවුන් ගේ කෝපය අවුස්සා තමා ලුහු බැඳ එන්නට සැලැස්වීය. ඌරා පසු පස ආ මල කුමරුන් ලකට ගොඩ බැස පඬුවස් රජුට සුව සැලසූ බව විශ්වාස යයි.



# 203
# වාහල බණ්ඩාර දෙවියෝ

සබරගමු පළාතට විශේෂ වූ 'ගම්මඩුව' නම් ශාන්ති කර්මයේ දී සිදුවන කාලපන්දම් පූජාවේ දී පුද පූජාවට භාජන වන 'විෂ්ණු, සමන්, කන්ද කුමාර, නාථ, විභීෂණ, දැඩිමුණ්ඩ, සත්පත්තිනි හා දෙවොල් භාගයේ සපිරිවාර දේව සමාගමේ පූජා ලබන්නා' ලෙස සැලකෙන 'සිද්ධ වාහල බණ්ඩාර දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ' කෙනෙක් වෙති. මේ දෙවියෝ 'වාසල් අටකට' අධිපති වන බව මෙම යාතිකාවේ සඳහන් වේ. එනම්:-

දෙවොල් වාහල, ඇවොල් වාහල, අඳුන් වාහල, සඳුන් වාහල, කාම වාහල, ගිනි ජල් වාහල, ලෝදැල් වාහල, අෂ්ට කාම වාහල, පංච කාම වාහල යනුවෙනි. (36: 172 පි.) මෙහි වාහල් නවයක් නමින් සඳහන්ව ඇත. බොහෝ විට මේ සම්ප්‍රදායන්හි අංක සඳහන් වන්නේ අන්තර්ගතය ගැන සැලකිල්ලකින් තොරව බව 'දොළහ දෙවි' 'පත්තිස් කෝල්මුර' 'හැටහත් කවිටුව' ආදී සංකල්පයන්ගෙන් පැහැදිලි වන බව දනිමු.

කාල පන්දම් පූජාවේ කියැවෙන කවි දහයකි. ඒ අතරින් පළමුවන කවිය මෙසේය:

වදුරු උවදුරු හරිනට මෙ වැනි ගම්මඩුවක් කරව මින්නේ
රුදුරු වසවත් සමඟ දස බිම්බරක් බිඳ හැරි විලසි තේ
කදුරු ගොඩ දේවාලයේ පුද පඬුරු ලත් අනුහසින් තේ
ඉඳුරු දින බැඳ සිද්ද වාහල මෙරහට වැඩම වත් තේ
(එම: 173 පි.)

පත්තිනි දේවිය සඳහා පැවැත්වෙතැයි සැලකෙන ගම්මඩුව නම් පූජා කර්මය ඇත්ත වශයෙන් පත්තිනි දේවිය, දෙවොල් දෙවි හා වාහල දේවතා බණ්ඩාර වෙනුවෙන් සිදු කෙරෙතැයි ගැනීම වඩා උචිත බව තිස්ස කාරියවසම් පවසයි. (36: 86 පි.)

මේ අතර වාහල නාමය අලුත් නුවර දැඩිමුණ්ඩ දෙවියන්ට ද යෙදෙන්නකි. මේ නාමයේ අර්ථය ලෙස දැක්විය හැක්කේ මුලින් දෙවුන්දර තිබූ උපුල්වන් හෙවත් විෂ්ණු දේවාලය හතර කෝරළේ අලුත් නුවරට ගෙන ආ අවස්ථාවෙහි එවකට හතර කෝරළෙහි දෙවි කෙනෙකුව සිටි දැඩිමුණ්ඩ හෙවත් දේවතා බණ්ඩාර යථොක්ත ප්‍රධාන දෙවියන් ගේ අන්තෙවැසියකු ලෙස "වාහල" හෙවත් දේව මන්දිරය ආරක්ෂක තත්ත්වයට පත් වීමයි. (166: 321 පි.) **පූනාමඩුව** නම් ශාන්ති කර්මයෙහි "වාහල" යනුවෙන් හැඳින් වෙන්නේ අලුත් නුවර දෙවියන් බව පැහැදිලි ය. (36: 142 පි.)



## 204
## වැදි දෙවිවරු

වැදි ජනයා අතර සිට දේවත්වයට පත්වූවෝ මෙ නමින් හැඳින්වෙති. මෑත දී වැදි ජනයා අතරින් අසා දැනගත් දෙවිවරුන් පහත සඳහන් කරමු.

කළු බණ්ඩාර දෙයියලැත්තො
මහ කොහොඹා බණ්ඩාර දෙයියලැත්තො
කුඩා කොහොඹා බණ්ඩාර දෙයියලැත්තො



ඉරුගල් බණ්ඩාර දෙයියලැත්තෝ
සඳගල් බණ්ඩාර දෙයියලැත්තෝ
(107 : 34 පි.)

කොහොඹා කන්කාරියේ සඳහන් දෙවිවරුන් හා සමඟ මෙහි සබඳතාව පැහැදිලි ය. කංකාරියේ මහ යාතිකාවේ දී "වැද්දන් තුන් දොළසක් පිරිවරා ගත්තා වූ කළු වැදි දේවතාවුන් වහන්සේ" සහ "වැදි කෙලි සඳහසක් පිරිවරා ගත්තා වූ කොටු අතු රාජෝත්තමයාණන් වහන්සේ ද" ආරාධනා ලබති. (49: 13 පි.)

තමන් අතර සිට නැසී ගොස් දේවත්වයට පත්වූවන් වැදි ජනයා හඳුන්වනුයේ "නෑ යකුන්" යනුවෙනි. පිරිමි දෙවිවරු "යකා" "බණ්ඩාර" "පතික්කියා" යන නම්වලින් ද, ගැහැණු දෙවිවරුන් "කිරි අම්මා" යන නමින් ද හඳුන්වනු ලැබේ. සෙලිග්මාන් යුවළට ලැබුණු තොරතුරු අනුව එදා වැදි දෙවි වරුන් අතර ප්‍රධාන වූයේ කන්දෙ යකා, ඔහු ගේ ප්‍රධාන සොහොයුරු බිළිඳි යකා යන දෙදෙනා ය. ඊට අමතර ව තවත් වැදි දෙවිවරු රාශියක් සිටි බව ඔව්හු වාර්තා කරති:

**ඉඳිගොල්ලේ යකා:-** මේ කන්දේ යකා ගේ අතවැසියායි.

**මහ කිරි අම්මා:-** මිය ගිය වැදි කාන්තාවන් මහ යකිනෝ නමින් හැඳින්වෙති. මේ ඔවුන් ගේ නායිකාව වන්නීය.

**උනාපානෙ කිරි අම්මා:-** දරුවන් ලබා දීමට සමත් යැකිනියකි.

**බඹරගල පතික්කියා:-** රෝග දුරුකර මිනිසුන් ගෙන් හා යකුන් ගෙන් වන උවදුරු වලකා ලීමට සමත් ය.

**රැරන්ගල යකා:-** ඌව බින්තැන්නේ සිටි අලි ඇතුන් ඇල්ලීමේ දක්ෂයෙකු වූ මොහුට පුද පූජා කිරීමෙන් ලෙඩ දුක් දුරු කර සෞභාග්‍යය උදා කර ගත හැකිය.

**ලේ පත් යකා:-** බින්තැන්නේ ලේ පත්ගල විසූ මොහු ගේ නම ලේ පත්ගල වන්නියා විය. මොහුට පිදවිලි කිරීමෙන් දඩයමේ යන විට වන උවදුරු වැළකේ.

**හන්නානේ මහවැලි උන්නැහේ:-** බඹරගල විසූ මොහුට පිදවිලි කොට ලෙඩ සුව කර ගෙන මනාව දඩයම් ලැබිය හැකිය.

**වලිම්බගල යකා:-** ඌවේ වැද්දන් වලිම්බගල පතික්කියා යැයි ද අමතනු ලබන මොහු ජීවමානව සිටියදී නැගෙනහිර පළාතේ බණ්ඩාර

දූවෙහි වැදගත් නායකයෙක් විය. ලෙඩ සුව කර දඩයම් ද මී පැණි ද ලබා දීමට සමත් ය.

ගල්ගිරි බණ්ඩාරඃ- නිල්ගල අසල වේරගොඩ ගල විසූ මොහු අලි ඇතුන් අල්ලා මහනුවර රජුට ඔප්පු කළ අයෙකි. මොහු දාගැබ් තනා කුඹුරු අස්වැද්දූ අයකු ලෙස ද ප්‍රසිද්ධය.

කැඳැල්ලේ නල්ල පනික්කියාඃ- මුවන් පරයා දිවිය හැකි දක්ෂ දඩයම් කරුවෙක් විය. කොළමඩුව නම් වතාවතෙහි දී පුද පූජාවට භාජනය වෙයි.

රංරුවල් බණ්ඩාරඃ- කොළමඩුවේ දී පුද ලබන මෙතෙම මී කඩන්නන් හට ආරක්ෂාව සලසයි.

ඉරුගල් බණ්ඩාරඃ- කොළමඩුවේ දී පුද ලබයි. වසංගත රෝග දුර හරී. (හෙන්රි පාකර්ට ලැබුණු ජනප්‍රවාදයකට අනුව මේ දෙවියා එක්තරා විජයබා රජ යුගයක බණ්ඩාර කොස්වත්තේ විසූ ජනප්‍රධානයෙකි.)

සඳුගල් බණ්ඩාරඃ- දඩයමේ යාමට පෙර මොහුට පිදවිලි දී සතුන් ගෙන් ද සර්පයන් ගෙන් ද ආරක්ෂාව අපේක්ෂා කරනු ලැබේ.

රංහොටි බණ්ඩාරඃ- නිල්ගල කෝරළේ සිටි වැදි නායකයෙකි. මොහුට ප්‍රවේසමෙන් පුද දිය යුතුය. එවිට විවිධාකාරයෙන් උදව් දෙන්නේය.

ගඟේ බණ්ඩාරඃ- ගංගාවලටත් කෑම් සතුන්ටත් අධිපතියා ය. කොළමඩුවේ දී පිදවිලි ලබයි. මොරාන වරිගෙට අයත් වූ වෙකැයි කියනු ලැබේ.

ඉහත අයට අමතර ව පැහැදිලිව ම වැද්දන් නො වූ දෙවිවරු කීප දෙනෙක් ද පිදවිලි ලබමින් සිටියහ. ඒ අය නම්:

පේරාදෙණිය බණ්ඩාරඃ- මහනුවර සමීපයෙහි පේරාදෙණියේ විසූ දිසාව කෙනකු ගේ භූතාත්ම යයි. මේ තෙමේ ද කොළමඩුවේ දී පිදවිලි ලැබ වන සතුන් ගෙන් ද වැහි කුණාටුවලින් ද ආරක්ෂාව සැලසුවේය.

ගොඩේගෙදර බණ්ඩාරඃ- වෙල්ලස්සේ හා බදුල්ලේ විසූ රටේ මහත්මයකු ගේ භූතාත්ම යයි. (ගොඩේ ගෙදර දෙවියෝ යටතේ ද බලන්න.)

කළු බණ්ඩාරඃ- අලුත් නුවර සිට නැගෙනහිර පළාත දක්වා මහත් භීතියකින් සලකනු ලබන මොහු ඉන්දියාවේ මල්ලව දේශයෙන් ආ



කෙනකු බව ඇතැම්හු කියති. (වෙල්ලස්සේ බණ්ඩාර යටතේ ද බලන්න.)මේ දෙවියා විජය රජු දිවියකුට බිය ව රෝග පත් වූ කල්හි එය සුව කළේ යයි ද කියනු ලැබේ. කොළමඩුව වතාවතෙහි දී මොහුට පිදවිලි කොට දඩයම් ලබා දෙන ලෙස අයැදිනු ලැබේ. (187: 161-164 පිටු) වැදි ජනයා අතර මේ සියවස මුල දී පැවති දේව විශ්වාසයන්හි දී මිය ගිය ජනප්‍රධානයන්ට මූලිකත්වය හිමිව තිබූ බව පැහැදිලිය.



## 205
## වැලිතර වැලිවත්තේ මුත්තා හාමුදුරුවෝ

මෙම දෙවියන් ගේ පහළ වීම සිදුව ඇත්තේ ක්‍රි. ව. 16 - 17 සියවස කාලයේ දී බව පෙනේ. එකල දකුණු බඩ මුහුදු තීරය පරංගීන් යතුව පැවැතිණි. වැලිතර පළාතේ සිටි කායබල සම්පන්න සාම්ප්‍රදායික මල්ලව පොර ශූරයකු වූ තරුණයෙක් පෘතුගීසි හමුදාව විසින් අල්ලා ගන්නා ලදී. පෘතුගීසි හමුදා නායකයා හා සමඟ මල්ලවපොරයකට එන ලෙස නැඟුණු අභියෝගයක් පිළිගත් තරුණයා, සටන් කොට හමුදා නායකයා පරදවා ලීය. ප්‍රසාදයට පත් නායක තැන තරුණයා බඳවා ගෙන 'පිනෙස් පේ‍රරා ආරච්චි' යන නාමය ද ලබා දී හලාවත සිට හම්බන්තොට තෙක් ප්‍රදේශයේ මුලාදෑනියකු බවට පත් කළේය. මොහු ගේ රාජකාරිය වූයේ යථෝක්ත ප්‍රදේශයට අයත් මුහුදු තීරයේ අබලන් වන නැව්වලට ආරක්ෂාව සලසා දීමත් හම්බන්තොට ලුණු ලේවායට කඩා වදින අලින් පලවා හැරීමත් ය. මුහුදේ රාජකාරියට ගිය අවස්ථාවක ඔහු සිටි හම්බාන දියඹට ගසා ගෙන ගොස් 'දේසේ' ට (මාල දිවයින?) සේන්දු වූ බවත් එහි සිට රටදෙල් ලක්දිවට ගෙන ආ බවටත් ජනප්‍රවාදයෙකි.

කෙසේ වුව ද සිය ගම්වැසි ජනතාවට සෙත සැලසූ පිනෙස් ආරච්චිල මිය ගිය පසු වැලිවත්තේ රුක් ගොමුවක දේවත්වයට පත් වූ බවත් එතැන් සිට තමනට සෙත සලසන බවත් ගැමියෝ අදහන්නට වූහ. හේ 'මුත්තා

හාමුදුරුවෝ නමින් ප්‍රකට විය. දැනුදු වාර්ෂිකව මුත්තා හාමුදුරුවන්ට පූජා මංගලයක් සිදු කෙරේ. වර්තමානයේ එම දේවාල භූමියේ කඳ යුරිඳුන්ටත් පත්තිනි දේවියටත් පුද පූජා පැවැත් වේ. ගමට, විශේෂයෙන් නෑ පරපුරට, කිසියම් විපතක් සිදුවන්නට ඇති නම් එය කලින් දැනුම් දී, ගස් හොප් බැන්දවීම් ආදී පිළිවෙත් කරවනු පිණිස මුත්තා හාමුදුරුවන් දීදී පැහැති නාග පැටවකු ගේ වේශයෙන් ගම වටා සැරිසරන බව ජන විශ්වාසයේ පවතී. (8).



## 206
## වැවේ බණ්ඩාර දෙවියෝ

මේ දෙවියා ගේ නම "දොඩම්වල දේවාලයේ විත්ති" යන පුරාණ සිව්පද සංග්‍රහයේ ඇති කවි පෙළේ සඳහන් වේ. මේ නිසා දොඩම්වල දෙවි වශයෙනුත්, වැවේ බණ්ඩාර යනු වෙනුත් හඳුන්වනුයේ එකම අයකු යැයි සිතිය හැකිය. නො එසේ නම් මුලින් වැවේ බණ්ඩාර යනුවෙන් පැවැති දෙවොල පසු ව දොඩම්වල දේවාලය බවට පත් වූවා විය හැකිය.

එම කවි පෙළේ සඳහන් පරිදි දොඩම්වල දේවාලයේ ආරම්භය සිදු වූයේ හේනක් කෙටීමට ආ ගොවියකු පැළයකට කෙටූ විගස ඉන් රුධිරය වැස්සීම නිසාය. ගොවියා බියට පත්විය. ඔහුට දෙවියන් සිහිනෙන් පෙනී සිට කී වදන් අනුව කැන්ද කොළයක් ගෙන ඇල් වතුරෙන් දැල් වූ පහන පත්තු විය. අනතුරුව ගොවියා සෙනඟ රැස් කර එහි දේවාලයක් තැනවීය. මේ කාලයේ නවත් සිද්ධියක් සිදුවිණි.

| | |
|---|---|
| දැක දෙපයෙන් ගිනි දැල් පිටත් | උනා |
| බුත යකෙක් නා ගස සිහිනෙන් පෙනු | නා |
| දැක කඩුව රජුගෙන් උදුරා රැගෙ | නා |
| මෙවැනි ලකුණු රජ හට සිහිනෙන් පෙනු | නා |



| | |
|---|---|
| ධම් තිස්ස රජ වැඩ ලා එත | නට |
| දෙවියෝ තෙද බල පැවොත් අප | හට |
| විමනක් කරවා දෙම් වැඩ ඉන් | නට |
| වරමක් දෙම් වැවේ බණ්ඩා | රට |
| ගොසින් එ රජ වැඩ සිට ලා අස්න | පිට |
| නොසින් උකුම් නා පැළ සොලවාපු | විට |
| ගතින් ලෝම නැගි දාඩිය රජ තු | මට |
| ඉතින් රජුන් වට ලා ගෙන ගියෙ නො | සිට |
| කඩුව පුදා දෙවි නාමෙට කෙත් | ලැබුණා |
| වැඩිය එතන විමනක් කර වා නො | සිනා |
| අඩුව නැතිව පට පඩුරුත් පුද ලැබු | නා |
| නඩුව බලා දෙවි කරුණාව ම ලැබු | නා |

(90 : 34 පි.)

ඉහත මහ නා බණ්ඩාර පිළිබඳ විස්තරය ද මින්නේරි දෙවි යටතේ එන යාතිකාවද බලන්න.



## 207
## විභීෂණ දෙවියෝ

ලාංකික දෙවිවරුන් අතරට වැටෙන සමන්, උපුල්වන් යන දේව ගණයා සමග සිටින මේ දෙවියා මධ්‍යකාලීන ලංකාවේ "සතරවරම් මහරජුන්" හෙවත් සතර වරම් දෙවියන් අතුරෙන් අයෙක් වෙති. ඒ සතර දෙනා: කිහිරැලි උපුල්වන්, සමන් (බොක්සැල්), විභීෂණ, ස්කන්ද කුමාර" යන සතර දෙනා වෙති. (80 : 26 පි) මේ අවධියට ම අයත් වෙනත් කෘතියක ලක්දිව විභීෂණ, සමන් යන දෙවියනට භාර දී ඇතැයි ද පැවසේ. (15: 37 පි.) එහෙත් විභීෂණ දෙවියන් පිළිබඳ විත්ති කවි පෙළකට අනුව මේ කර්තව්‍යය ඔවුනට පමණක් භාර වූවකි.

රාවණ යුදයෙන් පරදා ජය අරගෙන රාමකුම රු
සීතා දේවිය අර ගෙන සිරිලක මෙහි ඉතා සොඳු රු
විබිසණ හට පවරා දී රකින ලෙසට සත නිරතු රු
ආපසු දඹදිවට ගියේ මේ විලසයි රාම කුම රු

(90 : 19 පි.)

සතුරන් විශේෂයෙන් බය ගන්වන හෙයින් "විභීෂණ" නම් වූ මෙම දෙවියන් පිළිබඳව දැනට ඇති පැරණිතම විස්තර ඇත්තේ දාහත්වන සියවසට අයත් පාලි **වුත්තමාලා සන්දේශයේත්** පහළොස් වන සිය වසේ දී රචිත **සැලළිහිණි සන්දේශයෙහිත්** ය. මින් වඩා ප්‍රකට දෙවැන්නයි. තොටගමුවේ රාහුල හිමියන් එහි දක්වා ඇත්තේ එදා විභීෂණයන් පිළිබඳව පැවති අදහස් විය යුතුය. සවන පැරැකුම්බා රජු ගේ (ව්‍ය. ව. 1412 - 1467) දුවණියන් වූ ලෝකනාථාවන්ට පුත් කුමරෙකු ලබා දෙන ලෙස ඉල්ලමින් රචිත මෙහි විභීෂණ දෙවියන් පැදි දාහතරකින් (77-91) වර්ණිතය.

විභීෂණ දෙවියන් "පුලස්ති මහර්ෂිහුගේ වංශයට මිණි පහනක්" වැනි යයි ද ඔවුන් "තුන් ලෝ තමා නතු කළ රාවණයාට සොහොයුරු වූ" බවද (අතීත, වර්තමාන, අනාගත යන) "තුන් කල් බලා" රාම රජුට ඉටු මිතුරු වූ බවද එහි සඳහන්ය. මේ පිළිබඳ විස්තර මෙසේ යි.

මහා බ්‍රහ්මයා ගෙන් උපන් ත්‍රිවේදයෙහි පරාප්‍රාප්ත පුලස්ති නම් මහාඍෂිවරයාට විශ්‍රවස් නම් පුතෙක් විය. ඔහුට දාව නෛකෂා නම් රාක්ෂිය කුය රාවණ, කුම්භකර්ණ, විභීෂණ යන පුතුන් තිදෙනෙක් ද ශූර්පනඛා නම් දුවක් ද උපන්හ. පියා බ්‍රාහ්මණයෙකු වුවද මව රාක්ෂසියක වූ බැවින් ඔවුහු රාක්ෂසයන් ලෙස හැඳින්වූහ. රාවණා රජු උග්‍ර තපස් කොට මහාබ්‍රහ්මයා පුදා දෙවියන්ට හෝ අසුරයන්ට හෝ නොමැරිය හැකි බවට වර ලද්දේය. වීරවික්‍රමයෙන් යුත් හේ තුන් ලොව ම දිනීය. දකුණු ඉන්දියාවේ ප්‍රකිරාජ ධුරයක් දැරූ ශූර්පනඛා රාම කුමරු විසින් කන් නාසා කපා වධයට භාජනය කළ හෙයින් කිපුණු රාවණා, රාමයා ගේ බිරිය පැහැර ගෙන ආවේය. විභීෂණයන් අතීතය බලා තම සොහොයුරා අත වරද බව ද, වර්තමානය බලා රාක්ෂයන් වැනසෙන බව ද අනාගතය බලා මදැඹුදු යහනයක් ලැබීමට නම් යුක්තියෙහි පිහිටා රාමයන් හා මිත්‍ර විය යුතු යයි ද දැන රාමයන් හා ඉටු මිතුරු විය.

දෙවියන් පෙළන රාවණයා විනාශ කරන ලෙස ඔවුන් විසින් විෂ්ණු ගෙන් ඉල්ලා සිටි විට රාවණයා ලත් වරය නිසා දෙවි වෙසින් එය කළ නොහැකි බව දැනගත් විෂ්ණු දෙවි, රාවණා සංහාරය පිණිස රාම කුමරුන් මෙන් උපන් බවද කියවේ. රාවණයා මැරීමෙන් පසු රාම



කුමරයා විභීෂණට ලංකා රාජ්‍යය භාර දුනි. රාමායණයේ සඳහන් දෘෂ්ටිය අනුව රකුසන්ට විපක්ෂව දෙවියන්ට පක්ෂව ක්‍රියා කළ හෙයින් ඔහු ඉන් පසු ව දෙවි බවට පත් වූහයි සිතිය හැකිය.

**සැලළිහිණියෙහිදී** සිරි රහල් හිමියන් පවසා ඇති පරිදි විභීෂණයන් ගේ සිරුර කළුවන් ය. ඇස් රතුවන් ය. තද රතුවන් වූ මුඛයෙහි දෙ කෙළවරින් පිටතට විහිදෙන දළ දෙකකි. එ තුමන් 103 වන කවෙන් දක්වා ඇති පරිදි පොළොන්නරුවේ මහාවිජයබාහු රජු දූ තැන් පත් කුමරියකට පරාක්‍රමබාහු කුමරා (පසුව මහා පරාක්‍රමබාහු රජු) උපන්නේ විභීෂණ දෙවියන් ගේ අනුග්‍රහයෙනි. **සැලළිහිණි** පුරාණ සන්නයට අගින් එකතු කොට ඇති කවි දෙකක දැක්වෙන පරිදි මේ අයදුම අනුව සවන පැරැකුම්බා රජු ගේ පන්තිස් වන වසරෙහි ලෝකනාථාවට ගර්භයක් පිහිටි බවත්, සතිස් වන වසරේ ඇය පුත් කුමරෙකු ලද බවත් පැවසේ.

සැලළිහිණියට වසර සියයකට පමණ පෙර දැතිගම පස්වන පැරැකුම්බා රජ දවස (1344 - 59) ලියැවුණු පාලි වුත්තමාලා **සන්දේශයද** යැවුණේ විභීෂණ දෙවියන් වෙතටයි. ඉහත පළමුවන විජයබා රජු ගේ කාලය හා සම්බන්ධ පුවතක් සලකා බලන කල්හි විභීෂණ දෙවියන් මධ්‍යකාලීන ලංකාවේ ජනප්‍රිය දෙවි කෙනෙකු ව සිටි බව පෙනේ. අද වුව ද කැලණියේ විභීෂණ දේවාලය ජනප්‍රිය ස්ථානයකි. විභීෂණයන් සඳහා කැපවූ අනෙක් පැරණි දෙවොලක් උඩුනුවර ලංකා තිලක විහාරයේ ඇත. ඉතා මෑත කාලයේ කොළඹ නගරයේ ඉදිකැරුණු ඇතැම් දේවාලවල ද විභීෂණයනට තැනක් ලැබී තිබේ.



## 208
## විෂ්ණු දෙවියෝ

විෂ්ණු දෙවියෝ සිංහල බෞද්ධයන් විසින් ලංකාරක්ෂක දෙවි කෙනකු ලෙස සලකනු ලැබෙති. "උපුල්වන්" යන නමින් ද මෙම දෙවියන් හැඳින්වෙන බව ද අද විශ්වාසයක් වෙතත් එම නමින් වෙනත් දෙවි

කෙනකු සඳහන් වූ බවට සාධක ඇත. (ඉහත "උපුල්වන් දෙවියෝ" යටතේ බලන්න.)

විෂ්ණු දෙවියන් ගැන ලංකා ඉතිහාසයේ මුල් අවධියෙහි සිට පැවතුණැයි සිතිය හැකි නමුත් එම දේව පූජා වඩා වර්ධනය වූයේ පොළොන්නරු යුගයේ දී පමණ බව පෙනේ. ගම්පොළ යුගය වන විට විෂ්ණු දෙවියෝ ඇතැම් විට උපුල්වන් සුරිඳු හා මුසු වෙමින් ලංකාරක්ෂක තත්වයට පත්ව සිටියහ. මහනුවර අවධියෙහි දී නාථ, විෂ්ණු, කතරගම, පත්තිනි යන සිව් දේවාල ස්ථාපනය වූ අයුරින් විෂ්ණු දෙවියන් ගේ ජනප්‍රිය භාවය උච්චස්ථානයට පත්ව තිබුණු බවද කිව හැකිය.

විෂ්ණු දෙවියෝ සෞම්‍ය ගුණ ඇති කෙනෙක් වෙති. මේ අතින් එම දෙවියන් සමාන වන්නේ නාථ දෙවිඳුට ය: කතරගම, පත්තිනි යන දෙවිවරුන්ට නො වේ.

හින්දු පුරාණ කථාවල විෂ්ණු දෙවියන් හා සම්බන්ධ බොහෝ විස්තර තිබේ. (19 : 44-132 පිටු) සිංහල බෞද්ධයන්ට මේ කථා බොහොමයක් අදාළ නැත. ඔවුන් ගේ විශ්වාසය අනුව විෂ්ණු ලක්දිව බුදු සසුන ආරක්ෂා කරන්නාවූ දෙවි කෙනෙක් වෙති. වෙහෙර විහාරවල විෂ්ණු දේවාලයක් හෝ විෂ්ණු ප්‍රතිමාවක් බොහෝ විට දක්නට ඇත්තේ එබැවිනි.

සිංහල ශාන්ති කර්මයන්හි දී ද විෂ්ණු දෙවියෝ වැදගත් තැනක් දරති. ගම්මඩුවේ දී කාල පන්දම් පූජාව ලැබීමෙන් ද (36 : 14පි.) පූනා මඩුවේ පහන් දැල්වීමේ දී බෞද්ධ පාරිභෝගික හා උද්දේශික ධාතු වන්දනා කිරීමෙන් අනතුරුව "ලෝකය පාලනය කරන්නා වූ ශ්‍රී විෂ්ණු දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ" යනුවෙන් දේව සභාවේ මුලට ම සඳහන් කරනු ලැබීමෙන් ද (36 : 99පි.) පහන් මඩුවේ දී දේව ගණයට කරන ස්තෝත්‍ර ගායනයේ දී "වෛකුණ්ඨ නගරාධිවර ව ගුරුළේන්ද්‍ර වාහනාරූඪ වූ ශ්‍රීමත් ගණපති නාරායන විෂ්ණු දිව්‍ය රාජෝත්තමයාණන් වහන්සේ" යනුවෙන් මුලින් ම සඳහන් කරනු ලැබීමෙන් ද (36 : 158 පි.) විෂ්ණු දෙවියන්ට ඇති විශේෂත්වය පැහැදිලි වේ.

මහනුවර අවධියෙහි දී විෂ්ණු දේවාලය "මහ දේවාලය" යනුවෙන් හැඳින්වුණේ ද මේ උත්කෘෂ්ට තත්වය නිසා විය යුතුය. එහෙත් මෙහි දී අවධාරණය කළ යුතු කරුණක් නම් යථෝක්ත මඩු පූජාවන්හිදී ප්‍රධාන වශයෙන් පුද පූජා ලබන වෙනත් දෙවිවරුන් තිදෙනෙකු සිටින බවයි. එනම්, පත්තිනි, දෙවොල්, වාහල යන දෙවිවරුය. (36: 184 පි.). ආතුරයන් ගේ අවශ්‍යතා සපුරාලීමෙහිලා මෙම දෙවිවරුන් වඩාත්



සාර්ථක කාර්ය භාරයක් ඉෂ්ට කරනු ඇත යන විශ්වාසය මීට මුල් වන්නට ඇත. නාථ, විෂ්ණු වැනි උත්කෘෂ්ට දෙවිවරු ලෞකික කාර්යයන් ගෙන් ඈත් වූ තත්වයක සිටින්නාහුය යන්න පොදු ජන සංකල්පය බව පෙනේ.

හියු නෙවිල් ගේ කාව්‍ය සමුච්චයට අයත් "උපුල්වන් අස්නය" නමැති වෘත්තගන්ධි ශෛලියෙන් ලියැවුණු පුවතක උපුල්වන් දෙවියන් පිළිබඳ වෙනත් මූලාශ්‍රයන්හි නැති තොරතුරු රාශියක් තිබේ. මෙය ව්‍ය.ව. 17 වන සියවසට පමණ අයත් බව නෙවිල් ගේ අදහසයි. (161, 3: 183පි.)

මේ අස්නෙහි දී උපුල්වන් දෙවියන් යනු විෂ්ණුම බව හඳුනා ගෙන තිබේ. ඔවුනට නම් දහයක් මෙහි දී දක්වා ඇත. ශ්‍රී විෂ්ණු, ආහලී, රජී, වාසුදේවතා, නල දෙවතා, දමෝරා, ගොවින්ද, හරිහර රජී, පුල්වන් සුරිඳ යනුවෙනි. ඔහු කැරළකු, මැඩියෙකු, දිය කාවකු, වරාහයකු යනාදී ස්වරූප ගත් බවක් කියනු ලැබේ. විවිධ යුගවල දී විවිධ වර්ණ ගත්තේය. කෘත යුගයේ දී සුදු වන් ව ද, ත්‍රෙත යුගයේ දී රන්වන් ව ද, ද්වාපර යුගයේ දී රතුවන් ව ද, කලි යුගයේ දී නිල්වන් ව ද වශයෙනි. හේ ශක්‍රයා ගේ නිගමනයෙන් ලක්දිව භාර ගෙන තම මලණුවන් වූ සුමන දිව්‍ය රාජයා එය රැක ගන්නා ලෙස යෙදවී ය. ඔවුහු වෛකුණ්ඨ කන්දේ ද ශක්‍ර භවනේ දක්ෂිණපාර්ශ්වීය වාසල ද වැඩ වෙසෙති. අනාගතයේ දී රාම බුද්ධ නමින් බුදුවන්නේය. ඔවුන් ගේ දේවාල සමනළ, මක්කම ද, කැලණියේ ද, දිවාගුහාවේ ද, දළදාමන්දිරයේ ද, ජයශ්‍රී මහා බෝධියේ ද, දඹුලු ගලේ ද, ඇත්කඳ විහාරේ ද තිබේ. (161, 3, 183පි.) මෙම විස්තරය අනුව උපුල්වන් දෙවියන් විෂ්ණු ලෙස ද බෝධි සත්වයකු ලෙස ද සලකා ඇති අයුරු පැහැදිලි ය. සිංහල බෞද්ධයන් අතර විරාගතව පැවැති විෂ්ණු සංකල්පය කෙබඳු ද යන්න වටහා ගැන්මට "උපුල්වන් අස්නය" මහඟු මූලාශ්‍රයකි.



## 209
## විහාර දෙවියෝ

මේ දෙවි හොරවිල පෙදෙසේ සිට, පරසිඳු දෙවියෙකි. වැද්දන් අතර විශේෂයෙන් පූජිත විය. නයි යකාට අමතරව ගණේදෙවි, විහාර දෙවි

යන දෙවියන් දෙදෙනා ද වැදි ජනයා උසස් සේ සලකා ඇත. (107: 176පි.) එසේ ම දිඹුලාගල අසළ යක්කුරේ පළාතේ ගහේ බණ්ඩාර දෙයියෝ, ගිරිකන්දේ දෙයියෝ, පාලුගම්මන දෙයියෝ, විහාර දෙයියෝ, මංගර දෙයියෝ යන අය ද පුද පූජාවට පාත්‍ර වූ බව වාර්තා වී තිබේ. (178 : 175 පි.) සෙලිග්මාන්වරුන් සඳහන් කරන පරිදි මීට තුදුරු උල්පොත ප්‍රදේශයේ දී කතරගම දෙවියෝ, ගණ දෙවියෝ, විහාර දෙවියෝ ද පුද ලබති. (178 : 175-6 පිටු) විහාර දෙවියන් මිනිසුන්ට ලෙඩ දුක් ඇති කරන බවත්, ඔහුට පිදවිලි කිරීමෙන් ඉන් මිදිය හැකි බවත් යක්කුරේ ප්‍රදේශයේ විශ්වාසයයි. මොහුට මැස්සක තබා කිරිබත් දානයක් දීම ඒ ප්‍රදේශයේ සිරිත විය. (178 : 176 පි.)



## 210
## වීදිය බණ්ඩාර දෙවියෝ

කෝට්ටෙ අන්තිම රජු වූ ධර්මපාල රජු ගේ (1551-97) පියා වන වීදිය බණ්ඩාර පෘතුගීසීන් මෙ රටින් නෙරපීමට දැඩි සටනක් කරමින් සිට යාපනයේ දී හටගත් ගැටුමකින් මිය ගියේය. ඔහු පස්දුන් රටේ පාලින්ද නුවර මාලිගයක විසූ බව ඉතිහාසයේ සඳහන් ව ඇත. වීදිය බණ්ඩාරගේ අසාමාන්‍ය පෞරුෂය පොදු ජන සිත් සතන්හි කා වැදී ගිය හෙයින් මරණින් පසු ඔහු දේවත්වයේ ලා සලකන බව පෙනේ. විශේෂයෙන් පාලින්ද නුවර පෙදෙසට වීදිය බණ්ඩාර දෙවියන් ගෙන් රැකවරණයක් සිදුවන බව ඔවුන් සිතූ ආකාරය ඒ දෙවියනට කරන යාතිකාවලින් පෙනී යයි. එ වැන්නක් පහත දැක් වේ.

"උඩුවෙල නුවරින් කන්ද ගෙල උග්ගල්බඩට, උග්ගල්බඩින් සැඳලියට සැඳලියෙන් සුදුවැල්ලට, සුදුවැල්ලෙන් තනිවැල්ලට, තනිවැල්ලෙන් මාගම් තොටට, මාගම් තොටින් සෙල්ලම් දූවට, සෙල්ලම් දූවෙන් දෙවිනුවරට, දෙවිනුවරින් මැදගල් නුවරට, මැදගල් නුවර හරහා පාලින්ද නුවරට අග්‍ර වූ තේජවන්ත වූ ශ්‍රී වීදිය බණ්ඩාර එක් හස්තයකින් පලිහක් ද, එක් හස්තයකින් කඩුවක් ද රැගෙන පරෙවි



පක්ෂියා වාහනාරූඪව වැඩ වාසය කරන්නා වූ පාලින්ද අධිරාජ්‍යයට අධිපති කෝට්ටේ රාජ්‍යයට අධිපති, සීතාවක ගඩලාදෙණිය යන්නා වූ රාජධානි කරා එක්සේසත් කළ මහානුභාව සම්පන්න, තෙද වරන් තිලුපුල් දැසින් සමන්විත වූ රත් වර්ණයෙන් සිරුර බබලන්නා වූ, දෙපා බාහු දැතට ආභරණයෙන් සැරසී, දෙපසට ගිගිරි සිලම්බු යනාදියෙන් ඇඳ පැළඳ ගෙන තුන් වර්ණ මාලා තුනකින් සමන්විත වූ තේජ සම්පන්න වැඩ වාසය කරන්නා වූ, පාලින්ද නුවරට අධිපති, යහතින් බැල්ම හෙලන්නා වූ, කීර්ති ශ්‍රී වික්‍රම පාලා, වික්‍රම පූජිත වූ, වීදිය බණ්ඩාර දෙවිතුමන් කීර්ති පස්වාන් දහසකට ආයු රක්ෂා කරන්නා වූ, නර සත්වයාට වැළදෙන්නා වූ, ඇස් වහකින්, කට වහකින්, හෝ වහකින් අණවින, හූනියම් වධ බන්ධන වැල් පැන්නුම් ඉරි පැන්නුම් යක්ෂ ප්‍රේත පිසාච කුම්භාණ්ඩ ආදීන්ගෙන් ද, දේව රෝග වසංගත රෝගයන්ගෙන් ද, සියළුම නර සත්වයන්ට ශාන්ති කරන්නා වූ යහතින් බැල්ම හෙලන නර සත්වයාගේ දුක් ගැන්විලි විමසා බලන්නා වූ, දුකට පිහිට වන්නා වූ, පිට ලන්නා වූ, මහානුභාව සම්පන්න වූ ගෞතම බුදුරජාණන් වහන්සේගේ අනුහස් තේජස් ඇතිව වැඩ වසන්නා වූ මහාවීරවික්‍රම පෑ, වීදිය බණ්ඩාර දෙවිතුමන් වෙත බැගෑපත් ව මල් පහන්, සුවඳ විලවුන් යනාදිය තබා කරන්නා වූ, කන්නලව් කෙරෙහි අසරණ වන්නාවූ. මාගේ කන්නලව්ව පිළිගෙන ඔබතුමන් වහන්සේ දෙවි තුමන් වහන්සේ, මාගේ කන්නලව්ව දැසින් දිෂ්ටි දෙවා සුරහල් සුර බලා වැඩ වදාරා සියළු දෝෂයන් අකාමකා, ගෙන හැර පා ඇකි, මාගේ දුක් ගැකඩිල්ල යහතින් බැල්ම හෙලා ශාන්ති ඇති කරවන්නා වූ. බල පරාක්‍රමයෙන් පූජිත වූ, ඔබ වහන්සේගේ දිවැස් නෙතින් බැල්ම හෙලා ශාන්තිය අභිවෘද්ධිය කර, පිහිට වී, පින් අනුමෝදන් වෙත් වා." (135 : 56 පි.)

පස්යොදුන් රට පාලින්ද නුවර ප්‍රදේශයේ පුරාණයේ සිට පවතින දේවාල හතකියි පාරම්පරික විශ්වාසයක් පවතී. එම දේවාලනම් :- 1. ලත්පඳුර දේවාලය, 2. අඹේගොඩ දේවාලය, 3. කෝවිලගොඩ දේවාලය (බදුරලිය), 4. මකලවැල්ල දේවාලය (බොරළුගොඩ), 5. හුරුළු ගෙදර දේවාලය (බෙල්ලන), 6. හැලඹ දේවාලය (උඩවෙල), 7. කපුගෙදර දේවාලය (පැළද) (135 : 56 පි). යනුවෙනි.



# 211
# වීරමුණ්ඩ දෙවියෝ

උඩරට පළාත්වල විශේෂයෙන් සම්මානයට පාත්‍ර වන්නා වූ වීරමුණ්ඩ දෙවියෝ එම ප්‍රදේශයන්හි දොළහ දෙවියන්ට වඩා කුලීන වූ ද, බලවත් වූ ද අයෙකු ලෙස සැලකෙති. එ බැවින් අන් කවර දෙවියකුට වුවද කරන පුද පෙරහැරක දී වීරමුණ්ඩ දෙවියන්ට ප්‍රථම ස්ථානය දීම සිරිතකි. වීරමුණ්ඩ දෙවියන් ගේ නැටුම් තට්ටු මුලින් ම නැටීමෙන් මේ උපහාරය සිදු කෙරේ. දෙවොල් දෙවිට ද උපහාර කරන කොත්මලේ වටද්දර දේවාලයේ ද වීරමුණ්ඩ දෙවියන් ගේ මල් යහන දෙවොල් දෙවියන් ගේ මල් යහනට වඩා අහල් හතරක් උසින් තැනේ.

මෙ කී වීරමුණ්ඩ දෙවියනට පුදන ප්‍රධාන පිදවිල්ල වනුයේ අඩුක්කු පිදීමයි. එය ගෙදරක දී මිස දේවාලයක දී සිදු නො කෙරේ. මස් මාළු වලින් තොරව හත්මාළුවකින් යුක්තව කෙරෙන අඩුක්කු පිදීම පිළිබඳව ඇති සියලු කටයුතු (වී කෙටීම ආදිය) අනෝර්කාරයන් යනුවෙන් හඳුන්වනු ලබන පිරිමි ආවතේව කාරයන් විසින් ම කරනු ලැබේ. මෙ වැනි අඩුක්කු පිදීමක් ආරම්භ කළහොත් එය නොකඩවා වාර්ෂික ව කළයුතු බවට විශ්වාසයක් පවත්නා බැවින් දැන් මෙ වැනි අඩුක්කු පුදන්නෝ විරල වෙති. කොත්මලේ කඩදොර උඩුගබ්බල දේවාලය වීරමුණ්ඩ දෙවියන් ගේ මූලස්ථානය වශයෙන් සලකනු ලැබේ. (137 : 536 පි.) මෙහි පුරාණ දේවාලය පිහිටා තිබුණේ ගල් ලෙනක් තුළ බව කියනු ලැබේ. මෙහි කියැවෙන යාතිකාවන්ට අනුව දේවාලයේ වසර නවසියයක් පමණ පැරණිය.(40 : 54 පි.).

අලව්වේ තිරුවන්පළ දේවාලයේ වීරමුණ්ඩ දෙවියන් ගැන ඇති විශ්වාසය අනුව මේ වනාහි මලල රජ්ජුරුවන් ගේ මානෙල් පොකුණේ මානෙල් මලෙන් උපන් මලල කුමාරයා ය. මේ කුමාරයාට සහෝදරයෝ තිදෙනෙක් වූහ. ඒ තිදෙනා සෙල්ලම් වයසේ දී පියාට එරෙහි ව දඩබ්බරකම් කරන්නට වූ හෙයින් උරණ වූ ජනසමූහයා ගේ උද්ඝෝෂණයේ ප්‍රතිඵල වශයෙන් රජතුමා අට්ටික්කා ලියෙන් නැවක්



සාදවා නැවට බඩු බාහිරාදිය පටවා කුමරුන් තුන්දෙනා පිරිවර සහිතව නැවට නංවා පාකර හැරියේ ය. එම නැව උපද්‍රවයෙන් තොරව දෙවුන්දර තුඩුවට පාවී ආකල්හි එහි ජනයා ගේ විරෝධය නිසා ගොඩ බැසීමට නොහැකි විය. එහි දී කුමාරවරු තම තෙද බල පෙන්වා රජ්ජුරු දෙවියන් ගේ මුරුතැනට පැන් ගන්නා ළිදේ මල් පණුවන් එලා අඩුක්කු මුරුතැන් වරද්දා කතරගමට ගොස් වීරගසක් කඩුවෙන් දෙබෑ කොට තෙද බල පෑ හෙයින් "වීරමුණ්ඩ" නමැති ව ගාල්ලට ගොසින් එතන අදිපති හැඩි දෙමළාට මහ උදහස් දී ඉන් නික්ම කොළඹට ඇවිත් එහි කුමාරයාට වසූරිය සාදවා භය ගන්වා මහමුහුදේ මාලිගාවක් තනා කොත් පළන්දවා මාලිගාවේ ඉන්න වේලාවට ඊරියගමට අධිපති යක්ෂයා කොටා මරා ඊරියගහ කප්පවා එම ගුම නින්දගමට අරගෙන නවගොමුවට වැඩම කර පත්තිනි දෙවියන් ගේ හළඹවල හඩ නවත්වා එයින් විල්බාවට වැඩම කර මළුවේ තල්ගස් දෙක බාන් අඹරවා තෙද පෙන්නවා එයින් කුරුණෑගලට වැඩමවා වත්හිමි කුමාරයා ගලපල්ලේ එලා මරා මේ ශ්‍රී ලංකාද්වීපය එක්සත් කොට ගෙන තමා ගේ බලය පතුරුවා තමන්ට පළමු ලංකාවට පැමිණි අනෙක් දෙවියන් ගෙන් තිබුණු සියලු කරදර වලින් ඇත් වී වසරකට වරක් ලංකාවේ හැම ජනකාය ගෙන් මුරුතැන් කදක් තමාට දෙන පිණිස යෙදූ තැන් පටන් එය අද වන තුරු චාරිත්‍ර වශයෙන් පැවතේ. මේ අනුව අස්වැන්න කපා පාගා ගත් පසු භාවිතයට ගැනීමට පෙර වීරමුණ්ඩ දෙවියන්ට පිදීම මේ පළාත් වැසියන් ගේ චාරිත්‍ර යයි. (6)

කොහොඹ කංකාරියේ එන "වීරමුණ්ඩ දෙවියන් ගෙ කීම", "වීරමුණ්ඩ දෙවියන් ගේ උත්පත්තිය" යන කව්වල ඇතුළත් තොරතුරු අනුව වීරමුණ්ඩයන් පහසුවෙන් හඳුනා ගත හැකිය. මල්ලව හෙවත් මලල නුවර රජ බිසවට උපන් කුමරු තිදෙනෙකි. ඔවුන් ගෙන් වැඩිමලා දෙවොල් කෙවි විය. මද්දුමයා වීරමුණ්ඩ විය. බාලයා කුමාර බණ්ඩාර විය. (73: 97 පි.). ඔවුහු රටවැසියන් පෙළූ හෙයින් නැවක ලා පිටුවහල් කරන ලදහ. ඔවුහු යාපා පටුනට ගොඩ බැස සැඩි දෙමළුනට බැට දුන්හ. නවගොමුවට පැමිණ පත්තිනි හළඹේ හඬ නවතා ලූහ. ඊරියගම දී එහි බල පවත්වමින් සිටි යක්ෂයා විනාශ කළහ.

ගල් නැව සරසා මලෙල කඩුව ගෙන සමහ ගාල්ලට වැඩිය උතුන් කසවි බැඳපු සොඳ අඩ හැර තොප්පිය සිරස පැළඳ ගෙන පැතෙදකත් පත්තිනි නව ගමුවේ ඉඩමට වැඩ හලඹ ගිගිරි හඬ නැවතු උතුන් ඊරියගම යකු පියසට වැඩ ලා යකාට කොටමින් නෙයියා ඩ ත්

එතෙර තිබුණු සක්ගෙඩි තුන මෙතෙර මෙදේසේ තියෙන්ඩ
ආරලියේ තද වතුරක් සේ අනසක පැතිර යන්ඩ
නැවට අඩිය ගසා සෙනග ගොස් වාසල මුර කරන්ඩ
නව සීයක් මලෙලුන්ගෙන් උතුන් කෙනෙහි වීරමුණ්ඩ

මහ මුහුදේ දිඹුල් නැවෙන් මෙතෙරට ඔබ වැඩ මෙව් වේ
සීනි ගමයි දෙවොල් දෙවියො පළමු වතේ බල පෑවේ
වීර මුණ්ඩ දෙවිඳුගෙ තෙද මුල් කෝවිල් විල් බාවේ
කුමාර බණ්ඩාර දෙවියො රිදී ගමයි බල පෑවේ
(73 : 95-97 පිටු)

කොහොඹ කංකාරියේ දී ඇතැම් විට වීරමුණ්ඩ තුන්කට්ටුව කියා ද භාවිතා වේ. කංකාරියේ දී මේ දෙවියන්ට පොල්මල් නැටුම් ඔප්පු කරනු ලැබේ. කංකාරිය අවසනට එන ගබඩා කොල්ලයේ දී ගබඩා දොර බිඳවනු ලබන්නේ වීරමුණ්ඩ දෙවියන් ගේ ඇනා ලවාය.

"වීරමුණ්ඩ" යන නමින් තවත් දෙවි කෙනකු ගැන සඳහන් ය.

උඩුගම්පොළ විදූ සකලකලා වල්ලභ යුවරජු ගේ පුතකු වන කළුකුමාරයා, ඔහු ගේ සේවකයකු වන වීරා යන අයත් සමග පැන ගොස් කුණුදිය පව්වෙන් පැන මිය ගොස් ඇත. කළුකුමාරයා සමහ මිය ගිය උක්ත වීරා ද දේවත්වයේ ලා සැලකීමට එම පෙදෙස් වැසියෝ පසුබට නොවූහ. මේ නිසා සමකාලිකයෝ 'වීරාත් මුන්ට (මුන්ඩ) දෙවියෙක් වී දැ' යි සමච්චලයට ලක් කළෝ ය. උක්ත කීම නිසා එම දෙවියා (වීරා) වීර මුණ්ඩ යන නමින් උඩුගම්පොළ පෙදෙසේ අදහන්නට වනි. වැඩි විස්තර (උඩුගම්පොළ) කළුකුමාරයා යටතේ බලන්න. සෙබළ දේවතාවා යටතේද බලන්න.

## 212
## වෙල්ලස්සේ බණ්ඩාර දෙවියෝ



පිටියේ දෙවියන් යක් කර ගත් පිරිස අතර වෙල්ලස්සේ බණ්ඩාර ද වෙයි.(ඉහත පිටියේ බණ්ඩාර දෙවියන් යටතේ ද බලන්න.) කළුකුමාර යනුවෙන් ද හැඳින් වේ. (141:112 පි.) හියු නෙවිල් එකතු කළ කවි පත්ති අතර එන "කළු කුමාර කවි" පත්තියකට අනුව වෙල්ලස්ස බණ්ඩාර යන නමින් හැඳින්වෙන කළු කුමාරයා බින්තැන්නේ විෂ්ණු දේවාලයේ වාසය කරන්නේය. අඹරාපොති ගෙන් ද දේවතා දෙවිඳු ගෙන් ද වරම් ලැබ



වෙල්ලස්සට හා දුම්බරට සැපත් වේ. බුදු රදුන් මහියංගණයට වැඩම කළ අවස්ථාවේ උන්වහන්සේ ගෙන් වරම් ලබා යකුන් දමනය කළේය. නම ඔද තෙද පෙන්වා බින්තැන්නටත් රුහුණු රටටත් ගමන් කරයි. කළු ගඟේ නාන ඔහු කළු ගලේ වාසය කරයි. ඔහුගේ වාහනය දිවියෙකි. පිටියෙ දෙවිඳු ගේ වරම ලැබ පිටියේ දේවාලයේ වසර ගණනාවක් වාසය කරන්නේය.

කළු ගඟ දිය කෙළියට වඩිමින්නෝ
මුළු තැන් දළමුර පුදා වඩින්නෝ
පළු පත් ඇරගෙන අතුල් පදින්නෝ
කළු කුමාර දෙවියනෝ වඩින්නෝ
(161, 1 : 93 පි.)

නෙවිල් කවි සමුච්චයේ ඇති "කළු දිවියා කවි" නම් කවි පෙළේ ද කළු බණ්ඩාර නමින් මෙම දෙවියන් ගැන සඳහන් වන බව පෙනේ. මොහුට කළු දිවියා ලැබුනේ මැණික් රජාගෙනි. කළු බණ්ඩාර, පදිංචි ව සිටින බලහෙළින් වැද්දන් තුන් දහසක් පිරිවරාගෙන බැස එන්නේය. රතු දිවියා සොයා ඌ අල්ලා බැඳ ගනී. මොරපොතාන පත්සලට යයි. මැණික් රජා දුන් කළු දිවියා ලැබුණේ සමනළ හිමයෙනි. කළුබණ්ඩාරගේ අණින් සන්තානේ කළු බණ්ඩාරත් මලෙන් උපන් කොසඹ දෙවියෝත්, දිවස් දෙවිඳුන් එක් වී ඔහුට කළු දිවියා ලබා දෙති. තවත් කවිවලින් ඉහත කී දෙවිවරුන්ට අමතරව අලුත් දෙවිඳු, අලුත් කොසඹා දෙවිඳු, කෝරලේ බණ්ඩාර ද සඳහන් කර ඇත. කළු බණ්ඩාර සඳහා දුනුකේ බැද්දේ ද, දිය බුබුල ඇලේ ද, වැවතැන්නේ ද, බුටාවත්තේ ද, දොරපොතගල ද, දේවාල පැවති බව කියැවේ. (161, 1 :159පි.)

ඉරු රැස් සේමයි අණ පවතින් නෝ
තරු රැස් ගණනින් වට විහිදෙන් නෝ
සඳ රැස් පායන ලෙසට වඩින් නෝ
කළු බණ්ඩර කළු දිවියා දෙන් නෝ



## 213
# වේරගොඩ දෙවියෝ

ගාලු දිස්ත්‍රික්කයේ පිහිටි වේරගොඩ ආශ්‍රිත ජනප්‍රවාද අනුව එම පෙදෙසට අධිපති ලෙස වේරගොඩ දෙවියෝ සලකනු ලබති. මෙම නමින් හැඳින්වෙන්නේ සීනිගම ප්‍රධාන ස්ථානය කරගත් දෙවොල් දෙවියා ම බව තොරතුරු පිරික්සීමේ දී පෙනේ. මේ දෙවියා සීනිගමට ගොඩ බැස එන විට එය වළක්වනු වස් පත්තිනි දෙවියන් ගිනිකඳු හතක් මවාලූ අවස්ථාවේ ඒවා ඔහු නිවාලූ බැවින් "දෙවොල් දෙවි" යන නාමය ඔහුට යෙදුණු බව ඇතැම්හු කියති. (136:60පි.) බොහෝ දෙනා තුළ පවතින විශ්වාසය අනුව දෙවොල් දෙවි සීනිගමින් වේරගොඩට පැමිණ එහි දී සැරයටිය බිම සිටුවා එය ලියලන්නට සලස්වා තෙද බලය පා අසල් වැසි කතක් විවාහ කර ගෙන මුහුදු වැලිගෙන එයින් බත් පිසවා, අත දිගු කොට උස් පොල් ගස්වලින් ගෙඩි කඩා, තවත් නොයෙක් ආශ්වර්යයන් පාමින් එහි ජීවත් විය. එයට පසුව එහි දී ම ඔහු තවත් කතක විවාහ කර ගෙන ඇත. කීර්තිශ්‍රී රාජසිංහ රජු මේ දෙවියා ගේ බලය දැක බියට පැමිණ, තඹසන්නසකින් වේරගොඩ ගම ඔහුට පවරා ඇතැයි විශ්වාසයකි. මෙයට පසුව පමුණුගම අවට විසූවන් මේ දෙවියා පිදීමට පටන් ගත්හ. වේරගොඩ දෙවොල් කතාවේ අවසානයේ එන කවියක් මෙසේ ය:-

නිතර වැජඹෙන පාණ්ඩුර තොටගමුව කෙළි පුද ලැබ තොසේ
එකල උඩුගල් බැඳි දෙවොල් ගිනිතොට අනසක වැසේ
සතර මෙරගිර සයුර මැද උණවටුන ලනු මෝදර වැසේ
මෙවැනි තෙද ඇති දෙවොල් දෙවියෙනි රකින් ආතුරයන් මෙසේ
(136 : 61 පි.)

සීනිගම දෙවොල් දේවාලයේ වාර්ෂික උත්සවය ඇසළ මාසේ පැවැත් වෙන විට වේරගොඩ දේවාලයේ ද එසේ ම සිදු වේ.



**වේරගොඩ දේවාලය:**

කොළඹ සිට ගාලු පාරේ සැතපුම් 57 ක් ගිය විට හන්දියක් හමුවේ. එතැනින් වමට හැරී සැතපුමක් පමණ ගිය විට වේරගොඩ දේවාලය හමුවේ. දැන් නම් එහි දේවාලයක් නැත. ඇත්තේ පන්සලකි. එම භූමියේ අඩි හයක් පමණ උස කණු කීපයක් ඇත. ගල් පිහිල්ලක් ද වේ. පැරණි අරලිය ගස් දෙකක් ද දක්නට ලැබේ. අඩි 80 ක් පමණ උස, අඩි 18 ක් පමණ වට ඇති හෝලු ගස යනුවෙන් හඳුන්වනු ලබන රුකකි. ඒ අසල හඳුන් ගල ගාන ගලකි. මේ දේවාලයේ මූලික වශයෙන් සිදුවන්නේ කිසිවෙකුට අලාභයක් සිදු වූ විට අවලාද කීමයි. මෙ කල ද එය එසේ ම සිදු කෙරේ. එය වැඩි වශයෙන් කෙරෙන්නේ ඇසළ මාසයේ බවද සඳහන් වේ. (110 : 24 පි.)

වේරගොඩට නුදුරුව මහා පර්වතයක් ඇත. එය දෙවොල් දෙවියන් ගේ නංගි වූ මානහාමි තම හැඹිලියේ ලා ගෙන ආ හුනු සමහ වූ ගල් කැටය විසි කළ විට එය ලොකු වීමෙන් හටගත් පර්වතයක් බවට පළාත් වාසීහු විශ්වාස කරති. උක්ත පර්වතය මත වළවල් හතකි. ඒ දෙවොල් දෙවි ගේ යානාව තිබූ ස්ථානය සේ සලකනු ලැබේ. නවගමු දේවාලයේ යාදින්න කියන විට එහි වේරගොඩ දේවාලය ද සඳහන් වන බව පෙනේ. එය මෙසේ ය:-

"ඉර රැස් ස්වාමීන් වහන්ස, කීර්ති රැස් ස්වාමීන් වහන්ස, බුදු රැස් ස්වාමීන් වහන්ස, මහාස්වාමීන් වහන්ස, ඒත් මාගේ වරත් ලබා ගෙන, දෙවොල් හත් බාගෙත් වරත් ලබා ගෙන පුලුප්පර දේසේ සිට බඩු නැව් පැදගෙන මෙතරට ගොඩ බසින්ට එන තැනේ දී වාත ගර්ජනාවක් නැව් සත බිඳී ගිය තැනේ දී දේව රජ්ජුරු දෙවියෝත් පත්තිනි දෙවියෝත් දියෙන් එන යකුන්ට ගොඩ බසින්ට නොදෙමියි කියා ගිනි කඳු හතක් මවා පෑ තැනේ දී ගිනි කඳු හත කා ගෙන බී ගෙන මෙසේ වැල්ලට ගොඩ බැස වැලි හාල් කර කරදියෙන් පා එළිය ඔප්පු සිද්ධ කර ගත්තා සත්තවාදී සැබෑ වී නම් ඔබ වහන්සේලා කියන කන්නලව්වට දිවස් කරුණාව ගන්වයි" (110 : 22-23 පිටු)

ඉහත සඳහන් " වැලි හාල් කර කර දියෙන් පා" යන්න හා සම්බන්ධ ජනප්‍රවාදයක් තිබේ. වේරගොඩින් කාන්තාවක් පාවාගත් දෙවොල් දෙවි මායාගේවත්ත නම් ස්ථානයේ වාසය කළේය. නොබෝ කලකින් ඔහුට දාව බිරිය පුතෙකු ලැබුවා ය. දෙවොල් දෙවියෝ නිතර මුදෙන් වැලි ගෙන හාල් බවට පත් කරති. පුතා ලොකු මහත් වූ දිනක පියා රහසේ කරන මේ ප්‍රාතිහාර්යය බලා සිටියේය. එදිනෙන් පසු වැලි හාල් නො වීය. මීට හේතුව දැනගත් දෙවොල් දෙවි පුතා මරා දමා එතැනින් පළා ගියේය. ඔහු ගිය පසු ඔහු විසින් කරන ලද ප්‍රාතිහාර්යය සිහි කළ ගැමියෝ ඔහු

වෙනුවෙන් දෙවොලක් ඉදි කළහ. වේරගොඩ දේවාලෙවත්ත යනුවෙන් අදත් මේ ස්ථානය හඳුන්වනු ලැබේ.

සිය පුතු මරා දමා වේරගොඩින් පැන ගිය දෙවොල් දෙවි උග්ගල්පිටිය දේවාලයටත් උණවටුනේ දේවාලයටත් ගිය බව පැවසේ. ඔහු ගේ අවසානය උණවටුනේ දී සිදුවිණැයි ද කියති. දෙවොල් යනුවෙන් අදහස් කර ඇත්තේ එක් අයකු නොව සත් දෙනකු බව මෙහි දී සිහි තබාගත යුත්තකි. මේ සත් දෙනා පිළිබඳව ඇති පුවත් එක් අයකු කෙරෙහි ආරෝපණය කිරීමට යාමෙන් යම් යම් දුෂ්කරතාවනට පත්වන කරුණු අසන්නට ලැබෙන අවස්ථා නැත්තේ නොවේ. බානට් මහතා ගේ විස්තරවලින් ද මේ කීම සනාථ වේ. ඔහු පවසන්නේ දෙවොල් දෙවියන් පළමුව සමනළ කන්දට ගිය බවයි. ඔවුන් ඒ ප්‍රදේශයට යාම පසුව සිදු වූවක් ලෙස වෙනත් විස්තරවල සඳහන් වේ. (මේ ගැන දෙවොල් දෙවි යටතේ ද බලන්න.)

පහත සඳහන් කවිය ද වේරගොඩ හා බැඳී පවත්නා බවක් පෙනී යයි.

මලල දේසෙන් නැවෙන් ඇවිදින් මෙ කර ගොඩ බට දේව　තා<br>
දෙමළ සිංහල රාග කියමින් මෙ ගිනි පාගා නිවූ සෙ　තා<br>
තිමල රුසිරු එ ළඳ ගැබසී වේරගොඩ වැඩි පැහැ ප　තා<br>
මෙමල කඳ ගිය පණත් ගෙන්නත් ගිනි කුරුම්බර දේව　තා

**අලුත් බණ්ඩාර වීම:-**

සීතිගම දී දෙවොල් දෙවිට "මාලි" නැමැත්තකු දේවාලයක් ඉදිකර දී ඇත. එහි විසූ අලුත් බණ්ඩාර යනුවෙන් හඳුන්වා ඇති බවද පැවසේ. (110 : 28 පි.)



## 214
## ශ්‍රී වික්‍රම රාජසිංහ දෙවියෝ

සිංහල ඉතිහාසයේ ඇතැම් රජ කෙනෙක් දේවත්වයට පත්ව සිටිති. ඔවුන් අතුරෙන් ඉතා ප්‍රකට වන්නාහු මහසෙන් හෙවත් මින්නේරි



දෙවියෝයි. පළමුවන රාජ සිංහ රජු ද දේවත්වයට පත්ව ඇතැයි විශ්වාසයක් තිබේ. (ගනේගොඩ දෙවියන් යටතේ බලන්න.) දෙවන රාජසිංහයන් ද "අලුත් දෙවි" යනුවෙන් දේවත්වයට පත්ව සිටි. (අලුත් දෙවි යටතේ බලන්න.)

මේ අතර රාජ කුමාරවරු කීප දෙනෙක් ද දේවත්වයට පත්ව සිටිති. කළුදෑකඩ, සෙන්කඩගල කළු කුමාර, උඩුගම්පොල කළුකුමාර, ගලේ බණ්ඩාර, කුමාර බණ්ඩාර ආදී වශයෙන් සැහෙන පිරිසක් මේ ගණයට අයත් ය. දොඩන්වල දේවාලය හා සම්බන්ධ දෙවිවරුන් කෙරේ මෙන් ගෞරවාදර භක්තිය පළ කිරීමත් "පෙර හැර මාලය" නම් හියු නෙවිල් කාව්‍ය සමුච්චයේ ඇති කවි පෙළේ දක්නට ඇත. (මහ නා බණ්ඩාර යටතේ බලන්න.)

දේවත්වයට පත් වූ මහසෙන්, පළමුවන රාජසිංහ ආදීන් හා සසඳන කල්හි ශ්‍රී වික්‍රම රාජසිංහයන් දේවත්වයට පත් කිරීමට කිනම් හේතුවක් විශේෂ වී දැයි සිතීම දුෂ්කර ය. එහෙත් නෙවිල් ගේ කාව්‍ය සමුච්චයේ "දළුමුර යහන් කවි" නම් කාව්‍ය පත්තියක පිටියේ, පල්ලේබැද්ද, දේවතා බණ්ඩාර, කොසඹා, කීර්ති බණ්ඩාර ආදී දෙවිවරුන් ද ශක්‍ර, මහා බ්‍රහ්ම, ආදීන් ද අතර මුහුදින් එපිට යවන ලද ශ්‍රී වික්‍රම රාජසිංහ දෙවියන් ගැන ද සඳහන් ව ඇති බව නෙවිල් පවසයි. (161, 1: 310 පි.) මේ ගැන මීට වැඩි තොරතුරක් සඳහන් ව නැත.



## 215
## සත් බිසෝවරු

රත්මල් දේවි, රිද්ද දේවි, නායක දේවි, උසන්ගෙඩ දේවි, නම නැති තිදෙනා වශයෙන් මේ සත් දෙදෙනාගේ නම් සඳහන් කරන එල්.ඩී. බානට් ඒ නම් සත මේ ආකාරයට ද සඳහන් කරයි. :- රතිකාම මදන, ඉනා, මාල, ඉර්ධි, රිද්ධ, සිරි, මදන යනුවෙති.(125 : 97 පි.)

## 216



## සඳ දෙවියෝ

සඳ දෙවි වන්දනාව ද සූර්ය දේව වන්දනාව මෙන් පෞරාණික ශිෂ්ටාචාරයන්හි පොදු භාවිතයක් විය. ක්‍රි. පූ. 3500 දී පමණ පැරණි ඊජිප්තුවේ චන්ද්‍ර, සූර්ය වන්දනා තිබුණු බව ද, ක්‍රි. පූ. 2000 - 1500 කාලයේ දී ඉන්දියාවට සංක්‍රමණය වීමට පෙර පවා ආර්යයන් අතර "සූර්ය", "මාස්" (චන්ද්‍ර) දේව වන්දනාව තිබුණු බවද පෙනේ. "මාස්" දෙවියෝ භාරතයේ දී "සෝම" නාමය ලැබූහ පෞරාණික ග්‍රීක, රෝම ශිෂ්ටාචාරයන්හි ද චන්ද්‍ර, සූර්ය වන්දනාව පැවැතිණි. ග්‍රීසියේ චන්ද්‍ර දෙවියන් හඳුන්වනු ලද්දේ "සෙලින්" යනුවෙනි.

ත්‍රිපිටකයේ සූත්‍ර පිටකයට අයත් සංයුක්ත නිකායේ දේවපුත්ත සංයුක්තයේ සූරිය වග්ගයේ නව වන සූත්‍රය **චන්ද පරිත්තයයි**. දස වැන්න **සූරිය පරිත්ය** වේ. මේ දෙක ම පිරිත් දේශනාවේ සතර බණවරට එකතු කොට සජ්ඣායනය කරනු ලැබේ. (24 : 118 පි.) මෙහි දී චන්ද්‍ර, සූරිය දෙදෙනාට ආරෝපණය කොට චන්ද දේව පුත්ත, සූරිය දේව පුත්ත යනුවෙන් සඳහන් වී තිබේ. බුද්ධ කාලීන සමාජයේ පැවැති විශ්වාසයක් මෙහි දී පැහැදිලි වන්නේ ය.

ලක්දිව ජනයා අතර හිරු සඳ දෙදෙනා ම පූජනීයත්වයෙන් සලකන ලද බව ගොවි ජනතාව අතර පවතින "කමත් හැල්ල" වැනි ප්‍රබන්ධයන් ගෙන් පැහැදිලි වේ.

අපේ නොවෙයි මේ කමතා - ඉරු දෙවියන් ගේ     කම තා
අපේ නොවෙයි මේ කමතා - සඳ දෙවියන් ගේ     කම තා

පැරණි ලේඛන ගත සාධක අතර සඳ ගෞරවයෙන් සැලකීම ගැන තැනක් ක්‍රි.ව. 8-10 සියවස් කාලයට අයත් සීගිරි ගීයක ඇත. පරණ විතාන මහතා සංස්කරණය කළ **සීගිරි ගී පොතේ** 64 වන කවියේ

"නව බග් ළසන්ද් දුටි මීනියක්හු නොවජන්නෙයි"

"බක් මස අලුත් ළා සඳ දුටු අයකු ප්‍රතික්ෂේප නොකොට යුත්තේය" යනුවෙන් කාන්තාවකට කියන මේ කියමන එද සමාජයේ බක්මස නව



සඳ බැලීම ශුභ දෙයක් ලෙස සැලකූ බවට ඉඟියක් සපයයි. දාහතර වන සියවසේ මුල දී පමණ ලියවුණු **උම්මග්ග ජාතකයේ ධම් යුද්ධ කථාවේ** "පුර දියවක යහපත් දවස් සඳ බලන්නට එක් සිත් වැ එක දසාව බලන්නවුන් පරිද්දෙන්" යන උපමාවෙන් දැක්වෙන පරිදි නව සඳ බැලීමේ චාරිත්‍රය ඉතා වුවමනාවෙන් පිළිපදින ලද්දක් බව පෙනේ. සිංහල ගැමි විශ්වාසය අනුව සඳ බැලීම සතියේ අසුබ දිනක සිදු නොවිය යුතුය. ඒ බව මෙම ගැමි කියමනේ පැහැදිලිවේ.

"දූක දුරු බදා දා
සඳ නොබලන් සෙනසුරා දා"

මහනුවර අවධියේ දහ අටවන සියවසේ දී පමණ ලිය වී ඇති ගණදෙවි හැල්ලේ

චන්ද්‍ර සහෝදර උතු මා - චන්ද්‍ර කටක පැවත     නමා
සව් සිරි දී රකු මෙතු මා - චන්ද්‍ර සූරිඳු නමො     නමා
(45)

යනුවෙන් සඳහන් වීමෙන් සඳ දෙවියන් පිදීමත් එකල වූ බව පෙනේ. සිංහල ශාන්ති කර්මයන්හි එන "සෝම ශාන්තිය" චනාහි අඩමස තුළ සඳු ගේ ගමන විස්තර කරමින් ඒ අනුව සෙත් පැතීමේ කවි මාලාවකි. (90 : 112 - 15 පි.)

වර්තමානයේ ප්‍රකටව සිදු නොවුණත් චිරන්තන ඇදහිලි විශ්වාස අනුව සඳ දෙවියන් ද ඉරු දෙවියන් ද සිංහල ජනයා විසින් ගෞරව සම්මානයට පාත්‍ර කරන ලද බව පෙනේ. මේ චාරිත්‍රයේ අවශිෂ්ට ලක්ෂණ පිරිත් දේශනාවෙහි ද, සිංහල ශාන්ති කර්මයන් හි ද දැක්ක හැකිය.

## 217



## සඳුන් කුමාර දෙවියෝ

**සඳුන් කුමාර දෙවියන් උපන්නේ වල්ලි මාතාව ස්නානයට ගොස් ශරීරයේ තැවරීම සඳහා ගත් සඳුන් පිඩකිනි.**



15. රජ.නි.ස. - 93939

වල්ලි මාතා වුන්
ස්නානයට වඩි මින්
ගත් සඳුන් පිඩ කින්
උපන් කුමරා දකුණු පැත් තෙන්
(37 : 220 පි.)

සඳුන් කුමාරයන් තෙද බල ලැබුයේ කඳ සුරිඳුගෙනි.

අංජන වන් කේස ධාතු සිද්දුන් රන් කඩුව සොඳුරු
රංජන තෙද බල යෝ ලැබ කදිර මලේ කන්ද තුඳුරු
වින්දන සිරි සැපත තෙදින් බිඳිති දසට දේස දැදුරු
වන්දන කුමරුට පොද බල දුන්නේ ඒ කන්ද කුමරු
(37 : 221 පි.)

මේ අනුව මෙතෙම කේස ධාතු කැපීමට භාවිත කළ රන් කඩුව භාරව සිටී. එය ද කේස ධාතු ද රැගෙන කදිර මලේ අසල සිටින්නේ ය. ඔහු කතරගම කිරිවෙහෙරට ද රනමයුර වාහනයට ද උඩමඩමට ද, ඇලි ඇතාට ද, රන් කඩුවට ද, බැල්ම ඇති ව සිටී.

කතරගමට කිරිවෙහෙරට තේවාවට බැල්ම හෙ ළා
රන මොනරට ඇලි ඇතාට උඩ මඩමට බැල්ම හෙ ළා
කදිර මලේ රන්විමනට රන් කඩුවට බැල්ම හෙ ළා
මෙලක්ෂණෙන් සැණක වඩිති කතරගමේ ඉඩම බ ලා
(37 : 222පි.)

කේසධාතු පිළිබඳ මෙහි ඇති සඳහන වැදගත් ය. මින් පෙනෙන්නේ නෙරංජන නදී තීරයේ කේසධාතු කපාලීමට සිදුහත් කුමරු භාවිත කළ කඩුව කතරගමට ලැබී තිබුණා යැයි විශ්වාසයක් පැවැති බවයි.

ඔහු යක්ෂ සේනාවන්ට නිරතුරු බිය ගෙන දෙන දෙවි කෙනෙකි.

මඳ පවනට මිහිරි සුවඳ ගැසූ සුලඟින් විලසින් මෙ නර ලොවට
වෙසමුනි රජ සැරසීලා එන ගමනක්දෝ විලසට
පෙර දොරටුව සිටි යක්සෙන් බීත වෙලා දුවපු නොසිට
රනහංස ගමනින් බස්නෙයි සඳුන් කුමරු කල එළියට
(37 : 223 පි.)

එසේ ම මේ දෙවි ලෙඩ දුක් දුරු කරවීමෙහි ද සමතෙකි.



මලුත් පහන් ගෙන්නා ගෙන සයනයට පුද කරන් ඩ
සළුත් පැළඳ වලිත වෙලා පිරිවට පිට බැස සිටින් ඩ
අලුත් පරණ කපුවන් හට උරිරු රෝග දුරු කරන් ඩ
සඳුන් කුමරු දෙවි වැඩියේ නර ලොව උවදුර හරින් ඩ
(37 : 223 පි.)

හියු නෙවිල් දක්වන තවත් සඳුන් කුමාර කවි පත්තියකට අනුව සමන් දෙවි, නම නැති උපාසක දෙවි සහ සඳුන් මල් කුමරු ලොව පහළ වූයේ පාරයන්ට ආරක්ෂාව සැලසීමට ය. සඳුන් කුමරු තිසරකු විලසින් ගුවනේ පා වී එන්නේය. ඔහු යන්ත්‍ර මන්ත්‍ර කියා රාම සැරය සුරතට ගෙන යකුන් පන්නා හරී. ඔහු විසින් අයියනා දෙවි පෙරටුව යවා ජනපද රෝග සංසිඳුවන ලදී. ඔහු ළඟ පිරිත් තෙල් පිර වූ බඳුන් තිබේ. (161, 3 : 337 පි.)

නෙවිල් කවි සමුච්චයේ ඇති තවත් "සඳුන් කුමාර කවි" පත්තියට අනුව ඔහු අතේ රන් පත්හිඳක්, රන් පත් සහ ලේකම් මිටිය ද තිබේ. හේ දහ අට බාසාවක් දනී. ඉණ වටේ දිවි සමකි. අත් හා උරහිස සඳුන් වණින් බැබලේ. සවරන් දුන්නක් ද, රාම සැරයක් ද, ත්‍රි ශූලයක් ද දරා මැණික් වළලු පැළඳ සිටී.

චන්ද්‍ර සූරිය දෙවි දෙරණට මිහිකත දැනුවයි වැඩි යේ
සුන්ද්‍ර රූ ඇති රන් පත්හිඳ ස්වර්ණ ඵ පුහු පොත් ගෙඩි යේ
ඉන්ද්‍ර උදා රිවි අවරෙට වර්ණ ඵ ලේකම් මිටි යේ
කන්ද කුමරුගේ වරමින් දෙරණතලට දෙවි වැඩි යේ
(161, 3 : 329 පි.)

බින්තැන්නේ හා වෙල්ලස්සේ මේ දෙවියෝ අණසක පතුරුවති.

ගිනියම් ඇති රටවද බිත් තැන් නා
තනියට ආවේ ඇයි තොප දෙන් නා
සොර බොර වැව මැද මීවා ඉන් නා
සඳුන් කුමරු වඩිනවා පෙනෙන් නා

අගලේ උෟරන් රැල යන පාරා
අගලේ කෙළිනා පොලගු උදාරා
උගුරේ ගත්ගෙඩි එතන වමාරා
දුන් බැට දැන ගත් සඳුන් කුමාරා

එගොඩ පත්තුවේ රට වෙල් ලස්සේ
මෙගොඩ පත්තුවේ ගම ඇතු ලස්සේ
ඔය පලාත ගම් ශත පසු පස්සේ
හඳුන් කුමරු නම් බූ පල පස්සේ
(98: 635 පි.)

ඔහු පිටරටින් සාගරය පීනා මෙරටට ගොඩ බැසපු කෙනෙකු බව ද තවත් තැනක සඳහන් ය.

ආගර පතනේ මැණිකක් දුටු වාදෝ
සාගර පීනා ගොඩ බැස් සාදෝ
ලෝකඩ බළලුන් නද දුන් නාදෝ
ගෝමර සාමි මෙලෙස කළාදෝ
(එම)

දෙවි කෙනකුගේ විශේෂත්වය හුවා දැක්වීමට මෙසේ පිට රටකින් පැමිණි බව කියා ඇතැයි සිතිය හැකිය. ඔහු නර්තනයට ද දක්ෂයෙකු බව ද පෙනේ.

අඩුවත් මිටියත් යකඩෙට ජෝඩු
කඩුවත් පලියත් හරඹෙට ජෝඩු
අකලට වැසි බිජු ගොයමට ජෝඩු
හඳුන් කමරු දෙවි නැටුමට ජෝඩු
(එම)

'සඳුන් කුමාර' යන්න අපර නාමයක් ලෙස දැඩිමුණ්ඩ හෙවත් දේවතා බණ්ඩාර විෂයෙහි යෙදෙන බව සඳහන්ව ඇත. (126 : 46 පි.)



## 218
## සඳුන් කුමාරි දේවතාවිය

තරුණියකට දැවැද්දක් වශයෙන් ලැබුණු සඳුන් හෙප්පුවක් මුල් කර ගෙන ඉදි වූ දෙවොලක් ඌවේ උඩුකිඳ උඩු පෙදෙසේ ඇත. මේ දේවාලයේ



ආධිපත්‍යය සඳුන් කුමාරි යනුවෙන් හැඳින්වෙන අයකට හිමි වී ඇතැයි අනුමාන කෙරේ. මෙකී දේවාලයෙහි වාර්ෂිකව යක් කාරියක් සිදුකෙරෙන බව නාවුල්ලේ ධම්මානන්ද හිමියන් වාර්තා කර ඇත. (76 : 151 පි.) ඒ අතර සඳුන් කුමාරිය ගැන හියු නෙවිල් විසින් එකතු කරන ලද කවි පන්ති අතර ඇති 'කිරි අම්මලා ගේ සහ මංගර දෙවියන් ගේ කවි' පන්තියක ද සඳහන් වේ. ඒ අනුව සඳුන් කුමාරි බින්තැන්නේ උපන්තියකි. කිරි අම්මා ලෙස හැඳින් වෙන මැය වැදි ජනතාව ගේ දේවතාවියක බව පෙනේ.

ගිනියම් ඇති රථ මයි බිම් තැන්නා
තනියම ආවේ ඇයි තෝප දෙන්නා
මීමා හොර බොර වැවේ සිටි න්නා
හඳුන් කුමාරිය වඩිනු පෙනෙන්නා

හඳුන් කුමාරී නුඹෙ කිරි අම්මා
කන්ද කුමාරී මතු බුදු වෙම්මා
වෙල්ලස්සෙන් දළමුර ගෙන්නම්මා
හඳුන් කුමාරී වැඩියද අම්මා?

හඳුන් මලේ රේණුවෙන් උපන්නේ
යොදුන් ගණන් රට දිවස් බලන්නේ
සඳුන් උයන් කෝවිල් සර සන්නේ
හඳුන් කුමාරී දෙවි වඩින්නේ

එගොඩ ගෙදර දරු සුරතල් අම්මා
මගේ ගෙදර අඳුරයි කිරි අම්මා
නෙතේ කඳුළු සළුවෙන් පිස දැම්මා
මටත් පුතකු දෙනවද කිරි අම්මා
(38: 19 පි.)

මෙහි ඇගේ උපත ගැන ඇති විශ්වාසයත් ඇගෙන් දරු උපත් ගැන පිහිටක් ලැබිය හැකි බවත් කිය වී තිබේ.

16. ර.මු.නි.ස. - 93939

## 219



# සපු දෙවියෝ

සබරගමුවේ මහ සමන් දේවාලයේ සිටින දෙවියෙකි මේ. සමහරු මේ දුමන දෙවියා ම යයි කියති. මේ දෙවියා රුදුරු ගුණයෙන් යුක්ත වූවෙකු බැවින් ඔහු නිරූපණය කිරීමේ දී එම ගතියට ගැළපෙන තිල් හෝ කොළ පාටින් ඔහු නිරූපිත බවද පැවසේ. සමන් සුරිඳු කාරුණිකයකු බැවින් ඒ දෙවිඳු රත් වණින් නිරූපිත වේ. සපුසුරිඳු යනුවෙන් ද හඳුන්වා ඇති සපුකුමාර දෙවි සැවුල් සන්දේශයේ වනා ඇත්තේ මෙසේ ය:-

තිපු ර දැවූ හර දල නෙත ගෙව් තෙද ණ
සපු ර කළ යසස් රැස් ලොව තුළ සොබ න
සපු සුරනිඳුගෙ නම කර යුග සිරි සර ණ
මෙපු වත් සැළ කරනු මම්තුරු තුම කල ණ

(205 කව)

සන්දේශය යැවෙන්නේ සමන් දෙවි රදුන් වෙතට යි. 202 වන දසපද සැහැල්ලේ දී එතුමන් සිරිපද නැමැඳ අස්න පැවැසීමෙන් අනතුරුව 203 වන කවේ දී "බිසෝ දෙවියන්" ද 204 වන කවේ දී " දෙවි පුතුන් " ද වඳින ලෙස සැවුලාට පවසන කතුවරයා 205 වන කවේ දී "සපු සුරිඳුන්" ඉහත දැක්වුණු ලෙස සඳහන් කරන්නේය. මින් අනුමානය කළ හැක්කේ සපු සුරිඳු වනාහි සමන් දෙවි රජුන් ගේ අන්තේවාසිකයකු බව ය.



## 220



# සපුමල් බණ්ඩාර දෙවියෝ

සපුමල් බණ්ඩාර දෙවියන්ගේ ප්‍රධාන දේවාලය පිහිටා ඇත්තේ පොල්ගහවෙල නාරම්මල මාර්ගයට පිවිස මද දුරක් ගිය විට වම්පසින් පෙනෙන උඩපොළ කන්දේ ය. මෙය සත්කෝරළේ උඩදෙණි හත්පත්තුවේ උඩපොළ ඕතොට කෝරළයට අයත් මුල්ගම ලෙස සැලකේ.

මේ දෙවියන් ගේ උපත පිළිබඳව විවිධ මත ඇත. එයින් වඩා ප්‍රකට මතය නම් එතුමා ජය ශ්‍රී මහාබෝධිය ලක්දිවට වැඩමවා ගෙන පැමිණි රජ කුමරුවන් අතරින් අයකුගෙන් පැවත එන බවයි. එසේම ලක්දිවට දළදා වැඩමවා ගෙන ආ දන්ත-හේමමාලා යුවළටත් ලක්දිව අන්තිම මහ රහතන් වහන්සේ වූ මලියදේව රහතන් වහන්සේටත් ඥාති සම්බන්ධතා ඇති අයෙකු බවයි.

(1) ශ්‍රී මහ බෝධිය සමඟ පැමිණි පිරිසේ කුමරවරු හත් දෙනෙක් ද වූහ. ඉන් චන්ද්‍රගුප්ත කුමරා වීරබාහු දනවුව (කුරුණෑගල විල්බාව) ද, ධර්මගුප්ත කුමරා මොරිය දනවුව ද (නාරම්මල මයුරාවතී කෝරළය) ද, දේව ගුප්ත කුමරා මහ රැටිනා ධුරය සහිතව චතුරස්සරිය (හතළිස් පහුව - පොල්ගහවෙල) ද පදිංචි වූහ. යථෝක්ත චතුරස්සරියේ දෙවගුප්ත කුමරා පසුව උඩපළ ග්‍රාමයේ කන්ද අසළ පදිංචි විය. එහි බෝධි වෘක්ෂ රාශියක් ද වූ හෙයින් බෝවල පිටිය (පසුව බෝලපිටිය) ලෙස හැඳින්විණි. පසු කලෙක කිත්සිරිමෙවන් රජ දවස දන්ත කුමරා හා හේමමාලා කුමරිය වම් දළදා වහන්සේ රැගෙන ලක්දිවට පැමිණි පසු ඔවුහු සතර කෝරළේ කීරවැල්ලේ පදිංචි කරවන ලදහ. පසු කලෙක උඩපළ කුමාරයෙක් කිරිවැල්ලේ කුමරියක හා විවාහ වී සිටියේය. ඒ කුමරිය දරු ප්‍රසූතියකට ආසන්නව සිටිය දී මිය ගියාය. එම කුමරිය දැවූ සොහොනේ අළු අතර පසු දින ළමා කුමරියක් දක්නා ලැබිණි.

කරවූ බර                                  මෙන්
ඉකුත් වී රජ බිසොවු                       න්
ගිනි යෙක් කර                              මින්
දවා හැරි කල රාජ බිසොවු                  න්

පසුවදා උදයෙ                              නා
බැලූ කල ගොසින්                         සොහොනෙනා
රන් පිළිමයක්                              මෙනා
කෙළින කුමරිය බලා යහොබ                   නා

කුමරිය වඩා                                 ගෙනා
සෝමනෙත් දේවි                              සනා
නම් තබා මෙලෙ                              සිනා
සොළොස් අවුරුදු වයස                       සැමිණෙනා

එම සෝමනෝත්‍රා කුමරිය කුසින් අද්භූත ලෙස සපුමල් සුවඳ හමන කුමරෙක් උපන්නේ ය.

මල් වරද නොයෙදු                          නා
නො ඉඳුල් බිසව කුසයෙ                     නා
සපුමල් සුවඳ යෙ                            නා
උපන් සපුමල් සුරිඳු නම දි                  නා

(2) දෙවන කථාවට අනුව යථෝක්ත සෝමනෝත්‍රා කුමරිය විවාහ වූ පසු දරු තිදෙනකු ලැබුවාය. වැඩිමල් කුමරා චම්පකදේව ය. කුමරිය වූ දෙවැන්නි සුමිත්තා නම් වූ. තෙවැනි උපන් කුමරා මහා දේව නම් විය. චම්පකදේව බෝවලපිටියේ විසූ අතර සුමිත්තා බෝධි පාලක ග්‍රාමයට විවාහ කර දෙන ලදු. තුන්වන කුමරා වීරබා දනවුවේ මහණ විය. පසුව වට්ටාරමේ වෙහෙරට පැමිණ භාවනානුයෝගීව සිට රහත් ඵලය ලැබිය. මලියදේව නම් වූ මෙම රහතන් වහන්සේ බෝවලපිටියට අහසින් වැඩ ලා උඩ පලක් බැඳ සිය වැඩිමහල් සොහොයුරාට දම් දෙසා ඔවුන් සෝවාන් මහට පත් කර ලූ සේක. එහෙයින් එතැන උඩපළ නම් විය. මෙසේ සෝවාන් වූ චම්පකදේව කුමරා මිය ගිය පසු සපුමල් දේවතා බවට පත්විය.

මලියදේව රහතන් වහන්සේ අවසනට රෝගාතුරව වෙසෙන අවස්ථාවේ සිය සොහොයුරිය බලන්නට යෑමට අදහස් කළ බවත් එහෙත් එය ඉටු කළ නොහැකිව පිරිනිවන් පෑ අවස්ථාවේ දී එම දේහය බහාලූ, දෙන අහසින් සුමිත්තා ගේ නිවසට වැඩම කළ බවත් එවිට අන්ධව සිටි



ඇය ඇස් ලැබ සිය සොහොයුරු රහතන් වහන්සේගේ දේහය වැදගත් බවත් පසුව දෙණ නාරම්මල රජමහා විහාරයට වැඩමවා ආදාහනය කරන ලද බවත් කිය වේ. සුමිත්තා විසූ ග්‍රාමය එදා සිට දෙණගමුව නමින් ප්‍රකට විය.

(3) ශ්‍රී මහා බෝධිය සමග පැමිණි කුල 18 ක පිරිසට ක්ෂත්‍රිය කුමාරවරු 8 දෙනෙක් ද ඇතුළත් වූහ. වැඩිමහල් කුමරා බෝධිගුප්ත වූ අතර බාල ම කුමාරයා සුමිත්ත නම් විය. බෝධි ගුප්ත කුමරු සංඝමිත්තා තෙරණිය හා පැමිණි බෝධිමිත්තා සාමණේරින් සිවුරු හරවා ඇය ද, සුමිත්ත කුමරා දඹදිවින් ආ සුමනා නම් කුමරිය ද විවාහ කර ගත්හ. ගජබා, සිරිසඟබෝ, මහසෙන්, මහළු විජයබා, i වන පරාක්‍රමබාහු, vi වන පරාක්‍රමබාහු ආදීන් පැවත එන්නේ සුමිත්ත කුමරුගේ පරපුරෙන් බව පැවසේ. බෝධිගුප්ත පරපුර සත් කෝරළේ ගොඩිගමුව හෙවත් බෝධිපාලගම සහ පසුව උඩපොළ නුවර වූ බෝවලපිටියේ ද පදිංචිව සිටියහ. බෝවලපිටියේ පරපුරේ චම්පකගුප්ත දෙව නම් කුමරුට දාව දියණියන් දෙදෙනෙක් ද පුතෙක් ද උපන්හ. එක් දියණියක් නාරම්මලට ද අනෙක් දියණිය බෝධිපාල ගමට ද විවාහ කර දෙන ලද අතර පුත්‍රයා ඇතුගල පුර දී මහණ වී අරන්කැලේ සිට තවුස්දම් වඩා මලිය දේව මහරහතන් වහන්සේ බවට පත්විය.

උන් වහන්සේ ගේ පියාණන් වූ යථෝක්ත චම්පකගුප්ත දේවයන් සපුමල් බණ්ඩාර නමින් දේවත්වයට පත් වූ දින ඒ තැනට අහසින් වැඩ එහි පලක් බැඳ ධර්මදේශනා කළසේක. ඉන් පසු එතැන "උඩපොළ" නම් වූයේය.

(4) උඩපොළ පදිංචි වූ යථෝක්ත බෝධිය වඩමවා ගෙන ආ කුමාර පෙළපතේ පවුලක සොහොයුරෝ දෙදෙනෙක් වූහ. වැඩිමහල් සොහොයුරා පැවිදි වී රහත් භාවය ලැබ මලියදේව මහරහතන් වහන්සේ බවට පත්විය. බාල සොහොයුරු දඩකාරයෙකු වූ හෙයින් මව ගැසූ පහරකට කුපිතව උඩපොළ කන්දට පළා ගොස් එහි දී ජීවිතය විනාශ කර ගත්තේ ය. මෙය රහතන් වහන්සේ දිවැසින් දැක මව් ආදී ඥාතීන්ට දන්වා දේහය ආදාහනය කරවූහ. අනතුරුව සාංඝික දානයක් දී කරන ලද පින් අනුමෝදනාවෙන් පින් ලැබ සපුමල් බණ්ඩාර නමින් දේවත්වයට පත් විය.

(5) යාපා පටුන ජය ගත් සපුමල් කුමරු උලකුඩය දේවියගේ පුත්‍ර ජයබාහු කුමරා මරා බුවනෙකබාහු නමින් රජ විය. එම (සපුමල්) බුවනෙකබාහු රජ මිය ගිය කල්හි ආදහන, කටයුතු උඩපොළ දී සිදු කැරිණි. උඩපොළ තනන ලද මෙම සොහොනෙහි දින හතරකට පසුව

සපු ගයක් නැගී තිබුණු අතර එයට අධිගෘහිතව සපුමල් බණ්ඩාර දෙවියන් වෙසෙන බව ද ජනතාව දැනගත්හ. (1)

(6) මේ සියල්ලට ම වෙනස් සපුමල් බණ්ඩාර දෙවි කෙනෙකු ගැන කවි පෙලක් එච්.යූ. ප්‍රඥාලෝක හිමියන් දක්වා තිබේ.:

එම කවි පෙළ අනුව මේ වනාහි සීතා නම් රජු ගේ හා සාලිනී නම් අග බිසොවගේ පුතෙකි. ඔහු මව ගේ කුසේ සිටිය දී මවට සපුමලින් විහාරයක් කරවා එහි යහනක් ද ඉදි කර ඒ තුළ සපුමල් පැළඳ සිටීමට දොළක් ඇති විය. එය ඒ අයුරින් ම ඉටු විය. මේ දොළින් පසුව උපන් කුමරු ද සපුමලින් ම සැරසී සිටීමට අභිරුචියක් දැක්විය. එබැවින් සපුමල් කුමාරයා යන නමින් ප්‍රසිද්ධ වන්නට වනි. යකුන් වැහුණු අයට මේ දෙවියෝ පිහිට වෙති. ඔහු ගැන මෙසේ ද සඳහන් වන්නේ යඃ-

විස බැඳ බාර ය සීතා රජුන් ගේ
බියෙන් සිත තොම වීර ය සාලිනි අග මෙහෙසි ගේ
පුවත තිර සාර ය උපන් දොළ වේ ගේ
අසන් සපුමල් එ බණ්ඩාර ය කියමි දැනුමට විලස මා ගේ

සපුමලින් වෙහෙර ක් සපුමල් පැළඳ ගෙන
කරව එහි යානාව ක් යහනයෙහි සැතපී ගෙන
තබමින් එහි උද ක් දොළ දුක් නිවා ගෙන
ඉන්ට සිත් විය එ දොළ උපතක් උපන් කුමරා එ සපු මල් වන

කලින් කලට කුමරුන් වැඩෙමින් තේ
මලින් ම සපු කුමරුන් සැරසෙන් තේ
ගමින් ගමට මෙය පූජිත වන් තේ
නමින් ම සපුමල් කුමරු කියන් තේ

(90: 51-52 පි.)

පොල්ගහවෙල උඩපොළ ප්‍රධාන සපුමල් බණ්ඩාර දේවාලය ද, පොල්ගහවෙල වෙහෙරපිටියේ විද්‍යාර්ථොදය පිරිවෙන් භූමියේ තවත් සපුමල් බණ්ඩාර දේවාලයක් ද වශයෙන් මෙම දෙවියන්ගේ දේවාල දෙකකි. උඩපොළ හපුමල් බණ්ඩාර දේවාලය හා සම්බන්ධ දෙවි තුන් කට්ටුවකි.

උඩපොළ තෙද හපු බණ්ඩර දෙවියෝ
වැඩ බල දෙවතා බණ්ඩර දෙවියෝ
ගොඩලන සව් සත පත්තිනි දෙවියෝ
උඩපොළ මේ තුන් කට්ටුව දෙවියෝ



හපුබණ්ඩාර දෙවියන් ගේ එක් වම් අතෙක රන් දමක් දැමූ කළසක් ද එක් සුරතක නිල් වේවැලක් ද අනෙක් වමතෙහි රන් පුවක් මලක් ද අනෙක් සුරතේ ජය කොඩියක් ද වේ.

අත රන්දම කළස දමා නිල් වේවැල සුරත දරති
තිති පෙම්බර ආනුභාව රනින් පුවක් මලක් දරති
සුර පෙම්බර ඉර හඳ සුරතින් ජය කොඩිය දරති
සුර සූරිය උතුම් සුරිඳු මෙරහ මඩල වැඩම කරති

(1)

# 221



## සමිද්ධි සුමන දෙවියෝ

බුදු රදුන් ලක්දිව දෙවන වරට පැමිණි අවස්ථාවේ උන් වහන්සේ ට ඡත්‍රයක් මෙන් තමන් වාසය කළ රාජායතන වෘක්ෂය ද ගෙන සෙවණ සලසන ලද්දේ සමිද්ධි සුමන නම් දෙවියන් විසින් යැයි මහාවංශයේ පළමු පරිච්ඡේදයේ 52 - 54 ගාථාවල සඳහන් වේ. එසේ ම, එහි එම දෙවියන් ගේ උපත ගැන ද සඳහනක් ඇත. පසුගිය ජන්මයේ දී නාගදීපයේ මිනිසකු ව උපත ලබා සිටින කල්හි පසේ බුදු වරුනට පාත්‍රා පිරිසිදු කර ගැන්ම පිණිස කොළ අතු කඩා පූජා කළ පිනෙන් හේ ජේතවනාරාම භූමි භාගයේ වෘක්ෂ විමානයක දේවාත්මයක් ලැබීය. (එම 55, 56 ගාථා.)

සද්ධර්ම රත්නාවලියේ කාලි යැකින්නගේ කථා වස්තුවේ සඳහන් පරිදි බුදු රදුන් වැඩ සිටි දෙව්රම් වෙහෙර දොරටුව මුරකරමින් සිටියේ ද සුමන නම් දෙවි කෙනෙකි. මේ සඳහන් දෙකම එක ම දෙවියන් ගැන බව පැහැදිලි ය. සන්නි යකුමේ දී කෝල සන්නි යකාගේ ගමන අවුරන කඩවත හා සම්බන්ධ කොට එහි රැක සිටින නාථ හා සමන් දෙවිවරුන්ගෙන් සමන් දෙවි වනාහි යථොක්ත දෙව්රම් වෙහෙරේ දොරටුව සිටින සුමන දෙවියයි කියනු ලැබේ. (34:35 පි.) මේ අනුව ලක්දිව අතීතයේ සිට පැවත එන ශ්‍රීපාද කන්ද හා සම්බන්ධ දෙවියන්

'සුමන සමන්' ලෙසද දෙව්රම් **වෙහෙරේ** දොරටු පාලකයන් 'සමිද්ධි සුමන' වශයෙන් ද වෙසෙසා දැක්වෙන්නට ඇත. ('ලක් සුමන' නාමය පසුව රාම කුමරුගේ සොහොයුරු ලක්ෂමණ සමග අවුල් කර ගැනීමෙන් සමන් දෙවියන් තවත් අන්දමකින් හඳුනා ගන්නට ඇතැමුන් පෙළඹෙන්නට ඇතැයි පෙනේ.) සුමන සමන් දෙවියෝ හා 'බොක්සල් දෙවියෝ' යටතේ ද බලන්න.



## 222
## සළඹ කුමාරි දේවිය

හියු නෙවිල් විසින් එකතු කරන ලද කවි අතර 'සළඹ කුමාරිගෙ **කවි**' නම් කවි හතරක් තිබේ. (38:73 පි.)

ඇය බින්තැන්න හා සම්බන්ධ බවත්, සෙත් ශාන්ති සලසන්නියක බවත් එම කවිවලින් කියවේ.

බින්තැන්නෙත් දෙවි වඩිති    කියන්නේ
උසුලන රන් රන කැටුව    ගෙනෙන්නේ
කෙම්මර දිනයේ නැකැත්    බලන්නේ
සළඹ කුමාරී වඩිති    කියන්නේ

සළඹ දුටිම් මඩුවට    වඩමනවා
එළඹ රුසිරු මුතු මාල දිලෙන    වා
සළඹ සළු ද සුරතින් ම ගෙනෙන    වා
සළඹ කුමාරී දෙවිඳු වඩින    වා

ලීයෙන් කැපුවා වැනි මේ    සෙප්පුව
රිදියෙන් තැනුවේ වටටය    සෙප්පුව
ඉඹුලුත් හිරියල් ඊට මාත්    තුව
සළඹ කුමාරි ගෙ ගනරන් හෙප්    පුව



හිමයේ පලගති අතු අග    නාරන්
එවුවා කන්නට පැන ගති වඳු    රන්
මුහුදට දැල දැමුවා වැනි මසු    රන්
සළඹ කුමාරිය වැඩි සඳ ගන    රන්
(38 : 73 පි.)



## 223
## සැට කප්පරක් දෙවියෝ

කප්පර යනුවෙන් හඳුන්වා ඇත්තේ මුහුදු යාත්‍රා විශේෂයක් විය හැකිය. එවැනි කප්පර හැටකින් පැමිණියෝ සැට කප්පරයෝ වූහ. මේ පිරිස ලක්දිවට ළඟා වන විට විෂ්ණු, නාථ, කතරගම යන ප්‍රධාන දෙවිවරු ඔවුන්ට එරෙහි වී නැව් විනාශ කළහ. පහත සඳහන් කවි පෙළේ පෙනෙන ආකාරයට පෙර පව් කළ යක්කු නැසී ගියහ. පෙර පින් කළාහු ගොඩ බැසීමට සමත් වූහ.

සැට කප්පරක් දෙවියන් ගේ විත්තිය:-

අසන් ගුණ කිවිය    ර පෙළට නැව් සර    සා
බසින් මම දත් විසිතු    ර පිටත් වී එන විල    සා
නමින් සැට කප්ප    ර මහත් හඬ ගෝ    සා
කියමි දෙවිවරයන් ගෙ තොරතු ර වකින් එති නැව් නොයෙක් බාසා

බලයක් සෙන් රැස    ට පෙරට සැට කප්ප    ර
ගණන් කප්පර සැට ක    ට දෙවන ඒ නැව ඉස්ස    ර
නායකව වී සි    ට කරමින් එන අත    ර
එන්ට සැරසී මෙ ලක් දිපෙ    ට ගීති ගෝසා නාද නිම ක    ර

සුහද විෂ්ණු නාත ද දෙවි එදි    නේ
සුගද සමන් කදිරය එක් වෙමි    නේ
ඔහොම එන්න නොදෙනෙමි කියමින්    නේ
මුහුද මැදට ආකල නැව් රුපි    නේ



17. රමු.හි.ස. - 93939

වෙඩි හඬ ගිනි හඬ අකුණු හඬින් තෝ
ගෙඩි සැර මල්සැර සාම සැරෙන් තෝ
පොඩි සැර ඊ සැර එකට හරින් තෝ
පොඩි වී නැව් තැන තැන යට වෙන් තෝ

පීනා සිවුවරන් දෙවියො බල තදේ
සිනා වෙමින් ආ යකුගේ ඔද බි දේ
කිනා නොදැන පෙර කළ පව් පල දේ
විනාස උනි යක්සෙන් මහමුහුද මැදේ

මාස් ගණන් ආවයි මග නිම කර
දාස් ගණන් එකවිට යකු නැසු වර
ආස් උසට ගිනි වැද පෙර පින් කර
දාස් කොටට ගොඩවුනි සැට කප් පර

කැට ගල් හැර දෙව් මැඳුරට වන්නේ
රට වල් සැම තැන අණ පතු රන්නේ
වැට එක්කර සේ සීමා ලන්නේ
සැට කප්පර දෙවියෝය වඩින්නේ

(90 : 76- 77 පි.)

## 224

## සැඩ කම්බිලි දෙවියෝ



මේ කම්බිලි දෙව් තුන් කට්ටුවේ දෙවැන්නා යි. (ඉහත කළු කම්බිලි හා රත්න කම්බිලි යටතේ බලන්න.) හැඩපලු ගෙතුණු හිස කෙස්වලින් සමන්විත වූ මෙතෙමේ මදක් කළු පැහැති කම්බිලියෙකින් සැරසී සිටියේ ය. කසාගල පෙදෙසේ ඔහුගේ කෝවිල විය. කඳ කුමරුගේ අන්තේවාසිකයෙකි. ඔහු ගැන විත්තිවල සඳහන්වන්නේ මේ අයුරිනි:



කුමරුන් ගත පිළී කසාගල සිට ලා
මඳ කළු පාට බැබ ළී තම අණ පතුරුවා ලා
සැඩපලු හිස වෙ ළී සැම සෙන් බිය වෙ ලා
දෙවැනි කුමරා එසැඩකම්බි ළී ඔහුට කෝවිලක් කර පුද ලා

රට ජනි ජන සෙන් වෙන බිය පතු රා
දුටු හැම තැන තොක දෙයින් පුද ක රා
පිට පිට පුද ලැබ බිය ද දුරු ක රා
වට සැම පුරවල් වල තෙද පතු රා

ඇසින් තුදුටු අය හට බල පෑ කළී
වැසින් එපුර ඔහු හට දෙති බලි බි ළී
සැණින් එජනපද රෝදුක් දුර ළී
රැසින් පැතිර අණ පෑ සැඩ කම්බි ළී

ගසා රැලට බිය කර පන්නා අලි
වසා ගෙලට මඳ කළු සැඩ කම්බි ලි
නසා ලෙඩට යකු පලවා හැර ලි
කසා ගලට බල වැඩි සැඩ කම්බි ලි

තේව කරති කඳ කුමරුගෙ මල් සැ ර
ලේවායෙන් මුගුරු ද ගෙන මුර ක ර
පේම ඇතිය කැටයම් වැඩ රූ බ ර
දේව සබාවෙන් ගෙන යති යමු ගු ර

(90 : 68 - 69 පිටු)

## 225

## සිද්ද පරකාර දෙවියෝ



මෙම දෙවියන් කතරගම් පුර වාසල පිහිටි දෙවොලක හිඳිමින් එය මුර කරන බව හියු නෙවිල් එකතු කළ කවි අතර ඇති 'කන්ද මාලේ' නම් කවි පෙළේ දැක් වේ. (161, 3 : 354-56 පිටු)

## 226



## සියඹලා රුක් දෙවියෝ

මොනරාගල සමීපයේ පිහිටා ඇති වත්තේගම විහාරය අසල සියඹලා රුක් දෙවොල යනුවෙන් හැඳින් වෙන දේවාලයක් ඇත. මෙහි වූ ඉපැරණි සියඹලා ගසට අධිපති දෙවියන් උදෙසා මේ දෙවොල ඉදි වී ඇති බැවින් එයට ඒ නම ලැබී ඇතැයි සිතිය හැකිය. වෘක්ෂ දේව සංකල්පය මෑත අතීතය දක්වා ම ගැමියන් අතර මුල් බැස තිබුණු බවට මෙය හොඳ සාධකයෙකි. ඉහත කී වෘක්ෂය නිසා ම ඒ අවට පෙදෙසත් "සියඹලාව" යනුවෙන් හැඳින් වේ. ඒ අවට කැලය "දෙවියන් ගේ කැලය" යනුවෙන් ද හඳුන්වනු ලැබේ. (76 :139 පි.)

## 227



## සිරියා දේවී

හියු නෙවිල් විසින් එකතු කරන ලද කවි පන්ති අතර ඇති "සිරියා දේවි" නම් කවි 25 ක් තිබේ. (161, 2 : 104 පි.) . මීට අමතරව "ශ්‍රියා කාන්තාවට කවි" නමින් කවි 10 ක කවි පෙළක් ද ඔහු විසින් එකතු කැරුණු කාව්‍ය සමුච්චයේ තිබේ. (38 : 71-72 පිටු)

යහපත හා සෙත් ශාන්තිය සලසා ලන සිරියා දේවි කන්‍යාවකි. වරලස මනාව පීරා අලංකාර ලෙස හැද පැළැඳ මල් මාලා චාමර සහිත ව මල්



දොරකින් පෙරදිග දෙරටුවෙන්, ඈ වඩින බව කියැවේ. මෙම දෙවිය සම්බන්ධ සුබ දායක සංකේත විශේෂ අවධානයට යොමු විය යුතුය. ලක්ෂ්මී, ගණපති ආදි දෙවිවරුන්ගේ වරම් ලබමින් පත්තිනි දෙවිය විසින් ගංගාවේ පැති දෙකට බෙදා සලස්වන ලද මාර්ගයෙන් සිරියා දේවිය වඩින්නීය. ඇය සියලු දෝස දුරු කරන පන්දම් අවුළුවන ලද්දේ පත්තිනිය පඩිපුර ගිනි ශූ අවස්ථාවේ එම ගින්නෙනි.

දකුණු අතේ ඉර සඳ රේකාව පෙනෙන වා
දකුණු උරේ මල් ගෝමර පියුම් නැගෙන වා
දකුණු අඩිය තබා ජනෙල් දොරෙන් වඩින වා
දකුණු දිගින් මල් පුටුවට වැඩම කරන වා

නීල චන්ද්‍ර රේඛාවෙන් මුකුළු කරනවා
දෑල වරේ මිණි තිල්වැට පවන සලනවා
ආල වඩන රතු ඔසරිය දෙවුර වසනවා
කෝල නැතුව මල් පුටුවට වැඩම කරනවා

සොල්වා පියයුරු දෑලේ දෙකනත් ඔමරී
ගල්ලා චන්දන පිනිදිය රතු රන් මිහිරී
අල්ලා සුදු රන් සලු දෙක ඇඳ ගෙන ඔමරී
සොල්ලා දෙපයේ ගිගිරින් එන කල ඔමරී

ඉරට මුවා වී ඉඳගෙන ඉස පීරනවා
සඳට මුවා වී ඉඳගෙන සළු පළඳිනවා
අතට ගෙන කුටිනි තුල් වැට පවන් සලනවා
කෝල නැතුව මල් පුටුවට වැඩම කරනවා

නැගෙන හිරේ මල් දොරින් වඩිනවා
අඳින සළුව රන් දමෙන් ගොතනවා
දමන ඔහොරි තිල් කවනි දිලෙනවා
වඩින ලකුණු සුරිය පායනවා

බඳේ ඉසුණු පෙති ගෝමර දෑළට
සඳේ ඇන්ද ලපසේ දිසි පෑයට
විදේ පහස නෑන රකිනා සීලෙට
ළඳේ ඉතින් සිරියා කත එනවට

උරබඳ රන් තිල් රේකාවට කැර කේනු
ඉර හඳ රේකා දකුණත කැර කේනු
තදකර මිණි පටිය එ මල් සළුව පළ දීනු
පරහඳ ගෙන දෙපයෝදර සඳුන් නව රනු

හොල්ලා පියයුරු යන එන
ගල්ලා වන්දන පිනිදිය — ඔමරී
අල්ලා සුදු සළු රුසිරෙන් — සපිරී
සල්ලා පය සිරියා කත — ඔමරී
ඔමරී
(38 : 68-72 පිටු)

ඉහතින් "විදේ පහස නැත රකිනා සීලෙට" යනුවෙන් මැය කන්‍යාවියක් බව කියැවේ. මේ අතර විෂ්ණු දෙවියන් ගේ භාර්යාව වන ලක්ෂ්මිය සම්පතට, භාග්‍යයට ඓශ්වර්යට, ශ්‍රී සමෘද්ධියට, ශෝභාවට අධිපතිනිය වශයෙන් ශ්‍රී කාන්තාව හෙවත් සිරි දේවිය යනුවෙන් හින්දු පුරාණ කථාවන්හි සඳහන් වන්නීය. (19 : 54-55 පිටු) සිංහල විශ්වාසයන්හි එන සිරියා දේවිය යථොක්ත විෂ්ණු ප්‍රියාම්බිකාව නොවන බව මින් පෙනේ.



## 228
## සිල්පොලගම ගොඩේගෙදර දෙවියෝ

මොහු මිය ගිය ගම් නායකයකු බව පැහැදිලි ය. ගමේ දියුණුවට ගොවිතැන් දියුණුවට කටයුතු කළ ගම් නායකයන් දේවත්වයේ ලා සැලකීමට ගැමියන් පුරුදු ව ඇත්තේ කෙළෙහි ගුණ සැලකීමක් වශයෙන් විය යුතුය. බිබිලේ කොටබෝව දේවාලයේ ගොඩේගෙදර දෙවියන් පුදන බව සඳහන් වේ. (86 : 209 පි.)





## 229
## සිව්වරම් දෙවිවරු

සිව් දිසාවට අධිපති දෙවිවරු සිව් දෙනා සිව්වරම් දෙවිවරු ලෙස හැඳින් වෙති. මහාසමය සූත්‍රයේ එම අදහස සඳහන් වන්නේ මේ ලෙසිනි.

පුරිමං දිසං ධතරට්ඨො - දක්ඛිණෙන විරූළ්හ කො
පච්ඡිමෙන විරූපක්ඛො - කුවෙරො උත්තරං දිසං (24 : 200 පි.)

ගන්ධර්වයන් හට අධිපති වූ ධෘතරාෂ්ට්‍ර දෙවියෝ පෙර දිගට අධිපති ලෙස සැලකෙති. ඔහුට ඉන්ද්‍ර නම් වූ බොහෝ පුත්තු සිටිති. දකුණු දිසාවට අධිපතියා විරූළ්හ හෙවත් විරූඪයි. ඔහු කුම්භාණ්ඩයන් ගේ අධිපතියා වන්නේ ය. ඔහුට ද ඉන්ද්‍ර නම් බොහෝ පුත්තු වෙති. බටහිර දිසාවට අධිපතියා විරූපක්ඛ හෙවත් විරූපාක්ෂයි. ඔහු නාගයන්ගේ අධිපතියාද වේ. ඔහුට ද ඉන්ද්‍ර නම් වූ බොහෝ පුත්තු වෙති. උතුරු දිශාවට අධිපතියා කුවේරය. මොහු යක්ෂයන් ගේ අධිපතියා වෙයි. ඔහුට වෙස්සවණ හෙවත් "වෛශ්‍රවණ" යනුවෙන් ද "නරවාහනො" යනුවෙන් ද නම් ඇත. ඔහු නරයකු වාහන කොට සිටින බව ඉන් හැඟේ. ඔහු ගේ නගරය ආලකමන්දාව හෙවත් අලකා පුරය ය. ආයුධය ගදා නම් වේ.

සිව් දිසාවට අධිපති මේ ලෝකපාලක දෙවිවරුන් බුදුරජාණන් වහන්සේට සේවා කරන්නවුන් ලෙස සැලකීම බෞද්ධ සම්ප්‍රදාය වූ අයුරු අනුරාධපුර යුගයට අයත් නටබුන් වලින් පැහැදිලි වේ. ව්‍යා. ව. අටවන සියවසට අයත් මිහින්තලේ චෛත්‍යයක ධාතුගර්භය පුරාවිද්‍යාඥයන් විවෘත කළ අවස්ථාවේ එහි සතර දිශාවට අයත් බිත්ති හතරේ ලෝක පාලක දෙවිවරුන් රූප ගත කොට තිබිණ. (140 ඒ : 74 පි.) මේ අවධියෙහි දී විහාරාරාමයන්ට සිව් දිශාවෙන් ඇතුළුවන දොරටුවල යථෝක්ත ලෝකපාල දෙවිවරුන් ගේ රූප නිධන් කිරීමේ චාරිත්‍රයක් තිබුණු බව ද පෙනේ.

ලක්දිව ආරක්ෂා කරන්නා වූ සතරවරම් දෙවිවරුන් පිළිබඳ විශ්වාසය පළමු වරට අසන්නට ලැබෙන්නේ ගම්පළ යුගයේ දී එනම් ව්‍ය. ව. 14

වන සියවසේ දී පමණ ව්‍ය. ව. 1390 දී පමණ රචිත නිකාය සංග්‍රහයේ "සිරි ලක අරක් ගත් කිහිරෙලි උපුල්වන්, සමන් බොක්සැල, විභීෂණ, ස්කන්ද කුමාර යන සතරවරම් මහරජුනට" යනුවෙන් සඳහන් වේ. (80 : 26 පි.)

මීට මඳක් මෑත අවධියක විෂ්ණු, නාථ, සමන්, කදිර යන දෙවිවරුන් ලක්දිවට අරක් ගත් සිව්වරම් දෙවියන් ලෙස සැලකී ඇත. (සැට කප්පරක් දෙවියෝ යටතේ බලන්න.) ගම්පළ යුගයේ දී ම රචිත ඇතැම් කඩඉම් පොත්වල ලක්දිව අරක්ගත් දෙවියන් තුන් දෙනකු ගේ නම් පමණක් සඳහන් වේ.

විභීෂණ සමන් විෂ්ණු ගෙ තෙද මෙලක ට
රජ කළ දවස සිරිලක බෙදුණේ තුන ට
රුහුණ පිහිටි මායා රට තුනක් කො ට
මෙලකට ත්‍රි සිංහල නම් වේ එදා සි ට

(15 : 36 පි.)

අනුපිළිවෙළින් ගතහොත් රුහුණට විභීෂණ ද, පිහිටි රටට සමන් ද, මායා රටට විෂ්ණු ද, යනුවෙන් ගතයුතු වේ. එහෙත් "සතර කෝරළේ විත්තිය" නම් විත්ති පොතේ ඇති අදහසක් අනුව " සකල ශ්‍රීන් සමෘධි සම්පන්න වූ මේ ලංකාද්වීපයෙහි රුහුණු, පිහිටි, මායා යන තුන් රටක් ඇත්තේ ය. රාම රජ්ජුරුවෝ යුධ කොට රාවණා නසා ජය ගෙන මේ තුන් රට විභීෂණ දෙවියන්ටත් සමන් දෙවියන්ටත් භාරදුන්නේ ය". (15: 37 පි.)

කෝට්ටේ යුගයේ පැවැති විශ්වාසය අනුව උපුල්වන් සුරිඳු මුල් කොට සමන් බොක්සැල්, සවත් සුරිඳු (කතරගම) විභීෂණ යන දෙවිවරුන් ලක්දිව ප්‍රධාන දෙවිවරුන් ලෙස සලකනු ලබන බව හංස සන්දේශයේ 198 වන දසපද හැල්ලෙන් ප්‍රකාශ වේ.

අන්තිම රාජධානිය සෙංකඩගල නුවර පිහිට වූ පළමුවන විමලධර්මසූරිය රජතුමා (ව්‍ය. ව. 1592-1604) විසින් දළදාමැදුර සමඟ සිව්දේවාල කරවන ලදී. මෙම සිව්දේවාල පිහිටුවීම ගැන මන්දාරම්පුර පුවතේ 93 වන කවෙහි සඳහන් වෙතත් ඒ දේවාල කවරේ දැයි සඳහන් කර නැත. දහසය වන සියවසේ අග භාගයේ දී මහනුවර දෙවන රාජසිංහ රජ දවස (1660 සිට 1679 දක්වා) එහි සිරකරුවකුව සිටි රොබට් නොක්ස් විසින් ලියන ලද විස්තරයේ සඳහන් පරිදි එදා ඇසළ පෙරහර පවත්වා ඇත්තේ



අලුත් නුවර දෙවියන්, කතරගම දෙවියන් හා පත්තිනි දෙවියන් උදෙසාය. (155 : 126 පි.) දහ අටවන සියවසේ මුල භාගයේ දී ලියැවුණු **වදන් කවි පොතට** අනුව එදා ප්‍රධාන දෙවිවරුන් ව සිටියේ කතරගම, නාථ, උපුල්වන්, විභීෂණ, පත්තිනි යන පස් දෙනා යි. මේ සියවසේ ම අග දී රචිත යැයි සැලකෙන **දොරකඩ අස්න හා අනුශාසනාවේ** දී "ශ්‍රී ලංකාවට අධිගෘහිත සතර දේවාලයෙහි දෙවි මහ රජ දරුවන් " ලෙස උපුල්වන්, සුමන, කාර්තිකෙය, විභීෂණ යන දෙවිවරු සඳහන් වෙති. (24 :287 පි.) එහෙත් මහනුවර රාජධානිය අවසන් වන විට සිව් දේවාල ලෙස පැවතියේ නාථ, විෂ්ණු, කතරගම, පත්තිනි යන දේවාල බව ප්‍රකටය. අද දක්වා ම ඇසළ පෙරහැරේ දී දළදා මාලිගාවේ පෙරහර ප්‍රමුඛ කොට යථෝක්ත සිව් දේවාලයන්ට ඉහත අනු පිළිවෙලින් පෙරහර කරනු ලැබේ.

හියු නෙවිල් විසින් එකතු කරන ලද කවි පත්ති අතර ඇති "නාමල් කුමාර කවි" පෙළක සිව් දිසා වන්ට අධිපතීහු මෙසේ සඳහන් වෙති:

නැහෙනහිරට ගිය පලුකම් ඉත් තේ
කාටද දළුමුර දෙන්න පැවැත් තේ
විෂ්ණු දෙවිඳු හට දෙන්ඩ පැවැත් තේ
විෂ්ණු දෙවිඳු ගෙන් අවසර ගත් තේ

මේ ආකාරයෙන් උතුරු දිග නාථ දෙවිඳුගෙන් ද, අවරදිග කතරගම කන්ද කුමරුගෙන් ද, දකුණු දිග පත්තිනිගෙන් ද දළුමුර දී අවසර ගැනේ. (37 :147 පි.) මෙම කවි පන්තිය දහ අටවන සියවසට පමණ අයත් වූවක් බව පෙනේ.

ගණනාථ ඔබේසේකර විසින් වාර්තා කොට ඇති පරිදි වර්තමානයේ පහතරට ශාන්තිකර්මයන්හි හතරවරම් දෙවිවරුන් ලේස සැලකෙන්නෝ විෂ්ණු, නාථ, සමන්, කතරගම යන දෙවිවරු ය. එහෙත් විභීෂණ, පත්තිනි දෙවිවරු ද මේ සමඟ ම සඳහන් කරනු ලබති. (166 : 3 පි.) එබඳු අවස්ථාවල දී "සිව්වරම්" යන විශේෂණය යෙදෙනුයේ "ප්‍රධාන" නැතහොත් "වැදගත් ම" යන අරුතෙනි. සංඛ්‍යාව මෙහි දී වැදගත් නොවේ.



## 230
## සුදසුන් දෙවියෝ

පරෙවි සන්දේශයේ පරෙවියාට පාණදුරේ වූ සුදසුන් දෙවොලේ රාත්‍රිය නැවතී උදෑසන එ දෙවියන් වැඳ ගමන් කරන්නට අණ ලැබේ.

තද තෙද පැවැති යුගතග විලසින් නිබඳ
සඳ න ද කරන විලසින් මද රදෙක බඳ
බඳ අ ද රින් වැඩ සිදුවන ලෙස ලො බඳ
යැද සු ද සුන් දෙවිඳු ද යා ගත් සබඳ
(81 : 55 කව)

මෙහි "සුදසුන් දෙවිඳු" යනුවෙන් හැඳින් වෙන්නේ කවරෙක් ද යන්න පැහැදිලි නැත. විෂ්ණුගේ චක්‍රායුධය සුදර්ශන නම්. එහෙයින් මේ විෂ්ණු දෙවිඳු යැයි ඇතමෙක් කියති. "සුදර්ශන" යනු ඊශ්වරයාට යෙදෙන නමක් ද වන හෙයින් මේ ඊශ්වර දෙවියන් යැයි සමහරෙක් සිතති. (81 : 108 පි.) තවත් ඇතැමකුගේ මතය වන්නේ මේ "සුද්ද සූනියන්" දෙවියන් බවයි (118 අ : 81 පි.).



## 231
## සුමන සමන් දෙවියෝ

බැහැරින් නොපැමිණි ලාංකික ප්‍රභවයක් ඇති දෙවිවරුන් අතර ලා ගිණිය යුතු සුමන සමන් දෙවියන් ගැන පළමු වරට අසන්නට ලැබෙන්නේ



බුදුරජාණන් වහන්සේ ගේ ප්‍රථම ලංකාගමනය හා සම්බන්ධවය. මහියංගණය වෙත සිදු වූ එම ගමනේ දී සුමනකූට වාසී සෝවාන් ඵලයට පත් මහා සුමන නම් දෙවියන් පූජ්‍ය වස්තුවක් ඉල්ලා සිටි හෙයින් බුදු රදුන් හිස පිරිමැද හිස කෙස් මිටක් ඔවුනට දුන් බවත්, දෙවියන් එම කේශ ධාතු බුදු රදුන් වැඩ උන් තැන තබා ස්තූපයක් ගොඩ නැඟූ බවත් මහාවංශයේ පළමුවන පරිච්ඡේදයේ 33-36 ගාථාවල කියවේ. මේ අනුව ලක් පොළොව මත පිහිටුවන ලද ප්‍රථම ස්තූපය මහියංගණ ස්තූපය වේ. එම ස්තූප භූමියේ සමන් දේවාලයක් ද ඇත.

බුදු රදුන් ගේ තෙවන ලංකා ගමනේ දී යථොක්ත දෙවියන් ගේ ඇරයුමෙන් සුමනකූට මස්තකයෙහි ශ්‍රීපාද ලාංඡනය පිහිටුවා ලූ බව ද එහි 77 වන ගාථාවේ සඳහන් ය. මහනුවර සමයේ දී රචිත යැයි සැලකෙන පුරාණ සමනළ ගමන් විස්තරයේ එම සිද්ධිය මෙසේ විස්තර වේ.

සුමන සමන් දෙවි වැඳ බැස එම විට
මුනිඳුට ආරාදන කර නම කොට
ඔබ ගෙ පතුල මට නිතර වඳින් නට
තබනුව මාගේ විමන එ ගිරි පිට

මතු ශ්‍රීපාද වන්දනාවේ එන නරයන්ට වන වෙහෙස ගැන බුදු රදුන් සඳහන් කළ කල්හි "සියලු ම අනතුරු මම දුර හරවමි" යයි සමන් දෙවි පිළින කළ හෙයින් උන්වහන්සේ පාද ලාංඡනය පිහිටුවන ලදහ (එම: 70-72 කවි).

මෙම සුමන සමන් දෙවියන් "සමන් බොක්සැල්" "මහා සුමන", "යක්ඛ සුමන" යනාදී නම්වලින් ද හැඳින් වෙන අතර සමිද්ධි සුමන යනුවෙන් හැඳින් වෙනුයේ වෙනත් දෙවි කෙනකු බව පෙනේ. (එම නම යටතේ බලන්න.) මේ සුමන සමන් දෙවියන් ගේ ප්‍රභවය ගැන අදහස් කිපයෙකි. එකක් නම් බුදුරජුන් ලක්දිව වැඩම කරන අවස්ථාවේ මෙහි සිටි ජනප්‍රධානයකු බව ය. (56 : 147 පි.). තවත් මතයක් නම් මේ සමන්ත භද්‍ර නම් බෝධි සත්වයන් බව ය. සමන්ත කූටයට අධිපති වූයේ සමන්ත භද්‍රය යන්න මේ සම්බන්ධයෙන් ඉදිරිපත් කැරෙන අදහසකි. (56 : 148 පි.). තෙවන මතය නම් රාම කුමරුන් ගේ සොහොයුරු ලක්ෂ්මණ බව ය. මේ හැඳින්වීම හවුනි පැරකුම්බා යුගයට අයත් සපරගමු මහසමන් දේවාල සන්නසින් ද තහවුරු වේ. (56 : 49 පි.) සමන් දෙවියන් ගැන පරණවිතාන මහතා දක්වා ඇති අදහස නම් ඒ වනාහි පුරාණ වෛදික දෙවිවරයකු වන "යම" බව ය. දීඝනිකායේ ආටානාටිය සූත්‍රයේ සඳහන් වන "යක්ඛ සුමන" මේ දෙවියාම යැයි ඔහු පෙන්වා දී ඇත. (170) මෙම

පරණවිතාන මතය පහදුවෙප් ඉවත් කළ හැක්කක් නොවන බව ආචාර්ය එස්. ජී. සමරසිංහ පෙන්වා දී ඇත (125 අ).

වර්තමානයේ සමන් දෙවියන් පිළිබඳ විශේෂ සැලකිල්ලක් දැක්වෙන්නේ සබරගමු පළාතේ පමණි. එහෙත් කෝට්ටේ යුගය වන විට මේ දෙවියන් ලක්දිව සතර වරම් දෙවිවරුන් අතුරෙන් කෙනකු ලෙස පිළිගෙන තිබිණි. හංස සන්දේශයේ 198 වන කවෙහි මෙසේ පැවසී ඇත්තේ එහෙයිනි.

| | |
|---|---|
| මහක් නෙදැසි උල්වන් සුරිඳු මුල් | කොට |
| දිමුත් සමන් බොක්සල් සුරිඳු නෙත් | කොට |
| සවත් සුරිඳු විබිසණ ඈ සුරන් | හට |
| පිරිත් කියා පින් දී සිත සතුටු | කොට |

දඹුලු විහාරයේ සමන් ප්‍රතිමාවක් ද. අලවතුගොඩ වැනි ස්ථානයන්හි පැරණි සමන් දේවාල ද පිහිටියේ ඒ හේතු කොට ගෙන ය.

සමන් දෙවියන්ට විශේෂ පුද පූජා පැවැත්වීම පිළිබඳ ඓතිහාසික වාර්තා අතුරෙන් වැදගත් එකක් වන්නේ දෙවන පරාක්‍රමබාහු රජතුමා (ව්‍ය. ව. 1236-70) විසින් දෙව ප්‍රතිරාජ අමාත්‍යයන් ලවා සමනොළ යන මාර්ගය සකස් කරවීමේ සිද්ධියයි. මෙහි දී එම අමාත්‍යවරයා ගඟසිරි පුරට ගොස් එහි සර්වාංග ලක්ෂණ ඇති සමන් දෙව් රුවක් නිමවා ලූ බවත් පසුව එම දෙව්රුව ගෙන සමන්කුළ නැඟ එහි පිහිටවූ බවත් මහාවංශයේ 86 වන පරිච්ඡේදයේ 30-36 ගාථාවන්හි සඳහන් ය. සමන්කුළ මළුවේ ඇති ඉපැරණි සමන් දේවාලය මහාපරාක්‍රමබාහු රජතුමන් (ව්‍ය. ව. 1153-86) විසින් කරවන ලදැයි කියැවේ (53: 48 පි). රත්නපුරයේ මහසමන් දේවාලය කරවන ලද්දේ දෙවන පැරකුම්බා රජුන් විසින් ආයඪකාම දේව නම් අමාත්‍යවරයා ලවා ය (56 : 150 පි.). අනතුරුව කෝට්ටේ හවන පැරකුම්බා සමයේ දී (ව්‍ය. ව. 1412-67) යථෝක්ත ආර්යකාම දේවගේ පරපුරෙන් ආ නීලපෙරුමාල් නම් බමුණු පඬිවරයා ලවා දෙවොල පිළිසකර කරවා නින්දගම් පිහිටුවා පුද පූජා තිර කරන ලද බව ප්‍රකට ය (53 : 83-90 පිටු). සමන් දෙවියන්ට භාරතීය ස්වරූපයක් ගන්වමින් ඔවුන් රාම සොහොයුරු ලක්ෂමණ හා සම්බන්ධ කිරීම වැනි ප්‍රවණතා මෙම අවධියේ දී ප්‍රබල වන්නට ඇත.

සමන් දෙවියන් වෙත යැවෙන ප්‍රථම සන්දේශය වන සැවුල් අස්න අලගියවන්න මුකවැටි විසින් රචනා කර ඇත්තේ සීතාවක පළමුවන රාජසිංහ රජ දවස ය (ව්‍ය. ව. 1582-93). රාජසිංහ සපරගමු මහ සමන් දේවාලයට ද අනුග්‍රහය දක්වා තිබේ. ඒ රජු ශිවාගමය වැළඳ ගත් පසු ශ්‍රීපාදස්ථානය ද ශිව භක්තිකයන් අතට පත් කැරිණි. රාජසිංහ යුගයෙන්



පසු පෘතුගීසීහු සීතාවක රාජධානිය තමන් සතු කරගෙන සමන් දෙවොල ද විනාශ කළහ. ඔවුහු එහි බළකොටුවක් ද ඉදි කළහ. එම දේවාල භූමිය ඔවුන් ගෙන් මුදා ගෙන දේවාලය යළි ගොඩ නංවන ලද්දේ දෙවන රාජසිංහ (ව්‍ය. ව. 1635-87) විසිනි. අනතුරුව කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමා විසින් කුට්ටාපිටිය තඹ සන්නසේ දැක් වෙන පරිදි බු.ව. 2294 දී (ව්‍ය. ව. 1752) ශ්‍රී පාද ස්ථානයට විශේෂ අනුග්‍රහ දක්වා ඇත. සමන් දෙවියන් ගේ ඡවි වර්ණය කහ හෙවත් රන්වන් ය. අතෙහි උත්පලයක් හා තවත් මතයකට අනුව දඹුලු විහාරයේ ඇති සමන් ප්‍රතිමාව මෙන්, වරද මුද්‍රාව සහිතව බෝධිසත්ව විලාසයෙන් එම දෙවියෝ පෙනී සිටිති (52 : 81 පි.) සමන් දෙවියන් යම දෙවියන් හා සම්බන්ධ කොට දක්වන පරණවිතාන මතයට අනුව සමන් දෙවියන් ගේ වර්ණය පච්ච හෙවත් කොළ පාට ය. එම දේවීගේ වාහනය සුදු ඇතකු බව පොදුවේ පිළි ගැනෙන්නකි.

සමන් දෙවියන් හා ශ්‍රීපාද වන්දනාව අතර විශේෂ සබඳතාවක් පවතී. මේ බව ශ්‍රීපාද වන්දනා සමය පිළිබඳ වතාවත්හි මනා ව පිළිබිඹු ව ඇත. උඳුවප් පෝදා ඇරඹෙන වාර්ෂික සිරිපා වන්දනා සමය වෙසක් පෝයෙන් අවසන් වේ. චිරාගත චාරිත්‍රය අනුව උඳුවප් පොහෝ දින සුබ මොහොතින් සමන් දෙව් රුවක් සිරිපා මළුව වෙත වඩමවා ගෙන යනු ලැබේ. දැවයෙන් කළ මේ ප්‍රතිමාව කීර්ති ශ්‍රී රජ දවස කැරුණකැයි එක් මතයක් පවතින අතර (53 : 49 පි.) අනෙක් මතය නම් එය දෙවන පැරකුම්බා දවස කරවන ලදැයි සඳහන් වන ප්‍රතිමාව බව ය (108 : 57 පි.). ප්‍රතිමාව දැන් වැඩම වන්නේ පැල්මඩුල්ලේ ගල්පොත්තාවල පන්සලෙනි. එහෙත් මෑතක් වන තුරු එය පලාබත්ගල රජමහා විහාරයේ සමසක් තබා එ තැනින් සිරිපා මළුවට ගෙන යන ලදි (53 : 49 පි.).

සමන් දෙවියන් හා සම්බන්ධ ප්‍රධාන පෙරහර දෙකකි. මහියංගණේ හා සබරගමුවේ මහ සමන් දේවාලවල කෙරෙන මේ පෙරහර දෙක ම ඇරැඹෙන්නේ මහනුවර ඇසළ පෙරහර අවසාන වූ පසු ව ය. සබරගමුවේ සමන් දේවාලයේ පෙරහර කොටස් පහකින් යුක්තය. එනම්, දළදා පෙරහර, බිසෝ පෙරහර, පත්තිනි පෙරහර, සමන් පෙරහර, නරදේව පෙරහර යනුවෙනි. බිසෝ යනුවෙන් හැඳින් වෙන්නේ සමන් දෙවියන් ගේ අක්කා වන 'මහ ලොකු අක්කා' යැයි මහියංගණ වැසියන් අතර විශ්වාසයක් තිබේ (108 : 58 පි.).

සුමන සමන් යනු උපුල්වන් සුරිඳුන්ගේ මලණුවන්ය යන විශ්වාසයක් ද ඇත. (ඉහත 413 පිටුව බලන්න.)





# 232
# සූනියම් දේවතාවා

ශූන්‍ය කර්ම නැති නම් විනාශ දායි ක්‍රියා කරන්නා යන අරුතින් සූනියම් යන්න නිපන් සේ සැලකිය හැකි ය (134 : 1079 පි.). පළමුව යකකුව සිටි මේ දෙවියා පසු ව දේවත්වයට පත්ව ඇත. පූර පක්ෂයේ දී දෙවියකු ලෙසත් අව පක්ෂයේ දී යක්ෂයකු ලෙසත් සලකනු ලබන මොහු යක්ෂ අවස්ථාවේ දී හිසේ ගිනි කබලක් සහිතව සංකේතවත් කෙරේ. මුවේ සර්පයෙකි. සූනියම් දෙව් ලෙස දැක්වෙන අවස්ථාවේදී සුදු වතකින් සැරසී සිටින ආකාරයටත්, ගෙලේ සහ අත්වල නාග රූ ඇති ලෙසටත් නිරූපණය කරන අතර අතේ සෝලු වැලකි. ඔහුගේ වාහනය අශ්වයෙකි. තවත් තැනෙක ඔහු සුරතින් උල් කටුවක් හා තල් කොළයක් ද අනෙක් අතින් හෝල් කෝටුවකුත් ගෙන සිටින බව කියැවේ. (161, 2 : 225 පි.). මේ දෙවියන් සාමාන්‍යයෙන් හැඳින්වෙන්නේ සැඩ පරුෂගති ඇත්තකු වශයෙනි. පිච්චමල් සුවඳ හමන සිරුරක් ඇතැයි කියන මොහු රාත්‍රියේ ගමේ සංචාරය කරතැයි යනු ගැමි ජනතාව තුළ පවත්නා දැඩි විශ්වාසයයි. ඒ නිසා මේ දෙවි ගම්භාර දෙවි යනුවෙන් ද හඳුන්වනු ලැබේ. රාත්‍රියේ ගමේ සැරිසරන මේ දෙවියා වෙනුවෙන් පහනක් දැල්වීම පැරණි සිරිත විය. දැන් නම් ඒ සිරිත කෙමෙන් අභාවයට යමින් පවතී. 'මල්වත්තේ බණ්ඩාර' යනුවෙන් ද නම් කර ඇති මේ දෙවියා අපිරිසිදු ස්ථානවල සැරිසැරීම නොකරන බවත්, බුරමින් ඔහු වෙත කඩා පනින බල්ලන් හට ඔහු ගේ අතේ ඇති සෝලු ලීයෙන් පහර දෙන බවත්, එවිට කොන්ද පණනැති වී යන එම බල්ලන් මිය යන බවත් ගැමියන් අතර පවත්නා විශ්වාසයකි.

හූනියම් යක්ෂයා "ඔඩ්ඩිස යකු" ලෙස ද හඳුන්වා තිබේ. ඔඩ්ඩිය, වඩිග පුරයේ විවිල රජු ගේත් තිමලා දේවිය ගේත් පුතෙකි. ඔහුට "සත් ජම්මේ ඔඩ්ඩිය" යැයි ද කියනු ලැබේ (161, 1 : 89 පි.) එයට හේතුව පළමුව මහකෙළ නාග රාජයා ගේ දකුණු නාස්පුටෙන් උපන්නාට පසුව (වම් නාස පුටෙන් සන්නි යකා උපන්නේය) ගරුඬ ඔඩ්ඩිස, දෙමළ ඔඩ්ඩිස,



වෙළඹි ඔඩ්ඩිස, ගොපලු ඔඩ්ඩිස යනුවෙන් ද අවසන රජ පවුලේ උපන් විට රාජ ඔඩ්ඩිස යනුවෙන් ද උපත ලැබීමය (161, 1 : 34 පි,). හේ උතුරු දෙසේ ගව්වක් උස තුඹසක විමානයක් කරවා වසන විට එහි උන් නාග රාජයන් දෙ දෙනකු අල්ලා දැතේ වෙළා ගත්තේය. පසු ව සාගලි පුර රජුට පෙනී ඔහු බිය ගන්වා ලෙඩ කර ලීය. සෑමින් විසින් නිර්දිෂ්ට පරිදි ඔඩ්ඩිසයන්ට පූජාවක් කිරීමෙන් ලෙඩ සුව විය. ලක්දිව පඬුවස් නිරිඳුට ද ඔහු ලෙඩ කර විය. ඒ අවස්ථාවේ ඔඩ්ඩිස දිවි සමක් පැළඳ දෙකන්හි සුදු තෝඩු ලා ගෙන, මුළු සිරුරම නයින් වෙළා ගෙන, රන්වන් වෘෂභයකු අරා, සැඩපලු ගෙතුණු හිස හා වමතේ අග්නිය ද දකුණතේ වඩිග කඩුවක් ද දරා සිටියේ ය (161, 1 : 34-35 පිටු).

හියු නෙවිල් දක්වන තවත් ඔඩ්ඩිය විස්තරයකට අනුව ඔඩ්ඩිස රතු කම්බිලියක් හැඳ කළු ගොනකු හෝ අසකු අරා සිටින බව කියැවේ (161, 2 : 322 පි.). මෙම කවිවල දෙමළ වචන දක්නා ලැබීම විශේෂයෙකි.

වර වර හසකර දරමින් නෝරි එල්ලුම් — තෝවා
හර හරගින් නාහියෙන් ගිනි දෙපය ඉගිල — වාවා
බල පාමින් යොදුන් උසට බීත කරයි — ඒවා
මෙ රහ යුදට බල පාමින් ඔඩ්ඩිස නම්බි — වාවා
(එම)

ජනප්‍රවාදයෙහි එන තවත් සූනියම් හෙවත් ඔඩ්ඩිය උපත් විස්තර කීපයක් පහත දැක්වේ. සූනියම් උපත විවිධාකාරයෙන් දැක්වී ඇති අයුරු ඉන් පෙනෙනු ඇත.

(2) සුර - අසුර යුද්ධයෙහි දී සුරයෝ පරාජයට ළංවූහ. මෙයින් බියට පත් වූ ඊශ්වරයා අසුරයන් විනාශ කොට සුරයනට ජය අත්පත් කර දීම සඳහා ක්‍රියා කළේ ය. මහකෙල නාගයා වෙත ගිය ඔහු අසුරයන් මැරීමට උපක්‍රමයක් ඉදිරිපත් කරන ලෙස ඇවිටිලි කළේය. මෙහි දී මහකෙළ නා රජු මහමෙර වටා සැරිසරා සියලු භයානක විෂවර්ග එකතු කර ඒවා ගුළියක් කොට ගිල දමා විෂ ධූමයක් පිට කළේ ය. එවිට ඔහු ගේ වම් නාසයෙන් පිට වූ විෂ ධූමයෙන් දහසක් පිරිවර ඇති සූනියන් යකෙක් පිට විය. මේ බලවත් යකා, දෙවියන් ගේ පැත්ත ගෙන අසුරයන් නසාලීය. එයට පසුව හේ, වෙසමුනි ගෙන් වරම් ගෙන ලකට ගොඩ බට්. මේ යක්ෂයා වලස්, ගොන්, නාග, කවුසු, ගෙඹි, කුරුම්ණි ආදී අවතාරවලින් පෙනී සිට ජනතාවට ලෙඩ රෝග සිදු කරන බව ජනතාව තුළ පවත්නා විශ්වාස යයි. රොටී, කැවිලි, පළතුරු, ගොඩ මස්, දිය මස්, පුලුටු වර්ග කුකුළන් මොහු ගේ ප්‍රියතම ආහාරය වන්නේය.

(3) ඉන්දියාවේ වඩිග රටේ වඩිග රජු ගේ පුතෙකි. මව උසාරි නම් බිසොව වන්නිය. ඔහු කුඩා වියේ දී වනගතව හිරන්ද නම් පෙදෙසේ වාසය කරමින් විෂ බෙහෙත් පැළෑටි අනුභව කරමින් විවිධ වර්ගයේ සර්පයන් හා මිත්‍ර විය. මුඛයේ ලේ පොළහෙකි, සියොළඟ සර්පයන් වෙලා ගෙන සිටීම ඔහු ගේ විනෝදාංශය විය. නරයින්හට ලෙඩ කරන්නට අවසර ලබාගෙන ඇත. අතක ගිනි කබලකි. අනිත් අතේ කඩුවකි. වාහනය අශ්වයා ය. සැඩපලු ගෙතුණු හිසින් යුක්තය. ගම්භාර සූනියම් දෙවි යන නමින් ද හැඳින්වූයේ මෙතෙමේ ය. මොහු වෙනුවෙන් රාත්‍රී 10 ට පසුව පහන් දැල්වීම සිරිතක් විය.

(4) ඔඩ්ඩිස කුමාර, සූනියන් යකා, හූනියන් දේවතාවා, ඔඩ්ඩිය යකා යනාදී නම්වලින් ද හඳුන්වනු ලබයි. මෙකී හූනියම් යකු ගේ වම් උරයෙහි කළුගිරි යකා ද, දකුණු උරයෙහි සිට්ටා යකා ද සිටිති. දැසින් දුම් කඳක් හා දෙකන් සිදුරෙන් ගිනි ජාලාවක් ද පිට කරන මොහු ජෝගි වෙසක් ගෙන සිටී.

(5) පත්තිනිය අරබයා සිදු කෙරෙන ගම්මඩුව ශාන්ති කර්මයේ දළුමුර පූජාවේදී කියවෙන කව්වලට අනුව සූනියම් දේවතාවා පඩුවස් නිරිඳුන් ගේ පුතා ය.

දා වෙමින් නුවර පඩුවස් නිරිඳුන් ට
තේජසින් තුරඟ වාහන වැඩ ඉන් ට
මා විසින් කියන දේ ඉටු කර දෙන් ට
සූ නි ය න් දේවතාවෙනි පිං ගන් ට

සහයි ගත පුලිඟුවන් දකුණතට වඩිග කඩුව ත්
මුකයේ ලේ පොළඟු ගත් සිරස සැඩපලු පසින් යු ත්
නැඟී තුරඟ වාහනේ ඔඩ්ඩි සූනියන් දේවතා දැ ත්
මම දෙන පුද නරඹා එන් දිවස් ලා සැනේ කි ත්

මේ ගැන සාකච්ඡා කරන මහාචාර්ය ගණනාථ ඔබේසේකර ගේ මතය නම් පුරාණයේ ලක්දිව ජනිත වූ දෙවි කෙනකු පසුව භාරතයෙන් සංක්‍රමණය වූ දේව සංකල්පයක් හා මිශ්‍ර වීමක් මෙහි දැක් වෙතැයි අනුමාන කළ හැකි බවය (166 : 91 පි.) විහාර දොරටුවල සූනියම් යක්ෂ රූප ඇඳීම මහනුවර අවධියේ සිත්තරුන්ගේ චාරිත්‍රය විය. ලේවැල්ලේ ගංගාරාම රජ මහා විහාරයේ බිත්තියේ මෙ වැනි සූනියම් රූප දෙකක් ඇත. මේ රූපවල සිටින සූනියන් යක්ෂයා ඇතුන්ගේ ලේ උරා බොන අයුරින් ඇඳ ඇත.



## සූනියන් දේවාල

දේවතා බණ්ඩාර දෙවියන් ගේ අධිකාරම් ලෙසත්, උපුල්වන් දෙවියන් ගේ පණිවිඩකරු ලෙසත් හඳුන්වා ඇති හූනියන් දෙවියන් උදෙසා ඇති දේවාල නොයෙක් තන්හි දක්නට ලැබේ. උඩුනුවර ඇම්බැක්කේ දේවාලයට පහළින් ද එවැන්නක් ඇතත් එයට පුද පූජා කරන බවත් දක්නට නැත. එසේ ම එම දේවාලයට වෙන් වූ කපුපරපුරක් ද නොවේ. මෙයට අමතරව කොටකේදෙණිය විහාරය වැනි තැන්වල ද සූනියන් දෙවි රූ ඇඳ තිබේ. උඩ අළුදෙණියේ විහාරයේ ද එවැන්නක් විය. එහෙත් නූතන ප්‍රතිසංස්කරණයේ දී එය ඉවත් කර ඇති බවක් පෙනී යයි. එහෙත් නාගරික සමාජයේ සූනියම් දෙවියන් අතිශයින් ජනප්‍රිය බව සමකාලීන ප්‍රවණතාවන් ගෙන් පෙනේ.

ඔබේසේකර හා ගොම්බ්‍රිච් විසින් කැරුණු ගවේෂණයක දී කොළඹ නගරයේ මෑතක පැන නැගුණු සූනියම් දේවාල ගණනක් විස්තර කර ඇත. ජයශේඛරාරාමයේ (1965), ඥානවිමලාරාමයේ (1976), පුරාණ ශ්‍රී මහා විහාරයේ (1965), වික්‍රමසිංහාරාමයේ (1967), මල්ලිකාරාමයේ (1973) ආදි වශයෙනි. මේ දේවාල සියල්ල කොළඹ 9 හා කොළඹ 10 යන ජනාකීර්ණ ප්‍රදේශවල පිහිටා ඇත. කොළඹ ඉතා ප්‍රසිද්ධ සූනියන් දේවාලයක් දෙමටගොඩ බේස්ලයින් පාරේ පිහිටා තිබේ. නාගරීකරණය යටතේ සිදුවන තරඟකාරිත්වය නිසා ජනයා අතර වැඩි වැඩියෙන් අන්‍යොන්‍ය අසමගියත් ඊර්ෂ්‍යාවත් සැකයත් වර්ධනය වීමෙන් ආරක්ෂාව සෙවීමට මෙ බඳු "සැර" දෙවි කෙනකු සරණ පැතීම දක්නට ඇති බව මේ නිරීක්ෂකයෝ පවසති (152 : 104-132 පිටු.).

සූනියන් දෙවියන් අණවින සූනියම් ආදියෙන් පෞද්ගලික ආරක්ෂාව දෙන්නකු ලෙස ක්‍රියාත්මක වීම ක්‍රමයෙන් වැඩි වත්ම යක්ෂ ස්වරූපය ක්ෂය වීමටත් දේව තත්වය වර්ධනය වීමටත් කරුණු යෙදෙනු ඇති බව ඔබේසේකර පෙන්වා දී ඇත. "සූනියම්" යන අණවිණ හා සම්බන්ධ වචනය දෙවි කෙනකු සඳහා යෙදීම අනුචිත වන හෙයින් "ගම්භාර" දෙවියන් යන වචනය වඩා ප්‍රචලිත වන්නට ද ඉඩ තිබෙන බව ඔබේසේකර පෙන්වා දෙයි (166 : 70.).

# 233



## සෙංකඩගල දෙවියෝ

(මහනුවර යුගයේ) සෙංකඩගල යුගයේ දී "සෙංකඩගල" යන නමින් හැඳින් වූ දෙවියකු මහජනතාව ගේ පුද සත්කාර ලැබූ බවක් පෙනී යයි. අම්පිටියේ ශිලාලේඛනයේ "සෙංකඩගල දෙවි" යන්නෙන් සඳහන් වන බැවින් ඒ බව වඩාත් තහවුරු වේ. නාථ දෙවියන් ම සෙංකඩගල දෙවි යනුවෙන් හඳුන්වා ඇතැයි ඇතැම්හු විශ්වාස කරති. **වදන් කවි පොතේ** එන පහත සඳහන් කවිය ඒ මතය ඇති කිරීමට තුඩු දී ඇතැයි සිතිය හැකිය.:-

මෙන් දිඩ ගිරි සිරි පිරි සිරි<br>
තු ත් තුඩ තුති යස ගොස කර — ලත්තම<br>
ම ත් මැඩ මරු මතු බුදු වන — තිත්තම<br>
සෙන් කඩගල සුරිඳුන් වඳු — උත්තම<br>
(55 කව) — උත්තම

මෙම කවට ඉහළින් සඳහන් ව ඇත්තේ නාථ දෙවියන් ගැන වූ කවියෙකි. එය මෙසේ ය:-

යි තා පති රජු මෙන් ගුණ<br>
බි තා ජනයන් දුරු කර — උත්තම<br>
ඇතා පිරිපත හරිමිනි — සත්තම<br>
නාතා සාමිනි රකු මා — කිත්තම<br>
නිත්තම<br>
(54 වන කව)

මේ අනුව සෙංකඩගල දෙවි යනු නාථ දෙවියන් ම බව තහවුරු වේ.



# 234



## සෙබළ දේවතාවා

උඩුගම්පොළ සකලකලාවල්ලභ රජුගේ පුත් කළුකුමාරයා ගේ නැතහොත් මැණික්සාමි ගේ හිතවතා වූයේ වීරා නමැත්තායි. උක්ත කළුකුමාරයා පියා මැරීමට උල් සිටවූ බව සැලවීමෙන් පසු වීරාත් සමඟ පැන ගොස් සමනළ අඩවියේ වූ කුණුදිය පර්වතයෙන් පැන මිය ගියේය. මෙසේ මිය ගිය වීරා පසුව සෙබළ දේවතාවා ලෙස පසිඳු විය. (71 : 107 පි.) වැඩි විස්තර සඳහා "කළුකුමාර දෙවි" යටතේ බලන්න.

# 235



## හත්කට්ටුවේ දෙවිවරු

දැඩුරුඔය නිම්නයේ අසරණව සිටි පොදු ජනතාව වෙනුවෙන් කැප වීමකින් හා අප්‍රතිහත ධෛර්යකින් ක්‍රියා කොට ඔවුනට අවශ්‍ය වැව් කුඹුරු ආදිය සකස් කර දී මිය ගිය බොහෝ ජනප්‍රධානියෝ අනතුරුව බණ්ඩාර දේව ස්වරූපයෙන් දේවත්වයට පත්වූහ. බණ්ඩාර යන්න කෝට්ටේ අවධියේ සිට ජනප්‍රධානියන් හට ව්‍යවහාර කරන ලද පොදු නමක් ව පැවතුණු බව පෙනේ. එසේ ම මහනුවර යුගයේ දී රජවරුන් ගේ යකඩ දෝලියේ (අප්‍රධාන බිසොවුන් ගේ) දරුවන් ද බණ්ඩාර යනුවෙන් හඳුන්වා ඇති බව මෙහි දී සඳහන් කළ යුතුය. (මෙහි බණ්ඩාර යන්න ගැන විස්තරයක් සඳහා බණ්ඩාර දෙවි යටතේ බලන්න.)

බණ්ඩාර හත්කට්ටුව පිළිබඳව විශ්වාසය ප්‍රචලිතව ඇත්තේ මධ්‍යම පළාතේ බව පෙනී යයි. නමුත් බණ්ඩාරවරුන් හැට හත් කට්ටුවක් දක්නට ලැබේ. (බණ්ඩාර හැට හත්කට්ටුව යටතේ බලන්න.) වයඹ පළාතේ අදහනු ලබන බණ්ඩාර හත්කට්ටුවෙන් හය දෙනකු බණ්ඩාර දෙවියන් වන අතර හත් වැන්නා ඔවුන් ගේ  නායකයා වන කඩවර දෙවියෝ වෙති.

1. කිතගම හිටි බණ්ඩාර
2. නීරාමුල්ලේ යාපා බණ්ඩාර
3. උඩුවේරියේ කපුරුහාමි බණ්ඩාර
4. උඩුගම්පොළ මැණික් සාමි කළුකුමාර
5. මලල බණ්ඩාර නොහොත් වීරමුණ්ඩ·
6. කුමාර බණ්ඩාර
7. කඩවර දෙවියෝ

මේ පිළිබඳව කෝල්මුර කවි ද දක්නට ලැබේ.

වීර මුණ්ඩ දෙවි කිතගම උඩුවේරිය දෙවි උදා    ර
යාපා බණ්ඩාර සමඟ මැණික් සාමි කළු කුමා    ර
කුමාර බණ්ඩාර සමඟ පෙරමුණ දෙවනා කඩව    ර
නැර කෝල් මුර දක්වමි සත් කට්ටුව ගෙන් අව ස    ර

පතිනි වදුරු මාල අම්ම වලානෙ පත්තිනි දෙවින්    ද
පත්‍ර කාලි මුතු කුමාරි තෙලේ මලේ දෙවි කතුන්    ද
මෙලක දෙවිඳු කටුගම්පොළ කබලෑ පටුනේ දෙවින්    ද
අන් දෙවියොත් සමඟ මෙ අප රැක දෙන් හිමි මහසුරින්ද
(30 : 34-35 පිටු)

මේ සත් කට්ටුවේ පැරණිතමයා කඩවර දෙවි වන්නේය. ඒ අතර දැදුරු ඔයබඩ ජීවත් වූ ගැමි නායකයෝ හතර දෙනෙක් ද මෙහි දක්නට ලැබෙති. ඒ අතර මලල බණ්ඩාර, කුමාර බණ්ඩාර යන දෙදෙනා ඉන්දියාවෙන් පැමිණියෝ ය (30 : 31-32 පිටු) කුමාර බණ්ඩාර ලාංකිකයෙකු වශයෙන් ද හඳුනා ගත හැකිය. (කුමාර බණ්ඩාර දෙවි යටතේ බලන්න.) ඉහත දැක් වූ හත් කට්ටුව සඳහා ඉදි වූ පොදු දේවාලයක් නැති බවත්, ඒ ඒ පළාත්වල එක එක දෙවියාට වෙන් වූ දේවාලය බැගින් ඇති බවත් පෙනී යයි (30 : 32 පි.)





## 236
## හඳපොළ බණ්ඩාර දෙවියෝ

මෙම නමින් යුත් දෙවි කෙනකු ගැන හියු නෙවිල් එකතු කළ කවි අතර ඇති 'කිරි අම්මලාගේ කවි' පන්තියක සඳහන් වේ.

හඳපොළ ඉඩමේ රජු වැඩ ඉපා    ඩයි
කැඳලා බැඳලා සළු පළඳින්    ඩයි
මැනලා රියනක් සවන වඩන්    ඩයි
හඳපොළ බංඩර රජුනි වඩින්    ඩයි
(38 : 23 පි.)



## 237
## හාමාපොළ දෙවියෝ

බින්තැන්නේ දෙවි කෙනකු ලෙස සැලකෙන හාමාපොළ දෙවියන් ගැන කවි කීපයක් පහත සඳහන් වේ.

හාමාපොළටයි වැඩම කරන්    තෝ
විරහත් කලකට ආසිරි දෙන්    තෝ
කම්බි කනුව නැවන් දෙවියන්    තෝ
හාමාපොළ දෙවි සැණෙන් වඩින්    තෝ

අඳු අඳු පිරුවට පේ වී අඳි තී
වඳු වඳු දෙවිඳුට පසු පස වඳි තී
සඳුන් කපුරු මල් වට කර පුද තී
හාමාපොළ දෙවි දළමුර පුද තී

ඔන්න ඔතන වැල්ලේ සැත පෙනවා
මෙන්න මෙතන මා වැඳන් සිටිනවා
ගොත්තු පිටින් දළ මුර අය වෙනවා
හාමාපොළ දෙවි සැණින් වඩිනවා

ඉර පායන්නේ ලද හැම වේ ලේ
සඳ පායන්නේ සවස දෙවේ ලේ
වඳිති පුදති දෙවියන්ඩ මෙවෙ ලේ
දෙවියන් වඳිනට සොඳයි මෙවේ ලේ

වැඳල කියන කවි වරද කියන් නේ
නොදැන කියන කවි සමාව දෙන් නේ
විරහත් කලකට ආසිරි දෙන් නේ
හාමාපොළ දෙවි සැණින් වඩින් නේ

(3)

මෙම දෙවියන් සාමාපොළ අලුත් බණ්ඩාර යන නමින් ද හැඳින් වෙන බව පෙනේ. (125: 114 පි.)



## 238
## හීන් හතර දෙවියෝ

බලියාග ශාන්තිවල දී පහන් දැල්වීම පළමුව සිදු කෙරේ. එහි දී ප්‍රථමයෙන් බුදුන් ප්‍රමුඛ ත්‍රිවිධ රත්නයටත්, දෙවනු ව නාථ, විෂ්ණු, කතරගම, පත්තිනි, නවග්‍රහයන් හට හා මහී කාන්තාවටත් පහන් පිදීම සිදු කොට අට වනුව හීන් හතර දෙවි ප්‍රමුඛ බලි රංගස්ථානයට පහන්



පූජා කරනු ලැබේ. එහිදී "සියලු යම, කාල වායු, මූර්ත, හතර හීන් දෙනා වහන්සේ ඇතුළු ව" යනාදී වශයෙන් හතර හීන් දෙවියන් ගැන සඳහන් වේ. ඒ අනුව යම, කාල, වායු, මූර්ත, යනුවෙන් ඒ අය නම් කළ හැකිය. (35 : 55-56 පිටු).



## 239
## හෙණකඳ බිසෝ බණ්ඩාර

ගම්පොළ රාජධානිය ආශ්‍රිත ප්‍රදේශයේ ස්ථාන ගණනාවක් හා සම්බන්ධ දෙවි තුමියකි. මෑ ගම්පළ රජ කළ තුන්වන වික්‍රමබාහු රජුගේ (ව්‍ය. ව. 1356-74) බිසොව ව සිටි බව කියැවේ (160 : 40 පි.).

හෙණකඳ බිසෝ බණ්ඩාර නම් කාන්තාව ඕපපාතිකව බෙලි ගෙඩියකින් උපන්නාය. මෙම බෙලි ගෙඩිය හට ගත්තේ උඩුනුවර මාත්ගමුවේ බව ඇම්බැක්කේ වර්ණනාව නම් 18 වන සියවසට අයත් කෘතියක සඳහන් වේ (එම). එහෙත් කොත්මලේ ප්‍රදේශයේ ඇති ජනප්‍රවාද අනුව එය හට ගෙන ඇත්තේ හතර කෝරළයේ බෙලිගල ය (40 : 43-45 පිටු). තවත් ජනප්‍රවාදයක් අනුව එය උඩුනුවර හෙන්දෙණියේ හට ගැනිණි (25). එම බෙලි ගෙඩිය ගැන අසල විහාරවාසී භික්ෂූන්ට දෙවිවරුන් සිහිනෙන් දන්වා එය මල් ආසනය මත තබා ආරක්ෂා කරන ලෙස දන්වන ලදි. දිනක් රාත්‍රියේ සෙණයක් පිපිරෙනු වැනි මහ හඬක් සමඟ බෙලි ගෙඩිය පැළී කුමරිය උපන් හෙයින් ඇයට හෙනකඳ බිසෝ බණ්ඩාර යන නම දී අසල ප්‍රභූ පවුලක වැඩෙන්නට සැලැස්විණි. ඇ වැඩිවියට පත් කළ ඉතා රූමත් කාන්තාවක වූ බැවින් නොයෙක් තරුණයන් ඇ අත පතා පැමිණි මුත් ඕ තනිව විසීම ප්‍රිය කළාය. පසුව ඇ වික්‍රමබාහු රජු ගේ මෙහෙසිය බවට පත් වූ නමුත් බුදු පුද හා කතරගම දෙවි පුද කරමින් ස්වාධීනව විසුවාය. ඇම්බැක්කේ ඇයට අයත් මල් වත්තක් විය. එහි සේවය කරමින් සිටි වයොවෘද්ධ බෙර කරුවාට දෙවියන් සිහිනෙන් කී පරිදි එම උයනේ ප්‍රාතිහාර්යයක් සිදු වූ බැවින් ඒ බව වික්‍රමබාහු රජුට හා හෙණකඳ බිසෝ බණ්ඩාර දෙවියන්ට පවසා

ඇම්බැක්කේ දේවාලය තනවන ලද බව යථොක්ත ඇම්බැක්කේ වර්ණනාවේ සඳහන් ව ඇත. ජනප්‍රවාදයේ පවතින අයුරු දැනට ඇම්බැක්කේ දේවාලයේ ඇත්තේ ඇය විසින් පූජා කරන ලද දෝළාවකි (152 : 219 පි.). තවත් විශ්වාසයක් නම් ඇය දේවාලය අසලින් දොළාවේ නැගී ගමන් කරද්දී දේව අනුහසින් එහි ලීය බිඳී ගිය බැවින් එය පූජා කරන ලද බවයි. (158 : 219 පි.). කතරගම දෙවියන් හෙණකඳ බිසෝ බණ්ඩාර ගේ රුවින් වශී වී ඇය තමා සතු කර ගැන්ම පිණිස ඇය පුසුල්පිටියට ගිය අවස්ථාවක සැවැන්දරා පිටියේ දී ඇගේ දෝළාවේදී ම ඇය මරා තමා වසභයට ගත්තේය. ඉන් පසු ඕ ඇම්බැක්කේ දේවාලයේ සිටිමින් ජනයාට සෙත සලසන්නට වූවාය. ඇගේ දේහය වැසියන් විසින් කහට ලීයෙන් කළ දෙණක බහා මිහිදන් කරන ලද මුත් කොත්මලා ඔයේ රළ පහරකින් පා වී අවුත් මහවැලි ගඟ ඔස්සේ ගම්පළ කහටපිටියට පැමිණ නතර විය. මේ පුවත අසල් වැසි උනම්බුවේ අදිකාරම විසින් වික්‍රමබාහු රජුට දන්වන ලදුව දින පහක් අවමඟුල් පෙරහර පවත්වා බෝතලාපිටියේ ආදාහනය කොට එහි හෙණකඳ බිසෝ බණ්ඩාර නමින් දෙවොලක් කරවන ලදි (78 : 124 පි.). එතැන් සිට අද දක්වා ඇම්බැක්කේ දේවාලය ප්‍රධානව ගඩලාදෙණිය. ලංකාතිලක, වේගිරිය, ගණේගොඩ වල්ලහගොඩ යන දේවාලවල වාර්ෂික දිය කපන උත්සවය මේ ගම්පොළ තොටුපළ දී සිදු වේ. බිසෝ බණ්ඩාර ගේ මළගම සිහි කරනු වස් ඇම්බැක්කේ දේවාලයේ කපුවන් මෙහි එන්නේ කළු කාංගම්වලින් (වස්ත්‍රයන් ගෙන්) හිස් වසා ගෙන අවමඟුල් බෙර වාදනය සහිතවය. එසේ ම උනම්බුවේ හා කහටපිටියේ ප්‍රභූ පවුල් විසින් පළමුව සඳුන් හරයකුත් කාංගනයකුත්, රිදී පඩුරු 10 කුත් පිදුවායින් පසු සෙස්සන් පඩුරු ඔප්පු කිරීම ද දිය කැපුම් පෙරහරේ චිරාගත චාරිත්‍ර ධර්මය ව පැවතිණි. (78: 124 පි.)

හෙණකඳ බිසෝ බණ්ඩාර ගැන තවත් ජනප්‍රවාද ඇත. මේ දේවිය ජීවත් වුණු කාලයේ කොත්මලේ රජ පෙළපතකට අයත් ගහේ බණ්ඩාරයන් ගේ බිසොව වූවාය. සැමියා ගේ මරණයෙන් පසුව ඇයත් කළුරිය කළ කල්හි රජපෙළපතේ අයගේ අවමඟුල් සම්බන්ධව එම ප්‍රදේශයේ පැවැති චාරිත්‍රය අනුව දේහය කහට ලී දෙණක බහා මහවැලි ගඟේ පාකර එවන ලදි. එය කහටපිටියේ දී ගොඩ ගැසූ බැවින් එහි දී ආදාහන කටයුතු කරන්නට සූදානම් වුවත් දෙණ යළි පාවී ගොස් ඇම්බැක්කේ දේවාලයේ දිය කපන තොටට ගොඩ ගැසුවේය. දේහයේ ආභරණ ගලවා ඇම්බැක්කේ දේවාලයට පුද කොට එය බෝතලාපිටියේ මිහිදන් කරන ලදි. එහි පසුව දේවාලයක් ඉදිවිය. මේ දේවාලයේ විවිධ හාස්කම් සිදුවුණු බවත් ඉන් එකක් නම් දෙමළුන් හා යුදට යන රජ



කෙනකු බාරයක් වීමට පැමිණි අවස්ථාවේ දිය කපන තොටෙන් ගත් දිය දෝතක් පහන්වලට දමා පහන් දැල්වීමට ඔහුට හැකි වීම බවත් යුදෙන් ජය ගත් රජ දේවාලයට ගම් බිම් පූජා කළ බවත් ජනප්‍රවාදයේ එයි (160 : 42 පි.)

හෙණකඳ බිසෝ බණ්ඩාර විසින් ගොඩ නහා හෝ නවකම් කරවා ඇතැයි සැලකෙන විහාර රාශියක් උඩුනුවර ඇත. හේන්දෙණිය (ගල්ගාණේ), හන්දෙස්ස, වේරවල, ඉළුපැන්දෙණිය, යන ස්ථානත් එයට අමතරව වෙනත් පළාත්වලත් එබඳු විහාර වේ. එයින් කීපයක් මෙසේ ය:- කොත්මලේ, මාවෙල, හැඳුනුවැවේ මැද්දේගොඩ පත්තිනි දේවාලය, කඩුගන්නාවේ කන්දේ විහාරය, උඩහේවාහැටේ වෑගම විහාරය, හිඳගල විහාරය එබඳු තැන් ය.

හෙණකඳ බිසෝ බණ්ඩාර හා සම්බන්ධ ජනප්‍රවාද රාශියකි. හිඳගල විහාරය පිළිසකර කරවීමට දිනපතා ම එහි යන ඇය ආපසු සවස් භාගයේ ඇම්බැක්කට යාම සිරිතක් විය. දිනක් ඇය රෑබෝ වී යන අතර මඟ දී අසල නිවසකින් එළියක් ඉල්ලා ඇත්තේ වෙන දාත් එම ගෙදරින් එවැන්නක් ලබා ගන්නා නිසා ය. එහෙත් එදා එහි විසූ ගෙහිමියා "මේ කනවැන්දුම්ට හැමදාමත් එළිය දෙන්ට ඕනෑ" යි කියා ඇත. මෙය කියා ඇත්තේ තෙන්නකෝන් මුදියන්සේ නැමැත්තෙකි. මේ වදනින් කෝපයට පත් හෙණකඳ බිසෝ බණ්ඩාර තමාට නින්දා අපහාස කළ තෙන්නකෝන් මුදියන්සේ ගැන ගම්පොළ තුන්වන වික්‍රමබාහු රජු හට පැමිණිලි කළා ය. මෙයින් උරණ වූ රජ තුමා ඒ මුදියන්සෙ ගේ හිස ගසා දැමූ බවත්, එයට පෙර ඔහුගේ කොණ්ඩය කපා විසි කළ විට එය උලක රැඳුණු බවත්, ඒ පෙදෙස එදා සිට උලක්කොණ්ඩ යනුවෙන් පළට වුණු බවත් කියැවේ. මේ ගමන්වල දී ඇයට එළිය සපයා දුන් අයට ප්‍රදානය කළ ගම ලෙස "පායින්ගමුව" හඳුන්වනු ලැබේ. එසේ ම ඇය වට්ටප්පොළ ප්‍රදේශයේ ගමන් කරන විට රෑ බෝ වූ කල්හි බොක්කක් තුළ පහනක් තබා මඟ එළි කළ ස්ථානය "පානබොක්ක" නම් වූයේ යැයි ද කියනු ලැබේ. පුසුල්පිටිය විහාරයට ආසන්නව මැද්දේගොඩ ගමේ ඇගේ මාළිගාව තිබිණැයි කියන තැන අද "මාලිගා තැන්න" යනුවෙන් හැඳින් වේ. එහි මැද්දේගොඩ පත්තිනි දේවාලය ඇය විසින් කරවන ලදැයි කියනු ලැබේ. කොත්මලේ මාවෙල හුන්බත් බැමි ගල්ලෙනේ ද ඈ කලක් විසූ බවට විශ්වාසයක් ඇත.

වෑගම විහාරයේ හෙණකඳ බිසෝ බණ්ඩාර ගේ පිළිරුවක් ඇත. මෙහි ස්ත්‍රී ලක්ෂණ දුලබ ය. ඒ හා සම්බන්ධ තවත් ජනප්‍රවාදයක් නම් ඇය ස්ත්‍රියක හෝ පුරුෂයකු නොවූ බව ය. වෙනත් ජනප්‍රවාදයකට අනුව සති දෙකකට වරක් සිය ලිංගය වෙනස් කිරීමට ඇය පුරුදුව සිටි බව පෙනේ.

(160 : 88 පි.) මෙම විශ්වාසය අනුව එම පිළිමයේ ස්වරූපය පිළිගත හැකිවේ.

තවත් ජනප්‍රවාදයකට අනුව හෙණකඳ බිසෝ බණ්ඩාර වනාහි සෙංකඩගල දෙවන රාජසිංහයන් ගේ සොහොයුරියකි. ඇ නපුංසක ලිංගික වූ හෙයින් විවාහ වූයේ නැත. මරණින් පසුව දේවත්වයට පත් වූවාය. එහෙත් මේ ඥාතිත්වය පිළිගත හැකි නො වේ. කුමක් නිසා ද? ඇම්බැක්කේ දේවාලයත්, මේ බිසොව විසූ අවධියත් පැහැදිලිව ම ගම්පොළ යුගයට අයත් බැව් පෙනෙන හෙයිනි.

හෙණකඳ බිසෝ බණ්ඩාර දෙවියන් ගේ විත්තිය මෙසේ කවියෙන් කිය වී ඇත.

ති ද ස ඉසුරු මෙන් සව් සිරි පිරි තර
ස හ ස නෙත සෙ සැදි ගම්පොළ එ නු වර
දි ය ස පහස මෙන් මුළු ලොව එළි කර
මෙලෙස එ රජ රජ කර වැජැඹන වර

සිරි සඳ යුරු තුනුරුව සහ යසසින්
හෙ ණ ක ද බිසෝ බණ්ඩරය අදහසින්
ගෙන සොඳ එ නිරිඳු හට අග මෙහෙසුන්
සිරි විඳ වැජඹෙති ඉඳ රස පහසින්

පවර හෙණකඳ බිසෝ බණ්ඩර අදහසින් යන දෙව දෙවී
කතර ගම සුරිඳු ගෙන් ලැබගෙන ඇම්බැක්කෙ දේවාලෙ පදවී
නිතර මේ ලොව සතට පිහිට ව නොයෙක් උවදුරු රෝග දුරු වී
අතර ලක මුළු තෙදණසක යස රැසින් අලු කර බැබළ වී

(90 : 50-51 පි.)



## 240
## හුන්නස්ගිරියෙ දෙවියෝ

"හුන්නස්ගිරියෙ රජ" යන නමින් යුත් දෙවි කෙනකු පිටියෙ දෙවියන් සමග පුද ලබන අයුරු "දළමුර කවි" නම් හියු තෙවිල් කාව්‍ය එකතුවේ



එන කවි 55 කින් යුත් කවි පන්තියක සඳහන් වේ. (161, 1: 315 පි.) පිටියෙ දෙවියන් විසින් යක්කර ගත්තවුන් අතර සෘජුව මේ නම් සඳහන් වෙන්නේ නැත. (පිටියෙ දෙවි යටතේ බලන්න.) එහෙත් අඹුත දෙවියන් පිළිබඳ කවි පන්තියක මේ කව ද දක්නට ලැබේ.

හුන්නස් ගිරියේ කොත මුදු තෝයා
දුන්නක් අරගෙන වැඩ සිටි තෝයා
දුන්නස් තුටු නැත පට පඩු රේයා
හුන්නස් ගිරියෙ දෙවි වඩි තෝයා

(37 : 3 පි.)

එහෙයින් එය අඹුත දෙවියන්ට යෙදෙන තවත් නමක් වන්නට ද පුළුවන.



## 241
## හුරුළු දෙවියෝ

හුරුළු වැව ආශ්‍රිත හුරුළු දේවාලයට අරක් ගත් දෙවිඳුන් හුරුළු දෙවියන් නමින් ප්‍රකට ය. දැනට ද වර්ෂයක් පාසා ම සතියක් පුරා හුරුළු දේවාලය මුල් කොට ගත් හුරුළු දෙවියන් නමින් පෙරහරක් පවත්වා මේ දෙවියනට බාරහාර පුද කරති. මෙම දෙවියන් පිළිබඳ එන පුරාවෘත්තයේ දී කතරගම දෙවිඳුන් රන් පිළිමයක් රැගෙන ලක්දිවට ගොඩ බැස හුරුළු වැව ආශ්‍රිත පෙදෙසින් එන විට එහි තිබූ කුඹුරක මේ රන් පිළිමය තැබූ පසු ඉන් ආපසු ගැනීමට නොහැකි වී ඇත. අනුරාධපුර දිස්ත්‍රික්කයේ කෝන්වැව ග්‍රාමයේ "වෙලේ දේවාලය" නමින් එම රන් පිළිමය තැන් පත් වූ තැනට ව්‍යවහාර කරනු ලැබේ. මේ හුරුළු දෙවිඳුන් යනු කතරගම දෙවියන් ම බව ද එම දෙවියන් කතරගම බලා යන අතර හුරුල්ලේ නවාතැන් ගත් නිසා "හුරුළු දෙවියන්" නමින් හඳුන්වන්නට වූ බවද, එක්තරා මතයකි. ඒ කෙසේ වුවද අනුරාධපුර දිස්ත්‍රික්කයේ දේවාල ආශ්‍රිත ව පැවැත්වෙන වාර්ෂික පෙරහැර අතර හුරුළු දේවාලයේ පෙරහැර

ප්‍රධාන තැනක් ගනී. මේ දෙවිඳුන් හුරුළු වැවට අධිගෘහිත යයි ද සලකනු ලැබේ. මේ දේවාලයේ වත් පිළිවෙත් කිරීම සඳහා අනුරාධපුර තාවක්කුලම ගමේ තූර්ය වාදන ශිල්පීන්ට හුරුලු දේවාලය මඟින් තාවක්කුලම ගම නින්දගම් කොට දී තිබේ. (5).



## 242
## ළමා බණ්ඩාර දෙවියෝ

කොත්මලේ බෙරමාන නම් ස්ථානයේ ළමා බණ්ඩාර දේවාලයක් ඇති බැව් පෙනේ (61 : 25 පි.). මෙම දෙවියන් කොත්මලේට පැමිණ ඇත්තේ ඌව ප්‍රදේශයෙන් යැයි විශ්වාස කරනු ලැබේ. අත් පිටපතක් ලෙස පවතින "ළමා බණ්ඩාර කන්නලව්වෙන්" ගත් කවි දෙකක් පහත දැක්වේ.

ළමා පිකිරි බාලේ කල එළි — යා
ළමා බඳින කොණ්ඩේ මල් කැටි — යා
ළමා දූකට පිහිටයි ගුණ කැටි — යා
ළමා බංඩාර දෙවි සොඳ ගුණ කැටි — යා

පාත විදුරුපොළ කෝවිල — ගාවා
ඊට උඩින් ඇති හග්ගල — ගාවා
ගීත නාදෙ හොරණෑව පිඹී — නවා
ඔන්න ළමා බණ්ඩාර වඩී — නවා

ඌවේ තුන්කිඳ ඔබ වැඩ — ඉන්නේ
කොත්මල් රට මැද දිවස් — හෙළන්නේ
සොඳ ඇකිරිලි පිට දෙවි වැඩ — ඉන්නේ
මහවත්තේ දෙවියන්ට — වඳින්නේ

මහවත්තේ දෙවි ගැන මෙහි සීප විටක් සඳහන් වන බව පෙනේ (61 : 74 පි.) ළමා බණ්ඩාරයන් ගේ මුල්ගම මාවත්ත ය. (පහත විස්තරය බලන්න.)

ළමා බිලිඳු බණ්ඩාර, බිලිඳු දෙවියෝ යන නම්වලින් ද මොහු හැඳින්වෙන බව බාර්නට් ගේ මතයයි (141 : 11, 50 පි.) ඌවේ ජනිත වූයේ නම් මොහු වැදි ජනයා අතර ප්‍රචලිත "බිලිඳි යකා" ම වන්නට පුළුවන. (ඉහත බිලිඳු බණ්ඩාර යටතේ ද බලන්න.) තවත් ළමා බණ්ඩාර කෙනකු ගැන සඳහනක් හියු නෙවිල් කාව්‍ය සමුච්චයේ ඇති "පෙරහැර මාලය" නම් කවි පන්තියේ තිබේ. "මහ නා බණ්ඩාර" යටතේ ද බලන්න.

මොහු ගැන කවි කීපයක් "මල්පල කවි පොතේ" සඳහන් වේ. එහි කවි 14 කි.

දන්ගොමුවෙන් යක් වී වැඩ — ඉන්නේ
පැන් වැඩ දේවාලය කර වන් — නේ
ගීත නාද හොරණෑ ද පිඹින් — නේ
ඔන්න ළමා බංඩාර වඩින් — නේ
(98 : 631 පි.)

මේ අනුව ඔහු දන්ගොමුවෙන් යක් වූ, එ නම් දේවත්වය ලැබූ අයෙකි.

මාවත්තේ ඔද උපන් ලසින් — දා
බොහෝමත් අණ සක ඇත පුළුවන් — දා
වැඩිය උපන් රට නිසා බල ලද් — දා
එහෙමත් බල ඇති ළමා සුරින් — දා
(එම)

ඔහු ගේ බල ප්‍රදේශය කොටගල, හක්ගල, පලාවත්ත, දිගන, කිරිගල්පොත්ත යන ප්‍රදේශ බව ද පෙනේ.

කොටගල සිට හක්ගලට වඩින — වා
හක්ගල සිට කොටගලට වඩින — වා
ගීත නාද හොරණෑ ද පිඹින — වා
ඕන් ළමා බංඩාර වඩින — වා

පලාවත්තෙන් දිගන පැත්තට ඔන්න වඩින — වා
දිගනෙ වත්තෙන් පලාවත්තට ඔන්නා වඩින — වා
කිරිගල් පොත්තෙන් පන්දම් එලියට ඔන්න වඩින — වා
විදුරු ළමා බංඩාර දෙවියෝ ඔන්න වඩින — වා
(එම)

ඔහුගේ වාහනය ගෝමර ඇතෙකි.

වඩින් ගොඩින් දෙවියන්ට පඩුල් — ලනී
කඩින් කඩට දෙවි පේන කියා — එනී
වඩින්ට මල් ගෝමර ඇතු සර — සනී
ළමා එ බංඩර දෙවියන් නට — වනී
(එම)



ඇල්ලේ වැල්ලේ වෙසෙනා දෙවියනි
පොළොවට පත්ලේ මිහිකත දෙවියනි
මේ බණ සරසා ලියවූ දෙවියනි
පින් අනුමෝදන් සක්වළ දෙවියනි
(114 අ: 63 පි.)

